# ෆ්යෝදර් දොස්තොයෙව්ස්කි

# කරමසෝ සහෝදරයෝ

සිරිල් සී. පෙරේරා



ප්‍රථම මුද්‍රණය : 1969
දෙවන මුද්‍රණය : 1999
තෙවන මුද්‍රණය: 2013
සිව්වන මුද්‍රණය: 2023

කරමසෝ සහෝදරයෝ - (වෙළුම 1)



**Fyodor Dostoevsky**

**THE BROTHERS KARAMAZO**

**A Complete Sinhala Translation**

**with an introduction by Cyril C. Perera**

**ISBN 955-20-3144-3**

ප්‍රකාශනය:
සී/ස ඇස්. ගොඩගේ සහ සහෝදරයෝ (පුද්.) සමාගම
661, 665, 675, පී. ද. ඇස්. කුලරත්න මාවත, කොළඹ 10.

මුද්‍රණය:
චතුර මුද්‍රණාලය
69, කුමාරදාස පෙදෙස, වැල්ලම්පිටිය.

**R-4437/4739/350**

ප්‍යෝදර් දොස්තොයෙව්ස්කි

# කරමසෝ සහෝදරයෝ

පළමු වන වෙළුම

අනුවාදක

කළුබෝවිල සිරිල් සී. පෙරේරා



සීමාසහිත
ඇස්. ගොඩගේ සහ සහෝදරයෝ (පුද්.) සමාගම

සිරිල් සී. පෙරේරා විසින්

**අනුවාදිත වෙනත් පොත්**

නවකතා

ලියෝ තෝල්ස්තෝයි - යුද්ධය හා සාමය (කාණ්ඩ දහයයි)

ෆ්යෝදර් දොස්තොයෙව්ස්කි - කරමසෝ සහෝදරයෝ

චාල්ස් ඩිකන්ස් - නත්තල් ගීතය

ගුස්ටාව් ෆ්ලෝබෙයාර් - එමා බෝවාරි

ආතර් සී. ක්ලාක් - ගැඹුරු මුහුද

නිකොලායි ගොගොල් - මළ මිනිස්සු

අර්නස්ට් හෙමිංවේ - මහල්ලා සහ මුහුද

මිහෙයිල් ෂොලොකොව් - පෙරළූ නැවුම් පස (කාණ්ඩ දෙකයි)

පුණ්‍යකාන්ති විජේනායක - ගිරය

නිකොලායි එව්දොකිමෝව් - ජීවිතයේ සරල කතාවක්

ජැක් ෂෙපර් - ෂේන්

ක්‍රිස්තෝපර් රෙන් - නීලෝදකය

බෲනෝ අපිට්ස් - වෘකයන් අතර නග්නව

හර්මන් මෙල්විල් - මෝබි ඩික්

චිනුවා අචිබි - චිකීගේ පාසල් සමය

කෙටි නවකතා

ෆ්යෝදර් දොස්තොයෙව්ස්කි - පිස්සු තරුණයා දුටු විකාර සිහිනය සහ තරුණ බිරිඳ

කෙටි කතා

ලියෝ තොල්ස්තෝයි - දුප්පත්කම

ලියෝ තොල්ස්තෝයි - මිනිසා ජීවත් වන්නේ කුමකින් ද?

ගී ද මෝපසාන් - පිස්සකුගේ දින පොත

අලෙක්සැන්ඩර් පුෂ්කින් - ඉස්කෝප්ප පොරොව

ඕ. හෙන්රි - තොටිල්ල පදවන අත

කර්තාර් සිං ඩුගාල් - චමලී

- නිර්මාණය සහ ශෝකය

- පොතක මහිම

මැක්සිම් ගෝර්කි - පොතයි මමයි

Gunasena Vithana - Confessions of a Young Writer

නාට්‍ය

එව්ගිනි ෂ්වාට්ස් - මකර රාක්ෂ

ෂෝං පෝල් සාත්‍රෙ - ධවල භීෂණ

සාහිත්‍ය විචාර

මාර්ටින් වික්‍රමසිංහ - රුසියන් නවකතා හා ජාතක කතා

සාමාන්‍ය

ලියෝනිඩ් බ්‍රෙෂ්නෝව් - පුනරුප්පත්තිය

ගරු මිරිස්සේ ගුණසිරි හිමියන් ගේ නාමයට
කරමසෝ සහෝදරයෝ
පූජෝපහාරයක් වේවා

"නියම රුසියන් ජාතිකයකු වනාහි මුළු
මනුෂ්‍ය වර්ගයා ගේ ම සහෝදරයකු වීම ය.
ජගත් සහෝදරත්වයක් ඇති කරගැනීම ය.
අපේ අනාගතය රැඳී ඇත්තේ එම ජගත්
සහෝදරත්වය මත ය. එය අවි බලයෙන් ලබා ගත්
සහෝදරත්වයක් නො වේ. මුළු මනුෂ්‍ය වර්ගයා
යළි එක්සත් කිරීමේ අපේ ශ්‍රේෂ්ඨ පරමාර්ථයෙන්
උපන් ශක්තියෙන් දිනූ සහෝදරත්වයකි.
නියම රුසියන් ජාතිකයා හැම ජාතියකම
දෛවය තම මව්බිමේ දෛවය මෙන් උතුම්
කොට සලකන්නේ ය.

දොස්තොයෙව්ස්කි.

# පටුන

හැඳින්වීම

## පළමු කොටස

## පළමු ග්‍රන්ථය
## පවුලක ඉතිහාසය



## දෙවන ග්‍රන්ථය
## අවාසනාවන්ත රැස්වීම

තුන් වන ග්‍රන්ථය

## සල්ලාලයෝ



## දෙවන කොටස

හතර වන ග්‍රන්ථය

## දුක්වේදනා

## පස් වන ග්‍රන්ථය
## පක්ෂව හා විපක්ෂව



## හය වන ග්‍රන්ථය
## තවුසා ගේ ආත්මකථනය

# දෙවන වෙළුම

## තුන් වන කොටස

### හත් වන ග්‍රන්ථය

### අලෝෂා



### අට වන ග්‍රන්ථය

### පිතෘඝාතනය



### නව වන ග්‍රන්ථය

### මූලික පරීක්ෂණය

## හතර වන කොටස

### දස වන ග්‍රන්ථය
### පිරිමි දරුවෝ



### එකළොස් වන ග්‍රන්ථය
### ඉවාන් කරමසෝව්

## දොළොස් වන ග්‍රන්ථය

### විනිශ්චයේ දෝෂය



### අවසානය

# හැඳින්වීම

## 1

මොස්කව් නුවර පිං රෝහලක රක්‍ෂාව කළ දොස්තර කෙනෙක් එම රෝහලට යාබද ව පිහිටි කාමර දෙකකින් යුත් කුඩා නිවසේ, ඔහු ගේ කීකරු නිහතමානී බිරියත්, දරුවන් අට දෙනාත් සමග වාසය කෙළේ ය. මේ දරුවන් අට දෙනාගෙන් හඟ වැන්නා පියෝඩර් ඩොස්ටොයෙව්ස්කි ය.

1821 නොවැම්බර මස 12 වන දින මෙලොව එළිය දුටු ඩොස්ටොයෙව්ස්කි තම සහෝදර සහෝදරියන් සමග රෝහලට අයත් නිවසේ ළමා විය ගත කෙළේ ය. රෝහලේ රෝගීන් විඳිනා දුක් වේදනා හා ඔවුන් ගේ දිළිඳුකම සියැසින් දුටු ඩොස්ටො-යෙව්ස්කිට, එය ජීවිතය පිළිබඳ ලැබූ පළමු අත්දැකීම විය. කුඩා දරුවකු ලබන මෙ වැනි අත් දැකීම් ඔහු ගේ මතු ජීවිතය කෙරෙහි බලපවත්වන බව කිව යුතු නො වේ.

ඩොස්ටොයෙව්ස්කි ගේ පියා රදලයෙක් විය. එය පෙළපතින් ලැබූ රදල කමක් නො වේ; ඔහු කළ උසස් රක්‍ෂාවට දක්වන ලද සැලැකිල්ලක් වශයෙන් රජය විසින් දෙන ලද රදල කමකි. ඉතා අමාරුවෙන් ඉතිරි කරගත් මුදලින් හෙතෙම මොස්කව් නුවරට නුදුරේ කුඩා වත්තක් ගෙන දරු පවුලත් සමග එහි වාසයට ගියේ ය.

තපුරු මිනිසකු වූ හෙතෙම ඉතා සුළු දෙයට පවා කිපී, නොතක් මෙතක් නැති ව දරුවන්ට තැළුවේ ය. එහෙත් ඔහු පිළිබඳ සැලැකිය යුතු ගුණයකට තිබුණේ, දරුවන්ට උසස් අධ්‍යාපනයක් දීමේ වැදගත් කම අවබෝධ කර ගෙන සිටීම ය. ගුරුවරයකු කැඳවා දරුවන්ට ප්‍රංශ බස ඉගැන්වූ පියා, තෙමේ ම

ලතින් බස ඉගැන්නුවේ ය. පාඩම් උගන්නා විට කවදවත් දරුවකුට නිඳ ගැනීමට හෝ මේසයට යේත්තු වීමට හෝ හේ ඉඩ නුදුන්නේ ය.

තාත්තා නපුරු වුවත් අම්මා ඉතා කරුණාවන්ත වූවා ය. දරුවන් ඉතා ආදරයෙන් රැක බලා ගත් අම්මා, දරුවන් දේව-ස්ථානයට ගෙන ගියා ය. ආගම ධර්මය කියා දුන්නා ය. අම්මා ක්ෂය රෝගයෙන් මිය යන විට ඩොස්ටොයෙස්කි ගේ වයස හවුරුදු දහසයකි. මව මිය ගොස් නොබෝ කලකින්ම, එම රෝගයෙන් ම බාල නැඟනිය ද මිය ගියා ය.

පියාට ඇති බියෙන් ගෙන් පිටත නො ගිය ඩොස්ටොයෙස්කි ගෙට වී පොත පත කියෙව්වේ ය. ප්‍රංශ බස දැනුම නිසා ඔහුට ප්‍රංශ නවකතා කියවීමට ඉඩ ලැබිණි. පොත පත කියවීමට පුරුදු වූ ඩොස්ටොයෙස්කි නිතැතින් ම සාහිත්‍යය කෙරෙහි ඇදී ගියේ ය. බැල්සැක් ගේ නවකතාවලට විශේෂ සැලැකිල්ලක් දැක්වූ ඔහු කළ පළමු සාහිත්‍ය සේවය බැල්සැක් ගේ නවකතාවක් රුසියන් බසට පරිවර්තනය කිරීම ය.

අම්මා මිය ගොස් හවුරුද්දකට පසු ඩොස්ටොයෙස්කි ඉංජිනේරු ශිල්පය හැදෑරීම පිණිස පීටර්ස්බර්ග් නුවරට ගියේ ය. බිරිය ගේ මරණයෙන් අනතුරු ව බේබදුකමට හා සල්ලාල කමට ඇබ්බැහි වූ පියා, දරුවන්ටත්, වත්තේ දාසයන්ටත් නොසෑහෙන්-නට තැළුවේ ය. අන්තිමේ දී වත්තේ දාසයෝ එකතු වී ඔහු මරා දැම්මෝ ය.

ඩොස්ටොයෙස්කි ඉංජිනේරු ශිල්පය උගත්තේ පියාට ඇති බිය නිසා ය. එහෙත් ඉංජිනේරු ශිල්පය හැදෑරූ ඩොස්ටොයෙස්කි ටික කලක් ඉංජිනේරු සමාගමක සැලැසුම් නිර්මාණ ශිල්පියකු ලෙස රක්ෂාව කොට, අනතුරු ව එය අත්හැර දමා මුළු කාලය ම පොත පත ලිවීමට යෙදෙව්වේ ය. පොතපතින් ලැබුණු ආදායම ජීවත්වීමට ප්‍රමාණවත් නො වී ය. ප්‍රමාණවත් ආදායමක් ලැබෙන වෙනත් රක්ෂාවක් කරන ලෙස ආරාධනා කළ විට ඩොස්ටො-යෙස්කි කිපුණේ ය. තමා උපන්නේ පොත පත ලිවීමට පමණක් බව ඔහු දැඩි ව විශ්වාස කෙළේ ය. කො තරම් දුක් විඳීමට සිදු වුවත් පොත පත ලිවීම හැර වෙන කිසි ම රක්ෂාවක් කිරීමට ඔහු කැමැති නො වී ය.

මේ කාලයේ දී තරුණ ඩොස්ටොයෙස්කි 'දුප්පත් මිනිස්සු' නමින් නවකතාවක් ලීවේ ය. රජයේ දිළිඳු ලියන්නකු සහ

අසරණ තරුණියක ද අතරේ පැවැති සම්බන්ධය, ඔවුන් විසින් ගනු දෙනු කරගන්නා ලද ලියුම් මගින් රචනා කරන ලද එම කතාව, එතෙක් නොලියවුණු අලුත් ම සම්ප්‍රදායයකට අයත් විය. මෙය ඩොස්ටොයෙව්ස්කි ගේ පළමු නවකතාවයි. ලේඛකයකු ගේ පළමු නවකතාව ප්‍රසිද්ධ කරවා ගැනීම ලෙහෙසි පහසු කටයුත්තක් නො වෙයි. ඩොස්ටොයෙව්ස්කි ගේ පළමු නවකතාව 'දුප්පත් මිනිස්සු' ප්‍රසිද්ධ වූ සැටි මෙහි ලා සඳහන් කිරීම ඉතා වැදගත් යයි කල්පනා කරමි. ඩොස්ටොයෙව්ස්කි, නවකතාව ගෙන ගොස් ග්‍රිගෝරොවිච් නමැති තරුණ ලේඛකයකුට දුන්නේ ය. ග්‍රිගෝරොවිච් එය නෙක්රාසෝව් නමැති තරුණ කවියකුට දුන්නේ ය. ඊට පසු කාලයේ දී ඩොස්ටොයෙව්ස්කි මේ ලේඛකයන් දෙදෙනා සමග අමනාප විය. එහෙත් හවුරුදු තිස් දෙකකට පසු ව රෝගාතුර වූ නෙක්රාසෝව් බැලීමට ගිය ඩොස්ටොයෙව්ස්කිට මෙම සිද්ධිය, යළි සිහි වී, හේ එය 'ලේඛකයකු ගේ දින පොතෙහි' සටහන් කොට තැබුවේ ය. රුසියන් ලේඛකයන් අතරේ පැවැති සම්බන්ධය ගැන අපට මින් හොඳ අවබෝධයක් ලබා ගත හැකි ය.

"..........මෙය සිදු වුණේ 1845 මැයි මාසයේ දී ය සීත සෘතුවේ මුල් කාලයේ දී මම 'දුප්පත් මිනිස්සු' ලියන්නට පටන් ගතිමි. එය මගේ පළමු නවකතාවයි. ඊට කලින් මා කිසිවක් ලියා තිබුණේ නැහැ. කතාව ලියා අවසන් වූ පසු ඊට කුමක් කළ යුතු ද, කාට දිය යුතු දැයි මම නොදන්නෙමි. ග්‍රිගෝරොවිච් හැරෙන්නට මම ලේඛකයන් අතරින් කිසිවකු ඇඳින නොසිටියෙමි. එ සල ඔහු ද සඟරාවකට සපයන ලද කෙටි ලිපියක් හැරෙන්නට වෙන කිසිවක් ලියා නො තිබිණි ........'නවකතාව ගෙනත් දෙන්න; නෙක්රාසෝව් ලබන හවුරුද්දේ සඟරාවක් පටන් ගන්නවා. මම ඔබේ නවකතාව එයාට පෙන්වන්නම්'යයි ග්‍රිගෝරොවිච් මා බලන්නට පැමිණි විට කීවේ ය. මම නවකතාව ගෙන ගියෙමි. මට නෙක්රාසෝව් හමුවුණේ ටික වේලාවකට පමණි. අපි එකිනෙකාට අතට අත දී ආචාර කෙළෙමු. මා මගේ නවකතාව ගෙන පැමිණි බව සිහි වන විට මගේ සිහි කල්පනාව අවුල් විය. මම කෙටුම් පත දී නෙක්රාසෝව් සමග වචනයක්වත් කතා නො කොට වහා පිට වී ගියෙමි.........මම හවුරුදු කීපයක සිට බිලින්ස්කි ගේ පොත පත ගෞරවයෙන් කියෙව්වෙමි. සමහර විට මේ මහා විචාරකයා ගැන සිතේ බියක් සමග ගෞරවයක් ද ඇති වෙයි. 'ඔහු මගේ නවකතාවට අවමන් කරන්න පුළුවනි' මම මට ම කියා ගතිමි. මේ අදහස ඇති වුණේ ඇතැම් අවස්ථාවල දී පමණි. මම සිතේ හටගත් ආලය,

ප්‍රීතිය, කෝපය, ශෝකය, ආදී හැඟීම්වලින් සහ, සමහර විට දෑසේ ගලනා කඳුළු ඇති ව නවකතාවක් ලීවෙමි. මේ සියල්ලක් අතේ පෑන ඇති ව කතාව ලියූ කාලයත්, බොරුවක් විය හැකි ද? මිරිඟුවක් විය හැකි ද? ව්‍යාජ හැඟීමක් විය හැකි ද? මා මෙසේ කල්පනා කළේ ඉද හිට පමණි, අනතුරු ව යළි වහා මා තුළ සැක පහළ විය.

"මම මගේ නවකතාව භාර දුන් දා සවස ඈත වෙසෙන මිත්‍රයකු හමුවීමට ගියෙමි. අපි මුළු රෑ ම ගොගොල් ගේ 'මළ මිනිස්සු' ගැන සාකච්ඡා කොට පොත ද ගෙන කියෙව්වෙමු. කො තරම් කියෙව්වේ දැයි මට මතක නැහැ. ඒ දවස්වල තරුණයන් දෙතුන් දෙනකු එකතු වූ විට, 'අපි මළ මිනිස්සු කියවමු දැ'යි අසා සමහර විට ඔවුහු රෑ එළිවන තෙක් පොත කියවති.

"මම උදේ හතරට ගෙදර ගියෙමි. හිමෙන් වැසුණු එම රාත්‍රිය ධවල රාත්‍රියක් විය. මහ දවල් මෙන් එළිය වැටී තිබිණි. කාලගුණය අලංකාර ය, උණුසුම් ය. මගේ කාමරයට ගිය මම නිඳා නො ගෙන, කවුළුව ඇර දමා කවුළුව ඉදිරිපිට හිඳ ගතිමි. හදිසියෙන් ම දොරේ සීනුව නාද විය. මම පුදුම වීමි. එ වේලේ ම මා ළඟට දිව පැමිණි ග්‍රිගෝරොවිච් සහ නෙක්රසෝ මහත් ප්‍රීතියෙන් මා වැළඳ ගත්තෝ ය. සන්තෝෂය නිසා දෙදෙනාගේ ම දෑසින් කඳුළු ගලන්නට විය.

"ඊයේ සවස වේලාසනින් ගෙදර පැමිණි ඔවුහු හොඳ නරක බැලීම පිණිස මගේ නවකතාව ගෙන කියවන්නට වූහ. 'පළමු පිටු දහයෙන් අපට පුළුවනි කතාවේ හොඳ නරක කියන්න'යි ඔවුහු අදහස් කළහ. පළමු පිටු දහය කියවීමෙන් අනතුරු ව ඔවුහු තවත් පිටු දහයක් කියවීමට අදහස් කළහ. එ තැනින් නො නැවතුණු ගත්කරුවෝ දෙදෙනා මාරුවෙන් මාරුවට එළිවන තුරු නිදි නොලබා හඬ නගා පොත කියෙව්වෝ ය. 'නෙක්රසෝ ශිෂ්‍යයා ගේ මරණය ගැන කියවමින් සිටියා. තාත්තා දරුවා ගේ මිනී පෙට්ටිය පිටුපසින් දුවන සැටි විස්තර කරන කොටස කියවන විට නෙක්රසෝ ගේ කටහඬ වෙවුලන්න පටන් ගත්තා. ඊට පස්සේ සිත මෙල්ල කර-ගන්නට බැරි ව 'මේ තක්කඩියා' කියා අතින් පොතට ගැසුවා. තක්කඩියා කිව්වේ ඔබටයි.' පසු කාලයේ දී තනියෙන් සිටිය අවස්ථාවක දී ග්‍රිගෝරොවිච් මට මේ කතාව කීවේ ය. මේ විදියට ඔවුහු රෑ එළිවන තුරු මගේ පොත කියෙව්වෝ ය.

---

* මළ මිනිස්සු (Dead Souls) සිංහල පරිවර්තනය. සිරිල් සී. පෙරේරා.

"පොත කියවා අවසන් වූ පසු (පොතේ පිටු 112ක් තිබුණා) වහා ම මා හමුවීමට ඔවුහු තීරණය කළහ. 'නිදා ගිවියට කමක් නැහැ. අපි ගිහින් මිනිහ නැගිට්ටවමු. මේක නින්දට වඩා වැදගත්.........'

"මේ දෙදෙනා මා සමග පැය භාගයක් පමණ වේලා කතා කරමින් සිටියහ. අපි ඒ කාලය තුළ නොයෙක් දේවල් ගැන කතා කෙළෙමු. දෙසියෝ දනී අපි කො තරම් දේවල් ගැන කතා කළා ද කියා! අපි විද්‍යාව, සාහිත්‍යය, සාහිත්‍යයේ වර්තමාන තත්ත්වය, ගොගොල් ගේ 'ඉන්ස්පැක්ටර් ජනරාල්' සහ 'මළ මිනිස්සු', වෙසෙසින් ම බිලින්ස්කි ගැන කතා කෙළෙමු. 'මම අද ඔබේ නවකතාව බිලින්ස්කිට ගිහින් දෙන්නම්. ඇඳින ගත්තට පස්සේ දැනගන්න පුළුවනි බිලින්ස්කි කො තරම් හොඳ, කො තරම් කරුණාවන්ත කෙනෙක් ද කියා' යයි නෙක්රසෝ කීවේ ය. 'දැන් ඉතින් නිදාගන්න, හොඳට නිදා–ගන්න, අපි යනවා, හෙට අපව හමුවන්න.'

"ඔවුන් ගේ පැමිණීමෙන් පසු මම කොහොම ද නිදාගත්තේ? කො තරම් ලොකු ප්‍රීතියක් ද! කො තරම් ලොකු වාසනාවක් ද! මේ සේරට ම වඩා වැදගත් ඔවුන් මගේ සිතේ තබා ගිය හැඟීම් බව මට හොඳට මතකයි. මිනිසකු ගේ ජීවිතය සාර්ථක වන්නට පුළුවනි. මිනිසුන් ඔබ වර්ණනා කරන්නට පුළුවනි. මග දී හමු වූ විට ප්‍රශංසා කරන්නට පුළුවනි. නමුත් මේ දෙදෙනා උදේ පාන්දර හතරට, දෑසේ සොම්නස් කඳුළු ඇති ව මා නැඟිට්ටවන්නට දිවගෙන ආහ......කො තරම් ලොකු ප්‍රීතියක් ද!' මගේ සිතට ආවේ මෙ වැනි අදහස් ය. ඉතින් මා කොහොම ද මෙ වැනි අදහස් ඇති ව නිදාගත්තේ?

"එදා ම නෙක්රසෝ මගේ පොත බිලින්ස්කිට ගිහින් දුන්නේ ය. බිලින්ස්කිට මහත් භක්තියෙන් සැලකූ නෙක්රසෝ, මගේ කල්පනාවේ හැටියට මුළු ජීවිතයට ම වෙන කෙනකුට එ තරම් ආදරය කෙළේ නැත.......'අලුත් ගොගොල් කෙනෙක් පහළ වෙලා'යි හේ මගේ 'දුප්පත් මිනිස්සු' අතේ ඇති ව බිලින්ස්කි ගේ ගෙට ඇතුළු වන ගමන් කීවේ ය. 'නුඹට හැම පියවරක් පාසා ම ගොගොල්ලා හමු වෙනවා වගේ' යි පැවසූ බිලින්ස්කි මගේ පොත ගත්තේ ය. එදා සවස නෙක්රසෝ බිලින්ස්කි හමුවීමට යන විට බිලින්ස්කි මහත් නොසන්සුන් තත්ත්වයක සිටියේ ය. 'ඉක්මනට ඩොස්ටොයෙව්ස්කි අඬගහගෙන එන්න' යි හේ කීවේ ය.

''ඉතින් මම බිලින්ස්කි හමුවීමට ගියෙමි. බැලූ බැල්මට ඔහු ගේ ස්වරූපය - ඔහු ගේ නහය, නළල, මගේ සිත් ඇද ගත් බව දූත් මට මතකයි. කිසියම් හේතුවක් නිසා සිතේ බිය ඇති කරවන මේ විචාරකයා අමුතු මිනිසකු මෙන් පෙනිණි. මේ වියතා මා ඉතා සත්සුන් ලෙස පිළිගත්තේ ය. 'මේක තමයි වෙන්නේ'යයි මම මට ම කියා ගතිමි. එහෙත් මිනිත්තුවක් යන්නට කලින් තත්ත්වය සම්පූර්ණයෙන් ම වෙනස් විය. එය හවුරුදු විසිදෙකක ආධුනික ලේඛකයකු හමුවීමේ දී මහා විචාරකයකු තුළ ඇති වූ වැදගත් කම නො ව, හැකි තරම් ඉක්මනින් මට හෙළි කරන්නට අදහස් කළ තම හැඟීම්වලට ඇති ගෞරවය නිසා ඇති වූ සත්සුන් කමකි. හෙතෙම දීප්තියෙන් බැබලෙන දෑසින් හා ලැදිකමින් යුතු ව මෙසේ කීවේ ය.

'' 'මා කියන දෙය ගැන ඔබට අවබෝධයක් තියනව ද?''යි හෙතෙම පුරුදු උස් හඬින් කීප වරක් ම මගෙන් ඇසුවේ ය. නොසත්සුන් තත්ත්වයක සිටින හැම විට ම හේ උස් හඬින් කතා කෙළේ ය. 'කලාකාරයකු හැටියට ඔබ ඒක්ෂණයෙන් ම ඇති වූ සහජ බුද්ධියෙන් යුතු ව මේ නවකතාව ලියන්න ඇති. එහෙත් ඔබ අපට පෙන්නා දෙන භයානක සත්‍යයට හේතුව දන්නව ද? හවුරුදු විස්සක තරුණයකු වූ ඔබට මේක අවබෝධයෙන් සිදුවිය හැකි දෙයක්.......මේක බොහො ම කනගාටුදායක දෙයක්. මෙහි තියම හරය ඔබ අපට පෙන්නා දී තියෙනවා. විශේෂඥයන් හා විචාරකයන් වන අපි මේ දේවල් ගැන හිතා මතා බලනවා පමණයි. අපි මේ දේවල් වචනයෙන් විස්තර කිරීමට වෑයම් කරනවා පමණයි. නමුත් කලාකාරයකු වන ඔබ, එක පෑන් පහරින් නියම හරය, නියම ස්වරූපය මවා පෙන්වා තියෙනවා. කෙනකුට එය අතින් අල්ලා බලන්න පුළුවනි. වඩා කල්පනා නො කරන පාඨකයාට වුවත් හැම දෙයක් ම එක්වර ම තේරුම් ගන්න පුළුවනි. මේක තමයි කලාවේ ඇති රහස, කලාවේ ඇති සත්‍යය මේක තමයි කලාකාරයා සත්‍යය වෙනුවෙන් කරන සේවය. කලාකාරයකු වූ ඔබ ගේ නෙත් ඉදිරිපිට සත්‍යය පෙනී සිටිනවා. එම කුසල බලය දායාදයක් වශයෙන් ලැබී තියෙනවා. එසේ නම් ඔබේ සහජ දක්ෂතාව, තිළිණයක් රකින්නාක් මෙන් ආරක්ෂා කරගන්න, ඊට අවංක වන්න. එවිට ඔබට ශ්‍රේෂ්ඨ ගත්-කරුවකු වන්න පුළුවනි.' ''

එකල බිලින්ස්කිට සම කළ හැකි විචාරකයෙක් රුසියාවේ නො සිටියේ ය. ගත්කරුවන් විවේචනය කරමින්, අවවාද

අනුශාසනා දෙමින්, යහ මඟ යැවූ බිලින්ස්කි ගේ මතය රුසියන් සාහිත්‍යය ලෝකයේ ඒකාධිපති මතය විය. ලේඛකයන් විසින් බිලින්ස්කි වැඩිහිටියකු ලෙස පිළිගන්නා ලදි. ගොගොල් විසින් 'මළ මිනිස්සු' නම් ග්‍රන්ථයෙන් ආරම්භ කරන ලද රුසියන් සාහිත්‍යයට එකතු වූ දයානුකම්පාවෙන් පිරුණු යථාර්තවාදය ඉදිරියටත් නො කඩවා ගෙන යාමට සමත් තරුණ ලේඛකයකු පහළවීම ගැන බිලින්ස්කි ප්‍රීති විය. 'දුප්පත් මිනිස්සු' මගින්, පළමු වරට දිළිඳු කම නිසා සමාජයේ පතුලට බැස සිටි අසරණයන් ගේ ජීවිතයේ නතු හෙළි විය. පොහොසතුන්ට වඩා දුප්පතුන් ලබා ඇති ආධ්‍යාත්මික දියුණුව විස්තර විය. දුප්පත් කමින් දහදුක් විඳිනා අසරණයන් ගේ ජීවිතයෙන් රුසියන් සාහිත්‍යය පළමු වරට ආලෝක විය. අනුන් විඳිනා දුක උරා ගැනීමේ ශක්තියක් ඇති හදවතක්, දුකින් පීඩිත වූවන් කෙරෙහි දයානුකම්පාවෙන් උතුරා ගිය හදවතක් ඩොස්ටොයෙව්ස්කිට තිබිණි.

බිලින්ස්කි ගේ නියමය පරිදි 'දුප්පත් මිනිස්සු' මුද්‍රණය විය. අප්‍රකට ව සිටි තරුණ ඩොස්ටොයෙව්ස්කි හිටි හැටියේ ම මහාගත්කරුවකු ලෙස ප්‍රසිද්ධ විය. "මගේ කීර්තිය උච්චස්ථාන-යට ම නැග ඇත. මගේ කල්පනාවේ හැටියට මේ දෙ මස ඇතුළත, නොයෙක් පත්‍රවල, මා ගැන විවේචන තිස් පහක් පමණ පළ විය. සමහරුන් මුව නො සැහෙන්නට මා වර්ණනා කරන අතරේ සමහරු මධ්‍යස්ථ වෙති. මට එළි පිට දොස් කියන අය ද සිටිති" ඩොස්ටොයෙව්ස්කි සොහොයුරාට ලියා යැව්වේ ය.

හිටි හැටියේ ම අහසින් කඩා වැටුණා වැනි මේ ප්‍රසිද්ධියෙන් තරුණ ලේඛකයා අහංකාර විය. තමා තරම් දක්ෂ ගත්කරු-වෙක් නැතැයි හේ සිතුවේ ය. අන්තිමේ දී ඩොස්ටොයෙව්ස්කි බිලින්ස්කි සමඟ ද කලහ කරගත්තේ ය. 'දුප්පත් මිනිස්සු' පිට වී හමුරුද්දකට පසු ඩොස්ටොයෙව්ස්කි 'දෙබිඩි මිනිහා' නමින් තවත් නවකතාවක් ලියා පළ කෙළේ ය. එය මුල් නවකතාව තරම් ජනප්‍රිය නො වී ය.

රුසියාවේ සාහිත්‍ය හා සමාජ දියුණුව සම්බන්ධ ව දහනව වන සිය වසේ දී උගතුන් අතරේ මත භේදයක් ඇති විය. රුසියන් සාහිත්‍යයේ දියුණුවට බටහිර සාහිත්‍යය ආධාර කර ගත යුතුයයි එක් කොටසක් කියන අතරේ, රුසියන් සාහිත්‍යයේ දියුණුවට අවශ්‍ය හැම අංගයක් ම තම රටින් ලබා ගත හැකි ය;

එ හෙයින් බටහිරට ගැති විය නො යුතු යයි අනෙක් කොටස තර්ක කළහ. බිලින්ස්කි පළමු පිරිසට අයත් වූ අතර ඩොස්ටොයෙව්ස්කි එම මතය ප්‍රතික්ෂෙප කෙළේ ය. පළමු මතය පිළිගත් පිරිස අපරදිගවාදීන් ලෙස හඳුන්වන අතරේ ඔවුන් ගේ මතය ප්‍රතික්ෂෙප කළ අය ජාතිවාදීන් ලෙස ප්‍රසිද්ධ විය. ගොගොල්, ජීවිතයේ පසුකාලයේ දී ජාතිවාදීන් ගේ කුලයට එකතු විය. ඔහු ගේ 'මළ මිනිස්සු' විචාරකයන් විසින් මහ ඉහළින් පිළිගන්නා ලද්දේ එය බටහිර නවකතාවට ගැති නො වී දේශීය ලක්ෂණ අනුව ලියන ලද නිසා ය. ඉවාන් ටර්ජිනිව් අපර-දිගවාදීන්ගේ කුලයට අයත් විය. ප්‍රංශ බස ගැන උසස් දැනුමක් ඇති ව සිටිය හෙතෙම පැරිසියේ පදිංචි වී නවකතා ලීවේ ය. ඔහු රුසියාවට ආවේ කලාතුරකිනි. මේ එක ම කුලයක්වත් නො පිළිගත් ලියෝ ටොල්ස්ටෝයි අනෙක් සියලු ම ගත්-කරුවන්ට වඩා ඉහළින් සිට ස්වාධීන ව පොත පත ලීවේ ය. ජාතිවාදී කුලයට අයත් ලේඛකයන් අතරින් උසස් සාහිත්‍ය සේවයක් කළේ ඩොස්ටොයෙව්ස්කි පමණි. එකල පැවැති සාර් රජය ද ජාතිවාදීන් ගේ පැත්ත ගෙන සහයෝගය දුන් අතරේ අපරදිග ගුරුකුලයට විරුද්ධ වූවා පමණක් නො ව, ඇතැම් විට ඔවුන් අල්ලා දඬුවම් කිරීමට පවා පසුබට නො වී ය. නිදහස, සමානාත්මතාව, සහෝදරත්වය, මහජන මතය මත ගොඩනැගුණු මහජන ආණ්ඩු ක්‍රම, විප්ලවය හා සමාජවාදය, ආදී ප්‍රගතිශීලී අදහස් ඇතුළත් බටහිර සාහිත්‍යයට; මිනිස් නිදහස පාගා ගෙන, මිනිසා වහල් භාවයේ තබා ගෙන සිටි සාර් රජය බිය විය. බටහිර දියුණු අදහස් තම රටට වැද්ද ගැනීම තමන් ගේ බලතලවලට හා තමන් විඳිනා වරප්‍රසාදවලට තර්ජනයක් විය හැකි යයි පාලකයෝ කල්පනා කළහ.

එකල රුසියාවේ බොහෝ දේශපාලන නොසන්සුන් කම් ඇති විය. රටේ ගැමිජනයා ඉඩම් හිමි රදලයන් ගේ වහලුන් ලෙස ජීවත්වන අතරේ ඉඩම් හිමි රදලයෝ දිනෙන් දින පරිහානිය කරා ගමන් ගත්තෝ ය. ආර්ථික, සාමාජික හා ආගම අතින් පමණක් නො ව ශිෂ්ටත්වය අතින් ද පිරිහෙන රට ඉන් මුදා ගැනීම පිණිස රටේ උගත් ජනයා ඉදිරිපත් වූ හ.

ඩොස්ටොයෙව්ස්කි පීටස්බර්ග් නුවර තරුණ සංවිධානයකට බැඳී සිටියේ ය. හැම සිකුරාදා ම රහසින් රැස්වන මෙම පිරිස තෝ බොමින් සාහිත්‍යය, දර්ශනය, සමාජවාදය, ආගම, දේශපාලනය, ආදී නො යෙක් දේවල් ගැන සාකච්ඡා කළහ. එහෙත් මේ අය රජය පෙරළීමට කුමන්ත්‍රණය නො කළහ. තරුණ ඩොස්ටො-යෙව්ස්කි මේ පිරිසට එකතු වුණේ සාහිත්‍යයට තිබුණු ලැදිකම

නිසා ය. 1849 අප්‍රේල් මස 22 වන දින පොලීසිය රහසින් මෙම සංවිධානය වටලා අනෙක් තරුණයන් සමඟ ඩොස්ටො-යෙස්කි ද සිරභාරයට ගත්තේ ය. ආගමත්, රජයත් විවේචනය කරමින් බිලින්ස්කි විසින් ලියන ලද ලිපියක් ගැන සාකච්ඡා කිරීම මේ තරුණයන් විසින් කරන ලද වරද විය. අනතුරු ව ඩොස්ටොයෙස්කි ගේ කාමරය සෝදිසි කරනු ලදුව; රජය විසින් තහනම් කරන ලද පොත් පත් එහි තිබී අසුවිය. හය මසකට පසු ව නඩු විමසීමෙන් අනතුරු ව මෙම තරුණ පිරිසට මරණ දණ්ඩනය නියම කරන ලදි.

1849 දෙසැම්බර මස 22 දින ඩොස්ටොයෙස්කි ඇතුළු තරුණයන් පහළොස් දෙනකුට වෙඩි තබා මැරීමට නියම විය. එහෙත් අන්තිම මොහොතේ දී ඔවුහු ඉන් නිදහස් වූ හ. මේ සිද්ධිය ගැන ඩොස්ටොයෙස්කි තම සොහොයුරාට ලියා යවන ලද ලියුමෙන් එය වඩාත් හොඳට විස්තර වෙයි. දෙසැම්බර මස 22 වන දා ශීතලය දැඩි විය. අවට ගස්කොළන් ගෙවල් දොරවල් ආදී හැම දෙයක් ම වාගේ සුදු රෙද්දකින් වැසුවාක් මෙන් හිමෙන් වැසී සුදුවට පෙනුණේ ය. නත්තලට තිබුණේ තෙදිනක් පමණි.

"අද දෙසැම්බර මස 22 වන දින, අපි සියලු දෙනා ම සෙමෙනොස්කි චතුරශ්‍රයට ගෙන යන ලදිමු. එහි දී අපට මරණ දණ්ඩනය ඇතුලත් නිවේදනය කියවා, කුරුසය සිඹින්නට දී, මිනී ඇඳුම් අන්දවන ලදි. අනතුරු ව වෙඩි තැබීම පිණිස වරකට තුන් දෙනා බැගින් වැට ඉදිරියට ගෙන ගොස්, ඒ සඳහා විශේෂයෙන් ම ඉදිකරන ලද වේදිකාවකට නංවා, කණුවලට තබා බඳින ලදිමු. මා සිටියේ හය වැනියාට ය. වෙඩි තබන ලද්දේ වරකට තුන් දෙනකුට බැවින් මා දෙවන වාරයට අසු විය. මට ජීවත් වීමට තව මිනිත්තු සවල්පයකට වඩා නැත. ඒ මොහොතේ දී මම අයියා ගැන කල්පනා කෙළෙමි. අයියා ගැන මිස මම වෙන කිසිවකු ගැන කල්පනා නො කෙළෙමි. අයියාට ඇති මගේ ආදරයේ තරම මට පළමු වරට වැටහුණේ ඒ මොහොතේ දී ය. මා සමඟ සිටි පෙලස්චිව් සහ ඩූරෝ වැලඳ ගෙන සමු ගැනීමට මට යන්තම් අවකාශ ලැබිණි. අන්තිම මොහොතේ දී වෙඩි තැබීම නතර කරන ලෙස දන්වමින් හොරණෑව පිඹින ලදි. කණුවලට තබා බඳින ලද තුන් දෙනා ලිහා ආපසු ගෙනෙන ලදහ. අනතුරු ව රජතුමා විසින් අපට අභයදානය දුන් බව සඳහන් ප්‍රකාශය අපට ඇසෙන ලෙස කියවන ලදි........"

කිසි ම බලාපොරොත්තුවක් නැති ව හිටිහැටියේ ම සිදුවූ මේ දෙයින් තෝන්තු වූ තරුණයෙක් උමතු විය. මරණ දණ්ඩනය සයිබීරියාවේ සිර අඩස්සියට පරිවර්තනය විය. වෙනත් අපරාධකාරයන් සහ මිනීමරුවන් සමග යදම්වලින් බඳින ලද ඩොස්ටොයෙස්කි සයිබීරියාවට යවන ලදි. සයිබීරියාවට යන අවස්ථාවේ දී හෙතෙම සොහොයුරාට මෙසේ ලිවේ ය.

“.........අයියා හමුවීමට මම අවසර ඉල්ලා යාච්ඤා කෙළෙමි. එහෙත් කිසිවකු හමු විය නොහැකි බව දන්වන ලදි. ඔවුන් මට මේ ලියුම ලියන්න විතරක් ඉඩ දුන්නා. ......මම දුක් නො වෙමි. ......හැම තැන ම ජීවිතය එක ම විදියයි. ජීවිතය තියෙන්නේ අප තුළ මිස පිටත නො වෙයි.........අපට පත්වන විපත් කුමක් වුවත්, අධෛර්‍ය නො වී, ශෝක නො වී, මිනිසුන් අතරේ නියම මිනිසකු ලෙස සිටීම තමයි ජීවත් වීම. ඒ තමා ජීවිතයේ පරමාර්ථය. දැන් මට ඒ සත්‍යය අවබෝධ වෙනවා. මේ අදහස මගේ ලේ නහර ගත වී තියෙනවා. මා තුළ අලුත් මිනිසෙක් බිහි විය. මා තුළ සැඟවී සිටි මේ මිනිහා; දෙව්ලොව සිට පැමිණි මේ විපත නිසා නො වේ නම් කවදාවත් මතු නොවන්නේ ය. උසස් කලාත්මක ජීවිතයක් නිර්මාණය කළ මගේ හිස, කඳින් වෙන් කළා වගෙයි. දුක අඳුනන, දුක දන්නා, දුක විඳ පුරුදු, මගේ හදවත, මගේ ලේ මස් නහර තවමත් ඒ විදියට ම තියෙනවා.........දැන් තරම් මා තුළ උසස් ආධ්‍යාත්මික දියුණුවක් කවදාවත් ඇති වුණේ නැහැ. එහෙත් මගේ ශරීරයට ඒ බර උසුලන්න පුළුවන් ද කියා මා දන්නේ නැහැ. මට සෙන්කමාලය හැදුණා............මම බොහො ම දුක් විඳ ඇත්තෙමි. මොනවා වුවත් මම කිසි ම දෙයකට භය නො වෙමි.”

ඩොස්ටොයෙස්කි හවුරුදු හතරක් සයිබීරියාවේ ගත කෙළේ ය. ඒ හවුරුදු හතරේ බිහිසුණු කම විස්තර කරමින් ඔහු ‘මළවුන් ගේ නිවස’ නමැති ග්‍රන්ථයක් ලිවේ ය. “.....බොහො ම බර වැඩ කළ යුතුයි. මඩේ බැස ගෙන, නා කපන වැස්සේ, දැඩි සීතලේ, වැසි කුණාටුවල දී පවා, ශරීරයේ අන්තිම කලද දක්වා අවසන් වන තෙක් බොහෝ විට වැඩ කළ යුතුයි. .........අපි සියලු දෙනා ම හරක් මඩුවකට සමාන නනි ගොඩනැගිල්ලක වාසය කරන්නෙමු. කිසි ම වැඩකට ගත නො හැකි දිරාපත් වූ මෙම ගොඩනැගිල්ල මීට හවුරුදු ගණනකට කලින් කඩා දැමිය යුතු ව තිබිණි. ග්‍රීෂ්ම කාලයේ උෂ්ණය දැඩි ය. සීත කාලයේ සීත ඉවසන්න බැරි ය.........බිම කුණු තට්ටුවලින් වැසී ඇත. පය තැබුවා ම ලිස්සා වැටෙයි. කුඩා

කවුළුවලින් එළියක් නො එන නිසා දවල් කාලයේ දී පවා පොතක් කියවන්න බැහැ. වීදුරු, හිම තට්ටුවලින් වැහිලා. දිරා ගිය වහලෙන් නිතර තෙමෙනවා. අප හරියට පීප්පයක අහුරන ලද මාළු කුරියන් වගෙයි. අපට දී ඇති දර කොටන් කයෙන් උණුසුම ලබා ගැනීම කොහෙත් ම කළ හැකි දෙයක් නො වෙයි. අප සිටින මඩුවේ කොහෙත් ම හිම මිදෙන්නේ නැහැ. මුළු මඩුව ම දුමෙන් පිරෙනවා. සීත කාලයේ දී අප ගත කරන්නේ මෙ වැනි ජීවිතයක්. සිරකාරයන් මේ මඩුවේ ඇඳුම් සෝදන නිසා මඩුව නිතර ම තෙමිලා. එ හෙයින් කො තැන ඉන්න ද දන්නේ නැහැ. ඉර බැස්ස වේලේ සිට යළි එළිවන තුරු කිසිවකුට මඩුවෙන් පිට යන්න දෙන්නේ නැහැ. සිරුරු වත් සඳහා වත් යන්න දෙන්නේ නැහැ. දොරවල් අගුල් දමා වසා තබන නිසා සිරුරු වත් පිණිස ඉස්තෝප්පුවේ බාල්දියක් තියෙනවා. මේ බාල්දියෙන් පිටවන දුගඳ ඉවසන්න බැහැ. සේරම සිරකරුවන් ඌරන් වගේ ගඳගහනවා ........ අප නිදාගන්නේ ලෑලි උඩයි. හිසට කොට්ටයක් දෙනවා. අප රට පෙරවන්නේ අපේ කබායයි. ඒ කොට කබායෙන් කකුල් වසාගන්න බැහැ. එහෙත් අපි රට එළිවන තෙක් සීතලෙන් වෙවුලමින් නිදාගන්නෙමු. හැම දෙයක් ම මැක්කන්, කුරුමිණියන් හා මකුණන් ගෙන් පිරිලා.''

මෙසේ ඩොස්ටොයෙව්ස්කි හවුරුදු හතරක් කල් සිර දුක් වින්දේ ය. හවුරුදු හතර අවසානයේ දී සිරගෙයින් පිට වූ හෙතෙම මීමැස්මොරකාරයෙක් විය. එහෙත් ඒ කාලය තුළ ඔහු එක්තරා ප්‍රමාණයක ආධ්‍යාත්මික දියුණුවක් ලැබුවේ ය. "මේ දරුණු දුකින් මඳක් හෝ අස්වැසිල්ලක් ලැබීම පිණිස මම නිතර මා ගැන කල්පනා කෙළෙමි. ඉන් උසස් ප්‍රතිඵල ලදිමි. මීට කලින් මා කවදාවත් බලාපොරොත්තු නොවූ අදහස් දූන් මා තුළ ඇති වෙයි.''

අනතුරු ව ඩොස්ටොයෙව්ස්කි සිර දඬුවමේ ඉතිරි කාලය ගත කිරීම පිණිස, සයිබීරියාවේ ඈත පුද කඳවුරක, සාමාන්‍ය සොල්දාදුවකු ලෙස සේවය කෙළේ ය. පසු ව මිත්‍රයකු ගේ මැදහත් වීම නිසා ඔහු තත්ත්වයෙන් උසස් කරනු ලැබී ය. ඩොස්ටොයෙව්ස්කි ගේ ජීවිතයෙන් හොඳ ම කාලය සිර ජීවිත-යෙන් විනාශ විය. හේ හවුරුදු දහයක් සිර දුක් වින්දේ ය. "මා කවදා ද අන්තිමේ දී නිදහස් වන්නේ? සමහර විට නිදහස උවමනා නැති විට නිදහස ලැබෙන්න පුළුවනි. ලෞකික සැප සම්පතට මා තුළ ආසාවක් නැති වීම මට ලොකු සැපතකි.

මට උවමනා කරන්නේ කියවීමට පොත්පත්, ලිවීමට ඉඩකඩ සහ දවසින් පැය කීපයක් හුදෙකලාවේ සිටීමටයි......ඉඳ හිට හුදෙකලාවේ සිටීම, කෑම බීම මෙන් මිනිසාට අවශ්‍ය දෙයකි."

හේවායකු ලෙස සිර දඬුවම් විඳින කාලයේ දී ඩොස්ටොයෙස්කිට මරියා ඩ්‍රිමිට්‍රිව්නා ඉසායේවා හමු වූවා ය. දේශපාලන සිරකරුවකු ලෙස මෙම පළාතට යවනු ලැබූ ඇගේ සැමියා ක්ෂය රෝගයෙන් පෙළුණු බේබද්දෙක් විය. ක්ෂය රෝගයෙන් පෙළුණු මරියාට පුතෙක් ද සිටියේ ය. මෙතෙක් කල් භයානක මිනීමරුවන් සහ අපරාධකාරයන් සමඟ ජීවත් වූ තරුණ ගත්කරුවාට මේ ඉතිරිය ගේ සෙනෙහස ජීවිතය සරසන සැපතක් විය. දියේ ගිලෙන්නා පිදුරු ගසේ හෝ එල්ලෙන්නාක් මෙන් ඩොස්ටො-යෙස්කි මරියාට දැඩි ව ආලය කෙළේ ය.

නොබෝ කලකින්, ඇගේ සැමියා සැත්පුම් සිය ගණනක් ඈතින් පිහිටි වෙනත් පළාතකට යවනු ලදින්, එහි දී හේ මිය ගියේ ය. ඩොස්ටොයෙස්කි නෑදෑ හිතමිතුරන් ගේ විරුද්ධත්වය නො තකා 1857 දී වැන්දඹු මරියා විවාහ කර ගත්තේ ය. එහෙත් ඔවුන් ගේ විවාහ ජීවිතය සාර්ථක නො වී ය. මරියා කාසයෙන් පෙළෙන අතරේ ඇගේ මනාලයා මීමැස්මොරයෙන් නිතර අසනීප විය. විවාහ වූ දින රෑ ඩොස්ටොයෙස්කිට මීමැස්මොරය හැදුණේ ය. වහා කිපෙන බිරිය සමඟ ඩොස්ටො-යෙස්කි නිතර කලහ කර ගත්තේ ය. අනෙක් අතින් පවුලක් නඩත්තු කිරීමට තරම් ඔහුට ආදායමක් නො වී ය. ඔහු ණය විය. ගෙවා ගත නො හැකි තරමට ණය විය. සිරකරුවකු බැවින් පොතපත ලියා පළ කරවා ගැනීම ද දුෂ්කර විය. ඩොස්ටොයෙස්කි නවකතා කීපයක් ම ලිවීමට ආරම්භ කෙළේ ය. එහෙත් ඉන් එකක්වත් සාර්ථක නො වී ය.

1859 දී ඩොස්ටොයෙස්කිට පීටර්ස්බර්ග් නුවර පදිංචිවීමට අවසර දෙන ලදි. බිරියත්, ඇගේ පුතාත් සමඟ පීටර්ස්බර්ග් නුවර පදිංචි වූ හෙතෙම සොහොයුරා සමඟ 'කාලය' නමින් සඟරාවක් ආරම්භ කෙළේ ය. සඟරාව ජනප්‍රිය විය. ඩොස්-ටොයෙස්කි 'මළවුන් ගේ නිවස' සහ 'නින්දා හා පීඩා ලද්දෝ' නමැති දිග නවකතා දෙක කොටස් වශයෙන් සඟරාවේ පළ කෙළේ ය. නිදහස ලැබූ හවුරුද්දේ ම හේ 'පවුලේ හිතවතා' නමැති නවකතාව ලියා පළ කෙළේ ය. 1862 දී එංගලන්තය, පැරිසිය, ඉතාලිය ආදී යුරෝපා රටවල සංචාරය කෙළේ ය. ආපසු ගෙදර එන විට බිරිය කාසයෙන් අසාධ්‍ය වී සිටියා ය.

'කාලය සඟරාවේ' පළකරවා ගැනීම පිණිස දිනක් තරුණියක් කෙටි කතාවක් ගෙන ඩොස්ටොයෙව්ස්කි හමු වීමට පැමිණියා ය. පොලිනා සුස්ලෝවා නමැති මෙම දුකුම්කලු තරුණිය, ලේඛිකාවක ලෙස මඳ ප්‍රසිද්ධියක් ලබා සිටියා ය. යල් පැන ගිය කුල සිරිත් අත්හැර දමූ පොලිනා උගත් ප්‍රගතිශීලී තරුණියක් වූවා ය. අපේ ගත් කරුවා තරුණියගේ කතාව සඟරාවේ පළ කොට ඇය සමඟ හාද විය. මහා ගත් කරුවකු ලෙස රට පුරා ප්‍රසිද්ධ වූ ඩොස්ටොයෙව්ස්කි මේ ළාබාල තරුණියට පෙනුණේ මහා වීරයකු මෙනි. මේ වීරයා ඇය දූෂණය කෙළේ ය.

රජයට විරුද්ධ ව පළ කරන ලද ලිපියක් නිසා 'කාලය සඟරාව' තහනම් කරනු ලැබී ය. ඒ අතරේ පොලිනා පැරිසියට ගියා ය. ඩොස්ටොයෙව්ස්කි ලේඛකයන් ගේ අරමුදලින් ණය ගෙන පොලිනා සොයා පැරිසියට ගියේ ය. පැරිසියේ දී පොලිනා වෙනත් තරුණයකු සමඟ හාද වූවා ය. එහෙත් නොබෝ දිනකින් ම තරුණයා පොලිනා අත්හැර දැම්මේ ය. ඒ අතරේ ඩොස්ටො-යෙව්ස්කි සූදුවට ඇබ්බැහි විය. පොලිනා සමඟ පැවැති සම්බන්ධය ඩොස්ටොයෙව්ස්කිට මහත් දුකක් විය. ඇයට මේ සුප්‍රසිද්ධ ගත්කරුවා අත්හැරිය නො හැකි විය. ඒ අතරේ ඔහුට ගත සිත පිදීමට ද තරුණිය අකැමැති වූවා ය. "මම ඩොස්ටොයෙව්ස්කි පිළිකුල් කරමි. එහෙත් මට ඔහුගෙන් වෙන් විය නො හැකියි" පොලිනා ඇගේ දිනපොතේ ලියා තැබුවා ය.

"පොලිනා බොහො ම ආත්මාර්ථකාමියි. ඈ පිරිමින් ගෙන් හැම දෙයක් ම බලාපොරොත්තු වෙනවා. පිරිමියා අංගසම්පූර්ණ විය යුතුයි. එක වරදක්වත් තිබුණොත් ඈ සමාව දෙන්නේ නැහැ. එහෙත් පොලිනා පිරිමින්ට ඇගෙන් විය යුතු යුතුකම් ඉටු කරන්නේ නැහැ. ඒ යුතුකම්වලින් නිදහස් වීමටයි ඇගේ අදහස. ඈ හැම තිස්සේ ම කියනවා ඇගේ ප්‍රේමය ලැබීමට තරම් මා සුදුස්සෙක් නො වේ ය කියා. ඈ මට නිතර බණිනවා. ඇයට කවදාවත් සහකාරයකු ගෙන් සැපතක් ලැබෙන්නේ නැහැ. අනුන්ගෙන් හැම දෙයක් ම බලාපොරොත්තු වන, එහෙත් තමා ගේ යුතුකම්වලින් මඟහරින තැනැත්තාට කවදාවත් සැපවත් ජීවිතයක් ගත කරන්න ලැබෙන්නේ නැහැ. පොලිනා මා සමඟ පවත්වන සබඳකමෙ කිසි ම මනුෂ්‍ය ගතියක් නැහැ. ඈ දන්නවා මා තව ම ඇයට ආලය කරන බව. එහෙනම් ඇයි පොලිනා මට මෙ තරම් දුක් දෙන්නේ? ඈ මට ආලය කරනවා නම් මට දුක් නො දිය යුතුයි."

පොලිනා සමග යුරෝපය පුරා තැනින් තැන ගිය ඩොස්-ටොයෙස්කි ඈ පිට රට සිටිය දී ආපසු ගෙදර පැමිණියේ ය. ගෙදර පැමිණී නොබෝ දිනකින් ම, අසාධ්‍ය තත්ත්වයක සිටිය බිරිය මිය ගියා ය. ඩොස්ටොයෙස්කි දෙ වන වරට ද විවාහ වී දූ දරුවන් ලබා කාලයක් ගත වන තුරු පොලිනා සමග සබඳ-කම් පැවැත්වූයේ ය.

ඩොස්ටොයෙස්කි සොහොයුරා සමග තවත් සඟරාවක් ආරම්භ කෙළේ ය. පළමු සඟරාව තරම් ප්‍රගතිශීලි නො වූ මෙම සඟරාව මහජනයා අතරේ එ තරම් ජනප්‍රිය නො වී ය. සොහොයුරු ද නොබෝ කලකින් ම මිය ගියේ ය. සොහොයුරු ගේ දරුපවුල නඩත්තු කිරීම පමණක් නො ව ඔහු ගේ ණයතුරුස් ගෙවීමේ වගකීම ද ඩොස්ටොයෙස්කි පිට පැටවිණි.

ඩොස්ටොයෙස්කි ගත හැකි හැම තැනකින්ම ණය ගත්තේ ය. පොතක් ලියා දීමේ පොරොන්දුව පිට ලේඛකයන් ගේ අර මුදලින් ණය ගත් හෙතෙම සූදු පිටියේ දී වාසනාව සොයා බැලීම පිණිස යුරෝපයට ගියේ ය. මොන වාසනාවක් ද? ඔහු අන්තිම ශතය දක්වා පරාජය විය. කුසට ආහාරයක් ගැනීමටවත් මුදලක් තබා නො ගෙන හෙතෙම සූදුකෙළියේ ය. ඇතැම් විට ඇඳට වී නොසෙල් වී සිටියේ, සෙලවුණොත් බඩගිනි ඇතිවේ ය යන බියෙනි.

හැකි තරම් ඉක්මනින් මුදල් ටිකක් සොයා ගැනීමේ අදහසින් ඩොස්ටොයෙස්කි *'අපරාධය සහ දඬුවම' ලියන්නට පටන් ගත්තේ ය.

නියම කරනන් දිනයකට කලින් පොතක් ලියා දීමේ පොරොන්දුව පිට ඩොස්ටොයෙස්කි ප්‍රකාශයකු ගෙන් මුදල් ණයට ගෙන තිබුණේ ය. ඔහුට මේ පොරොන්දුව අමතක විය. පොරොන්දුව අනුව නියමිත දිනයට කලින් පොත ලියා නුදුන්නොත් ඔහු විසින් ඉදිරි හවුරුදු නවය තුළ ලියන හැම දෙයක් ම ශතයක්වත් නො ගෙවා පළ කිරීමේ අයිතිය ප්‍රකාශකයා සතුවෙයි. හිටි හැටියේ ම ඩොස්ටොයෙස්කිට මෙම පොරොන්දුව සඳහන් විය. එහෙත් පොත ලියා අවසන් කිරීමට තිබුණේ දෙමසක් පමණි. දෙමසකින් මොනවා කරන්න ද? ඔහු ගේ හිස් මොළ අවුල් විය. මෙ තරම් ඉක්මනට නවකතාවක් ලියන්නේ කොහොම ද? ඩොස්ටොයෙස්කි මුහුණ පා සිටි ඇබැද්දිය

* Crime and Punishment සිංහල පරිවර්තනය, සෙනරත් යාපා.

දුටු මිත්‍රයෙක් කදිම අදහසක් දෙමින්, ලඝු ලේඛකයකු ගේ සහාය ලබාගත්තොත් ඉක්මනට නවකතාවක් ලියන්නට පුළුවනැයි කී ය. අදහස් පහළ වන තරම් වේගයෙන් ඒවා ලියා තැබිය නො හැකි ය. සිත තරම් ඉක්මනට අත ක්‍රියා නො කරයි. ඩොස්ටොයෙව්ස්කි වහා ලඝු ලේඛකයකු ගේ සේවය ඉල්ලා පුවත් පත්වල දැන්වීමක් පළ කෙළේ ය. ඔහුට ලඝු ලේඛකයකු ගේ වෙනුවට ලඝු ලේඛිකාවක ගේ සේවය ලැබුණේ ය.

ඈනා ග්‍රිගොව්රිනා නමැති මෙම තරුණ ලඝු ලේඛිකාවට ටික දිනකින් ම සුප්‍රසිද්ධ ලේඛකයා තිත්ත විය. ඔහු සමඟ වැඩ කිරීම දුෂ්කර ය. හැම ද දවල් දොළහේ සිට සවස හතර දක්වා ඩොස්ටොයෙව්ස්කි කියන දෙය ඈනා ලියා ගත්තා ය. එහෙත් ඩොස්ටොයෙව්ස්කි කවදාවත් ඇගේ මුහුණ නොබැලුවේ ය. ඔහුට ඇගේ නම අමතක විය. තරුණිය ද කිසි ම කතාබහක් නැති ව හැකි තරම් ඉක්මනින්, ගත්කරුවා කියන දෙය ලියා ගෙන, අනතුරු ව ටයිප් ගසා පිළියෙළ කළා ය. ඇගේ අතින් සුළු වරදක් වුණොත් ඔහු ඇයට නො සෑහෙන්නට බැන්නේ ය. ලක්ෂණ නවකතා ලියන සුප්‍රසිද්ධ ලේඛකයකු මෙ තරම් නපුරු, නොවැදගත්, නොහික්මුණු මිනිසකු වීම ගැන ඈනා පුදුම වූවා ය. එහෙත් ඈනා ඉවසීමෙන් වැඩ කළා ය. ඈනා ගේ ඉවසීමත්, තැන්පත් ගතියත්, හික්මීමත්, ටිකින් ටික ඩොස්ටො-යෙව්ස්කි ගේ නොහික්මුණු කම, නොතැන්පත් කම හා කෝපය කෙරෙහි බලපවත්වන්නට විය. දවස් විස්සකින් නවකතාව ලියා අවසන් විය. 'සූදු අත්තුවා' නමැති එම නවකතාව තමා හා පොලිනා අතරේ පැවැති හාදකම සමඟ සූදු පිටියේ දී ලැබූ අත්දැකීම් ද අළලා ලියන ලද්දෙකි.

දිනක් සවස වැඩ නිම කළ පසු ඈනා වහා තේ කෝප්පයක් පිළියෙළ කොට ඩොස්ටොයෙස්කිට පිළිගන්වා තමා ද තේ කෝප්පයක් ගෙන බීවා ය. මෙසේ තේ පානය කරන අතරේ තරුණිය සමඟ කතාවට වැටුණු ඩොස්ටොයෙස්කි "මම කසාදබඳින්න ඕනෑ දක්ෂ තරුණියක් ද? නැතිනම් යහපත් ගති ගුණ ඇති තරුණියක් ද?" යි විහිළුවට මෙන් ඈනාගෙන් විමසුවේ ය.

"දක්ෂ තරුණියක් බඳින එක හොඳයි" ඈනා කීවා ය.

"නැහැ, මම කසාදබඳින්නේ යහපත් ගති ගුණ තියෙන දක්ෂ තරුණියක්" යයි ලේඛකයා කී ය.

දවස් පහකට පස්සේ ඩොස්ටොයෙව්ස්කි ඇනා සමඟ විවාහ විය. ඇනා දක්ෂ, යහපත් බිරියක් වූවා ය. එක විට සැමියාට බිරියක, මවක, හා සොහොයුරියක ද ලෙස සලකමින් රැක ගත් ඇනා මහලු වියේ දී සැමියා ගැන මෙසේ ලීවා ය.

"ජීවිතයේ ආලය තරම් වටිනා දෙයක් නැහැ. ඔබ ඔබේ සැමියා තෝරා ගෙන මුළු ජීවිත කාලය තුළ ම ඔහුට සේවය කළ යුතුයි. හවුරුදු විස්සේ දී මම මගේ සැමියා ලෙස ඩොස්ටොයෙව්ස්කි තෝරා ගතිමි. දැන් මම හවුරුදු හැත්තෑවක මැහැල්ලක්මි. දැන් වුව ද මගේ හැම සිතිවිල්ලක් ම, හැම ක්‍රියාවක් ම, මගේ සැමියා සතු ය. මා ඔහු ගේ සිතිවිලි සතු ය. ඔහු ගේ පොතපත සතු ය. ඔහු ගේ දරු මුනුපුරන් සතු ය. ඔහු මනුෂ්‍යයෙකි. අනෙක් හැම මනුෂ්‍යයන් තුළ ම ඇත්තා වූ හොඳ නරක ඔහු තුළ ද තිබුණේ ය. හැම මොහොතක් පාසා ම ඔහු තුළ ශ්‍රේෂ්ඨත්වය දකින්නට නොතිබුණේ ය. ඔහු නිතර අසනීප විය. චපල විය. ජීවිතය ගැන කිසිවක් නොදන්නා දරුවකු මෙන් හිතුවක්කාර විය. එ වැනි අවස්ථාවල දී පවුලේ බර මම සම්පූර්ණයෙන් ම මගේ කරට ගතිමි. අගහිඟකම් ඔහුගෙන් සඟවා ගතිමි. ඒ බර උසුලා ගෙන සිටීමට හැකි තරම් දුරට නීරෝගී ව සිටීමට වෑයම් කෙළෙමි.........මම වේලාසනින් නිදාගතිමි. මගේ සැමියා රාත්‍රී දෙක වනතුරු නිඳ නො ගනියි. ඇතැම් විට ඊටත් වඩා පමා වෙයි. එහෙත් ඔහු ඇඳට පැමිණි පසු මා අවදි කරවා මා සමඟ බොහෝ වේලා කතා කරයි. ඔහු ගේ සිතිවිලි හා හැඟීම් අවංක ව හෙළි කරයි. ඔහු ගේ ජීවිතයේ ප්‍රීතිමත් කාලය මේ සුළු වේලාවයි."

ඇනා ගේ ගති ගුණත්, ඇ සැමියා හැඳින රැක බලා ගත් සැටිත් ඇනා විසින් තබන ලද මෙම සටහන්වලින් පාඨකයාට තේරුම් ගත හැකි ය. ඩොස්ටොයෙව්ස්කි ගේ අවුලෙන් අවුලට පත් ජීවිතය සකස් කොට, සාමයත්, සතුටත් ලබා දෙන ලද්දේ ඇනා විසිනි. ඇනා සැමියා ගේ සමත්කම් පමණක් නො ව දුබලකම් ද දැන සිටියා ය. ඩොස්ටොයෙව්ස්කි උසස් ම පෙළේ නවකතා ලීවේ ඇනා විවාහ කර ගැනීමෙන් පසු ව ය. ඇනා නොසිටියා නම් ඩොස්ටොයෙව්ස්කි මෙ තරම් ශ්‍රේෂ්ඨ ගත්කරුවකු වීම සැක සහිත ය.

ඩොස්ටොයෙව්ස්කි ගේ ගතිගුණ විමසා බලන විට ඇනා ගේ ඉවසීම හා ඇ සැමියාට දැක්වූ ආදරය පුදුමාකාර ය. ඔහු මිමැස්මොරකාරයෙක් විය. ඔහු ගේ ණයතුරුස්වල සීමාවක්

නැත. ඔහුගෙන් තබන්නුවන අය ද බොහෝ වූ හ. ඔහු සුදුවට දුක්වූ ආශාව ඉතා භයානක ය. ඒ අතරේ ඇනා ගේ බලවත් ශෝකයට හේතු වෙමින් සැමියා වෙතත් කතුන් සමග සබඳකම් පැවැත්වූයේ ය. තම ජීවිතයත්, තම අනාගතයත් තමාට පාලනය කරගත නොහැකි බව දැනගත් ඩොස්ටොයෙව්ස්කිට ඒ සඳහා එඩිතර, නිරහංකාර, ආත්ම ශක්තියෙන් හා ආත්ම පරිත්‍යාගයෙන් යුත් අයකු සිටිය යුතු විය. එ හෙයින් ගේ සම්පූර්ණ විශ්වාසය බිරිය කෙරෙහි තැබුවේ ය. "මගේ අනාගතය ඔබ ය. මගේ සියලු බලාපොරොත්තු, මගේ විශ්වාසය, ප්‍රීතිය, සැපත ඔබ සතු ය. එ හෙයින් මම සැම කල්හි ම ඔබට අවංක වෙමි. මගේ අනාගතය වැලඳ ගත්නාක් මෙන් ඔබ වැලඳ ගතිමි. ඔබේ හදවතේ ඇති එක ම බීජයක් වත් අපතේ නො ගොස් මල්පල දරන ලෙස, දෙවියන් වහන්සේ ඔබ මට භාරදුන්සේක. මා කරන පාපකර්මයන්ගෙන් මා ගලවා ගැනීම පිණිස දෙවියන් වහන්සේ මා ඔබට භාරදුන්සේක. ආත්මය අපිරිසුදු කරන හැම පාපයකින් ම නිදහස් වූ, සෘජු වූ, ඥානවන්ත වූ, යුක්ති සහගත වූ ඔබ ආපසු දෙවියන්ට භාර දෙන ලෙස දෙවියන් වහන්සේ මට භාරදුන් සේක."

ඩොස්ටොයෙව්ස්කි සමග විවාහ වීමෙන් පසු ව, මෙතෙක් කල් ඩොස්ටොයෙව්ස්කි ගෙන් යැපෙමින් සිටි නෑයන්ගෙන් ඇනාට හිරිහැර පැමිණියේ ය. නෑයන් ගේ හා ණයකාරයන් ගේ කරදරයෙන් නිදහස් වීම පිණිස ඩොස්ටොයෙව්ස්කි බිරියත් සමග යුරෝපයට පැන ගියේ ය. ඔහු ආපසු පැමිණියේ හවුරුදු හතරකට පසු ව ය

යුරෝපයේ දී රටින් රට යන්නට පටන්ගත් ඩොස්ටොයෙව්ස්කි යළි සූදුවට ඇබ්බැහි විය. මේ කාලයේ දී ඇනාට සැමියා නිසා බොහෝ දුක් විඳීමට සිදුවිය. ඩොස්ටොයෙව්ස්කි බිරිය ගේ කන කර උගස් තබා සූදු කෙළියේ ය. අන්තිමේ දී බිරිය ගේ ඇඳුම් පවා උගස් තබා සූදු කෙළියේ ය. කුලිය අඩු තැන්වල පදිංචි විය. කුසට තිසි ආහාරයක් නොගත්තේ ය. දන්නා අඳුනන හැම දෙනාගෙන් ම මුදල් ඉල්ලා ගත්තේ ය. ඒ අතරේ ඇනා ගැබ් ගත්තා ය. බිරිය ගෙන් මුදල් ඉල්ලා ගෙන සූදුවට ගොස් හිස් අතින් ආපසු එන හෙතෙම අනතුරු ව බිරිය වැලඳ ගෙන ඇගෙන් සමාව ඉල්ලා අඬන්නේ ය. වරක් ඩොස්ටොයෙව්ස්කි පැන්කු භාරදූතක් දිනුවේ ය. ඒ අවස්ථාවේ දී හේ මිත්‍රයකුට මෙසේ ලියා යැව්වේ ය.

"පැත්කු භාරදූනෙත් සිත සනසා ගෙන වහා එන ලෙස ඈනා මට කත්තලව් කළා. මේ මුදලින් මට පුළුවනි හැම කරදරයකින් ම නිදහස් වෙන්න. ලෙහෙසියෙන් ම මුදල් දිනා ගත හැකි අවස්ථාවක් පැමිණ තිබේ. මිනිසුන් පැත්කු දහස් ගණන් දිනන හැටි හැම දාම පෙනෙනවා. නමුත් පරදින අය පෙනෙන්නේ නැහැ. මේ ලෝකේ සාත්තුවරයෝ සිටිද්දි! අනෙක් අයට වඩා මට මුදල් බොහො ම අවශ්‍යයි........ මා ළඟ ඉතිරි වී තිබුණු අන්තිම මුදලත් පැරදුණා මම මගේ ඇඳුම් උගස් තැබුවෙමි. අන්තිමේ දී අප ළඟ තිබුණු හැම දෙයක් ම විනාශ වූ පසු අපි එම නගරය හැර දමා ගියෙමු."

සූදුවට ඇති ආශාව ඩොස්ටොයෙව්ස්කිට වැළඳුණු උමතු රෝගයක් වැන්න. ඔහු මේ උමතුව අළලා ලියන ලද 'සූදු අත්තුවා' නවකතාවෙන් සූදු කෙළින්නකු ගේ මානසික තත්ත්වය විස්තර වෙයි.

"එක වතාවකට පමණක් මගේ ආත්ම ශක්තිය පෙන්නුවොත් මට පැයකින් මගේ දෛවය වෙනස් කරන්න පුළුවනි. උසස් ම දෙය ආත්ම ශක්තියයි........ මාස හතරකට පෙර රොව්ලැන්ටන්බර්ග් නගරයේ දී සිදු වූ දෙය සිහි කරන්න. එය සිතේ අධිෂ්ඨානයේ තරම පෙන්වන කදිම අවස්ථාවකි. මා ළඟ තිබුණු අන්තිම ශතය දක්වා මම පරාජය වීමි........ මම සූදු පිටියෙන් පිට වී ගියෙමි. යන ගමන් ඔම සාක්කුවට අත දමා බැලීමි. තවමත් සාක්කුවේ රන් කාසියක් ඉතිරි වී තිබේ. 'මේ මුදලින් මොනවා හරි කාලා කුසගින්න නිවා ගන්න පුළුවනි'යි මම කල්පනා කෙළෙමි. එහෙත් ටික දුරක් ගිය මම ආහාරය පිළිබඳ අදහස් හැර පියා ආපසු සූදු පිටියට ගියෙමි. ආගන්තුක රටක; නෑදෑ හිත මිතුරන් ගෙන් ඈත් වී, කුසට ආහාරයක් ලැබේ දෝයි නො ලැබේ දෝයි නො දැන, තමා සන්තක ව තිබෙන අන්තිම ශතයත් ඔට්ටු තබා සූදු කෙළියෙමි. මම දිනුවෙමි. මිනිත්තු විස්සකට පස්සේ මම සාක්කුවල රන්කාසි එකසිය හැත්තෑවක් ඇති ව සූදු පිටියෙන් පිට වී ගියෙමි. මේ කතාව ඇත්තයි. ඇතැම් විට අතේ ඉතිරිවන අන්තිම කාසියෙන් මෙ වැනි දෙයක් කළ හැකියි. මා අධෛර්‍ය වුණා නම් මොකද වෙන්නේ? අන්තිම කාසිය ඔට්ටු තැබීමට භය වුණා නම් මොකද වෙන්නේ?"

සූදුවට සැමියා ගේ ඇති උමතු ආශාව ගැන වඩා කරදර නොවූ ඈනා තැති ගත්තේ අග හිඟකම් නිසා සැමියාට අසනීප වේ ය යන කල්පනාවෙනි. දස මස ඇවෑමෙන් දිනක් රෑ ඇයට

ප්‍රසව වේදනාව දුටිණි. එහෙත් විඩා වැටී නිඳා සිටි සැමියාට කතා කිරීමට අකැමැති වූ ඇනා එළිවන තෙක් ඉවසා ගෙන සිටියා ය.

විවාහ වී හවුරුද්දකට පස්සේ, සුවිට්සර්ලන්තයේ ජිනීවා නුවර දී ඇනා දුවක වැදුවා ය. එහෙත් ඩොස්ටොයෙව්ස්කි සුදුව අත් නොහැරියේ ය. බිරියටත් දියණියටත් අවශ්‍ය ආහාර පාන ගෙනත් දීමට තිබුණු මුදලිත් පවා සූදු කෙළියේ ය. තුන් මසකට පසු බිලිඳිය මිය ගියා ය. ඩොස්ටොයෙව්ස්කිට දරුදුක ඉවසා ගත නොහැකි විය. "මගේ සැමියා, සීතල වූ කුඩා දියණිය ගේ මිනිය සිඹිමින් ගැහැනියක මෙන් විලාප නගා ඇඬුවේ ය. ඔහු මේ තරම් ශෝකයෙන් සිටිනවා මම මීට පෙර දැක නැත්තෙමි"යි ඇනා දින පොතේ ලියා තැබුවා ය ...... නොබෝ කලකින් ඇනා යළි ගැබ් ගත්තා ය.

'අපරාධය සහ දඬුවම' ජනප්‍රිය විය. ඩොස්ටොයෙව්ස්කිට ඉන් සෑහෙන ආදායමක් ලැබිණි. එහෙත් 'සූදු අත්තුවා' එ තරම් ජනප්‍රිය නො වී ය. අනතුරු ව පළ වූ *'නිවටයා' ද එ තරම් නොවිකුණුණේ ය. 'සදාකාලික සැමියා' නමැති නවකතාවක් ලියා පළකිරීමෙන් අනතුරු ව හෙතෙම 'යක්ෂයෝ' නමින් දිග නවකතාවක් ලියන්නට පටන් ගත්තේ ය.

පළමු දියණිය මිය ගොස් මාස දහසයකට පසු ඇනා තවත් දියණියක වැදුවා ය. ඒ කාලයේ දී ඩොස්ටොයෙව්ස්කි බිරිය ගැන කො තරම් සැලැකිලිමත් වී ද කියතොත් ඇ කියවමින් සිටි ටොල්ස්ටෝයි ගේ 'යුද්ධය සහ සාමය' සඟවා තැබුවේ එහි සඳහන් වොල්කොන්ස්කා කුමරිය දරු ප්‍රසූතියේ දී මිය ගිය සැටි ඇනා කියවා ය යන බියෙනි.

දෙ වන දරුවා උපන් පසු, ආපසු රුසියාවට පැමිණීමට ඩොස්ටොයෙව්ස්කි අදහස් කෙළේ ය. එහෙත් ඔහු ළඟ, ගමනට උවමනා මුදල් නො තිබිණි. ප්‍රකාශකයන් විසින් වරින්වර එවන ලද මුදල් සූදුවෙන් විනාශ කෙළේ ය. ඔහු ගේ අලුත් නවකතාව කොටස් වශයෙන් රුසියාවේ පළ විය. රටවැසියා ගැන ලියන ලද එම කතාව රටින් පිට සිට ලියන්නට නුපුළුවනැයි ඩොස්ටොයෙව්ස්කි ප්‍රකාශකයන්ට ලියා, ආපසු රටට ඒමට වරින් වර මුදල් ඉල්ලා සිටියේ ය. කතාවේ අනෙක් කොටස් නො ලැබේ ය යන බියෙන් අන්තිමේ දී ප්‍රකාශකයෝ මුදල් යැව්වෝ ය. 1871 දී ඩොස්ටොයෙව්ස්කි බිරියත් දියණියත් සමඟ ආපසු රුසියාවට පැමිණියේ ය.

---

* නිවටයා (The Idiot) සිංහල පරිවර්තනය, සෙනරත් යාපා.

'යක්ෂයෝ' රුසියාවේ සමාජවාදය හා ආණ්ඩු ප්‍රතිසංස්කරණවලට නො කැමැති අය අතරේ බෙහෙවින් ජනප්‍රිය විය. ප්‍රගතිශීලීන් විවේචනය කරමින් ලියන ලද එම නවකතාව ප්‍රතිගාමීන් අතරේ ජනප්‍රිය වීම පුදුමයක් නො වේ. ඩොස්ටොයෙව්ස්කි, ප්‍රගතිශීලීන්ට පහරදීමට යෙදවිය හැකි හොඳ ම අවියක් යයි කල්පනා කළ ප්‍රතිගාමීහු 'පුර වැසියා' නමැති පත්‍රයේ කතුකම විශාල පඩියකුත් සමඟ ඩොස්ටොයෙව්ස්කිට භාරදුන්නෝ ය. 'පුරවැසියා' සමාජවාදීන්ට පහර දීමට ධනවතුන් විසින් පවත්වන ලද පුවත් පතකි. ටික කලකට පස්සේ කිසියම් මතභේදයක් උඩ ඩොස්ටොයෙව්ස්කි පත්‍රයෙන් ඉල්ලා අස්විය.

මේ කාලයේ දී ගත්කතුවරයා ගේ ජීවිතය යහපත් අතට හැරිණි. හෙතෙම සුදුවට දක්වූ දැඩි ආශාව අත්හැරියේ ය. පොතපතින් ඔහුට සෑහෙන ආදායමක් ලැබුණේ ය. බිරිය ගේ වැයම හා අරපරිස්සම නිසා ටිකින් ටික ණයතුරුස්වලින් නිදහස් විය. රුසියාවට පැමිණි පසු ඈනා පුතුන් තිදෙනකු වැදුවා ය. හවුරුදු තුනක් ජීවත් වූ දෙවන පුතා මීමැස්මොරයෙන් මිය ගියේ ය. වැඩි මහල් පුතා හවුරුදු විසි එකකට වඩා ජීවත් නො වී ය.

'සුදුඅත්තුවා' ගෙන් පසු ඩොස්ටොයෙව්ස්කි ගේ හැම නවකතාවක් ම ලඝු ලේඛනයෙන් ලියා මුද්‍රණයට පිළියෙළ කැරුණේ ඈනා විසිනි. රාත්‍රි කාලයේ දී ලොව සත්සුන් වූ පසු ලියන්නට පටන්ගන්නා ඩොස්ටොයෙව්ස්කි නිඳගන්නේ මධ්‍යම රාත්‍රියෙන් පසුව ය. පසු ද දවල් එකොළහට පමණ අවදිවන හෙතෙම දරුවන් සමඟ කාලය ගතකොට අනතුරු ව ඇවිදින්නට යයි. පෙර දින රාත්‍රියේ දී ලියා තුබූ දෙය සවස බිරියට කියවයි. බිරිය එය ලියා ගනියි. "මගේ සැමියා සමඟ පොත පත ලිවීම මට මහත් ප්‍රීතියකි. ඔහුට උපකාරවීම මට මහත් ආඩම්බරයකි. ගත්කරුවා ගේ කටින් පිටවන වචන අසන පළමු තැනැත්තා මා වීම මට මහත් ප්‍රීතියකි"යි ඈනා ලියා තැබුවා ය.

'යක්ෂයෝ' ප්‍රකාශ කිරීමේ අයිතිය තමාට දෙන ලෙස ඈනා සැමියාගෙන් ඉල්ලා සිටියා ය. බලවත් නො කැමැත්තෙන් වුව ද ඩොස්ටොයෙව්ස්කි බිරිය ගේ ඉල්ලීමට ඉඩ දුන්නේ එය ප්‍රතික්ෂෙප කළ නො හැකි වූ හෙයිනි. එය සාර්ථක විය. නවකතාවෙන් විශාල ආදායමක් ලැබිණි. ඉන්පසු ඈනා සැමියා ගේ සියලු ම පොත් පළ කිරීමේ අයිතිය සියතට ගත්තා ය.

තිරිය විසින් ගත්නා ලද මෙම පියවර නිසා ඩොස්ටොයෙස්කිට පෙරට වඩා ආදායමක් ලැබෙන්නට විය. එ හෙයින් ඔහුට අගහිඟකම්වලින් නිදහස් වූ තැන්පත් ජීවිතයක් ගත කිරීමට හැකි විය. ගත්කරුවකු වශයෙන් මෙය ඩොස්ටොයෙස්කි ගේ ප්‍රාර්ථනාව විය. තමා ගේ හැම නවකතාවක් ම, හැම කෙටි කතාවක් ම, අංග සම්පූර්ණ කලාකෘතියක් විය යුතු යයි අදහස් කෙළේ ය. ණයතුරුස්වලින් නිදහස් වූ තැන්පත් ජීවිතය නිසා පොත පත ලිවීමට ඔහු බලාපොරොත්තු වූ විවේකය ලැබිණි. මීට කලින් ඔහු ලීවේ මුදල් සඳහා ම ය. නැති නම් ණය-තුරුස්වලින් නිදහස් වීමට ය. ඒ සඳහා හැකි තරම් වේගයෙන් ලීවේ ය. බොහෝ විට ලියූ දෙය මුද්‍රණයට යැව්වේ හොඳ හැටි කියවා බලා නො වේ. ජීවිතයේ අවසාන කාලයේ දී ඔහු දිගු කලක් ගනිමින් 'කරමසෝෆ් සහෝදරයෝ' ලීවේ අංග සම්පූර්ණ කලා කෘතියක් නිර්මාණය කිරීමේ අදහසින් මිස මුදල් බලාපොරොත්තුවෙන් නො වේ.

ඩොස්ටොයෙස්කි 1876 සිට 1877 සහ 1880 සිට 1881 දක්වා කාලය තුළ දී 'ගත්කරුවකු ගේ දිනපොත' නමින් සඟරාවක් පළ කෙළේ ය. එකල රටේ පැවැති සාමාජික, පාලන, ආර්ථික සහ ආගමික ප්‍රශ්න ගැන කාලෝචිත ලිපි ලීවේ ය. සඟරාව නිසා ඩොස්ටොයෙස්කි බෙහෙවින් ජනප්‍රිය විය. ඒ අතරේ ඔහු 'නොවැඩුණු තුරුණුවිය' නමින් නවකතාවක් පළ කෙළේ ය. 'කරම්සෝෆ් සහෝදරයෝ' ඔහු විසින් ලියන ලද අවසාන නවකතාවයි.

1880 ජූනි මස 8 වන දින මොස්කව් නුවර; ඇලෙක්සැන්ඩර් පුෂ්කින් සිහි කිරීම පිණිස එතුමා ගේ පිළිරුවක් විවෘත කොට උත්සව සභාවක් පවත්වන ලදි. ඩොස්ටොයෙස්කිට එම උත්සවයේ දී කතාවක් පැවැත්වීමට නියම ව තිබිණි. හේ තෙදිනක් ම සිය කාමරයට වැදී දොර වසා ගෙන කතාව ලීවේ ය. ඒ මහා සභාවේ දී මහජනයා ඩොස්ටොයෙස්කි ගේ කතාව අසා කො තරම් පැහැදුණේ ද කියතොත් උත්සවය, කතාවත් සමඟ අවසන් විය. එම කතාවෙන් පසු අනෙක් කතා අවශ්‍ය නැතැයි අනෙක් කථිකයෝ කල්පනා කළහ. උත්සවය අවසානයේ දී ගත්කතුවරයාට විශාල මල්වඩමක් පිළිගන්වන ලදි. මල්වඩම ගෙදර ගෙන ගිය හෙතෙම මද වේලාවක් නිඳා සිට, මහ රෑ නැඟිට, පාළු පාර දිගේ ඉතා අමාරුවෙන් මල් වඩම උස්සා ගෙන ගොස් පුෂ්කින් ගේ ප්‍රතිමාව පාමුල තබා හිස නමා ආචාර කෙළේ ය.

වැඩි කලක් ගත නො වී ය. දිනක් ඩොස්ටොයෙව්ස්කි සිරිත් පරිදි රෑ වන තුරු ලියමින් සිටියේ ය. හදිසියෙන් ම ඔහු ගේ පෑන බිම වැටිණි. පෑන සොයන්නට පටන්ගත් හෙතෙම පොත් රාක්කයක් ඈත් කෙළේ ය. රාක්කයේ බරින් ඔහු ගේ පෙනහැල්ලේ නහරයක් පුපුරා ලේ ගලන්නට විය. දොස්තරවරු කැඳවනු ලැබූ හ. එහෙත් පලක් නො වී ය. පසු දින උදේ හෙතෙම බිරියට කතාකොට "ඈනා මට නින්ද යන්නේ නැහැ. මම මෙච්චර වේලාක් කල්පනා කළා. අදින් මගේ ජීවිතය අවසන්වන බව මම දන්නවා. ඉටිපන්දමක් පත්තු කරලා මට බයිබලය දෙන්න......"යි කී ය. හේ බයිබලය කියවා පසකින් තබා දරුවන්ගෙන් හා ඥාති මිත්‍රාදීන්ගෙන් ද සමුගත්තේ ය. "ඈනා මම ඔබට අවංක ව මුළු හිතින් ම ආලය කළ බව අමතක කරන්න එපා. මම සිතිවිලි මාත්‍රයකින්වත් ඔබට ද්‍රෝහි කම් කළේ නැහැ"යි ඩොස්ටොයෙව්ස්කි අවසානයේ දී බිරියගෙන් ද සමුගනිමින් කිවේ ය.

එ දින, එනම් 1881 ජනවාරි මස 28 වන දින රාත්‍රි 8 ට පමණ මේ ශ්‍රේෂ්ඨ ගත්කතුවරයා අවසන් හුස්ම හෙළුවේ ය.

## 2

මා ඉහත සඳහන් කළේ ඩොස්ටොයෙව්ස්කි ගේ ජීවිතය ගැන ඉතා කෙටි විස්තරයකි. ගත්කරුවන් බොහෝ දෙනකු ඩොස්ටොයෙව්ස්කි ගැන බොහෝ පොත පත ලියා තිබේ. එහෙත් ඔවුන් ඩොස්ටොයෙව්ස්කි ගැන එකිනෙකට පටහැනි වූ අදහස් පවසා ඇත. සමහරුන් ගේ මතය අනුව ඩොස්ටොයෙව්ස්කි බෝධිසත්ත්ව ගති ගුණ ඇත්තෙකි. ක්‍රිස්තුන් වහන්සේ ගේ දහම යළි දේශනා කිරීමට පැමිණි දේශකයෙකි. තමා ගේ රට ජාතිය ගැන අනාගත වැකි පැවැසූ අනාගතවක්තෘ වරයෙකි. ඒ අතරේ, ඩොස්ටොයෙව්ස්කි කිසි ම ආත්ම ශක්තියක් නැති, ආත්ම ගෞරවය කුමක් දැයි නොදත්, අහංකාර, පුහු පුද්ගලයකු ලෙස හෙළා දකින අය ද සිටිති. සමහරු ඔහු ප්‍රතිගාමියකු ලෙස පිළිකුල් කරති.

කලාකාරයා සවභාවයෙන් ම අහංකාර ය. සමකාලිකයන් අතරේ තමාට වඩා උසස් ගත්කරුවන් ඇතැයි කල්පනා කරන ගත්කරුවා උත්තමයෙකි. තමා ගේ බෙහෙත් තෙල් බෝතල් ටික විකුණා ගැනීම පිණිස මහ රෝහලේ මහ ගේට්ටුව ඉදිරිපිට සිට මුළු බටහිර වෛද්‍ය ක්‍රමයට ම බැණ වදින තෙල්

බෙහෙත්කාරයන් මෙන්, තමා ගේ පොතපත වර්ණනා කර ගැනීම පිණිස මුළු සිංහල ලේඛක පරපුරට ම බැණ වදින ලේඛකයන් අපේ රටේ නැත්තේ නො වේ. නොයෙක් ආකාරයේ සම්ප්‍රදායයන් ඇදගෙන එකිනෙකාට බැණ ගන්නා ඔවුහු තමාට වාසි වන තෙක් එකිනෙකා ගේ පිට කසා ගනිති. වාසියක් නැති වන විට බැණ ගනිති. තමා ගේ ලොකුකම ප්‍රදර්ශනය කරවා ගැනීම පිණිස, නොබෙල් ත්‍යාගය දිනූ නවකතා පවා පහත් කොට සලකන ගත්කරුවෝ අප අතරේ සිටිති. ඩොස්ටොයෙව්ස්කි තරම් ආත්ම වර්ණනාව කියාගත් ලේඛකයෙක් රුසියන් ලේඛකයන් අතරේ නොවී යයි විචාරකයෝ කියති.

ඩොස්ටොයෙව්ස්කි පියා ගේ රදළ පට්ටම බොහො ම ඉහළින් බදා ගත්තේ ය. රදළ පට්ටම බදා ගත්තේ රදළ පට්ටම් පිරිහෙමින් තිබුණු කාලයකදී ය. සයිබීරියාවේ දී ඔහු බොහෝ දුක් වින්දේ පුහු නම්බුව හා අහංකාර කම නිසා ය. අහංකාර කම හිසින් ගත් ඩොස්ටොයෙව්ස්කිට පොදු ජනයා සමග මිශ්‍ර විය නො හැකි විය. සිරගෙදරින් නිදහස් වීම පිණිස හෙතෙම ලේඛකයකුට තරම් නොවන දීන තත්ත්වයකට බැස්සේ ය. සහරාවේ ලිපියක් පළ කරවා ගැනීමට පැමිණි තරුණියක සමග හාද වී ඇගේ කන්‍යාභාවය විනාශ කෙළේ ය. අනාතුරු ව දුඹ්ඩ ව ප්‍රේම කළ, කාසයෙන් රෝගාතුර වූ බිරිය හැර දමා මේ තරුණියන් සමග යුරෝපයට පැන ගියේ ය. පොතපත ලිවීම සඳහා ලේඛකයන්ට අත දීමක් වශයෙන් පිහිටුවන ලද ලේඛකයන් ගේ අරමුදලින් ණය ගෙන සූදු කෙළියේ ය. දෙ වන බිරිය ගේ ඇඳුම් පැළඳුම් පවා විකුණා සූදු කෙළියේ ය. කුඩා දරුවා ගේ ආහාරය ගැනීමට තිබුණු මුදලින් සූදු කෙළියේ ය. බිරියට ආදරය බව කියමින්, ඇගේ බලවත් සිත්තැවුලට, වෙනත් කතුන් සමග සමාගම් පැවැත්වූයේ ය. ඩොස්ටොයෙව්ස්කි ක්‍රියා කළේ අබ මල් රේණුවක තරම්වත් ආත්ම ගෞරවයක්, ආත්ම ශක්තියක් නැත්තකු මෙනි.

ඩොස්ටොයෙව්ස්කි ගේ ජීවිත කතාව ග්‍රන්ථාරූඪ කළ ඔහු ගේ මිත්‍රයෙක්, පොත ලියන අතරේ ලියෝ ටෝල්ස්ටෝයිට මෙසේ ලියා යැව්වේ ය. "පොත ලියන අතරේ මා තුළ ඇති වූ පිළිකුල් හැඟීම්වලට විරුද්ධ ව සටන් කිරීමටත්, අප්‍රසාදය මැඩ ගැනීමටත් සිදු විය.........ඩොස්ටොයෙව්ස්කි යහපත් මිනිසකු හැටියට මට පිළිගත නො හැකි ය. ඔහු ඊර්ෂ්‍යාවෙන් පිරි සල්ලාලයෙක් විය. මුළු ජීවිතයට ම හැඟීම්වලට වහල් වී ක්‍රියා කෙළේ ය. ඔහු ගේ චරිත කතාව ලියන අතරේ ඔහු

තුළ ඇති වූ හැඟීම් ගැන මම ඉතා පැහැදිලි ව කල්පනා කෙළෙමි. ස්විට්සර්ලන්තයේ පදිංචි ව සිටි කාලයේ දී දිනක් ඔහු මා ඉදිරිපිට තම සේවකයාට කො තරම් නින්දිත ලෙස සැලැකුවේ ද කියතොත්, සේවකයා සිය විරුද්ධත්වය ප්‍රකාශ කරමින් 'මම මිනුෂ්‍යයෙක්' යයි කීවේ ය. එදා, ඒ සේවකයා කී එම වචන මා තුළ තදින් කාවැදුණේ, ඒ වචන එකල නිදහස් ස්විට්සර්ලන්තයේ මිනිස් අයිතිවාසිකම් පිළිබිඹු කරන අතරේ; ඒ වචන, මිනිස් වර්ගයාට දයාව, අනුකම්පාව ආදී උසස් ගුණ දහම් ගැන නිතර බණ කියන මිනිසකුට කියන ලද හෙයිනි. මෙ වැනි දේවල් නිතර සිදු විය. ඩොස්ටොයෙව්ස්කිට කෝපය මැඩ ගත නො හැකි විය. මේ සියල්ලට ම වඩා භයානක වූයේ ඔහු අධම දේවල් කොට ඒවා ගැන පසු-තැවෙනවා වෙනුවට පුරසාරම් දෙඩීම ය. නින්දිත දේවල් කිරීමෙන් හේ ආස්වාදයක් ලැබුවේ ය. ඔහු විසින් ලියන ලද හැම නවකතාවකින් ම වෑයම් කළේ තමා විසින් කරන ලද නින්දිත දේවලින් නිදහස් වීමට ය. මිනිසාට උතුම් ක්‍රියා සමඟ සාහසික දේවල් ද කළ හැකි බව ඔප්පු කිරීමට ඩොස්ටොයෙව්ස්කි නවකතා මගින් වෑයම් කෙළේ ය.''

'කරමසෝ සහෝදරයෝ' ගැන දිග විවේචනයක් කරන සොමසෙට් මෝහම් නමැති ඉංග්‍රීසි ජාතික නවකතා කාරයා ඩොස්ටොයෙව්ස්කි ගේ චරිතයෙහි ඇති ප්‍රභේද විස්තර කරමින් මෙ වැනි නිගමනයකට බසියි:

''ඩොස්ටොයෙව්ස්කි අහංකාර විය. අනුන්ට ඊර්ෂ්‍යා කෙළේ ය. නිතර කලහ කර ගත්තේ ය. අනුන් සැක කෙළේ ය. බයාදු විය. ආත්මාර්ථකාමී විය. විශ්වාස කළ නො හැකි විය. පටු අදහස් ඇත්තේ විය. නුරුස්නා නපුරු පුද්ගලයෙක් විය. කොටින් කියතොත් නින්දිත පුද්ගලයෙක් විය. එහෙත් සම්-පූර්ණ ඇත්ත එය නො වෙයි. ඩොස්ටොයෙව්ස්කි එ වැනි අධම නීච පුද්ගලයෙක් නම්; සියලු ම නවකතාවල ඇතුළත් චරිත අතරින් ඉතා ම සිත් ගන්නා චරිතයක් ලෙස සැලැකිය හැකි අලෝෂා කරමසෝ ගේ චරිතය ඔහුට නිරූපනය කළ හැකි යයි සිතිය නො හැකි ය. සොසිමා තවුසා වැනි සාදු චරිතයක් නිරූපනය කළ නො හැකි ය. ඩොස්ටොයෙව්ස්කි අනුන් ගේ දෙස් සොයන්නෙක් නො වී ය. මිනිසාට අපරාධ කළ හැකි ය. මිනීමැරිය හැකි ය. සද්‍රාත් දූෂණය කළ හැකි ය. මං පැහැරිය හැකි ය. ඒ අතරේ ඔහු තුළ උච්චාභිලාෂය, පරාර්ථසේවය, කරුණාව, මෛත්‍රිය ආදී යහපත් ගුණ ද තිබිය හැකි යයි

ඩොස්ටොයෙව්ස්කි සයිබීරියාවේ දී පසක් කෙළේ ය. ඩොස්-ටොයෙව්ස්කි ත්‍යාගශීලී විය. තමාගෙන් මුදල් ඉල්ලූ හිඟන්නකුට හෝ මිත්‍රයකුට හෝ මුදල් නො දී නො සිටියේ ය. අතේ සතේ නැති ව සිටිය දී පවා තෑගත්ට අනුන් ගෙන් මුදල් ඉල්ලා දුන්නේ ය. ඔවුන් ගැන අමනාප වෙනවා වෙනුවට ඔවුන්ට ඊට වඩා උපකාරයක් කිරීමට නො හැකි වීම ගැන කනගාටු විය.........ඩොස්ටොයෙව්ස්කි තුළ තරම්, ගත්කතුවරයා සහ පුද්ගලයා අතර පවතින විවිධත්වය ඇති වෙන අයකු ගැන මට කල්පනා කළ නො හැකි ය. එය නිර්මාණ ශක්තියෙන් යුත් කලාකාරයන් තුළ පවතින කුසලතාවක් විය හැකි ය. එහෙත් ඒ විවිධත්වය අනෙක් අයට වඩා ගත්කරුවන් අතරේ පැහැදිලි ව පෙනෙන්නේ ඔවුන් ගේ මාධ්‍යය වචන වන හෙයිනි. එ හෙයින් ඔවුන් ගේ කල්ක්‍රියාව සහ ඔවුන් ලියන දෙය අතරේ පැවැති වෙනස සහ ගැටුම වඩාත් සංවේගය ඇති කරවයි. ළමා වියේ සහ තරුණ වියේ ආරම්භයේ දී ඇති වන සාමාන්‍ය ඉන්ද්‍රිය ශක්තිය වන නිර්මාණ ශක්තිය, තුරුණු වියෙන් පසු නො නැසී පැවතුණොත් එය රෝගයක් වෙයි. මෙම රෝගය දියුණු වන්නේ සාමාන්‍ය මනුෂ්‍ය ගුණාංග ඉක්මවමිනි. සරු පසේ වැඩෙන කැකිරි රසයෙන් වැඩි වන්නාක් මෙන් දුරාචාරය, පාපය ආදී දුර්ගුණ දියුණු වෙයි. ලොවේ නවකතාකාරයන් අතරින් ඩොස්ටොයෙව්ස්කි විස්මය ජනක නිර්මාණ ශක්තියෙන් යුතු ව අග්‍රස්ථානයට පැමිණියේ ඔහු තුළ පැවැති යහපතින් නො ව අයහපතිනි.''

ඩොස්ටොයෙව්ස්කි දෙබිඩි චරිතයක් ඇත්තකු බව සමහර විචාරකයන් ගේ මතයයි. ඔහු නිර්මාණය කළ චරිත තුළ මේ දෙබිඩි ගතිය පෙනෙන්නට තිබේ. ඇතැම් සිදුවීම් තුළ ද දෙබිඩි ගතිය දකින්නට ඇත. ඉවාන් කරමසෝ ගේ දෙබිඩි චරිතය ඔහු දකින සිහිනය මගින් විස්තර වෙයි.

ලියෝ ටොල්ස්ටෝයි සහ ඉවාන් ටර්ජිනිව්, ඩොස්ටොයෙව්ස්කි ගේ සමකාලිකයෝ වූ හ. ටොල්ස්ටෝයිට කවදාවත් ඩොස්ටො-යෙව්ස්කි හමුවී නැත. එහෙත් ඩොස්ටොයෙව්ස්කි මිය ගිය බව ඇසූ ටොල්ස්ටෝයි ''මා කවදාවත් ඩොස්ටොයෙව්ස්කි දැකලා නැහැ. ඔහු සමඟ කිසි ම සම්බන්ධයක් තිබුණේත් නැහැ. නමුත් ඔහු මිය ගිය බව ඇසූ පසු මට දැනුණා ඔහු මට ඉතා අගනා, හිතවත්, ඉතා ම අවශ්‍ය කෙනකු බව''යි කී ය. ''ඩොස්-ටොයෙව්ස්කි බුදුබණ කියවා තිබුණා නම් මෙයට වඩා තැන්පත් වන්නට ඉඩ තිබුණා''යි වරක් ටොල්ස්ටෝයි, ඩොස්ටොයෙව්ස්කි ගැන සඳහන් කරමින් මැක්සිම් ගෝකිට කී ය.

# 3

පසු ගිය හවුරුදු පනහ තුළ සෝවියේට් රුසියාව ලැබූ දියුණුව මෙම සියවස තුළ මානව ඉතිහාසයේ ඇති වූ ප්‍රාතිහාර්යයක් වැන්න. මීට හවුරුදු පනහකට පෙර දූසහාවයේ සිටි රුසියාවේ ගොවිකම්කරු ජනතාව, විප්ලවයකින් එම සමාජය පෙරලා දමා ලොවේ පළමු වරට ගොවි කම්කරුවන් ගෙන් සැදුම් ලත් සමාජවාදී සමාජයක් ගොඩනැගුවෝ ය. අනතුරු ව ලෝක සංග්‍රාම දෙකකින් බැට කෑ රුසියන් ජනතාව ගළි හිස ඔසවා නැගී සිට, විද්‍යාව හා කර්මාන්ත අතින් මහා දියුණුවක් ලබා, අනෙක් මහා ජාතීන් පසු ගන්වා, අත දිගු කොට ග්‍රහලෝක ඇල්ලීමට තරම් සමත් වූ හ. මෙතෙක් කල් විද්‍යාඥයන්ට රහසක් ව පැවැති, මහා ඝන වලාකුළකින් වැසුණු සිකුරු ලොව වෙත චන්ද්‍රිකාවක් යවා, ඒ මත බස්සවා, එහි තතු ලොවට හෙළි කළහ. රුසියන් විද්‍යාඥයන් කළ මේ සමත් කම අපට සිතින් සිතා ගැනීම ද අපහසු ය.

මෙ වැනි ආත්ම ශක්තියක්, ආත්ම විශ්වාසයක්, නො පසු බස්නා වීරියක් හා අධිෂ්ඨානයක් ඇති ජනතාවක ගේ සිතුම් පැතුම් තැන්පත් කොට ලියන ලද සාහිත්‍යය සැබැවින් ම විස්මය ජනක විය යුතු ය. රුසියන් ජනතාව කෙටි කාලයක් තුළ දී ආධ්‍යාත්මික හා කලාත්මක වශයෙන් ඉතා උසස් මහා නවකතා, නවකතා, කෙටි නවකතා, කෙටිකතා, මහා කාව්‍ය, දෘශ්‍යකාව්‍ය ආදි නොයෙක් අංගයන් ගෙන් සමන්විත වූ උසස් සාහිත්‍යයක් නිර්මාණය කෙළෙ෴ ය.

රුසියන් සාහිත්‍යය රුසියන් ජනතාව තුළ ආධ්‍යාත්මික දියුණුවක් ඇතිකොට, අනෙක් අතින් වැරදි පාලනය නිසා පැවැති සමාජ දෝෂත්, ඒ දෝෂවලට අසු වී මිනිසුන් විඳිනා දුක් පීඩාදියත් පෙන්නා දී, ඒ සමාජය පෙරලා දමා අලුත් සමාජයක් ගොඩනැගීමට මිනිසුන් උසි ගැන්නුවේ ය. රුසියන් සාහිත්‍යය, ආර්ථික හා සමාජ පීඩනයෙන් දහදුක් වින්ද රුසියන් ජනතාව විසින් ලොවට ඇසෙන සේ නගන ලද අඳෝනාවක් වැන්න.

රුසියාවේ, ආගම, දේශපාලනය හා ආර්ථික තත්ත්වයන් සමග ගමන් ගත් රුසියන් සාහිත්‍යය සමාජයත් සමඟ බැඳී වැඩෙන්නට විය. සාහිත්‍යය සමාජයෙන් ඈත් වන විට යළි එය නිසි මඟට ගැනීම විචාරකයන් සතු යුතුකම විය. සමාජය ප්‍රගතිය කරා ගෙන යාම සහ ජාතික අභිමානය, සහෝදරත්වය,

සමානාත්මතාව වර්ධනය කිරීම සාහිත්‍යයේ විශේෂ පරමාර්ථය විය. "අප අතරේ නොයෙක් දේවල් කෙබඳු තත්ත්වයක් ගෙන තිබේ ද කියතොත් සාහිත්‍යයේ ඉතා ම තිසරු අංගයක් ලෙස සැලකෙන නවකතාව දෙකිත් එකක් විය යුතුයි. එක්කෝ නවකතාව වැඩකට නැති වල්පල් ගොඩකි. නැතිනම් මුළු රාජ්‍යය තුල රව් පිළි රැව් දෙමින් පැතිර යන, නායකයකු නගන හඬකට සමාන ය" යි රුසියන් විචාරකයෙක් කී ය. නවකතාව කෙරෙහි රුසියන් ජනතාව දැක්වූ සැලකිල්ල මේ ප්‍රකාශයෙන් හෙළි වෙයි.

රුසියන් නවකතාව මේ තරම් උසස් තත්ත්වයකට ගෙන ගිය ලේඛකයන් අතරින් ඩොස්ටොයෙස්කිට ඉතා වැදගත් තැනක් හිමි වෙයි. ඔහු ගේ නවකතා රුසියන් සාහිත්‍යය පෝෂණය කල අතර, රුසියාවේ දේශ සීමා තරණය කොට යුරෝපය පුරා අලුත් නවකතා සම්ප්‍රදායයක් බිහිකිරීමට අනුබල දුන්නේ ය. එ හෙයින් රුසියන් ගත්කරුවන් අතරේ පමණක් නො ව ලොව පහල වූ මහා නවකතා කරුවන් අතරින් ඩොස්ටොයෙස්කිට වැදගත් තැනක් හිමි වෙයි. මහා කවීන් අතරින් ශේක්ස්පියර්ට, හෝමර්ට සහ කාලිදාසට හිමිවන තැන නවකතාකරුවන් අතරින් ඩොස්ටොයෙස්කිට හිමි වෙයි. මැක්සිම් ගෝකි ඩොස්ටොයෙස්කි ශේක්ස්පියර්ට සමාන කෙලේ ය.

එතෙක් සිටි නවකතාකරුවන්ට නො තිබුණු විශේෂ කුසලතාවක් ඩොස්ටොයෙස්කිට තිබිණි. එය මිනිස් සිත විනිවිද දක්නා නුවණයි. මිනිස් සිතේ පතුලට වැදී එහි අඳුරු තැන් අතපත ගා හෙළි කිරීම විද්‍යාවක් වශයෙන් දියුණු වුණේ සිග්මන් ෆ්‍රොයිඩ් නමැති විද්වතාගෙන් පසුව ය. එහෙත් ෆ්‍රොයිඩ්ට කලින් ඩොස්ටොයෙස්කි මිනිස් සිත විග්‍රහ කොට කලාත්මක ලක්ෂණ ඇති ව නවකතාවලට ඇතුලත් කෙලේ ය. "මෙතෙක් ලියන ලද නවකතා අතරින් 'කරමසෝ සහෝදරයෝ' නවකතාවේ 'කතෝලික ධර්මාධිකරණයේ නායකයා' නමැති කොටස ලෝක සාහිත්‍යයේ මිණි කිරුළ ලෙස සැලකිය හැකි යි" ෆ්‍රොයිඩ් කී ය.

මිනිස් සිත ක්‍රියා කරන සැටි ගැන කතා කිරීමේ දී නිදසුන් වශයෙන් ඩොස්ටොයෙස්කි ගේ නවකතා ඉදිරිපත් කිරීම සාමාන්‍ය සිරිත විය. පසු ගිය දෙවන මහා යුද්ධයෙන් අනතුරු ව යුගෝස්ලෝවියාවේ ජනාධිපති ටිටෝ, උප ජනාධිපති මිලෝවාන් ඩිජිලාස් සමඟ ස්ටාලින් ඇතුළු සෝවියට් නායකයන්

හමුවී සියරට ගැන සාකච්ඡා කිරීම පිණිස කීපවරක් ම රුසියාවට ගියේ ය. ස්ටාලින් සමග සාකච්ඡා කරන අතරේ ඩිජිලාස්, රතු හමුදාවේ භටයන් යුගොස්ලෝවියාවේ දී ස්ත්‍රීන් දූෂණය කරමින් හැසුරුණු අන්දම ගැන අප්‍රසාදය පළ කළ විට ස්ටාලින් මෙසේ පිළිතුරු දුන්නේ ය. "ඔබ ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතා කියවා තිබෙන බව මම දන්නවා. මිනිස් සිත කො තරම් සංකීර්ණ ද යන වග එම නවකතාවලින් පේනවා නේ ද? එහෙනම් ස්ටාලින්ග්‍රෑඩ් සිට බෙල්ග්‍රේඩ් නුවර දක්වා සැතැපුම් දහස් ගණනක් තමා ගේ විනාශ වූ රට තුළින්, තමා ගේ සහෝදරයන් ගේ හා ආදරය කළ අය ගේ මළ මිනී උඩින් යමින්, සටන් කළ මිනිහකු ගැන ටිකක් කල්පනා කරලා බලන්න. එ වැනි මිනිහෙක් කොහොම ද සාමාන්‍ය මිනිහකු ලෙස කටයුතු කරන්නේ? එ වැනි භයානක අත් දැකීම් ලැබූ මිනිහෙක් ගැහැනියක් සමග ටිකක් විනෝද වුණාට තියෙන වැරැද්ද මොකක් ද?"

එහෙත් ඩොස්ටොයෙව්ස්කි, තමා ගැන පවසන ලද මෙ වැනි අදහස් ප්‍රතික්ෂේප කෙළේ ය. "නවකතාකරුවකු වශයෙන් මගේ අදහස, මිනිසා තුළ වෙසෙන මිනිසා සොයා ගැනීමයි" ඩොස්ටොයෙව්ස්කි කී ය. "සමහරු මට මනෝවිද්‍යාඥයෙක් යයි කියති. ඒ කතාවේ කිසි ම ඇත්තක් නැත. මම නියම යථාර්ථ වාදියෙක්මි. ඒ කියන්නේ මම මිනිසා ගේ ආත්මයේ පතුල සම්පූර්ණයෙන් ම විදහා පෙන්නුවෙමි."

ඩොස්ටොයෙව්ස්කි කතා කීමේ දී තාත්වික සම්ප්‍රදාය අනු-ගමනය කෙළේ ය. එකල නවකතාකාරයන් බෙහෙවින් අනුගමනය කළේ තාත්වික සම්ප්‍රදායයි. ඇතැම් විට එය උපහාසයට ද ලක් වූ බව පෙනෙයි. ඉවාන් තැබෑරුමක හිඳ ක්‍රිස්තුන් වහන්සේ යළි ලොව පහළ වීම ගැන කතාව කියන අතරේ තාත්වික සම්ප්‍රදායයට ඇනුම්පදයක් ද කියයි. ඔහු මේ ඇනුම්පදය කියන්නට ඇත්තේ තාත්වික සම්ප්‍රදාය අනුගමනය කරමින් ලියන ලද මහා නවකතාවකට මනඃකල්පිත කතාවක් ඇතුළත් කළ නිසා විය යුතුයි. 'ක්‍රිස්තුන් වහන්සේ යළි ලොව පහළ වීම' මනඃකල්පිත කතාවකි. *'තරුණ බිරිය' නමැති කෙටි නවකතාවට සංඥාපනයක් ලියන ඩොස්ටො-යෙව්ස්කි 'මෙය මනඃකල්පිත කතාවක් ලෙස හඳුන්වා ඇතත් මෙය ඉතා උසස් ලෙස මනුෂ්‍ය සවභාවය යථා තත්ත්වයෙන්

---

* පිස්සු තරුණයා දුටු විකාර සිහිනය නමැති ඩොස්ටොයෙව්ස්කි ගේ කෙටි කතා එකතුවට ඇතුළත් කතාවකි. - පරිවර්තකයා, සිරිල් සී. පෙරේරා

පිළිඹිබු කරන කතාවක් ලෙස සලකමි' යි පවසයි. ඩොස්ටො-යෙස්කි ගේ කෙටි කතා හා කෙටි නවකතා අතරේ මනඃකල්පිත කතා ද දකින්නට තිබේ. වික්ටර් හියුගෝ ගේ 'මරණයට නියම වූ මිනිහා ගේ අන්තිම දවස' නමැති නවකතාව මනඃ-කල්පිත කතාවක් ලෙස හඳුන්වා දෙන ඩොස්ටොයෙස්කි අනතුරු ව මෙසේ කියයි. "යම් විදියකින් මේ ශ්‍රෙෂ්ඨ ගත්-කරුවාට (වික්ටර් හියුගෝ) තමා ගේ කතාවට මනඃකල්පිත දේවල් ඇතුළු කිරීමේ නිදහස නො තිබුණේ නම් මනුෂ්‍ය ස්වභාවය ඇති සැටියෙන් නිරූපනය වන ශ්‍රෙෂ්ඨ කෘතියෙක් කිසි කලෙක බිහි නොවන්නේ ය. හියුගෝ ගේ කතාව අමරණීය නොවන්-නේ ය."

ඩොස්ටොයෙස්කි තාත්වික සම්ප්‍රදාය බඳුගෙන අනෙක් සම්ප්‍රදායවලට බැණ වදින තරම් මනසින් පිරිහුණු අහංකාර පුද්ගලයෙක් නො වී ය. සම්ප්‍රදාය කුමක් වුවත් හෙතෙම උසස් නවකතාව උසස් කොට සැලැකුවේ ය. එම පිළිවෙත අනුගමනය කළ හෙතෙම ඇතැම් විට මනඃකල්පිත කතා ද ලිවේ ය. ඔහු උසස් කොට සැලැකුවේ කතාව මිස සම්ප්‍රදාය නො වේ.

'තාත්වික සම්ප්‍රදාය' සිංහල පාඨකයන්ට හුරු පුරුදු වචනයකි. අපේ 'විචාරකයන්' යයි කියා ගන්නා මිනිස්සු මෙම වචනය ඔවුන් ගේ හිතවතුන් ලියන නවකතා වර්ණනා කිරීමට පාවිච්චි කරන අතරේ අනෙක් අතින් විරුද්ධවාදීන් ගේ නවකතා හෙළා දැකීමට කුණු බිත්තරයක් ලෙස පාවිච්චි කරති. එහෙත් ඩොස්ටොයෙස්කි අනුගමනය කළ තාත්වික සම්ප්‍රදාය අපේ 'විචාරකයන්' අපට පිළිගන්නට යයි කියන වර්ගයේ තාත්වික සම්ප්‍රදායයක් නො වේ. එය එදිනෙදා සිදුවන සිදුවීම් පිළිබඳ වාර්තාවක් ද නො වේ. ඩොස්ටොයෙස්කි බොහෝ විට කතාවක් කීමට වස්තු කරගත්තේ හැබැහින් සිදු වූ දේවල් ය. ඒ සඳහා පුවත් පත්වල පළ වූ රටේ තොටේ සිදුවීම් සටහන් කර ගත්තේ ය. නවකතාවකට කිසියම් සිදුවීමක් ඇතුළු කිරීමට කලින් එහි ඇත්ත නැත්ත සොයා බැලුවේ ය. මිනියා ගේ නඩු විභාගය විස්තර කිරීමට කලින් ඩොස්ටොයෙස්කි පිටස්බර්ග් නුවර නීතිඥයන් හමු වී ඒ ගැන සාකච්ඡා කෙළේ ය. ඉවාන් ගේ අසනීපය ගැන දොස්තර වරුන් ගෙන් උපදෙස් ගත්තේ ය. සොසිමා තවුසා ගේ අවමඟුල පිළිබඳ සිරිත් විරිත් සහ තාපසාරාමය පිළිබඳ විස්තර දැන-ගැනීම පිණිස දෙසතියක් තාපසාරාමයක නතර වී සිටියේ ය.

පැවල් ගයන ගීය කඩයක කොල්ලකු විසින් ලියන ලද්දෙකි. ලූනු ගෙඩිය පිළිබඳ කතාව ගැමි ගැහැනියක ගෙන් අසා දැනගත් ඩොස්ටොයෙව්ස්කි, බල්ලන් ලවා දරුවා මැරීමේ සිද්ධිය පුවත්පත්වලින් ගත්තේ ය. එහෙත් මේ හැබෑ ලෝකයක නතු පැවැසීමට තනාගත් චරිත මඟින් ඩොස්ටොයෙව්ස්කි අමුතු ලෝකයක් මැව්වේ ය. එය ඩොස්ටොයෙව්ස්කිට පමණක් මැවිය හැකි, ඔහුට පමණක් සීමා වූ ලෝකයකි. පිටතින් අප වෙසෙන ලෝකයත් ඩොස්ටොයෙව්ස්කි ගේ ලෝකයත් අතරේ වැඩි වෙනසක් පෙනෙන්නට නැත.

ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතාවල දකින්නට ලැබෙන චරිත අස්වාභාවිකයයි සමහරු කියති. ඩොස්ටොයෙව්ස්කි ගේ චරිත තොරක් නැති ව කතා කරති, බැණ ගනිති, අඬති දොඩති, විලාප නඟති, ඇන කොටා ගනිති, බණ දේශනා කරති. කොටින් කියතොත් මිනිස් ගති ඉක්මවා යති. ඔවුන් කල්පනා කරන්නේ, කතා කරන්නේ, ක්‍රියා කරන්නේ සාමාන්‍ය මිනිසුන් හැටියට නො වෙයි. ඩොස්ටොයෙව්ස්කි ගේ ලෝකය අපට නුහුරු ලෝකයක් මෙන් පෙනෙන්නේ එය මිනිසුන් ගේ සිත් සතන් තුළ පවතින ලෝකයක් නිසයි. අප දන්නා අඳුනන, අපට මඟතොට දී හමුවන, ගැහැනුන් පිරිමින් දෙස බලන අපට පෙනෙන්නේ ඔවුන් ගේ බාහිර ස්වරූපය පමණි. මෙම බාහිර අලංකාරයෙන් වසා ගැනීමට වෑයම් කරන ඔවුන් ගේ කෝපය, වෛරය, ද්වේෂය, රාගය, තණ්හාව, සිල්වත්කම, ගුණවත්කම, අහංකාරකම, නම්බුව, අපට නො-පෙනෙයි. එහෙත් ඩොස්ටොයෙව්ස්කිට පෙනෙයි. ඩොස්ටො-යෙව්ස්කි ගේ ලෝකය මිනිසුන් ගේ සිත් සතන් තුළ පවතින ලෝකයකි. ඒ ලෝකයට පිවිසෙන අපට පෙනෙන්නේ මිනිසුන් ගේ සිත් තුළ සැඟවී ඇති රාගය, ද්වේෂය, මෛත්‍රිය කරුණාව, ප්‍රේමය, මෝහය ආදී නොයෙක් හැඟීම් පමණි. ඒ හැඟීම්වල දුප්පත් පොහොසත් භේදයක් නැත.

ඩොස්ටොයෙව්ස්කි අලංකාරය උසස් කොට සැලැකුවේ ය. ඔහු ගේ නවකතාවල වර්ණනා වන්නේ මිනිසා ගේ බාහිර අලංකාරය නො ව ආධ්‍යාත්මික අලංකාරයයි. සීලයෙන් හා සත්‍යයෙන් තොර වූ අලංකාරය ඩොස්ටොයෙව්ස්කි විහිළුවක් ලෙස බැහැර කෙළේ ය. "අප කො තරම් අලංකාර ද යන වග අපි නො දනිමු. එය තමා සියලු දුකට හේතුව. මනුෂ්‍ය වර්ගයා සැපවත් කිරීමේ බලයක් අප තුළ ඇත. එය අපට ලැබී ඇති බලයකි. එහෙත් අපේ අවාසනාවට මෙන් ඒ බලය

අප තුළ සැඟවී ඇති හෙයින් ඒ ගැන අපට අමතක වී ඇත''යි ඩොස්ටොයෙව්ස්කි කියයි. ඔහු මිනිසා කරමසෝව් ලවා අලංකාරය ඉතා භයානක දෙයක් බව හඟවයි. භයානක එහි ගැඹුර අප නො දන්නා නිසයි. යහපත් සිතක් හා හදවතක් ඇති මිනිසා යහපතින් පටන් ගෙන පාපයෙන් අවසන් වීම ඉතා භයානක ය. අනෙක් භයානක දෙය පාපයෙහි ගිලුණු මිනිසා යහපත් වීමට ඇති ආශාව අත්නොහැරීමයි. කෙනකු ගේ මුහුණේ නලලේ, දෑසේ, නාසයේ, දෙතොලේ, ඩොස්ටොයෙව්ස්කි අලංකාරයක් නුදුටුවේ ය. කෙනකු තුළ වෙසෙන දෙවියන් හා යක්ෂයා (නොහොත් හොඳ නරක) අතර ඇති වන ගැටුම පිළිබිඹු වන මුහුණෙහි ඩොස්ටොයෙව්ස්කි අමුතු අලංකාරයක් දුටුවේ ය.

## 4

මා පළමු වරට 'කරමසෝව් සහෝදරයෝ' කියවීමට වෑයම් කළේ මීට විසි වසකට පමණ පෙර ය. බටහිර නවකතා කියවා පුරුදු මට ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතාවේ පිටු සවල්පයක් කියවීමෙන් පසු ව දැනුණේ අමුතු වර්ගයක මිනිසුන් වෙසෙනා අමුතු, අඳුරු ලෝකයකට පිවිසියාක් මෙනි. මිනිස් සිත විනිවිද දකින, දුක සැප හඳුනන ඩොස්ටොයෙව්ස්කි ගේ නුවණ අවබෝධ කර ගැනීමට තරම් අත්දැකීමක් හෝ අවබෝධයක් හෝ එකල මට නො තිබෙන්නට ඇත. ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතා කියවීම සිතට දරුණු වදයක් පමණක් නො ව සිත නොසන්සුන් කරන්නක් ද විය. ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතාවල නියම හරය හැඳින ගත හැක්කේ දුකින් පීඩිත වූ සිතකට යයි කියතොත් එය අතිශයෝක්තියක් නො වේ. අනුන් විඳිනා දුක හඳුනන්නේ දුක් විඳ පුරුදු අය පමණි.

දුක සැප ගැන අප තුළ කොතරම් අවබෝධයක් තිබුණත්, දුක සැප ගැන කොතරම් උදාසීන වුවත්, ඩොස්ටොයෙව්ස්කි ගේ ලොවේ වෙසෙන ගැහැනුන් පිරිමින් විඳිනා දුක දකින විට අපේ ඇඟ හිරිවැටෙයි. සාමාන්‍යයෙන් මිනිසා දුක් විඳීමට, විඳින දුක හෙළි කිරීමට අකැමැති ය. දුකින් පැනයාමට වෑයම් කරන්නේ ය. මත් පැන් බී සිහිය අවුල් කරගන්නේ, ආගම මගින් සිහිය මත් කරගන්නේ දුකින් පැනයාමට ඇති ආශාව නිසා ය. දුකට එඩිතර ව මුහුණ පා, දුකට හේතුව සොයා බැලීමට වෑයම් නො කරයි. ඊට අවශ්‍ය ආත්ම ශක්තිය මිනිසාට නැත. එහෙත් ඩොස්ටොයෙව්ස්කි ගේ චරිත දුකින්

පැනයාමට වෑයම් නො කරති. පුලපුලා දුක වර්ණනා කරති. දුකේ ගිලී ඒ දුක තුළින් සත්‍යය සොයා වෙහෙසෙති. ක්‍රිදේ වැටුණු මිනිසා ක්‍රිංකණ්ඩිය තුළින් ම ගොඩ ඒමට වෑයම් කරන්නාක් මෙන් දුක තුළින් දුක නැති කර ගැනීමට වෑයම් කරති. "නියම මිනිසකු වීමට නම් දුක් වින්ද යුතු ය. දුකින් මිනිසා ගේ වටිනාකම වැඩිවෙයි. මිනිසා තුළ දේව ගතිය සමග මෘග ගතිය ද ඇත. මෘග ගතිය නැති කරගෙන දේව ගතිය මතු වන්නේ දුක තුළිනි"යි ඩොස්ටොයෙව්ස්කි කී ය. ඩොස්ටො-යෙව්ස්කි ගේ නවකතා දුකින් පීඩිත වූ ගැහැනුන් පිරිමින් නගනා අඳෝනාවක් වැන්න.

ඩොස්ටොයෙව්ස්කි පමණක් නො ව පොදුවේ රුසියන් නවකතාකාරයා මනුෂ්‍ය වර්ගයා ගේ දුක කර තබා ගෙන වෙහෙසුණෙකි. දුක් විඳ පුරුදු ඩොස්ටොයෙව්ස්කි දුකට ගරු කෙළේ ය. දුක් විඳින අයට ගරු කෙළේ ය. තම ජාතියේ සුගතියට යන මාවත වැටී ඇත්තේ දුක තුළින් යයි විශ්වාස කෙළේ ය.

'අපරාධය සහ දඬුවම' නමැති නවකතාවේ, මුදල් ලබා ගැනීම සඳහා, මුදල් පොළී කරන මැහැල්ලක මරන ශිෂ්‍යයා සිතින් දරුණු දුක් විඳියි. ඔහු යන්තම් හෝ සැනසුමක් ලබන්නේ ඔහු මෙන් දිළිඳු වූ, තම පවුල නඩත්තු කිරීම සඳහා ශරීරය විකුණන ගණිකාවක ගෙනි. ශිෂ්‍යයා මේ ගණිකාව ඉදිරිපිට දණින් වැටී වැඳ "මම වඳින්නේ ඔබට නො ව ඔබේ වේශයෙන් දහදුක් විඳින මනුෂ්‍යාත්මභාවයටයි" කීවේ ය. සොසිමා පියතුමා මහලු වියේ සිටි සාන්තුවරයකු ලෙස කාගේත් වැඳුම් පිදුම් ලැබූ උතුම් තවුසෙකි. කරමසෝ පවුලේ පිය පුතුන් මෙම තවුසා ගේ අනුග්‍රහයෙන් පවුලේ සාමයත්, සමගියත් ඇති කර ගැනීමේ බලාපොරොත්තුවෙන් තවුසා ගේ අසපුවෙහි රැස්වෙති. එහි දී මහලු තවුසා හුනස්නෙන් නැඟිට, ඉතා මහත්සියෙන් මීතියා කරමසෝ ඉදිරිපිට දණින් වැටී මීතියාට වඳියි. එහි රැස් ව සිටි පිරිස භීතියෙන් හා කුතුහලයෙන් ගල්වෙයි. තවුසා ගේ මේ පුදුම ක්‍රියාව ගැන පුදුම වෙයි. "මම වැන්දේ මීතියා කරමසෝට නො ව ඔහු විසින් අනාගතයේ දී වින්ද යුතු දුකට" යයි තවුසා කියයි.

එහෙත් හැම දෙනාට ම එක ම විදියට දුක්විඳ ඒ දුක තුළින් සත්‍යය සොයා ගත හැකි යයි ඩොස්ටොයෙව්ස්කි විශ්වාස නො කෙළේ ය. හැම මිනිසා ම එක මිම්මෙන් මනින්නට

නො හැකි යයි ඔහු කී ය. පියා ගේ මරණයට වැරදිකරු වී සයිබීරියාවේ සිරදඬුවම් විඳීමට නියම වූ මිසියා, අලෝෂා අමතා, තමා සයිබීරියාවට ගොස් දුක් විඳ ඒ දුක තුළින් රාගය, ද්වේෂය ආදී කෙලෙසුන් නසා සිත පිරිසුදු කර ගත හැකි යයි කීවේ ය. එම අදහස ප්‍රතික්ෂේප කළ අලෝෂා, සහෝදරයා ගේ ගති දැන, දුක්විඳීමෙන් අයියාට සාන්තුවරයකු විය නොහැකි බව පවසා රටින් පැනයාමට අනුබල දුන්නේ ය.

ඩොස්ටොයෙව්ස්කි ගේ චරිතවල බාහිර ලක්ෂණ පෙනෙන්නට නැත. 'කරමසෝව් සහෝදරයෝ' නොයෙක් තරාතිරමේ චරිත-වලින් තද බද වී ඇත. එහෙත් චරිත හැඳින්වෙන්නේ නමින් සහ ඔවුන් කරන රක්ෂාවලින් පමණි. අපට පෙනෙන්නේ ඔවුන් විඳින දුක, ඔවුන් ගේ කෝපය, ප්‍රේමය, වෛරය, කරුණාව, භක්තිය, අහංකාර කම, දුෂ්ට කම, සල්ලාල කම ආදී මිනිස් ගති පමණි. මැක්සිම් ගෝර්කි කතාවක් කීමට කලින් හැඳින්වීමක් වශයෙන් පසුබිම ගැන සිත්කලු වර්ණනාවක් කරයි. ඇන්ටන් චෙකොව් වරක් ගෝර්කිට මේ ගැන දොස් කීවේ ය. ඩොස්ටොයෙව්ස්කි ඉමෙ වැනි වර්ණනා සම්පූර්ණයෙන් ම බැහැර කෙළේ ය. ඔහු ගේ නවකතාවල නගර වර්ණනා, මාර්ග වර්ණනා, සෘතු වර්ණනා නැත. 'කරමසෝව් සහෝදරයෝ' නවකතාවට පසුබිම් වූ ස්ථානය 'අපේ නගරය' නමින් හඳුන්වන ගත්කතුවරයා, කට වැරදීමකින් මෙන් එහි නම සඳහන් කරන්නේ නවකතාවේ අඩක් ගියාට පසු ව ය. එහෙත් 'අපේ නගරයේ' කුණු දිය බැස යන කාණුවක්, බඩවැටි අතරින් දිවෙන අඩි-පාරවල් ගැන සඳහන් වෙයි. අපි මේ නගරයේ බඩවැටි තිබෙන බව දන්නේ; තිරිසනකුට සමාන, අනාථ තරුණියක වූ ලිසවෙතා මහ රෑ, හඳ පානේ, බඩවැටියක් යට දූෂණය කරන ලද නිසයි. බඩවැටි අතරින් දිවෙන අඩිපාරවල් ගැන සඳහන් වෙන්නේ මිත්‍යා මහ රෑ ග්‍රිගෝරිස් ගේ ගිසට මෝල්ගසකින් ගසා අඩිපාර දිගේ පැනගිය නිසයි. ගත්කතුවරයා කිසියම් චරිතයක ඇස්, කන්, නාසා ගැන හෝ ඇඳුම් පැළඳුම් ගැන හෝ විස්තර කරන්නේ ඒ විස්තර තුළින්, ඒ ඇඳුම් පැළඳුම් තුළින්, සිතේ සැඟවුණු තැන් වඩාත් හොඳට පෙන්විය හැකි නිසයි. ඩොස්ටොයෙව්ස්කි බොහෝ විට 'දෑස' ගැන සඳහන් කරයි. දෑස සිතේ පතුලේ නළියන දුක සැප පෙනෙන කවුළු දෙකකට සමාන නිසයි. කැතිරිනා ලක්ෂණ තරුණියක බව අපි දනිමු. එහෙත් ඇගේ හමේ පාට ගැන හෝ, හැඩ තල ගැන හෝ අපි කිසිවක් නො දනිමු. අප දන්නේ කැතිරිනා ගේ අහංකාරකම, ඊර්ෂ්‍යාව, කෝපය, නපුරුකම හා ඇ විඳින දුක

පමණි. මහලු කරමසෝ ගේ නැමුණු නහය, එල්ලෙන යටි තොලින් හා කළු ගැසුණු දත් අතරින් වැගිරෙන කෙළ, පහතට නැමුණු උගුරු ඇටය ගැන ගත්කතුවරයා කරන විස්තරය මහල්ලා ගේ සල්ලාලකම, බේබදු කම පිළිබිඹු කරන කැඩ පතක් වැන්න.

5

නවකතාකාරයකු වශයෙන් ඩොස්ටොයෙව්ස්කිට උවමනා කළේ අංග සම්පූර්ණ උසස් කලාකෘතියක් වශයෙන් පිළිගත හැකි මහා නවකතාවක් ලිවීමට ය. ණයබරින් හා අගහිඟකමින් මිරිකී සිටි ඔහුට ඒ සඳහා අවශ්‍ය කාලයත්, විවේකයත්, තැන්පත් සිතත් නො තිබුණේ ය. ඔහු ජීවත් වුණේ පොතපත ලිවීමෙන් ලබාගත් ආදායමිනි. ඒ හැර ඔහුට වෙන ආදායමක් නො වී ය. ලිවීම හැර වෙන රක්ෂාවක් කිරීම ද හේ ප්‍රතික්ෂෙප කෙළේ ය. එ හෙයින් ණය තුරුස්වලින් නිදහස් වීම පිණිස ඩොස්ටොයෙව්ස්කි හැකි තරම් ඉක්මනින් ලීවේ ය. ලියූ දෙය වඩා සකස් නො කොට වහා මුද්‍රණය පිණිස යැව්වේ ය. ඇතැම් විට ණය ගෙවීම පිණිස ලීවේ ය. ඔහු ටර්ජිනිව්ට බැණ වැදුණේ පොත පත ලිවීමට ටර්ජිනිව්ට තිබුණු විවේකය ඔහුට නො තිබුණු හෙයිනි.

ලියෝ ටොල්ස්ටෝයි ගේ 'යුද්ධය සහ සාමය' පිටවීමෙන් පසු ව, රුසියන් සමාජයේ හැම අංශයක් ම අල්ලා පරම්පරා කීපයක ම තොරතුරු ඇතුලත් කොට 'මහා පව්කාරයකු ගේ චරිතය' නමින් කාණ්ඩ පහකින් යුත් මහා නවකතාවක් ලිවීමට ඩොස්ටොයෙව්ස්කි අදහස් කෙළේ ය. 'කරමසෝ සහෝදරයෝ' හටගත්තේ මේ අදහස කාලයක් තුළ සෙමෙන් මෝරා වැඩී මල් පල දැරීමෙනි.

ඩොස්ටොයෙව්ස්කි මහා නවකතා හතරක් ම ලීවේ ය. ඒ හතරට ම වස්තු වූයේ භයානක මිනීමැරුම් ය. එහෙත් හේතු පල වශයෙන් මේ මිනීමැරුම් එකිනෙකට වෙනස් වෙයි. 'අපරාධය සහ දඬුවම' දුප්පත්කම සඳහා කරන මිනීමැරුමකි. 'නිවටයා' ලියන ලද්දේ රාගය නිසා සිදු වූ මිනීමැරුමක් මුල් කරගෙන ය. 'යක්ෂයෝ' නවකතාවට ප්‍රධාන වත්තේ දේශපාලන මිනීමැරුමකි. 'කරමසෝ සහෝදරයෝ' ලිවීමට ඩොස්ටොයෙව්ස්කි වස්තු කරගත්තේ ඉතා ම භයානක මිනීමැරුමකි — පිතෘ-ඝාතනයකි.

පිතෘඝාතනය ගැන නවකතාවක් ලිවීමට ඩොස්ටොයෙව්ස්කි අදහස් කළේ සයිබීරියාවේ සිටි කාලයේ දී ය. සයිබීරියාවේ දී ඔහුට, පියා මැරූ වරදට හවුරුදු විස්සක සිරදඬුවමක් විඳින තරුණයෙක් හමුවිය. ඔහු මේ තරුණයා ගැන 'මළවුන්ගේ නිවෙස' නමැති ග්‍රන්ථයේ මෙසේ විස්තර කරයි.

"මට අමතක කළ නො හැකි පිතෘඝාතකයෙක් සිටියේ ය. උසස් පෙළපතකට අයත් ඔහු අකීකරු පුතකු ලෙස ඔහුගේ පියා විසින් සලකන ලදි. නොතැත්පත් ජීවිතයක් ගත කළ හෙතෙම ඉක්මනින් ණය විය. පුතා සුමඟ යැවීමට පියා හැකි තරම් වෑයම් කෙළේ ය. පියා ඉඩම් හිමි ධනවතෙක් විය. එ හෙයින් දේපොළ ලබා ගැනීම පිණිස පුතා පියා මැරුවේ ය. පියා මරන ලද බව සොයා ගන්නා ලද්දේ මසකට පසු ව ය. පියා ගෙදර නැති බවත්, ඈ ගිය තැන් නොදන්නා බවත්, පුතා පොලීසියට පැමිණිලි කෙළේ ය. පුතා මුළු මාසය ම මුදල් වියදම් කරමින් විනෝද විය. අත්තිමේ දී ඔහු ගෙදර නැති අතරේ පොලිසිය විසින්; වත්තේ ලෑලිවලින් වසන ලද කාණුවක තිබී මහලු පියාගේ මිනිය සොයා ගන්නා ලදි. මිනිය කාණුවේ තැත්පත් කර තිබුණු අතර, කඳින් වෙන් කරන ලද හිස, කඳ ළඟ කොට්ටයක් මත තබා තිබුණේ ය. මිනීමැරුමට අසු වූ පුතා හවුරුදු විස්සකට බරපතල වැඩ ඇති ව සයිබීරියාවට යවන ලදි. මේ තරුණයා ඇතැම් විට සිහි මඳ එකකු ලෙස කටයුතු කළත් අපරාධකාරයෙක් යයි කිව නො හැකි විය. එහෙත් හවුරුදු දහයකට පසු ව නියම මිනීමරුවා අසුවිය. ජීවිතයෙන් හවුරුදු දහයක් නිරපරාදේ විනාශ කරගත් තරුණයා අත්තිමේදී නිදහස් විය." ඩොස්ටොයෙව්ස්කි මිතියා ගේ චරිතය ගොඩනඟා ඇත්තේ මේ තරුණයා ඇසුරු කරගෙන ය.

හත් දවසකින් ලොව මැවූ සර්වබලධාරි දෙවියකු ගැන සැකයක් එකල යුරෝපය පුරා පැතිර ගියේ ය. උගත්තු සර්වබලධාරි දෙවියා පමණක් නො ව ආගම ද ප්‍රතික්ෂේප කළහ. යුරෝපය පුරා පැතිර ගිය ආර්ථික සහ දේශපාලන මත නිසා දෙවියකු ගැන විශ්වාසයත්, ඒ මත ගොඩ නැඟුණු ආගමත් කෙරෙන් මිනිස්සු ඈත් වන්නට වූහ. මෙම පෙරළිය ඩොස්ටොයෙව්ස්කි කෙරෙහි තදින් බලපෑවේ ය. 1868 දෙසැම්බර මස 23 දින ඩොස්ටොයෙව්ස්කි ඉතාලියේ සිට මිත්‍ර කවියකුට මෙසේ ලියා යැව්වේ ය.

"මම නාස්තිකවාදය ගැන විශාල නවකතාවක් ලිවීමට අදහස් කරමි. නවකතාව ලියන්නට කලින් නාස්තිකවාදීන්,

කතෝලිකයන් හා ග්‍රීක සත්‍ය ලබ්ධික උගතුන් විසින් ලියන ලද පොත් විශාල ගණනක් කියවන්නට සිදු වෙනවා ..... ..... නවකතාව හවුරුදු දෙකකින් විතර ලියා අවසන් කළ යුතුයි. එහි ප්‍රධාන චරිතය වශයෙන් මධ්‍යම පන්තියට අයත්, වැඩි උගත් කමක් නැති මිනිසකු තෝරා ගනිමි. මේ මිනිහා මුළු ජීවිත කාලය ම රක්ෂාව ගැන මිස වෙන කිසිවක් ගැන කල්පනා කළේ නැහැ. ඔහුට හිටි හැටියේ ම දෙවියන් ගැන විශ්වාසය නැතිවෙයි. දෙවියන් ගැන විශ්වාසය නැති වනවාත් සමඟ ඔහු තුළ විශාල වෙනසක් ඇති වෙයි. අනතුරු ව ඔහු නව අදහස් දරන තරුණ පරපුරත් සමඟ මිත්‍ර වෙයි. නාස්තිකවාදීන්, සමාජවාදීන්, ආගම් පිස්සන්, ජෙසුවිට් පූජකයන් සමඟ ඇසුරට වැටෙයි. අන්තිමේ දී යළි ඔහු තුළ ආගම ගැන විශ්වාසය ඇති වෙයි. පිං සිද්ධ වෙයි මේ අදහස ගැන කිසි ම කෙනකුට කියන්න එපා මා මළත් මම මේ නවකතාව ලියනවා. මොනවා වුණත් කමක් නැහැ. මම මගේ අදහස් කියන්න භය වෙන්නේ නැහැ.”

හවුරුදු තුනකට පස්සේ ඩොස්ටොයෙව්ස්කි රුසියාවට පැමිණෙන විට රුසියාවේ දේශපාලන තත්ත්වය බොහෝ දුරට වෙනස් වී තිබිණි. දේවභක්තිය තහවුරු කිරීමේ අදහස කල් දුමූ ඩොස්ටොයෙව්ස්කි සමාජවාදීන්ට පහර දෙමින් ‘යක්ෂයෝ’ නමැති නවකතාව ලිව්වේ ය. මේ නවකතාව නිසා ඔහු සමාජ–වාදීන් ගේ අප්‍රසාදයට බඳුන් විය.

දරුවන් කෙරෙහි විශේෂ ආදරයක් දැක්වූ ඩොස්ටොයෙව්ස්කි දරුවන් ගැන වෙනම නවකතාවක් ලිවීමට සටහන් ලියා තැබුවේ ය. දරුවන් ගැන කෙටි කතා ද කීපයක් ලිව්වේ ය. 1877 දී ලියා තබන ලද සටහන් අනුව ඔහු ‘The Russian Candide’, ‘A Book on Christ’ සහ ‘The Forties’ නමින් නවකතා තුනක් ලිවීමට අදහස් කළ බව පෙනේ. ඒ කාලේ රුසියාවේ පැවැති සමාජ නොසන්සුන් කම, ඒ නොසන්සුන්කම මා පිය දූ දරුවන් අතරේ පැතිර යමින් සමාජය භේද භින්න වන සැටි විස්තර කරමින් නවකතාවක් ලිවීමට ඩොස්ටොයෙව්ස්කි අදහස් කළ බව 1875 දී ලියන ලද සටහන්වලින් හෙළි වෙයි. එහෙත් ඔහු අදහස් කළ පරිදි වැඩ සිදු නො වී ය. ගත්කරුවෝ සාමාන්‍යයෙන් නොයෙක් ආකාරයේ පොතපත ලිවීමට අදහස් කරති. ඔවුන් තුළ නොයෙක් ආකාරයේ අදහස් පහල වෙයි. එහෙත් ඒ අදහස් මල් පල දරන්නේ කලාතුරකිනි. වරක් ඩොස්ටොයෙව්ස්කි මිත්‍රයකුට තමා ගැන මෙසේ ලියා යැව්වේ ය. “වෙනත් ගත්කරුවන් තුළ මෙන්

මා තුළ ද බොහෝ අඩු පාඩු තිබේ. මා ගැන තෘප්තියට පත් නොවන පළමු තැනැත්තා මම වෙමි.................. මා ලිවීමට අදහස් කළ, මට ලියන්නට හැකි ව තිබුණු දෙයින් විස්සකින් කොටසක්වත් ලියන්නට නොහැකි විය......... මගේ හදවතේ සහ සිතේ තිර වී තිබෙන හැම දෙයක් ම සම්පූර්ණයෙන් පැවැසීමට දෙවියන් වහන්සේ මට ප්‍රතිභා ශක්තිය ලබා දෙනවා ඇතැයි මම බලාපොරොත්තු වෙමි................ ගත්කතුවරයකු වශයෙන් මා හෙළි කළ දෙයට වඩා තවත් බොහෝ දේ මා තුළ සැඟවී තිබෙන බව මම දනිමි.'' තමාට වැඩි කාලයක් ජීවත්වීමට නො ලැබෙන්නේ යයි අදහස් කළ ඩොස්ටොයෙව්ස්කි ශුභත සඳහන් නවකතා ලිවීම අත්හැර දමා, ඒ සඳහා රැස් කළ සියලු ම කරුණු ඇතුළත් කොට කොටස් හතරකින්, ග්‍රන්ථ දෙළහකින් හා පරිච්ඡේද අනූහයකින් යුත් 'කරමසෝ සහෝදරයෝ' ලියන්නට ආරම්භ කෙළේ ය. 1874 දී නවකතාවට අවශ්‍ය චරිත සහ කරුණු සකස් කළ ගත්කතුවරයා 1880 ඔක්තෝම්බර් මාසයේ දී අවසන් කෙළේ ය. තුන්මසකට පසු හෙතෙම මිය ගියේ ය.

1880 සැප්තැම්බර මාසයේ දී ඔහු විසින් මිත්‍රයකුට ලියන ලද ලිපුමකින් 'කරමසෝ සහෝදරයෝ' ලියන ලද සැටි අපට දැනගත හැකි ය. ''මේ දවස්වල මා කො තරම් මහන්සියෙන් ලියනවා ද කියතොත් ඒ ගැන ඔබට සිතන්නටවත් බැරි ය. මම රෑ දවල් නො බලා මහන්සි වී ලියමි. මම 'කරමසෝ' ලියා අවසන් කොට දැන් එය සිතින් විවේචනය කරමි. මගේ ගති ගුණ සහ අදහස් බොහොමයක් ම නවකතාවට ඇතුළත් වී ඇති හෙයින් මම එය මගේ උසස් ම කෘතිය ලෙස සලකමි. සිරිතක් වශයෙන් මහන්සි වී ලියන විට මා තුළ නොසන්සුන් කමක් ඇති වෙයි...... වේදනාවත් සිත් තැවුලත් ඇති වෙයි. මහන්සි වී ලියන විට මා අසනීප වෙයි. හවුරුදු තුනක් කල් සිතේ කැකෑරෙමින් පැවැති අදහස් අන්තිමේ දී ග්‍රන්ථාරූඪ කෙළෙමි. ග්‍රන්ථාරූඪ කරන දෙය හොඳට ග්‍රන්ථාරූඪ කළ යුතු ය. ඒ කියන්නේ හැකි තරම් හොඳට ලියා තැබිය යුතුය..... දැන් පොත අවසන් කළ යුතු කාලය පැමිණ ඇත. තවත් පමා නො කොට පොත අවසන් කළ යුතු ය. පොත ලිවීමට හවුරුදු තුනක් ගත වුවත් පරිච්ඡේද කීපයක් ම කීප වරක් ම ලීවෙමි. ලියා නැවැත ඉවත දැම්මි. ප්‍රතිභා ශක්තියෙන් යුතු ව ලියන කොටස් එක් වර ම ලියා අවසන් කළ හැකි ය. අනෙක් හරිය මහන්සියෙන් නැවැත නැවැතත් ලියන්නට සිදුවිය.''

'කරමසෝ සහෝදරයෝ' මගින් ඩොස්ටොයෙව්ස්කි වෑයම් කරන්නේ ඔහු විසූ කාලයේ දේශපාලන, ආර්ථික, සාමාජික සහ ආගමික අතීත් රුසියාවේ පැවැති නොසන්සුන් කම පිළිබඳ තොරතුරු සමූහයක් හෙළි කිරීමට ය. ඩොස්ටොයෙව්ස්කි නව කතාව කොටස් වශයෙන් පළකිරීම පිණිස 'මොස්කව් හැරල්ඩ්' පත්‍රයට යවමින් මෙසේ ලීවේ ය. ('මොස්කව් හෙරල්ඩ්' එකල ප්‍රතිගාමී පත්‍රයක් ලෙස සලකනු ලැබී ය.) ''මෙම නවකතාවේ ප්‍රධාන චරිත හතර සම්බන්ධ කල විට අපේ වර්තමාන උගත් රුසියාව පිළිබඳ ව, දහස් වරක් තරම් කුඩා කරන ලද චිත්‍රයක් ලැබෙයි. මගේ මේ ව්‍යායාමය එ තරම් වැදගත් කොට සල-කන්නේ ඒ නිසා ය. ඉවාන් කරමසෝ කරන පෙරළිය වර්තමාන රුසියන් සමාජවාදීන් පිළිබඳ සංකලනයක් ලෙස විස්තර කළ හැකි ය. යක්ෂයා ගේ අවවාදය පිළිපදින බව එළිපිට පවසන වර්තමාන සමාජවාදීහු ක්‍රිස්තුන් වහන්සේ ගේ දේශනාවට වඩා යක්ෂයා ගේ අනුශාසනාව මනුෂ්‍ය වර්ගයා ගේ සුගතියට හේතු වන්නේ යයි පවසති. මෙය අපේ අඥාන, එහෙත් භයානක සමාජවාදීන්ට දෙන ලද නියෝගයක් වැන්න. එය ඉතා බලවත් නියෝගයකි.'' සමාජවාදීන් ආගමට වඩා ආහාරය උසස් කොට සලකන බවත්, මිනිසා තිරිසන් තත්ත්වයට පහත් කරන බවත් කියමින් ඩොස්ටොයෙව්ස්කි සමාජවාදීන්ට දෙස් කීවේ ය.

අදේවවාදීන් හා සමාජවාදීන් විවේචනය කරමින් නව-කතාවක් ලිවීමට ඩොස්ටොයෙව්ස්කි අදහස් කල බව අපි දනිමු. එහෙත් නවකතාව ලිවීමට අවකාශයක් නො ලැබිණි. ඒ සඳහා රැස් කරගත් සියලු දැනුම ඇතුලත් කොට හේ මෙම නව-කතාවට ඇතුලත් 'පක්ෂ ව සහ විපක්ෂව' ග්‍රන්ථය ලීවේ ය. ඔහු මේ ග්‍රන්ථය ලීවේ, එකල බලයෙහි සිටි ප්‍රතිගාමී දේශපාලකයන් ගේ උපදෙස් පිට යයි කියනු ලැබේ. එකල ඩොස්ටොයෙව්ස්කි රුසියාවේ රජ පවුල සමඟ සබඳකම් ඇති ව සිටියේ ය.

දෙවියන් කෙරෙහි විශ්වාසය නැත්තාට ඩොස්ටොයෙව්ස්කි කිසි ම සමාවක් නුදුන්නේ ය. අනෙක් අතින් හේ දෙවියන් කෙරෙහි විශ්වාසය ඇත්තා උසස් කොට සැලැකුවේ ය. මීතියා කරමසෝ නූගතෙකි, සල්ලාලයකි, බේබද්දෙකි, දැඩි කෝපයක් ඇත්තෙකි. සුරා බී මඟ තොට මිනිසුන්ට පහර දෙන්නෙකි. ගෙට කඩා වැදී පියාට පහර දී පියා මරන බව කියමින් ගම පුරා ගියේ ය. එහෙත් ඩොස්ටොයෙව්ස්කි ඔහුට අනුකම්පා කරයි. අනුකම්පා කරන ලෙස අපට කියයි. අප තුළ අනුකම්පාව ඇති කරවයි. අන්තිමේ දී ඔහුට ගැලවීම ද ලැබේ. මන්ද?

මිතියා කරමසෝෆ් දෙවියන් කෙරෙහි විශ්වාසය ඇත්තෙකි. අනෙක් අතින් ඉවාන් කරමසෝෆ් උගතෙකි. ආත්ම ගරුත්වය හා ආත්ම ශක්තිය ඇත්තෙකි. ලේඛකයෙකි. ශිෂ්ටයෙකි එහෙත් අන්තිමේ දී ඔහු විනාශ වෙයි. පිතෘඝාතනයට හවුල් කාරයෙක් වෙයි. මෙතරම් යහපත් තරුණයකු විනාශ වන්නේ මන්ද? ඔහු කළ වරද කුමක් ද? දෙවියන් ප්‍රතික්ෂේප කිරීමයි. ඔහු ගේ පියා බේබද්දෙකි, සල්ලාලයකි, කෝලමෙකි. කිසි ම ආගමධර්මයක් නැත්තෙකි. පූජකයන්ට අපහාස කරන්නෙකි. බිරිය භක්තියෙන් වැඳුම් පිදුම් කරන සුරුවම ගෙන බිරිය බලා සිටිය දී කෙළ ගසයි. අන්තිමේ දී පියා භයානක අවසානයකට මුහුණ පෑවේ ය. පැවල් දෙවියන් ප්‍රතික්ෂේප කළා පමණක් නො ව ආගමේ ඇතැම් විශ්වාස විවේචනය කෙළේ ය. අන්තිමේ දී භයානක මිනීමරුවකු වූ හෙතෙම බෙල්ලේ වැල ලා ගත්තේ ය.

එහෙත් ඩොස්ටොයෙව්ස්කි තුළ ආගම සහ සමාජය කෙරෙහි පැවැති කලකිරීම මතු වී එන්නේ 'පක්ෂ ව සහ විපක්ෂ ව' ග්‍රන්ථයෙනි. මෙහි දී ගත්කරුවා ආගම කෙරෙහි පැවැති භක්තිය අත්හැර දමා, ඉවාන් මඟින් ආගමට සහ සමාජයට විරුද්ධව කැරැල්ලක් ගසයි. 'මෙම පරිච්ඡේදයේ හැම වචනයක් ම ගත් කතුවරයා ගේ හදවතේ රුධිරයෙන් ලියා ඇත. හැම දෙනාට ම පෙනෙන්නට, ඇසෙන්නට, ගත්කතුවරයා සිය හදවත විවෘත කරයි ....... උසස් අව්‍යාජ සාහිත්‍යය හැම විට ම ලියන ලද්දේ කතුවරයා ගේ හදවතේ රුධිරයෙනි. ආගමට තැනක් දී ලියන ලද නවකතාවක, ආගමට විරුද්ධ ව ගසන කැරැල්ල මිනිස් වර්ගයාට කවදාවත් අමතක නොවන්නකි. සාහිත්‍යයේ පරමාර්ථය සත්‍යයයි. සත්‍යය කවදා හෝ හෙළි වෙයි' ඩොස්ටොයෙව්ස්කි ගැන විවේචනාත්මක ග්‍රන්ථයක් පිළියෙල කළ වී. යර්මිලෝව් නමැති රුසියන් විචාරකයා කියයි.

ධනේශ්වර සමාජයේ වරදින් දරුවන් විඳිනා දුක ඩොස්ටොයෙව්ස්කි ආගමට විරුද්ධ ව එල්ල කරන භයානක ආයුධයයි. දරුවන්ට දුක් දී, දරුවන් හාමිනේ තබා රකින ආගම, ලබන මෝක්ෂය, අමරණීයත්වය, ගත්කතුවරයා පිළිකුලින් ප්‍රතික්ෂේප කරයි. මෙතෙක් කල් ප්‍රගතිශීලීන්ට පහර ගැසීමට ඩොස්ටොයෙව්ස්කි ආයුධයක් කරගත් ප්‍රතිගාමී රාජ්‍ය නායකයෝ ඩොස්ටොයෙව්ස්කි ගේ මේ අදහස්වලින් තැති ගත්හ. 'මගේ වීරයා ආගමට විරුද්ධ ව නඟන තර්කවලට අනෙක් ග්‍රන්ථයෙන් පිළිතුරු සපයන්නෙමි. මම දූත් බියෙන්, චකිතයෙන් සහ

භක්තියෙන් යුතු ව එම ග්‍රන්ථය පිළිගෙළ කරමි. අදේවවාදය මුලින් උපුටා දැමීම මගේ යුතුකම ලෙස මම සලකමි'' යන් පිළිතුරු දෙමින් කී ය. ඩොස්ටොයෙස්කි ඉවාන් ලවා ආගමට රහැති ව කැරැල්ලක් ගස්සන්නේ 'තවුසාගේ ආත්මකථනය' නමැති අනෙක් ග්‍රන්ථයෙන් එම කැරැල්ල මැඩ අදේවවාදීන් සහ සමාජවාදීන් ජය ගැනීමට ය. ඩොස්ටොයෙස්කි ඔහු ගේ සියලු ආගමික අදහස් හෙළි කරමින් සොසිමා තවුසා ගේ ජීවිත කතාව ඇතුළත් 'තවුසාගේ ආත්මකථනය' නමැති ග්‍රන්ථය ලිවේ ය. එහෙත් ඔහු ආගමට රහැති ව ගැසූ කැරැල්ල මැඩ ජය ගැනීමට මෙම ග්‍රන්ථය අපොහොසත් විය. බොහෝ දෙනා ඩොස්ටොයෙස්කි ගේ අදහස්වලට පහර ගසමින් පොතපත ලියන්නට ඇතැයි සිතිය හැකි ය. ඩොස්ටොයෙස්කි ගේ අදහස් විවේචනය කරමින්; 'කතෝලික ධර්මාධිකරණයේ නායකයා ගේ පුරාවෘත්තය සහ ඩොස්ටොයෙස්කි' නමැති නිබන්ධනයක් කළ වාසිලී වාසිලිවිච් රොසානෝ නමැති ලේඛකයා, ඩොස්ටොයෙස්කි ආගමට එල්ල කළ බලවත් පහරට පිළිතුරු දීමට ලොව පුරා සිටින ආගමික නායකයන් ඉදිරිපත් වියයුතු යයි කීවේ ය. ඩොස්ටොයෙස්කි පල්ලියේ දේශනාවලින් බැහැර ගොස් ඇතැයි හේ තර්ක කෙළේ ය. රොසානෝ (1856 – 1919) සමාජවාදයට සහ විප්ලවවාදීන්ට විරුද්ධ වූ රාජපාක්ෂික ලේඛකයෙකි.

## 7

කිතුසමය නිසා රුසියන් ජාතිකයන් තුළ ඇති වූ මෛත්‍රී කරුණාව, සහෝදරත්වය සහ සමානාත්මතාව ආදී උතුම් මිනිස්ගති කිතුසමය නිසා බටහිර වැසියන් තුළ ඇති නො වී ය. පෙරදිග වැසියෝ මිෂනාරීන් විසින් තමන් පිට පටවන ලද කිතුසමය නිසා මිනිසත්කමින් පිරිහුණෝ ය. බෞද්ධ සහ හින්දු සංස්කෘතිය නිසා පෙරදිග වාසීන් තුළ වැඩුණු ඇතැම් ගුණ දහම් කිතුසමය නිසා රුසියන් ජාතිකයන් තුළ ඇති විය. රුසියන් ජාතිකයන් විසින් ඔවුන් ගේ සිතුම් පැතුම් තැන්පත් කොට ලියන ලද නවකතා කියවන විට ඔවුන් හා අප අතරේ පොදු බවක් පෙනෙන්නට ඇත. මේ ගුණය බටහිර නවකතා-වල දකින්නට නැත. ශතවර්ෂ ගණනාවක සිට පැවැත එන බෞද්ධ සංස්කෘතිය අනුව සිතන්නට පුරුදු වූ අපට රුසියන් නවකතාව, එහි නිරූපනය වන චරිත, ගැබ් වූ දර්ශනය තේරුම් ගැනීම පහසු වෙයි. අප ආසාවෙන් රුසියන් නවකතා කියවන්නෙත්, එහි රස විඳින්නෙත්, අනතුරු ව එම

නවකතා සියබසට පරිවර්තනය කිරීමට පෙලඹෙන්නෙත්, සිය බසට පරිවර්තනය කිරීම පහසු වන්නෙත් මේ ගුණය නිසා ය.

රුසියන් ජාතිකයා යුරෝපියකු පමණක් නො ව ආසියා-තිකයකු බව ද ඩොස්ටොයෙව්ස්කි කීවේ ය. "සමහර විට යුරෝපයට වඩා ආසියාව කෙරෙහි අපේ විශාල බලාපොරොත්තු-වක් ඇති විය හැකි ය. සමහර විට අපේ අනාගත ඉරණමට ප්‍රධාන දොරටුව පෙරදිග විය හැකි ය." මේ අනාගතවාක්‍යයෙහි කො තරම් සත්‍යයක් තිබේ ද?

ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතා සහ ඒ නවකතාවල නිරූපනය වන චරිත ඇතැම් ජාතක කතා සමඟ සසඳා බලමින් මාර්ටින් වික්‍රමසිංහ මහතා The Buddhist Jataka Stories and the Russian Novel' යන නිබන්ධනයක් ලියා ඇත. සොසිමා තවුසා ගේ සහ අලෝෂා කරමසෝ ගේ චරිත බෝධිසත්ත්ව චරිතයට ළං වන සැටි වික්‍රමසිංහ මහතා විස්තර කරයි.

ඩොස්ටොයෙව්ස්කි මෙම නවකතාවේ කතා නායකයා අලෝෂා කරමසෝ ලෙස අපට අඳුන්වා දෙයි. ඔහු නවකතාව පටන් ගන්නේ ද අලෝෂා පෙඩොරොවිච් කරමසෝ, පියෝදර් පව්ලොවිච් කරමසෝ ගේ තුන් වන පුතා ලෙස අඳුනා දෙමිනි. කතාව අවසන් වන්නේ ද "අලෝෂා සැරදේවා" යයි ආසි කියමිනි. එහෙත් කතාව කියවන විට අනෙක් චරිතවලින් අලෝෂා ගේ චරිතයේ ප්‍රධානත්වය නැති වෙයි. මීතියා කරමසෝ ගැන විස්තර වන විට අපට හැඟෙන්නේ නවකතාව මීතියා කරමසෝ ගේ චරිතය වටකොට ගෙතුණු බවයි. අනතුරු ව ඉවාන් කරමසෝ ගේ චරිතය අනෙක් චරිත යට කොට මතු වෙයි. සම්පූර්ණ ග්‍රන්ථයකින් විස්තර වන සොසිමා තවුසා ගේ චරිතයෙන් මුළු කතාව ම ආලෝක වෙයි.

නවකතාකාරයා නවකතාවක් ලියන්නේ කිසියම් බලා-පොරොත්තුවක් ඇති ව ය. ඔහු ගේ අදහස් නිසිලෙස විස්තර වී තිබේ ද? බලාපොරොත්තුව සපල වූයේ ද? පරමාර්ථය මුදුන් පැමිණියේ ද? නවකතාව සාර්ථක වූයේ ද? නැද්ද? යන වග විනිශ්චය කරන්නේ ඉහත සඳහන් පරමාර්ථ ඉෂ්ට වූයේ ද? නැද්ද? යන වග සොයා බැලීමෙනි. අංගමේ සරණිත් ඩොස්-ටොයෙව්ස්කි බලාපොරොත්තු වූ සමාජ ප්‍රතිසංස්කරණය සාර්ථක නොවූ බව අපි දනිමු. ඩොස්ටොයෙව්ස්කි මිය ගොස් දෙමසකින් ම

සාර් රජ බෝම්බයක් ගසා සාහසික ලෙස මරා දමනු ලැබී ය. අනතුරු ව ඇති වූ මහා විප්ලවයෙන් වූණ හරිය කවුරුත් දනිති.

ඩොස්ටොයෙව්ස්කි ගේ අදහස් උදහස් ගැන අපට කම් නැත. ඩොස්ටොයෙව්ස්කි විසූ, ඔහු විස්තර කළ සමාජය නැති වී දැන් බොහෝ කල් ය. එහි නෂ්ටාවශේෂවත් ඇතැයි නො සිතමි. එහෙත් කලා කෘතියක් වශයෙන් 'කරමසෝ සහෝදරයෝ' ඉතා උසස් ය. ගත්කරුවා ගේ අභිප්‍රාය අවංක නම්, ඔහු ලියන ග්‍රන්ථය ද උසස් කෘතියක් වෙයි. 'කරමසෝ සහෝදරයෝ' නවකතා අතරින් ඉතා ම උසස් නිර්මාණයක් බව විචාරකයෝ අවිවාදයෙන් පිළිගනිති.

8

රුසියන් ලේඛකයෝ රුසියන් විප්ලවයට මග පෑදූ පිරිසක් ය යන මතයක් පවතියි. එහි ඇත්ත නැත්ත සොයා බැලීමට රුසියන් සාහිත්‍යය එක්තරා ප්‍රමාණයකට හැදෑරිය යුතු ය. ඒ ගැන දිගින් දිගට විස්තර කිරීමට මෙ තැන නො තැන ය. එහෙත් එකල රුසියාවේ පැවැති දේශපාලන, ආර්ථික, සාමාජික සහ ආගමික ප්‍රශ්න සම්බන්ධයෙන් ඩොස්ටො- යෙව්ස්කි ගත් මග යත්තමින් හෝ සොයා නො බැලුවහොත් එය අපේ හැඳින්වීමට අඩුවකි.

ඩොස්ටොයෙව්ස්කි හවුරුදු විසි අවේ දී විප්ලවාදී තරුණ පිරිසකට එකතු වූ බව අපි දනිමු. අපට පෙනෙන හැටියට මේ පිරිසට විප්ලවවාදීන් යයි කිව නො හැකි ය. ඔවුන් රාජ්‍ය පාලනයේ යම් යම් අඩුපාඩු පෙන්නා දුන් බව ඇත්තයි. රට වැසියා ගෙන් වැඩි කොටසක් දාසයන් ලෙස තබා ගෙන සිටීම ගැන ඔවුන් විරුද්ධ වූ බව ඇත්තයි. ඔවුන් සමාජ සංශෝ- ධනයක් බලාපොරොත්තු වූයේ දූෂණය වූ සාර් රජයෙනි. හැම විපතකට මුල් හේතුව වූ සාර් රජය පෙරළා දැමීමට ඔවුන් අදහස් කළ බවක් පෙනෙන්නට නැත. ඩොස්ටො- යෙව්ස්කි මෙම පිරිසට එකතු වූණේ දේශපාලන හෝ සමාජ ප්‍රශ්නවලට වඩා සාහිත්‍යයට ඇති ඇල්ම නිසා ය.

එකල සාර් රජයට විරුද්ධ ව නැගී සිටි අයට සයිබීරියාවේ සිරදඬුවම් විඳින්නට සිදුවිය. ලෙනින්, ට්‍රොට්ස්කි, ස්ටාලින් ආදී දේශපාලන නායකයෝ සහ ලේඛකයෝ ද බොහෝ දෙනෙක් සයිබීරියාවට යවනු ලැබූ හ. එහි දී ඔවුන් ගේ ප්‍රගතිශීලී අදහස්

දියුණු වූවා මිස අඩු වූ බවක් පෙනෙන්නට නැත. සයිබීරියාවට යාමෙන් පසු ඩොස්ටොයෙස්කි ගේ ප්‍රගතිශීලී අදහස් අතුරුදහන් විය. සයිබීරියාවේ දී ඔහුට කියවන්නට ලැබුණු එක ම පොත බයිබලයේ පැරණි තෙස්තමේන්තුවයි. ඒ අතරේ තමා ගැන මෙනෙහි කොට ජීවිතය ගැන යම් යම් නිගමනවලට බැස ගත්තේ ය. අන්තිමේ දී මේ වියත් ලේඛකයා සිරගෙයින් පිටවී ආවේ ප්‍රගතිශීලී අදහස් වෙනුවට ආගම හිස උඩ තබා ගෙන ය. ඔහු සයිබීරියාවට නො ගියේ නම් ඔහුගෙන් මීට වඩා වෙනස් සාහිත්‍යයක් බලාපොරොත්තු වන්නට ඉඩ තිබිණි.

වැරදි පාලනයට, සමාජ ද්‍රෝහවලට හා ආර්ථික පිරිහීමට ගොදුරු වූ රට වැසියා විඳින දුක ඩොස්ටොයෙස්කි පණ පොවා විස්තර කෙළේ ය. මෙම විපතින් රට වැසියා බේරාගෙන සුමග යැවීමට ලෙනින් ප්‍රධාන මාක්ස්වාදීන්, කම්කරුවන් හා ගොවියන් සංවිධානය කොට විප්ලවයට මඟ කපන අතර ඩොස්ටොයෙස්කි ඔවුන්ට බැණවදිමින් සියලු ප්‍රශ්න ආගම මඟින් විසඳිය හැකි යයි කී ය.

එකල රුසියාවේ පැවති නොසන්සුන්කම ගැන ඩොස්ටොයෙස්කි දක්වූ උදාසීනත්වය මෙම නවකතාවේ 'පක්ෂ ව හා විපක්ෂ ව' යන ග්‍රන්ථයෙන් පැහැදිලි වෙයි. හවුරුදු නිහකට පසු ව හමුවන සහෝදරයෝ දෙදෙනා තැබෑරුමක හිඳ කතා කරති. නවකතාවට අයත් මෙම කොටස ඉතා වැදගත් ය. සහෝදරයෝ දෙදෙනා නොයෙක් දේවල් ගැන කතා කරති. එහෙත් ඔවුන්ට හැම දෙයකට ම වඩා වැදගත් වූ ප්‍රශ්නය කුමක් ද? ආගමයි. එකකු සර්වබලධාරී දෙවියකු ගැන විශ්වාස කරන අතරේ අනෙකා එය බැහැර කරයි. එකල රටේ පැවති සමාජවාදය සහ ආණ්ඩු ප්‍රතිසංස්කරණ පිළිබඳ දුවෙන ප්‍රශ්න සැලැකුවේ සල් පැන ගිය, දෙවියන් ප්‍රතික්ෂෙප කරන, නිෂ්ප්‍රයෝජන ප්‍රශ්න හැටියටයි. ඔවුන්ට වැදගත් වූයේ ජීවිතයේ අමරණීයත්වය වැනි ආගමික ප්‍රශ්නයි.

කුඩා දරුවෙක් රදළයකු ගේ දඩබල්ලකුට ගලකින් ගසයි. බල්ලා තොණ්ඩි ගසන බව දකින රදළයා දරුවා ගේ අම්මා බලා සිටිය දී දරුවා ගේ ඇඳුම් ගලවා, එළවා, දුවන දරුවා පසු පසින් දඩ බල්ලන් උසි ගන්වයි. බල්ලෝ දරුවා කෑලිවලට ඉරා මරා දමති. මෙය සැබෑ පුවතක් බව ඩොස්ටොයෙස්කි පිළිගනියි. එම සිද්ධිය පුනපුනා විස්තර කරන ඩොස්ටොයෙස්කි ඊට අමුතු අර්ථයක් දී, මෙ වැනි භයානක දේවලට අනුබල දෙන සමාජ ක්‍රමය ගැන උදාසීන වෙයි. දුප්පතා පොහොසතාට ද,

පොහොසතා දුප්පතාට ද මෛත්‍රිය කළ යුතු ය. අනතුරු ව පොහොසතා තමා ගේ වස්තුව දුප්පතාට බෙදා දිය යුතුයයි ඩොස්ටොයෙව්ස්කි කී ය. මෙය මේ වියත් ලේඛකයා සමාජවාදය තේරුම්ගෙන සිටි සැටි විය හැකි ය. රුසියාව දෙවියන් වහන්සේ විසින් නිදහස්කරගනුලැබේයයි පැවසූ හෙතෙම එම දේව පිහිටෙන් තොර ව රට නිදහස් කරගැනීමට වෑයම් කළ අයට, කිසි ම ආගම ධර්මයක් නැති, මිනිසා ගේ නිදහස නැති කරන පිරිසක් යයි කියමින් බැණ වැදුණේ ය. ඔහු කො තරම් දුරට ආගමෙන් උමතු වී සිටියේ ද කියතොත් සමාජවාදීන්ට පහර දෙමින් 'යක්ෂයෝ' නමින් විශාල නවකතාවක් ලීවේ ය. රුසියාවේ පමණක් නො ව යුරෝපය පුරා පැතිර ගිය ආගමික පිරිහීමට හේතුව කතෝලික පල්ලිය දේශපාලනයට බැස කරන ලද අපරාධ යයි කී ය.

ඩොස්ටොයෙව්ස්කි 'කතෝලික ධර්මාධිකරණයේ නායකයා' නමැති කතාව ලීවේ කතෝලික පල්ලියටත්, යුරෝපය පුරා සිටි සමාජවාදීන්ටත් පහර දීම පිණිස ය. මේ කතාව ගැන ඔහු මැඩි දුරටත් මෙසේ කියයි. "මිනිසුන් පාන් ඉල්ලූ විට පාන් වෙනුවට ගල් දුන්නේ ය'යි කියමින් කාඩිනල් ක්‍රිස්තුන් වහන්සේට දෙස් කීවේ ය. මේ කතාවෙන් මා අදහස් කළේ යුරෝපයේ හා අපේ රටේ සිටිනා සමාජවාදීන්, මිනිසුන් ගේ සිත් ආගම කෙරෙන් ඉවත් කොට ආහාරය කෙරෙහි යොමු කිරීමට ගන්නා තැත විස්තර කිරීමට ය. මිනිසා ගේ ජීවිතය සැපවත් කිරීමට විද්‍යාවේ පිහිට පතන සමාජවාදය මනුෂ්‍ය වර්ගයා විඳින දුකට හේතුව දුප්පත්කම, ජීවත්වීමට කරන සටන හා නොනිසි පරිසරය පිට තබති............"

සමාජවාදීන් බැණවදින විට ඩොස්ටොයෙව්ස්කි ඔවුන්ට පිළිතුරු දෙමින් මෙසේ කීවේ ය. "මිනිසුන් මා වරදවා තේරුම් ගෙන තිබේ. ඒ තමා මගේ තියෙන පළමු වරද. රටේ වර්තමාන දේශපාලන තත්ත්වය නොපිළිගැනීම ගැන ඔවුහු මට දෙස් කියති. එහෙත් මා කරන්නේ ඔවුන්ට දේවස්ථානයට යන මාර්ගය පෙන්නා දීම බව ඔවුහු නො දනිති." සැබැවින් ම මේ ශ්‍රෙෂ්ඨ ගත්කරුවා කළේ දුකින් පීඩිත වූ සිය රටවැසියාට විප්ලවයට යන මාර්ගය පෙන්වීම නො ව පල්ලියට යන මාර්ගය පෙන්වීමයි. නවකතා කරණයේ දී යථාර්ථය උසස් කොට සැලකූ ඩොස්ටොයෙව්ස්කි රටේ යථා තත්ත්වය දැන සිටිය බවක් නො පෙනේ. හවුරුදු ගණනාවක් ම රටින් පිටව සිටි ඔහුට රටේ නියම තත්ත්වය ගැන නියම අවබෝධයක් නො තිබිණි.

ආගම කරට ගෙන එහි බරින් මිරිකී සිටි හෙතෙම ආගම නමැති පාට කණ්ණාඩි තුළින් සමාජය දෙස බැලුවේ ය. මහපොළොව මත පා තබා කල්පනා නොකෙළේ ය.

එකල රුසියාවේ තිබුණේ ග්‍රීක සත්‍ය ලබ්ධික පල්ලිය නමින් හැඳින්වෙන කිතු සමයේ පෙරදිගට බිඳී ගිය කොටසයි. බටහිරට බිඳී ගියේ කතෝලික පල්ලියයි. ග්‍රීක සත්‍ය ලබ්ධික පල්ලිය කතෝලික පල්ලිය තරම් දේශපාලනයට මැදහත් නො වී ය. එහෙත් කල්යාමේ දී ග්‍රීක සත්‍ය ලබ්ධිය බොහෝ දුරට දූෂණය විය. ඩොස්ටොයෙස්කි ගේ සමකාලිකයකු වූ ඉවාන් ටර්ජිනිව් මෙම ආගම සම්පූර්ණයෙන් ම ප්‍රතික්ෂෙප කෙළේ ය. සියලු ම ලේඛකයන්ට අග්‍ර වූ ලියෝ ටොල්ස්ටෝයි කිතුසමය මගින් රුසියාවේ සමාජ ප්‍රතිසංස්කරණයක් පැතුවේ ය. එහෙත් ඩොස්ටොයෙස්කි කර ගසා ගත්, එකල රුසියාවේ පැවැති ආගමට ටොල්ස්ටෝයි කොතරම් නිර්දය ලෙස බැණ වැදුණේ ද කියතොත් ඉවසා සිටිය නොහැකි තැන පූජකයෝ රජයේ ආධාර ඇති ව ටොල්ස්ටෝයි ආගමේ පරම සතුරකු ලෙස හංවඩු ගසා ආගමෙන් පිටුවහල් කළෝ ය. ඔහු ගේ පොතපත තහනම් කළෝ ය. ටොල්ස්ටෝයි යුරෝපය පුරා ලබා සිටි කීර්තිය නිසා ලෝක මහජන මතයට ඇති බියෙන් රජය හෝ පල්ලිය හෝ ටොල්ස් ටෝයිට අත තැබීමට බිය වූ හ. සංවිධානය කරගත් ආගම සම්පූර්ණයෙන් ම බැහැර කළ ලෙනින්; රටේ ආර්ථික, සාමාජික හා දේශපාලන ප්‍රශ්න, සමාජවාදය, විප්ලවය හා ගොවි කම්කරු සංවිධාන ගැන කිසි ම අවබෝධයක් නැති ව ආගම නමැති වලාකුළ උඩ සිට, හැම ප්‍රශ්නයකට ම ප්‍රතිකර්මය ආගම යයි කියමින් පොත පත කළ ටොල්ස්ටෝයි සහ ඩොස්ටොයෙස්කිට දෙස් කීවේ ය. සමාජවාදීන් විවේචනය කරමින් ඩොස්ටො-යෙස්කි විසින් ලියන ලද 'යක්ෂයෝ' නමැති නවකතාව වේදිකා ගත කිරීමට සැරසුණු අවස්ථාවේ දී මැක්සිම් ගෝකි විසින් පුවත් පතකට සපයන ලද ලිපියක් නිසා කිපුණු ලෙනින්, ආගමික හැඟීම්වලට අනුබල දුන්නේ යයි කියමින් ගෝකිට බැණ වැදුණේ ය.

ඩොස්ටොයෙස්කි, ටොල්ස්ටොයි ආදීන් පමණක් නො ව තවත් බොහෝ අය ද විප්ලවයට තුඩු දුන් ඓතිහාසික හේතු සහ ප්‍රතිඵල තේරුම් නොගත්හ. ටොල්ස්ටෝයි ගේ 80 වන ජන්මෝත්සවයේදී එනම්, 1908 සැප්තැම්බර මස 11 (24)වන දින රුසියාවේ පුවත්පත්වල ටොල්ස්ටෝයි ගැන බොහෝ ලිපි පළ විය. ලෙනින් ද එ දින Proletarii නමැති පත්‍රයට ටොල්ස්-

ටෝයි ගැන ලිපියක් සපයමින්; ටෝල්ස්ටෝයි ගේ ආගමික අදහස් ගැනවත්, දෙවියන් ගැනවත් විශ්වාස නො කල, ඔහුගේ පොත පත තහනම් කිරීමට අනුබල දුන් පත්‍රකාරයන්; ටෝල්ස් ටෝයි මලාට පසුව වර්ණනා කිරීම ගැන බැත්තේ ය. පත්‍ර හිමියන්ගේ ඔනෑ එපාකම් අනුව කුලියට ලියන ලේඛකයන් කියන දේවල්වලට මහ ජනයා නොමග නොයන බව ද කීවේ ය. ටොල්ස්ටෝයි ශ්‍රේෂ්ඨ ගත්කරුවකු වුවත් තම රටේ තතු හරි හැටි තේරුම් නො ගෙන, එකිනෙකට පටහැනි වූ අදහස් පවසා රට වැසියන් නොමග යැවූ බව පැවැසූ ලෙනින්, ටොල්ස්ටෝයි වින්තර කලේ එකල රුසියාවේ පැවැති පරස්පර විරෝධී අදහස් බවත්, 1905 දී ඇති වූ විප්ලවය අසාර්ථක වීමට බොහෝ දුරට හේතු වූයේ ටොල්ස්ටෝයි වැනි ලේඛකයන් ගේ අදහස් බවත් කීවේ ය.

සෝවියට් දේශය සහ ලංකාව අතරේ සාංස්කෘතික හුවමාරු කම් පිළිබඳ ගිවිසුම යටතේ 1963 දී රුසියාවට ගිය මහාචාර්ය සී. සී. ද සිල්වා මහතා එහිදී තමා දුටු දේවල්, හමු වූ පුද්ගල-යන් සහ ලැබූ අත්දැකීම් ඇතුලත් කොට 'Out steppes the Don' (රුසියාවේ ඇවිද්ද පය) නමින් පොතක් ලියා පල කෙලේ ය. සිල්වා මහතා බොහෝ රටවල ඇවිද, නොයෙක් තරාතිරමේ මිනිසුන් හමුවී බොහෝ ඇසූ පිරූ තැන් ඇති, වෛදකම පමණක් නො ව සාහිත්‍යය කලාශිල්ප ආදිය ගැන හොඳ දැනුමක් ඇති උගතෙකි. පුෂ්කින් නාට්‍ය ශාලාවේ දී තමා ඩොස්ටොයෙව්ස්කිගේ 'සුදුඅත්තුවා' නාට්‍යය දුටු බව සිල්වා මහතා සඳහන් කරයි. 'සුදුඅත්තුවා' නවකතාව නාට්‍යානුසාරයෙන් පෙන්වන ලද්දේ ස්ටාලින් මිය ගොස් බොහෝ කලකට පසු ව බව සිල්වා මහතාට දැනගන්නට ලැබී ඇත. සිල්වා මහතාට, එතුමා ගේ මාර්ගෝපදේශක යාගෙන් දැනගන්නට ලැබුණු, ටොල්ස්ටෝයි සහ ඩොස්ටො-යෙව්ස්කි පිළිබඳ පුවතක් මෙසේ සඳහන් වේ.

1917 විප්ලවය අවසන් වූ වහා ම සෝවියට් රුසියාවේ සියලු කල්හි ම ශ්‍රේෂ්ඨතම සාහිත්‍යධරයා හැටියට කවරකු පිදිය යුතු ද යන වග ගැන තීරණයක් ගැනීමට කොමියුනිස් පක්ෂයට අවශ්‍ය විය. මේ තනතුරට ටොල්ස්ටෝයි සහ ඩොස්ටොයෙව්ස්කි ගේ නම් ඉදිරිපත් කොට තිබිණි. එහෙත් තීරණයක් ගැනීමට කොමියුනිස් පක්ෂය අපොහොසත් විය. අන්තිමේ දී මේ ගැන ලෙනින් ගේ අදහස් ද විමසන ලදි. ඩොස්ටොයෙව්ස්කි, ලෙනින් ඇතුළු විප්ලවවාදීන්ට පහර ගසමින් පොත පත ලිව්වත් ලෙනින් ගේ මතයේ හැටියට

ඩොස්ටොයෙව්ස්කි ශ්‍රේෂ්ඨතම ගත්කරුවා විය. එහෙත් ඩොස්ටොයෙව්ස්කි තුළ චෛතසික ධර්මය නොතිබුණේ ය. ඔහුගෙන් ජනතාවට පණිවිඩයක් නො වී ය. සාමාන්‍ය රුසියන් ස්ත්‍රී පුරුෂයන් ගේ ගැටළුවලට පිළියමක් නොමැති විය. මේ කරුණු සලකා බලන විට ටොල්ස්ටෝයි, එ තරම් ශ්‍රේෂ්ඨ තම ගත්කරුවකු නො වුවත් සාමාන්‍ය ස්ත්‍රී පුරුෂයන් ගේ චරිත නිරූපනයෙහි සම්පූර්ණ නිපුණත්වයක් තිබුණු අතර ශුභ ප්‍රාර්ථනාත්මක හා උද්‍යෝගිමත් සත්දේශයක් තබා ගිය චෛතසික ධර්මදයෙක් විය. එ හෙයින් අත්තිමේදී එම උසස් තනතුරට ඩොස්ටොයෙව්ස්කි වෙනුවට ටොල්ස්ටෝයි තෝරා ගන්නා ලදි.

එහෙත් නවකතාකාරයකු වශයෙන් ඩොස්ටොයෙව්ස්කි තුළ ඇති උතුම් ගුණය, ඔහු මනුෂ්‍යත්වයට දක්වූ දයාව හා අනුකම්පාවයි. හෙතෙම කවදාවත් මනුෂ්‍ය සවභාවයට නින්ද නො කෙළේ ය. පිළිකුල් නො කෙළේ ය. මනුෂ්‍යත්වය උතුම් කොට සැලැකුවේ ය. මෙය රුසියන් සාහිත්‍යයට පොදු වූ විශෙෂ ගුණයකි. රුසියන් සාහිත්‍යයත්, රුසියන් ලේඛකයාත්, ලෝකයා ගේ ගෞරවය දිනා ගත්තේ මේ විශේෂ ගුණය නිසා ය. මිනිසාටත්, මිනිසා විඳින දුකටත්, නින්ද අපහාසයටත් ප්‍රේමය කළ, වැඳ නමස්කාර කළ, ඩොස්ටොයෙව්ස්කිට සමාන නවකතාකරුවකු සොයා ගැනීම දුෂ්කර ය. හෙතෙම මිනිසා තුළ ඇත්තා වූ හොඳ නරක දැන සිටියේ ය. ඉතා භයානක මිනීමරුවකු තුළ පවා දයාව අනුකම්පාව ආදී ගුණ යන්තම්න් හෝ තිබෙන බව හේ දුටුවේ ය. ඒ ගුණය දේව ගතිය හැටියට හැඳින්වූ හෙතෙම, ඒ දේව ගතියට වැඳ නමස්කාර කෙළේ ය. මනුෂ්‍යයන් කෙරෙහි පැවැති විශ්වාසය අත් නො හැළේ ය. මිනීමරුවන්, සල්ලාලයන්, වෙසඟනන් තුළ පවා, අළුයට සැඟවුණු ගිනිපුපුරු මෙන් යහපත් ගති ගුණ සැඟවී තිබෙන බව දුටුවේ ය. ඒ ගති ගුණ ඉස්මතු කොට පෙන්නුවේ ය. නොනික්මුණු තරුණ ජීවිතයක් ගත කළ සොසිමා තවුසා සියලු ම ලෞකික සැප සම්පත් හැර පියා පැවිදි බිමට පිවිස අත්තිමේදී සාන්තුවරයකු ගේ තත්ත්වයට පැමිණියේ භයානක මිනීමරුවකු ගේ ආශ්‍රයෙනි. ආධූනික පූජකයකු වූ අලෝෂා කරමසෝව් ආගම කෙරෙහි කලකිරුණු අවස්ථාවේ සිත සනසා, නැති වූ භක්තිය යළි ලබා දුන්නේ තමා විසින් ගණිකාවක ලෙස පිළිකුල් කරන ලද ගෘසෙන්කා විසිනි.

ලෙනින්, ඩොස්ටොයෙව්ස්කි ගේ ශ්‍රේෂ්ඨත්වය හැඳින සිටියත් ස්ටාලින් ගේ පාලන සමයේ දී ඩොස්ටොයෙව්ස්කිට තැනක්

නො ලැබිණි. ස්ටාලින් සමග කළ සාකච්ඡාවල දී ඩිජිලාස් මේ ගැන ස්ටාලින් ගෙන් විමසුවේ ය. කුඩා කාලයේ සිට ඩොස්-ටොයෙව්ස්කි ගේ පොත පත කියවා පුරුදු ඩිජිලාස්, ඩොස්ටො-යෙව්ස්කි වර්තමාන යුගයේ විසූ ශ්‍රේෂ්ඨතම සාහිත්‍යධරයා ලෙස පිළිගෙන සිටියේ ය. ඩොස්ටොයෙව්ස්කි ගැන කළ විවේචන ඩිජිලාස්ට තේරුම් ගත නො හැකි විය. ඔහු ඒ ගැන ස්ටාලින්-ගෙන් ප්‍රශ්න කෙළේ ය. ''ඩොස්ටොයෙව්ස්කි බොහො ම දක්ෂ ගත්කරුවෙක්; ඒ වගේ ම බොහො ම ලොකු ප්‍රතිගාමියෙක්; අපි එයා ගේ පොත් ප්‍රසිද්ධ නො කරන්නේ අපේ තරුණයන් කෙරෙහි නරක බලපෑමක් ඇති නිසයි'' ස්ටාලින් කෙළින් ම පිළිතුරු දුන්නේ ය.

ස්ටාලින් ගේ මරණයෙන් පසු ව තත්ත්වය වෙනස් වූ බව පෙනේ. ඩොස්ටොයෙව්ස්කි ගේ නවකතා පළ වූවා පමණක් නො ව 'ධවල රාත්‍රී' සහ 'නිවටයා' චිත්‍රපටයට ද නඟන ලදි. මාස කීපයකට පෙර 'කරමසෝ සහෝදරයෝ' කොටස් තුනකින් යුක්ත චිත්‍රපටයකට නඟා අවසන් කරන ලදි.

ඩොස්ටොයෙව්ස්කි ගැන විවේචනාත්මක ග්‍රන්ථයක් ලියූ වී. යෙර්මිලෝව් ග්‍රන්ථය අවසානයේ මෙ වැනි නිගමනයකට බසියි.

''ශ්‍රේෂ්ඨ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් ඇතුළු, පසු ගිය කාලයේ විසූ ප්‍රගතිශීලී රුසියන් ගත්කරුවන් සහ චින්තකයන් සමඟ, තමන් ගේ දේශපාලන සහ ආර්ථික අදහස් අතින් සම්බන්ධකම් පවත්වා ගැනීම සෝවියෙට් ජනතාව අභිමානයෙන් සලකති. සියලු කාලයන්හි වාසය කළ, නොයෙක් ජාතීන්ට අයත්, ප්‍රගතිශීලී චින්තකයන් සහ කලාකරුවන් සමඟ පවත්වන, කිසිසේත් විනාශ කළ නොහැකි සම්බන්ධය ගැන ද සෝවියට් ජනතාව ආඩම්බර වෙති. සෝවියට් ජනතාව ඩොස්ටො-යෙව්ස්කි ගේ ප්‍රතිභාශක්තිය බොහෝ උසස්කොට සැලකති. එහෙත් එකල පැවැති ප්‍රජාතන්ත්‍රවාදී අදහස්වලට විරුද්ධව අගතියට ගිය ප්‍රතිගාමී ලිපිලේඛන මගින් ඩොස්ටොයෙව්ස්කි දක් වූ දෙව්ෂය ද සෝවියට් ජනතාවට අමතක කළ නො හැකිය. මෙ කල ප්‍රතිගාමීන් සහ පූජකයන් තමන් ගේ දුෂ්ට අභිප්‍රායයන් මුදුන් පමුණුවා ගැනීම පිණිස, ඩොස්ටොයෙව්ස්කි ගේ පොත පත දඩමීමා කරගැනීමට දරන ලද උත්සාහය ද අමතක කළ නො හැකි ය.

''කෙසේ වෙතත්, ආත්මාර්ථය මත ගොඩනැගුණු සමාජයකින් පීඩා විඳින අසරණයන් වෙත පතළා වූ අනන්ත අප්‍රමාණ වූ දයානුකම්පාව විදහාපාන මේ ශ්‍රේෂ්ඨ ගත්කරුවා ගේ පොත පත සෝවියට් ජනතාව අගය කොට සලකති. විඳ දරා ගත නොහැකි දුගී දුකෙන් පෙළෙන ජනතාව ඉන් නිදහස් කර ගැනීමට ඩොස්ටොයෙස්කි අපොහොසත් විය. ඒ වෙනුවට, එම දුගී දුකින් ගැලවීම පතාගෙන ගිය විප්ලවවාදී සටනින් ජනතාව ඉවත් කිරීමට ගේ වැයම් කෙළේ ය. සමාජයෙන් පිටමං කරනු ලැබූ, නින්දා අපහාස ලැබූ, අසරණයන් කෙරෙහි දක්වූ දයානු-කම්පාව නිසා ඩොස්ටොයෙස්කි, පිළිකුල් සහගත කුහකත්වය සහ දුෂ්ට පාලනය සමග ඇතිකරගත් එකඟත්වයට අභියොගයක් වූ චරිත නිරූපනය කෙළේ ය.........

''ඩොස්ටොයෙස්කි ගේ දුඃඛදායක කතා සහ දුක්පීඩාදිය පිළිඹිබු කරන චරිත මගින් අනාවරණය කරන ලද, ගසාකෑමේ දුකින් පීඩිත වූ මිනිස් ජීවිතයේ දරුණු සත්‍යයට උසස් ම ගරුත්වයෙන් පිදිය යුතු ය. මේවා, මිනිස් අයිතිවාසිකම් අහිමි වූ මිනිස් සංහතියේ වැඩි දෙනා විසින් නඟන ලද විරුද්ධත්වයෙහි සහ කෝපයෙහි ප්‍රතිබිම්බයෝ වෙති. ඩොස්ටොයෙස්කි ගේ නවකතා සහ ඒ නවකතා මගින් නිරූපනය වන චරිත ලෝක සාහිත්‍යයට අයත් අමරණීය නිර්මාණයෝ වෙති.''

* * * *

මේ පොත එක හුස්මට කළ පරිවර්තනයක් නොවන බව කරුණාවෙන් සැලැකිය යුතු ය. කාලයක් ගනිමින් ලියන ලද මෙ වැනි විශාල පොතක බස එක ම පිළිවෙතක් අනුව ගෙනයාම නොසන්සුන් වූ මහාජනකායක් හික්මවා ගෙන නියම මග ගෙනයාම වැන්න. හැරත් බස පිළිබඳ කෙනකු ගේ දැනුම, හැඟුම, බස යොදන ආකාරය, ඉක්මනින් වෙනස් වෙයි. එ හෙයින් කාලයක් ගනිමින් ලියන ලද පොතක බස හසුරුවා ගැනීම එ තරම් ලෙහෙසි නොවන බව කිව යුතු නො වෙයි.

මේ පොත පරිවර්තනය කිරීමේ දී ඉතා ම ලිහිල් බස් වහරක් අනුගමනය කෙළෙමි. පොතක් කියවන විට එහි බස් වහර පාඨකයාට බරක්, අවහිරයක්, නොවිය යුතුයි. පොතක් කියවීම නොදන්නා දුර රටක් බලා යන දිග ගමනක් වැන්න. ඒ දුර ගමන යන මගියා සැහැල්ලුව ගමන් කළ යුතුය, මග සහපත් විය යුතුය. විඩා නොවැටිය යුතු ය. කොටින් කියතොත්

ඇඟට පතට නො දැනී ගමන් කළ යුතු ය. බස හසුරුවා ගෙන එක හුස්මට පොතක් ලියන්නට නුපුළුවන් වුවද, එක හුස්මට පාඨකයාට එම පොත කියවන්නට පුළුවන් කම තිබිය යුතු ය.

මෙම මහා නවකතාවේ ප්‍රථම මුද්‍රණය නිකුත් වූයේ මීට තිස් වසකට පමණ පෙර ය. දෙතුන් වසකින් පමණ පොත අලෙවි වූ මුත් එහි දෙවන මුද්‍රණයක් නිකුත් කර ගත නොහැකි විය. පසු ගිය දසක දෙකක පමණ කාලය තුළ නව පරපුරේ පාඨකයන් අතර මෙම නවකතාව අරභයා කතා බහ ඇති වූ මුත් නවකතාව කියවීමට අවස්ථාවක් නොලැබිණි. එහෙයින් දෙවන මුද්‍රණයක අවශ්‍යතාවක් ඇති වුව ද ප්‍රකාශකයෙකු සොයා ගැනීම දුෂ්කර විය. පොතෙහි විශාලත්වය, මුද්‍රණයට වැය වන විශාල මුදල, ගබඩා කිරීමට ඇති අපහසුකම් මේවා ප්‍රධාන හේතු විය. එහෙත් වාසනාවට මෙන් අන්තිමේදී මෙම භාරදූර කටයුත්තට කර දීමට සිරිසුමන ගොඩගේ මහතා ඉදිරිපත් විය. සාහිත්‍ය රසය දන්නා, පොත පත අගය කරන අප කවුරුත් ගොඩගේ මහතා කළ සේවයට කෘතඥ විය යුතු ය.

මගේ පරිවර්තනයක දෙවන මුද්‍රණයක් පළ කරන හැම විටම මුල් පරිවර්තනය මුල් ග්‍රන්ථය සමග යළිත් සසඳා බලා අඩු වැඩි සපුරා නව සංස්කරණයක් හෝ නව පරිවර්තනයක් හෝ කිරීම මගේ සිරිත ය. එවිට අපට මුල් කෘතියට වඩාත් ළං විය හැකිය. එහෙත් මේ පොතෙහි විශාලත්වය නිසාත්, මුද්‍රණ කටයුතු නොපමාව නිම කළ යුතු නිසාත් මුල් පරිවර්තනය කිසිදු වෙනසක් නොකොට ඒ අයුරින් ම යළි පළ කිරීමට සිදු විය. මෙම කටයුත්තට අත හිත දුන් ගොඩගේ මහතා ඇතුළු සියලු ම භවතුන්ට මගේ කෘතඥතාව පිරිනමනු කැමැත්තෙමි.

සිරිල් සී. පෙරේරා

1998 ජූලි 10 වන දින,
'සිරිනිවස', රත්නාවලී පාර,
කළුබෝවිල බටහිර, දෙහිවල.

# පළමු කොටස

## පළමු ග්‍රන්ථය

# පවුලක ඉතිහාසය

### පළමු පරිච්ඡේදය

### පවුලේ ප්‍රධානයා

අලෝෂා පියෝදරවිච් කරමසෝ, පියෝදර් පවුලොවිච් කරමසෝ ගේ තුන් වන පුතා ය. එකල පියෝදර් පවුලොවිච් කරමසෝ අපේ පළාතේ විසූ අපකීර්තියට පත් ඉඩම් හිමියෙකි. අප විසින් තවමත් නිතර ඔහු සිහි කරන්නේ, හරියට ම හවුරුදු දහතුනකට පෙර සිදු වූ ඔහු ගේ භයානක අබිරහස් මරණය නිසා ය. සුදුසු තැන දී මම ඒ මරණය ගැන විස්තරයක් කරමි. දනට මේ ඉඩම් හිමියා (මුළු ජීවිතයට ම ඔහු එක ම දවසක් වත් ඔහු ගේ ඉඩම්වල ගත කොට නැතත් අපි ඔහුට ඉඩම් හිමියා යයි කියමු) අපූවී පුද්ගලයකු බව පමණක් කිය යුතු ය. දුසිරිතෙහි යෙදෙන, නීච නින්දිත පුද්ගලයකු වූ හෙතෙම ඇතැම් විට සිහිකල්පනාවෙන් තොර වූවකු මෙන් කටයුතු කෙළේ ය. සිහිකල්පනාවෙන් තොර වුවත් තමා සතු මිල මුදල් හා ඉඩකඩම් බලා හදා ගැනීමේ ශක්ති-යක් ඔහුට තිබුණි. ඒ හැර ඔහුට වෙන කළ හැකි දෙයක් නැති. ඔහු ජීවිතය ඇරඹුවේ කිසි ම දෙයක් ඇති ව නොවන බව නිදසුනක් වශයෙන් කිය යුතු ය. ඔහු ගේ ඉඩම එම පළාතේ තිබුණු ඉතා ම කුඩා ඉඩම විය. අනුන් ගේ වියදමින් කන බොන හෙතෙම නිවටයකු මෙන් ක්‍රියා කෙළේ ය. එහෙත් මුදලින් පමණක් ඔහු සතු ව රූබල් ලක්ෂයක් තිබුණ බව ඔහු ගේ මරණයෙන් පසු හෙළි වී ය. ඒ අතරේ ඔහු මුළු ජීවිතය ම ගත කෙළේ ඒ පළාතේ විසූ සිහිකල්පනාවෙන් තොර වූ අරුම පුදුම පුද්ගලයන් ගෙන් එකකු මෙනි. එහෙත් ඔහු මෝඩයකු නොවන බව මම නැවත කියමි.

මේ අරුම පුදුම මිනිසුන් ගෙන් වැඩි දෙනා තම තමන් ගේ වාසිය සලකා ගැනීමෙහි ලා නුවණැත්තෝ වෙති. එහෙත් සිහි ඇත්තෝ නො වෙති. මෙය අපේ රටට විශෙෂ වූ ලක්ෂණයකි.

දෙවරක් විවාහ වූ ඔහුට පුත්තු තිදෙනෙක් වූහ. වැඩිමල් පුතා වන මීතියා පළමුවන බිරිඳගෙන් ලැබූ දරුවා ය. ඉවාන් හා අලෝෂා දෙ වන බිරිඳ ගෙන් ලැබූ දරුවෝ වෙති. පියෝදර් පවුලොවිච් කරමසෝ ගේ පළමු වන බිරිඳ ඇඩිලෙයිඩා අපේ පළාතේ විසූ තරමක ධනවත්, මියුසෝ නමින් පතළ කීර්තිමත් පැරණි රදළ පවුලකට අයත්, දයාදයකට හිමිකම් ඇති රූමත් තරුණියකි. ඕ වත්මන් පරපුරයට අයත්, බහුලව සිටින, නැණවත්, ප්‍රාණවත්, ශක්තිමත් තරුණියන් ගෙන් එකියකි. මේ වැනි තරුණියන් පසු-ගිය පරපුරෙහි නො සිටියහයි නො කියමි. හැම දෙනා විසින් නො වැදගත් නිවටයකු ලෙස අඳුන්වනු ලැබූ පියෝදර් පවුලො-විච් කරමසෝ සමග මෙ වැනි තරුණියක විවාහ වූයේ මන් ද? ඒ ගැන විස්තරයක් කිරීමට මම වෑයම් නො කරමි. තරුණයකු සමග ගුප්ත ආලයෙන් බැඳී සිටි, ප්‍රේමසහගත හැඟීම්වලින් පිරි පසු ගිය පරපුරට අයත් තරුණියක මම දන ඇඳින සිටියෙමි. තමා පැතූ තරුණයා සමග කැමැති අවසථාවක දී ලෙහෙසියෙන් ම විවාහ වීමට ඇයට නිදහස තිබුණි. එහෙත් විවාහයට හැම අතින් ම පටහැනි වූ මැඩලිය නො හැකි බාධා පමුණුවා ගත් ඕතො-මෝ වැසි කුණාටුවෙන් යුත් රැයක ප්‍රපාතයක් මුදුනට නැග, වේගයෙන් ගලා බසිනා ගඟකට පැන ඇගේ සිතුවක්කාර නපුරු අදහස් මුදුන් පමුණුවා ගත්තා ය. ඈ ෂේක්ෂ්පියර් ගේ ඔපීලියා මෙන් මිය යාමට කැමැති වන්නට ඇත. ඈ විසින් පණ නහ ගැනීමට තෝරා ගත් ඈ ප්‍රිය කළ සථානයෙහි වූ මේ ප්‍රපාතය අලංකා-ර තැනක් නොවූයේ නම්, ප්‍රපාතය වෙනුවට එ තැන සමතලා ගංඉවුරක් තිබුණේ නම් මේ ජීවිත හානිය කිසිසේත් සිදුනොව-න්නේ ය. මේ කතාව සත්‍යයකි. සමහර විට පසු ගිය පරම්පරා දෙක තුන තුළ මෙ වැනි දෑ සිදුනොවූයේ යයි කිය නො හැකි ය. පියෝදර් පවුලොවිච් කරමසෝ සමග විවාහ වීමෙන් ඇඩිලෙයිඩා කළ ක්‍රියාව ඉහත සඳහන් කළ තරුණිය ගේ පණ නහ ගැනීමට සමාන ය. එය අනෙක් අය ගේ අදහස්වල දෝංකාරයක් බවට සැකයක් නැත. ඈ එසේ කළේ ඇගේ මානසික නිදහස නැතිවීමෙන් ඇති වූ කෝපයක් නිසා විය යුතු ය. තමා ගේ ගැහැනු නිදහස පෙන්නා පන්තියේ ගෞරවය සමග පවුලේ සෙවරී පාලනය ප්‍රතික්ෂෙප කිරීමට සමහරවිට ඇයට උවමනා වන්නට ඇත. එහෙ-යින් පහසුවෙන් නැමෙන සුලු අදහසින් ඇය පෙළඹුණා ය ඇත්ත වශයෙන් පියෝදර් පවුලොවිච් කරමසෝ අවිනීත මෝඩයකු වුවත්, ඔහු ගේ පරපුටු ගතිය කෙසේ වෙතත් ඔහු ඒ ප්‍රගතිශීලී

යුගයේ විසූ නිර්භීත, ඥානවත් පුද්ගලයකු බව මෙහි දී මදකට හෝ සඳහන් කළ යුතු ය. මේ විවාහය සිත් ගන්නා සුලු වූයේ එය රහසිත් පැන ගොස් ආරම්භ වූ හෙයිනි. එය ඇඩිලෙයිඩා ගේ අතිශය ප්‍රීතියට හේතු විය. මෙ වැනි ව්‍යාපාරයක යෙදීමට පියෝදර් පවුලොවිච් කරමසෝ පෙලඹුණේ ඔහු ගේ තත්ත්වය නිසා ය. කුමන ක්‍රමයකින් හෝ රක්ෂාවක් කිරීම ඔහු ගේ අභිලාෂය විය. උසස් පවුලකින් ලොකු දෑයාදයක් සමග පෙලවාසියක් කරගැනීම සිත් පොළඹවන බලාපොරොත්තුවක් විය. ඇඩිලෙයිඩා රූමත් තරුණියක වුවත් මනාලිය හා මනාලයා අතරේ අන්‍යෝන්‍ය ප්‍රේමයක් ඇති නො වී ය. ඉතා සුළු පෙලඹීමකින් වුව ද හැම ගැහැනියක ගේ පසු පසින් යාමට නිතර සැරසී සිටීම කාමුකයකු වූ පියෝදර් පවුලොවිච් කරමසෝ ගේ ජීවිතයේ අපූර්ව පුරුද්දක් බව කිය යුතු ය. ඔහු ගේ ඉඳුරන් පිනවීමට සමත් ගුණයෙන් තොර වූ එක ම තැනැත්තී බිරිඳ පමණි.

රහසිත් පැන ගොස් වැඩි වේලා යන්නට පෙර සැමියා කෙරෙහි තම සිතේ දැඩි පිළිකුලක් මිස වෙන කිසි ම හැඟීමක් නැති බව ඇඩිලෙයිඩා එක්ෂණයෙන් ම අවබෝධ කළා ය. එ තැන් සිට විවාහ ජීවිතයේ අනියම් ලක්ෂණ ඉතා ඉක්මනින් දකින්නට ලැබුණි. ඇඩිලෙයිඩා ගේ මා පියෝ සිය දියණිය රහසිත් පැන ගිය බව වහා පිළිගෙන, පැන ගිය මනාලිය ගේ දෑයාදය වෙන් කොට දුන්හ. එහෙත් අභිනව අඹුසැමි යුවළ අතිශයින් ම නොයික්මුණු ජීවිතයක් ගත කළ හ. ඔවුන් අතරේ නිතර කලහ ඇති විය. මේ තරුණ බිරිඳ සැමියාට වඩා ත්‍යාගවත් බවත්, උදාර ගතිගුණවලින් යුක්ත බවත් කියනු ලැබේ. එහෙත් ඇගේ දෑයාදය ලැබුණු වහා ම සැමියා ඉන් රූබල් විසිපන්දහක් ඉල්ලා ගත්තෙන් ඇයට ඒ මුදල සඳහට ම නැති විය. එ තැනින් නොනැවතුණු හෙතෙම දෑයාදයේ කොටසක් වශයෙන් ලැබුණු කුඩා ගම්මානයත්, නාගරික නිවසත් ඔප්පුවක් මගින් තම නමට ලියා ගැනීමට වෙහෙස ගත්තේ ය. සැමියා ගේ තොරතෝන්චියක් නැති කරදරයත්, මුරණ්ඩුකමත්, ලැජ්ජාවෙන් තොර වූ පෙරැත්තයත්, ඔහු ගෙන් නිදහස්වීමට ඇති ආශාවත්, සිතේ අධෛර්යයෙන් හටගත් විඩාවත් නිසා බිරිඳ තුළ දැඩි පිළිකුලක් ඇති විය. මේ පිළිකුල ඉවසා ගත නොහැකි ව සිටි ඇය තමා ගේ උපායට අසු කර ගැනීමට පියෝදර් කරමසෝ සමත් විය. එහෙත් වාසනාවට වාගේ ඇගේ පවුලේ ඇත්තෝ වහා මැදහත් වී ඔහු ගේ උපාය සුන් කළ හ. සැමියා හා බිරිඳ නිතර කලහ කරගත් බව සැබෑ ය. එහෙත් සැමියා බිරිඳට තලනවා වෙනුවට බිරිඳ සැමියාට තැළූ බව ගම පුරා පතළ විය. ඇඩිලෙයිඩා අපූර්ව කායශක්තියෙන් යුත් වහා කිපෙන, නිර්භීත තලඑළළු පැහැති ගැහැනියකි. අන්තිමේ දී ඕ හවුරුදු තුනක්

වයසැති එක ම දරුවා වන මීතියා සැමියා ළඟ තනි කර දමා, දේවධර්මශාස්ත්‍රය හදාරන ශිෂ්‍යයකු සමග පැන ගියා ය. බිරිඳ පැන-ගිය වහා ම පියෝදර් කරමසෝව් සිය නිවස අන්තඃපුරයක් කොට සුරා බොමින් මදනෝත්සව පැවැත්වී ය. ඒ අතරේ හේ ගම පුරා යමින් හමු වන හැම දෙනාට ම අඩමින් හා දෙඩමින්, බිරිඳ තමා දමා පැන ගිය බව පවසා, සැමියකු විසින් ඔහු ගේ විවාහ ජීවිතය ගැන සඳහන් නොකළ යුතු අශිෂ්ට ද විස්තර කොට කී ය. ශෝකයට පත් හාස්‍යජනක සැමියකු ගේ කොටස රඟ පා දුක අලංකාර කොට පවසමින් ප්‍රීති විය.

"බිරිඳ පැන ගියාට පසු තුඹ සිටි තත්ත්වයට වඩා හොඳ තත්ත්වයකට පත් වුණාය කියා කෙනෙක් හිතන්න පුළුවනි. තුඹ පිටතින් දුක් වුණත් සිත යටින් ප්‍රීති වන බව පේනවා"යි සමහරු ඔහුට ගරහමින් කී හ. ඔහු තවත් නෛයියාඩමක් නටන්නට සැර-සෙන බවත් ඔහු ගේ හාස්‍යජනක තත්ත්වය ගැන ඔහු නො දන්නා බව හැඟවීමට වෑයම් කරන බවත් ඇතැමෙක් පැවසී ය. කවුරු දනිත් ද? සමහර විට ඔහු එසේ ක්‍රියා කළේ ඔහු ගේ අවංකකම නිසා විය යුතු ය. පැන ගිය බිරිඳ සිටින තැන සොයා ගැනීමට ඔහුට පිළිවන් විය. ඈ පීටස්බර්ග් පුරයේ නිදහස් ප්‍රීතිමත් ජීවිතයක් ගත කරන බව ඔහුට ආරංචි විය. හේ වහා පීටස්බර්ග් පුරයට යාමට කටයුතු සූදානම් කෙළේ ය. එහෙත් තමා පැන ගිය බිරිඳ සොයා යාමට සැරසෙන්නේ කුමන අදහසකින් දැයි හේ නොදත්තේ ය. කෙසේ හෝ පීටස්බර්ග් පුරයට යාමට ඔහුට ඉඩ තිබුණි. ගමන යාමට අධිෂ්ඨාන කරගත් පියෝදර් කරමසෝව් ගමනට උවමනා ශක්තිය ලබා ගැනීම පිණිස සාහසික ලෙස සුරා බොන්නට පටන් ගත්තේ ය. ඒ අතරේ ඇඩිලෙයිඩා මිය ගිය බව ඇගේ නෑසන්ට ආරන්චි විය. බිරිඳ ගේ මරණය ආරන්චි වන විට පියෝදර් කරමසෝව් වෙරිමතින් සිටියේ ය. ආරන්චිය ලැබුණු වහා ම ඔහු මගට බැස දෙ අත් අහසට දිගු කොට "අහෝ දෙවියනි, ඔබවහන්සේ ගේ දැසියට සාමයෙන් යන්-නට ඉඩ දුන මැනව"යි කියා ප්‍රීතියෙන් කෑගැ බව කියනු ලැබේ. ඔහු දරුවකු මෙන් නො නවත්වා ඇඩූ නිසා, කො තරම් පිළිකුල් කටයුතු මිනිසකු වුවත් ගම්වාසීන් ඔහුට අනුකම්පා කළ බව වෙතත් අය කියති. බිරිඳ ගෙන් නිදහස් වීම ගැන ප්‍රීති වන අතරේ ඔහු අනෙක් අතින්, තමා නිදහස් කළ බිරිඳ සිහි කොට අඬන්නට ඇත. සාමාන්‍යයෙන් නපුරු සිත් ඇති අය, අප සිතනවාට වඩා බොළඳ වන්නට පිළිවන. ළාමක වන්නට ද පිළිවන. අපි ද එ වැනි අය වෙමු.

## දෙ වන පරිච්ජේදය

## පියා පුතාගෙන් නිදහස් වෙයි

පියෝදර් පවුලොවිච් කරමසෝ වැනි මිනිහෙක් කුමන විදියේ පියකු වී කුමන ක්‍රමයකට දරුවන් ඇති දැඩි කෙරේ දැයි ඔබට ලෙහෙසියෙන් ම සිතා ගත හැකි ය. ඔහු ඇඩිලෙයිඩා ගෙන් ලැබූ දරුවා සම්පූර්ණයෙන් ම අත්හැර දැම්මේ නපුරු චේතනාවකින් හෝ විවාහය විනාශ වූ නිසා ඇති වූ කෝපයකින් හෝ නොව ඔහුට දරුවා ගැන සම්පූර්ණයෙන් ම අමතක වූ නිසා ය. ඔහු දුක් ගැනවිලි කියා ගම්වාසීන් වෙහෙස කරවා, සිය නිවස සල්ලාල කමින් හා සුරාවෙන් පිරි තැනක් කරනා අතරේ පවුලේ හිතවත් දාසයකු වන ගිරිගෝරිස් තුන් හවුරුදු මීතියා රැක බලාගත්තේ ය. ගිරිගෝරිස් නො සිටියේ නම් දරුවා ගේ වස්ත්‍රය මාරු කිරීමට පවා කෙනෙක් නැති.

පළමු ව මීතියා ගේ මව් පස ඇත්තන්ට මීතියා අමතක විය. මේ කාලය වන විට ඔහු ගේ මුත්තණුවෝ ජීවතුන් අතරේ නොසිටියෝ ය. මොස්කව් පුර පදිංචි වූ මීතියා ගේ මුත්තණිය රෝගාතුර වූවා ය. ඇය ගේ දූ දරුවෝ ද විවාහ වී සිටියා හ. එ හෙයින් බලා හද ගැනීමට නෑයකු නැති කුඩා මීතියා පුරා හවුරුද්දක් ම මහලු ගිරිගෝරිස් සමග දාසයන් ගේ ගෙයි ජීවත් විය. ඔහු ගේ පියාට ඔහු ගැන සඳහන් වූයේ නම් (පුතකු සිටින බව ඔහුට සම්පූර්ණයෙන් ම අමතක වීමට හේතුවක් නැත.) සිය නිවසේ පැවැති දුසිරිත්වලට දරුවා බාධාවක් වන නිසා ඔහු ආපසු දාසයන් ගේ ගෙට යවනවා ඇත. ඒ කාලයේ දී මීතියා ගේ මව ගේ ඇවැස්ස මස්සිනා වූ පීටර් මියුසෝව් පැරිසියේ සිට පැමිණියේ ය. තුරුණු වියේ දී කලක් විදෙස්ගතව සිට නොයෙක් දේසදේසාන්තරවල ගිය, යුරෝපීය සංස්කෘතිය ගැන උසස් දැනුමක් ඇති හෙතෙම පසු කල උගතකු ලෙස මියුසෝව් පෙළපතේ පතළ විය. ජීවිතයේ අවසාන කාලය නිදහස් චින්තකයකු ලෙස ගත කළ ඔහුට රුසියාවේ හා වෙනත් රටවල වෙසෙන සුප්‍රසිද්ධ නිදහස් චින්තකයන් හමු වී ඇත. හේ පාවුඩොන් හා බාකූනින් පෞද්ගලිකව දැන සිටියේ ය. 1848 පෙබරවාරි මාසයේ තෙ දිනක් ඇතුළත සිදු වූ පැරීසියේ විප්ලවයට හේ එක් වී සටන් කෙළේ ය. මහලු වියේ දී මියුසෝව් මේ විප්ලවය ගැන නොයෙක් කතා කියා ප්‍රීති විය. පැරිසියේ විප්ලවය ඔහු ගේ තුරුණු විය පිළිබඳ සඳහන්ව තිබුණු ප්‍රසන්න අනුස්මරණයකි. දාසයන් දහසක් සමග වත්තක් ඔහු සතුව තිබුණේ ය. අපේ ගමට නුදුරේ පිහිටි මේ දැකුම්කලූ වත්ත, එක් පැත්තකින් අපේ සුප්‍රසිද්ධ ආශ්‍රමයට අයත් ඉඩ කඩම්වලින් සීමා විය. හේ

මේ වත්තේ පදිංචි වූ ද සිට ආශ්‍රමයත් සමග කෙලවරක් නැතිව නඩු කියා ගත්තේ ය. ඔහු නඩු කීවේ ගඟේ මසුන් ඇල්ලීමේ අයිතිය, නැති නම් කැලෙන් ලී කැපීමේ අයිතිය සඳහා දැයි මම නො දනිමි. පූජකයන් උපහාසයට ලක් කිරීම පුරවැසියකු හා උගතකු වශයෙන් තමා විසින් ඉටු කළ යුතු යුතුකමක්යයි හේ විශ්වාස කෙළේ ය. වරක් ඇඩිලෙයිඩා පිළිබඳ සිත් ඇති ව සිටි පීටර් මියුසෝ ඇයට සිදු වූ සියලු පුවත් අසා, ඇයට දරුවකු සිටින බව දන පියෝදර් කරමසෝ කො තරම් පිළිකුල් කළත්, ඔහු සමග කෝප-යෙන් සිටියත් ඔහු හමු වී, දන ඇඳුනුම් කම් ඇති කරගෙන, තමා මීතියා ගේ අධ්‍යාපන කටයුතු සියල්ල බාර ගත යුතු බව කෙළින් ම පැවසී ය. මීතියා ගැන සඳහන් කළ විට මේ කතා කරන්නේ කුමන දරුවකු ගැන දැයි නොදන්නාක් මෙන් පියෝදර් කරමසෝ මඳ වේලාවක් බලා සිටි බව පසු කල විශේෂ කරුණක් හැටියට හේ පැවසී ය. (තමා ගේ ගෙදර තමාට ජාතක දරුවකු සිටින බව ඇසීමෙන් පියෝදර් කරමසෝ පුදුම වූණේ ලු) මෙය අතිශයෝක්තියෙන් කියන ලද කතාවක් විය හැකි ය. එහෙත් එහි ඇත්තක් ද තිබිය යුතුයි.

නොයෙක් නෙයියාඩම් නැටීම පියෝදර් කරමසෝ ගේ බලවත් ආශාව විය. එ හෙයින් හිටිහැටියේ ම කිසි ම හේතුවක් නැති ව හේ නොයෙක් වෙස් ගෙන නටයි. සමහර විට ඔහු ගේ මේ උමතු ක්‍රියා ඔහු ගේ ම අවාසියට හේතු වෙයි. මෙය පියෝදර් කරමසෝට පමණක් නොව ඔහුට වඩා සිහිනුවණ ඇති බොහෝ දෙනා තුළ පැවැති විශේෂ පුරුද්දකි. ඉන් සමහරෙක් පියෝදර් කරමසෝට වඩා සමත් වෙති. පියෝදර් කරමසෝ පීටර් මියුසෝ ගේ යෝජනාවට වහා කැමැති විය. එ හෙයින් මවගෙන් ලැබූ ගෙයකට හා ඉඩමකට හිමිකම් ඇති මීතියා එතැන් සිට භාරකාරයන් දෙදෙනකු අතට පත් විය. පළමු ව මීතියා වාසය කළේ අලුත් භාරකාරයා ගේ නිවසෙහි ය. එහෙත් තනිකඩයකු වූ පීටර් මියුසෝ ඉඩකඩම්වලින් ලැබෙන ආදායම එකතු කරගෙන වහා පැරිසිය බලා යාමට සූදානම් විය. එ හෙයින් හේ මීතියා මොස්කව් පුර වෙසෙන ඥාතිසොහොයුරියකට භාර දුන්නේ ය. පැරිසියේ පදිංචි වූ පසු පීටර් මියුසෝට මීතියා අමතක විය. වෙසෙසින් ම ජීවිත කාලය පුරා සිතේ සඳහන් ව පැවැති පැරිසියේ විප්ලවය ආරම්භ වූ පසු මීතියා අමතක වීම පුදුමයක් නො වේ. මොස්කව් පුර වැසි කාන්තාව මිය ගිය පසු මීතියා ඇගේ විවාපත් දියණියකට භාර විය. පසු ව සතර වන වරට ද මීතියා ස්ථාන මාරු කෙළේ යයි මම විශ්වාස කරමි. එහෙත් ඒ ගැන විස්තරයක් දන් මම නො කරමි. ඔහු ගැන තවත් බොහෝ දෑ කිය යුතු නිසා ඉතා වැදගත් දෑ පමණක් මෙහි ලා විස්තර

කරන්නේ ඒ වැදගත් විස්තර නැති ව මේ කතාව ආරම්භ කළ නොහැකි නිසයි.

පියෝද්‍ර් කරමසෝ ගේ පුතුන් තිදෙනා අතරින් තමා සතු ඉඩකඩම් තිබෙන බැවින්, තුරුණු වියට පැමිණි පසු ඒ ඉඩකඩම්-වලින් ලැබෙන ආදායමින් නිදහස් ජීවිතයක් ගත කළ හැකි ය යන විශ්වාසය ඇති ව ඇතිදැඩි වූයේ මීතියා පමණි. ඔහු ගේ ළමා වියේ හා තුරුණු වියේ කිසි ම පිළිවෙළක් නො වී ය. පාසල් අධ්‍යාපනය අවසන් නොකළ හෙතෙම යුඩශිල්පය පුහුණු වී කෝකස් පෙදෙසට ගියේ ය. එහි දී මීතියා නිලයෙන් උසස් කරනු ලැබුවත් ද්වන්ද්ව යුද්ධයක් නිසා යළි පහත් කරනු ලැබී ය. එහෙත් පසු ව ආයෙත් නිලයෙන් උසස් වූ හෙතෙම මුදල් නාස්ති කරමින් නොහික්මුණු ජීවිතයක් ගත කෙළේ ය. තුරුණු වියට පැමිණෙන තෙක් ඔහුට පියා ගෙන් මුදල් ලැබුණි. එ හෙයින් මුදල් ලැබෙන තෙක් හේ ණය ගැති විය. ඔහු පළමු වරට පියා දැක හැඳින ගත්තේ තමා ගේ ඉඩකඩම් ගැන පියා සමග තීරණයකට බැස ගැනීම පිණිස ගමට පැමිණි පසුව ය. මීතියා පියාට කැමැති වූ බවක් නො පෙනේ. එහෙත් වැඩි කල් ගමේ නොරැඳුණු හෙතෙම ඉඩකඩම්-වලින් ලැබෙන ආදායම ඉදිරි කාලයේ දී ලබා ගැනීම පිණිස පියා සමග ගිවිසුමකට එළඹ වහා ආපසු යාමට සැරසුණි. තමා ගේ ඉඩකඩම්වලින් ලැබෙන ආදායම සම්බන්ධව මීතියාට පියා ගෙන් විස්තරයක් ලබා ගත නොහැකි විය. (මෙය අප විසින් සිහි තබා ගත යුතු වැදගත් කරුණකි.) ඉඩකඩම් ගැන නොපැහැදිලි, වැරදි අවබෝධයක් මීතියා ඇති කරගෙන තිබෙන බව පියා පළමු වරට පැවසී ය. (මෙය ද සිහි තබා ගත යුතු වැදගත් දෙයකි) ඔහු පුතා සමග ඉඩකඩම් සම්බන්ධව ඇති කරගත් ගිවිසුම ගැන ප්‍රීති වුණේ එය ඔහු ගේ උපායට එකඟ වූ හෙයිනි. තම පුතා ඉවසීමෙන් තොර, විගස කිපෙන, නොහික්මුණු, රාගාධික, දුරාචාරයේ යෙදෙන, නොවැදගත් පුද්ගලයකු බවත්, අත්පිට මුදල් දීමෙන් ටික කලකට හෝ ඔහු සතුටු කළ හැකි බවත් පියෝද්‍ර් කරමසෝ දැන සිටියේ ය. පුතා ගේ මේ දුබල කමින් අනිසි ප්‍රයෝජන ගත් හෙතෙම වරින් වර මීතියාට සුළු මුදල් යැව්වේ ය. එහෙත් ඉන් නො ඉවසිල්ලට පත් මීතියා හවුරුදු හතරකට පසු අවසාන වරට පියා සමග ඉඩකඩම් ගැන තීරණයකට බැස ගැනීම පිණිස ආයෙත් වරක් ගමට පැමිණියේ ය. එහෙත් ඔහු ගේ බලවත් පුදුමයට තමා සතු කිසිවක් නැති බවත්, පියා ගෙන් ගනුදෙනු ගැන විස්තර කිසිවක් ලබා ගත නොහැකි බවත් ඉඩ-කඩම්වල වටිනාකමට සමාන මුදල් වරින් වර පියාගෙන් ලබාගෙන තිබෙන බවත්, තමා පියාට ණය වී ඇති බවත්, කැමැත්තෙන් ම පියා සමග වරින්වර ඇති කරගත් ගිවිසුම් නිසා තමාට දැන් කිසිවක්

බලාපොරොත්තු වීමට අයිතියක් නැති බවත් මීතියාට දනගැනීමට ලැබුණි. මින් ඔහු කෝප විය. ඒ කෝපය මහා විපතකට හේතු විය. මගේ කතාවේ හැඳින්වීම, නැති නම් බාහිර පැත්ත වශයෙන් ඇතුළු කරන ලද්දේ මේ භයානක විපත ගැන විස්තරයකි. එහෙත් ඒ කතාව පැවසීමට පෙර පියෝදර් කරමසෝ ගේ අනෙක් පුතුන් දෙදෙනා ගැන කරුණු සවල්පයක් ඉදිරිපත් කළ යුතු ය.

## තුන් වන පරිච්ඡේදය

## දෙවන විවාහය දෙවන පවුල

හවුරුදු සතරක් වයසැති මීතියා ගෙන් නිදහස් වී වැඩි කල් යන්නට පෙර පියෝදර් කරමසෝ දෙවන වරට ද විවාහ විය. දෙවන විවාහය හවුරුදු අටක් කල් පැවතුණි. වෙනත් පළාතක සිට පැමිණි ඔහු ගේ දෙවන බිරිඳ වන සොපියා ළාබාල තරුණියක් වූවා ය. කරමසෝට ඇය හමු වුණේ සුළු ගනුදෙනුවක් සඳහා යුදෙව්වකු සමග ඇය විසූ පළාතට ගිය විට ය. පාපතර බේබදු සල්ලාලයකු වුවත් කරමසෝ මුදල් රැස් කිරීමෙහි ලා පසුබට නො වීය. මුදල් රැස් කිරීමේ සූරයකු වුවත් එ තරම් පරීක්ෂාකාරී නො වී ය. පහත් පන්තියේ අප්‍රසිද්ධ දේවගැතියකු ගේ දියණියක වූ සොපියා කුඩා කල සිට නෑසියන් නැති අනාථ දැරියක් වූවා ය. ඈ කුඩා කල සිට වැඩුණේ සෙන්පතියකු ගේ වැන්දඹුවක වූ උසස් ධනවත් මහලු කාන්තාවක යටතෙහි ය. මේ මහලු අගන සොපියා ගේ ආරක්ෂිකාව වන අතරේ අනෙක් අතින් වදකාරියක් ද වූවා ය. මම මේ ගැන වැඩි විස්තර නො දනිමි. එහෙත් කාගේත් අනුකම්පාවට බඳුන් වූ ඉතා සෞම්‍ය ගුණයෙන් යුත් මේ අසරණ තරුණිය වරක් බෙල්ලේ වැල ලා පණ නහ ගැනීමට සැරසුණු බව මම අසා ඇත්තෙමි. තොරක් නැති ව හිරිහැර කරන අත්තනෝමතික වෘද්ධාව යටතේ ඇය විඳි දුක් පීඩා එ තරම් දරුණු ය. මේ වෘද්ධාව නපුරු වූයේ අලස කමින් කාලය ගත කිරීමේ ප්‍රතිඵලයක් වශයෙනි.

පියෝදර් කරමසෝ සොපියාට විවා යෝජනා කොට යැව්වේ ය. එහෙත් ඔහු ගැන කරුණු විමසා බැලීමෙන් පසු විවායෝජනාව ප්‍රතික්ෂෙප කරන ලදී අනතුරුව හේ පළමු වර මෙන් මෙ වරද හොරෙන් පැනයාමට තරුණියට යෝජනා කෙළේ ය. සොපියා ඇගේ මනාලයා ගේ ගතිගුණ හා කල්ක්‍රියාව ගැන මඳ වශයෙන් හෝ දන සිටියා නම් කිසි ම හේතුවක් නිසා හෝ ඔහු සමග විවාහ නොවනවාට සැකයක් නැත. ඈ සිටියේ ඈත පළාතක ය. හැරත්

ඇගේ ආරක්ෂිකාව යටතේ සිපිනවාට වඩා ගඟ පතුලේ සිටීම මැනැවැයි සිතූ හවුරුදු දහසයක තරුණියක් කුමක් කරන්නට ද? එ හෙයින් අන්තිමේ දී ඒ අසරණ දැරිය ආරක්ෂිකාව වෙනුවට ආරක්ෂකයකු තෝරා ගත්තා ය. මැහැල්ල දැඩි කෝපයෙන් සිටි නිසා මෙවර මනාලිය ගෙන් කරමසෝට දායාදයක් වශයෙන් තඹයක් හෝ නො ලැබුණි. සොපියාට කිසිවක් නුදුන් මහලු ආරක්ෂිකාව අඹු සැමි දෙදෙනාට සාප කළා ය. පියෝදර් කරමසෝ සොපියා ගෙන් දායාදයක් බලාපොරොත්තු නො වී ය. ඔහු ඒ අහිංසක තරුණිය ගේ පියකරු රූපයෙන් පෙළඹුණි. නාරිරූපයෙහි අශිෂ්ට පැත්තට ප්‍රමණක් ආශා කළ මේ පාපතර සල්ලාලයාට බිරිඳ ගේ පියකරු රූපය අමුතු ආකර්ෂණයක් වී ය.

"ඒකි ගේ අහිංසක ඇස් දෙක හරියට මගේ පපුව කපා ගෙන යන දැලි පිහියක් වගෙයි" හේ පසු කල අප්‍රසන්න ලෙස 'හිකි හිකි' ගා සිනා සෙමින් කී ය. කෙලෙසුණු පාපිෂ්ටයාට ඇගේ අහිංසකකම පෙනුණේ කාමය වඩවන ලක්ෂණයක් මෙනි. බිරිඳ වරක් පණ නහ ගැනීමට තැත් කළ නිසාත්, ඇය ගෙන් ඔහුට තඹයක දෙයක් හෝ නොලැබුණ නිසාත්, හේ බිරිඳට වෙනස් කම් කෙළේ ය. ඈ තමාට වරදක් කළාය යන හැඟීම ඇය තුළ ඇති කළ හේ, විවාහ ජීවිතයේ මූලික ශිෂ්ටකම් විනාශ කිරීමට ඇගේ අහිංසක කමින්, යහපත් ගති-ගුණවලින් හා කීකරුකමින් අනිසි ප්‍රයෝජන ගත්තේ ය. හේ අශිෂ්ට ලියන් ගෙදරට වැද්ද ගෙන, බිරිඳට පෙනිපෙනී දුරාචාරයේ යෙදුණේ ය. සවාමියා ගේ පළමු වන බිරිඳ සමඟ වෛර බැඳ ගත් මෝඩ මුරණ්ඩු කටහැකර ගිරිගෝරිස් පවා අන්තිමේදී සවාමියාට විරුද්ධව අලුත් සවාමිදූ ගේ පැත්ත ගත් බව මා මෙහි ලා සඳහන් කරන්නේ පියෝදර් කරමසෝ ගේ දුසිරිත් කො තරම සීමා ඉක්මවා ගියේ දැයි පෙන්වීම පිණිස ය. සවාමි දූ රැක ගත් ගිරිගෝරිස් දුසසකුට අපහාස කරන්නාක් මෙන් සවාමියාට බැණ වැදී වරක් ගෙදර පෙම් කෙළි-මින් සිටි අශිෂ්ට ලියන් එලවා දැම්මේ ය. කුඩා කල සිට නිතර සිතේ පැවැති බියෙන් වැඩුණු අසරණ සොපියා අන්තිමේ දී ස්නායු දුබල කමින් හටගත් රෝගයකට ගොදුරු වූවා ය. එය 'යක්ෂ දිස්පිය වැහුණු' ගැමි ලියන් අතරේ බහුලව පවතින රෝගයකි. ඇතැම් විට හිටි හැටියේ ම ඇති වන සන්නියකින් පසු සොපියා ගේ සිහි විකල වෙයි. එහෙත් ඕ සැමියාට දුව ඉවාන් හා අලෝෂා යන පුතුන් දෙදෙනකු වැදුවා ය. විවාහ වී හවුරුද්දකට පසු ව උපන් දරුවා ඉවාන් ය. ඇයට අලෝෂා ලැබුණේ ඉවාන් ලැබී හවුරුදු තුනකට පසුව ය. ඈ මිය යන විට අලෝෂා ගේ වයස හවුරුදු හතරකි. එහෙත් පුදුමයකට වාගේ මේ දරුවාට සිහිනයක් මෙන් මුළු ජීවිත-යට ම මව සඳහන්ව තිබුණි. මව ගේ මරණයෙන් පසු මේ දරුවන් දෙදෙනාට ද සිදුවූයේ ඔවුන් ගේ වැඩිමල් සොහොයුරාට සිදු වූ

ඇබැද්දිය ම ය. පියෝදර් කරමසෝ දරුවන් දෙදෙනා අමතක කොට අත්හැර දැම්මේ ය. සොෆියා ගේ ආරක්ෂිකාව වන මහලු කාන්තාව පැමිණෙන තෙක් දරුවන් දෙදෙනා රැක බලා ගත්තේ ගිරිගෝරිස් විසිනි. තවමත් ජීවතුන් අතරේ සිටින මහලු කතට පියෝදර් කරමසෝ විසින් කරන ලද අපහාසය සඳහන්ව තිබුණි. සොෆියා ගැන සෝදිසියෙන් සිටි ඇයට සොෆියා විඳින දුක හා වැලඳී ඇති රෝගය ගැන ආරංචි වූ විට මැහැල්ල ඇගේ සේවකයන් අමතා මෙසේ කීවා ය.

"ඔය කෙල්ලට ඔහොම වෙලා මදි, මට කළ වරදට ඒකිට දෙයියන්වහන්සේ දඬුවම් කළා."

සොෆියා මිය ගොස් තුන් මසකට පසු ව හදිසියේ ම අපේ ගමට පැමිණි මේ මහලු කාන්තාව කෙළින් ම පියෝදර් කරමසෝ ගේ නිවසට ගියා ය. ඕ ගමට පැමිණ පැයකට වඩා කල් නොසිටියා ය එහෙත් ඒ සුළු කාලය තුළ දී ඕ බොහෝ දෑ කළා ය. ඈ වසකට පසු ව දුටු කරමසෝ එදා සවස වෙරි මතින් ගෙදර පැමිණියේ ය. ඔහු දුටු වහා ම ඈ කිසිවක් නො කියා මුහුණ පුරා කම්මුල් පහරවල් දෙකක් දී හිස කෙසින් අල්ලා තුන් වරක් බිම ඇන්න බව කියනු ලැබේ. අනතුරුව ඕ කිසිවක් නො කියා දරුවන් වෙසෙන දසයන් ගේ ගෙට ගොස්, දරුවන් අපිරිසුදුව සිටින බව දැක, ගිරිගෝරිස්ට ද කම්මුල් පහරක් දී ඔවුන් පෑදුරක ඔතා, කරත්තයේ දමා ගෙන ගමට ගෙන ගියා ය. භක්තිමත් දසයකු මෙන් වෘද්ධාව ගේ කම්මුල් පහර පිළිගත් ගිරිගෝරිස් ඇය පිටිපසින් කරත්තය ළඟට ගොස් සිරස නමා ආචාර කොට "දරුවන් දෙදෙනා රැක බලා ගැනීමට භාරගත් ඔබ තුමියට දෙයියන් ගේ ආසිරිවාදය ලැබේවා"යි කී ය.

"උඹ අලි මෝඩයා"යි කියමින් මහලු කාන්තාව නික්ම ගියා ය.

මඳක් කල්පනා කළ පියෝදර් කරමසෝ මහලු කාන්තාව දරුවන් ගෙන යාමෙන් යහපතක්ම වූයේ යයි සිතා දරුවන් ගේ අධ්‍යාපන කටයුතු සම්බන්ධව කාන්තාව ගේ අදහස්වලට කැමැති විය. එහෙත් ඈ ගැසූ කම්මුල් පහරවල් ගැන හෙතෙම ගම පුරා යමින් හමු වූ හැම දෙනාට ම පැමිණිලි කෙළේ ය.

මේ සිද්ධියෙන් ටික කලකට පසුව වෘද්ධාව මිය ගියා ය. ඇගේ අන්තිම කැමැත්තෙහි දරුවකුට රූබල් දහ ගණනේ වෙන් කොට මෙසේ ලියා තිබුණි. "මා වෙන් කරන මේ මුදල හවුරුදු විසි එක වන තෙක් දරුවන් ගේ අධ්‍යාපනය සඳහා වියදම් කළ යුතුයි. මේ මුදල එයට ප්‍රමාණවත් ය. දරුවන් ගේ අභිවෘද්ධිය පතා යම්කිසි හිතවතෙක් මුදල් වියදම් කිරීමට කැමැති නම් එසේ කෙරේවා." මම ඇගේ අන්තිම කැමැති පත්‍රය නො දිටිමි. එහෙත් මෙ වැනි විකාර දෙයක් එහි සඳහන් කර තිබුණු බව ඇසීමි. මිය ගිය මහලු

කාන්තාව ගේ බූදලේ ප්‍රධාන භාරකාරයා වූයේ ඒ පළාතේ වෙසෙන රදළයන් ගේ ප්‍රධානයා වන යෙපිම් පැව්රොව්ච් පොලිනෝප් මහතා ය. ඉතා අවංක මිනිසකු වූ හෙතෙම පියෝදර් කරමසෝට ලියුමක් යවා, දරුවන් හේ අධ්‍යාපනයට ඔහු ගෙන් තඹයක්වත් නොලැබෙන බව දන, පෞද්ගලික සැලකිල්ලක් දක්වා අනාථ දරුවන් දෙදෙනා රැක බලාගත්තේ ය. ඔහු ගෙන් විශේෂ සැලකිලි ලැබූ අලෝෂා පවුලේ අයකු මෙන් බොහෝ කලක් ඔහු සමග වාසය කෙළේ ය. මේ කාරණය මුල සිට ඉතා හොඳින් මතක තබා ගන්නා ලෙස මම පාඨකයන් ගෙන් ඉතා කරුණාවෙන් ඉල්ලා සිටිමි. ඉවාන් හා අලෝෂා වෙසෙසින් ම මේ සත්පුරුෂයාට ණය ගැති විය යුත්තේ ඔහු, ඔවුන් හද වඩා උසස් අධ්‍යාපනයක් ලබා දුන් හෙයිනි. යෙපිම් පැව්රොව්ච් මහතා වැනි සත්පුරුෂයන් හමුවන්නේ ඉතා කලාංතුරකිනි. වෑද්ධාව විසින් දරුවන් ගේ අධ්‍යාපනය සඳහා වෙන් කරන ලද රූබල් දෙ දහ ඔහු වියදම් නොකෙළෙන්, දරුවන් වැඩි විය පැමිණි විට පොලී එකතු වීමෙන් එම මුදල දෙගුණයක් වී ය දරුවන් ගේ අධ්‍යාපනයට වියදම් කළේ ඔහු ගේ ම මුදල් ය. ඔහු ඒ සඳහා රූබල් දෙ දහසකට වඩා වැය කෙළේ ය. ඉවාන් ගේ හා අලෝෂා ගේ ළමාවිය ගැන දිග විස්තරයක් කිරීමට මම වෑයම් නො කරමි. එහෙත් ඉතා වැදගත් කරුණු කීපයක් පමණක් මෙහි ලා සඳහන් කරමි. වැඩිමල් දරුවා වන ඉවාන් සිනාවෙන් තොර වූ, කොහොලු කමින් යුත්, එහෙත් බියසුලු නොවූ ළමයකු බව සඳහන් කළ යුතු ය. තමා ජීවත් වන්නේ අනුන් ගේ ගෙයක, අනුන් ගේ වියදමින් බවත්, තම පියා සඳහන් කිරීමට පවා නුසුදුසු නින්දිත මිනිසකු බවත්, හවුරුදු දහය වන විට ඉවාන් දන ගත්තේ ය. (ඔවුන් ගේ කතාවේ හැටියට) මේ දරුවා ඉතා කුඩා කල සිට ඉගෙනීමට අපූර්ව දක්ෂතාවක් දක්වී ය. එහෙත් හවුරුදු දහතුන වීමටත් පෙර හේ යෙපිම් පැව්රොව්ච් ගේ පවුලෙන් වෙන් වී මොස්කව් පුර පාසලකට ඇතුළු වී සුප්‍රසිද්ධ ගුරුවරයකු සමග වාසය කෙළේ ය. මේ ගුරුවරයා යෙපිම් පැව්රොව්ච් මහතා ගේ පැරණි මිත්‍රයෙකි. යෙපිම් පැව්රොව්ච් මහතා තමා මේ ගුරුවරයාට භාර දුන්නේ 'පරාර්ථ සේවයට' ඔහු තුළ පැවැති ආශාව නිසා යයි පසු කල ඉවාන් පැවසී ය. මහලු මහතා ද, ඉවාන් මේ ඇදුරුතුමා වෙත සිප් සතර හැදෑරීමට යැව්වේ දරුවාගේ බුද්ධි ප්‍රභාවය දක්ෂ ගුරුවරයකු යටතේ දියුණු විය යුතුය යන අදහසට වසඟ වූ හෙයිනි. එහෙත් ඉවාන් පාසල් අධ්‍යාපනය නිමවා සරසවියට ඇතුළු වන විට පරාර්ථකාමී ආරක්ෂකයාත් දක්ෂ ඇදුරුතුමාත් ජීවතුන් අතරේ නොසිටියෝ ය. මහලු කාන්තාව විසින් වෙන් කරන ලද, රූබල් දහ සිට දෙ දහ දක්වා වැඩි වූ මුදල ඉවාන්ට හා අලෝෂාට නියම කාලයේ දී ලැබීමට ක්‍රමයක් යෙපිම් පැව්රොව්ච් මහතා පිළියෙළ කර නොතිබුණෙන්

රුසියාවේ පවතින නිරර්ථක නීතිරීති නිසා ඒ මුදල් ලබා ගැනීමට සමත් වී ය. එ හෙයින් සරසවියේ උගත් මුල් හවුරුදු දෙක තුන තුළ දී ඉවාන්ට බොහෝ අගහිඟකම් ඇති විය. එසා තරම් අගහිඟකම් තිබුණත් ඉවාන් පියා ගෙන් මුදල් ඉල්ලා යැවීමට අදහස් නොකළ බව අප මෙහි දී මතක තබා ගත යුතු ය. සමහර විට ඔහු එසේ කළේ උඩඟු කම නිසා විය යුතු ය. නැති නම් පියා කෙරෙහි පැවැති පිළිකුල නිසා විය යුතු ය. මෙ වැනි පියකු ගෙන් කිසි ම පිහිටක් ලබා ගත නොහැකි ය යන අදහස ඔහු ගේ සත්පුන් බුද්ධියෙහි ඇති වූ නිසා විය යුතු ය. කෙසේ වෙතත් ශෝක නොවූ තරුණයා මුදල් උපයා ගැනීමට ක්‍රමයක් සකස් කරගත්තේ ය. පළමු ව ඉවාන් ශිෂ්‍යයන්ට පැන්කු හය ගණනේ පාඩම් කියා දුන්නේ ය. අනතුරු ව 'සාක්ෂිකරු' යන ආරූඪ නමින් මග තොට ආරන්චි පුවත්පත්වලට ලියා යැව්වේ ය. ඔහු සපයා යැවූ ආරන්චි ඉතා වැදගත් වූයෙන් ඒවා පුවත්පත්වල පළ වී ය. අලුත් යමක් කිරීමට කල්පනා නො කොට හැමදා ප්‍රංශ බසින් පරිවර්තන හා අනුවර්තන කිරීමට රක්ෂාව ඉල්ලමින් අත මිට නැති ව පත්‍ර කන්තෝරු හා සඟරා පළ කරන තැන්වල කාලය නසන අවාසනාවන්ත ශිෂ්‍යශිෂ්‍යාවන්ට වඩා ඉවාන් බුද්ධියෙන් හා ක්‍රියාශූරත්වයෙන් උසස් බව මේ කරුණින් පැහැදිලි වේ. පුවත්පත් කතුවරුන් සමග ඇති කර ගත් සබඳකම් ඉවාන් නොකඩවා පවත්වා ගත්තේ ය. සරසවියේ ඉගෙනීම අවසන් කරන කාලයේ දී ඔහු විසින් නොයෙක් විෂයයන් ගැන සපයන ලද පොත්පත් පිළිබඳව වරින් වර ලියා පළ කළ සාරවත් විවේචන නිසා ඉවාන් ලේඛකයන් අතරේ ප්‍රසිද්ධ වි ය. හදිසියෙන් ම ඔහු පාඨකයන් ගේ සිත් දිනා ගැනීමට සමත් වූයේ සරසවියේ ගත කළ අවසාන හවුරුද්දේ දී ය. එක් අතකින් එය අපූර්ව සිද්ධියක් වශයෙන් සැලකිය හැකි ය. සරසවියෙන් අස් වී තමා සතු රුබල් දෙ දහ ගෙන පිටරට යාමට සැරසෙන අතරේ ඉවාන් ජනප්‍රිය පුවත් පතක කාගේත් සැලකිල්ලට බඳුන් වූ පුදුම ලිපියක් ලියා පළ කෙළේ ය. ඔහු සවාභාවික විද්‍යාව උගත් ශිෂ්‍යයෙකි. එහෙත් ඔහු පුවත් පතට ලියා යැව්වේ ඔහු විසින් නොදත සිටිය යුතු කරුණක් ගැන ය. ඔහුගේ ලිපියේ විසතර වූයේ එකල හැම දෙනාගේ ම වාදවිවාදයට බඳුන් වී පැවැති 'පැවිද්දන් ගේ අධිකරණ' ගැන ය. මේ කරුණ ගැන නොයෙක් දෙනා විසින් වරින්වර පළ කරන ලද අදහස් විවේචනය කළ ඉවාන් අනතුරුව තමා ගේ අදහස් ද ඉදිරිපත් කෙළේ ය. මේ ලිපිය ජනප්‍රිය වූයේ එය සකස් කොට තිබුණු පිළිවෙළ හා බලාපොරොත්තු නොවූ අවසානයත් නිසා ය. ආගමට පක්ෂ වූ බොහෝ දෙනා, මේ තරුණ ලේඛකයා සිය පක්ෂයේ යයි අවිවාදයෙන් පිළිගත්හ. ඓහිකවාදීන් පමණක් නොව නාස්තිකවාදීහු ද ඉවාන්ට ප්‍රශංසා කළහ. එහෙත් අන්තිමේ දී එක්තරා බුද්ධිමත්තු කීප

දෙනොක් ම මේ ලිපිය අලප්ප් උපහාසාත්මක පරිහාසයක් මිස වෙන කිසිවක් නොවන බව පෙන්නා දුන්හ. මං මේ ගැන ශවසෙසින් ම සඳහන් කළේ මේ ලිපිය අපේ ගමට නුදුරේ පිහිටි ආශ්‍රමය කෙරෙහි තදින් බලපෑවැත් වූ හෙයිනි. 'පැවිද්දන් ගේ අධිකාරණ' කෙරෙහි විශෙෂ සැලකිල්ලක් දක්වූ ආශ්‍රමයේ වැඩ වෙසෙන පූජකවරුන් ගේ සිහිය මේ ලිපිය නිසා අවුල් විය. ඔවුන් විශේෂ සැලකිල්ලක් දක්වූයේ ලිපියේ කතුවරයා ගම් වැසියකු පමණක් නොව 'අර පියෝදර් පවුලොවිච් කරමසෝගේ' පුතකු බව දැනගත් පසුව ය. ලිපියේ කතුවරයා ද ගමට පැමිණියේ මේ කාලයේ දී ය.

ඉවාන් ගමට පැමිණියේ මන්දැයි, සිතේ හටගත් නොසන්සුන් කමින් යුතු ව එකල මා මගෙන් ම ප්‍රශ්න කළා මට මතකයි. බොහෝ විපාකවලට ප්‍රධාන හේතුව වූ මේ අවාසනාවන්ත ගමන ඔහු පැමිණියේ මන්දැයි මට තේරුම් ගත නො හැකි ය. ඉවාන් උඩඟු සිත් ඇත්තෙකි, උගතෙකි, බුද්ධිමතෙකි. එ වැනි තරුණයකු, මුළු ජීවිතයට ම තමා අත්හැර දැමූ, තමා ගේ දියුණුවට තඹයකින්වත් ආධාරයක් නොකළා වූ, බාල පුතුන් දෙදෙනා ද මුදල් ඉල්ලතියි යන බියෙන් සිටි, පියා බැලීම සඳහා අපකීර්තියට පත් ගෙයකට හදිසියෙන් පැමිණීම පෙනෙන හැටියට නම් විශ්වාස කළ නොහැකි පුදුමයකි. මේ ශිෂ්ට තරුණයා ඔහු ගේ අශිෂ්ට පියා සමග එක ගෙයි දෙ මසක් පමණ කල් සමගියෙන් වාසය කෙළේ ය. මෙය මට පමණක් නොව බොහෝ දෙනාට පුදුමයට හේතු වී ය. ඇඩිලෙයිඩා ගේ ඇවෑස්ස මස්සිනාවූ ද, මිතියා ගේ ආරක්ෂකයා වූ ද, අප මීටපෙර සඳහන් කළ පීටර් මියුසෝ් මහතා ඔහු ගේ සථිරවාසස්ථානය වූ පැරිසියේ සිට මේ කාලයේ දී ගමට පැමිණියේ ය. ඉවාන් පියා සමඟ එක ගෙයි සිටින බව අසා අප හැම දෙනාට ම වඩා ඔහු පුදුම වූ බව මට තව ම මතකයි. පීටර් මියුසෝ් මහතා ඉවාන් හමු වී කතා කෙළේ ය. ඉවාන් සමග වාද විවාද කිරීමට ලොකු සැලකිල්ලක් දක්වූයේ ය. ඇතැම් විට ඔහු ගේ සිතේ වේදනාවක් ඇති වුණේ තරුණයාට තිබුණු උගත්කම ඔහුට නොතිබුණු හෙයිනි.

"මේ ඉලන්දාරියා බොහො ම ආඩම්බරයි" මහලු කුලවතා පැවසී ය. "ඔහු ගමට පැමිණියේ මුදල් ලබා ගැනීමට නොවෙයි. පිටරට යාමට ඔහු ළඟ උවමනා තරම් මුදල් තියෙනවා. එහෙනම් ඔහු ගමට පැමිණියේ මන් ද? ඔහු පැමිණියේ පියා ගෙන් මුදල් ඉල්ලා ගන්න නොවෙයි. සුරාවටත්, සල්ලාලකමටත් මේ තරුණයා ගේ කිසි ම ආශාවක් නැහැ. එහෙත් දැන් පියෝදර් කරමසෝට පුතා නැති ව කිසි ම දෙයක් කරන්න බැහැ. තාත්තයි පුතයි සිටින්නේ බොහො ම සමගියෙන්."

එය සැබෑවකි. ඉවාන් පියා කෙරෙහි කිසියම් බලපෑවැත්මක් ඇති ව සිටිය බව පැහැදිලිය. පෙරට වඩා යහපත් කල්ක්‍රියාවෙන් වෙසෙන මහල්ලා ඇතැම් විට ඉවාන්ට කීකරුව සිටීමට කැමැති බව ද හැඟෙව්වේ ය.

එහෙත් ඉවාන් ගමට පැමිණියේ අඩක් තම සොහොයුරා වන මිතියා ගේ ඉල්ලීම හා ඔහු ගේ යහපත පිණිස බව පසු ව හෙළි විය. ඉවාන් ජීවිතයේ පළමු වරට මිතියා දුටුවේ ගමට පැමිණි පසුව ය. එහෙත් ඔහු මොස්කව් නුවර සිටිය දී මිතියා සමග ලියුම් ගනුදෙනු කරගත්තේ ය. ඔවුන් ලියුම් ගනුදෙනු කරගත්තේ මිතියාට ඉතා වැදගත් වූ කරුණක් ගැන ය. ඒ කරුණ කුමක්ද යි පාඨකයාට පසු ව සම්පූර්ණයෙන් ම දැන ගත හැකි ය. එහෙත් මම මේ වැදගත් කරුණ දැන ගත් පසුවත්, ඉවාන් ගුප්ත පුද්ගලයකු බවත්, ඔහු ගේ පැමිණීම අබිරහසක් බවත් කල්පනා කෙළෙමි.

පියා සමග එළිපිට කලහ කරගත් මිතියා පියාට විරුද්ධව නඩු පැවරීමටද සැරසුණි. මෙසේ අසමගියෙන් වෙසෙන පිය පුතුන් දෙදෙනා අතරේ සමගියක් ඇති කිරීමට ඉවාන් පැමිණියාක් මෙන් එකල පෙනී ගියේ ය. කරමසෝව් පවුලේ පිය පුතුන් පළමු වරට සමගියෙන් සිටින බවත්, ඔවුන් ගෙන් සමහරකු ජීවිතයේ පළමු වරට දැන ඇඳින ගත් බවත් මම නැවත කියමි. පුතුන් තිදෙනා ගෙන් බාලයා වන අලෝෂා ගමට පැමිණ දැනට හවුරුද්දක් පමණ ඇත. තිදෙනා ගෙන් පළමු ව ගමට පැමිණියේ අලෝෂා ය. මේ හැඳින්වීමේ දී අලෝෂා ගැන විස්තරයක් කිරීම අපහසු කරුණක් වී තිබේ. එහෙත් එක්තරා අපූර්ව දෙයක් විස්තර කිරීම පිණිස කෙසේ හෝ ඔහු ගැන හැඳින්වීමක් කළ යුතු ය. ඒ අපූර්ව දෙය නම් මගේ වීරයා එනම් අලෝෂා ආධුනික පූජකයකු ගේ ලෝගුව දමාගත්තකු ලෙස පාඨකයාට හඳුන්වා දීමට සිදුවීම ය. එය එසේමය. පසු ගිය හවුරුද්ද තාපසාරාමයේ ගත කළ අලෝෂා මුළු ජීවිත කාලය ම එහි ගත කිරීමේ අදහසින් සිටින බව පෙනේ.

## හතර වන පරිච්ඡේදය

## තුන් වන පුතා

අලෝෂා ගේ වයස හවුරුදු විස්සකි. එකල ඔහු ගේ දෙ වන සොහොයුරා ගේ වයස හවුරුදු විසි හතරක් වන අතරේ වැඩිමල් සොහොයුරා ගේ වයස හවුරුදු විසි හතකි. අලෝෂා අංගම භක්ති-යෙන් උමතු නොවූවකු බව පළමු ව තේරුම් කර දිය යුතු ය. මගේ අදහසේ හැටියට ඔහු ගුප්ත ඇදහිලි ඇත්තෙක් ද නො වේ. කෙසේ

වෙතත් අලෝෂා ගැන මගේ සම්පූර්ණ අදහස මුල සිට පැවසිය යුතු ය. කුඩා කල සිට ඔහු මනුෂ්‍ය වර්ගයා කෙරෙහි පතළා වූ ප්‍රේමය ඇත්තෙක් වී ය. ලෞකික දුෂ්ටකම නැමැති අඳුරේ පෙළෙන සිය ආත්මය ඉන් මුදවා ප්‍රේමය නැමැති අලෝකයට ගෙන ගිය හැක්කේ ආශ්‍රමික ජීවිතයට පුරුදු වීමෙන් යයි එ කල ඔහුට කල්පනා වි ය. එ හෙයින් හේ ආශ්‍රමික ජීවිතයට පුරුදු විය. ඔහු මේ අපිස් ජීවිතයට වඩාත් ප්‍රිය කළේ එ කල ආශ්‍රමයේ ඔහු විසින් අපූරු තැනැත්තකු ලෙස පිළිගත් සුප්‍රසිද්ධ සොසිමා පියතුමා, නැමැති තවුසා වැඩ සිටි හෙයිනි. නොඉඳුල් සිතක හටගන්නා අචල භක්තියෙන් අලෝෂා මේ තවුසා කෙරෙහි බැඳී සිටියේ ය. එහෙත් මේ කාලයේ දී පවා අලෝෂා අද්භූත පුද්ගලයකු ලෙස සිටි බව සනාථ කිරීමට මම වෙහෙස නො වෙමි. හේ තොටිල්ලේ සිට ම අද්භූත ගතිගුණ ඇත්තෙක් විය. වයස හවුරුදු හතරේ දී ඔහුගේ මව නැති වුව ද "තමා ඉදිරිපිට සිටින්නාක් මෙන්" ඇය ගේ මුහුණුවර හා ඇය ගේ පහස ඔහුට සඳහන්ව තිබුණු බව මම මීට පෙර සඳහන් කෙළෙමි. කෙනකු තුළ අතීතය පිළිබඳ මතකය කුඩා කල සිට, හවුරුදු දෙකේ සිට පවතින බව කවුරුත් දනිති. එහෙත් අඳුර තුළින් පෙනෙන අලෝකයක පැල්ලමක් මෙන්, වර්ණය ද ගොස් විනාශ වූ විශාල චිත්‍රයකින් ඉරා ගන්නා ලද තවමත් හොඳට තිබෙන කුඩා කැබැල්ලක් මෙන්, මේ මතකය මුළු ජීවිත කාලය තුළ ම නො පවතියි. අලෝෂාට මව ගැන සඳහන්ව තිබුණේ මේ ක්‍රමයට ය. ගිම්හානයේ එක්තරා සන්සුන් සන්ධ්‍යා කාලයක්, ඇර තබන ලද කවුළුවක්, බැස යන හිරු මඬලෙන් වැටුණු ආලෝකය (අනෙක් හැම දෙයට ම වඩා අලෝ-ෂාට හිරු රැස් මැනවින් සඳහන්ව තිබුණි) කාමරයේ මුල්ලක තබන ලද ශුද්ධ වූ ප්‍රතිමාව, ප්‍රතිමාව ඉදිරිපිට දැල්වෙන පහන, පහන ඉදිරිපිට දණ බිම ඔබා ගෙන ඉකිගසමින් අඬන මව, සිතේ වේදනාව වැඩි වන තරමට තමා දැඩිව වැලඳ ගෙන, තමා රැක ගන්නා ලෙස දේවමාතාවට මව විසින් කරන ලද කන්නලව්ව, ………… එවිට හදිසියෙන් ම හෙදියක මව ළඟට දිවවිත් භීති-යෙන් තමා මව ගේ දෑතින් නිදහස් කර ගත් සැටි, අලෝෂාට සඳහන්ව තිබුණි. ඒ මොහොතේ දී මව ගේ මුහුණේ ඇති වූ ස්වභාවය ඔහුට අමතක කළ නො හැකි ය. මතක තිබෙන හැටි-යට මව ගේ මුහුණේ උන්මාදගතියක් දකින්නට තිබුණත් එය ඉතා ලක්ෂණට පෙනුණ බව ඇලෝෂා කී ය. එහෙත් ඒ ගැන කිසි වකු සමග ඊට වඩා කිසිවක් කීමට හේ කැමැති නො වී ය. ළමා කාලයේ දීත්, තුරුණු වියේ දීත් අලෝෂා වඩා කතා නො කෙළේ ය. කතා නොකෙළේ ලැජ්ජාව නිසා හෝ, මුරණ්ඩුකම නිසා හෝ සමාජ සිරිත් නොදත් කම නිසා හෝ නො වේ. ඔහු කතා නො කෙළේ ඉදුරා වෙනස් වූ හේතුවක් නිසා ය. කිසිවකු සමග

කිසි ම සබඳකමක් නැති, සිතේ පතුලේ සිට පැමිණි කිසියම් පෞද්ගලික අදහසක් නිසා ය. මේ අදහස තමාට ඉතා වැදගත් බැවින් ඒ සඳහා අනෙක් අය අමතක කළ යුතු යයි අලෝෂා සිතන්නට ඇත. එහෙත් ඔහු මනුෂ්‍යයන් කෙරෙහි මහත් කරුණා-වක් දක්වී ය. ඔහු හැම දෑ හැම දෙනා ම සම්පූර්ණයෙන් විශ්වාස කළ බව පෙනේ. කිසිවෙක් කිසි කලෙක ඔහු නිවටයකු ලෙස පිළිගෙන පහත් කොට නොසැලකුවේ ය. තමා අනුන් ගේ හරි වැරදි විනිශ්චය නො කළ යුතු ය, අනුන් ගැන ගුණ දෙස් නො කිය යුතු ය, කුමන හේතුවක් නිසා හෝ කිසිවකු පහත් කොට නොසැල-කිය යුතු ය, යන හැඟීම අලෝෂා ඇසුරු කරන කවරකු තුළ වුව ද නිතැතින් ම ඇති වෙයි. (ඒ හැඟීම මුළු ජීවිත කාලය තුළ ම පවතියි.) බොහෝ විට කො තරම් නොකැමැත්තෙන් වුවත් සිත් වේදනාවෙන් වුවත්, අලෝෂා හැම දෙයක් ම පිළිගන්නා බව පෙනේ. මේ කරුණ නිසා කුඩා කල වුවද ඔහු තුළ බිය හෝ විස්මය හෝ ඇති කළ නො හැකි විය. දුරාචාරයට ආකරයක් බඳු පියා ගේ නිවසට හවුරුදු විස්සේ දී පැමිණි පිරිසුදු චරිතයෙ කින් යුත් අලෝෂා එහි දී දුටු දෙය ඉවසාගත නොහැකි වූ තැන-ඇසත් කටත් වසා ගෙන ඇත් විය. ඔහු මෙසේ ඇත් වූයේ සිතේ හටගත් පිළිකුලක හෝ දෝෂාරෝපනයක හෝ ලකුණක් නොදක්-වමිනි. වහා නොසන්සුන්වන හැඟීම් ඇති, නිතර කලහ කරන, පරපුටු ගතියෙන් යුත් අලෝෂා ගේ පියා පළමු ව පුතා පිළිගත්තේ සැකයෙන් හා කෝපයෙන් යුතුව ය. "මිනිහා නිතර කල්පනා කරනවා මිස වැඩිය කතා කරන්නේ නැහැ."යි ඔහු ඇතැම් විට අලෝෂා ගැන සඳහන් කරමින් කී ය. එහෙත් දෙසතියක් ගත වන්නට පෙර කරමසෝ දූසේ පිරි කඳුළින් හා බේබද්දකුට අයත් ආදරයෙන් යුතුව නිතර අලෝෂා සිප වැළඳ ගත්තේ ය. කෙසේ වෙතත් කරමසෝ මීට පෙර කිසිවකු කෙරෙහි නොදක්වූ ආදරයක් අලෝෂා කෙරෙහි දක්වූ බව පෙනේ.

කො තැන ගියත්, කොයි කවුරුත් අලෝෂාට ආදරය කළ හ. කුඩා කල සිට එය එසේ ම ය. ඔහු ගේ වැඩදායකයා හා අනුසාසකයා වන යෙපිම් පැව්රොවිච් මහතා ගේ නිවසට පැමිණි පසු අලෝෂා පවුලේ හැම දෙනා ගේ ම සිත් දිනා ගැනීමට සමත් වූයෙන් ඔවුහු පවුලේ දරුවකුට සලකන්නාක් මෙන් අලෝෂාට ආදරයෙන් සංග්‍රහ කළ හ. අලෝෂා යෙපිම් පැව්රොවිච් මහතා ගේ නිවසට පැමිණියේ ළමා කාලයේ දී බැවින්, ගෙදර ඇත්තන් ගේ සිත් දිනා ගැනීමේ කපටි අදහසින් ක්‍රියා කෙළේ යයි කිය නො හැකි ය. දැන හෝ නො දැන හෝ අනුන් ගේ ආදර ගෞරවය දිනා ගැනීමේ ශක්තිය අලෝෂා තුළ සවභාවයෙන් ම පිහිටි ගුණයකි. එය ජන්ම-යෙන් ලැබූ කුසල බලයක් වැන්න. පාසලෙහි ද එය එසේ ම විය.

සැක කරනු ලැබූ, අවමන් කරනු ලැබූ, ප්‍රිය නොවූ, අනෙක් ළම-යින්ට සමාන ළමයෙකු වුවත් අලෝෂා කාගේත් ආදරයට බඳුන් විය. සාමාන්‍යයෙන් අලෝෂා නිතර කල්පනා කරන්නෙක් විය. ඔහු හුදෙකලාවේ සිටීම ප්‍රිය කෙළේ ය. පොතක් ගෙන මුල්ලකට වී කියවීමට කුඩා කාලයේ සිට හෙතෙම කැමැත්තක් දක්වී ය. අලෝෂා වඩා සෙල්ලම් නොකෙළේ ය. විනෝද නො වී ය. ඔහු විනෝද නොවූයේ බුම්මන ගතියක් නිසා නොවන බව කවරකුට වුව ද දුටු පමණින් කිය හැකි ය. එහෙත් අලෝෂා නිතර ප්‍රීතියෙන් සිටියේ ය. ප්‍රසන්න සිත් ඇත්තේ විය. පාසලේ අනෙක් සිසුන්ට වඩා තමා උසස් බව හැඟවීමට වෑයම් නොකෙළේ ය. සමහර විට මේ ගුණය නිසා ඔහු කිසිවකුට බිය නොවී ය. අලෝෂා තමා ගේ නිර්භීත කම ගැන උඩඟු නොවන බවත්, සමහර විට ඔහු ඒ බව නොදන්නා බවත් අනෙක් ශිෂ්‍යයෝ වහා තේරුම් ගත් හ. තමාට කරන ලද අපහාසයක් ගැන අලෝෂා කිසිවිටක අමනාප නො වී ය. පැයකට පසු, කිසිවක් සිදු නොවූවාක් මෙන් අපහාස කළ තැනැත්තා සමග අලෝෂා අවංකව කතා කෙළේ ය. ඔහු එසේ කතා කළේ අපහාසය අමතක වූ නිසා නො වේ. ඔහු අපහාස කළ තැනැත්තාට කමා වූ නිසා නො වේ. එහි රහස ඔහු අපහාසය නොපිළිගැනීම ය. ඔහු සිසුන් ගේ සිත් දිනා ගැනීමට සමත් වූයේ මේ යහගුණය නිසා ය. පහළ පන්තියේ සිට ඉහළ පන්තිය දක්වා හැම පන්තියක ම ලොකු කුඩා සිසුන් ගේ උසුළු විසුළුවට බඳුන් වීමට හේතුවූ අලෝෂා ගේ විශේෂ ගතියක් තිබුණි. ඔවුන් අලෝෂාට විහිළු කළේ ද්වේෂ සිතින් නො වේ. විහිළු කිරී-මෙන් එක්තරා විනෝදයක් ලැබූ හෙයිනි. මේ විශේෂ ගතිය නම් අලෝෂා තුළ පැවැති උමතු විනීත භාවය හා චරිතශුද්ධිය යි. ඔහු ගැහැනුන් ගැන කියනු ලබන ඇතැම් වචනවලට හා කතා බහට සවන් දීමට කැමැති නො වී ය. අවාසනාවකට වාගේ පාසල්වලින් ඉවත් කළ නොහැකි ඇතැම් වචන හා කතා බහ තිබේ. ගතින් සිතින් නිර්මල වූ ශිෂ්‍යයෝ ඇතැම් විට සොල්දාදුවන් පවා කතා කිරීමට පසුබට වන නොයෙක් සිදුවීම්, පින්තූර හා ප්‍රතිමා ගැන කතා කිරීමට ආසා කරති. සොල්දාදුවන් පවා නොදන්නා ඇතැම් දේවල් ඉහළ පන්තිවල ශිෂ්‍යයෝ දනිත්. මෙහි දී ගුණදහම් දූෂණය වීමක් නැත. පිටතින් පෙනෙන්නට තිබුණත් අභ්‍යන්තරය අපිරිසුදු වීමක් නැත. එහෙත් මේ කතා බහ වටිනා, ශිෂ්ට දෙයක් ලෙස ශිෂ්‍යයෝ පිළිගත්හ. 'අසවල් එක ගැන' කතා කරන විට අලෝෂා නො ඇසෙන ලෙස කනේ ඇඟිලි ගසා ගනියි. එ වැනි අවසථාවල දී ශිෂ්‍යයෝ අලෝෂා වට කොට, බිම හෙළා, දත ඉවත ඇද, පැනයාමට දඟලන අලෝෂා ගේ කනට කුණුසරුප කියති. මිත්‍රයන් විසින් කරන ලද නින්දාව නිහඬව ඉවසන අලෝෂා කිසි කලක මිත්‍රයන්ට පෙරළා

නොබැණ ඔවුන් ගෙන් සැඟවී සිටීමට වෑයම් කෙළේ ය. අන්තිමේ දී අලෝෂාට සරදම් කිරීම නතර කළ ශිෂ්‍යයෝ, සරදමට ඇති නොකැමැත්ත ඔහු තුළ පැවැති දුබල කමක් ලෙස පිළිගෙන අනුකම්පා කළ හ. හැම විට ම අලෝෂා පන්තියේ හොඳම ශිෂ්‍යයා වී ය. එහෙත් ඉගෙනීමෙන් පළමු වැන්නා නො වී ය.

යෙපිම් පැව්රොවිච් මහතා මිය යන විට අලෝෂා එම පළාතේ පාසලෙන් ලබමින් සිටි අධ්‍යාපනය අවසන් වීමට හවුරුදු දෙකක් කල් තිබුණි. පැව්රොවිච් මහතා ගේ මරණයෙන් පසු ශෝකය ඉවසා ගත නොහැකි වූ ඔහු ගේ බිරිඳ මුළු පවුලත් සමග කාලයක් නතර වී සිටීම පිණිස ඉතාලියට ගියා ය. ඇගේ පවුලේ සිටියේ දූවරු හා සේවිකාවෝ ද පමණි. ඒ අතරේ අලෝෂා, යෙපිම් පැව්රොවිච් මහතා ගේ දුර නෑයන් වන කාන්තාවන් දෙදෙනකු වෙත නතරවීමට ගියේ ය. ඔහු මීට පෙර මේ කාන්තාවන් දෙදෙනා දන ඇඳින සිටියේ නැත. තමා මේ කාන්තාවන් දෙදෙනා යටතේ වාසය කරන්නේ කුමන කොන්දේසි පිට දැ යි අලෝෂා නොදත්තේ ය. තමා කා බී ජීවත්වන්නේ කාගේ වියදමින් දැ යි සොයා නොබැලීම අලෝෂා ගේ විශේෂ ගතියකි. මේ අනුව බලන විට අලෝෂා හා ඉවාන් අතරේ මහත් වෙනසක් පවතියි. ඉවාන් සරසවියේ උගත් පළමු වන හවුරුදු දෙක තුළ දී හැම කටයුත්තක් ම තම වියදමින් කර ගැනීම පිණිස දුප්පත් කමත් සමග සටන් කෙළේ ය. අනුන් ගේ වියදමින් නඩත්තු වීම කුඩා කල සිට ඉවාන් ගේ සිතට වද දුන් දෙයකි. එහෙත් අලෝෂා තුළ පැවැති මීට ඉදුරා වෙනස් වූ ගතිය විවේචනය කළයුතු යයි මම නො සිතමි. තමා ගේ අතට හදිසියෙන් ම විශාල ධනයක් ලැබුණොත් ඉල්ලූ සැණින්, යහපත් වැඩකට හෝ කපටි සොරකුට හෝ දෙන අලෝෂා ආගම් භක්තියෙන් යුත් තරුණයකු බව ඔහු යන්තම් හෝ ඇඳින ගත්තකුට එක්වර ම පෙන්යනවා ඇත ඔහු මුදලේ වටිනා කම නොදන්නකු බව පෙනේ. අලෝෂා කිසි දිනක වියදමට මුදල් නොඉල්ලුවේ ය. ඔහු මුදල් ගැන කො තරම් නොසැලකිලිමත් ද කියතොත්, ඔහුට මුදල් දුන්නොත් ටික වේලාවක් යන්නට පෙර ඔහු ඒ මුදල් නැති කර ගනියි. නැති නම් මුදලින් කුමක් කළයුතු දැයි නො දන සති ගණන් තබා ගනියි.

මුදල් හම්බකිරීම හා මැද පන්තියේ ජනයා ගේ අවංකකම ගැන මහත් සැලකිල්ලක් දක්වන පිටර් මියුසෝ මහතා අලෝෂා දන හැඳිනගත් පසු ඔහු ගැන පහත සඳහන් විනිශ්චය කෙළේ ය.

"දස ලක්ෂයක් පමණ ජනගහනයකින් යුත්, එහෙත් දන අඳුනන කිසිවකු නැති නගරයක, අතේ තඹයක් හෝ නැති ව නතර කළ හැකි ලෝකයේ සිටින එක ම තැනැත්තා සමහර විට

අලෝෂා විය හැකි ය. මේ නගරයේ දී ඔහුට කිසි ම අනතුරක් නොවනු ඇත. කුසගින්නෙන් හා සීතලින් නොමියනු ඇත. ආහාරපානයෙන් සංග්‍රහ කොට ඉඳුම් හිටුම් දීමට කෙනකු නොසි-විය හොත් අලෝෂා ම කුසට ආහාරයක් හා හිසට ආවරණයක් සොයා ගන්නවා ඇත. ඒ සඳහා ඔහුට වෙහෙසවීමට උවමනාවක් නැත. අපහාසයක් නොවන්නේ ය. අලෝෂාට සංග්‍රහ කිරීම බරක් නොව ප්‍රීතියකි ".

අලෝෂා ඉගෙනීම අවසන් නො කෙළේ ය. ඉගෙනීම අවසන් කිරීමට හවුරුද්දක් තිබිය දී හෙතෙම කිසියම් කටයුත්තක් සඳහා පියා හමුවීමට ගමට යන බව කාන්තාවන් දෙදෙනාට කීවේ ය.

අලෝෂා ගේ වෙන් වී යාම ගැන කාන්තාවෝ දුක් වූහ එමතු ද නොව ගමන නතර කිරීමට ද වෑයම් කළ හ. ගමට යාමට එ තරම් ලොකු වියදමක් නොයන බැවින් ඔරලෝසුව උගස් තබා මුදල් සොයා ගැනීමට අලෝෂා සූදානම් විය. ඒ ඔරලෝසුව ඔහුට යෙපිම් පැව්රොවිච් මහතා ගෙන් ලැබුණු අන්තිම තෑග්ග ය. ඔරලෝසුව උගස් තැබීමට ඉඩ නොදුන් කාන්තාවෝ මසුරු මලින් තොරව මුදල් පමණක් නොව ගමනට උවමනා ඇඳුම් පැළඳුම් හා රෙදිපිළි ද පිළියෙළ කර දුන්හ. දුම්රියේ තුන් වන පන්තියේ යන බව පවසා අලෝෂා එම මුදලින් අඩක් ආපසු දුන්නේ ය. ඉගෙනීම අවසන් නො කොට ගමට පැමිණියේ මන්දැයි පියා ඇසූ පළමු වන ප්‍රශ්නයට පිළිතුරු නොදුන් අලෝෂා වෙන දට වඩා කල්පනාකාරී වූ බව කියනු ලැබේ. ඔහු මව ගේ වළ බැලීම පිණිස පැමිණි බව පසු ව ගමේ ආරන්චි විය. ගමට පැමිණියේ මව ගේ වළ බැලීමට බව අලෝෂා පැවසී ය. එහෙත් ඔහු මව ගේ වළ බැලීමට පමණක් ගමට පැමිණි බව පිළිගත නොහැකි ය. හදිසියෙන් ම තමා තුළ ගමට පැමිණීමට මැඩ ගත නොහැකි ආශාවක් ඇති වූයේ මන්දැයි විස්තර කොට කීමට ඔහු ම නොදත්තේ ය. දෙවන බිරිඳ ගේ වළට පස් මිටක් දමූ පසු කවරදාවත් වළ බැලීමට නොගිය බැවින් වළ තිබෙන තැන පෙන්නීමට කරමසෝ නොදත්තේ ය. කල්යාමේ දී ඔහුට බිරිඳ වැළලූ තැන සම්පූර්ණයෙන් ම අමතක වන්නට ඇත.

කලක සිට කරමසෝ ගමින් බැහැර ගොස් සිටියේ ය බිරිඳ මිය ගොස් හවුරුදු තුනකට හෝ හතරකට පසු දකුණු රුසියාවට ගිය හෙතෙම අන්තිමේ දී ඔඩෙස්සාවට පැමිණ හවුරුදු කීපයක් ම එහි වාසය කෙළේ ය. ඔහු ගේ කතාවේ හැටියට ඔහු පළමුව ඉතා පහත් පෙළේ යුදෙව් ගැහැනුන් පිරිමින් බොහෝ දෙනකු සමග වාසය කෙළේ ය. අන්තිමේ දී පොදුවේ උස් පහත් යුදෙව්වන් හැම දෙනා විසින් ම ඔහු පිළිගනු ලැබී ය. මේ කාලයේ දී ඔහු

අතා සූර ලෙස මුදල් හම්බ කළ බව අපට සිතා ගත හැකි ය. අන්තිමේ දී ඔහු ගමට පැමිණියේ අලෝෂා ගමට පැමිණීමට හවුරුදු තුනකට කලින් ය. කරමසෝ වයසින් මහලු නොවූවත් මහල්ලකු මෙන් පෙනෙන බව කලකට පසු ඔහු දුටු ඔහු ගේ යහළුවෝ පැවසූ හ. ගමට පැමිණි කරමසෝ කටයුතු කළේ ආත්ම ගෞරවයෙන් තොර විළිබිය නැත්තකු මෙනි. කවටකම් කළ හෙතෙම අනෙක් අය ද කවටයන් කිරීමට වෑයම් කෙළේ ය. ඔහු ගෑහැනුන් සමග කළ දුසිරිත් පෙරට වඩා පිළිකුල් උපද-වන්නේ විය. වැඩි කල් යන්නට පෙර කරමසෝ ගමේ තැබෑරුම් කිපයක්ම පටන් ගත්තේ ය. ඔහු සතුව රූබල් ලක්ෂයක් පමණ තිබෙන බව ඇරත්වි විය. වැඩි කල් යන්නට පෙර ගමේ හුඟ දෙනෙක් ම ඔහුට ණය ගැති වූහ. කරමසෝ ඉඩකඩම් බැඳ ගෙන ණය දුන්නේ ය. මැතක සිට ඔහු පිපිහළු විය. නොසැලකිලිමත් විය. ඔහු ගේ වැඩ කටයුතු ආකූල වි ය. හෙතෙම එක දෙයක් පටන් ගෙන වෙනත් දෙයක් කරයි. මේ කාලය වන විට මහලු වී සිටි ගිරිගෝරිස් නොසිටියේ නම්, නිතර සුරාමතින් සිටින ඔහු නොයෙක් භයානක අකරතැබ්බයන්ට පත්වීමට ඉඩ තිබුණි. ගිරිගෝරිස් සවාමියා රැක බලා ගත්තේ ය. අකාලයේ මහලු වූ මේ මිනිහා ගේ ආත්මය තුළ බොහෝ කලක සිට මිය ගිය කිසියම් දෙයක් ආයෙත් පණ ලබා අවදිවූවාක් මෙන්, අලෝෂා ගේ පැමිණීම ඔහු ගේ චරිතය කෙරෙහි බල පැවැත්වූ බව පෙනේ.

"උඹ දන්නවද පුතා, උඹත් හරියට අර පිස්සු ගෑනි වගෙයි" කරමසෝ නිතර අලෝෂා දෙස බලා කීමට පුරුදු වී සිටියේ ය. ඔහු, මිය ගිය දෙවන බිරිඳ වන අලෝෂා ගේ මව හැඳින්වූයේ 'පිස්සු ගෑනි' යන නමිනි. අලෝෂාට 'පිස්සු ගෑනි ගේ' වළ පෙන්වනු ලැබුවේ මහලු ගිරිගෝරිස් විසිනි. ගිරිගෝරිස් අලෝෂා අපේ ගමේ තිබෙන සොහොන් භූමියට කැඳවා ගෙන ගොස් එහි ඈත මුල්ලක පිහිටි යකඩ සොහොන් කොතකින් වසන ලද මිනී වළක් පෙන්නුවේ ය. අඩු මිලට තනන ලද එහෙත් පිරිසුදුව තබා ඇති එම සොහොන්කොතේ මිය ගිය තැනැත්තිය ගේ නම, වයස, හා මිය ගිය දිනය ද, ඊට ඉහළින් පැරණි සැම්පලේ මධ්‍යම පන්-තියේ සොහොන්කොත්වල කොටා තිබෙන පද හතරකින් යුත් කවියක් ද විය. මේ සොහොන්කොත ගිරිගෝරිස් විසින් ඉදි කැරුණු බව දැන ගත් අලෝෂා පුදුම විය. සවාමිදූ ගේ වළ මත සොහොන් කොතක් ඉදි කළ යුතු බව සඳහන් කරමින් ගිරිගෝරිස් නිතර කරමසෝට කරදර කෙළේ ය. මිය ගිය බිරිඳත් ඇය ගේ වළත් සම්පූර්ණයෙන් ම අමතක කළ සවාමියා ඔඩෙස්සාවට ගිය පසු ගිරිගෝරිස් සිය වියදමින් ම 'අසරණ පිස්සු ගෑනිගේ' වළ මත සොහොන්කොතක් තැනුවේ ය. මව ගේ වළ දැකීමෙන් තමා තුළ

අමුතු හැඟීමක් ඇති වූ බවක් අලෝෂා නොහැඟෙව්වේ ය. සොංහොන්කොත ඉදි කල සැටි ගැන ගිරිගෝරිස් කළ විස්තරයට සවන් දුන් තරුණයා මඳ වේලාවක් හිස පහත් කරගෙන වල දෙස බලා සිට කිසිවක් නො කියා නික්ම ගියේ ය. ඔහු දෙවන වර වල බැලීමට පැමිණියේ හවුරුද්දකට පසුව ය. මේ නොවැදගත් සිද්ධිය කරමසෝ කෙරෙහි බල පැවැත්වී ය. ඔහු හිටි හැටියේ ම රූබල් දහක් ගෙන බිරිඳ ගේ ආත්මය වෙනුවෙන් පූජාවක් පැවැත්වීම පිණිස ආශ්‍රමයට ගියේ ය. එහෙත් ඔහු ඒ පින්කම කළේ අලෝෂා ගේ මව වන 'පිස්සු ගැහැනිය' වෙනු-වෙන් නොව වදක බාරියක වූ පළමු වන බිරිඳ වෙනුවෙන් ය. පින්කම කළ දින සවස කරමසෝ කට මතක් සුරා බී, ආශ්‍රමයේ වෙසෙන පූජකයන්ටත්, අලෝෂාටත් බැණවැදුණේ ය. ඔහු ආගමභක්තියෙන් යුත් මිනිහෙක් නො වේ. ඔහු සාන්තුවරයකු ගේ ප්‍රතිමාවක් ඉදිරිපිට කිසි ම දිනක ඉටිපන්දමක් දල්වා නැත. මෙ වැනි මිනිසුන් තුළ හිටි හැටියේ ම පුදුම හැඟීම් හා අදහස් ඇතිවීම සිරිත ය.

පියෝදර් කරමසෝ පිපිහළු වී සිටි බව මම ඉහත සඳහන් කෙළෙමි. ඔහු ගත කළ දුසිරිතෙන් පිරි ජීවිතයේ විපාක මේ කාලයේ දී මතු වන්නට විය. නිතර අහංකාර කමින් හා සැකයෙන් පිරි ඔහු ගේ කුඩා ව්‍යාජ දෑස යට ඉදිමුණාක් මෙන් පෙනේ. ඔහු ගේ කුඩා මහත මුහුණේ ගැඹුරු රැලි වැටී තිබුණි. උල් වූ නිකට යට පිහිටි උගුරුඇටය විශාල වායුගෙඩියක් මෙන් එල්ලෙයි. ඉන් ඔහු ගේ මුහුණට පිළිකුල් උපදවන අමුතු කාමුක ගතියක් ආවේස වී ය. ඔහු ගේ කෑදර පෙනුමෙන් යුත් දිග කටේ මහත තොල් අතරින් දිරා ගොස් කළු ගැසුණු දත් කොට කෑලි පෙනේ. ඔහු කතා කරන විට කටෙන් කෙළ හැලෙයි. තමා ගේ මුහුණ ගැන කවට කතා කීම ඔහුට ප්‍රියයක් විය. කො තරම් අවලස්සණ වුවත් කරමසෝ තමා ගේ මුහුණ ගැන තෘප්තියට පැමිණ සිටියේ යයි මම විශ්වාස කරමි. වෙසෙසින් ම කරමසෝ ඔහු ගේ වඩා ලොකු නොවූ මෙලෙක් වකුටු නාසය පෙන්නා "අගේ ඇති රෝමන් නහය. මේ නහයත්, වායු ගෙඩියත් එක්ක මා පෙනෙන්නේ හරියට රෝම අධිරාජ්‍යයේ පිරිහුණු යුගයට අයත් පැරණි රෝම වංශාධිපතියකු වගෙයි" මහත් ආඩම්බරයෙන් කී ය.

මව ගේ වල බැලීමට ගොස් වැඩි කල් යන්නට පෙර තමා ආශ්‍රමයට ඇතුළු වීමට කැමැති බවත්, එහි වෙසෙන පූජකයන් තමා ආධුනික පූජකයකු ලෙස පිළිගැනීමට කැමැත්තෙන් සිටින බවත් අලෝෂා හදිසියෙන් ම පියාට දනුම් දුන්නේ ය. එය තමා ගේ

එක ම ආශාව බවත් ඒ සඳහා පියා ගේ කැමැත්ත බලාපොරොත්තු වන බවත් අලෝෂා වැඩි දුරටත් කරුණු පැහැදිලි කරමින් පැවැසී ය. ආශ්‍රමයට අයත් තපෝවනයේ වෙසෙන සොසිමා තවුසා තමා ගේ 'කාරුණික දරුවා' තුළ මහත් සැලකිල්ලක් ඇති කොට තිබෙන බව කරමසෝ දැන සිටියේ ය.

" සොසිමා පියතුමා තමයි ආශ්‍රමයේ සිටින හොඳම පූජකයා "යි අලෝෂා ගේ කතාව සාවධානව අසා සිටි මහල්ලා කී ය. පුතා ගේ අදහස ගැන ඔහු මඳක් හෝ පුදුම නො වී ය. " හම්...එහෙනම් පුතා උඹේ කල්පනාව පූජකයකු වෙන්න ද? " යි ඔහු අනතුරුව ඇසී ය.

එ වේලේ අඩක් සුරා මතින් සිටි කරමසෝ හදිසියෙන් ම අලෝෂා දෙස දත නියවා බලා මෙසේ කී ය.

" හම් ! ............ මා දනගෙන හිටියා උඹ කවදහරි මෙහෙම දෙයක් කරන බව .........කොහොම වුණත් උඹේ රූබල් දෙදහ තව ම තියෙනවා. ඒ මුදල් උඹට ලැබුණ හොඳ දෑවැද්දක් වගෙයි. මා කවදාවත් උඹව අත්හරින්නේ නැහැ. උඹ ආශ්‍රමයේ සිටිනවාට මුදල් ගෙවන්න උණොත් මම ඒ මුදල් දෙන්නම්. නමුත් උන් මුදල් නොඉල්ලුවොත් අපි මොනවටද මුදල් දෙන්නේ? එහෙම නේද ? උඹ සුමානෙකට මංචාඩි දෙක ගණනේ මුදල් වියදම් කරන්නේ හරියට කැනේරියකු වගෙයි........... හම් ! උඹ දන්නව ද පුතා, එක්තරා ආශ්‍රමයකට කිට්ටු තැනක් තියෙනවා.........පොඩි දරුවෙක් උණත් දන්නවා එ තැන ඉන්නේ පූජකයන් ගේ ගෑනු බව. මගේ කල්පනාවේ හැටියට එ තැන ගෑනු තිස් දෙනෙක් පමණ සිටිනවා. මාත් එ තැනට ගිහින් තියෙනවා. ඉඳහිට එ වැනි තැනකට ගියාට වරදක් නැහැ. එ තැන ඉන්නේ සේරම රුසියන් ගෑනු. ඒක තමයි තියෙන වැරැද්ද. එක ම ප්‍රංශ ගෑනු පරාණයක්වත් නැහැ. පූජකයන්ට උවමනා නම් ප්‍රංශ ගෑනු ගෙන්න ගන්න පුළුවනි. උන්ට උවමනා තරම් මුදල් තියෙනවා ............ නමුත් අපේ ආශ්‍රමය එ වැනි තැනක් නො වෙයි. අපේ ආශ්‍රමයේ පූජකයන් දෙසීයක් ඉන්නවා, නමුත් එක්කෙනකුටවත් ගෑනු නැහැ. උන් බොහො ම අවංකයි. බොහො ම සිල්වත්......... නියම විදියට උපවාසයේ යෙදෙනවා ......හම් ! එහෙනම් උඹෙත් ආශාව පූජකයකු වෙන්නටයි ! මාව අත්හැර යනවාට මට බොහො ම කනගාටුයි. උඹ දන්නව ද අලෝෂා මා උඹට බොහො ම ආදරේ බව?............ එක අතකින් මේක හොඳ වැඩක්. අපි සේරම පව්කාරයෝ. අපි බොහො ම පව් කර තියෙනවා. උඹට පුළුවනි අප වෙනුවෙන් යාච්ඤා කරන්න. මා වෙනුවෙන් යාච්ඤා කරන්නේ කවුද කියා මම නිතර කල්පනා කළා. මං වෙනුවෙන් යාච්ඤා කරන්න මේ

ලෝකේ කිසි ම කෙනෙක් ඇතැයි කියා මා හිතුවේ නැහැ. පුතා, ඒ අතින් මම බොහො ම මෝඩ යි. මා මළ පසු යකඩ කොකුවලින් මා අපායට ඇදගෙන යාමට යමපල්ලන්ට අමතක වේය කියා මා හිතන්නේ නැහැ. ඒ ළගට මා කල්පනා කළේ යකඩ කොකු ගැනයි. යමපල්ලන් කොහෙන් ද යකඩ කොකු හදන්නේ? අපායේ කම්හලක් තියෙනවද? අපායට සිලිමක් තියෙන බව ආශ්‍රමයේ පූජකයන් කියනවා නේ ද? අපායක් තියෙන බව මම විශ්වාස කරනවා. එහෙත් අපායට සිලිමක් තියෙන බව මම විශ්වාස කරන්නේ නැහැ. සිලිමක් තියෙනවා නම් අපාය බොහො ම ලක්ෂණ, ශීලාචාර තැනක් වෙන්වා ලූතර් ගේ අදහස්වලට ගැළපෙනවා. අපායට සිලිමක් නැති නම් යකඩ කොකු තියෙන්න විදියකුත් නැහැ. යකඩ කොකු නැති නම් අපායක් තියෙනවා ය කියන කතාව විශ්වාස කරන්න බැහැ. ඒක කවදාවත් සිදු නො වන දෙයක්. අපායක් නැති නම් මාව ඇද ගෙන යන්න යමපල්ලන් සිටින්න බැහැ. මාව අපායට ඇද ගෙන නො ගියොත් මේ ලෝකේ හොඳ නරක කියා දෙයක් නැහැ. අපායේ කොකු තියෙන්නේ මාව ඇදගෙන යන්නට යි. පුතා, මම කොතරම් ලොකු පව්කාරයෙක් ද?"

"නමුත් අපායේ යකඩ කොකු නැහැ"යි අලෝෂා පියා දෙස ආදරයෙන් හා සැලකිල්ලෙන් බලා පැවසීය.

"ඔව් ඔව්, යකඩ කොකුවල ඡායාව විතරයි තියෙන්නේ. මා දන්නවා, ප්‍රංශකාරයකු අපාය විස්තර කර තියෙන්නේ මේ විදියට යි. කොහොම ද පුතා උඹ දන්නේ අපායේ යකඩ කොකු නැති බව? උඹ පූජකයන් සමග ජීවත්වන්නට පටන් ගත් පසු ඔය විදියට කතා කරන එකක් නැහැ. උඹ ආශ්‍රමයට ගිහින් හරියට ඇත්ත නැත්ත දැන ගෙන මට ඇවිත් කියා-පන්. පරලෝකේ තියෙන දේවල් දන්නවා නම් එහි යන එක බොහො ම ලෙහෙසි යි. උඹ මේ ගෙදර නාකි බේබද්දකු හා තරුණ වේසගෑනුන් එක්ක සිටිනවාට වැඩිය හොඳයි ආශ්‍රමයට යන එක. උඹ සුරදූතයකුට සමාන නිසා නොමග යන එකක් නැහැ. ආශ්‍රමයේ දීත් උඹට වරදක් වන එකක් නැහැ. ඒ නිසයි මා උඹට යන්න ඉඩ දෙන්නේ. උඹට හොඳට මොළය තියෙනවා. උඹ බොහො ම දුක් විඳ යහපත් තැනැත්තෙක් වී ආපසු පැමිණේ වී. උඹ පැමිණෙන තෙක් මම බලාපොරොත්තු ව සිටින්නම්. මගේ හොඳ පුතා, මේ ලෝකේ මට දෙස් නො කී එක ම තැනැත්තා උඹයි. උඹ පමණයි මා පහත් කොට කතා නොකෙළේ. ඒ බව මා හොඳට දන්නවා."

කරමසෝ ඉකිගසමින් අඩන්නට විය. ඔහු ගේ සිත මෙළෙක් විය. එහි ඇති නපුරුකමත් සමඟ මෙළෙක් විය.

## පස් වන පරිච්ඡේදය

## තවුසෝ

මා ඉදිරිපත් කරන තරුණයා නොවැඩුණු කයින් යුත්, රෝගයෙන් පෙළෙන සුදුමැලි වූ මන්දබුද්ධිකයෙකියි මගේ පාඨකයන් සිතන්නට පිළිවන. අලෝෂා ඊට ඉදුරා වෙනස් වූවෙකි. ශක්ති මත්ව වැඩුණු අඟපසඟින් රෝස පැහැති කොපුල්තලයෙන් හා පැහැපත් නෙතින් යුත් අලෝෂා හවුරුදු දහනවයක දැකුම්කලු නීරෝගි තරුණයෙකි. ඔහු මදක් උස ය. හිස කෙස් මදක් දුඹුරු පාට ය. දුරින් පිහිටි දීප්තිමත් දෑසින් අලංකාර වූ මුහුණ දිග ය. ඔහු කල්පනාකාරි තරුණයෙකි. එ පමණක් නොව යහපත් ගතිගුණ ඇත්තෙකි. ආගම භක්තියෙන් උමතු වූ ගුප්ත පුද්ගලයනට රෝස පැහැති කොපුල්තල තිබිය නොහැකි යයි ඔබ මට කියන්නට පිළිවන. එහෙත් අලෝෂා අනෙක් අයට වඩා හැම දෙයක ම ඇත්ත නැත්ත සොයා බලන්නෙක් යයි මම සිතමි. ආශ්‍රමයේ විසූ කාලයේ දී අලෝෂා හාස්කම් කෙරෙහි සම්පූර්ණයෙන්ම විශ්වාසය තැබූ බවට කිසි ම සැකයක් නැත. මගේ කල්පනාවේ හැටියට යමක ඇති තතු සොයන්නකුට හාස්කම් ගැන ඇති විශ්වාසය බාධාවක් නො වේ. යථාර්ථවාදියා යම් යම් දේ කෙරෙහි විශ්වාසය තබන්නේ හාස්කම් කෙරෙහි පැවැති විශ්වාසය නිසා නො වේ. නියම යථාර්ථවාදියා කිසිවක් කෙරෙහි විශ්වාසයක් නො තබන්නේ නම්, හාස්කම් කෙරෙහි විශ්වාසය නොතැබීමට ඔහුට නිතර ශක්තිය ලැබෙයි. එහෙත් හාස්කම්වල ඉවත දැමිය නොහැකි කිසියම් ඇත්තක් තිබෙන බව ඔහුට පෙනී ගියොත් ඒ ඇත්ත පිළිගන්නවාට වඩා තමා ගේ ඉන්ද්‍රියයන් ගැන විශ්වාස නොකිරීමට ඔහු පෙලඹෙයි. යම් විදියකින් හාස්කම්වල ඇත්තක් තිබෙන බව පිළිගත්තොත් ඔහු එසේ කරන්නේ, එය තමා විසින් මීට පෙර නො දක්නා ලද සොබාදහම පිළිබඳ සත්‍යයක් හැටියටයි. යථාර්ථවාදියා තුළ භක්තිය ඇති වන්නේ හාස්කම් ගැන ඇති විශ්වාසයෙන් නො වේ. හාස්කම් ගැන විශ්වාසයක් ඇතිවන්නේ භක්තිය නිසා ය. යථාර්ථවාදියා වරක් යම්කිසිවක් ගැන විශ්වාස කළෙත් එම යථාර්ථවාදී අදහස් නිසා ම ඔහු හාස්කම් ගැන ද විශ්වාසය තබයි. තමා යමක් ඇසින් දකින තුරු විශ්වාස නොකරන බව වරක් තෝමස් අපෝස්තුලු තුමා පැවසී ය. එහෙත් එතුමා නියම සත්‍යය ඇසින් දුටු පසු "අහෝ දෙවියනි! අහෝ දෙවියනි!" යි කී ය. එතුමා ගේ සිත විශ්වාසය කෙරෙහි

පෙළඹෙව්වේ හාස්කම්වල ඇති බලය විසින් ද? එසේ විය නො-හැකි ය. එතුමා විශ්වාස කළේ විශ්වාස කිරීමට ආශාවක් සිතේ පැවැති නිසයි. "ඇසින් දකින තුරු මම විශ්වාස නො කරමි" යි කියන විට ද එතුමා ගේ සිතේ විශ්වාසය පවතින්නට ඇත.

"අලෝෂා මෝඩයෙකි, නොවැඩුණු බුද්ධිය ඇත්තෙකි, නියම අධ්‍යාපනයක් නොලැබුවෙකි" යි සමහර විට ඔබ මට කියන්නට පිළිවන. අලෝෂා අධ්‍යාපනය අවසන් නොකළ බව ඇත්තයි. එහෙත් ඔහු මෝඩයෙක් යයි කීම අසාධාරණයි. අලෝෂා පැවිදිබිම තෝරා ගත්තේ අන්ධකාරයෙන් ආත්මය නිදහස් කර ගැනීමට තිබෙන සුදුසු මග පැවිදිබිම බව එකල ඔහුට අවබෝධ වූ නිසා විය යුතුයි. එහෙත් ඔහු එවැනි මගක් තෝරා ගත්තේ මෝඩ කම නිසා යයි කීම බලවත් අපරාධයකි. ඔහු ගැන මා දන්නා දෙය කෙළින් ම කියමි. අලෝෂා පසු ගිය පරපුරට අයත් තරුණයෙකි. එනම්, ඔහු සවභාවයෙන් ම අවංක ය. සත්‍යය සොයා අවබෝද කිරීමේ ආශාවෙන් සිටින හෙතෙම මුළු ආත්මශක්තිය ම යොදා සත්‍යයට සේවය කිරීමට සූදානම් ය. අප්පමාදව කටයුතු කොට සත්‍යය වෙනුවෙන් අන් සියලු දෙයක් පමණක් නොව ජීවිතය වුවත් පූජා කිරීමට කැමැත්තේ ය. නොයෙක් පූජා විදි අතරින් ජීවිත පූජාව ලෙහෙසිම පූජා ක්‍රමයක් බවත්, තම සිතේ පැවැති පරමාර්ථය මුදුන් පමුණුවා ගැනීමටත්, සත්‍යය වෙනුවෙන් කරන්නට බලාපොරොත්තු වන සේවය දහ ගුණයකින් වැඩි කිරීම සඳහා නොසන්සුන් තරුණ වියෙන් හවුරුදු පහක් හෝ හයක් අධ්‍යාපනය වෙනුවෙන් කැපකිරීමටත් මේ තරුණයා කල්පනා කිරීම කනගාටුදායක කරුණකි. මෙ වැනි පරිත්‍යාගයන් කිරීම බොහෝ දෙනා ගේ ශක්තියෙන් ඈත්වූවකි. අලෝෂා ඊට ඉදුරා වෙනස් මගක් තෝරා ගත්තේ ය. ඔහු ඒ මග තෝරා ගත්තේ වහා ප්‍රතිඵල ලබා ගන්නා ආශාවෙනි. බොහෝ දුරට කල්පනා කොට දෙවියන් සිටින බවත්, අමරණීයත්වයක් තිබෙන බවත් මතක් කළ ඉක්බිති හෙතෙම තමාට ම මෙසේ කියා ගත්තේ ය. "මම අමරණීයත්වය සඳහා ජීවත්වෙමි. ඒ හැර මම වෙන කිසිවක් බලාපොරොත්තු නොවෙමි." ඒ අනුව අලෝෂා යම් විදියකින් අමරණීයත්වය හා දෙවියන් නැතිය යන අදහස පිළිගත්තේ නම් ඔහු එක්වර ම [1] නාස්තික වාදියෙක් හා සමාජවාදි-යෙක් වන්නේ ය සමාජවාදය කම්කරු ප්‍රශ්නයට පමණක් සීමාවී නැත. හැම දෙයකට ම පෙර සමාජවාදය නාස්තිකවාදය සම්බන්ධ කොට පවතින්නෙකි. එය දෙවියන් කෙරෙහි ඇත්තා වූ විශ්වාසයෙන් තොර වූ ප්‍රශ්නයකි. අද අදේවවාදීන් නගන

---

1. මැවුම්කාරයකු ගැන විශ්වාස නොකරන්නා

තර්කය නම් දේවවිශ්වාසයෙන් තොරව සමාජවාදය ගොඩ නගන්නේ මෙ ලොව සිට දෙව්ලොව බලා යාමට නොව මෙ ලොව දෙව්ලොවක් කරගැනීම පිණිස ය. "තොප ශ්‍රෙෂ්ඨ ගුණවතකු වන්නට නම් තොප සතු හැම දෙයක් ම දුප්පතුන්ට දී මං අනුගමනය කරව" යන්න ලියවී ඇති බැවින් පැරණි සුපුරුදු ජීවිතය එ ලෙසින්ම ගත කිරීම කිසිසේත් කළ නොහැකි දෙයක් මෙන් අලෝෂාට පෙනෙන්නට ඇත.

"විශාල ධනයක් තබා ගෙන ඉන් රූබල් දෙකක් පමණක් දන් දීමෙන් ඇති පලය කිම? ක්‍රිස්තුස් වහන්සේ අනුගමනය නො කොට පූජාවට පමණක් සහභාගිවීමෙන් ප්‍රයෝජනයක් නැතැ" යි අලෝෂා තමාට ම කියා ගත්තේ ය. කුඩා කාලයේ දී අලෝෂා ගේ මැණියෝ නිතර අලෝෂා පූජාවට කැඳවා ගෙන ගියා හ. අලෝෂාට ආයෙත් ආශ්‍රමය සිහිවන්නට ඇත්තේ මවත් සමග පූජාව සඳහා ආශ්‍රමයට ගිය මෙම ගමන් සඳහන් වීමෙන් විය යුතු ය. බිම පතිත වූ බැස යන හිරු රැස් හා ඔහු ගේ "පිස්සු මව" ඔහු උස් කොට අල්ලා සිටි ශුද්ධ වූ ප්‍රතිමාව පිළිබඳ මතකය තවමත් ඔහු ගේ සිතේ බලපවත්වනවා විය හැකි ය. මේ කරුණු ගැන මෙනෙහි කළ අලෝෂා සමහර විට ගමට පැමිණෙන්නට ඇත්තේ "තමා සතු සියලු දෙයක් ම දන් දිය යුතු ද? නැති නම් රූබල් දෙක පමණක් දන් දීම ප්‍රමාණවත් ද?" යි දන ආශ්‍රමයේ වැඩ වෙසෙන සොසිමා තවුසා හමුවීමට විය යුතු ය.

රුසියාවේ ආශ්‍රමවල වෙසෙන 'තවුසා' කෙබඳු පුද්ගලයෙක් දැයි විස්තර කිරීමට මා කතාවෙන් පිටත යා යුතු ය. එහෙත් එ වැනි විස්තරයක් කිරීමට තරම් මා සමතකු නොවන බව කීමට කනගාටු වෙමි. මේ 'තාපස නිකාය' පෙරදිග, වෙසෙසින් ම සයිනියාව හා ආතෝසය වැනි තැන්වල, හවුරුදු දහසකට වඩා කල් සිට පැවැත ආවත්, රුසියාවේ ආශ්‍රමවල 'තාපස නිකාය' පිහිටා හවුරුදු සියකට වඩා කල් නැති බව තතු දන්නෝ පවසති. වාටර්වරුන් ගේ සතුරුකම්, සිවිල් යුද්ධ, කොන්ස්ටැන්ටි-නෝපලය විනාශ වීමෙන් පසු පෙරදිග සමග පැවැති සබඳකම් නැති වීම ආදී රුසියාවට සිදු වූ නොයෙක් උවදුරු නිසා රුසියාවේ පිහිටා තිබුණු 'තාපස නිකාය' අභාවයට ගියේ ය. එහෙත් පසු ගිය සිය වසේ අගභාගයේ දී 'පියසි විලිච්කොස්කි' නමින් පසිදුව විසූ උතුම් තවුසෙක් ඔහු ගේ ශ්‍රාවකයන් සමග ආයෙත් මේ නිකාය රුසියාවේ පිහිටුවා නවජීවනයක් දුන්නේ ය. එහෙත් මෙදා වනතුරු මේ නිකාය පිහිටා ඇත්තේ රුසියාවේ ආශ්‍රම කීපයක පමණි. නිතර අලුත් අණපනත් පනවන බැවින් රුසියන් රජය විසින් මේ නිකායට නීතියෙන් දඬුවම් කිරීමට සැරසුණ වාර ද බොහෝ ය.

තාපස නිකාය වෙසෙසින් ම මහත් දියුණු තත්ත්වයකට පැමිණියේ කොසිල්ක් ඔප්ටින් නැමැති සුප්‍රසිද්ධ ආශ්‍රමයෙහි ය. තාපස නිකාය අපේ ආශ්‍රමයට පැමිණියේ කවරදා ද ? කෙසේ ද ? මම එය නො දනිමි. අපේ ආශ්‍රමයේ තවුසන් තිදෙනෙක් පිළිවෙළින් වැඩ විසූ හ. සොසිමා තවුසා ඔවුන් ගෙන් තුන් වැන්නා ය. එහෙත් රෝදුකින් හා දුබල කමින් අසාධ්‍ය වූ එතුමෝ මරණාසන්නව සිටිති. එතුමාගේ ඇවෑමෙන් හිස්වන තැන පිරවීමට තවුසෙක් නැති. මේ පුරප්පාඩුව අපේ ආශ්‍රමය සම්බන්ධව පැවැති ඉතා වැදගත් ප්‍රශ්නයකි. අපේ ආශ්‍රමය කිසි ම දෙයකින් ප්‍රසිද්ධ නො වී ය. එහි සාන්තුවරයන් ගේ ධාතූන් වහන්සේලා නැත. හාස්කම් දක්වන සුරුවම් නැත. පරසිදු පරපුරක් හෝ ඓතිහාසික වැදගත් කමක් නැත. එහෙත් අපේ ආශ්‍රමය දියුණුවක් ලබා රට පුරා පතළ වූයේ මේ තවුසන් ගේ පැමිණීමෙන් පසුව ය. ඔවුන් සියැසින් දක බලා, දහම් ඇසීමේ ආශාවෙන් හැම දෙසින් සැතපුම් දහස් ගණන් මග ගෙවා වන්දනාකාරයෝ වැල නො කැඩී ආහ.

තවුසා වනාහි කෙබඳු ගතිගුණ ඇත්තෙක් ද? තවුසා වනාහි ඔබ ගේ ආත්මය හා අධිෂ්ඨානය ඔහු ගේ ආත්මයට හා අධිෂ්ඨානයට ඇතුළු කර ගන්නෙකි. ඔබ තවුසකු තෝරා ගත් විට ඔබ ඔබ ගේ චිත්ත බලයට ඇති හිමිකම අත්හැර දමා එය ඉතා යටහත්ව හා කීකරුව තවුසාට පවරනු ඇත. බෙහෙවින් කටුක වූ මේ ආත්මපරිත්‍යාගය කැමැත්තෙන් ම කරනු ලබන්-නේ ආත්මදමනය හා ආත්මසංයමය පිණිස ය. යටහත් පහත් ජීවිතයක් ගත කොට සම්පූර්ණ නිදහස ලබා ගැනීමට ය. එනම් ආත්මයෙන් නිදහස් වීමට ය. තමා ගැන නියම අව-බෝධයෙන් තොරව ජීවත් වූ අය විසින් විඳින ලද දුකින් නිදහස් වීමට ය. මේ 'තාපස නිකාය' කිසියම් න්‍යායක් අනුව අරඹන ලද්දේ නො වේ. එය පෙරදිග රටවල අරඹන ලද්දේ හවුරුදු දහසක් කල් පුහුණු වීමෙන් පසුව ය. තවුසකුට දක්-විය යුතු වතාවත් රුසියාවේ ආශ්‍රමවල පවතින වතාවත්වලට සමාන නැත. තවුසා ලවා පව් කමා කරවා ගැනීම හා බිඳ දැමිය නොහැකි බැම්මකින් ඔහුට බැඳී සිටීම තවුසන්ට දක්විය යුතු වතාවත්වලින් සමහරකි.

තවුසන්ට බැඳී සිටීම ගැන විස්තරයක් ඇතුළත් මෙ වැනි කතාවක් කියනු ලැබේ. ක්‍රිතුසමය පැතිර ගිය මුල් කාලයේ දී එක්තරා ආධුනික පූජකයෙක්, ගුරු තවුසාණන් විසින් පන-වන ලද ශික්ෂාපද සමහරක් සපුරාලිය නොහැක්කේ සිරියාවේ පිහිටි තාපසාරාමය හැර පියා මිසරයට ගියේ ය. එහි දී ඔහු විසින් කරන ලද නොයෙක් වීර ක්‍රියා නිසා, ආගම වෙනුවෙන් දුක් පීඩා විඳ ජීවිත පරිත්‍යාග කිරීමට තරම් සුදුසු වීරයකු

ලෙස අන්තිමේදී හෙතෙම පිළිගන්නා ලදී. සාන්තුවරයකු ලෙස පිළිගන්නා ලද එතුමා මිය ගිය පසු එතුමාගේ මෘතදේහය භූමිදන කරන වේලේ "බව්තිස්ම නොකරන ලද තෙපි හැම දෙනා ම මෙතැනින් නික්ම යව"යි දේවගැති තුමා හඬිසියෙන් කියනවාත් සමග ම, මෘතදේහය රැගත් දෙන තුන් වරක් ම දේවස්ථානයෙන් ඉවත් විය. මේ සාන්තුවරයා සවකීය ගුරු තවුසාණන් ගේ අණ කඩ කොට ඔහු අත්හැර ගිය බවත් ආගම වෙනුවෙන් කො තරම් කුසල් කර ඇතත් පළමු ව ගුරු, තවුසාණන් ගේ පව්කමාව නොමැති ව එතුමාට කමාව දිය නො හැකි බවත් ඔවුහු දැනගත් හ. එතුමා ගේ අවසානකෘත්‍යය නිම කළ හැකි වූයේ ගුරු තවුසාණන් ගෙන් කමාව ලැබූ පසුව ය. මෙය ඉතා පැරණි කතාවකි. එහෙත් පහත සඳහන් වන්නේ මෑත දී සිදුවූ පුවතකි.

තමා විසින් ශුද්ධ ස්ථානයක් හා ක්ෂේම භූමියක් ලෙස ප්‍රිය කළ ආතෝසය හැර යන ලෙස ගුරු තවුසෙක් තම ගෝලයාට අණ කෙළේ ය. පළමු ව යෙරුසලමට ගොස් ශුද්ධස්ථාන වැඳ පුදා දෙවනුව සයිබීරියාවට යන ලෙස ගෝල පූජක තැනට නියම කළ ගුරු තවුසා අනතුරුව "තොපට සුදුසු මෙ තැන නොව සයිබීරියාවය"යි කී ය. ශෝකයෙන් පීඩිත වූ පූජක තෙමේ කොන්ස්ටැන්ටිනෝපල් පුරයේ වැඩ වෙසෙන නායක පියතුමා වෙත ගොස් තමා සීලයෙන් මුදවන ලෙස අයැද සිටි-යේ ය. එවිට නායක පියතුමා පිළිතුරු දෙමින් තමාට ඔහු සීලයෙන් මුදා හැරිය නොහැකි බවත්, සීලයෙහි පිහිටු වූ ගුරු තවුසා හැර සීලයෙන් මුදවිය හැකි කිසි ම බලයක් මිහි පිට නැති බවත් පැවසී ය. මෙසේ සමහර අවස්ථාවල දී මේ තවුසන් කෙරෙහි සීමාවක් නැති බලතල පැවරී තිබෙන බව පෙනේ. අපේ ආශ්‍රම බොහෝමයක මේ නිකාය තහනම් කොට දඬුවම් කිරීමට පවා පෙළඹුණේ මේ හේතුව නිසා ය. එහෙත් මහජනයා තවුසන් උතුම් කොට සලකා ගරු බුහුමන් දැක්වූ හ. නූගතුන් පමණක් නොව උගත් පබුජනයා ද ඔවුන් ගේ සිත් තුළ පැවැති සැක, ඔවුන් විසින් කරන ලද පව්, විඳින දුක් වේදනා පවසා අනුශාසනා ලබා ගැනීම පිණිස අපේ ආශ්‍රමයෙහි වැඩ වෙසෙන තවුසන් වෙත වැල නොකැඩී පැමිණියා හ. මෙය දුටු විරුද්ධවාදීහු තවුසන් පාපෝච්චාරණය පිළිබඳ ආගමික චාරිත්‍ර හිතුවක්කාර ලෙස කෙලෙසන බව පවසමින් දෙස් කී හ. එහෙත් පැවිද්දන් හා ගිහියන් විසින් තවුසන්ට නිතර කරනු ලබන පාපෝච්චාරණයෙහි ආගමික චාරිත්‍ර කෙලසීමක් නො වී ය. කෙසේ වෙතත් අන්තිමේ දී මේ 'තාපසනිකාය' රුසියාවේ ආශ්‍රමවල ස්ථිර ලෙස පිහිටුවන ලදී. මිනිසා ගේ ගුණදහම්

ප්‍රගුණ කොට දස භාවයේ සිට නිදහස කරා ගෙන යාමට ඉවහල් වූ, හවුරුදු දහසක් පමණ කල් නොයෙක් උපද්‍රවයන්ට ගොදුරු වෙමින් පැමිණි මේ තාපස නිකාය දෙමුවහත් අවියකට සමාන විය හැකි ය. ඉන් සමහරකු තුළ සම්පූර්ණ ආත්මදමනය ඇති කොට නිහතමානි කම ප්‍රගුණ කරනවා වෙනුවට ඉතා දරුණු අභිමානයක් ඇති කොට නිදහසට නොව වහල් භාවයට ගෙන යන්නට පිළිවන.

සොසිමා තවුසා ගේ වයස හවුරුදු හැට පහකි. ඉඩම් හිමි ධනවත් පවුලකින් පැවැත එන එතුමා තුරුණුවියේ දී යුධ හමුදාවට බැඳී නිලධරයකු ලෙස කෝකස් පෙදෙසේ සේවය කෙළේ ය. තමා කෙරෙහි පැවැති කිසියම් විශේෂගුණයක් නිසා එතුමා අලෝෂා ගේ සිත් පැහැදවීමෙහි සමත්වී ය. තම ගේ අසපුවේ වාසය කිරීමට අලෝෂාට අවසර දුන් තවුසා ඒ අතර තමා ගේ උපස්ථායකයා වීමට ද ඉඩ දුන්නේ ය. එහෙත් තවුසාට උපස්ථාන කිරීමට අලෝෂා නියමයෙන් බැඳී නො සිටිය බවත්, කැමැති තැනක ගොස් දින ගණනක් වුවත් නතර වී සිටීමට අලෝෂාට ඉඩ තිබුණු බවත්, අප මෙහි දී සිහි තබා ගත යුතු ය. අලෝෂා සිය කැමැත්තෙන් ම ආශ්‍රමයට අයත් ඇඳු-මෙන් සැරසී සිටියේ ආශ්‍රමයේ වෙසෙන පූජකයන් හා තමා අතරේ වෙනසක් නො පෙනෙන ලෙසට ය. අලෝෂා ගේ තුරුණු හදවත සොසිමා තවුසා ගේ කීර්තියෙන් හා බලමහිමයෙන් සසල වූවාට සැකයක් නැත. හවුරුදු බොහෝ ගණනක සිට මහ ජනයා මෙතුමා වෙත පැමිණ, කරන ලද පව් පවසා අවවාදානු-ශාසනා ලබා ගත්තා පමණක් නොව ලෙඩරෝගවලට බෙහෙත් ද අසා ගත් හ. එ හෙයින් අමුත්තකු ගේ මුහුණ බලා ඔහුට අවශ්‍ය කුමක් ද, ඔහු ගේ සිතේ පවතින රෝගය කුමක් දැ යි එතුමානට කිව හැකි විය. අසපුවට පැමිණෙන අමුත්තන් ඔවුන් ගේ ලෙඩ දුක් පැවසීමට පෙර තවුසා ඔවුන් ගේ සිත් තුළ පැවැති රහස් හා ලෙඩ දුක් හෙළි කොට ඇතැම් විට ඔවුන් තුළ විස්මය පමණක් නොව භීතිය ද ඇති කෙළේ ය.

පළමු වරට සොසිමා තවුසා වෙත, බියෙන්, සැකයෙන් හා නොසන්සුන්කමින් යන බැතිමතුන් සියලු දෙනා ම වාගේ ප්‍රීතියෙන් ආලෝක වූ මුහුණින් යුතුව ආපසු පැමිණෙන බව-අලෝෂා දැක තිබේ. තවුසා කෙරෙහි කිසි ම තද පරුෂ ගති-යක් නොතිබීම ගැන අලෝෂා වෙසෙසින් ම පුදුම විය. එතුමා නිතර ප්‍රීතිගෙන් සිටියේ ය. තවුසා වැඩි සැලකිල්ලක් දක්වන්නේ පව්කාරයන්ට බව ආශ්‍රමයේ වැඩ වෙසෙන අනෙක් පූජකවරු පැවැ-සූ හ. කිසියම් තැනැත්තෙක් යම් තරමක් පාපයෙහි යෙදුණේ ද,

ඒ තරමට ම සොසිමා තවුසා ඒ තැනැත්තාට ආදරය කෙළේ ය. එතුමා ට ඊර්ෂ්‍යා කළ එතු මා සමග වෙර බැඳගත් පූජකයෝ ද වූ හ. සුළු පිරිසක් වූ බැවින් ඔවුහු නිහඬ වූහ. ඒ පීක දෙනා අතරේ තාපසාරාමයේ වැසි උසස් පූජකයෝ ද වූහ. නියම ලෙස උපවාසයෙහි යෙදී නිශ්ශබ්දතාව නැමැති සීලය රැකීම නිසා ප්‍රසිද්ධ වූ මහලු පූජකයෙක් ද සොසිමා තවුසා සමග වෙර බැඳ සිටියේ ය. එහෙත් වැඩි දෙනකු සොසිමා තවුසාට පක්ෂවූ අතර ඉන් සමහරෙක් එතුමාට අවංකව ප්‍රේම කළහ. සොසිමා තවුසා සාන්තුවරයෙක් සයි රහසින් කිවේ එතුමන් කෙරෙහි උමතු භක්තියෙන් බැඳී සිටි පූජක පිරිසකි. ඒ ගැන සැක කළ යුතු නො වේ සයි පැවසූ මේ පිරිස එතුමා ගේ අවසානය ළඟා වී තිබෙන බව දැක ආශ්‍රමයේ අනාගත දියුණුව සඳහා එතුමා ගේ ශාරීරික ධාතූන් ගෙන් හාස්කම් බලාපොරොත්තු වූහ. දේවස්ථානයෙන් පිටත ඉගිලී ගිය මිනීපෙට්ටිය පිළිබඳ කතා පුවත යම් සේ අලෝෂා විශ්වාස කළේ ද එමෙන් ම සොසිමා තවුසාට හාස්කම් දක්විය හැකි බව ද දැඩිව විශ්වාස කෙළේ ය. බොහෝ දෙනා නොයෙක් රෝදුකින් පෙළෙන දරුවන් හා නෑයන් කැටුව පැමිණ ඔවුන් ගේ ශරීර මත අත තබා යාච්ඤා කරන ලෙස තවුසා ගෙන් අයැ ද සිටියෝ ය. ඔවුන් ආයෙත් ටික දිනකින් හෝ පසු දින හෝ ආපසු පැමිණ දෑසේ කඳුළු ඇති ව තවුසා ගේ දෙපා ළඟ දණින් වැටී රෝදුකින් පෙළෙනවුන් ගේ ඒ රෝදුක් නැති කිරීම ගැන ස්තුති කරන සැටි අලෝෂා දැක තිබේ.

ඒ රෝගීහු තවුසා විසින් සුව කරනු ලැබුවෝ ද, නැතිනම් සවාභාවික ලෙස සුවය ලැබුවෝ ද? යන ප්‍රශ්නය කිසිම කලෙක අලෝෂා ගේ සිතේ ඇති නො වී ය. සිය ගුරුතුමන් ගේ ආධ්‍යාත්මික බලය ගැන සම්පූර්ණයෙන් ම විශ්වාස කළ තරුණයා එතුමා ගේ කීර්තිය හා තේජස ගැන ප්‍රීති වූයේ තමා ගේ කීර්තිය හා තේජස ගැන ප්‍රීතිවන්නාක් මෙනි. තවුසාණන් දැක එතුමා ගේ ආශිංසනය ලබා ගැනීම පිණිස රුසියාවේ නොයෙක් දෙසින් පැමිණ තපෝවනයේ ගේට්ටුව ළඟ රැස් කකා සිටි දුප්පතුන් වෙත තවුසා යන විට අලෝෂා ගේ හදවත වෙවුලන අතර මුහුණ ප්‍රීතියෙන් බැබලෙයි. බැතිමත්හු තවුසා ළඟ බිම වැටී සොම්නසින් ඇඬූ හ. එතුමා ගේ දෙපා පමණක් නොව පා පහස ලැබූ තැන් ද සිම්බෝ ය. ඒ අතරේ ගැහැනු එතුමා වෙතට දරුවන් දිගු කළහ. ‘ යක්ෂාවේසවූවෝ ’ එතුමා වෙතට ගෙන යනු ලැබූහ. එතුමෝ ඔවුන් පිය බසින් සනසා කෙටි යාච්ඤාවක් කොට ආශිංසනය කොට යන්නට අවසර දුන්හ. මෑතක සිට එතුමා රෝගයෙන් කො තරම් දුබල වී සිටියේ ද කියතොත්

අසපුවෙන් පිටත යාගත නොහැකි විය. බැතිමත්හු එතුමා ගේ පැමිණීම බලාපොරොත්තු ව දින ගණන් උන්හ. මේ බැතිමතුන් එතුමාට මෙ තරම් මහත් ආදරයක් දක්වන්නේ මන් ද ? එතුමා ළඟ බිම වැටී එතුමා ගේ මුහුණ දකීමෙන් පමණක් හටගත් හැඟීමෙන් ඇඩීම ගැන අලෝෂා පුදුම නො වී ය. බැලමෙහෙ කිරීමෙන්ද, දහදුක් විඳීමෙන් ද, නිරතුරුව සිදුවන අයුක්තියෙන් ද තමා ගෙන් හා ලෝකයා ගෙන් සිදුවන පාපයෙන් ද දිරා ගිය රුසියන් ගැමි ජනයා ගේ අසරණ ආත්මයට, බිම වැටී වැඳ යාච්ඤා කිරීමට ශුද්ධ වූ දෙයක් හෝ කෙනෙක් හෝ සොයා ගත හැකි නම් එය උසස් ම සැනසීමක් බව අලෝෂා දැන සිටියේ ය.

"අපි නිතර අකුසල් කරන්නෙමු. අප අතර අයුක්තිය මිස යුක්තියක් නැත. අපි නොයෙක් ආසාවන් ගෙන් පෙළඹෙන්-නෙමු. එහෙත් මේ ලෝකේ කිසියම් තැනක කෙලෙස් නැසූ ශුද්ධවූ උතුමෙක් සිටියි. එතුමා සත්‍යය අවබෝධ කොට ඇත්-තේ ය. සත්‍යය මෙලොවින් තුරන් වී නැත. එ හෙයින් අපට ද කවරදා හෝ සත්‍යය අවබෝධ කර ගත හැකි ය. ඒ සත්‍යය අනුව මෙලොව පාලනය වන්නේ ය."

මහා ජනයා මෙය විශ්වාස කරන බවත් මේ අනුව කල්-පනා කරන බවත් අලෝෂා දැන සිටියේ ය. සොසිමා තවුසා ළඟ දණින් වැටී අඬමින් දෙඩමින් එතුමාට රෝගීන් හා දරුවන් කැප කරන ගැමියන් මෙන් අලෝෂා ද, දෙවියන් වහන්සේ ගේ සත්‍යය ආරක්ෂා කිරීමට මෙලොව පහළ වූ සාන්තුවරයා සොසිමා තවුසා යයි විශ්වාස කෙළේ ය. ඒ ගැන ඔහු තුළ කිසි ම සැක-යක් නැත. මරණින් පසු තවුසා ආශ්‍රමයට මහත් කීර්තියක් ගෙනෙන්නේ ය යන විශ්වාසය අන් කිසිවකුට වඩා අලෝෂා තුළ තදින් බල පැවැත්වී ය. මෑතක සිට ඔහු ගේ හද පතුලේ පැවැති කිසියම් ප්‍රමෝදයක ගිනි සිළුවක් දැල්වෙන්නට වී ය.

"කෙසේ වෙතත් මෙ තුමා පවිත්‍ර වූ උතුමෙකි. ලෝක සත්ත්වයා ගේ ජීවිත වාසනාවත් කිරීමේ රහස, මේ මිහිපිට සත්‍යය රජ කරවීමේ බලය මෙ තුමා ගේ හදපත්ලේ පවතියි. එවිට හැම මනුෂ්‍යයෙක් ම කෙලෙස් නැසූ තැනැත්තෙක් වෙයි. එකිනෙකාට මෛත්‍රිය කරයි. එවිට මෙලොව දුප්පත් පොහොසත් බේදයක් ඇති නො වෙයි. උස් පහත් බේදයක් ඇති නො වෙයි. හැම දෙනා ම දෙවියන් වහන්සේ ගේ දරුවෝ වෙති. එවිට ක්‍රිසතුස් වහන්සේ දේශනා කළ නියම ස්වගීරාජ්‍යය මෙලොවට පැමිණෙනු ඇත." අලෝෂා ගේ සිතේ පැවතුණේ මෙ වැනි සිහිනයකි.

මෙතෙක් කල් නො දුක සිටි තම සොහොයුරන් දෙදෙනා ගේ පැමිණීම අලෝෂා ගේ සිතේ තදින් බල පැවැත්වී ය. එක්කුසේ උපන් ඉවාන්ට වඩා ඉක්මනින් අලෝෂා මීතියා සමග මිත්‍ර විය.

(මීතියා ගමට පැමිණියේ ඉවාන් පැමිණීමෙන් පසුව ය.) අලෝෂා ඉවාන් කෙරෙහි මහත් සැලකිල්ලක් දක්වී ය. ඉවාන් ගමට පැමිණ දෙ මසක් ගත විය. අලෝෂා නිතර ඉවාන් මුණ ගැසී ඇතත් තවම දෙදෙනා අතරේ මිත්‍රකමක් ඇති නොවී ය. අලෝෂා සවභාවයෙන් ම තුෂ්ණීම්භූතව සිටින්නෙකි. ඔහු නිතර කිසියම් දෙයක් බලාපොරොත්තුව සිටින්නාක් මෙන් පෙනේ. ඒ අතරේ ඉවාන් තමා දෙස නිතර කුතුහලයෙන් බලනවා අලෝෂා දක ඇත. එහෙත් ඉවාන් ඉක්මනින් ම අලෝෂා ගැන අමතක කළේ ය. සොහොයුරා තුළ ඇති වූ වෙනස දුටු අලෝෂා ගේ සිත අවුල් විය. ඉවාන් තමා ගැන වැඩි සැලකිල්ලක් හා අනුකම්පාවක් නොදක්වන්නේ තමන් අතරේ වයසෙහි හා උගත්කමේ ඇති පරතරය නිසා යයි අලෝෂා කල්පනා කෙළේ ය. නැති නම් තමා නොදන්නා කිසියම් හේතුවක් නිසා විය යුතු ය. ඉවාන් සිතේ පැවැති ඉතා වැදගත් කරුණක් ගැන නිරත වනවා විය හැකි ය. සමහර විට කිසියම් දුෂ්කර පරමාර්ථයක් මුදුන් පමුණුවා ගැනීමට වෙහෙසෙනවා විය හැකි ය. සොහොයුරා තමා ගැන වැඩි සැලකිල්ලක් නොදක්වන්නේ මේ කරුණු නිසා යයි අලෝෂා කල්පනා කෙළේ ය. දෙවියන් කෙරෙහි විශ්වාසයක් නැති උගතකු වූ තම සොහොයුරා, තමා වැනි මෝඩ ආධුනික පූජකයකු පහත් කොට සලකනවා විය හැකියයි අලෝෂා සැක කෙළේ ය. ඉවාන්, දෙවියන් ගැන විශ්වාස නොකරන්නකු බව අලෝෂා නිසැකවම දනියි. ඉවාන් දෙවියන් කෙරෙහි විශ්වාසයක් නොතබන්නේ නම් ඒ ගැන ඔහුට දොස් කිව නො හැකි ය. තමාට කිසිසේත් තේරුම් ගත නොහැකි නොසන්සුන්කමකින් යුතුව අලෝෂා බලා සිටියේ සොහොයුරා තමා සමීපයට පැමිණෙනතෙක් ය. මීතියා, ඉවාන් ගැන සඳහන් කළේ ගෞරවයත් සමග එක් වූ අමුතු උනන්දුවකින් යුතුව ය. මීතියා හා ඉවාන් අතරේ ඇති වූ අපූර්ව සබඳකමට තුඩුදුන් වැදගත් කරුණු සියල්ලක් ම අලෝෂා දැනගත්තේ මීතියාගෙනි. ඉවාන්ට සම කරන විට මීතියා නූගතෙකි. චරිත-යෙන් හා ගතිගුණ අතින් දෙදෙනා අහසට පොළොව වැන්න. මීතියා, ඉවාන් ගැන ළැදිකමින් යුතුව කී ද අලෝෂා ගේ සිත් ගත්තේ මෙ වැනි අසමාන ගති පැවැතුම් ඇති මිනිසුන් දෙදෙනකු සොයා ගත නොහැකි බැවිනි.

අසමාන වූ අසමඟි වූ කරමසෝ පවුලේ අය, අලෝෂා කෙරෙහි අපූර්ව බලපැවැත්මක් ඇති ව සිටි සොසිමා තවුසා ගේ කුටියේ රැස් වූයේ මේ කාලයේ දී ය. මේ රැස්වීමට පිටුදුන් හේතුව අසත්‍යයකි. මීතියා හා ඔහු ගේ පියා අතරේ පැවැති අසමඟිය උග්‍ර අවස්ථාවකට පැමිණියේ මේ කාලයේ දී ය. සොසිමා තවුසා ගේ

සාන්ත වූ අනුග්‍රහය සටතේ ශිෂ්ටක්‍රමයකට සමගියක් ඇති කරගත හැකි වන බැවින්, එතුමාට කෙළින් ම ඒ බව නො කියා එතුමා ගේ අසපුවේ දී පවුලේ පියපුතුන් හැම දෙනා ම රැස් විය යුතු ය යන අදහස සමහර විට කවටකමට මෙන් පළමු වරට ඉදිරිපත් කරන්නට ඇත්තේ කරමසෝ විය යුතු ය. මීට පෙර සොසිමා තවුසා දක නැති මීතියා, පියා තමා බිය ගන්වන්නට තැත් කරන්නේ යයි නිතැතින් ම කල්පනා කෙළේ ය. මැත දී තමා පියා සමග කලහ කරගත්තේ තමා ගේ මැඩ ගත නොහැකි කෝපය නිසා යයි කල්පනා කොට තමාට ම රහසින් දෙස් පවරා ගත් මීතියා අන්තිමේදී පියා ගේ යෝජනාවට කැමැති විය. ඉවාන් මෙන් මීතියා පියා සමග එක ගෙයි වාසය නොකළ බවත්, නගරයේ අනෙක් කෙළවර වෙන ම ගෙයක වාසය කළ බවත් අප මෙහි දී සඳහන් කළ යුතු ය. මේ කාලයේ දී ගමට පැමිණ සිටි මියුසෝව් මහතා ද මේ අදහසට වහා කැමැති විය. ලොව මැවූ දෙවියකු ගැන විශ්වාස නොකරන නිදහස් චින්තකයකු වූ ඔහු මේ අදහසට කැමැති වූයේ අලසව සිටි නිසා හෝ නිස්සාර විනෝදයක් බලාපොරොත්තු වූ නිසා හෝ විය යුතු ය. ආශ්‍රමයත් එහි වෙසෙන ශුද්ධ වූ තවුසාත් දක ගැනීමට ඔහු තුළ හදිසියෙන් ම දැඩි ආශාවක් ඇති විය. ඔහු විසින් ආශ්‍රමයට විරුද්ධව පවරන ලද නඩුව තවමත් අවසන් වී නැත. එ හෙයින් ආශ්‍රමයේ නායක පියතුමා හමු වී සාමදානයකට පැමිණීමට කුලවතා මේ ගමන ව්‍යාජ හේතුවක් කර ගත්තේ ය. ආශ්‍රමය දක බලා ගැනීමේ කුතුහලයෙන් පැමිණෙන අමුත්තාට වඩා මෙ වැනි පැසසිය යුතු අදහසින් පැමිණෙන අමුත්තා වැඩි සැලකිල්ලක් දක්වා පිළිගන්නට පිළිවන. නිතර පැමිණෙන වන්දනාකාරයන් පවා හමුවීමට නොගොස් ගිලන් ව කුටියට වී සිටින සොසිමා තවුසාට පියෝදර් පවුලොවිච් කරමසෝ ගේ පවුලේ ඇත්තන් පිළිගන්නා ලෙස ආශ්‍රමයේ වෙසෙන අනෙක් පූජකයන් විසින් බල කරන ලදි. අන්තිමේ දී මේ සම්භාවනීය අමුත්තන් පිළිගැනීමට සොසිමා තවුසා කැමැත්ත පළ කළ පසු, ඒ සඳහා සුදුසු දිනයක් හා වේලාවක් නියම කර ගන්නා ලදි.

"ඔවුන් ගැන විනිශ්චය කිරීමට මා විනිශ්චයකාරයකු ලෙස පත්කළේ කවරෙක්ද?"යි තවුසා සිනා මුසු මුහුණින් යුතුව අලෝෂා ගෙන් විමසුවේ ය. එතුමා කීවේ එපමණයි.

මේ රැස්වීම ගැන සැළ වූ විට අලෝෂා නොසන්සුන් විය. නිතර දබර කරගන්නා කලහකාරි පිරිස අතරින් මේ රැස් වීම වැදගත් කොට සැලකුවේ මීතියා පමණි. අනෙක් අය

නිස්සාර වූ අදහසින් යුතුව, ඇතැම් විට සොසිමා තවුසාට අපහාස කිරීමේ අදහසින් ආශ්‍රමයට පැමිණීමට අදහස් කරන්නට ඇත. අලෝෂා එය මැනවින් දැන සිටියේ ය. ඉවාන් හා මියුසෝ මහතා ආශ්‍රමයට යාමට අදහස් කළේ සිතේ පැවැති කුහුල–ඇතැම් විට දුෂ්ට කුහුල සනසා ගැනීමට විය යුතු ය. පියෝදර් කරමසෝ ආශ්‍රමයට ගොස් සුපුරුදු නෙයියාඩමක් නටන්නට සැරසෙනවා විය හැකි ය. අලෝෂා මේ රැස්වීම ගැන කිසිවක් නො කියා නිහඬ වුවත් පියා ගේ ගතිගුණ මැනවින් දැන සිටියේ ය. කවුරුනුත් සිතා සිටිය තරමේ අහිංසකයෙක් නො වේ අලෝෂා. ඔහු, රැස්වීමට නියම කරගත් දවස පැමිණෙන තෙක් බලා සිටියේ ශෝකයෙන් යුතුව ය. සොහොයුරන් දෙදෙනා හා පියා අතරේ පැවැති අසමගිය කෙසේ සමථයකට පත්කළ යුතු දැයි අලෝෂා නිතර කල්පනා කළාට කිසි ම සැකයක් නැත. එහෙත් ඔහු ගේ සිත් තැවුලට ප්‍රධාන හේතුව වූයේ සොසිමා තවුසා ය. මේ රැස්වීමෙන් එතුමා ගේ කීර්තියට පළුද්දක් වේ ය, එතුමාට නින්දාවක් වේ ය සිතා අලෝෂා තැති ගත්තේ ය. විශේෂයෙන් ම මියුසෝ මහතා ගේ ශිෂ්ට ඇනුම්පදවලින් හා අති පණ්ඩිතයකු වන ඉවාන් ගේ අනුන් හෙළාදකින කතාවෙන් තවුසාට අපහාසයක් වේයයි අලෝෂා කල්පනා කෙළේ ය. මේ පිරිස ගැන සැබෑ තතු කල් තියා සොසිමා තවුසාට දැනුම් දීමට අලෝෂා අදහස් කළ මුත් ආයෙත් ඒ අදහස අත්හැර දැම්මේ ය. ඔහු කළ එක ම දෙය, මේ රැස්වීමට දවසකට පෙර මීතියාට මිත්‍රයකු අත, තමා ඔහුට ආදරකරන බවත්, පොරොන්දු වූ සැටියට කටයුතු කරන බවට තමා බලාපොරොත්තු වන බවත් දන්වා පණිවිඩයක් යැවීම ය. මලණුවන් ගේ පණිවිඩය අසා මීතියා පුදුම වූයේ ඔහුට එ වැනි පොරොන්දුවක් ගැන කල්පනාවක් නොතිබුණ හෙයිනි. එහෙත් සොසිමා තවුසා ඉදිරියේ තමා ගේ කෝපය මැඩ ගෙන සිටීමට හැකි තරම් වෑයම් කරන බවත්, තවුසාට හා ඉවාන්ට තමා තුළ මහත් ගෞරවයක් ඇතත් මේ රැස්වීම තමා අසුකර ගැනීමට අටවන ලද උගුලක් නැති නම් තත්ත්වයට නොගැළපෙන උපායක් ලෙස සලකන බවත් මීතියා අලෝෂාට ලියා දැන්වූයේ ය.

"නුඹ ඉතා උතුම් කොට සලකන සාන්තුවරයකු වැනි මේ තවුසාට අපහාස කරනවාට වඩා දිව ඇද කන එක හොඳ ය"යි මීතියා ලියුම අවසන් කරමින් කීය. අලෝෂා සොහොයුරා ගේ ලියුම ගැන එ තරම් සතුටු නොවී ය.

## දෙ වන ග්‍රන්ථය

# අවාසනාවන්ත රැස්වීම

### පස් වන පරිච්ඡේදය

### ආශ්‍රමයේ රැස්වීම

එය අගෝස්තු මාසයේ අවසාන කාලයට අයත් විසිතුරු උණුසුම් දිනයකි. පියෝදර් කරමසෝව් ඇතුළු පිරිස විසින් අන්තිම පූජාව අවසන් වූ වහා ම, එනම් දවල් එකොළහමාරට පමණ සොසිමා තවුසා හමුවීමට නියම කරගන්නා ලදී. එහෙත් ඔවුහු පූජාවට සහභාගි නො වූහ. ඔවුන් ආශ්‍රමයට පැමිණියේ පූජාව අවසන් වන වේලාවට ය. වටිනා අසුන් දෙදෙනකු යෙදූ අලංකාර රථයකින් පීටර් මියුසෝව් ඔහු ගේ දුර නෑයකු වන පීටර් කල්ගානෝව් නැමැති විසි හැවිරිදි තරුණයා සමග පළමු ව ආශ්‍රමයට පැමිණියේ ය. පීටර් මියුසෝව් ගේ නිවෙසේ නතර වී සිටින මේ තරුණයා උසස් උගැන්මක් සඳහා සරසවියකට ඇතුළුවීමට සූදානම් වෙයි. පිට රට ගොස් සූරිච්යේ හෝ ජීනාවේ තිබෙන සරසවියකට ඇතුළුවන ලෙස මියුසෝව් තරුණයාට අවවාද කෙළේය. එහෙත් කුමන සරසවියකට යා යුතු දැ යි තරුණයා තව ම තීරණයකට බැස නැත. කල්පනාකාරී තැනැත්තකු වූ මේ තරුණයා ගේ ස්මරණශක්තිය ඉතා දුර්වල ය. හේ දකුම් කලු ය. තරමක් උස ය. නීරෝගී ය. ශක්තිමත් ය. ඇතැම් විට ඔහු ගේ දෑසේ අපූර්ව ස්ථිර ගතියක් දාවතියි. සිහි මඳ තැනැත්තකු මෙන් හේ ඇතැම් විට යම් කිසිවකු දෙස ඇසිපිය නො සොල්වා බලා සිටියි. එහෙත් ඔහුට ඒ තැනැත්තා නො පෙනෙයි. වඩා කතා නො කරන හෙතෙම ඇතැම් විට නුසුදුසු ලෙස හැසිරෙයි. තවෙකකු සමග තනියෙන් සිටින විට කෙලවරක් නැති ව කතා කරයි. හැම දෙයක් ගැන ම සිනාසෙයි. එහෙත් ඒ ප්‍රාණවත් ගතිය ආයෙත් වහා නැති වෙයි. හොඳට ඇඳුම් පැළඳුම් කරන හෙතෙම පෞද්ගලික ධනයට හිමිකම් ඇත්තෙකි. ඒ අතරේ ඔහුට තවත් ධනය බලාපොරොත්තු විය හැකි ය. මේ තරුණයා අලෝෂා ගේ මිත්‍රයෙකි.

දුඹුරු පැහැති කළු අසුන් දෙදෙනකු යෙදූ පරණ, එහෙත් විශාල කුලී කරත්තයකින් පියෝද්ර් කරමසෝ ඉවාන් සමග පැමිණියේ මියුසෝ පැමිණ බොහෝ වේලාවකට පසුව ය. තාවුසා හමුවීමට ගිවිසගත් වේලාව පෙර දින සවස දන්වනු ලැබුවත් මිතියා පැමිණීමට පමා විය. ආශ්‍රමභූමිසීමාවෙන් පිටත පිහිටි හෝටලය ලඟ කරත්තවලින් බට ඔවුහු ආශ්‍රමයේ ගේට්ටුව දක්වා පයින් ගමන් කළ හ. පියෝදර් කරමසෝ හැර පිරිසේ වෙන කිසිවෙක් මීට පෙර ආශ්‍රමය දැක නැත. පීටර් මියුසෝ හවුරුදු තිහකින් මෙපිට දේවස්ථානයකට පය තබා නැත. ඔහු මහත් කුතුලින් වටපිට බැලුවේ ආරූඪ කරගත් සන්සුන්කමක් දක්වමිනි. සාමාන්‍ය ගොඩනැගිලි ලෙස සැලකිය හැකි දේවස්ථානය හා ලැගුම්හල් හැර ආශ්‍රමභූමියේ පිහිටි කිසිවක් ඔහුට වැදගත් නො වී ය. ඔවුන් පැමිණෙන විට පූජාව අවසන් වී, පූජාවට සහභාගි වූ බැතිමත්හු පපුව මත කුරුසය ඇඳගනිමින් දේවස්ථාන යෙන් එළියට එමින් සිටිය හ. පූජාවට පැමිණි අය අතරේ ගැමි-යෝ ද රදළයෝද කීප දෙනෙක් ද කාන්තාවෝ දෙතුන් දෙනෙක් හා මහලු සෙන්පතියෙක් ද වූහ. මේ හැම දෙනා ම නතර වී සිටියේ හෝටලයෙහි ය. අපේ පිරිස හිඟන්නන් විසින් වහා වට කර ගන්නා ලදි. කල්ගානෝ හැර කිසිවෙක් හිඟමන් නො දුන්හ. පසුම්බියෙන් කොපෙක් දහයක් ගත් හෙතෙම නොසන්සුන් කමක් දක්වා (දෙයියෝ දනිත් මන්ද කියා) වහා මහලු හිඟන්-නියකට දී "උඹලා අතර බෙදා ගනිල්ලා" යි කී ය. මේ හිඟමන් දීම ගැන කිසිවෙක් කිසිවක් නො කීය.

ආශ්‍රමයේ කිසිවකු මේ සම්භාවනීය අමුත්තන් ගේ පැමිණීම බලාපොරොත්තු වූ බවක් නො පෙනේ. විශේෂ හරසර දක්වා ඔවුන් නොපිළිගැනීම පුදුමයට කරුණකි. මේ පිරිසෙන් එකකු මෑත දී ආශ්‍රමයට රුබල් දහසක් පරිත්‍යාග කර ඇත. තවෙකෙක් බොහෝ උගත් ධනවත් ඉඩම් හිමියෙකි. ඔහු හා ආශ්‍රමය අතරේ නඩුවක් පවතියි. ඒ නඩුවේ ප්‍රතිඵලයක් වශයෙන් ගඟින් මසුන් ඇල්ලීමේ අයිතිය කොයි මොහොතේ දී හෝ ආශ්‍රමයට අහිමි වන්නට පිළිවන. එක් අතකින් බලන විට ආශ්‍රමයේ වැසි හැම දෙනා ම ඔහුගෙන් නඩත්තු වෙති. එහෙත් ආශ්‍රමයේ නිල ලත් කිසිවකු ඔහු පිළිගැනීමට ඉදිරිපත් වූ බවක් නො පෙනේ.

දේවස්ථානය අවට පිහිටි මිනී වළවල් දෙස නොකල්පනාවෙන් බැලූ මියුසෝ මේ 'ශුද්ධ වූ ස්ථානයේ' සැතපී සිටින මළවුන්ට වළ ලබා ගැනීම සඳහා මළගිය අය ගේ නෑයන් සෑහෙන මුදලක් ගෙවන්නට ඇතැයි කීමට සැරසුණ මුත් නතර විය. ඔහු ගේ ඒ නොමසුරු ඇනුම්පදය වහා කෝපයකට පෙරළිණි.

"මේ කාලකණ්ණි තැනට පැමිණි අප කතා කරන්නේ කොයි යකාට ද? කාට කතා කරන්න ද? කියා ඉක්මනට සොයා බලමු. නැති නම් බොහො ම පමා වෙනවා "යි ඔහු හදිසියෙන් ම කීවේ තමාට ම කතා කරගන්නාක් මෙනි.

ඒ අතරේ ග්‍රීෂ්මකාලයේ දී අඳින කබායක් ඇඳගත් බයාදුකම දක්වන කුඩා නෙතින් හා මුඩු වූ හිසින් යුත් මහලු මිනිහෙක් ඔවුන් වෙත පැමිණියේ ය. හිස්වැස්ම අතට ගෙන, තමා ටියුලාවේ සිට පැමිණි ඉඩම් හිමියකු බවත්, තමා ගේ නම මැක්සිමෝ බවත් මිහිරි හඬින් පැවසූ හෙතෙම අපේ පිරිසට උපකාර වීම පිණිස ඉදිරිපත් වී ය.

"සොසිමා තවුසා සිටින්නේ ආශ්‍රමයේ සිට අඩි හාරසියක් පමණ ඈතින්, කැලෙන් එහා පැත්තේ තියෙන අසපුවෙයි" හෙතෙම කී ය. "අසපුව කැලෙන් එහා පැත්තේ තියෙන බව අප දන්නවා "යි කරමසෝ කී ය. "නමුත් එ තැනට යන පාර දන්නේ නැහැ. අප ආශ්‍රමයට පැමිණියේ බොහො ම කාලයකට පසුව යි."

"ගේට්ටුවෙන් ඇතුළු වී කැලේ මැදින් වැටී ඇති අඩිපාර දිගේ ගියාම හරි. එන්න මා සමග යන්න. මා යන්නෙත් අසපුවටයි."

ගේට්ටුවෙන් ඇතුළු වූ පිරිස වනළැහැබ දෙසට හැරුණාහ. හවුරුදු හැටක් පමණ වයසැති මැක්සිමෝ ගමන් කරනවා වෙනුවට දුවන්නට විය. මෙ සේ දිව යන හෙතෙම වරින්වර ආපසු හැරී පිරිස දෙස කුහුලින් බැලුවේ ය. ඔහු ගේ ඇස් එළියට එන්නාක් මෙන් පෙනේ.

"අප පෞද්ගලික කටයුත්තක් සඳහා සොසිමා තවුසා හමුවෙන්න ආවා" යි මියුසෝ, මැක්සිමෝට රළු ගතියක් දක්-වමින් කී ය. "එතුමා හමුවීමට අපට එතුමා ගෙන් ම අවසර ලැබී තියෙනවා. අපට පාර පෙන්නනවාට බොහො ම සතුතියි. නමුත් අප සමග එතුමා ළඟට යන්න තුඹට ඉඩ දෙන්න බැහැ."

"මා මීට ඉස්සෙල්ලා මෙ තැනට ඇවිත් තියෙනවා. මා වංශාධිපතිතුමා හමු වී තියෙනවා"යි මැක්සිමෝ කී ය.

"මොන වංශාධිපතියා ද?" මියුසෝ විමසුවේ ය.

"මෙම ආශ්‍රමයට මහත් ගෞරවයක් වූ කීර්තියක් වූ සොසිමා පියතුමා. එ තරම් උත්තමයෙක් තවත් කොයින් ද?"

එහෙත් පූජකයකු ගේ හිස්වැස්මක් පැළඳගත්, ගිලන් වූවකු මෙන් සුදුමැලි පෙනුමෙන් යුත් පූජකයකු ගේ පැමිණීම ඔවුන් ගේ මේ ආකූල වූ කතාවට බාධාවක් විය. පූජකයා දුටු විගස කරමසෝ සහ මියුසෝ නතර වූ හ.

"සොසිමා තවුසා හමුවූ පසු දවල් කෑමට පැමිණෙන ලෙස නායක පියතුමා මේ මහතුන් හැම දෙනාට ම ආරාධනා කළා. දවල් එකට පෙර පැමිණිය යුතුයි." මෙ සේ පැවසූ පූජකයා අනතුරුව මැක්සිමෝ දෙසට හැරී "ඔබටත් නායක පියතුමා ආරාධනා කළා"යි කීය.

"බොහො ම සතුතියි" යි කරමසෝ කීවේ මහත් සතුටින් ඇරියුම පිළිගනිමිනි. "මම බොහො ම සන්තෝසයි එන්න. එහි දී අප බොහො ම හොඳට හැසිරෙන බවට මම පොරොන්දු වෙන්නම් ..............මියුසෝ නුඹත් ආරාධනාව පිළිගෙන යනව ද ?"

"ඔව්, මම ආරාධනාව පිළිගන්නවා. මා පැමිණියේ මේ ආශ්‍රමයේ සිරිත් විරිත් ගැන දැනුමක් ලබා ගැනීමට මිස වෙන දෙයකට නො වෙයි. තියෙන බාධාව නුඹේ පැමිණීම පමණයි.'

"මිතියා තව ම ඇවිදින් නැතිව වගෙයි.........."

"මිතියා නො එන්වා නම් බොහො ම හොඳයි. නුඹ හිතන-ව ද නුඹ එක්ක මා මේ කටයුත්ත කරන්නේ කැමැත්තකින් ය කියා ?" මෙසේ කරමසෝට පැවසූ මියුසෝ අනතුරුව පූජකයා දෙසට හැරී "බොහො ම හොඳයි. නායක පියතුමා ගේ ආරාධ-නාව පිළිගෙන දවල් කෑමට පැමිණෙන බව කරුණාවෙන් දන්වන්න. නායක පියතුමාට බොහො ම සතුති කළ බවත් කියන්න" යි පැවසී ය.

"දැන් මේ මහත්වරුන් සොසිමා තවුසා ළඟට කැඳවා ගෙන යාම මට අයිති කටයුත්තක් " යි පූජකයා අනතුරුව කී ය.

"එහෙනම් මම දැන් ම නායක පියතුමා හමුවෙන්න යනවා"යි මැක්සිමෝ කී ය.

"නායක පියතුමා දැන් වැඩක යෙදී සිටිනවා. නමුත් මහත්මයා කැමැති නම් යන්න"යි පූජකයා මඳක් ලතවෙමින් කී ය.

"නොහික්මුණු නාකියා !"යි මියුසෝ හඬ නගා කිවේ මැක්-සිමෝ ආශ්‍රමය දෙසට ආපසු දිව යන විට ය.

"ඒ මිනිහා හරියට වොංසොං වගෙයි" කරමසෝ හදිසියෙන් ම කී ය.

"වොංසොං වගෙයි කියන්නේ කොහොම ද? නුඹ වොංසොං දැක තියෙනවා ද?"යි මියුසෝ ප්‍රශ්න කෙළේ ය.

"වොංසොං ගේ පින්තූරයක් දැක තියෙනවා. මුහුණුවරින් නො වෙයි, වෙන විදියෙන් වොංසොං ට සමානයි. නමුත් කොයි විදියෙන් ද කියා විස්තර කරන්න මා දන්නේ නැහැ. මිනිහ දෙවෙනි වොංසොංට සමානයි. ඒ බව මට මුහුණ බලා කියන්න පුළුවනි".

"ඔව්, මා දන්නවා නුඹ එ වැනි වැඩවලට බොහො ම සමර්ථ බව.........ඒක නො වෙයි. සොසිමා තවුසා ඉදිරිපිට දී හොඳට හැසිරෙන බවට නුඹ පොරොන්දු වුණා. කට රැකගෙන හොඳට හැසිරෙන්න ඕනෑ. කෝලම් නටන්න පටන් ගත්තොත් මම යනවා යන්න." මෙසේ කරමසෝට තරවටු කළ කුලවතා අනතුරුව පූජකයා අමතමින් "තමුන්නාන්සේ දන්න ව ද මේ මිනිහ ගේ හැටි? මම මිනිහා එක්ක වැදගත් කෙනෙක් ළගට යන්න බයයි" කී ය. පූජකයා ගේ ලේ සිඳුණු දෙතොල් මත සිනාවක් පහළ විය. ඒ සිනාවේ සිතේ ඇති වූ ලැජ්ජා වක ලකුණු ද නැත්තේ නො වේ. එහෙත් ඔහු කතා නොකෙළේ තම ගරුකම රැක ගැනීමට මෙනි. මියුසෝ පෙරට වඩා රවා බැලුවේ ය.

"මුන් සේරම යකාට ගිය දෙන්. මුන්ගේ තියෙන්නේ හවුරුදු ගණනක සිට ආරූඪ කරගත්ත බොරු සිල්වත්කම පමණයි. ඇතුලතින් වංචාකාරයෝ ය" යන අදහස එ වේලේ කුලවතා ගේ සිතේ පහළ වී ය.

"මෙන්න තියෙනවා තාපසාරාමය. එහෙත් ගේට්ටුව වහලා"යි පැවසූ කරමසෝ ගේට්ටුව උඩත්, දෙපැත්තෙත් පින්තාරු කර තිබෙන සාන්තුවරයන් ගේ රූප දෙස බලා කුරුසයේ ලකුණ පපුව මැද ඇඳ ගත්තේ ය.

"අප රෝමයට ගියාම රෝමවරුන් විදියට කටයුතු කරන්න ඕනෑ. මේ තාපසාරාමයේ සිටිනවා එකිනෙකා ගේ දිහා බලා ගෙන ගෝවා සුප් බිබී තවුස්දම් රකින සාන්තුවරයන්ට සමාන තාපසයන් විසිපස් දෙනෙක් .........මේ ගේට්ටුව තුළින් කවදා වත් ගැනු පරාණයක් ඇතුළු වෙන්නේ නැහැ. අන්න ඒක තමයි මේ ස්ථානයේ තියෙන වැදගත්කම, නමුත් මට ආරංචියි සොසිමා තවුසා ගැනුන්ට එන්න ඉඩ දෙනවය කියා" කරමසෝ හදිසියෙන් ම පූජකයා දෙසට හැරෙමින් කී ය.

තවුසා ගේ පැමිණීම බලාපොරොත්තුව දනුත් පෝර්ෆිකෝව් සට ගැනු කීප දෙනෙක් ඇති. කුලකාන්තාවන්ට නතර වීමට එ තැන ලීයෙන් වෙන ම කාමර දෙකක් තනා තියෙනවා. නමුත් ඒ කාමර තියෙන්නේ තාපසාරාමයේ සීමාවෙන් පිටතයි. මෙ තැන සිට බැලුවොත් කාමරවල ජනේල පේනවා. සනීපයෙන් සිටින විට තවුසා ඇතුළු ශාලයක් දිගේ මේ කාමරවලට යනවා. දන් එ තැන හොලාකෝ මැතිනිය අසනීපයෙන් සිටින ශ්‍රේණියන්දෑ සමග තවුසා පැමිණෙන තෙක් බලාගෙන ඇති. ඇගට භාකෝ පලාතේ ඉඩකඩම් බොහො ම තියෙනවා. බොහො ම දුවිල තත්ත්වයක සිටින නිසා මැතක සිට තවුසා කිසිවකු හමු නොවූ-වත් රෝගාතුරවූ අර ගැනු දරුවා හමුවීමට පොරොන්දු වෙලා ඇති.

"එහෙනම් තාපසාරාමයේ සිට ගැනු ළඟට රිංගන්න හොර පාරවල් තියෙනවා! තමුන්නාන්සේ මගේ කතාව වරදවා තේරුම් ගන්න එපා. මා කියන්නේ ඇත්තයි. තමුන්නාන්සේ දන්නවද ආතෝස් කියන පලාතේ තාපසයන් වෙසෙන ආශ්‍රම-වලට ගැනුන්ට පමණක් නො වෙයි කිකිළියන්, එළ දෙනුන් වැනි ගැනු සතුන්ට පවා ඇතුළු වෙන්න ඉඩ නොදෙන බව?"

"කට වහගෙන නොසිටියහොත් මම යනවා යන්න. මා නැති ව ගියොත් නුඹව පන්නාගනීවි" මීයුසෝ තරවටු කරමින් කී ය.

"මොනවට ද ඔය තරම් කේන්ති ගන්නේ? මා නුඹට වරදක් කළේ නැහැ" මෙසේ පැවසූ කරමසෝ තපෝවනයට පිවිස වට පිට බලා "බලනවා මේ තාපසවරුන් සිටින්නේ රෝස මල් අතර නො වේ ද?"යි කී ය.

මල් වැවීමේ සමත් තවුසන් ඉඩ ඇති හැම තැන ම හේමන්තයේ පිපෙන දුලබ මල් ජාති වවා තිබුණි. දේවස්ථානය හා සොහොන්කොත් අවට මල්පාත්තිවලින් විසිතුරු විය. සොසිමා තවුසා වෙසෙන ලීයෙන් තැනූ තනි තට්ටුවේ අසපුව වටේ ද මල් වවා තිබුණේය.

"මිය ගිය වාසනෝෆි තවුසා සිටින විටත් මෙහෙම මල් වවා තිබුණ ද? එතුමා ලස්සණ දේවල්වලට කැමැත්තක් දක්වූයේ නැහැ......... එතුමා තිටි හැටියේ ම උඩ පැන ගැනුන්ට පොල්-ලකින් ගහනවලු" කරමසෝ පඩිපෙළ නගිමින් කී ය.

"එතුමා පුදුම දේවල් කළා තමයි. නමුත් එතුමා ගැන කියන කතා වැඩි හරියක් ම බොරු. එතුමා කිසි කලක ගැනුන්ට තැළුවේ නැහැ" යි කියමින් පිළිතුරු දුන් පූජකයා අනතුරුව

මෙසේ කී ය. "කරුණාකර ටිකක් නතර වෙන්න. තමුන්නාන්සේලා පැමිණි බව මම තවුසාට දැනුම් දෙන්නම්."

"කරමසෝ හොඳට හැසිරෙන්න මතක තියා ගනින්. මං මේ කියන්නේ අන්තිම වතාවටයි. හරියට හැසුරුණේ නැති නම් මම යනවා යන්න" යි ආයෙත් කීමට මියුසෝට යන්තම් කාලය තිබිණි.

"මට තේරුම් ගන්න බැහැ තුඹ ඔය තරම් කලබල වෙන්නේ මොනවට ද කියා" යි කරමසෝ ඇනුම්පදයක් මෙන් කීය. "තුඹ කරපු පව් ගැන ඔය තරම් බය වෙන්නේ මොනවට ද? සොසිමා තවුසාට මිනිහකු ගේ මුහුණ බලා හිතේ තියෙන අදහස් කියන්න පුළුවන් බව මා අසා තියෙනවා. පැරිසියේ වාසය කළ තුඹ වැනි දියුණු අදහස් ඇති උගතකු ඔයතරම් කල්පනා කිරීම ගැන මට බොහො ම පුදුමයි."

එවේලේ අසපුවට ඇතුළුවන ලෙස හැම දෙනාට ම අවසර දෙන ලදින් තමාට එල්ල කළ මේ ඇනුම්පදයට පිළිතුරු දීමට කුලවතාට ඉඩ නො ලැබිණි. ඔහු අසපුවට ඇතුළු වූණේ සසල වූ සිතින් යුතුව ය.

"දැන් මා සිටින්නේ හොඳ සිතින් නො වෙයි. කෝපයෙන් කලහ කොට මා මගේ අදහස් හා ගරුකමට හානියක් කර ගන්නට පුළුවනි" හේ කල්පනා කෙළේ ය.

## දෙ වන පරිච්ඡේදය

## මහලු බම්මන්නා

ඔවුන් අසපුවට ඇතුළු වූණේ සොසිමා තවුසා යහන්ගැබින් නික්ම අමුත්තන් පිළිගන්නා කාමරයට පැමිණෙනවාත් සමගය. තවුසා ගේ පැමිණීම බලාපොරොත්තුව ආශ්‍රමයේ පූජකයෝ දෙදෙනෙක් ද කාමරයෙහි සිටියහ. ඉන් එකෙක් ආශ්‍රමයේ පොත් ගුල බාරව සිටියි. අනෙකා පිසසි නැමැති පූජකයෙකි. හෙතෙම මහලු නොවූවත් රෝගයෙන් පෙළෙන උගතෙක් යයි කවුරුත් කියති. කාමරයේ මුල්ලක හවුරුදු විසිදෙකක් පමණ වයසැති උස තරුණයෙක් ද රුස්වීම අවසන් වනතෙක් සිටගෙන හුන්නේ ය. ඔහු ගේ පළල් මුහුණ ඉතා ප්‍රාණවත් ය. ඔහු ගේ පරීක්ෂාකාරී තියුණු නෙත් දිග ය, දුඹුරු පාට ය, සාමාන්‍ය ඇඳුමෙන්

සැරසී සිටි හෙතෙම ආශ්‍රමයේ ආරක්‍ෂාව යටතේ වෙසෙමින් දේවධර්මය හදාරන ශිෂ්‍යයෙකි. ආත්මගෞරවය හා භක්තිය හඟවන ඔහු ගේ බැල්මේ සැක කළයුතු දෙයක් නො වී ය. ආශ්‍ර-මයෙන් නඩත්තු වෙමින් යටහත් ජීවිතයක් ගත කරන හෙතෙම එහි පැමිණි අමුත්තන් සමග සමතත්ත්වයේ නොසිටියෙන් ඔවුන්ට හිස නමා ආචාර නොකෙළේ ය.

සොසිමා තවුසා කාමරයට පැමිණියේ අලෝෂා හා ආධුනික පූජකයකු සමඟ ය. පූජකයෝ දෙදෙනා හිඳ සිටි අසුන්වලින් නැඟිට ඇඟිලි තුඩු බිම ගැවෙන තරමට පහත් වී නමස්කාර කොට අනතුරුව ආශංසනය ලබා ගැනීම පිණිස තවුසා ළඟට ගොස් අත ගෙන සිම්බෝ ය. ඔවුන්ට ආශංසනය කළ තවුසා හිස නමා පූජකයන් දෙදෙනාට පෙරළා ආචාර කොට ඔවුන් ගේ ආශංසනය ඉල්ලා සිටියේ ය. මේ ආචාර සමාචාරය හැම ද කරන සුපුරුදු චාරිත්‍රයක් මෙන් නොව මහත් භක්තියෙන් කෙරෙන්නක් බව පෙනේ. එහෙත් මේ සියල්ල අමුත්තන් ගේ සිත් ගැනීම පිණිස ඕනෑ කමින් ම කරන ලද්දේයයි හැම දෙනා-ටම ඉදිරියෙන් සිටි මියුසෝ කල්පනා කෙළේ ය. තවුසාට නමස්කාර කොට අත ගෙන නොසිම්බත් ශිෂ්ට කමක් වශයෙන් එතුමා ළඟට ගොස් එතුමා ගේ ආශංසනය ඉල්ලා සිටීමට පෙර දින සවස කුලවතා අදහස් කෙළේ ය. තවුසා ගේ ආශංසනය ඉල්ලා සිටීම ආශ්‍රමයට පැමිණි අය විසින් අනුගමනය කරන චාරිත්‍රයකි. එහෙත් පූජකයන් දෙදෙනා විසින් කරන ලද නමස්කාරය හා අත සිඹීම දුටු වහා ම මියුසෝ එක් වර ම අදහස අත්හැර දැම්-මේ ය. එහෙත් උදාර ගතියක් දක්වා තවුසාට හිස නමා ආචාර කළ කුලවතා අනතුරුව පුටුවක හිඳ ගත්තේ ය. කරමසෝ ද මියුසෝ අනුගමනය කළේ විඳුරකු මෙන් දත නියවමිනි. මහත් උදාර බවක් හා ගුණවත් බවක් හඟවා තවුසාට ආචාර කළ ඉවාන් දෑත දෙපසින් නොසෙල්ලුවේ ය. අන්දුන්කුන්දුන් වූ කල්ගානෝට තවුසාට ආචාර කිරීම පවා අමතක විය. අමු-ත්තන්ට ආශංසනය කිරීම පිණිස එසවූ දෑත යළි පහත දැමූ තවුසා ආයෙත් ඔවුන්ට හිස නමා ආචාර කොට අසුන් ගන්නා ලෙස ඉල්ලා සිටියේ ය. අලෝෂා ගේ මුහුණ ලැජ්ජාවෙන් රතු විය. ඔහු සිතූ දෙය ම සිදුවෙයි.

සමින් වසන ලද පැරණි මෝස්තරයේ මෙහොගනි සෝපාවක හිඳගත් තවුසා බිත්තිය අද්දර පෙළට තබන ලද කළු සමින් වැසූ මොහොගනි පුටු සතරක හිඳගන්නා ලෙස අමුත්තන්ට නියම කෙළේ ය. පූජකයන් දෙදෙනා ගෙන් එකෙක් දොර ළඟ ද අනෙකා කවුළුව ළඟ ද හිඳ ගති. දේවධර්මය හදාරන ශිෂ්‍යය

ආධුනික පූජකයා හා අලෝෂා සිට ගෙන සිටියෝ ය. පැරණි පෙනුමෙන් යුත් එම කාමරය එ තරම් විශාල නැත. එහි තබා තිබුණේ ඉතා අවශ්‍ය පැරණි ලාංඡ පුටු කීපයක් පමණි. කවුළු කඳ මත මල් බඳුන් දෙකක් ද කාමරයේ මුල්ලක ආගමික පින්තූර කිපයක් ද විය. කන්‍යාමරියාතුමිය ගේ විශාල පැරණි සුරුවමක් ඉදිරිපිට පහනක් දල්වෙමින් තිබිණි. ඒ අසල දිළිසෙන රාමුවක දමන ලද ආගමික පින්තූර දෙකක් ද, පියාපත් සහිත දේවදූතයකු ගේ ප්‍රතිමාවක් ද, පිගන්මැටියෙන් තැනූ බිත්තරද, කතෝලික කුරුසයක් ද, පසු ගිය සිය වසේ විසූ ඉතාලි ශිල්පින් විසින් කරන ලද කැටයම් චිත්‍ර කිපයක් ද විය. මේ වටිනා කලා කෘතීන් අසල රුසියාවේ හැම සල්පිලකින් ම ඉතා සුළු මුදලකට ගත හැකි සාන්තුවරයන් ගේ චිත්‍ර ද තබා තිබිණි. පැරණි හා අලුත් බිෂොප්වරුන් ගේ පින්තූර බිත්තියේ එල්ලා තිබුණේ ය.

සිරිත් වශයෙන් දේවස්ථානවල දකින්නට ලැබෙන මේ දෑ කෙරෙහි නොසැලකිල්ලෙන් බැලූ මියුසෝ අනතුරුව සොසිමා තවුසා දෙස සැලකිල්ලෙන් බැලුවේ ය. තමා ගේ උගත්කම ගැන ඉහළින් කල්පනා කළ මේ කුලවතා; බැලූ පමණින් කෙනෙකු ගේ හොඳ නරක කිය හැකි ශක්තියක් තමා තුළ ඇතැයි කල්පනා කෙළේ ය. ඔහු ගේ වයස හවුරුදු පනහකි. එ හෙයින් එය ඔහු ගේ දුර්වල කමක් ලෙස සලකා සමාව දිය හැකි ය. කිසියම් තත්ත්වයක් ඇති වයස් ගත වූ කෙනෙකුට තමා ගැන ඉහළින් කල්පනා නො කර සිටීම අපහසු දෙයකි. දුටු පමණින් ම හේ තවුසාට වැඩි කැමැත්තක් නො දක්වී ය. මියුසෝ තුළ පමණක් නොව වෙනත් අය තුළ වුව ද නො කැමැත්තක් ඇතිකරවන ගතියක් තවුසා ගේ මුහුණෙහි දකින්නට ඇත. එතුමා දුබල දෙපයින් යුත් කුදුගැසුණු කුඩා මිටි මිනිසෙකි. එතුමා ගේ වයස හවුරුදු හැට පහකි. එහෙත් නිතර අසනීපයෙන් සිටින නිසා ඊට වඩා හවුරුදු දහයකින් වයස වැඩියයි කිය හැකි ය. එතුමා ගේ ඉතා සිහින් මුහුණ දලකින් වැසුවාක් මෙන් රැලි වැටී තිබිණි. වඩාත් රැලි වැටී තිබුණේ පහන් දෙකක් මෙන් බැබළෙන කුඩා නෙත් අසල ය. එතුමා ගේ නළල දෙපස සුදු හිස කෙස් විසිර ගොස් තිබිණි. වඩා ගනව නොවැඩුණු උල් වූ රැවුල ඉතා කුඩා ය. නිතර රැඳුණු සිනාවෙන් බැබළෙන දෙතොල හුල්පටක් මෙන් සිහින් ය. වඩා දිග නැති නාසය කුරුල්ලකු ගේ හොටක් මෙන් නැමී උල් විය.

මේ තවුසා අහංකාර නපුරු මිනිහෙක් යයි මියුසෝ කල්පනා කෙළේය. ආශ්‍රමයට පැමිණි ගමන ගැන ඔහු තුළ සතුටක් ඇති නොවී ය.

බිත්තියේ සවි කොට තිබුණු මිල අඩු ඔරලෝසුව වහවහා දෙළහ කතිසම නාද කළේ කතාවට අවසර දෙන්නාක් මෙනි.

"අපි නියම වෙලාවට ආවා. නමුත් මගේ වැඩිමල් පුතා තවම ඇවිදින් නැහැ" යි කරමසෝ කතාවට මුල පුරමින් කී ය. "ඒ නිසා ශුද්ධ වූ පියතුමාණෙනි මගේ පුතා වෙනුවෙන් ඔබ වහන්සේගෙන් සමාව ඉල්විය යුතුයි. ('ශුද්ධ වූ පියතුමාණෙනි' යන වචන ඇසෙන විට අලෝෂා ගේ සරුවාංගය ම හිරිවැටුණේය.) නියම වෙලාවට කටයුතු කිරීම රජ්දරුවන් ගේ සිරිතක්. මාත් නියම වෙලාවට කටයුතු කරන්නේ ඒ නිසයි."

"නමුත් කොයිවිදියකින්වත් නුඹ රජකෙනෙකුට සම කරන්න බැහැ" ආත්මසංයමයෙන් තොර වූ මියුසෝව් වහා කී ය.

"මා රජ කෙනෙකු නොවන බව ඇත්තයි. මා රජකෙනෙකු නොවන බව දැනසිටීම නුඹට පුදුමයක් වන්නට පුළුවනි. ............... පේනවා නේද ? මා හැමතිස්සේ ම කියන්නේ වැරදි දෙයක්මයි. හැමතිස්සේම මගේ කට වරදිනවා. තමුන්නාන්සේ ඉදිරිපිට සිටින්නේ කවටයෙක්, නියම කවටයෙක්. අන්න ඒ විදියට මාව පිළිගන්නවා නම් මම බොහො ම කැමැතියි. කවටයකු මෙන් හැසිරීම මගේ පුරුද්දයි. නුසුදුසු තැනක දී මා පිස්සු කතාවක් කීවොත් මා එසේ කියන්නේ කිසියම් අර්ථයක් ඇතිවයි. මිනිසුන් විනෝද කිරීමේ අදහසිනුයි. අප මිනිසුන්ට බය විය යුතුයි. එහෙම නේද සවාමිනි ? මීට හවුරුදු හතකට පෙර වෙළෙඳාමක් පිණිස මම ගියා බොහො ම අපිරිසුදු කුඩා නගරයකට. එහි දී මම වෙළෙඳුන් කීප දෙනෙක් සමග මිත්‍ර වුණා. මොකක් දෝ උවමනාවක් සඳහා අපි පොලිස් කපිතන් හමුවෙන්න ගිහින් මිනිහට රාත්‍රි කෑමට ආරාධනා කළා. මිනිහා උසයි, මහතයි ලස්සණයි. ඒ වුණත් කතා නො කර බුම්මා ගෙන ඉන්න ජාතිලේ මිනිහෙක්. එහෙම බුම්මා ගෙන ඉන්නේ පිතේ වරදින් මම කාරණාකාරයකු වගේ පොලිස් කපිතන් ළඟට ගිහින් ඇහැව්වා 'මිස්ටර් ඉෂ්ප්‍රව්නික්, තමුසේ නෂ්ප්‍රව්නික් අඳුනනව ද ?' කියා, 'මොන නෂ්ප්‍රව්නික් ද ? මොනවද මිනිහෝ උඹ දොඩන්නේ ?, කියා මිනිහා මා දිහා තරහෙන් රවා බලා ඇහැව්වා. මම එකපාරට ම දැනගත්තා මගේ කට වැරදුණු බව 'නැහැ ටිකක් සන්තෝෂ වෙන්න විහිළුවක් කළා' යි මම කිව්වා නෂ්ප්‍රව්නික් කියන්නේ රුසියාවේ සිටින හොඳ ම සංගීත කාරයාටයි. අපේ මේ ගනුදෙනුව සාර්ථක කරගන්න අපට නෂ්ප්‍රව්නික් වගේ මිනිහෙක් උවමනායි. කොහොමද මගේ කතාව හොඳ නැති ද? තම දෙක හොඳට සසඳල පෙන්නුවා නේද ? 'මට

බොහොම කතගාටුයි, මම ඉෂ්ප්‍රවීනික් කෙනෙක්. නමුත් මං කැමැති නැහැ මට වෙන නම්වලින් කතා කරලා මගේ තත්ත්වයට බාල්දු කරනවට, කියා මිනිහා යන්න ගියා. 'නැහැ නැහැ තමුසේ ඉෂ්ප්‍රවීනික්, නිෂ්ප්‍රවීනික් නොවෙයි' කියමින් මම පස්සෙන් ගියා. 'උඹ මට නිෂ්ප්‍රවීනික් කියාපු නිසා මම නිෂ්ප්‍රවීනික්මයි' මිනිහා කිව්වා. ඉතින් තමුන්නාන්සේ දන්නවද මගේ මේ තේරුමක් නැති කතාවෙන් වෙච්ච දෙය? අපේ වෙළෙඳාම සම්පූර්ණයෙන් ම විනාශ වුණා. හැම තිස්සේ ම මම මේ වගේ පිස්සු වැඩ කරනවා. මගේ හැටි එහෙම තමයි. හොඳ හිත පෙන්නන්න ගිහින් මිනිසුන් තරහ කරගන්නවා. මීට අවුරුදු කීපයකට පෙර මම ලොකු මිනිහකුට කිව්වා 'තමුසේ ගේ නෝනා බොහො ම ඉක්මනට කැමැති කරවා ගන්න පුළුවනි' කියා. මා එහෙම කිව්වේ නරක අදහසකින් නො වෙයි. ඒ නෝනා බොහො ම උසස් ශිෂ්ට කාන්තාවක්. මිනිහා මගෙන් ඇහැව්වා 'මොකද උඹ මගේ නෝනාට එහෙම දෙයක් කළා ද?', කියා. මම 'ඔව්' කිව්වා. ඉතින් මොකද වුණේ? මට බඩ කට පුරා ගුටි කන්න ලැබුණා. මේක සිද්ධ වෙලා බොහො ම කල් නිසා දැන් කියන්න මා ලැජ්ජ වෙන්නේ නැහැ. හැම තිස්සේ ම මා අමාරුවේ වැටෙන්නේ මගේ කට නිසයි".

"නුඹ දැන් කරන්නෙත් එවැනි ම විකාර දෙයක්" යි මියුසෝ පිළිකුලින් කී ය.

සොසිමා තාවුසා නිහඬව මිනිසුන් දෙදෙනා දෙස පරීක්ෂාවෙන් බැලුවේ ය.

"හැබැට ම, මං දැනුත් කරන්නේ විකාර දෙයක් ද? මියුසෝ මහත්මයා දන්නවද මාත් ඒ බව දැන සිටිය බව. කතා කරන්න පටන් ගත්ත හැටියේ ම දැන ගත්තා මා මොකක් නමුත් විකාරයක් කරන්න ලැස්ති වන බව. එපමණක් නො වෙයි මා දැනගත්තා හැම දෙනාට ම ඉස්සෙල්ලා නුඹ ඔය කතාව කියන බව. විහිළුව හරිනොගිය බව දැනගත්ත හැටියේ ම මට දැනුණා මගේ කම්මුල් හක්කට තදවන බව. ඊට පසුව කම්මුල් ගැහෙන්න පටන් ගත්තා. තරුණ කාලයේ දී රක්ෂාවක් වශයෙන් මං කලේ රදළයන් විනෝද කිරීම පිණිස කෝලම් නැටීමයි. ඒ කාලයේ දී මේ වගේ ම මගේ කම්මුල් ගැහෙනවා. මං කෝලම් නටන්න උපන් මිනිහෙක්. සවාමීනි, උපන් දා සිට මගේ හැටි මෙහෙම තමයි. පිස්සුවක් වගෙයි. මා තුළ අරක්ගෙන සිටින යකකු වගෙයි. ඒ යකා එ තරම් ලොකු එකෙක් නො වෙයි. බොහො ම පොඩි යකෙක්. අඹමල්රේණුවක තරම්වත් මොළයක්

තියෙන යකෙක් නම් මං ළඟට එන්නේ නැහැ. මං ලොකු මිනිහෙක් නො වෙයි. නමුත් මම දෙවියන්වහන්සේ ගැන විශ්වාස කරනවා. මෑතක සිට දෙවියන්වහන්සේ ගැන මං තුළ සැකයක් ඇති වුණා. ඒ වුණත් මං දෙවියන් ගැන විශ්වාසය අත්හැරියේ නැහැ.......... දැන් මං සිටින්නේ තමුන්නාන්සේ ගේ ඥනවන්ත කතාව අහන්න අශාවෙන්. සවාමීනි, මං ඩිඩේරේ නැමැති දශීනිකයා වගෙයි. කැතිරින් රජින ගේ කාලයේ දී මේ පණ්ඩිතයා බිෂොප් හමුවෙන්න ගිහින් එකපාරට ම කිව්වා 'දෙවිකෙනෙක් නැහැ. කියා. එතකොට බිෂොප් ඇඟිල්ල දික්කරලා කිව්වා 'මෝඩයා දෙවියෙක් නැතැයි කීවේය' කියා. අර පණ්ඩිතයා බිෂොප් ළඟ බිම වැටිලා කිව්වා "මම දෙවියන් ගැන විශ්වාස කරමි. කරුණාකරලා මං බව්තිස්ම කරන්න" කියා. ඉතින් බිෂොප් මිනිහව බව්තිස්ම කළා, ඇපකාර මව හැටියට හිටියේ ඩෂ්කොව් කුමාරිකාවයි. ඇපකාර පියා හැටියට හිටියේ පොට්ෂයාව්කින්.

"මේක ඉවසත්ත පුළුවන් දෙයක් නො වෙයි. තුඹ හැම තිස්සෙම කියන්නේ බොරු. දැන් කියන ඔය කතාවත් බොරුවක්. තුඹට බැරිද බොරු නොං කියා ඉන්න?" යි මියුසෝ කෝපයෙන් වෙව්ලමින් කී ය.

"මං කවදාවත් මේ කතාව විශ්වාස කළේ නැහැ. මං දන්නවා ඒක බොරුවක් බව" යි කරමසෝ මහත් උනන්දුවෙන් කී ය. "නමුත් මහත්වරුනි, මම තමුන්නාන්සේලාට ඇත්ත කියන්නම්. ඩිඩේරේ බව්තිස්ම කිරීම ගැන මා කිව්වේ කටට ආපු බොරුවක්. ඒ ගැන මට සමා වෙන්න. මීට ඉස්සෙල්ලා මං මේ ගැන කල්පනා කළේ නැහැ. ඒ හරිය අතින් දම්මේ කතාව රසවත් කිරීමටයි. මිනිසුන් සතුටු කිරීමට මම මෝඩකම් කරනවා. මෙවැනි මෝඩකම් කරන්නේ මන් ද කියා මං දන්නේ නැහැ. නමුත් ඩිඩේරේ, බිෂොප් එක්ක කෝලාහල කරගත්ත බව රදළයන් කියනවා මං තරුණ කාලයේ දී අසා තියෙනවා. එක වරක් නො වෙයි විසි වරක් පමණ අසා තියෙනවා. මේ කතාව තුඹේ නැන්දණියගෙනුත් මා අසා තියෙනවා. නමුත් දෙයියන් වහන්සේ ගැන අර පණ්ඩිතයා බිෂොප් සමග කෝලාහල කරගත් බව අද දක්වා මේ පළාතේ මිනිස්සුන් විශ්වාස කරනවා..."

නොඉවසිල්ලට පත් මියුසෝට තමා ගැන අමතක විය. තමාට අපහාසයක් කළ බව තේරුම් ගත් හෙතෙම කිපී වෙව්ලුවේය.

ඒ අසපුවේ සිදුවන දෑ සැබැවින් ම විශ්වාස කළ නො හැකි ය. හවුරුදු හතළිහක හෝ පනහක සිට, එනම් මීට පෙර විසූ

තවුසන් ගේ කාලයේ සිට දැඩි බැති නොසිතින් යුතුව කිසිවෙක් මේ අසපුවට ඇතුළු නො වී ය. අසපුවට කැඳවනු ලැබූ හැම දෙනා ම මෙසේ අපුසවට කැඳවීම තමාට කරන ලද මහත් ගෞරවයක් ලෙස සැලකූ හ. ඇතැම් අය අසපුවේ සිටි මුළු කාලය තුළ ම බිම දන ගසා ගෙන සිටියහ. පබු ජනයා ද, මහා පඬිවරු ද, එ මතුනොව තමන් ගේ කුතුහලය සනසා ගැනීමේ අදහසින් පැමිණි නිදහස් චින්තකයෝ ද, නොයෙක් වර මේ අසපුවට පැමිණි අමුත්තන් අතර වූහ. ඔම් හැම දෙනා ම අසපුවට ඇතුළු වූ පසු මහත් භක්තියක් හා ගෞරවයක් දක් වූ හ. මෙහි බොහෝ දෙනා පැමිණියේ ධනයට හෝ බලයට හෝ ගරු කිරීමට නොව, එක් අතකින් මෛත්‍රිය හා කරුණාව ද, අනෙක් අතින් පශ්චාත්තාපයෙන් තැවෙන සිත් සනසා කිසියම් ආධ්‍යාත්මික ප්‍රශ්නයක් හෝ පෞද්ගලික ගැටළුවක් හෝ විසඳ ගැනීමේ බලවත් ආසාවද නිසා ය. එ හෙයින් කරමසෝ ගේ විගඩම එහි සම්භරකු ගේ විමතියට හේතු විය. පූජකයෝ කිසිම කලබලයක් නො දක්වා තවුසා පවසන දෙය අසාගැනීමේ ආසාවෙන් බලා සිටියහ. එහෙත් මියුසෝ මෙන් ඔවුන්ද හිඳ සිටි අසුන් වලින් නැගී සිටීමට සූදනමින් සිටින්නාක් මෙන් පෙනිණි. අඩා වැලපීමට තරම් දැඩි ශෝකයෙන් පෙළෙන අලෝෂා බිම බලා ගෙන සිටියේ ය. පියා ගේ විගඩම් නැටීමට වඩා අලෝෂා ගේ විමතියට හේතු වූයේ පියා හික්මවා ගැනීමට සමත් එකම තැනැත්තා ඉවාන් මේ කිසිවක් සමග තමා ගේ කිසි ම සබඳකමක් නැති ව, මේ සියල්ල කෙසේ අවසන් වන්නේ දැයි දැන ගැනීමේ ආශාවෙන් බිම බලා ගෙන නො සෙල් වී සිටීම ගැන ය. අලෝෂා තම සොහොයුරා ගැන විශාල බලාපොරොත්තුවක් ඇතිව සිටියේ ය. තමා හොඳින් හැඳින සිටි, දේවධර්මය හදාරන ශිෂ්‍යයා වන රැකිටින් දෙස බැලීමට පවා අලෝෂා අකැමැති විය. අලෝෂා හැර ආශ්‍රමයේ කිසිවෙක් රැකිටින් ගේ අදහස් නො හඳුනයි.

"ස්වාමීනි මට සමා වන්න" යි මියුසෝ තවුසා අමතමින් පැවසී ය. "තමුන්නාන්සේ හිතන්න පුළුවනි මාත් මේ විගඩමට හවුල් වුණා ය කියා. පිදිය යුත්තකු ලඟට ගිය විට හැසිරිය යුතු සැටි පියෝදර් කරමසෝ වැනි මිනිහකු පවා දන්නවා ඇතැයි මා විශ්වාස කළා. එ වැනි දෙයක් විශ්වාස කිරීමෙන් මා කළේ ලොකු වරදක්. මේ මිනිහා සමග පැමිණීම ගැන ඔබ තුමා ගෙන් සමාව ඉල්ලිය යුතු ය කියා මා හිතන්නේ නැහැ."

ඔහුට ඊට වඩා කිසිවක් කිය නොහැකි විය. අවුල් වූ සිතින් යුත් හේ කාමරයෙන් නික්ම යාමට සැරසිණි.

"මේ ගැන හිත නරක් කරගන්න එපා" යි පැවසූ තවුසා දුබල වූ දෙපයින් නැඟී සිට මියුසෝ ගේ දෑත ගෙන ආයෙත් අසුන් ගන්වමින් මෙසේ කී ය. "ඔබ මගේ ආරාධනාව පිළිගෙන පැමිණි අමුත්තකු බව සලකන්න". මෙසේ පැවසූ තවුසා හිස නමා ආයෙත් ආචාර කොට ආපසු ගොස් කුඩා සෝපාවෙහි හිඳ ගත්තේ ය.

"මා මගේ කතාවෙන් තමුන්නාන්සේ අසතුටු කළා ද?" යි කරමසෝ දෑතින් පුටු ඇඳි දෙක ම අල්ලා ගෙන ඇසුවේ සතුටු දායක පිළිතුරක් නො ලැබුණොත් පුටුවෙන් එළියට පැනීමට සැරසී සිටින්නාක් මෙනි.

"කලබල නොවන ලෙස මම අප්‍රමාදව ඉල්ලා සිටිමි" යි තවුසා සිත සනසන පිණ බසින් කී ය. "හිත නරක් කර ගන්න එපා. කැමැති විදියට හැසිරෙන්න. කැමැති විදියට කතා කරන්න. ඒ හැම දෙයට ම වඩා ඉතා වැදගත් දෙය තමා ගැන ලැජ්ජා නොවීම යි සියලු දෙයට ම මුල් හේතුව ලැජ්ජාව යි. ඒ නිසා තමා ගැන ලැජ්ජා වෙන්න එපා."

"කැමැති විදියට කතා කරන්න. කැමැති විදියට හැසිරෙන්න. තමුන්නාන්සේ කරන ඉල්ලීම බොහො ම ලොකු දෙයක්. ඒ ගැන තමුන්නාන්සේට බොහො ම ස්තුතියි.......... නමුත් මට උවමනා විදියට කටයුතු කරන්න ඉඩ හැරීම බොහො ම භයානක දෙයක්. තමුන්නාන්සේ ගෙන් අවසර ලැබුණත් කවදාවත් මා කැමැති විදියට මා කටයුතු කරන්නේ නැහැ. ඔබ තුමාට මා කෙබඳු කෙනෙක් ද කියා අඳුනා දීමට සූදානමින් සිටින අය මෙතැන ඉන්නවා. නමුත් ඔවුන් කිසිවෙක් මා ගැන හරි හැටි දන්නේ නැහැ........පීටර් මියුසෝ මා කියන්නේ තුඹ ගැනයි. නමුත් ස්වාමීනි, මා දන් මහත් ප්‍රීතියෙන් සිටින බව ඔබ තුමාට කීමට කැමැතියි."

අනතුරුව කරමසෝ පුටුවෙන් නැඟිට දෙ අත් විදහා මෙසේ කී ය. "තමුන්නාන්සේ වැදූ මවට ආශිර්වාද වේවා. තමුන්නාන්සේට කිරිදුන් තනයට, වෙසෙසින් ම තන පුඩුවට ආශිර්වාද වේවා. 'තමා ගැන ලැජ්ජා වෙන්න එපා. සියලු දෙයට ම මුල ලැජ්ජාවයි' තමුන්නාන්සේ කී විට ඒ කීම මගේ හදවත කපා ගෙන ගියා. තමුන්නාන්සේ මගේ ගතිගුණ හොඳට දැන ගත්තා. මිනිසුන් අතරට ගිය හැම විට ම මට දැනෙනවා මා හැම දෙනාට ම වඩා පහත් බවත්, උන් මා කෝලමකු ලෙස සලකන බවත්. 'හොඳයි එහෙනම් මාත් කෝලම් නටන්නම්. මා නුඹලා ගේ අදහස්වලට ගරු නොකරන්නේ උඹලා මට වඩා පහත් නිසයි' මම කල්පනා

කළා. මේ කාරණය නිසා තමයි මා කෝලම් නටන්නට පටන් ගත්තේ. අනේ ස්වාමීනි, කෝලම් නටන්නේ මා තුළ තියෙන ලැජ්ජාව නිසයි. මගේ හිත බොහෝ ම මෘදු නිසයි. නමුත් මා ඉතා කරුණාවන්ත ඥානවන්ත තැනැත්තා හැටියට මිනිසුන් පිළිගන්න බව මා දන්නවා නම් අනේ දෙයියනේ මට කොතරම් හොඳ මිනිහකු විය හැකි ද? අනේ ස්වාමීනි, සදාකාලික ජීවිතයක් ලබා ගැනීමට කුමක් කළ යුතු ද?'' කියා හේ හදිසියෙන් ම දනින් වැටී ඇසුවේ ය.

හෙතෙම විහිළුවක් කළේ ද? නැති නම් ඇත්ත වශයෙන් ම අවංක අදහසින් ප්‍රශ්න කළේ ද? යන්න දන් වුව ද කිව නොහැකි ය.

හිස උස්සා කරමසෝ දෙස බැලූ තවුසා සිනාමුසු වී මෙසේ පැවසුවේ ය.

"ඔබ විසින් කුමක් කළ යුතු ද කියා ඔබ බොහෝ කලක සිට දන සිටියා. ඔබට උවමනා තරම් නුවණ තියෙනවා. ඒ නිසා සුරාපානයෙන් වළකින්න. සම්ඵප්‍රලාප නො කියන්න. කාමුක අදහස් වලට ගොදුරු නො වන්න. ඒ සියල්ලට ම වඩා මුදලට ගිජු නො වන්න. ඔබට අයිති තැබෑරුම් සේරම වසා දමන්න. සේරම වසන්න බැරි නම් අඩු ගණනේ දෙක තුනක් වත් වසන්න. මීට පසුව බොරු කියන්න එපා."

"තමුන්නාන්සේ කියන්නේ මා ඩිඩේරෝ ගැන කියාපු බොරුව ගැන ද?"

"නැහැ, ඒ කතාව ගැන නො වෙයි. සේරටම වඩා ලොකු දෙය, බොරු කියා තමා රවටා ගන්න එපා. බොරු කියමින් ඒ බොරුවට ඇහුම්කන් දෙන තැනැත්තා කොතරම් මුළා වන්නේ ද කියතොත් තමා පිළිබඳ සත්‍යය හා අවට පවතින සත්‍යය අවබෝධ කර ගැනීමට අසමත් වෙනවා පමණක් නොව තමා ගේ ආත්මගරුත්වය හා තමා විසින් අනුන්ට දක්වන ගෞරවය සම්පූර්ණයෙන් ම නැති වී යනවා. ආත්මගරුත්වයෙන් තොර වූ තැනැත්තා තුළ මෛත්‍රිය, කරුණාව, ආදී උතුම් ගුණ ඇති වන්නේ නැහැ. මෛත්‍රියෙන් හා කරුණාවෙන් තොර වූ සිත වෙන අරමුණක යෙදිය යුතු නිසා ඒ තැනැත්තා දුරාචාරයට පෙළඹෙනවා. නිතර තමා හා අනුන් බොරුවෙන් මුළා කරමින් තිරිසනකු මෙන් වඩවඩාත් දුසිරිත්වල ගිලෙනවා. මේ සේරම වෙන්නේ අනුන් හා තමන්, බොරුවෙන් රවටා ගන්නා නිසයි. බොරුවෙන් තමා රවටා ගන්නා තැනැත්තා අන් හැම දෙනාට ම වඩා ඉක්මනින් කෝප කරවන්න පුළුවනි. සමහර විට අනුන්

සමග කලහ කර ගැනීම විනෝදයක් නෝ ද? තමාට කිසිවකු අපහාස නොකල බව දැන දැනත් ඔහු, නැති අපහාසයක් ඇති කර ගනියි. තව තවත් බොරු කියා අපහාසය වඩ වඩාත් අලංකාර කර ගනියි. වචනයක් අල්ලා ගෙන ඒ වචනය නැමැති කෙන්ද කන්දක් කර ගනියි. තමා කරන්නේ බොරුවක් බව ඔහු දනියි. දැන දැනත් අමනාප වෙයි. විශාල ආස්වාද-යක් ලබන තෙක් ඒ කෝපයෙන් ප්‍රීති වෙයි. අන්තිමේදී කෝපය නියම පළිගැනීමක් බවට පත් වෙයි..... ...කරුණාකර නැගිට අර පුටුවෙන් වාඩිවෙන්න. ඔබ දූත් කරන්නෙත් බොරුවක්...... ...''

"ආශීර්වාද ලත් පියතුමාණෙනි, සිඹීම පිණිස ඔබ තුමා ගේ අත දෙන්න."

කරමසෝ වහා නැගිට ගොස් තවුසා ගේ සිහින් අත ගෙන සිඹ මෙසේ කී ය. "අනුන් සමග කලහ කිරීම විනෝදයක් තමයි. මා මීට පෙර කවදාවත් අසා නැති තරම් හොඳට ඔබ තුමා ඒ ගැන විස්තර කළා. මා මුළු ජීවිත කාලය තුළ ම විනෝදය පිණිස අනුන් සමග කෝලාහල කළ බව ඇත්තයි. මා තුළ අලංකාරයට ඇති ආසාව සනසා ගැනීම පිණිස කෝලා-හල කළා. සමහරවිට කෝලාහල කිරීමෙන් විනෝදයක් ලැබෙනවා. එපමණක් නොව එය බොහෝ ම අලංකාර දෙයක්. තමුන්-නාන්සේට අමතක වූ දෙය මෙයයි. මම මේ කාරණාව විශේෂ-යෙන්ම මතක තබා ගන්නම්. මා මුළු ජීවිතයට ම කළේ බොරු කීමයි. හැම දා ම, හැම මොහොතක් පාසා ම, මම බොරු කිව්වා. ඇත්ත කියනවා නම් මගේ මුලු ජීවිතය ම මහ බොරුවක්. මම බො-රුව උත්පාදි කළ බොරුවේ පියා. නැහැ, නැහැ මට වැරදුනා. මට වචන පටලැවෙනවා. මම බොරුවේ පියා නො වෙයි. බොරුවේ පුතා යි. අප දූත් බොරුව ගැන කතා කළා ඇති...... පිය-තුමාණෙනි, මා මෙහි පැමිණි කාරණය කියන්න අමතක වුණා. ඔබ වහන්සේ ගෙන් ඉතා වැදගත් දෙයක් අසා දැන ගැනීම පිණිස අවුරුදු දෙකක සිට මෙහි පැමිණීමට අදහස් කරගෙන සිටියා. කරුණාකර මියුසෝ මහත්මයාට කියන්න මගේ කතාවට බාධා කරන්න එපා ය කියා. මා දැන ගැනීමට ආසාවෙන් සිටි ප්‍රශ්නය මෙන්න මේකයි. 'සාන්තුවරයන් ගේ ජීවිත කතා' නැමැති පොතේ එක් තැනක තියෙනවාලු, ආගම වෙනුවෙන් ජීවිතය කැප කළ සාන්තුවරයකු ගේ හිස ගසා දැමූ පසු එතුමා නැගී සිට, හිස අතින් ගෙන, සිඹ, ටික දුරක් ගියාය යන කතාවක්. ඔය කතාව ඇත්ත ද බොරු ද? මට දැන ගන්න ඕනෑ කරන්නේ ඔය කතාවේ ඇත්ත නැත්තයි."

“ ඔය කතාවේ කිසි ම සත්‍යයක් නැහැ ” යි තවුසා පැවසී ය.

“ ඔ වැනි කතාවක් සාන්තුවරයන් ගේ චරිතකතාවල නැහැ. ඔය කියන සාන්තුවරයා ගේ නම කුමක් ද ? ” යි ආශ්‍රමයේ පුස්තකාලය බාරව සිටින පූජකයා විමසී ය.

“ සාන්තුවරයා ගේ නම කියන්න මා දන්නේ නැහැ. කවුරු නමුත් කර තියෙන්නේ රුවටීමක්. කවුද දන්නව ද මට මේ කතාව කිව්වේ ? දූන් ටිකකට පෙර ඩිඩෙරෝ ගැන කතාව අසා බොහො ම කෝපවුණු මියුසෝ මහත්මයා.”

“ මා මේ කතාව කිව්වේ නැහැ. මා තුඹ එක්ක කවදාවත් කතා කරලා නැහැ.”

“ තුඹ මට මේ කතාව නොකියපු බව ඇත්තයි. නමුත් තුඹ මේ කතාව කියන කොට මා එ තැන සිටියා. තුඹ කතාව කිව්වේ අවුරුදු තුනකට ඉස්සර. මා මේ ගැන මතක් කළේ මේ කතාවෙන් මගේ ආගමභක්තිය සම්පූර්ණයෙන් ම වෙනස් වූ නිසයි. තුඹ නොදන්නවාට මා එදා ගෙදර ගියේ ආගම කෙරෙහි මගේ සිතේ තිබුණු විශ්වාසය සම්පූර්ණයෙන් ම නැති කර ගෙනයි. එදා සිට ටිකෙන් ටික මගේ ආගමභක්තිය සම්පූර්ණයෙන් ම විනාශ වුණා. මියුසෝ, මගෙ පිරිහීමට වරදකාරයා තුඹයි.”

පියෝදර් කරමසෝ ආයේත් වරක් කොහොලමක් නටන්නට සැරසෙන බව එ තැන සිටි හැම දෙනාට ම සක්සුදක් සේ පැහැදිලි විය. එහෙත් ඔහු ගේ කතාවෙන් මියුසෝ තුළ වේදනාවක් ඇති විය.

“ මේ මොන විකාර කතාවක් ද? මේ මිනිහා කියන්නේ තේරුමක් නැති විකාර කතා ” යි මියුසෝ කී ය. සමහර විට යම්කිසි දවසක මා මේ කතාව කියන්න ඇති. නමුත් තුඹට නොකියපු බව නම් මට හොඳට විශ්වාසයි......... මා මේ කතාව පැරිසියේ දී ප්‍රංශකාරයකු ගෙන් ඇසුවා. එය දේවසථානවල පූජාවෙන් පසු ‘ සාන්තුවරයන්ගේ ජීවිත කතා ’ නැමැති පොතෙන් කියවන කතාවක් ලු. කතාව කියාපු මිනිහා රුසියාවේ බොහො ම කාලයක් සිට, රුසියාවේ සංඛ්‍යා විස්තර ගැන විශේෂ පරීක්ෂණයක් කළ උගතෙක්........ මම සාන්තුවරයන්ගේ ජීවිත කතා කියවා නැහැ. කවදාවත් කියවන්නෙත් නැහැ.... ....., මේ කතාව කීවේ භෝජනසංග්‍රහයක දී යි. භෝජන සංග්‍රහයක් පැවැත්වෙන අතර නොයෙක් විදියේ කතා කීම සාමාන්‍ය සිරිතයි.”

" ඔව් ඔව්, නුඹ කැම කකා කියාපු කතාවෙන් මගේ ආගම භක්තිය සම්පූර්ණයෙන් ම විනාශ වුණා " යි කරමසෝ මුකුළු කරමින් කී ය.

" නුඹේ ආගමභක්තිය ගැන මට ඇති අමාරුව කුමක් ද? " යි මියුසෝ කෑගා ඇසී ය. එහෙත් වහා සිත මැඩ ගෙන " නුඹ අත තියාපු හැම දෙයක් ම විනාශ කරනවා ' යි ආයේත් පිළිකුලෙන් කී ය.

තවුසා වහා අසුනෙන් නැඟී සිටියේ ය. "ස්වල්ප වේලාවකට මෙ තැනින් ඉවත යාමට තමුන්නාන්සේලා මට අවසර දිය යුතු යි. " එතුමා අමුත්තන් අමතා කී ය. " තමුන්නාන්සේලා පැමිණීමට පෙර මා හමුවීමට පැමිණි අමුත්තන් කීප දෙනෙක් සිටිනවා......... කොහොම වුණත් තවත් බොරු කියන්න එපා" යි අනතුරුව සිනාමුසු වෙමින් කරමසෝට පැවසූ තවුසා කාමරයෙන් පිට වී ගියේ ය. අලෝෂා හා ආධුනික පූජකතැන පඩිපෙළ බසින තවුසාට උපකාර වීම පිණිස වහා ගියහ. කුටියෙන් පිටවීම අලෝෂාට මහත් සැනසීමකි. තවුසා අමනාප නො වී සතුටින් සිටීම ද ඔහුට සැනසීමකි. තමා ගේ ආශිංසනය බලාපොරොත්තුව පෝටිකෝව යට රැස්ව සිටින බැතිමතුන් වෙත තවුසා යමින් සිටියේ ය. එහෙත් කුටියේ දොරටුව ළඟ දී එතුමා නතර කිරීමට කරමසෝ වෑයම් කෙළේ ය.

" ආශිර්වාද ලත් පියාණෙනි, තමුන්නාන්සේ ගේ අත සිඹීමට මට නැවත අවසර දෙන්න " යි හේ කී ය. "ඔබතුමා සමග ඕනෑ ම දෙයක් ගැන කතා කරන්න පුළුවනි. එකට ඉන්න පුළුවනි. මා හැම තිස්සේ ම බොරු කියමින් මෙසේ විකාර කරනවා යි කියා ඔබ තුමා විශ්වාස කරනව ද? මා මෙ තරම් වේලා මේ විදියට හැසුරුණේ තමුන්නාන්සේ කෙබඳු තැනැත්තෙක් ද? තමුන්නාන්සේ සමග ආශ්‍රය කළ හැකි ද? යි දැන ගැනීම පිණිසයි. ඒ සඳහා මා මුළු කාලය තුළ ම තමුන්නාන්සේ දෙස පරීක්ෂාවෙන් බලා සිටියා ඔබතුමා ගේ අභිමානයටත්, මගේ නීච කමටත් එකට සිටිය හැකි ද කියා විමසා බැලුවා. ඔබ තුමා සමග ආශ්‍රය කරන්න පුළුවන් බව මට සහතික කළ හැකියි. දැන් ඉතින් මීට පසුව මම වචනයක්වත් කතා නොකර මේ පුටුවේ ඉඳගෙන ඉන්නම්. දැන් කතා කළ යුත්තේ මියුසෝ මහත්මයා යි. මෙ තැන ඉතිරි වී සිටින ඉතා ම වැදගත් මිනිහා නුඹයි. මිනිත්තු දහයකට ඉතා ම වැදගත් මිනිහා නුඹයි."

## තුන් වන පරිච්ඡේදය

## බැතිමත් ගැමිලියෝ

ඩ්පෝවනයේ සීමාවෙන් පිට, තාප්පයට අල්ලා ලීයෙන් තනන ලද පෝටිකෝව යට ගැමිලියෝ විසි දෙනෙක් පමණ රැස් වී හුන්හ. ඔවුන් උදක් ම බලාපොරොත්තුව සිටියේ, අන්තිමේ දී සොසිමා තවුසා ඔවුන් හමුවීමට පැමිණෙන බව දන්වන ලද හෙයිනි. හොලාකෝ මැතිනිය ඇගේ දියණියත් සමග තවුසා හමුවීම පිණිස පෝටිකෝව යටට පැමිණ සිටියා ය. එහෙත් ඔවුන් නතර වී සිටියේ වෙසෙසින් ම කුලවතුන් සඳහා තනන ලද කාමරයෙහි ය.

නිතර ලස්සණට ඇඳුම් පැළඳුම් කරන, තවමත් රූමු වියෙහි සිටිනා සුරූපී හොලාකෝ මැතිනිය ධනවත් කුල කාන්තා වකි. ඇගේ මුහුණ මඳක් සියුමැලි ය. එහෙත් ප්‍රාණවත් නෙත් තද කළු පාට ය. හවුරුදු තිස් තුනකට වඩා වයස නැති ඕ හවුරුදු පහක සිට වැන්දඹු ජීවිතයක් ගත කරන්නී ය. හවුරුදු දහ හතරක් වයසැති ඇගේ දියණිය පක්ෂාඝාත රෝගයෙන් පෙළෙන්නී ය. මාස හයක සිට ඇවිද ගත නොහැකිව සිටිනා මේ අසරණ දැරිය රෝද සහිත දිග පුටුවක තබා ගෙනයනු ලැබී ය. ඇගේ පියකරු මුහුණ රෝගයෙන් සිහින් වුවත් නිතර ප්‍රීතියෙන් විකසිත විය. දිග ඇස් පිහාටුවලින් වැසුණු ඇගේ වටකුරු දෑස නිතර දඟකාර බැල්මෙන් බැබළෙයි දියණිය පිට රට ගෙනයාමට හොලාකෝ මැතිනිය වසන්ත කාලයේ සිට බලාපොරොත්තුව සිටියා ය. එහෙත් ඇගේ ඉඩකඩම් පිළිබඳ නොයෙක් වැඩ කටයුතු නිසා ග්‍රීෂ්ම කාලය තුළ ද පිට රට යා නොහැකි විය. ඈ අපේ ගමට පැමිණ සතියක් පමණ කල් නතර වී සිටියේ සොසිමා තවුසා දැක ගැනීමේ බැතිසිතින් නොව හුදෙක් ඉඩකඩම් සම්බන්ද වැඩ කටයුතු නිසා ය. ඕ තෙදිනකට පෙර තවුසා හමුවීමට ගියා ය. එතුමා කලාතුරකින් හෝ කිසිවකු හමු නොවන බව ඈ දැන සිටියත් අපේත් ආශ්‍රමයට පැමිණියේ මේ ශ්‍රේෂ්ඨ වෛද්‍ය වරයා දැක ගැනීමේ භාග්‍යය ලැබෙිය යන බලාපොරොත්තුවෙනි.

හොලාකෝ මැතිනිය, කරත්තයක හිඳ සිටින දියණිය ලඟින් තබන ලද පුටුවක හිඳ උන්නා ය. ඈයට අඩි දෙකක් පමණ ඈතින් මහලු පූජකයෙක් සිටියේ ය. හේ අපේ ආශ්‍රමයේ වෙසෙන

පූජකයෙක් නොව ඈත උතුරේ පිහිටි අප්‍රසිද්ධ දේවස්ථානයක සිට තවුසා ගේ ආශංසනය ලබා ගැනීම පිණිස පැමිණියෙකි.

එනෙත් පෝටිකෝවට ඇතුළු වූ සොසිමා තවුසා පිටතින් පෝටිකෝවට ගොඩවන පඩි පෙළ අසල රුස් වී සිටි ගැමි ලියන් වෙත කෙළින් ම ගියේ ය. පඩි පෙළ උඩ නතර වූ එතුමා පාදිලි පටිය දමා ගෙන අවට රුස්ව සිටි ගැහැනුන්ට ආශංසනය කෙළේ ය. ගැහැනුන් අතර සිටි උමතු ලියක් එතුමා ලඟට කැඳවනු ලැබී ය. එතුමා දුටු හැටියේ ම, දරු. ප්‍රසූතියෙන් හටගත් වේදනාවෙන් පෙළෙන ඉතිරියක මෙන් කෑ ගාමින් ඇඹරෙන්නට වූවා ය. තවුසා පාදිලිපටිය ඇගේ නළල මත තබා කෙටි යාච්ඤාවක් කළ වහා ම ඕ සන්සුන් වූවා ය.

කුඩා කාලයේ දී මම ගම්වල හා ආශ්‍රම වල යක්ෂාවේශ වූ ගැහැනුන් දැක ඇත්තෙමි. දේවස්ථානයේ පැවැත්වෙන උදේ පූජාවට ගෙනෙනු ලබන ඔවුහු දේවස්ථානය පුරා ඇසෙනසේ මහ හඬින් කෑ ගාති. බල්ලන් මෙන් බුරති. එහෙත් සක්ක්‍රමේන්තුව ගෙනත් තබා යක්ෂාවේශ වූ ගැහැනුන් ලඟට ගෙන ගිය පසු මඳ වේලාවකට හෝ ඔවුනු සන්සුන් වෙති. කුඩා කාලයේ දී මම මේ යක්ෂාවේශ වූ පිස්සු ගැහැනුන් දෙස බලා පුදුම වුණෙමි. මේ ගැහැනුන් මෙසේ පිස්සුවෙන් හැසිරෙන්නේ වැඩ කිරීමට ඇති අකැමැත්ත නිසා බවත් සුදුසු දඬුවම් දීමෙන් ඔවුන්ගේ ඒ පිස්සුව සුව කළ හැකි බවත් සමහර ඉඩම් හිමියන් ගෙන් හා නගරයේ වෙසෙන ගුරුවරුන් ගෙන් අසා දැන ගතිමි. මේ අදහස සනාථ කිරීම පිණිස නොයෙක් කතා කියනු ලැබේ. එහෙත් මෙය මායාවක් නොව ගැහැනුන්ට වැළඳෙන භයානක රෝගයක් බවත්, වෙසෙසින් ම රුසියාවේ පවතින මේ රෝගය වැළඳෙන්නේ ගැමි ගැහැනුන් විඳිනා දරුණු දුක් පීඩා නිසා බවත්, පසු කාලයේ දී වෛද්‍ය විශේෂඥයන් ගෙන් අසා මම පුදුම වුණෙමි. මෙය, නියම වෛද්‍ය උපදෙස් හා උපකාර නැති ව ඉතා අමාරුවෙන් දරුවන් වදා පසුව විවේක නො ගෙන බොහෝ වෙහෙස මහන්සි වී වැඩ කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් වැළඳෙන රෝගයකි. දරුණු දුප්පත්කම හා නිතර ලැබෙන ගුටිබැට ඉවසා ගත නොහැකි ව ඇතිවන්නෙකි. හැම දේකාව ම ගුටිබැට කා පුරුදු නැත. කෑගාමින් පෙරළි කරන මේ උමතු වූ ගැහැනු ශුද්ධ වූ සක්ක්‍රමේන්තුව ලඟට ගෙන ගිය වහා ම පුදුම ලෙස ඒක්ෂණයෙන් ම සුව වන්නේ පූජකයන් ගේ මායාවක් නිසා බව මට තේරුම් කර දෙන ලදී. ලෙඩා සක්ක්‍රමේන්තුව ඉදිරිපිට වැඳ නමස්කාර කළ විට ආවේශ වූ යක්ෂයාට තවත් වේලා සිටිය නොහැකි ව ප්‍රාණකාරයා අත්

හැර දමා පැන යන බව ලෙඩා පමණක් නොව සක්‍රමේන්තුව ඉදිරිපිටට ලෙඩා ගෙන යන ගැහැනු ද පරම සත්‍යයක් ලෙස පිළි ගත්හ. ස්නායුදුර්වල කම්න් හා මානසික පීඩනයෙන් පෙළෙන රෝගියා ගේ සරුවාංගය ම වෙව්ලීම හා රෝගියා කෑගැම ස්වාභාවික දෙයකි. සක්‍රමේන්තුව ඉදිරිපිට දී අංගවයසීයකින් මෙන් තමා ගේ රෝගය සුව වෙතියි විශ්වාසයක් රෝගියා තුළ පවතියි. ස්වල්ප වේලාවකට හෝ එහි ප්‍රතිඵල ලැබේ. සොසිමා තවුසා නළල මත පාදිලිපටිය තැබූ වහා ම සිදුවන්නේ ඊට සමාන දෙයකි.

උමතු ස්ත්‍රිය සන්සුන් වූ සැටි දුටු බොහෝ ස්ත්‍රීන් ගේ නෙත් සොම්නස් කඳුළින් පිරුණි. සමහරෙක් තවුසා ගේ ලෝගුවේ වාටිය ගෙන සිඹිනාතර තවත් සමහරෙක් ගී ගයන්නාක් මෙන් කෑගෑහ.

තවුසා ඔවුන් හැම දෙනාට ම ආශංසනය කොට සමහරකු සමග කතා කෙළේ ය. එතුමා යක්ෂාවේශ වූ ස්ත්‍රිය මීට පෙර දන හැඳින සිටියේ ය. වෙස්ට්ස් හයක් පමණ ඈතින් පිහිටි ගමක වෙසෙන ඕ මීට පෙර ද ආශ්‍රමයට ගෙනෙන ලදී.

“ මෙ සිටින්නේ බොහො ම ඈත සිට පැමිණි ස්ත්‍රියක් ” යි තවුසා කීවේ දිරා ගිය ශරීරයෙන් හා අව්වෙන් කළු ගැසුණු මුහුණින් යුත් තරුණ ස්ත්‍රියක පෙන්නමිනි. බිම දන ගසා ගෙන සිටි ඉතිරිය තවුසා දෙස ඇස පිය නො සොල්වා බලා සිටියා ය. ඇගේ දසේ උමතු ගතියක ලකුණු පෙනෙන්නට තිබුණි.

“ එහෙමයි ස්වාමීනි, මා ආවේ බොහො ම ඈත සිටයි. හැතැපුම් දෙසීයක් ඈත සිටයි. එහෙමයි ස්වාමීනි, මා ආවේ බොහො ම ඈත සිටයි. ” ඈ දෑත කම්මුල් මත තබා ගෙන දෙපැත්තට හිස වනමින් කීවේ ශෝක ගීයක් ගයන්නාක් මෙනි.

බොහෝ කාලයක සිට නිහඬව දහදුක් විඳින ස්ත්‍රිහු, නැමි-යන් අතරේ සිටිති. ඔවුහු ඒ දුක් වේදනා එළි නො කොට රැක ගනිති. එහෙත් ඒ දුක් වේදනා පිට වන අවසරය ද තිබේ. පිට වූ තැනේ සිට ඔවුහු විලාප නගමින් අඬති. මෙය ගම්බද ස්ත්‍රීන් අතරේ බහුල ව පවතියි. විලාප නගමින් ඇඬීම නිහඬව සිටිනවාට නොදෙවෙනි දුකකි. විලාප නගා ඇඬීමෙන් සැනසීමක් ලැබෙන්නේ ඉන් හදවතට තව තවත් දුක් වේදනා ඇති වන නිසා ය. එ වැනි දුකකට සැනසීම අවශ්‍ය නැත. එය සුන් වූ

බලාපොරොත්තු නැමැති හැඟීම මත වැඩෙයි. මුවෙන් විලාපය පිටවෙන්නේ ශෝකය නැමැති තුවාලය පැරීමට නිතර ඇති ආශාව නිසා ය.

"යුෂ්මතිය වෙළෙඳ පන්තියට අයත් තැනැත්තියක් නො වේ ද?" යි තවුසා කුතුහලයෙන් ඇය දෙස බලා ඇසී ය.

"අපි ටවුමේ සිටින අයයි. ටවුමේ සිටියත් අපි පිටිසර මිනිස්සු. තමුන්නාන්සේ ගැන ආරංචි වී බලන්න ආවා. මගේ පුතා මළාට පසු මා වන්දනාවේ ගියා. මා ආශ්‍රම තුනකට ම වන්දනාවේ ගියා. එහි දී මට තමුන්නාන්සේ ළඟට යන්නට ය කියා හැමෝ ම අවවාද කළා. ඊයේ මා පූජාවට ආවා. අද ආවේ තමුන්නාන්සේ හමුවන්නටයි."

"මොකද අම්මේ තුඹ අඬන්නේ?"

"මා අඬන්නේ මගේ පොඩි පුතා නිසයි. මගේ පොඩි පුතාගේ වයස අවුරුදු තුනයි. අවුරුදු තුනට මාස තුනයි අඩු. අපට අන්තිමට ඉතිරිවෙලා හිටියේ මේ දරුවා පමණයි. මගේ පුරුෂයාටත් මටත් දරුවන් සතර දෙනෙක් හිටියා. නමුත් දැන් අපට එක දරුවෙක් වත් නැහැ. අනේ මගේ දරුවන් සේරම නැති වුණා. පළමු වන දරුවන් තුන් දෙනා මළා ම මම එ තරම් දුක් වුණේ නැහැ. අනේ සවාමීනි, මගේ අන්තිම දරුවත් මළා. ඒ දරු දුක කවදාවත් මගේ සිතින් තුරන් වෙන්නේ නැහැ. මට මේ දරුවා අමතක කරන්න බැහැ. මගේ ඇස් ඉදිරිපිට සිටිනවා වගේ මට පේනවා. කවදාවත් මතක නැති කරන්න බැහැ. මගේ හදවත මැල වෙලා. මා මගේ පුතාගේ පොඩි ඇඳුම්, පොඩි කමිස, පොඩි සපත්තු දෙස බලා අඬනවා. පුතා පාවිච්චි කළ මේ බඩු එළියට ගෙන බලා අඬනවා. මා මගේ සවාමි පුරුෂයාට කිව්වා දුක මතක නැති කරන්න වන්දනාවේ යමු කියා. මගේ සවාමිපුරුෂයා කරත්තකාරයෙක්. අපි දුප්පත් මිනිස්සු නො වෙයි. අපට අශ්වකරත්තයක් තියෙනවා. අශ්වයාත් කරත්තයත් අපේ. දැන් ඉතින් ඒ කරත්තයෙන් ඇති ප්‍රයෝජනය කුමක් ද? මා නැති අතර මගේ සවාමිපුරුෂයා මත්පැන් බොන්න පුරුදු වෙලා. එයා ඉස්සරත් මත්පැන් බොනවා. මා ගිය හැටියේ ම එයා ආයේත් බොන්න පටන් ගන්නවා. නමුත් දැන් මා මගේ සවාමිපුරුෂයා ගැන කල්පනා කරන්නේවත් නැහැ. මා පුරුෂයා අත් හැරලා තුන් මාසයක් වෙනවා. මා මිනිහා ගැන කල්පනා කරන්නේවත් නැහැ. මට දැන් කිසි ම දෙයක් ගැන මතක නැහැ. මතක් කරන්න උවමනාවකුත් නැහැ. දැන් ඉතින් මගේ පුරුෂයා සමඟ මට ගත කරන්න පුළුවන් ජීවිතය කුමක් ද?

මීට පස්සේ මා මගේ පුරුෂයා ළඟට යන්නේ නැහැ. මා කිසි ම කෙනකු ළඟට යන්නේ නැහැ. මට කිසි ම දෙයක් උවමනා නැහැ. මට ගෙවල් දොරවල් උවමනා නැහැ. මගේ පුතා නැති ව මට කිසි ම දෙයක් උවමනා නැහැ.''

"අම්මේ කරුණාකර මා කියන දෙය අහගන්න" යි තවුසා කී ය. 'පුරාණ කාලයේ දී, තමාට සිටිය එක ම දරුවා නැති වූ තුඹ වැනි මවක් දේවස්ථානයක අඩමින් සිටිනවා සාන්තුවරයෙක් දුටුවා. එතුමා මව ළඟට ගොස් මෙසේ කිව්වා.' 'අම්මේ තුඹ දන්නේ නැහැ මේ කුඩා දරුවන් සුරිඳුන් ඉදිරිපිට කො තරම් නිර්භීත ලෙස හැසිරෙනවා ද කියා? දෙව්ලොව මේ කුඩා දරුවන් තරම් නිර්භීතව හැසිරෙන වෙන කිසි ම කෙනෙක් නැහැ. 'සුරිඳුනි, ඔබතුමා අපට මනුෂ්‍ය ලෝකයේ දී ජීවිතය දුන් සේක. එහෙත් ඒ ජීවිතයේ රස විඳීමට පෙර ඔබ ජීවිතය අපෙන් පැහැර ගත් සේක.' මෙසේ මේ දරුවෝ සුරිඳුන්ට කො තරම් කරදර කරන්නෝ ද කියතොත් අන්තිමේ දී සුරිඳුන් ඒ කුඩා දරුවන් සුරදූතයන් කළා. ඒ නිසා අම්මේ තුඹේ පොඩි පුතා සුරදූතයකු මෙන් සුරිඳුන් සමග සිටන බව සිහි කොට ප්‍රීතිවෙන්න. මේ තමා අර යහපත් සාන්තුවරයා දරු මළ ශෝකයෙන් අඩ වැලපෙමින් සිටි මවට දුන් පිළිතුර. එතුමා බොහො ම උතුම් සාන්තුවරයෙක් නිසා බොරුවක් කියන්නේ නැහැ. ඒ නිසා අම්මේ තුඹේ පොඩි පුතා ද සුරිඳුන් ගේ සිහසුන ඉදිරිපිට ප්‍රීති-යෙන් සිටින බවත් ඔබ වෙනුවෙන් සුරිඳුන්ට යාච්ඤා කරන බවත් සිහි කොට ප්‍රීති වෙන්න.''

කම්මුලට අත තබා බිම බලා ගෙන තවුසාට සවන් දී සිටි ඉතිරිය දිග සුසුමක් හෙළුවා ය.

"මගේ පුරුෂයාත් ඔය කතාව කියා මා සැනසීමට වැයම් කළා.'' මව කීවා ය 'පිස්සු ගෑනි, මොනවට ද ඔය තරම් දුක් වෙන්නේ? මෙලහකට අපේ පොඩි පුතා සුරදූතයන් සමග සුරිඳුන් හමුවේ ගී ගයනවා ඇති.' මගේ පුරුෂයා මෙසේ කීවාට මොකද එයාත් මා වගේ ඇඬුවා. 'ඔව් මා දන්නවා අපේ පුතා දෙවියන් ඉදිරිපිට සිටිනවා මිස වෙන කොහි සිටින්න ද? නමුත් පුතා වෙන ද වගේ දැන් අප ළඟ නැහැ නො වේ ද? කියා මා මගේ පුරුෂයා ගෙන් ඇසුවා. මට එක වරක් පමණක් මගේ පුතා දැක ගන්න පුළුවන් නම් ඇති. පුතා ළඟට නොගියාට කමක් නැහැ. පුතා සමග කතා නොකළාට කමක් නැහැ. ඈත ඉඳලා, නැති නම් සැඟ වී ඉඳලා මිනිත්තුවක් පමණ වේලා පුතා දෙස බලා සිටින්න පුළුවන් නම් ඇති. අනේ මගේ පුතා මිදුලේ සෙල්ලම්

කරනවා බලන්න තියෙනවා නම් ඇති. පොඩි අඩි තබා ගේ ඇතුළේ දුවන හඩ අසන්න තියෙනවා නම් ඇති. මට නිතර මතක් වෙනවා මගේ පුතා මා ළඟට දිව විත් කෑගා සිනාසෙන සැටි. එක පාරක් පුතා දුවන අඩි ශබ්දය අසන්න පුළුවන් නම්, පුතා දකින්න පුළුවන් නම් ඇති. නමුත් අනේ ස්වාමීනි, මගේ පුතා ගියා, මා අත්හැර දමා ගියා. මට කවදාවත් ආයෙත් දකින්න ලැබෙන්නේ නැහැ. මේ තියෙන්නේ මගේ පොඩි පුතා ගේ ඉනේ බඳින පටිය. නමුත් මට මගේ පුතා දකින්න ලැබෙන්නේ නැහැ. පුතා ගේ හඩ අසන්න ලැබෙන්නේ නැහැ."

ඕ පපුවේ සඟවා ගෙන සිටි ඇම්බ්‍රොයිඩර කළ කුඩා පටියක් එළියට ගත්තා ය. පටිය දුටු හැටියේ ම ඕ ඉකිගසමින් අඬන්නට පටන් ගත්තා ය. දෑතින් මුහුණ වසා ගෙන ඇඬුවා ය. ඇගේ ඇඟිලි අතරින් කඳුළු ගලන්නට පටන්ගත්තේ හදිසියෙන් ඉවුර උතුරා ගලා බසිනා ගංගාවක් මෙනි.

" අම්මේ නුඹ ත් පුරාණයේ විසූ දරුවන් මළ ශෝකයෙන් ඇඬූ රේෂල්ට සමානයි. " තවුසා කී ය. " මෙලොව වෙසෙන හැම මවක විසින් ම දරුශෝකය දරාගත යුතුයි. එය හැම මවකට ම පොදු වූ දෙයක්. දැන් නුඹට සැනසීමකින් ප්‍රයෝජනයක් නැහැ. ශෝක වෙන්න. හැකි තරම් ශෝකවෙන්න. ශෝක වන හැම විට ම නුඹේ පොඩි පුතා සුරිඳුන් ගේ සුරදූතයකු වී සිටින බව සිහි කරන්න. නුඹේ පොඩි පුතා සුරිඳුන් ළඟ සිට නුඹ දෙස බලන බව සිහි කරන්න. නුඹ අඬන සැටි බලා සුරිඳුන්ට පෙන්නා ප්‍රීති වන බව දැන ගන්න. අනෙක් අම්මලා වගේ නුඹත් බොහෝ කාලයක් මේ විදියට ශෝක වෙන්න පුළුවනි. අන්තිමේ දී ඒ ශෝකය ප්‍රීතියට පරිවර්තනය වේවි. නුඹ මෙතෙක් කල් සැළූ කඳුළු නුඹේ හදවත පිරිසුදු කොට, නුඹ පාපයෙන් වළකනු ඇත. මම නුඹේ පුතා ගේ ආත්මයේ සාමය පතා යාච්ඤා කරන්නම්. පුතා ගේ නම කුමක් ද? "

" ඇලෙක්සි."

" ලස්සණ නමක්. දෙවියන් ගේ මිනිසා ය යන අදහස ඇති නමක්? "

" එහෙමයි සවාමීනි. "

"එතුමා කො තරම් හොඳ සාන්තුවරයෙක් ද? අම්මේ මම ඔහු ඔහු කොට යාච්ඤා කරන්නම්. එ පමණක් නො වෙයි. නුඹ විඳින දුක

සිහි කොට නුඹේ ස්වාමිපුරුෂයා ගේ සනීපය හා සැපත පතා යාච්ඤා කරන්නම්. නමුත් සැමියා අත්හැර යාම පාපයක්. තමා ගේ මව තම පියා අත් හැරිය බව දක නුඹේ පොඩි පුතා ශෝක වෙන්න පුළුවනි. ඇයි අම්මේ, නුඹ නුඹේ පුතා ගේ සැපතට හා ප්‍රීතියට බාධ කරන්නේ? නුඹේ පුතා ජීවත් ව සිටිනවා. ආත්මය සදකාලික නිසා පුතා තවමත් ජීවත් ව සිටිනවා. පුතා ගෙදර පෙනෙන්නට නො සිටියත් නුඹ ළඟ සිටිනවා. නුඹේ ගෙදර අසමගිය හා වෛරය පිරී තිබෙනවා නම් නුඹේ පුතා ගෙදර එන්නේ කොහොම ද? මවත් පියාත් සමගියෙන් නොසිටිනවා නම් පුතා කා ළඟට යන්න ද? දූන් නුඹ පුතා හීනෙන් දක දුක් වෙනවා. නමුත් නුඹ සැමියා සමග සමගියෙන් සිටිනවා නම් පුතා හීනෙන් දක ප්‍රීති වෙන්නට පුළුවනි. අම්මේ නුඹේ සැමියා ළඟට යන්න. අද ම යන්න.''

"හොඳම යි ස්වාමීනි, ඔබතුමා ගේ වචනය පිළිගෙන මම මගේ සැමියා ළඟට යන්නම් ඔබතුමා ගේ අවවාදය මගේ සිතේ තදින් කාවැදුණා. මට එය ලොකු සැනසීමක්. අනේ මගේ ස්වාමි පුරුෂයා මා එන තෙක් බලා සිටිනවා ඇති '' යි ඉතිරිය ගීයක් ගයන්නාක් මෙන් කීවා ය. තවුසා මේ ඉතිරිය ගෙන් ඈත් වී වෙනත් මහලු අඟනක් දෙසට හැරුණේ ය. ඈ චන්ද්‍රනාකාරියක් නොව නගරයේ සිට පැමිණි බව ඇඳුමෙන් පෙනේ. ඈ කිසියම් අදහසක් ඇති ව කිසියම් දෙයක් කීමට පැමිණි බව ඇගේ දෑසෙන් පෙනේ. තමා නිලධරයකු ගේ වැන්දඹුවක් බවත්, නගරයට නුදුරේ වාසය කරන බවත් ඕ කීවා ය. රජයේ සේවයට බැඳුණු ඇගේ පුතා කලකට පෙර සයිබීරියාවට ගියේ ය. සයිබීරියාවට ගිය පසු පුතා ලියුම් දෙකක් එව්වේ ය. නමුත් දූන් පුතාගෙන් ලියුමක් නැති ව හවුරුදු දෙකක් ගත විය. ඕ පුතා ගැන සොයා බැලූ මුත් සොයා බැලිය යුතු තැන නොදත්තා ය.

"සෙපාතිඩා ඉයනිෂ්නා (ඇගේ සැමියා බොහො ම පොහො සත් වෙලෙන්දෙක්) මට කිව්වා දේවස්ථානයට ගොස් පුතා මළ බව හිතා ගෙන ඔහු ගේ නම යාච්ඤාවට ඇතුළු කොට ආත්මයේ සාමය පතා යාච්ඤා කරන්න ය කියා. එතකොට පුතා ගේ ආත්-මය නොසන්සුන් වී ලියුමක් එවන්න පුළුවනි. ඈ කිව්වා එහෙම කළොත් කිසි ම සැකයක් නැති ව පුතා ගෙන් ලියුමක් ලැබෙන්-නට පුළුවනි කියා. නමුත් මට ඒක විශ්වාස කරන්න බැහැ.... අනේ ස්වාමීනි, මේ කතාව ඇත්ත ද? එහෙම කළාට වරදක් නැද්ද? ''

"ඒ ගැන කල්පනා කරන්නවත් එපා. එ වැනි ප්‍රශ්නයක් ඇසීම ගැන නුඹ ලැජ්ජා විය යුතු යි. ජීවමාන ආත්මයක සාමය පතා යාච්ඤා කරන්නේ කොහොම ද? හැරත් යාච්ඤා කරන්නේ ඔහු ගේ ම මවයි. මේ ක්‍රමයට යාච්ඤා කිරීම මහා පවක්. ආගමට විරුද්ධ වූ මන්ත්‍ර ගුරුකම්වලට සමාන දෙයක්. නුඹේ නොදත් කම නිසා මීට සමාව දිය යුතුයි. පුතා ගේ ආරක්ෂාව පතා දේව මැණියන්ට යාච්ඤා කරන්න. එවිට නුඹ කළ වරදට පුතා සමා-වෙන්න පුළුවනි. අම්මේ නුඹට තවත් දෙයක් කිය යුතුයි. සමහර විට නුඹේ පුතා ගෙදර එන්න පුළුවනි. නැති නම් ලියුමක් එවන්න පුළුවනි. යන්න, ගිහින් සාමයෙන් සිටින්න, නුඹේ පුතා ජීවත්ව සිටින බව මට සනීරව කියන්න පුළුවනි."

"සවාමීනි, අප හැම දෙනා වෙනුවෙන් හා අපේ පාපයන් වෙනුවෙන් යාච්ඤා කරන අපේ ගැලවුම්කාරයා වූ ඔබතුමාට දෙවිඝන් වහන්සේ ප්‍රශංසා කරන සේක්වා."

තමා දෙසට යොමු වූ දීප්තියෙන් බැබළෙන නෙත් දෙකක් තවුසා පිරිස අතරින් දුටුවේ ය. කාස රෝගයෙන් පෙළෙන්නකු වැනි දිරාගිය ගතින් යුත් තරුණ ගැමි ලියක් තවුසා දෙස නිහඬව බලා සිටියි. ඈ ඉතා බැගෑපත්ව යම් කිසිවක් ඉල්ලන බව ඇගේ දෑසින් පෙනේ. එහෙත් තවුසා ළගට යාමට ඕ බිය වූවා ය.

"දරුව නුඹට තියෙන අමාරුව කුමක් ද?"

"මගේ ආත්මය පාපයෙන් නිදහස් කරන්න." යි ඉතා සෙමින් පැවසූ තරුණිය තවුසා ගේ දෙපා ළග දනින් වැටී "සවාමීනි මා බොහො ම පව් කර තියෙනවා. ඒ පව්වලට මා තුළ ලොකු බයක් තියෙනවා" යි කීවා ය.

තවුසා පහත පඩියට බැස්සේ ය. තවමත් දනින් වැටී සිටි තරුණිය දනගාමින් තවුසා ළගට ඇදුණා ය.

"මා අවුරුදු තුනක සිට වැන්දඹු ජීවිතයක් ගත කරනවා" යි ඕ රහසක් කියන්නාක් මෙන් සෙමින් කීවා ය. කතා කරන අතර ඕ වෙව්ලන්නට වූවා ය. "මා මගේ සවාමිපුරුෂයා සමග ගත කළේ බොහො ම කාලකණ්ණි ජීවිතයක්. ඔහු මට වඩා බොහො ම වයසයි. කිසි ම අනුකම්පාවක් නැතිව මට තැළුවා. දැන් ඔහු ලෙඩින්. බැරි වෙලාවත් සනීප වුණොත් මොකද මට වෙන්නේ? එතකොට මට කල්පනා වුණා.........."

"ටිකක් ඉන්න" යි පවසමින් ඉතිරිය ගේ කතාව නතර කළ තවුසා ඇගේ මුවට කන ළං කෙළේ ය.

රහසක් කියන්නාක් මෙන් ඈ ඉතා සෙමින් කළ කතාව කිසිවකුට නොතේරුණි.

"හවුරුදු තුනකට ඉස්සර?" යි තවුසා විමසී ය.

"එහෙමයි, අවුරුදු තුනකට ඉස්සර. ඒ කාලේ මා මේ ගැන වැඩිය කල්පනා කළේ නැහැ. දැන් මට නිතර අසනීප වෙනවා. මේක මගේ හිතට ලොකු බරක්. මට අමතක කරන්න බැහැ."

"කොපමණ ඈත සිට ද පැමිණියේ?"

"හැතැප්ම් තුන් සියකට වඩා දුර ඉඳලා."

"පාපෝච්චාරණය කරන විට මේ ගැන පූජකයාට මතක් කළා ද?"

"දෙපාරක් ම මතක් කළා."

"නුඹ සත්ප්‍රසාදයට බඳවා ගත්තා ද?"

"එහෙමයි, නමුත් මම බයයි. මම මැරෙන්න බයයි."

"දුව කිසිම දෙයකට බය වෙන්න එපා. නොසන්සුන් වෙන්න එපා. නුඹ කළ පව් ගැන පසුතැවෙනවා නම් සුරිඳුන් නුඹට සමාව දෙනවා ඇති. තමා කළ පව් ගැන පසුතැවෙන්නාට සුරිඳානෝ සමාව දෙන සේක. සුරිඳුන් සමාව නොදෙන පාපයක් මේ මිහිපිට නැත. සුරිඳුන් තුළ ඇත්තා වූ අනන්ත අප්‍රමාණ ප්‍රේමය විනාශ කළ හැකි බලවතෙක් නැත. සුරිඳුන් ගේ ප්‍රේමය ඉක්මවා ගිය හැකි පාපයක් තිබේ ද? තමා කළ පව් මෙනෙහි කොට සිතේ පවතින බිය සහමුලින් ම විනාශ කර දමන්න. නුඹට සිතින් අවබෝධ කළ නොහැකි තරමට සුරිඳුන් නුඹට ප්‍රේම කරන බව මෙනෙහි කරන්න. නුඹ කො තරම් පව් කළත් සුරිඳුන් නුඹට ප්‍රේම කරන බව සිතා ගන්න. 'සිල්වතුන් දස දෙනකුට වඩා එක පව්කාරයකු ගැන දෙව්ලොව ප්‍රීති වන්නේ ය.' කියන පැරණි කතාවක් තියෙනවා. දුව බය වෙන්න එපා. මනුෂ්‍ය-යන්ට වෛර කරන්න එපා. නුඹට වරදක් කළාට තරහ වෙන්න එපා. නුඹට වැරදි කොට මියගිය තැන්නත්තාට සමාවෙන්න. සත්‍යය වෙනුවෙන් ඔහු සමග සමාදානයෙන් සිටින්න. නුඹ කළ පව් ගැන පසුතැවෙනවානම් නුඹ තුළ ප්‍රේමය ඇති වන්නේ ය. නුඹ තුළ ප්‍රේමය ඇති වන්නේ නම් නුඹ තුළ සුරිඳානෝ වසන

සේක. හැම අකුසලයකටම සමාව ලැබෙයි. හැම දෙයක්ම ප්‍රේමය නිසා ආරක්ෂා වෙයි. නුඹ මෙන් මම ද පව්කාරයෙක් නම් මම නුඹට ප්‍රේම කරමි. අනුකම්පා කරමි, එසේ නම් සුරිඳුන් ගේ ප්‍රේමය කො තරම් විශාල විය යුතු ද? ප්‍රේමය මිල කළ නොහැකි අගනා වස්තුවකි. ප්‍රේමයෙන් මුළු ලොව නිදහස් කළ හැකි ය. නුඹ කළ අකුසල් පමණක් නොව අනුන් කළ අකුසල්වලට ද වන්දි ගෙවිය හැකි ය."

මෙසේ පැවසූ තවුසා ඇගේ හිස මත තුන් වරක් කුරුසයේ ලකුණ ඇඳ කරේ පැළඳ සිටි කුඩා සුරුවමක් ගෙන ඇගේ කර වටා දම්මේ ය. ඉතිරිය නිහඬව හිස නමා වැන්ද ය.

අනතුරුව තවුසා කුඩා දරුවකු වඩා ගෙන සිටි නිරෝගි ගැමි ලියක දෙස ප්‍රීතියෙන් බැලුවේ ය.

"ස්වාමීනි, මා ආවේ වාසිගෝරි යේ ඉඳලයි."

"නුඹ මේ දරුවා වඩා ගෙන හැතැපුම් පහක් දුර ආවා ද? නුඹට මගෙන් උවමනා කරන්නේ මොනවා ද?"

"මා ආවේ තමුන්නාන්සේ දක ගැනීමේ ආශාවෙනුයි. මා මීට ඉස්සරත් මෙහෙ ඇවිත් තියෙනවා. තමුන්නාන්සේට මතක නැද්ද? තමුන්නාන්සේ ගේ කල්පනාව එ තරම් හොඳ වෙන්න බැහැ. මට ආරංචි වුණා තමුන්නාන්සේ අසනීපයෙන් සිටින වාය කියා. තමුන්නාන්සේ අසනීපයෙන් සිටිනවාය කියා කියන්න බැහැ. දෙයියන්ගේ පිහිටෙන් තමුන්නාන්සේ තවත් අවුරුදු විස්සක් ජීවත්වේවි. තමුන්නාන්සේ වෙනුවෙන් යාච්ඤා කරන්න බොහො ම දෙනෙක් සිටිනවා. ඉතින් කොහොම ද අසනීප වෙන්නේ?"

"නුඹට අනේක වාරයක් ස්තුති වේවා."

"මා ආවේ තමුන්නාන්සේ ගෙන් උපකාරයක් බලාපොරොත්තු වයි. එය එ තරම් ලොකු දෙයක් නො වෙයි. මේ කොපෙක්ස් හැට අරගෙන මට වඩා දුප්පත් කෙනකුට දෙන්න. පිනට දිය යුතු සැටි දන්නා හොඳම තැනැත්තා තමුන්නාන්සේ නිසා මා කල්පනා කළා මේ මුදල තමුන්නාන්සේට දෙන එක හොඳය කියා."

"නුඹට බොහො ම පින්සිද්ධවෙනවා. නුඹ බොහො ම යහපත් ස්ත්‍රියක්. මම නුඹට ප්‍රේම කරමි. නුඹේ කැමැත්ත අනුව

මම මේ මුදල දුප්පතකුට දෙන්නම්......... ඔය දරුවා තුඹේ දුව ද ?"

"එහෙමයි, මගේ දුව ඉසවෙටා."

"තුඹටත් තුඹේ දුව ඉසවෙටාටත් සුරිඳුන් ගේ ආරක්ෂාව ලැබේවා. තුඹ මගේ සිතේ මහත් සන්තෝෂයක් ඇති කළා."

මෙසේ පැවසූ තවුසා ඔවුන් හැම දෙනාට ම ආයේත් ආශංසනය කොට හිස නමා ආචාර කෙළේ ය.

## හතර වන පරිච්ඡේදය

## මඳ භක්තියෙන් යුත් බාල ලිය

තවුසා ගැමි කතුන් සමග කතා කරන සැටිත් ඔවුන්ට ආශංසනය කරන සැටිත් බලා සිටි එහි පැමිණි ඉතිරියක් ඇගේ නෙත්වලට නිතැතින් ම ගලා ආ කඳුළු ලේන්සුවෙන් පිස දැම්මා ය. නොයෙක් අතින් යහපත් තත්ත්වයක සිටින ඕ මුදු හදවතක් ඇති උසස් සමාජයට අයත් තරුණියකි. අන්තිමේදී සොසිමා තවුසා ඇය වෙතට ගිය විට ඈ මහත් ලැදි කමින් එතුමා පිළිගත්තා ය.

"මෙ තැන සිදු වූ දෙය බලා සිටි මා තුළ ඇති වූ හැඟීම්....." ඈයට ඊට වඩා කතා කරගත නොහැකි විය. ඈ කතාව නතර කළේ අවදිවූ හැඟීම් නිසා කතා කරගත නොහැකි වූ නිසයි. "මිනිසුන් තමුන්නාන්සේට දක්වන ආදරයේ තරම දැන් මට තේරෙනවා. මාත් මිනිසුන්ට බොහො ම ආදරෙයි. ඔවුන්ට ආදරය කිරීමට මා තුළ ලොකු ආශාවක් තියෙනවා. ඉතා චාම් ජීවිතයක් ගත කරන ශ්‍රේෂ්ඨ රුසියන් ජාතිකයන්ට ආදරය නො කර සිටින්න පුළුවන් කවරකුට ද ?"

"කොහොම ද දූත් දුව ගේ සැප සනීප ? ආයෙත් ආවේ මාව හමු වෙන්න ද ?"

"තමුන්නාන්සේ ආයෙත් හමු වීමට මා බොහො ම ආසාවෙන් සිටියා. තමුන්නාන්සේ හමුවීමට අවසර ලැබේවා කියා මා නිතර දෙයියන්ට කන්නලව් කළා. තමුන්නාන්සේ හමුවීමට අවසර

ලැබෙන තෙක් බිම දන ගසා ගෙන යාච්ඤා කිරීමට වුවත් මා කැමැත්තෙන් සිටියා. සවාමීනි, අප ආවේ තමුන්නාන්සේට අපේ කෘතඥතාවය පිරිනැමීමටයි. පසු ගිය බෘහස්පතින්ද, මගේ දුව ලීසා වෙනුවෙන් යාච්ඤා කොට ඇය මත අත තැබීමෙන් පමණක් ඔබතුමා ඇය සුව කළා. අප ආවේ ඒ අත සිඹ අපේ ආදරය හා ගෞරවය පිරිනැමීමටයි."

"කොහොම ද දුව සනීප වුණේ? ඇයට තවම පුටුවෙන් බහින්න බැහැ නේ ද?"

"ගිය බෘහස්පතින් ද සිට රට උණ ගත්තේ නැහැ" යි කාන්තාව නොඉවසිල්ලෙන් කීවා ය. "එපමණක් නො වෙයි. පෙරට වඩා දූන් ඇගේ දෙපා ශක්තිමත්. අද උදේ ඈ වැඩි අමාරුවක් නැතිව නැගිට්ටා. ඈ මුළු රෑම හොඳට නිදා ගත්තා. බලන්න ඇගේ රෝස පාට කම්මුල් දෙස! බලන්න ඇගේ ප්‍රාණවත් නෙත් දෙස! මීට පෙර ඈ නිතර ඇඬුවා, නමුත් දූන් ඈ නිතර ප්‍රීති- යෙන් සිටිනවා. අද උදේ කොහොම හරි නැගිටින්න ඕනෑය කියා ඈ බලකර සිටියා. ඉතින් කිසිම කෙනකු ගේ ආධාරයක් නැතිව ඈ මිනිත්තුවක් පමණ වේලා දෙපයින් සිට ගෙන සිටියා. ඈ ඔට්ටුවක් අල්ලන්න කැමැතියි තව සති දෙකකින් ඇයට නටන්න පුළුවන් බවට. මා දෙස්තරමහත්මයාට කිව්වා ඇවිත් බලන්න කියා. එයා පුදුම වුණා 'මට පුදුමයි. මට මේක කොහෙත්ම විශ්වාස කරන්න බැහැ' කිව්වා. ඉතින් ආයෙත් ආශ්‍රමයට නැවිත් තමුන්නාන්සේට ස්තුති නො කර සිටින්නේ කොහොමද? දුව ලීසා, පියතුමාට ස්තුති කරන්න."

සිනාවෙන් ආලෝක වූ සුන්දර මුහුණ එක් වර ම සන්සුන් විය. දරිය හැකි තරම් වැයම් කොට තවුසාට නමස්කාර කළා ය. එහෙත් ඈ සිනාසෙන්නට වූයේ එවෙලේ සිත මැඩ ගත නො හැකි වූ හෙයිනි.

"මා සිනාසුනේ ඔහු සමගයි" සිනාව මැඩ ගත් ලීසා අලෝෂා පෙන්වමින් දරුවකු මෙන් කීවා ය. සිනාසීම ගැන ඕ ඇයට ම දෙස් පවරා ගත්තා ය

තවුසා පිටිපසින් සිටි අලෝෂා දෙස යම් කිසිවෙක් බැලුවේ නම් ඔහු ගේ කම්මුල් රතු වන සැටි දක ගැනීමට ඉඩ තිබුණි. අලෝෂා ගේ නෙත් බැබලෙන්නට විය. හේ වහා බිම බලා ගත්තේ ය.

"ලීසාට උවමනා කර තියෙනවා තුඹට පනිවුඩයක් කියන්න. ඒ නිසයි ඈ තුඹ දිහා බලා සිනාසුණේ. කොහොම ද අලෝෂා

නුඹේ සැප සනීප ?" කාන්තාව අලෝෂා ගෙන් ඇසුවේ අලංකාර අත්මේස්වලින් වැසුණු අත තරුණයාට පිරිනමමිනි.

තවුසා ආපසු හැරී මහත් ඕනෑකමින් අලෝෂා දෙස බැලූවේ ය. අලෝෂා ලීසා ළඟට ගොස් ලැජ්ජාවෙන් සිනාසී ඇයට අත පිරිනැමුවේ ය. ලීසා වැදගත්කමක් දැක්වූවා ය.

"කැතිරිනා මේ ලියුම දෙන්න කිව්වා. ඈ කිව්වා වරදින්නේ නැතිව හැකි තරම ඉක්මනට ඇය හමුවෙන්න එන්න ය කියා," ලීසා අලෝෂාට ලියුමක් දෙමින් කීවා ය.

"කැතිරිනා කිව්වා මා හමුවෙන්න ඕනෑ ය කියා ? මොනවට ද ?" අලෝෂා පුදුමයෙන් විමසී ය. ඔහු ගේ මුහුණේ නොසන්සුන් කමක් ඇඳී තිබිණි.

"මිතියා ගැන කතා කරන්න වෙන්න ඇති. මේ ළඟ දී වෙච්ච දෙය ගැන කියන්න වෙන්න ඇති" ලීසා ගේ මව වහා කීවා ය. "කැතිරිනා මිතියා ගැන තීරණයකට බැසගෙන ඉවරයි. සමහර විට ඒ ගැන නුඹට කියන්න වෙන්න ඇති ...... මා කොහොම ද දන්නේ? නුඹ පමා නො වී පැමිණේ ය කියා ඈ බලාපොරොත්තු ව සිටිනවා...... යනවා නේ ද? යන එක නුඹ සතු යුතුකමක්."

'මම කැතිරිනා සමග කතා කර තියෙන්නේ එක වරක් පමණයි" අලෝෂා කීවේ තවමත් අවුල් වූ සිතින් යුතුව ය.

'ඈ කො තරම් යහපත් තරුණියක් ද? බලන්න ඇය විඳින දුකක මහත! බලන්න ඇයට වෙන්න යන විපතක හැටි! අනේ කො තරම් භයානක ද?"

"හොඳයි මම යන්නම්"යි අලෝෂා කීවේ කැතිරිනා විසින් තමාට වහා පැමිණෙන ලෙස දන්වා එවන ලද කෙටි ලියමන දිග හැර බලමිනි.

"කැතිරිනා බලන්න යන එක බොහො ම හොඳයි!" ලීස හදිසියෙන් ම ඇති වූ ප්‍රාණවත් ගතියකින් කීවා ය. "මා අම්මට කිව්වා නුඹ නොයන්න පුළුවනි ය කියා. නුඹ බොහො ම හොඳයි. මා නුඹ පිළිගෙන හිටියේ බොහො ම හොඳ තැනැත්තකු හැටි, යට යි. නුඹට ඒ බව කියන්නට ලැබීම කො තරම් ප්‍රීතියක් ද?'

"ලීසා"යි ඇගේ මව කීවේ දියණිය ගේ කතාව නතර කිරීම පිණිස ය. එහෙත් මව අනතුරුව සිනාසුණා ය.

"අලෝෂා නුඹට දූන් අපව අමතක වෙලා නේ ද?" යි ලීසා ගේ මව ඇසුවා ය. "නුඹ දූන් අපව බලන්න එන්නෙ නැහැ. මට ලීසා දෙපාරක්ම කිව්වා නුඹ නැතිව කිසිම සතුටක් නැත කියා."

මෙතෙක් වේලා බිම බලා ගෙන සිටි අලෝෂා අත්තිමේ දී හිස උස්සා බැලුවේ ය. ආයේත් වරක් ඔහු ගේ මුහුණ විළියෙන් රතු විය හේ සිනාසුණේ ය. එහෙත් සිනාසුණේ මන්ද යි තෙමේ ම නොදත්තේ ය. අලෝෂා දෙස නොබැලූ තවුසා ලීසා ගේ පුටුව ලඟ සිටි පූජකයා සමඟ කතා කෙළේ ය. ඔහු ඉතා දිළිඳු ගොවි පවුලකට අයත් වූවකු බව පෙනේ. නූගතකු වුවත් ඔහු ගේ සිත භක්තියෙන් පිරී තිබුණේ ය. තමා බෝහෝ ඈත පළාතක පිහිටි සාන්ත සිල්වැස්ටර් නැමැති දේවස්ථානයක සිට පැමිණි බවත් කිසිම දියුණුවක් නැති එම දේවස්ථානයේ සිටින්නේ පූජකයන් දහ දෙනකු පමණක් බවත් හේ කී ය. ඔහුට ආශීර්-වාද කළ තවුසා කැමැති අවස්ථාවක දී තමා ගේ අසපුවට පැමිණෙන ලෙස ආරාධනා කෙළේ ය.

"තමුන්නාන්සේ මෙ තරම් පුදුම දේවල් කරන්නේ කොහො-ම ද?" පූජකයා හදිසියෙන් ම ලීසා පෙන්නමින් විමසී ය. ඔහු ප්‍රශ්න කළේ ලීසා ගේ රෝගය සුව වීම ගැන ය.

"එහි ඇත්ත නැත්ත කීමට තව ම කල් ගත වුණා මදි. රෝගියකුට ලැබෙන සහනය සම්පූර්ණ සුවය ලෙස පිළිගත නොහැකි යි. සහනය නොයෙක් හේතූන් නිසා ඇති විය හැකි යි. එහෙත් රෝගියා සුව වූයේ නම් එය දෙවියන් ගේ අභිප්‍රායෙන් මිස වෙන කිසිවකු ගේ බලයකින් නො වෙයි. මා හමු වෙන්න එන්න. මට නිතර අමුත්තන් පිළිගන්න ලැබෙන්නේ නැහැ. මා සිටින්නේ අසනීපයෙන්. මට වැඩි කල් ජීවත්වෙන්න ලැබෙන්නේ නැහැ" යි අනතුරුව තවුසා පූජකයාට කී ය.

"නැහැ නැහැ සවාමීනි දෙවියන් වහන්සේ ඔබ තුමා අප අතරින් වෙන් කරන එකක් නැහැ. තමුන්නාන්සේ තව බොහෝ කාලයක් ජීවත්වේවි. තමුන්නාන්සේ අසනීපයෙන් සිටින බව කියන්නේ කොහොම ද? තමුන්නාන්සේට අසනීපයක් තියෙන බව පෙනෙන්නේ නැහැ. තමුන්නාන්සේ නිතර සිටින්නේ ප්‍රීතියෙන්" යි කාන්තාව කිවා ය.

"මට දූන් කිසිම අසනීපයක් නැහැ. මා සිටින්නේ හොඳ සනීපයෙන්. එහෙත් ඒ සනීපය පවතින්නේ ඉතා සවල්ප වේලා-වකට පමණ යි. මට වැළඳී තිබෙන රෝගය කුමක් ද කියා දූන්

මා හොඳට දන්නවා. මා හෙඳ සනීපයෙන් හා ප්‍රීතියෙන් සිටින බව ඔබ කියනවා නම් මා සතුටු කිරීමට ඊට වඩා දෙයක් නැහැ, මිනිසා ජීවත්වන්නේ සැපත පිණිසයි. 'මම මෙලොව ඉපිද දෙවියන් ගේ කැමැත්ත අනුව සහපතක්ම කරමි' යි කීමට සැපවත් මිනිසාට යුතුකමක් තියෙනවා. හැම සහපත් මිනිහකු ම, හැම සාන්තුවරයකු ම සැපවත් ජීවිතයක් ගත කළා."

"තමුන්නාන්සේ ගේ කතාව කොතරම් ශ්‍රේෂ්ඨ ද? කොතරම් නිර්භීත ද?" කාන්තාව කීවා ය. "තමුන්නාන්සේ කියන ඔය සැපත තියෙන්නේ කොතැන ද? තමා සැපවත් ජීවිතයක් ගත කරන්නේ යයි කියන්නේ කොහොම ද? නැවත වරක් තමුන්නාන්සේ දැක ගැනීමට වාසනාව ලැබුණ නිසා පසු ගිය අවසථාවේ දී කීමට නොලැබුණ දෙයක් දැන් කීමට කරුණාකර අවසර දෙන්න. අනේ සවාමීනි, මා බොහොම කාලයක සිට බොහොම දුක් විඳිනවා."

එ වේලේ අවදි වූ හැඟීම්වලින් නොසන්සුන් වූ කුලකත දෑත එක්කොට තවුසාට ආචාර කළා ය.

"ඔබේ දුකට හේතුව කුමක් ද?"

"මගේ සිතේ කිසිම විශවාසයක්, භක්තියක් හෝ ශ්‍රද්ධාවක් නැති නිසයි."

"විශවාසයක් නැත්තේ දෙවියන් ගැන ද?"

"නැහැ නැහැ. මා ඒ ගැන කල්පනා කරන්නේවත් නැහැ. මට විශවාස නැත්තේ අනෙක් ආත්මය ගැනයි. එය තේරුම් ගන්න බැරි ප්‍රහේලිකාවක් වගෙයි. කිසි ම කෙනකුට බැහැ එය විසඳන්න. සවාමීනි, මා කියන දෙය කරුණාවෙන් අහන්න. ඔබතුමා ශ්‍රේෂ්ඨ වෛද්‍යවරයෙක්. මනුෂ්‍යයා ගේ ආත්මය ගැන ඔබ තුමා තුළ ගැඹුරු දැනුමක් තියෙනවා. මා කියන දෙය සම්පූර්ණයෙන් ම විශවාස කරන්න ය කියා මා කියන්නේ නැහැ. එහෙත් මා මේ කාරණය කියන්නේ ලොකු උනන්දුවකින්. මරණයෙන් පසු ඇති ජීවිතය ගැන කල්පනා කරන විට මා තුළ ලොකු බියක් හා සන්තාපයක් ඇති වෙනවා. මෙය කාට කිය යුතු ද කියා මා දන්නේ නැහැ. කිසිවකුට මේ ගැන කීමට මා කැමැති වුණේ නැහැ. මා තමුන්නාන්සේට මේ ගැන කීවේ තවත් ඉවසිය නොහැකි නිසයි. ඔබතුමා දැන් මා ගැන අදහස් කරන්නේ කුමක් ද?"

කුලකත නැවත දෑත එක්කර ගත්තා ය.

"මගේ අදහස් ගැන කරදර වෙන්න එපා" යි සොසිමා තවුසා කීය. "ඔබේ දුකෙහි ඇති අවංක කම මා විශ්වාස කරනවා."

"තමුන්නාන්සේට ස්තූති වේවා. හැම දෙනා තුළ ම විශ්වාසය තියෙනවා නම් ඒ විශ්වාසය පැමිණෙන්නේ කොහි සිට ද? කියා මා නිතර ඇස් වසා ගෙන මගෙන් ම ප්‍රශ්න කරනවා. විශ්වාසය ඇතිවෙන්නේ සොබාදහමෙහි ඇති තර්ජනාත්මක ආශ්චර්යයෙන් හටගත් භීතියෙන් බවත්, ඒ නමුත් එහි කිසිම සත්‍යයක් නැති බවත් ඔවුන් කියනවා. සමහර පොත්වල කියා තියෙනවා වගේ අප මළ පසු අපේ වළවල් උඩ වැවෙන වල් පැළෑටි හැර වෙන කිසිවක් නැතැයි විශ්වාස කරනවා නම් මොකද වෙන්නේ කියා මා කල්පනා කළා. මේක මහ භයානක දෙයක්. මා කොහොම ද විශ්වාසයක් ඇතිකර ගන්නේ? මා යම් යම් දේවල් ගැන විශ්වාස කළේ කිසිවක් ගැන කල්පනා කිරීමට ශක්තියක් නැති කුඩා කාලයේ දී පමණයි. එහෙත් අප විශ්වාස කරන දේවල් ඔප්පු කරන්නේ කොහොම ද? මා පැමිණියේ මගේ සිතිවිලි අවංකව පවසා ඔබතුමාගේ අවවාදය ලබා ගැනීමටයි. මේ අවස්ථාවෙන් ප්‍රයෝජන නොගත්තොත් මගේ මුළු ජීවිතයට ම කිසිවකු ගෙන් මේ ගැටළුවට පිළිතුරක් ලැබෙන්නේ නැහැ. මේක ඔප්පු කරන්නේ කොහොම ද? මේක පිළිගන්නේ කොහොම ද? මේක සිතට කො තරම් දරුණු දුකක් ද? කිසි ම කෙනකු මේ ගැන කල්පනා කරන්නේ නැහැ. මේ ගැන කල්පනා කොට කරදර වෙන්නේ මා පමණයි. මේක මහා භයානක දෙයක්."

"මේක ඔප්පු කරන්න බැහැ. ඒත් ඔබ ලවා පිළිගන්වන්න පුළුවනි."

"ඒ කොහොම ද?"

"ප්‍රේමය කිරීමෙන් ලැබූ අත්දැකීමෙන් විශ්වාස කළ හැකියි. ඔබේ අසල්වැසියාට වෙහෙස නො බලා අවංකව ප්‍රේමය කරන්න. ක්‍රමයෙන් ප්‍රේමය දියුණු වන අතර දෙවියන් පිළිබඳ සත්‍යතාව සමග ආත්මයේ අමරණීයත්වය ගැන ඔබ තුළ දැඩි විශ්වාසයක් ඇති වෙයි. අසල් වැසියාට ප්‍රේම කිරීමෙන් තමා ගැන සම්පූර්ණයෙන් ම අමතක කළ හැකි වුව හොත් ඊට පසුව ඔබ තුළ සැක පහළ නො වෙයි. ඔබේ ආත්මය තුළට සැකය ඇතුළු නොවෙයි. මෙය අත්හදා බැලූ දෙයකි. සත්‍යයකි."

"ප්‍රේමය කිරීමෙන් විශ්වාසය ලැබේ ද? ඔබතුමාගෙන් ඇසිය යුතු තවත් ප්‍රශ්නයක් තියෙනවා. මම සියලූ සත්ත්වයන්ට ප්‍රේම

කරමි. කොතරම් ප්‍රේමය කරනවා ද කියතොත් හැම දෙයක් ම අත්හැර දමා වෙනෙකක් තබා මගේ දුව ලිසා ද අත්හැර දමා කන්‍යා සහෝදරියක වීමට මට අදහස් වෙනවා. දෑස වසා ගෙන මේ ගැන කල්පනා කරන විට හැම දුකක් ම, හැම බාධවක් ම මැඩ ජය ගැනීමට තරම් ශක්තියක් මා තුළ ඇති වෙනවා. සැරව ගලන හොරි, වණ, කුෂ්ට ආදී කිසිවකට මා තුළ පිළිකුලක් හෝ බියක් ඇතිවෙන්නේ නැහැ. ඒ තුවාල දෑතින් සෝදා පිස දා බෙහෙත් දමීම පවා මට කළ හැකි යි. හොරි, වණ, කුෂ්ට වලින් පෙළෙන රෝගීන්ට සාත්තු කිරීම පමණක් නොව ඒ හොරි, වණ, කුෂ්ට සිඹීමට උවත් මට පුළුවනි. ”

“ඔබේ සිතේ නරක අදහස් නැතිව මෙවැනි හොඳ අදහස් ඇතිවීම බොහොම හොඳයි. සමහර විට තමාගේ දැනුමක් නැතිව සැබැවින්ම යහපත් දේවල් කරන්නට ද පුළුවනි.”

“ඔව්, මෙවැනි ජීවිතයක් මට කොපමණ කාලයක් ගත කළ හැකි ද?” යි කාන්තාව මහත් උනන්දුවෙන් ඇසුවේ උමතු වූවකු මෙනි. “ඒක තමයි මගේ සිතට වද දෙන ඉතා ම වැදගත් ප්‍රශ්නය ‘නුඹට කොපමණ කල් මේ විදියට කටයුතු කරන්න පුළුවන් ද?’ කියා මා ඇස් දෙක වසා ගෙන මගෙන් ම ප්‍රශ්න කළා. ‘නුඹ සාත්තු කරන රෝගීන් නුඹට කෘතඥ නොවුවහොත්, නුඹට හිරිහැර කළොත්, (වේදනාවෙන් පෙළෙන රෝගීන් කරන්නාක් මෙන්) නුඹ කරන සේවයේ අගය නොසලකා නුඹට බැණ වැදු-ණොත්, නපුරුකම් කළොත්, නුඹට විරුද්ධව උසස් නිලධාරීන්ට පැමිණිලි කළොත් මොකද කරන්නේ? නුඹ ඔවුන්ට පෙර මෙන් ප්‍රේමය කරනවා ද? නැති නම් ප්‍රේමය නතර කරනව ද? මනුෂ්‍යවර්ගයාට මා කරන ප්‍රේමයට යම් කිසිවකු අකුල් හෙළු-වොත් එය කෙළෙහිගුණ නොසැලකීමක් ලෙස මා පිළිගන්නවා. මගේ මේ අදහස් මට මහත් භීතියක්. කොටින් කියතොත් මා හරියට කුලියට සේවය කරන කෙනකු වගෙයි. මා කරන ප්‍රේමයට මා කුලියක් බලාපොරොත්තු වෙනවා වගෙයි. ඒ කුලිය තමයි ප්‍රශංසාව හා මා කරන ප්‍රේමයට පෙරළා ප්‍රේම කිරීම එහෙම නැතිව කිසි ම කෙනකුට ප්‍රේමය කරන්න මට පුළුවන් කමක් නැහැ.”

ආත්මවධය නිසා හටගත් වේදනාවෙන් පීඩා වූ කාන්තාව කතාව අවසන් කොට සිතේ ඇති කරගත් අධිෂ්ඨානයෙන් යුතුව තවුසා දෙස බැලුවා ය.

“මේ කතාව වරක් මට දොස්තර කෙනකු කියාපු කතාව-කට සමාන යි.” තවුසා පැවසී ය. “ඔහු වයසට ගිය බොහොම

දක්‍ෂ දොස්තර කෙනෙක්. ඔහු ද ඔබ වගේ අවංකව කතා කළාට වොකද ඒ කතාව කවට කමකට සමාන යි. 'මං මුළු මනුෂ්‍ය වර්ගයාටම ප්‍රේමය කරනවා. ඒත් මගේ ඒ ප්‍රේමය මට මහත් පුදුමයක්.' යි දොස්තර මට කිව්වා. "මා මනුෂ්‍ය වර්ගයාට කළ ප්‍රේමය තරමට පුද්ගලයාට කළ ප්‍රේමය අඩු කළා. මනුෂ්‍ය වර්ගයා සුඛිත මුදිත කිරීම සඳහා ආරම්භ කළ හැකි නොයෙක් ව්‍යාපාර ගැන මා විවේකව සිටින විට කල්පනා කළා. මනුෂ්‍යයා ගේ යහපත සඳහා හදිසියෙන් ජීවිත පරිත්‍යාගයක් කිරීමට වුවත් මම සූදානම්. ඒත් තවත් කෙනකු සමග මට දවස් දෙකක් එක ගෙයි සිටින්න බැහැ. මා මෙය අත් දැකීමෙන් අවබෝධ කරගත්ත දෙයක්. යම් කිසිවකු මා ළඟට පැමිණිය හොත් ඔහු ගේ ඒ පැමිණීමෙන් මගේ ආත්මතෘප්තියට බාධා වී මගේ නිදහස සීමා වන බව දැනෙනවා. කො තරම් යහපත් කෙනකු වුවත් ආහාර ගැනීමට පමා වුණොත්, නැති නම් සෙම්ප්‍රතිශ්‍යාව නිසා නිතර සෙම් සොටු ඉරුවොත් මා තුළ ඔවුන් කෙරෙහි මහත් වෛරයක් ඇති වෙනවා. මිනිසුන් මා ළඟට පැමිණි හැටියේම මගේ සිතේ දැඩි කෝපයක් ඇති වෙනවා. ඒත් හැම විටම මා පුද්ගලයන් වශයෙන් මිනිසුන් පිළිකුල් කළ තරමට මනුෂ්‍ය වර්ගයා කෙරෙහි පතළා වූ ප්‍රේමය වැඩි වෙනවා."

"ඒත් කුමක් කරන්න ද? මෙවැනි අවස්ථාවක දී කුමන විදියේ ක්‍රියා මාර්ගයක් අනුගමනය කරන්න ද? අපි දුක්විය යුතුද?"

"නැහැ, දුක් වෙන්න උවමනා නැහැ. ඔබ මෙපමණ කල් දුක් වින්දා ඇති. කැමැති දෙයක් කරන්න. ඉන් ඔබට සැනසිල්ල ලැබේවි. ඔබ අවංක ආත්මාවබෝධයක් ලබා තිබෙන බැවින් දැනටම ඔබ හොඳ ප්‍රතිඵල ලබා තිබෙන බව පේනවා. ඔබ අවංකව මට මේ කතාව කීවේ මගේ ප්‍රශංසාව ලබා ගැනීමට නම් ඔබ කරන ප්‍රේමයෙන් කිසිම යහපතක් වෙන්නේ නැහැ. ඒ ප්‍රේමය සිහිනයකට සමාන හිස් දෙයක්. ඔබේ මුළු ජීවිතය ම අවතාරයක් වගේ නො පෙනී යන අතර මතු ජීවිතය ගැන ඔබ කරන කල්පනාව ද අවසන් වී කෙසේ හෝ තනියෙන් ම සාමය සොයා ගන්නවා ඇති."

"ඔබතුමා ගේ කතාවෙන් මගේ සියලුම බලාපොරොත්තු සුන් වුණා. කෙලෙහිගුණ නොසැලකීම ඉවසිය නොහැකි දෙයක් බව අවංකව කීමෙන් මා කළේ ඔබතුමා ගේ සැලකිල්ල ලබා ගැනීමට වෑයම් කිරීමක් බව ඔබතුමා ගේ කතාවෙන් මට වැටහෙනවා. ඔබතුමා මා ගැන මට නියම අවබෝධයක් ලබාදුන්නා. මගේ සිතිවිලි විනිවිද දැක ඒ සිතිවිලි මට අවබෝධ කර දුන්නා,'

"ඔබ කියන්නේ ඇත්තක් ද? ඔබ කළ මේ පාපෝච්චාරණයෙන් පසු ඔබ යහපත් අවංක තැනැත්තියක බව මං පිළිගන්නවා. සැපත ලබා ගත නොහැකි වුවත් තමා ගමන් කරන්නේ නියම මාර්ගයෙහි බව නිතර මතක තබා ගන්න. කවදාවත් ඒ මාර්ගයෙන් ඈත් වෙන්න වෑයම් කරන්න එපා. සැම කල්හි ම බොරුවෙන් ඈත් වී සිටින්න. හැම බොරුවකින් ම ඈත් වී සිටින්න. විශේෂයෙන් ම බොරුවෙන් තමා රවටා ගන්න එපා. ඔබ කරන රැවටිලි ගැන හැම පැයක් පාසා ම, හැම මිනිත්තුවක් පාසා ම පරීක්ෂාවෙන් සිටින්න. කිසි කලක අනුන්ට පරිභව කරන්න එපා තමාට පරිභව කරගන්නත් එපා. ඔබ කරන අකුසල් ගැන පරීක්ෂාවෙන් සිටීමෙන් ඒ අකුසල්වලින් වළකින්න පුළුවනි. භීතිය නොයෙක් විදියේ බොරුවලින් ඇතිවන දෙයක් වුවත් ඉන් හැකි පමණ ඈත් වී සිටින්න. ප්‍රේමය වැඩීමට බාධා පමුණුවන ඔබේ සිතේ ඇති දුබලකම ගැන බිය නො වන්න. ඔබ කරන අකුසල් ගැන වුවත් බිය වෙන්න එපා. සිතිවිලි මාත්‍රයෙන් පමණක් කරන ප්‍රේමයට සම කරන විට සැබෑවින් ප්‍රේමය සෑරීම බොහොම භයානක දෙයක් නිසා ඔබ සැනසීමට මීට වඩා කිව යුතු දෙයක් නැහැ. සිතිවිලි මාත්‍රයෙන් පමණක් ප්‍රේමය කරන්නා හැම දෙනාට ම පෙනෙන්නට වහා ප්‍රතිඵල බලාපොරොත්තු වෙයි. වේදිකාවක් මත නටන නළුවකු දෙස බලා අත්පොළොසන් දෙන්නාක් මෙන් කරන ප්‍රශංසාවත් සමග මේ ප්‍රතිඵල අවසන් වන්නේ නම් මිනිසුන් දිවි පිදීමට වුවත් කැමැති වෙනවා ඇති. එහෙත් නියම ප්‍රේමය මහත් ආයාසයකි. සිතට ධෛර්යයකි. සමහරකුට එය විද්‍යාවකි. ඔබ බොහෝ වෑයම් කොට ලබා ගැනීමට බලාපොරොත්තුවන උතුම් අභිමතාර්ථය ළගා වනවා වෙනුවට එය ඔබෙන් ඈත්වන බව දැක ඔබ තුළ භීතිය ඇති වන මොහොතේ දී ඔබේ අභිමතාර්ථය මුදුන් පැමිණ මෙතෙක් කල් රහසින් ඔබව නියම මග ගෙන ගිය සුරිඳුන් ගේ ආශ්චර්යය ඔබට පැහැදිලි වන බව මම දිවැස් බලා කියන්නාක් මෙන් කියම් වැඩි වේලා ඔබ සමග කතා කිරීමට නොලැබීම ගැන සමා වෙන්න ඔවුන් මා බලාපොරොත්තුව සිටින නිසා ආපසු අසපුවට යා යුතු යි."

කාන්තාව අඬන්නට වූවා ය.

"කරුණාකර ලීසාට ආශීර්වාද කරන්න." යි කුලකත හදිසියෙන් ම කීවා ය.

"ලීසා ප්‍රේමය ලැබීමට තරම් සුදුසු තැනැත්තියක් නො වෙයි. ඇගේ දඟකාරකම මා මුල සිට බලා සිටියා." යි තවුසා විහිළු කරන්නාක් මෙන් කීය. "ඇයි ඔබ අලෝෂා දිහැ බලා සිනාසුණේ?"

ඇත්ත වශයෙන් ලීසා නිතර අලෝෂාට විහිළු කළා ය. අලෝෂා ලැජ්ජාවෙන් සිටින්නකු බවත්, තමා දෙස නො බලා සිටීමට වෑයම් කරන බවත් ඕ දුටුවා ය. එය හාස්‍යජනක දෙයක් යයි ඕ කල්පනා කළා ය. ලීසා උදක්ම බලා සිටියේ අලෝෂා තමා දෙස බලන තෙක් ය. ඇගේ මුරණ්ඩු බැල්ම ඉවසා සිටිය නො හැකි වූ තැන් අලෝෂා හදිසියෙන්ම නෙත් උස්සා ලීසා දෙස බැලුවේ ය. විශාල ජයක් ලැබුවකු මෙන් ලීසා සිනාසුණා ය එයින් අලෝෂා පෙරට වඩා කලබල විය. අමනාප විය. අන්තිමේ දී ගේ ඇයට නො පෙනෙන සේ තවුසාට මුවා විය. මඳ වේලාවකට පසු වැළැක්විය නොහැකි බලයකින් ඇදුණු අලෝෂා තවමත් ලීසා තමා දෙස බලා සිටින්නේ දැ යි දැන ගැනීමේ ආශාවෙන් බැලුවේ ය. පුටුවේ හිඳ සිටි ලීසා තමා ඇය දෙස බලන්නේ දැ යි දැන ගැනීමේ ආශාවෙන් තමා දෙස එබිකම් කර බලන බව අලෝෂා දුටුවේ ය. අලෝෂා තමා දෙස බලන බව දුටු ලීසා සිනාසුණෙන් "දඟකාර කෙල්ල නුඹ අලෝෂාට මේ තරම් කවටකම් කරන්නේ මන්ද?" යි තවුසාට නො අසා සිටිය නොහැකි විය.

කිසිම බලාපොරොත්තුවක් නැතිව හදිසියෙන්ම ලීසා ගේ දෙකොපුල් රතු විය. නෙත් දීප්තිමත් විය. මුහුණ කල්පනාකාරී විය. ලීසා අමනාපයෙන්, එහෙත් ආදරයෙන් වහවහා කතා කළා ය.

"එහෙනම් අලෝෂාට හැම දෙයක්ම අමතක වුණේ මන් ද? කුඩා කාලයේ දී එයා මාව වඩා ගත්තා. අප එකට සෙල්ලම් කළා. එයා මට අකුරු ඉගැන්නුවා. මා කවදාවත් අමතක නොකරන බව අවුරුදු දෙකකට පෙර ගම හැර යන කොට එයා මට කිව්වා. එහෙත් අලෝෂා දැන් හදිසියෙන්ම මට බය වෙලා. මා එයාව ගිලින්නේ නැහැ! ඇයි එයා මා බලන්න නොඑන්නේ? ඇයි මට කතා නො කරන්නේ? ඇයි අපව බලන්න නො එන්නේ? තමුන්නාන්සේ අලෝෂාට යන්න ඉඩ නො දෙනවා නො වෙයි. අප දන්නවා එයා හැම තැනම යන බව. අපේ ගෙදරට එන්න ය කියා ආරාධනා කිරීම ශිෂ්ට දෙයක් නො වෙයි. එයාට මා අමතක වෙලා නැති නම් එයා අපේ ගෙදරට නොඑන්නේ මන්ද කියා කල්පනා කළ යුතු යි. එහෙත් දැන් අලෝෂා ආත්මය ගලවා ගන්න හදනවා. ඇයි තමුන්නාන්සේ එයාට ඔය ලෝගුව ඇඳගන්න කිව්වේ? ලෝගුව ඇඳගෙන දිව්වොත් වැටෙන්න පුළුවනි."

හදිසියෙන්ම ලීසා දෑතින් මුහුණ වසා ගෙන සිනාසෙන්නට වූවා ය. මුවග රැඳි සිනාවකින් යුතුව ඇගේ කතාවට සවන් දුන්

තවුසා අන්තිමේ දී ඉතා ආදරයෙන් ඇයට ශුභාශංසනය කෙළේ ය. එතුමා ගේ අත ගෙන සිඹ ලීසා අනතුරුව ඒ අත ඇගේ දෑස මත තදකොට ගෙන ඇඬුවා ය.

"මා සමග තරහ වෙන්න එපා." යි ලීසා කීවා ය. "මම වැදගැම්මකට නැති මෝඩ කෙල්ලක්. මා වැනි පිස්සු කෙල්ලක් බලන්න නොපැමිණීමෙන් අලෝෂා කරන දෙය හරි වෙන්න පුළුවනි."

"මම කොහොම හරි ඔබ හමුවීමට අලෝෂා එවන්නම්." යි තවුසා කීවේ ය.

## පස් වන පරිච්ඡේදය

## එසේ ම වේ වා, එසේ ම වේ වා !

තවුසා අසපුවෙන් බැහැර ගොස් සිටි කාලය මිනිත්තු විසි පහක් පමණ ඇත. වේලාව දවල් දොළහමාර පසු විය. මේ පිරිස මිතියා නිසා මෙසේ රැස් වී සිටිතත් තවම මිතියා පැමිණ නැත. ඔවුන්ට මිතියා ගැන අමතක වූවා වැන්න. ආගන්තුක පිරිස මහත් උනන්දුවෙන් කතාවේ යෙදී සිටිනා බව අාපසු අසපුවට පැමිණි තවුසා දුටුවේ ය. ඉවාන් හා පූජකයෝ දෙදෙනා කතාවේ ප්‍රධාන තැනක් ගෙන සිටියහ. පිටර් මියුසෝ මහතා ද කතාවට සම්බන්ධ වීමට වෑයම් කරන බව පෙනේ. එහෙත් ඔහු ගේ ඒ වෑයම නිෂ්ඵල විය. පිරිසෙන් ඈත් වී සිටි ඔහු වරින් වර පළ කළ අදහස්වලට සැලකිල්ලක් නොදක්වන ලදින් එය ද ඔහු ගේ කෝපයට හේතු විය. මීට පෙර හෙතෙම ඉවාන් සමග ඉතා වැදගත් දේවල් ගැන සාකච්ඡා කෙළේ ය. එ හෙයින් මෙහි දී ඉවාන් දක්වූ නොසැලකිල්ල ඔහුට ඉවසාගත නොහැකි විය.

"මෙතෙක් කල් යුරෝපයේ ඇති වූ හැම ප්‍රගතිශීලී ව්‍යාපාරයක ම පෙරමුණෙහි මම සිටියෙමි. එහෙත් දැන් හැදෙන පරම්පරාව සම්පූර්ණයෙන් ම අපව කොන් කරන්නේය" යි පිටර් මියුසෝ කල්පනා කෙළේ ය.

නිහඬ ව හිඳ ගැනීමට පොරොන්දු වූ පියෝදර් කරමසෝ ඇත්ත වශයෙන් ම දැන් මඳ වේලාවක සිට නිහඬ ව සිටියි. එහෙත් ඔහු මියුසෝ දෙස සරදම් සිනාවකින් බලා සිටියේ

තිසැකවම කුලවතා ගේ නොසන්සුන් කමින් ඇස්වාදයක් ලබමින් විය යුතු ය. පැරණි කෝත්තරයක් පිරිමසා ගැනීමට සුදුසු අවසථා-වක් පැමිණෙන තෙක් බලා සිටි කරමසෝට මේ අවසථාවෙන් ප්‍රයෝජන නො ගෙන සිටිය නො හැකි ය. ගේ මියුසෝට ලං වී පහත් හඬින් මෙසේ සරදම් කරන්නට විය.

"ඇයි තුඹ තවුසා ගේ අත සිඹීමෙන් පසුව යන්න නොගියේ? මෙවැනි නොහොබිනා පිරිසක් සමග සිටීමට ඇයි තුඹ කැමැති වුණේ? තුඹට අපහාසයක් වුණ නිසා තුඹ නතර වුණේ තුඹේ පණ්ඩිත කම පෙන්නා ඒ අපහාසයෙන් නිදහස් වීමට යි. දැන් ඉතින් පණ්ඩිත කම පෙන්නා මිස යන්නේ නැහැ නේ ද?"

"තව වරක් කතාව පටන්ගත්ත ද?——— මම ලෑස්ති වුණේ යන්නටයි."

"තුඹ කවදාවත් යන්නෙ නැහැ. තුඹ යන්නේ අප සේරම ගියාට පසුව යි." තවුසා අසපුවට ඇතුළු වනවාත් සමග කරමසෝ කුලවතාට තවත් ඇනුම් පදයක් කී ය.

කතාව මද වේලාවකට නතර විය. කලින් හුන් තැන ම හිඳ ගත් තවුසා, කරමින් සිටි කතාව නො නවත්වන ලෙස දන්-වන්නාක් මෙන් පිරිස දෙස ආදරයෙන් බැලුවේ ය. තවුසා ගේ මුහුණේ ඇතිවන හැම විපරියාසයක්ම ඇඳින සිටි අලෝෂා එතුමා විඩාපත් ව සිටින බවත් හිඳ ගැනීමට එතුමා මහත් වෑයමක් කරන බවත් දුටුවේ ය. මෑතක සිට කීප වරක් ම අධික වෙහෙස නිසා එතුමා ගේ සිහි මූර්ජා විය. එවැනි අවසථාවල දී එතුමා ගේ මුහුණේ හා තොල්වල ඇතිවන සුදුමැලි ගතිය දැන් දකින්නට තිබිණි. එහෙත් මේ රැස්වීම විසුරුවා හැරීමට එතුමා කැමැති නොවී ය. මේ පිරිස මෙසේ නතර කරගෙන සිටින්නේ එතුමාට විශේෂ වූ කිසියම් හේතුවක් නිසා බව පෙනේ. ඒ හේතුව කුමක් විය හැකි ද? අලෝෂා තවුසා දෙස සැලකිල්ලෙන් බලා සිටියේ ය.

"අප සාකච්ඡා කළේ මේ මහතා විසින් ලියන ලද ඉතා වැදගත් ලිපියක් ගැනයි" පුස්තකාලයාධිපති ඉවෝසි පියතුමා තවුසාට ඉවාන් අඳුනා දෙමින් කී ය. "මේ මහත්මයා අලුත් අදහස් කීපයක් ම ඉදිරිපත් කර තියෙනවා. මගේ අදහසේ හැටියට මහත්-මයා ගේ තර්කය දෙ පැත්තට ම ගැලපෙනවා. එය පැවිද්දන් සඳහා පවතින විනිශ්චයශාලා හා ඒවායේ නඩු ඇසීමට ඇති ඉඩකඩ ගැන විනයදරයකු විසින් ලියන ලද පොතකට පිළිතුරක් වශයෙන් ඉපයන ලද ලිපියක්."

"මට බොහොම කනගාටුයි මහත්මයා ගේ ලිපිය කියවන්න නොලැබීම ගැන. එහෙත් මා ඒ ලිපිය ගැන අහල තියෙනවා" යි තවුසා ඉවාන් දෙස සැලකිල්ලෙන් හා උනන්දුවෙන් බලා පැවසී ය.

"මහත්මයා ඉතා වැදගත් අදහසක් ඉදිරිපත් කර තියෙනවා" ඉවෝසි පියතුමා නැවත කී ය. "අපේ ආගමට අයත් නඩු ඇසීමේ බලය සම්බන්ධව නම් ආගම රජයෙන් වෙන් කරනවාට මේ මහත්මයා කැමැති නැහැ."

"ඒක බොහොම වැදගත් අදහසක්. ඒත් ඒ අදහස ඉදිරි-පත් කරන්නේ කුමන හේතුවක් ඇතිව ද?" යි තවුසා ඉවාන් ගෙන් විමසුවේ ය.

ඉවාන්, තවුසා ඇසූ ප්‍රශ්නයට පිළිතුරු දුන්නේ ය. එහෙත් ඔහු පිළිතුරු දුන්නේ අලෝභා සිතුවාක් මෙන් නොසැලකිල්ලෙන් නො ව යහපත් සිතින් හා විනීත ගතියෙන් ද යුතුව ය.

"මා ලිපිය පටන් ගත්තේ ආගම හා රජය අතර සබඳ කමක් පැවැත්විය නොහැකි වුවත් ආගමට හා රජයට අයත් මූලික ප්‍රතිපත්ති හැම දම එකට පැවැත්විය හැකි බව පෙන්නා දෙමිනුයි. මේ ව්‍යාකූල වූ ප්‍රතිපත්තිවලින් සාමාන්‍ය ප්‍රතිඵලයක් හෝ නොලැබෙන්නේ එහි මූලික පදනමෙහි කිසිම සත්‍යයක් නැති නිසයි. මගේ කල්පනාවේ හැටියට ආගමට හා රජයට කවදාවත් නඩු ඇසීම වැනි කරුණු ගැන සාමයෙන් බෙරුමක් කරගන්න පුළුවන් වෙන්නේ නැහැ. මගේ පැවිදි විරුද්ධවාදියාගේ අදහසේ හැටියට ආගම රජයේ ඉතා වැදගත් තැනක් දරනවා. මා කියන්නේ, රජයෙන් කොටසක් නොව මුළු රජය ම ආගමට ඇතුලත් විය යුතු බවයි. කිසියම් කරුණක් නිසා දැන් මෙය ක්‍රියාත්-මක කළ නොහැකි නම්, අනාගතයේ දී ක්‍රිස්තු සමාජය වර්ධනය කිරීමට මේ අදහස මූලික පරමාර්ථයක් හැටියට තබාගත යුතු යි."

"සම්පූර්ණ ඇත්ත" යි මෙතෙක් වේලා තුෂ්ණීම්භූත ව සිටි උගත් පියසි පියතුමා, බැසගත් ස්ථිර නිගමනයෙන් හා ලැදි කමින් ද කී ය.

"ඔය කියන්නේ පාප්වහන්සේ ගේ බලය පැතිරවිය යුතු යයි දක්වන සීමාන්තවාදීන් ගේ අදහසක්" යි නො ඉවසිල්ලෙන් පැවසූ මියුසෝ අනතුරුව කකුලක් පිට කකුලක් දමා ගත්තේ ය.

"මේක එතරම් ලොකු ප්‍රශ්නයක් නො වෙයි." පැවසූ ජෝසෙප් පියතුමා අනතුරුව තවුසා දෙසට හැරී මෙසේ කීවේ ය. "ඉවාන් කරමසෝ මහත්මයා ඔහු ගේ විරුද්ධවාදියා විසින් ඉදිරි පත් කරන ලද මූලික අත්‍යවශ්‍ය යෝජනාවලට දී තිබෙන පිළිතුරු දෙස බලන්න. මේ විරුද්ධවාදියා විනයධරයකු බව තමුන්නාන් සේ මතක තබා ගත යුතු යි. පළමු ව කිසි ම සංවිධානයක්

එම සංවිධානයට අයත් සාමාජිකයන් ගේ සමාජ හා දේශපාලන අයිතිවාසිකම් නැති කරන බලතල පවරා නො ගත යුතු යි. දෙවනුව අපරාධ හා සිවිල් නඩු ඇසීමේ බලය පල්ලියට අයිති නො විය යුතු යි. පල්ලිය දිව්‍යමය ආයතනයක්. ආගමික පරමාර්ථයන් සඳහා ඇති කරගත් මිනිස් සංවිධානයක්. එවැනි සංවිධානයකට අපරාධ හා සිවිල් නඩු ඇසීම සුදුසු නැහැ. තුන්වෙනුව පල්ලිය මේ ලෝකයට අයත් රාජ්‍යයක් නො වෙයි."

"විනයධරයකු විසින් නො ලිය යුතු නුසුදුසු පොතක්"යි පියසි පියතුමා විසින් කීවේ සිතේ හටගත් වේගය මැඩ ගත නො හැකි වූ හෙයිනි. "මහත්මයා විසින් පිළිතුරු සපයන ලද ඔය පොත මා කියෙව්වා" යි පියතුමා ඉවාන්ට කී ය. "පල්ලිය මේ ලෝකයට අයත් රාජ්‍යයක් නො වේ ය යන අදහස අසා මා පුදුම වුණා. පල්ලිය මේ ලෝකයට අයත් රාජ්‍යයක් නොවේ නම් එය මිහි පිට නො තිබිය යුතු යි. බයිබලයේ 'මේ ලෝකයට අයත් නැති' යන වචන යොදා තියෙන්නේ ඔය අදහසින් නො වෙයි. මෙවැනි වචන සමග හිතුමතේ සෙල්ලම් කිරීම නිදෙස් සේ සැලකිය නො හැකි යි. අපේ ක්‍රිස්තුන් වහන්සේ ලෝ පහළ වුණේ උන්වහන්සේ ගේ සංඝනය මේ ලෝකයේ පිහිටුවීමටයි. ස්වර්ගරාජ්‍යය තියෙන්නේ මේ ලෝකයේ නොව දිව්‍යලෝකයේ බව ඇත්තයි. ඒ ස්වර්ගරාජ්‍යයට පිවිසිය හැක්කේ මේ ලෝකයේ පිහිටා ඇති ක්‍රිස්තු සාසනය තුළින්. ඉතින් මේ සම්බන්ධව වචන සමග නිරර්ථක ලෙස සෙල්ලම් කිරීම සමාව දිය නොහැකි මහ වරදක්. ඇත්ත වශයෙන් ක්‍රිස්තුසාසනය මෙලොව පාලනය කිරීමට විනයානුකූල ව පත් කරන ලද රාජ්‍යයක්. අන්තිමේ දී නිසැකයෙන් ම එය මුළු ලොව ම පාලනය කරන රාජ්‍යයක් වනවා ඇති. එසේ වන බවට දෙන ලද ඓද්වපොරොන්දුවක් ද තියෙනවා."

පියසි පියතුමා හදිසියෙන් ම කතාව නතර කළේ අවදි වූ හැඟීම් මැඩ ගැනීමට මෙනි. සැලකිල්ලෙන් හා ගෞරවයෙන් කතාව අසා සිටි ඉවාන් පෙර මෙන් සන්සුන්කමක් හා හිතවත් කමක් දක්වා සොසිමා තවුසාට කතා කෙළේ ය.

"මගේ ලිපියෙන් මා පෙන්නා දීමට අදහස් කළ ප්‍රධාන දෙය පසුගිය ශත වර්ෂ තුළ දී කිතු සමය මෙලොව පැවතුණේ ක්‍රිස්තු සාසනය හැටියට පමණක් බව යි. මිථ්‍යාදෘෂ්ටික රෝම අධිරාජ්‍යයට කිතු සමය වැලඳ ගැනීමට අවශ්‍ය වූ විට කිතු සමය වැලඳ ගෙන නොයෙක් අංශවලින් පරණ මිථ්‍යාදෘෂ්ටික අධිරාජ්‍ය ඒ විධියටම පවත්වා ගෙන ගියා. යථා තත්ත්වය අනුව බලන

විට මෙය සිදුවිය යුතු දෙයක්. එහෙත් රාජ්‍යයක් වශයෙන් රෝමය ඇගේ පැරණි මිථ්‍යාදෘෂ්ටික ශිෂ්ටාචාරයත් සංස්කෘතියත් රාජ්‍ය-යට අයත් පරමාර්ථ හා මූලික ප්‍රතිපත්තිත් ඒ විධියටම රැක ගත්තා. රෝම අධිරාජ්‍යයට ඇතුළු වූ පසු කිතුසමයට පුළුවන් කමක් තිබුණේ නැහැ කිතුසමය රඳා පැවැති මූලික ප්‍රතිපත්ති-ආගම ගොඩනගා ඇති කළුගල් අඩිතාලම — පාවා දීමට. දෙවියන් වහන්සේ විසින් නියම කරන ලද හා පළ කරන ලද පරමාර්ථ මිස වෙන පරමාර්ථයක් අනුගමනය කිරීමට කිතුසමයට පුළුවන් කමක් තිබුණේ නැහැ. මිථ්‍යාදෘෂ්ටික රෝමඅධිරාජ්‍යය සමග මුළු ලෝකය ම කිතුසමයට ඇතුළු කරගැනීම ප්‍රධාන පරමාර්ථයයි. අනාගත බලාපොරොත්තු ඇති හැම සමාජ සංවිධානයක් මෙන්, මගේ විරුද්ධවාදියා ආගම අඳුන්වා දෙන්නාක් මෙන්, ආගමික කටයුතු සඳහා ගොඩනගා ගත් හැම මිනිස් සංවිධානයක් මෙන්, කිතු සමය රජයෙන් තැනක් ලබා ගැනීමට වෑයම් නොකළ යුතු යි. ඒ වෙනුවට හැම රාජ්‍යයක් ම අන්තිමේ දී සම්පූර්ණයෙන් ම කිතු සමයට පරිවර්තනය විය යුතු යි. ඊට පසු ආගමේ පරමාර්ථයන්ට අයෝග්‍ය වූ, පටහැනි වූ, හැම දෙයක් ම ඉවත දැමිය යුතු යි. රජය විසින් ලබාගෙන ඇති කීර්තියට හා තේජසට මේ කිසිවකින් පාඩුවක් වෙන්නේ නැහැ. පාලකයන් ගේ කීර්තියට පළුද්දක් වෙන්නේ නැහැ. ඒ වෙනුවට ඔවුන් මෙතෙක් කල් අනුගමනය කළ මිථ්‍යාදෘෂ්ඨික වැරදි මඟින් ඈත් වී අවසානයේ ලැබෙන උතුම් පලයට යා හැකි නියම මගට පැමිණෙනවා ඇති. 'ක්‍රිස්ති-යානි අධිකරණයේ ප්‍රතිෂ්ඨාපනය' නැමැති ඒ ග්‍රන්ථයේ කතු වරයා ඒ ප්‍රතිෂ්ඨාපනය ඇති කිරීමට පෙර නිවැරදිව කල්පනා කළ යුතුව තිබුණේ ඉහත සඳහන් කළ කරුණු නිසයි. ඔහු ඒ කරුණු දෙස බලා තිබෙන්නේ මේ කාලයට අනිවාර්ය වූ පාංප-යෙන් පිරි අසම්පූර්ණ තාවකාලික ගිවිසුමක් දෙස බලන්නාක් වගෙයි. එහෙත් දුන් ජෝසේප් පියතුමා සඳහන් කළාක් මෙන් ගත්කතුවරයා සඳහන් කළ ප්‍රතිෂ්ඨාපන, සවිර, අත්‍යවශ්‍ය, සදා-කාලික ප්‍රතිෂ්ඨාපන මෙන් ප්‍රකාශ කිරීමට අදහස් කළොත් එය කිතු සමය හා එහි සුද්ධ වූ තාවකාලික වෘත්තියට විරුද්ධ ව යනවා. මගේ ලිපියේ ලුහුඬු අදහස මෙය යි."

"කොටින් කියනවා නම් දහනව වන සියවසේ දී පැහැදිලි ලෙස සංග්‍රහ කරන ලද සමහර සිද්ධාන්ත අනුව ආගම රාජ්‍යය බවට පරිවර්තනය කළ යුතු යි" යි පියසි පියතුමා වචනයක් පාසා වෙන් කොට එහි ඇති වැදගත් කම පෙන්නමින් කී ය. "එය විදුහවට, කාලයේ ඇති වැදගත් කමට හා ශිෂ්ටාචාරයට ඉඩ දීම පිණිස පහත් තත්ත්වයක සිට උසස් තත්ත්වයකට ගෙන යනවා

වශයෙයි. එහෙත් මේ වැඩ පිළිවෙළට ආගම විරුද්ධ වුණොත් ආගමට යන්තම් රජයේ මුල්ලක ඉඩ ලැබෙන්නට පුළුවනි. ඒ ඉඩ සවල්පය ද රජය විසින් පාලනය කරන්න පුළුවනි. නවීන යුරෝපයේ හැම රටක ම ආගමට මේ තත්ත්වය ලැබෙන්-නට පුළුවනි. එහෙත් රුසියන් ජාතිකයා ගේ බලාපොරොත්තුවත් ඉල්ලීමත් ආගම පහත් තත්ත්වයක සිට උසස් තත්ත්වයකට නැගීමක් වශයෙන් ආගමට රජයෙන් තැනක් ලබා ගැනීම නොව රජය සම්පූර්ණයෙන් ම ආගම බවට පරිවර්තනය කිරීම යි. නැති නම් රජය සම්පූර්ණයෙන් ම ආගම බවට පත් කිරීමයි. එය එසේ ම වේ වා! එය එසේ ම වේ වා!"

'තමුන්නාන්සේ එක්තරා ප්‍රමාණයකට මගේ භය දුරු කළා' යි මියුසෝ ආයේත් වරක් කකුලක් පිට කකුලක් දමා සිනාමුසු මුහුණින් කී ය. "මගේ කල්පනාවේ හැටියට ක්‍රිස්තුස් වහන්සේ දෙවන වරට ලෝ පහළ වන කාලයේ දී ඔවැනි කල්පිත අදහසක් තේරුම් ගැනීම අතිසයින් ම දුර්ලභ වෙන්නට පුළුවනි. එය තමුන්නාන්සේ ගේ කැමැත්ත අනුව සිදුවේවා. ඔය අදහස, යුද්ධ කෝලාහල, දේශපාලන සබඳකම් හා බැන්කු ආදිය නැති කිරීම වැනි අලංකාර කල්පිත හීනයක්. ටිකක් සමාජවාදයට හුරු අදහසක්. මගේ කල්පනාව මෙය ආවාට ගියාට ඉදිරිපත් කරන ලද අදහසක් නො වන බව යි. එහෙනම් වැඩි කලක් යන්නට පෙර අපේ ආගම වැරදි කළවුන්ට හා මිනීමරුවන්ට විරුද්ධ ව නඩු පවරා ඔවුන්ට කස පහර දීම, හිරේ යැවීම, වෙනෙකක් තබා එල්ලා මැරීම වැනි දඬුවම් කිරීමට පටන් ගනීවි."

"ආගමික අධිකරණය හැරෙන්නට වෙන කිසිම අධිකරණ ක්‍රමයක් නො තිබුණත් ආගම කවදාවත් වරදකාරයන් හිරේට වත් එල්ලුම් ගසට වත් යවන්නේ නැහැ. අපරාධ ගැන සලකා බැලීමේ ක්‍රමය නිසැකයෙන් ම වෙනස් වෙන්නට පුළුවනි. ඒ වෙනස්වීම දැන් ම සිදුවන දෙයක් නො වෙයි. ඒ සඳහා ටික කලක් ගත වෙන්-නට පුළුවනි." ඉවාන් සන්සුන් ව එහෙත් නොපැකිල කීවේ ය.

"ඔය කියන්නේ අව්‍යංක සිතින් ද?" යි මියුසෝ තරුණයා දෙස තියුණු බැල්මකින් බලා විමසුවේ ය.

"හැම දෙයක් ම ආගම මගින් පාලනය වුණොත් අපරාධ කාරයන් හා වංචාකාරයන් ගේ හිස් ගසා දමනවා වෙනුවට ආගම ඔවුන් ආගමින් පිටුවහල් කරන්නට පුළුවනි" යි ඉවාන් නැවත කී ය. "එතකොට ආගමින් පිටුවහල් කළ අයට මොකද වෙන් නේ? ඔවුහු සමාජයෙන් පමණක් නොව ක්‍රිස්තුන් වහන්සේ

ගේ ආශ්‍රයෙන් ද වෙන් කෙරුවාහු වෙති. ඔහු මනුෂ්‍ය වර්ගයාට පමණක් නොව ක්‍රිස්තුන් වහන්සේගේ සාසනයට විරුද්ධව අපරාධයක් කළා වෙයි. දැන් පවතින්නේත් මෙවැනි ක්‍රමයක්. එහෙත් එය පැහැදිලි ලෙස ප්‍රකාශයට පමුණුවා නැහැ. අද සිටින අපරාධකාරයා නිතර කරන්නේ ඔහුගේ ආධ්‍යාත්මික චිත්තය සමග සමාදානයට පැමිණීමයි. 'මා සොරකම් කළ බව ඇත්තයි. එහෙත් ආගමට විරුද්ධව ගියේ නැහැ. මම ක්‍රිස්තුන් වහන්සේගේ සතුරෙක් නො වෙමි.' අද සිටින අපරාධකාරයා හැම විට ම මේ විදියට තමාට කියා ගන්නවා. එහෙත් ආගම රජයේ තත්ත්වයට පැමිණි විට ඔහුට එය එතරම් ලෙහෙසි වෙන්නේ නැහැ. ඔහුට එසේ තර්ක කළ හැක්කේ ආගමේ නීති රීතිවලට විරුද්ධව ගියොත් පමණයි. 'හැම දෙනා ම වැරදි කරනවා. කිසි ම කෙනකු නියම මග ගමන් කරන්නේ නැහැ. හැම දෙනා ම ආගමට විරුද්ධව ක්‍රියා කරනවා. සොරකු හා මිනීමරුවකු වන මා පමණයි ආගම පිළිපදින්නෙ'යි මෙසේ තමාටම කියා ගැනීම බොහො ම දුෂ්කර දෙයක්. එයට අස්වාභාවික තත්ත්වයක් සමග අස්වාභාවික සිදු වීම් එකතු විය යුතුයි. දැන් අනෙක් අතින් අපි අපරාධ ගැන ආගම පවසන අදහස් විමසා බලමු. ආගම විසින් දැන් අනුගමනය කරන ම්ලේච්ඡ අදහස් හා, සමාජයේ යහපත පිණිස යයි කියමින් අපරාධකාරයන් ආගමින් පිටුවහල් කිරීම වැනි ක්‍රියා මාර්ග සම්පූර්ණයෙන් ම අත්හැර දමා මිනිසා ගේ ගුණ වගාව හා ගැලවීම පතා අවංක ක්‍රියා මාර්ගයක් අනුගමනය කළ යුතු නො වේ ද?"

"ඔය කතාව මට තේරුම් ගන්න බැහැ" යි මියුසෝව් ඉවාන් ගේ කතාවට බාධා කරමින් පැවසී ය. "ඔය කතාව කිසි ම අර්ථයක් නැති සිහිනයක් වගෙයි. ආගමින් පිටුවහල් කරනවා ය කියන්නේ කුමක් ද? එය කුමන විදියේ පහ කිරීමක් ද? ඉවාන් නුඹ කරන්නේ විහිළුවක්."

"අද පවතින තත්ත්වයේ හැටියට එය එසේම විය යුතු යි" තවුසා හදිසියෙන් ම කීවෙන් හැම දෙනා ම එතුමා දෙසට හැරුණහ. "අපරාධකාරයා අපරාධ කිරීමෙන් වැළැක් වීමට ආගම මිස වෙන මගක් නැහැ. ඔහු කළ අපරාධවලට දිය හැකි සුදුසු දඬුවමක් නැහැ. දැන් අපරාධකාරයන්ට දෙන දඬුවම සුදුසු දඬුවමක් නො වෙයි. වැඩි වශයෙන් ඉන් සිදු වන්නේ අපරාධකාරයා ගේ සිත තව තවත් දරදඬු වීම පමණ යි. නියම දඬුවම ඔහු කළ පාපය හෘදයසාක්ෂියෙන් ඇදින ගැනීමයි."

"ඒක කරන්නේ කොහොම ද කියා දැන ගන්න පුළුවන් ද?" යි මීයුසෝ කුතුහලයෙන් විමසී ය.

"බරපතල වැඩ ඇතිව පිටුවහල් කිරීමෙන් හෝ කසයෙන් තළා පිටුවහල් කිරීමෙන් හෝ කිසිම කෙනකු යහමග යවන්න බැහැ. එකම අපරාධකාරයකු වත් අපරාධ කිරීමෙන් වළක්වන්න බැහැ. එවැනි දඬුවම්වලින් අපරාධ වැඩි වෙනවා මිස අඩු වෙන්නේ නැහැ. මහත්මයා එය පිළිගත යුතුයි." තවුසා පිළිතුරු දෙමින් කී ය. "අපරාධ කළ අය සමාජයෙන් වෙන් කිරීමෙන් හෝ ඈත පළාතකට පිටුවහල් කිරීමෙන් හෝ සමාජය ආරක්ෂා වෙන්නේ නැහැ. පිටුවහල් කළ අපරාධකාරයා වෙනුවට තවත් අපරාධ කාරයකු නැතිනම් දෙදෙනකු ඇතිවන නිසයි. අපේ සමාජය ආරක්ෂා කොට අපරාධකාරයන් යහපත් මනුෂ්‍යයන් කළ හැකි කිසියම් දෙයක් තිබේ නම් එය අපරාධකාරයාගේ ආධ්‍යාත්මික සිතෙහි රුචි දෙන ක්‍රිස්තු ධර්මය යි. තමා කරන අපරාධ, එනම් සමාජයට විරුද්ධව තමා කරන පව් නියම ක්‍රිස්තියානිකාරයකු ලෙස අපරාධකාරයා අවබෝධ කරගන්නේ නම් ඒ පව තම විසින් ආගමට විරුද්ධව කරන ලද පවක් බව ඔහු පිළිගනියි අද සිටින අපරාධකාරයා තමා පවක් කළ බව පිළිගන්නේ ඒ පාපය සමාජයට විරුද්ධව නොව ආගමට විරුද්ධව කළ බව අවබෝධ කළොත් පමණයි. ආගමට මෙන් සමාජයට ද නඩු විසඳීමේ බලයක් තිබේ නම් පිටුවහල් කළ අයගෙන් කවරකු ආපසු සමාජයට කැඳවා ගත යුතු ද කියා දැන ගැනීමට පුළුවනි. එහෙත් දැනට ආගමට අයත් නියම විනිශ්චය ක්‍රමයක් නැහැ. ඒ වෙනුවට තියෙන්නේ යහපත උසස් කොට අයහපත පහත් කොට සැලකීමේ බලය පමණ යි. ඒ නිසා ආගමට පුළුවන් කමක් නැහැ අපරාධකාරයන්ට නියම විදියට දඬුවම් කරන්න. ආගම වයම් කරන්නේ අපරාධකාරයා සමාජයෙන් වෙන් නොකොට අවවාද අනුශාසනා කිරීමෙන් යහපත් අයකු කිරීමට යි. එපමණක් නොවෙයි. ආගම අපරාධකාරයා සමග සියලු ආගමික සම්බන්ධකම් පවත්වනවා. සියලුම ආගමික උත්සවවලට සහභාගි වීමට අවසර දෙනවා. සුද්ධ වූ සක්‍රමේන්තුව දෙනවා. ඔහුට කෑම බීම දෙනවා. ආගම ඔහුට සලකන්නේ අපරාධකාරයකුට සලකනවා වගේ නොව, සිරකාරයකුට සලකනවා වගෙයි. නීතිය අපරාධ කාරයා සමාජයෙන් වෙන් කරන්නාක් මෙන් ආගම, එනම් ක්‍රිස්තියානි සමාජය අපරාධකාරයා කොන් කළොත් ඔහුට මොක ද වෙන්නේ? සාමාන්‍ය සිවිල් නීතිය අනුව යමින් ආගමත් අපරාධ කාරයා ආගමින් පන්නා දැම්මොත් මොකද වෙන්නේ? රුසියන් ජාතියට අයත් අපරාධකාරයන් තුළ ආගමික භක්තියක් පවතින නිසා ඔහු ආගමින් පිටුවහල් කළොත් ඔහුට කළ හැකි ඊට වඩා

ලොකු අපරාධයක් තියෙනව ද? යම් විදියකින් ඒ අපරාධකාර-
යා ගේ සිතේ පවතින ආගමිකභක්තිය නැති වුණොත් කො
තරම් භයානක දෙයක් සිදුවිය හැකි ද? දයාබර මවක මෙන්
ආගම අපරාධකාරයාට දඬුවම් නො කර සිටින්නේ දනට ම සිවිල්
නීතිය විසින් ඉතා දැඩි ලෙස දඬුවම් කරන ලද අපරාධකාරයාට
අනුකම්පා කිරීමට කෙනකු සිටිය යුතු නිසයි. සත්‍යය ගැබ් වී
ඇත්තේ ආගම ගන්නා තීරණය උඩ නිසා නීතිය විසින් ගන්නා
තීරණයට ආගමට තාවකාලික වශයෙන් හෝ සම්බන්ධ වීමට
පුළුවන් කමක් නැහැ. කිසි ම සම්මුතියකට එළඹෙන්නට පුළුවන්
කමක් නැහැ. වෙනත් රටවල සිටින අපරාධකාරයන් ඔවුන්
කළ අපරාධ ගැන පසුතැවෙන්නේ නැති ලු. එහෙම වෙන්නේ
ඔවුන් කළ අපරාධය නියම අපරාධයක් නොව අසාධාරණ දූෂ
සමාජයට විරුද්ධ ව කරන ලද ක්‍රියාවක ය යන අදහස මේ
කාලයේ පවතින නොයෙක් ධර්ම විසින් ඔහුට උගන්වන නිසයි
අන්තිමේ දී සිදුවන්නේ කුමක් ද? ඔහු ගේ අනාගතය ගැන කිසි ම
සැලකිල්ලක් නො දක්වා සමාජය ක්‍රොධයෙන් හා වෛරයෙන්
යුතු ව ඔහු පිටුවහල් කර දමනවා. මේ විපත සිදු වන්නේ
දයාවෙන් හා කරුණාවෙන් යුත් ආගමට මැදහත්වීමට අවස්ථා-
වක් නො ලැබීම නිසයි. බොහෝ විට ඒ රටවල බොහො ම
අලංකාර දේවස්ථාන තියෙනවා. නමුත් නියම ආගමක් නැහැ
ආගම රජයට අයත් බලතල ලබාගැනීමට ගොස් ආගමට අයත්
ස්ථානයත් සම්පූර්ණයෙන් ම නැති කර ගත්තා. 'ලූතර් වාදය ,
පවතින රටවල ආගම බොහො ම දුරට පිරිහිලා. රෝමයේ ආගම'
ආගමක් නො ව රාජ්‍යයක් බව ප්‍රකාශ කොට අවුරුදු දහක්
පමණ ගතවෙනවා. ඉතින් තම, ආගමකට අයත් නැති බව
දන්නා අපරාධකාරයා දිනෙන් දින පිරිහෙනවා. යම් විදියකින්
ඔහු ආපසු ආයේත් සමාජයට පැමිණියහොත් ඔහු පැමිණෙන්නේ
සිතේ බලවත් වෛරයකින් යුතුව යි. එවිට සමාජය ඔහු ඉවත්
කර දමනවා. අන්තිමේ දී අපරාධකාරයාට සිදු වන දෙය ඔබට
තේරුම් ගත හැකි යි. සමහර විට ආගමේනුත් මෙ වැනි දේවල්
සිදු වන්න පුළුවනි එහෙත් වෙනසකට තියෙන්නේ මුල් බැස ගත්
විනිශ්චයශාලා හැරෙන්නට විනිශ්චය කිරීම සඳහා අපට ආගම
තියෙනවා දයාබර පුතකු ආරක්ෂා කරන්නාක් මෙන් ආගම අර
අපරාධකාරයා පිටුවහල් නො කොට ඔහු සමග සියලු සබඳකම්
පවත්වා ගන්නවා. හැරත්, වචනයෙන් පමණක් උවත් තවමත්
ආගමික විනිශ්චය කියා දෙයක් පවතිනවා. අපරාධකාරයන් පවා
විනිශ්චය කරන මේ ආගමික විනිශ්චය අනාගතය සම්බන්ධ
කොට පවතින විශාල බලාපොරොත්තුවක් ලෙස පිළිගත හැකි යි.

දුන් ටික වේලාවකට පෙර මෙතැන කියවුණු කතාවේ ඇත්තක් තියෙනවා. එනම් ආගමික විනිශ්චය ක්‍රමයක් ක්‍රියාත්මක වුණොත් ඒ කියන්නේ මුළු සමාජය ම ආගමික සමාජයක් වුණොත් අපරාධ කාරයන් හොඳ මිනිසුන් වෙනවා පමණක් නොව අපරාධ සම්-පූර්ණයෙන් ම නැති වෙන්නට ඉඩ තියෙනවා. අනාගතයේ දී අපරාධ හා අපරාධකාරයන් ගැන අමුතු ක්‍රමයකට කල්පනා කොට, සමාජයෙන් පිටුවහල් කරන ලද අපරාධකාරයන් ආපසු කැඳවා, අපරාධ කිරීමට පෙළඹෙන අය ඉන් වළකා, ඉතා පහත් තත්ත්වයකට පිරිහුණු අය උසස් තත්ත්වයකට නංවන්නට ආගමට පුළුවන් වෙනවා. මේක සත්‍යයක්." තවුසා සිනාමුසු මුවින් කී ය. "එහෙත් ක්‍රිස්තියානි සමාජය තවමත් මෙවැනි පරිවර්තනයකට සූදානම් නැහැ. එය රඳා පවතින්නේ ධර්මිෂ්ඨ පුද්ගලයන් සත් දෙනකු මත පමණයි. තවමත් මිලෙච්ඡ ලක්ෂණවලින් යුත් අපේ සමාජය බලවත් ජගත් ආගමකට පරිවර්තනය වීමේ බලාපො-රොත්තුවෙන් සිටිනවා. එය එසේ ම වේවා! එසේ ම වේවා! එය යුගාන්තයේ දී හෝ සිදුවන බව නියතයි. කාලය ගැන කරදර වීමට උවමනාවක් නැහැ. කාලය හා ඍතු පිළිබඳ රහස දෙවියන් වහන්සේගේ ප්‍රඥාවෙහි, දුර දක්නා නුවණෙහි හා ප්‍රේමයෙහි පවතින බැවින් මනුෂ්‍යයා ගේ කල්පනාවේ හැටියට ඈත තිබෙන් නාක් මෙන් පෙනෙන දෙය දෙවියන්වහන්සේ ගේ නියමය අනුව අත ළඟට පැමිණිය හැකි යි. එය එසේ ම වේවා! එසේ ම වේවා!"

"එසේ ම වේවා! එසේ ම වේවා!" යි පියසි පියතුමා ද තවුසා අනුව භක්තියෙන් කී ය.

"මහ පුදුමයක්" යි මියුසෝ කීවේ කෝපයට වඩා පිළිකුලින් යුතුව ය.

"මොකක් ද පුදුම වෙන්න හේතුව?" ජෝසේප් පියතුමා විමසුවේ ය.

"ඇයි මේක පුදුම වෙන්න දෙයක් නොවැ" යි මියුසෝ හිටිහැටියේ ම කී ය. "රජය සම්පූර්ණයෙන් ම ඉවත් කොට ඒ තත්ත්වයට ආගම පැමිණවීම පුදුම වීමට කරුණක් නො වේ ද? මෙය පාප්වහන්සේගේ ආඥා චක්‍රය මුළු ලොව පතුරවනවාට වඩා පුදුමයක්. හත් වන ගිරිගෝරි පාප්වහන්සේ ගේ අදහස්වලට වඩා බොහෝ ම විශාල යි."

"මහත්මයා කාරණය සම්පූර්ණයෙන් ම වරදවා තේරුම් ගත්තා" යි පියසි පියතුමා තද ගතියක් දක්වමින් කී ය. "ආගම කවදාවත් රජයට පරිවර්තනය නො වන බව කරුණාකර තේරුම්

ගන්න. ආගමට රජයේ තත්ත්වය දී ලෝකය පාලනය කිරීම රෝමය බලාපොරොත්තු වූ දෙයක්. එය යක්ෂයා ගේ තුන් වන පෙළඹවීම යි. ආගම රජයේ තත්ත්වයට ගෙන ඒම නොව කළ යුත්තේ රජය ආගමේ තත්ත්වයට උසස් කිරීම යි. රජය මුළු ලොව පාලනය කරන ආගම බවට පත් කිරීම යි. මෙය රෝමය බලාපොරොත්තු වූ දෙයටත්, මහත්මයා ගේ අදහසටත් වෙනසි යි. මෙය තමා සත්‍ය ලබ්ධික ආගමේ ශ්‍රේෂ්ඨ ඉරණම. මේ තාරකාව පෙරදිගින් පායනවා ඇති."

මියුසෝ නිහඬ විය. ඔහු ගේ ස්වරූපයෙන් අපූරු පෞද්ගලික අහංකාර කමක් දිස් විය. ඔහු ගේ දෙතොල් මත උදුර කම හා නිහතමානිකම දක්වන සිනාවක් රැඳුණේ ය. අලෝෂා මේ සියල්ල බලා සිටියේ සැලෙන හදවතින් යුතුව ය. මේ සාකච්ඡාව නිසා ඔහු තුළ ගැඹුරු නොසන්සුන් කමක් ඇති විය. අලෝෂා රැකිටින් දෙස ඉඳ හිට බැලුවේ ය හිස පහත් කර ගෙන දොර ළඟ නොසැලී සිටි රැකිටින් මේ සියල්ල බලා සිටියේ ය. ඔහු ගේ කම්මුල් වල පැහැයෙන් ඔහු ද නොසන්සුන් සිතින් සිටින බව අලෝෂා දැනගත්තේ ය. එහෙත් ඊට හේතුව නොදත්තේ ය.

"පොඩි කතාවක් කීමට මට පිකක් අවසර දෙන්න" යි මියුසෝ ආරූඪ කරගත් මහේසාක්‍ය කමක් දක්වමින් කී ය. "අවුරුදු කීපයකට පෙර ප්‍රංශයේ ආණ්ඩු බලය අල්ලා ගත් පසු මං පැරිසියට ගියා ආණ්ඩුවේ උසස් නිලධරයෙක් හමු වෙන්න. ඔහු ගේ ගෙදර දී මට බොහොම වැදගත් කෙනෙක් හමුවුණා. ඔහු කිසියම් දේශපාලන රහස් සොයන දෙපාර්තමේන්තුවක සුපිරින්ටැන්ඩන් කෙනෙක්. ලොකු බලයක් ඇති කෙනෙක්. මා තුළ ලොකු කුතුහලයක් ඇති වුණා ඔහු සමග කතා කරන්න. ඔහු මා ගිය ගෙදරට පැමිණ සිටියේ ආගන්තුකයෙක් හැටියට නොවෙයි. ඔහු මා හමු වෙන්න ගිය තැනැත්තා යටතේ වැඩ කරන නිලධරයෙක්. ඔහු කිසියම් වාර්තාවක් ගෙන ස්වාමියා හමු වෙන්න ඇවිත් සිටියා. ඔහු ගේ ස්වාමියා මට බොහොම හොඳට සංග්‍රහ කරන බව දුටු පසු ඔහු එක්තරා ප්‍රමාණයකට බිය සැක නැතිව මා සමග කතා කළා. විදේශිකයන්ට බොහොම ආදරයෙන් කතා කිරීමට ප්‍රංශජාතිකයන් හොඳට දන්නවා. ඔහු කී කතාව මට හොඳට මතක යි. ඔහු කීවේ ඒ කාලයේ දඩුවම් කරනු ලැබූ සමාජවාදීන් ගැනයි මේ මිනිහ ගේ කතාවෙන් ඉතා වැදගත් කොටසක් පමණක් මට හොඳට මතකයි. 'රාජ්‍ය ආණ්ඩු ක්‍රමය නැති කිරීමට වෑයම් කරන මිථ්‍යාදෘෂ්ටික සමාජවාදීන් ගැන අප තුළ කිසිම බියක් නැහැ. ඔවුන් ගැන පරීක්ෂාවෙන්

සිටින නිසා ඔවුන් කරන කියන හැම දෙයක් ගැන ම අපි දන්නවා. නමුත් ඔවුන් අතරේ හොඳට ආගම අදහන සමාජවාදී අදහස් දරන අපූරු මිනිස්සු ටික දෙනෙක් සිටිනවා. අප බයෙන් හා පරීක්ෂාවෙන් සිටින්නේ මේ මිනිසුන් ටික දෙනා ගැන යි. ඔවුහු මහා භයානක මිනිස්සු. ආගම අදහන සමාජවාදියා ආගම නො අදහන සමාජවාදියාට වඩා බොහෝ ම භයානක යි.' එදා මගේ හිතේ හොඳින් කා වැදිණි මේ කතාව දැන් මට මතක් වුණා.''

"එහෙනම් මහත්මයා අපවත් සමාජවාදීන් හැටියට ද පිළිගන්නේ?" යි පියසි පියතුමා හැන්ගි හොරා නැතිව කෙළින් ම විමසුවේ ය.

පිළිතුරු වශයෙන් කුමක් කිය යුතු ද යි කල්පනා කිරීමට මියුසෝට කාලය නො ලැබිණි. ඊට පෙර මෙතෙක් වේලා බලාපොරොත්තුව සිටි අමුත්තා, එනම් මිතියා අන්තිමේ දී දොර ඇරගෙන කාමරයට පිවිසුණේ ය. ඇත්ත වශයෙන් ම ඔහු ගේ පැමිණීම ගැන කවුරුත් බලාපොරොත්තු අත් හැර දමා හ. එහෙයින් ඔහු ගේ හදිසි පැමිණීම ඉතා සුළු වේලාවකට හෝ කා තුළත් පුදුමය ඇති කෙළේ ය.

## හය වන පරිච්ඡේදය

## මෙ වැනි මිනිහකු ජීවත්වන්නේ මන්ද?

හවුරුදු විසි අටක් වයසැති, මඳ උසින් හා සිත් ගන්නා ගතිගුණවලින් හෙබි මිතියා පියෝදරව්ච් කරමසෝ වයසට වඩා මහලු වූවකු සේ පෙනේ. මස්පිඬුවලින් පිරී ඔහු ගේ ශරීරයේ ප්‍රමාණවත් තරම් ශක්තිය තිබෙන්නේ යයි කිව හැකි ය. එහෙත් එතරම් නිරෝගී මිනිසකු නොවන බව හඟවන කිසියම් ලකුණක් ඔහු ගේ මුහුණේ දකින්නට තිබිණි. ඔහු ගේ මුහුණ සිහින් ය. කම්මුල් වල ගැසුණේ ය. එහි ද නිරෝගී නොවන බව හඟවන සුදුමැලි පැහැයක් ඇත. පමණට වඩා ලොකු කළු පැහැති දෑස තුළ දැඩි අධිෂ්ඨානයක ලකුණු පෙනෙන්නට තිබිණි. ඒ සමග එහි නොපැහැදිලි අස්ථිර ගතියක් ද විය. ඔහු කෝපයෙන් නොසන්සුන් ව කතා කරන විට පවා ඔහු ගේ දෑසින් එම කෝපය හෙළි නො වී ය. සමහරවිට ඔහු ගේ දෑසින් හෙළි වුණේ සිතේ පැවැති

ස්වභාවයට වඩා ඉඳුරා වෙනස් දෙයකි. 'මීතියා ගේ සිතේ තියෙන්-නේ මොන අදහස් ද කියා කියන්න බැහැ,' යි ඔහු සමග කතා කළ අය ඇතැම්විට කී හ. ඔහු ගේ දෑසේ පැවැති නලංගුව හා කෝපය දුටු අය, ඔහු ගේ බලාපොරොත්තු නො වූ සිනාවෙන් තැති ගත්තේ ය. ඔහු ගේ දෑස ශෝකයෙන් අඳුරු වූ අවස්ථාවල දී පවා ඔහු විනෝදයෙන් හා ප්‍රීතියෙන් සිටින බව මින් පැහැදිලි විය. එහෙත් මෙවැනි අවස්ථාවල දී ඔහු ගේ මුහුණේ ඇති වන වෙහෙස තේරුම් ගැනීම එතරම් අපහසු නැත. මෑතක සිට ඔහු අපේ නගරයේ ගත කරන අතිශයින් ම නොහික්මුණු කාමුක ජීවිතය හා පියා සමග මුදල් නිසා කලහ කර ගන්නා විට ඔහු තුළ ඇතිවන දරුණු කෝපය ගැන කවුරුත් දන සිටියහ. නැති නම් අසා සිටියහ. මේ ගැන අපේ නගරයේ නොයෙක් කටකතා පැතිර ගියේ ය. මීතියා ස්වභාවයෙන් ම වහා කිපෙන තරුණයකු බව ඇත්තයි. කිසියම් ප්‍රසිද්ධ උත්සවයක දී අපේ සාමදාන විනිසකරු කච්චල්නිකෝ මහතා විස්තර කළාක් මෙන් මීතියා හොඳ සිහිකල්පනාවෙන් තොර වූවෙකි.

මහත් සැලකිල්ලෙන් බොත්තම් දමා හැඩට වැඩට හා නිවැරැදිව කබායක් ඇඳ සිටි මීතියා කළු අත්මේස් දමා උස හිස්වැස්මක් ගෙන සිටියේ ය. මෑත දී යුධහමුදාවෙන් අස් වූ හෙයින් හෙතෙම තවමත් යටි රැවුල කපා උඩු රැවුල වැව්වේ ය. කොට කර කපන් ලද ඔහු ගේ තද දුඹුරු පැහැති හිසකෙස් නළල උඩට වැටෙන ලෙස ඉස්සරහට පිරා තිබිණි.

දුරින් සවිරව අඩි තබා ඔහු යන ගමන යුධභටයකු ගේ ගමන සිහි කළේ ය. දොර ළඟ මඳක් නතර වූ ඔහු කාමරයේ සිටි පිරිස දෙස බලා කෙළින් ම තවුසා වෙත ගියේ මේ මහල්ලා තමා කැඳවන ලද තවුසා විය යුතු යයි අදහස් කළ නිසා ය. එතුමාට සිරස නමා ආචාර කළ මීතියා අනතුරුව එතුමා ගේ ශුභාශංසනය ඉල්ලා සිටියේ ය. තවුසා අසුනෙන් නැගිට මීතියාට ශුභාශංසනය කළ පසු මීතියා එතුමා ගේ අත ගෙන සිඹ අනතුරුව කෝපයෙන් දෙඩන්නකු මෙන් වේගයෙන් මෙසේ කීවේ ය.

"මගේ පමාව ගැන ඔබ හැම දෙනා ම මට සමාවිය යුතු යි. පතිවුඩය ගෙනා තාත්තා ගේ සේවකයා වන පැවල් සෙමාඩියාකෝප් මට දෙවරක් ම කිව්වා අද මෙතැනට පැමිණෙන්නේ එක්කෙනෙකු පමණක් බව. නමුත් දැන් මට හදිසියෙන් ම දැනගන්න ලැබුණා...."

"කලබල වෙන්න එපා." යි තවුසා කී ය. "ටිකක් පමා වුණාට වරදක් නැහැ."

" තමුන්නාන්සේට බොහොම ස්තුතියි. තමුන්නාන්සේ බොහොම කරුණාවන්තයි."

මෙසේ පැවසූ මීතියා ආයේත් තවුසාට හිස නමා ආචාර කොට අනතුරුව හදිසියෙනම පියා දෙසට හැරී ඔහුට ද ඒ විදියටම හරසර දක්වා හිස නමා ආචාර කෙළේය. තමාගේ ගෞරවය හා හොඳ හිත දැක්වීම තමා සතු යුතුකමක් යයි අදහස් කළ මීතියා ඕනෑ කමින්ම පියාට හිස නමා ආචාර කළේය. මෙසේ ආචාර කිරීමට ඔහු කල් තියාම අදහස් කර ගෙන සිටිය බව පෙනේ.

පුතාගේ ආචාරයෙන් මහලු කරමසෝ අන්දුන්කුන්දුන් විය. එහෙත් තැනට සුදුසු ලෙස ක්‍රියා කළ හෙතෙම වහා පුටුවෙන් නැගිට පුතාගේ ආචාරය පිළිගනිමින් සිරස නමා පුතාට ආචාර කෙළේය. ඔහුගේ මුහුණ හදිසියෙන්ම සන්සුන් විය. ඒ සන්සුන් මුහුණ තුළින් සිතේ පැවැති දුෂ්ට අදහස් මතු වී පෙනුණේය. කාමරයේ සිටි අනෙක් අයට ද හිස නමා ආචාර කළ මීතියා, දුර අඩි තබා ඝන සවිර ගමනින් කවුළුව ළඟට ගොස් පියසි පියතුමා ළඟ තිබුණු හිස් පුටුවෙහි හිඳ, ඉදිරියට නැමී, තමාගේ පැමිණීමෙන් කැඩී ගිය කතාවට සවන් දීමට සූදානම් විය.

මීතියාගේ පැමිණීම නිසා කතාවට මිනිත්තු දෙකකට වඩා බාධා නොවූයෙන් ඔහු අසුන් ගත් පසු ආයේත් කතාව ආරම්භ විය. එහෙත් පියසි පියතුමා ඇසූ, සිතේ කෝපය ඇති කරවන සුලු පැනයට පිළිතුරු දීම අනවශ්‍ය යයි මෙවර මීයුසෝ කල්පනා කෙළේය.

" මේ සාකච්ඡාවෙන් ඉවත්වීමට තමුන්නාන්සේ ලා මට අවසර දෙන්න ඕනෑ" යි කුලවතා වැදගත් උදාසීන කමක් දක්වා කීය. "මේක ගැටළු ප්‍රශ්නයක්. ඉවාන් කරමසෝ මහත්මයා අප දෙස බලා සිනාසෙනවා. සමහර විට ඒ මහත්මයාට මේ ගැනත් වැදගත් දෙයක් කියන්න තියෙනවා ඇති. අහල බලන්න."

" බොහොම සුළු දෙයක් මිස කිය යුතු විශේෂ දෙයක් නැහැ"යි ඉවාන් වහා කීය. "සාමාන්‍යයෙන් යුරෝපයේ සිටින නිදහස් මතධාරීන් පමණක් නොව අපේ රටේ සිටින නිදහස් මතධාරී කලාප්‍රේමීන් ද සමාජවාදයේ අවසාන ප්‍රතිඵලය ක්‍රිස්තුධර්මයත් සමග පටලවා ගන්නවා. වගවිභාගයෙන් තොර වූ මේ නිගමනය ඔවුන්ටම විශේෂ වූ ඔවුන්ගේ ගතිගුණ දක්වන දෙයක්. නිදහස් මතධාරීන් පමණක් නොවෙයි පොලීසියත් සමාජවාදය සමග

ක්‍රිස්තුධර්මය පටලවා ගන්නවා. වෙනත් රටවල තියෙන පොලීසි තමයි වැඩි වශයෙන් ම මේ අවුල ඇති කරගත්තේ. මියුසෝව් මහත්මයා කියාපු පැරිසියේ සිද්ධිය තැනට උචිත කතාවක්.”

“මහත්වරුනි, මේ කතාව සම්පූර්ණයෙන් ම නවත්වන ලෙස මා ආයේත් තමුන්නාන්සේලා ගෙන් ඉල්ලා සිටිනවා” යි මියුසෝව් කීය. “ඒ වෙනුවට මම ඉවාන් කරමසෝව් මහත්මයා කියාපු ඒ මහත්මයා ගේ ගතිගුණවලට ගැළපෙන වැදගත් කතාවක් කියන්නම්. මීට දවස් පහකට පෙර විශේෂයෙන් ම කාන්තාපක්ෂය රැස් වී සිටි උත්සවයක දී ඇති වූ වාදයක දී ඉවාන් කරමසෝව් මහත්මයා මෙහෙම දෙයක් කිව්වා. මිනිහකුට ඔහු ගේ අසල්වාසීන්ට ප්‍රේම කරන්න පුළුවන් කමක් මුළු ලෝකයේ ම නැත. මිනිසා සිය වර්ගයාට ප්‍රේම කළ යුතු යයි කියන ස්වාභාවික නීතියක් නැත. මේ ලෝකයේ කිසියම් ප්‍රේමයක් තිබෙනවා නම් එම ප්‍රේමය ඇති වුණේ ස්වාභාවික නීතියක් නිසා නොව අමරණීයත්වය ගැන පවතින විශ්වාසය නිසා ය. ස්වාභාවික නීතිය සම්පූර්ණයෙන් ම රැඳී ඇත්තේ මේ විශ්වාසය උඩ ය. යම් විදියකින් මිනිසා තුළ අමරණීයත්වය ගැන පවතින මේ විශ්වාසය විනාශ වුණොත් ප්‍රේමය පමණක් නොව මේ ලෝකයේ ජීවිතය රැඳී පවතින හැම ජීව බලයක් ම වියළී විනාශ වෙනවා ය. එතකොට දුසිරිත් කියා දෙයක් නැත. හැම දෙයක් ම නීතියට එකඟ වෙනවා ය. මිනීමස් කෑමත් නීතියට එකඟ වෙනවා ය. එපමණක් නො වෙ යි. දෙවියකු හා අමරණීයත්වය ගැන විශ්වාස නො කරන අප වගේ අයට හොඳ නරක පිළිබඳ ස්වාභාවික නීති පැරණි ආගමික නීතිවලට පටහැනි වන ලෙස වහා වෙනස් කරන්න පුළුවන් ය. ආත්මාර්ථය මිනී මැරුමට හේතු වුවත් එය නීතියෙන් පිළිගන්නවා පමණක් නොව ඉතා අවශ්‍ය දෙයක් ලෙස, තර්කයට ගැළපෙන දෙයක් ලෙස ක්‍රියාත්මක කළ දෙයක් ලෙස, ඉවාන් කරමසෝව් මහත්මයා ගේ තත්ත්වයේ සිටින්නකුට අතිශයින් ම ගැළපෙන උදාර උපායක් ලෙස පිළිගත යුතු යි කියා ඉවාන් කරමසෝව් මහත්මයා අපට කියා දුන්නා. ඉතින් මහත්වරුනි, ලෝක සම්මතයට පටහැනි වූ මේ මතයෙන් අපට පුළුවනි ලෝක සම්මතයට පටහැනි වූ අපේ මිත්‍ර ඉවාන් කරමසෝව් මහත්මයා ගේ අනෙක් අදහස් හා සිද්ධාන්ත ගැන අවබෝධයක් ලබා ගන්න. ඒ මහත්මයා දැන් දේශනා කරන්නේත්, අනාගතයේ දී දේශනා කිරීමට අදහස් කරන්නේත් මෙවැනි අදහස් ”ය.

“මහත්වරුනි, මට පිකක් සමා වෙන්න” යි මිතියා හදිසියෙන් ම කීය. “මට ඇසුණු හැටි හරි නම් මහත්මයා කිව්වේ

අපරාධවලට ඉඩ දෙනවා පමණක් නොව අපරාධය හැම මිථ්‍යා දෘෂ්ටිකයකුගෙන් ම සිදුවිය යුතු ඉතා අවශ්‍ය ඥනවන්ත ක්‍රියාවක් ලෙස පිළිගත යුතු බවයි. එහෙම නේ ද?"

"ඔව්, ඒක එහෙම තමයි" පියසි පියතුමා කීය.

"මම ඒක මතක තියාගන්නම්."

මෙසේ පැවසූ මීතියා හදිසියෙන් පටන්ගත් කතාව හදිසියෙන් ම නතර කොට නිහඬ විය. හැම දෙනා ම ඔහු දෙස පුදුමයෙන් බැලූ හ.

"මිනිසුන් තුළ පවතින සදකාලික ආත්මය පිළිබඳ විශ්වාසය නැති වුණොත් ඉන් ඇතිවන ප්‍රතිඵලය කුමක් ද?" යි තවුසා හදිසියෙන් ම ඉවාන් ගෙන් ඇසුවේ ය.

"මා කියන්න අදහස් කළේ එයයි. සදකාලික ජීවිතය ගැන විශ්වාසයක් නැති නම්, හොඳ නරක කියා දෙයකුත් පවතින්නේ නැහැ."

"එවැනි දෙයක් විශ්වාස කිරීම ගැන ඔබ ආශීර්වාද ලැබිය යුතුයි. නැති නම් ඔබ ශෝක විය යුතුයි."

"ශෝක විය යුත්තේ මොන කරුණක් නිසා ද?" යි ඉවාන් සිනාමුසු වෙමින් ඇසුවේ ය.

"ශෝක විය යුත්තේ ඔබ ඔබේ ආත්මය අමරණීය බව විශ්වාස නොකරන නිසයි. මහත්මයා ආගමික විනිශ්චය ක්‍රමයක් ගැන ලියන ලද ලිපිය ගැන විශ්වාස නොකරන නිසයි"

"සමහර විට තමුන්නාන්සේ ගේ අදහස හරි වෙන්න පුළුවනි... කොහොම වුණත් මා කළේ විහිළුවක් නොවෙයි" කියමින් ඉවාන් හදිසියෙන් ම පුදුම පාපෝච්චාරණයක් කෙළේ ය. ඒ සමග ඔහු ගේ මුහුණ රතු විය.

"මහත්මයා විහිළුවක් නොකළ බව ඇත්තයි. නමුත් මේ ප්‍රශ්නයට තවමත් පිළිතුරක් සොයා ගන්නට බැරි වූ නිසා මහත්මයා සිටින්නේ සිත් වේදනාවකින්. ආගමභක්තියෙන් දිවි පිදීමට කැමැති බැතිමතා ඇතැම් විට ශෝකය නිසා වෙනත් නොයෙක් දේවල් කරනවා. මහත්මයා ද සිතේ පවතින ශෝකය අමතක කිරීම පිණිස පත්‍ර සඟරාදියට ලිපි සපයමින් සමාජ ප්‍රශ්න ගැන සාකච්ඡා

කරනවා. නමුත් ඔබ ඉදිරිපත් කරන ඒ තර්ක ඔබම නො පිළි-ගන්නවා පමණක් නොව සිත යටින් බලවත් සිත්තැවුලකින් යුතුව අවඥා කරනවා............ මහත්මයා තවමත් ප්‍රශ්නයට පිළි-තුරු දුන්නේ නැහැ. ප්‍රශ්නයට පිළිතුරු දීම මහත්මයාට මහත් වේදනාවක්."

"එහෙත් මට මේ ප්‍රශ්නයට පිළිතුරු දෙන්න පුළුවන් ද? ඇත්ත වශයෙන්ම පිළිතුරු දෙන්න පුළුවන් ද?" යි ඉවාන් පුදුම වෙමින් ඇසුවේ පෙර මෙන් තවමත් සිනාමුසු මුහුණින් තවුසා දෙස බලමිනි.

"මේ ප්‍රශ්නය සපිර වශයෙන් ම විසඳන්න බැරිනම් එය සපිර වශයෙන් ම කොහොමටවත් විසඳන්න පුළුවන් කමක් නැහැ. එය මහත්මයා ගේ සිතේ පවතින විශේෂ ගතියක්. මහත්මයා ගේ දුකට හේතු වී තිබෙන්නේත් මේ කාරණය මයි. මෙවැනි දුකක් විඳ දරාගෙන උසස් දේවල් ගැන කල්පනා කිරීමට සමත් උදාර හදවතක් දුන් මැවුම්කාරයාණන්ට ස්තුති කළ යුතුයි මේ ලෝකයේදී ම ඔය ප්‍රශ්නයට පිළිතුරු ලබාගැනීමට දෙවියන් වහන්සේ මහත්මයාට අවසර දෙනවා ඇති. මහත්මයා අනුගමනය කරන ක්‍රියා මාර්ගයට දෙවියන් වහන්සේ ආශිර්වාද කරත්වා."

උන් තැනින් නැගිට ඉවාන්ට ශුභාශංසනය කිරීමට තවුසාට ඉඩ තිබිණි. එහෙත් ඊට පෙර තවුසා ළඟට ගිය ඉවාන් එතුමාගේ අත සිඹ ශුභාශංසනය ලබා ආපසු පැමිණ හිඳගත්තේ ය. ඔහුගේ මුහුණේ උනන්දුවක ලකුණු දකින්නට ඉඩ තිබිණි. ඉවාන්ගේ මේ පුදුම ක්‍රියාව හා ඊට පෙර එහි පැවැති කතාබහ කාගේත් සිත් ගත් නිසා හැම දෙනාම මඳ වේලාවකට තුෂ්ණිම්භූත වූහ. අලෝෂා ගේ මුහුණේ කල්පනාකාරි ගතියක් දකින්නට තිබිණි. එහෙත් මියුසෝ නොසන්සුන් විය. ඒ අතරේ කරමසෝ හිඳ ගත් අසුනෙන් වහා නැගී සිටියේ ය.

"අතිගරු සුද්ධවූ පියතුමාණෙනි, මේ සිටින්නේ මගේ ලෙයින් මසින් සැදුණු මගේ ආදරය දිනාගත් පුතා ඉවාන්"යි හෙතෙම ඉවාන් පෙන්නමින් කී ය. "ඉවාන් බොහො ම අවංකයි, කීකරුයි. නමුත් දන් පැමිණි වැඩිමල් පුතා මිතියා බොහො ම වංකයි, අකීකරුයි. ඔහුට විරුද්ධව තමයි මා තමුන්නාන්සේගෙන් යුක්තිය බලාපොරොත්තු වන්නේ. අප ගැන විනිශ්චය කොට අපව බේරා ගන්න. අපට අවශ්‍ය තමුන්නාන්සේ ගේ යාච්ඤාව පමණක් නොව, තමුන්නාන්සේ අනාගතයේ දී අපට සිදුවන දිය ද කිය යුතු යි."

"විකාර කරන්නේ නැතිව කතා කරන්න. මහත්මයා ගේ පවුලේ ඇත්තන්ට අපහාස වන ලෙස කතා කරන්න එපා" යි තවුසා ඉතා පහත් දුබල කටහඬින් කී ය. ක්‍රමයෙන් එතුමා ගේ වෙහෙස වැඩිවන බවත් ශරීරශක්තියෙන් පිරිහෙන බවත් පෙනෙන්නට විය.

"මෙ තැනට එන්නට පෙර මා දැනගත්තා මෙවැනි නොහොබිනා දෙයක් සිදුවන බව." යි මිතියා කෝපයෙන් නැගී සිටිමින් කී ය. "ගරු පියතුමාණෙනි, මට සමා වෙන්න. මම උගතෙක් නො වෙයි. ඔබතුමාට ගරු සරු දක්වා කතා කළ යුතු සැටිවත් මා දන්නේ නැහැ. ඔබතුමා රැවටුණා. ඔබතුමා ගේ යහපත්කම නිසා අපට මෙතැන අද රැස්වන්නට අවසර දුන්නා. මගේ තාත්තාට උවමනා කරන්නේ මේ ස්ථානයට, මේ ශුද්ධ වූ ස්ථානයට අපහාස කිරීම යි. මේ විදියේ නින්දිත වැඩ කරන්නේ කුමන හේතුවක් නිසාද කියා මා දන්නේ නැහැ. ඔහු පමණයි ඒ ගැන දන්නේ. තාත්තා මෙහෙම හැසිරෙන්නේ කිසියම් අදහසක් ඇතිවයි. මා දන්නවා තාත්තා මෙහෙම හැසිරෙන්නේ මන් ද කියා ........."

"මුන් සේරම මට බණිනවා" කරමසෝ කෑ ගා කී ය. "මියුසෝ මහත්මයත් මට දෙස් කියනවා. තුඹත් මට දෙස් කිව්වා නේ ද?"යි කරමසෝ කුලවතා දෙසට හැරෙමින් ඇසී ය. එහෙත් කුලවතා සිහිනෙන්වත් කරමසෝ ගේ කතාවට බඳ කිරීමට අදහස් නො කළේ ය. "මා මගේ දරුවන් ගේ මුදල් හොරකම් කොට සපත්තුවල හංගා දරුවන්ට වංචා කරනවාය කියා මට හැමෝම බණිනවා. ඇයි මට නොබැණ මට විරුද්ධව නඩු දම්මට උසාවිය නැති ද? මිතියා උඹ අත්සන් කළ නෝට්ටු වලින්, උඹේ ලියුම් හා ගිවිසුම්වලින් උඹ ළඟ කො තරම් මුදලක් තිබුණා ද? උඹ කොතරම් මුදලක් නාස්ති කළා ද? උඹ ළඟ කො තරම් මුදලක් ඉතිරි වී තිබෙනවා ද? කියා උසාවියේදී දැනගන්න පුළුවනි. ඇයි මියුසෝ මහත්මයා මේ ගැන මොකවත් නොකියන්නේ? මිතියා ඔහුට අමුත්තෙක් නො වෙයි. කතා නොකරන්නේ මුන් සේරම මට විරුද්ධ නිසයි. මිතියා මට ණයයි. ටිකක් නො වෙයි රූබල් දහස් ගණනක් ණයයි ඔප්පු කරන්න පුළුවන් ලියකියවිලි මා ළඟ තියෙනවා. මිනිහගේ සල්ලාලකම් ගැන ගම පුරා ම පැතිරිලා. මිනිහා මීට ඉස්සර නතර වී සිටිය තැන සිටිය වැදගත් තරුණියක දූෂණය කරන්න කීප වරක් ම රූබල් දහස් ගණනක් ම වියදම් කළා. ඒ ගැන සේරම රහස් තොරතුරු අප දන්නවා. මට පුළුවනි උඹේ

නොසන්ඩාලකම් ඔප්පු කරන්න ............ පියතුමාණෙනි, තමුන්නාන්සේ දන්නවද මගේ මේ පුතා බොහො ම වැදගත්, පොහොසත් පවුලක, හොඳට හැදිච්ච, ශීලාචාර, ගෑනු ළමයෙක් යාළුකරගෙන සිටිය බව? මේ ගෑනු ළමයා, මීතියා ගේ සවාමියාව සිටි, බොහොම නම්බුනාම ලැබූ 'ඇනා පදක්කම' පළඳින නිර්සීත කර්නල් කෙනකුගේ දුවක්. කසාද බඳිනවාය කියා පොරොන්දු වෙලා මීතියා ඒ ළමිස්සි අමාරුවෙ දැම්මා. දන් ඈ අනාථ වෙලා. ඇය කසාද බඳින්න පොරොන්දු වෙලා ඇය ඉදිරිපිට වෙනත් වල් ගෑනියක් එක්ක නටනවා. මේ ගෑනිට වැදගත් මිනිහෙක් ඉන්නවා. නමුත් මිනිහා එක්ක නො වෙයි තනියෙන් ඉන්නේ. මේ ගෑනි හරියට කිසිම කෙනෙකුට කිට්ටු කරන්න බැරි බලකොටුවක් වගෙයි. මීතියා හදනවා රත්රන් යතුරකින් මේ බලකොටුව අරින්න. ඒ නිසා තමයි මේ ගෑනිට දෙන්න මුදල් ඉල්ලමින් මා එක්ක කෝලාහල කරන්නේ. දනටම මේ ගෑනි නිසා රූබල් දහස් ගණන් විනාශ කරලා. ඒකට මොකද මේ ගෑනිට දෙන්න තවමත් මුදල් ණයට ගන්නවා. දන්නව ද කාගෙන් ද මුදල් ණයට ගන්නේ කියා? මොකද මීතියා මම කියන්නද?"

"මා මෙතැනින් යන තෙක් කට වහගෙන හිටපන්" යි මීතියා කෑ ගා කීය. "මා ඉදිරිපිට වැදගත් තරුණියකට නින්ද කරන්න එපා. ඇයට විරුද්ධව වචනයක්වත් කිව්වොත් එය ඇයට කරන මහ අපරාධයක් බව දැනගනින්. මා එහෙම දෙයකට කවදාවත් ඉඩ දෙන්නේ නැහැ."

මීතියා හති දමන්නට විය.

"මීතියා, උඹේ තාත්තා උඹට කළ ශුභාශංසනයේ වටිනා කමක් නැද්ද? මා උඹට සාප කළොත් මොකද වෙන්නේ?" යි කරමසෝ උමතු වූවකු මෙන් අඩමින් කීය.

"අලප්ජි කෛරාටිකයා" යි මීතියා කෝපයෙන් කෑගා කීය.

"කාට ද ඔහොම කතාකරන්නේ? තමාගේ ම තාත්තාටයි. තමා ගේ තාත්තාට ඔහොම කරනවානම් ඉතින් අයට කොහොම නො කරාවිද? මහත්වරුනි, බොහො ම අමාරුවෙන් විශාල පවුලක් රකින දුප්පත් වැදගත් මිනිහෙක් සිටිනවාය කියා විකක් කල්පනා කර බලන්න. මේ මිනිහා කිසියම් වරදක් නිසා කිසි ම තඩු විභාගයක් නැතිව, කිසිම අවනම්බුවක් නැතිව රහසින් සුබහමුදාවෙන් අස්කරන ලද කපිතන් කෙනෙක්. සුමාන තුනකට පෙර මීතියා තැබෑරුමේදී මේ අස රණ මිනිහා

ගේ රැවුලින් අල්ලා ගෙන, මහපාර දිගේ ඇදගෙන ගිහින් දනෝ දහක් බලා සිටිය දී ගහල තියෙනවා. මේ අසරණයා ගැහුම් කන්න කළ වරද කුමක් ද? මගේ පොඩි වෙළඳමකට හවුල් වී සිටින නිසයි.”

“මේක මහ බොරුවක්. පිටතින් ඇත්ත වගේ පෙනුණට ඇතුළින් මහ බොරුවක්” යි මීතියා කෝපයෙන් වෙව්ලමින් කීය. “තාත්තේ, මා මේ මිනිහට තළපු එක යුක්තිසහගතය කියා මා කියන්නේ නැහැ. මා කළ මේ වරද හැම දෙනා ඉදිරිපිට පිළිගන්නවා. ඒ කපිතාන්ට මා මෘගයෙකු වගේ තැළුවා. මට ඒ ගැන බොහොම කනගාටුයි. මගේ මේ තිරිසන් කෝපය නිසා මටම මා පිළිකුලක්. එහෙත් මේ කපිතාන්, එනම් උඹේ හවුල්කාරයා, දැන් උඹ ටිකකට පෙර ‘වල් ගැනියක්’ හැටියට අඳුනා දුන් කාන්තාව ළඟට ගිහින් යෝජනා කර තියෙනවා මා නුඹෙන්, මගේ ඉඩකඩම්වල ගනුදෙනු ගැන වාර්තාවක් ඉල්ලුවොත් මා නුඹෙන් මුදල් ණයට ගෙන දී තිබෙන පොරොන්දුනෝට්ටු සේරම අරගෙන මට විරුද්ධව නඩු දමා මාව හිරේ අරින්න. මාව කොහොම හරි වසඟ කර-ගැනීමට ඇයට උල්පන්දම් දී දැන් කියනවා මා ඇය පස්සෙන් යනවය කියා. ඈ මේ සේරම මට කියා උඹ ගැන හිනා වුණා. උඹ බොහොම මහන්සි ගත්තා ඇය උඹේ දැලට අල්ලගන්න. එහෙත් ඈ දැන් මා සමඟ මිත්‍ර නිසා උඹට බොහොම හිතට අමාරුයි. ඒක නිසයි උඹ මාව හිරේ දමන්න වෑයම් කළේ. උඹට ඇහුණද? ඈ මේ සේරම මට කියා උඹේ මනමාලකම ගැන මතක් කොට හිනා වුණා. ඉතින් මහත්වරුනි තමුන්-නාන්සේල ඉදිරිපිට සිටින මේ මිනිහා මගේ තාත්තා, අනාචාරයේ හැසිරෙන පුතාට දෙස් කියනවා. මහත්වරුනි මගේ කෝපය ගැන තමුන්නාන්සේලා මට සමාවිය යුතු යි. නමුත් මා කල් තියාම දැනගත්තා මේ කපටි නාකියා තමුන්නාන්සේලා සියලු දෙනාම මෙතැනට කැඳෙව්වේ තමුන්නාන්සේලාට නින්දාවක් කරන්න බව. මා මෙතැනට පැමිණියේ තාත්තා කැමැති නම් ඔහුට සමාව දී ඔහුගෙන් සමාව ඉල්ලා ගැනීමටයි. නමුත් දැන් මට පමණක් නොව මා බොහොම ගරු කරන අර වැදගත් කාන්තාවටත් මොහු අපහාස කළ නිසා මා ඇගේ නමවත් සඳහන් කිරීමට කැමති නැහැ. මගේ තාත්තා වුණත් මා මේ මිනිහගේ නොසන්ඩාල කම් එළිකිරීමට අදහස් කරගත්තා.......”

මීතියාට ඊට වඩා කතාකරගත නොහැකි විය. ඔහුගේ දෑස බැබළිණි. ඔහු හුස්ම ගත්තේ අමාරුවෙනි. කාමරයේ සිටි කවුරුත් කලබල වූහ. කවුරුත් හිඳ සිටිය දී සොසිමා තවුසා

පමණක් නොසන්සුන්කමින් නැගී සිටියේ ය. මේ උග්‍ර අවස්ථාවේ දී එතුමා ගෙන් අනුශාසනා ලැබෙනතෙක් අනෙක් පූජකවරු බලා හුන්හ. එහෙත් සුදුමැලි වූ තවුසා නොසැලී සිටියේ ය. එතුමා සුදුමැලි වූයේ එතැන ඇති වූ කෝලාහලය නිසා නොව රෝගයෙන් ඇති වූ දුබල කම නිසා ය. කන්නලව්වකට සමාන සිනාවකින් එතුමා ගේ මුහුණ ආලෝක විය. එතුමා වරින් වර අත එසෙව්වේ කාමරයේ හටගත් කෝලාහලය නතර කිරීමට මෙනි. එතුමා කළ සංඥාව ඒ කෝලාහලය නතර කිරීමට ප්‍රමාණවත් ය. එහෙත් එතුමා කිසියම් දෙයක් සිදුවන තෙක් බලා සිටින්නාක් මෙන් පෙනුණේය. එතුමා සැලැකිල්ලෙන් බලා සිටියේ එතරම් පැහැදිලි නැති දෙයක් ඇඳිනගැනීමට තැත්කරන්නාක්මෙනි. අන්තිමේ දී මියුසෝ නැගී සිටියේ ය. මෙහි සිදුවන දෙය තමන්ට බලවත් නින්දාවක් බව ඔහුට වැටහුණු නිසා ය.

"මෙතැන සිදුවන මේ නින්දාසහගත දෙයට අප හැම දෙනාම වග කිය යුතුයි" කුලවතා කෝපයෙන් කීය. "මා මේ මිනිහා ඇඳින සිටියත් මෙතැන මෙවැනි නින්දිත දෙයක් සිදුවන බව කලින් දැන සිටියේ නැහැ. මේ විකාරය වහා ම නතර කළ යුතුයි. සවාමීනී, දැන් මෙතැන කියවුණු දේවල් ගැන මා මීට කලින් කිසි ම දෙයක් දැන සිටියේ නැහැ. මේවා විශ්වාස කිරීමට මා කැමති නැහැ.......... පුතා වනචර ස්ත්‍රියක් සමග සිටින නිසා පියා තුළ ඊර්ෂ්‍යාවක් ඇති වන බවත්, ඒ ඊර්ෂ්‍යාව නිසා පුතා හිරේ දැමීමට මේ වනචර ස්ත්‍රියත් සමග පියා කුමන්ත්‍රණය කරන බවත්. මා මුළු ජීවිතයට ම දැනගත්තේ අදයි. මෙවැනි මිනිසුන් සමග නේද මා මෙතැනට පැමිණියේ! මා රැවටුණා, අනෙක් අය වගේ මාත් රැවටුණ බව හැම දෙනාගේ ම දැනගැනීම පිණිස කිය යුතු යි."

"මීතියා උඹ මගේ පුතා නොවේ නම් පිස්තෝල දෙකක් ගෙන අඩි තුනක් ඈතින් සිට ලේන්සුවක් තුළින් වෙඩි තබා ගැනීමට මා උඹව ද්වන්ද්ව යුද්ධයකට කැඳවනවා" යි කරමසෝව් හදිසියෙන් ම පය බිම ගසා අස්වාභාවික හඬින් කෑ ගා කී ය.

මුළු ජීවිතය ම බොරුවෙන් ගත කළ මහලු මිනිස්සු සමහර අවස්ථාවල දී ඔවුන්ගේ ම බොරුවට අසුව් අවදි වූ හැඟීම් වලින් යුතුව අඬති. දෙඩති, නැති නම් වෙව්ලති. එහෙත් ඒ මොහොතේ දී හෝ ඊට පසුව හෝ "ලැජ්ජා නැති නාකියා, උඹ කරන්නේ බොරුවක් නේද? උඹ බොරුවට කේන්ති ගිය බව හඟවා මොකක් දෝ නොයියාඩමක් නටන්න හදනවා නේද?" යි තමාට ම කියා ගැනීමට ඔවුහු සමත්වෙති.

වේදනාවෙන් රවා බැලූ මීතියා අනතුරුව පියා දෙස, වචනයෙන් විස්තර කළ නොහැකි පිළිකුල් බැල්මකින් බැලුවේ ය.

"මා කල්පනා කළා මහලු වයසේ සිටින මගේ තාත්තාට ඇප උපස්ථාන කිරීම පිණිස මගේ ප්‍රියාවත් සමග ගමට පැමිණ පදිංචි වෙන්න. නමුත් මගේ තාත්තා වෙනුවට මට දකින්නට ලැබුණේ මොකෙක් ද ? දුරාචාරයේ හැසිරෙන වනචරයෙක්. නින්දා සහගත කෝලමෙක්" යි මීතියා සෙමින් කීවේ කෝපය මැඩ ගැනීමට වෑයම් කරන්නාක් මෙනි.

"වරෙත් වන්ද්ව යුද්ධයකට" යි මහල්ලා කෑගා පුතාට කතා කෙළේ ය. "මියුසෝ, උඹ දනගනින් උඹේ මුළු පරම්පරාවේ ම හිටියේ නැහැ උඹ දන් 'වනචර ගෑනි' කියාපු ගෑනිට සම-කරන්න පුළුවන් උතුම් සත්‍රියක්. මීතියා උඹ කසාද බඳින්න සිටි ලමිස්සි මේ 'වනචර ගෑනි' වෙනුවෙන් අත්හැරියේ ඈ මේ සත්‍රියට අලගුවලටවත් තියන්න බැරි බව උඹ දන්න නිසා විය යුතුයි. ඒ වගේ ලමිස්සියකටයි 'වනචර ගෑනි' කියන්නේ."

"බොහො ම ලැජ්ජයි" ජෝසෙප් පියතුමා කී ය.

"බොහො ම ලැජ්ජයි, කැතයි." මෙතෙක් වේලා නිහඬව සිටි කල්ගානෝ වෙව්ලමින් කී ය. ඔහු ගේ මුහුණ කෝපයෙන් රතු විය.

"ඇයි මෙ වැනි මිනිහෙකු ජීවත් වන්නේ? " යි කෝපයෙන් සිටි මීතියා බොල් හඬින් කෑ ගා ඇසුවේ, අංග විකල වූවකු මෙන් පෙනෙන තරමට උරහිස් හකුළා ගනිමිනි. "මේ ලෝකය අපිරි-සුදු කරමින් තවත් ජීවත්වීමට මේ මිනිහාට ඉඩ දෙන්න පුළුවන් ද?" යි මහලු පියා දෙසට ඇඟිල්ල දිගු කොට ඉතා අමාරුවෙන් කියා අනතුරුව කාමරයේ සිටි හැම දෙනා දෙසම බැලුවේ ය.

"පූජකවරුනි, මේ පිතෘඝාතකයා කියන දෙයට ඇහුම්කන් දෙන්න" යි කරමසෝ ජෝසෙප් පියතුමා ළඟට දුවමින් කී ය "තමුන්නාන්සේ 'බොහො ම ලැජ්ජ යි' කී කතාවට දෙන්න පුළුවන් පිළිතුර මේක යි. තමුන්නාන්සේ බොහොම ලැජ්ජයි කීවේ මොන-වට ද? අර වනචර ස්ත්‍රියට ද? ආත්මයේ ගැලවීම සොයන තමුන්-නාන්සේලාට වඩා ඒ වනචර ස්ත්‍රිය සුද්ධ යි. පිරිසුදුයි, හොඳයි. ඈ තරුණියක් නිසා නොමග යන්න ඇති. නරක ආශ්‍රය නිසා නොමග යන්න ඇති. එහෙත් ඇගේ හිත හොඳ යි. පිරිසුදු යි. ඇගේ සිතේ ප්‍රේමය තියෙනවා. ප්‍රේම කළ ස්ත්‍රියට ක්‍රිස්තුන් වහන්සේ සමාව දුන්නා."

"එවැනි ප්‍රේමයකට නො වෙයි ක්‍රිස්තුන් වහන්සේ සමාව දුන්නේ" යි කරුණාවෙන් පිරි හදවතක් ඇති ජෝසෙප් පියතුමා නො ඉවසිල්ලෙන් කීය.

"එහෙනම් ක්‍රිස්තුන් වහන්සේ සමාව දෙන්න ඇත්තේ තුඹලා වැනි පූජකවරුන්ට වෙන්න ඇති. තුඹලා මෙතැන ඉඳ ගෙන ආත්මය ගලවා ගැනීමට ගෝවා කමින් හිතනවා අප තරම් ධර්මිෂ්ඨයන් නැත ය කියා. තුඹලා දවසකට මාළු කුරියකු ගණනේ කාලා හිතනවා මාළු කුරියකු දීලා දෙවියන් වහන්සේ රවටන්න පුළුවන් ය කියා."

"මේක ඉවසන්න පුළුවන් දෙයක් නො වෙයි" යන හඬ කාමරයේ හැම දෙසින් ම ඇසිණි.

එහෙත් මේ අසෝභන සිද්ධිය බලාපොරොත්තු නො වූ ලෙස අවසන් විය. තවුසා හිඳ ගත් පුටුවෙන් වහා නැගී සිටියේ ය. අලෝෂා වහා එතුමාගේ අතින් අල්ලා ගත්තේ ය. මිතියා ළගට ගිය තවුසා අනතුරුව මිතියා ඉදිරිපිට බිම දනින් වැටුණේ ය. එතුමා දුබලකම නිසා බිම වැටුණේ ය යි අලෝෂා කල්පනා කෙළේ ය. එහෙත් එය එසේ නො වේ. තවුසා මිතියාගේ දෙපා ළග නළල බිම ගැවෙන තෙක් බොහෝ වැයමින් දන ගසා නැමී වැන්දේ ය. අලෝෂා කො තරම් පුදුම වුණේ ද කියතොත් එතුමාට නැගී සිටීමට උපකාර වීමට පවා අමතක විය. තවුසාගේ දෙතොල් මත සිනාවක් රැඳී තිබිණි.

"දැන් ඉතින් මා යනවා. තමුන්නාන්සේලා හැම දෙනා ම මට සමා විය යුතු යි" එතුමා අමුත්තන්ට ආචාර කරමින් කීවේ ය

මිතියා මඳ වේලාවක් පුදුමයෙන් ගල් ගැසී බලා සිටියේ ය. තවුසා ඔහු ළග බිම වැටී ආචාර කළේ කුමන කරුණක් නිසා ද? එහි අදහස කිම? හදිසියෙන් ම දෑතින් මුහුණ වසා ගත් මිතියා "අනේ දෙයියනේ" කියා කෑගා කාමරයෙන් එළියට දිව්වේ ය. කාමරයේ සිටි අනෙක් අය ද එළියට ගියහ. කලබල වූ ඔවුන්ට තමන් කැඳවූ තවුසාගෙන් සමු ගැනීමට පවා අමතක විය. එතුමාගේ ආශීර්වාදය ලබා ගැනීම පිණිස එතුමා ළගට ගියේ කාමරයේ සිටි පූජකයන් පමණි.

"අර තවුසා මිතියාගේ දෙපා ළග වැටුණේ මොකද? මොකක් ද එහි අදහස?" යි කරමසෝ හදිසියෙන් ම ඇසුවේ ආයේත් කතාව ආරම්භ කිරීමට මෙනි. එහෙත් ඔහු කිසිවකු සමග කෙළින් කතා නො කෙළේ ය. ඒ මොහොතේ දී පිරිස තපෝවන සීමාවෙන් පිටවෙමින් සිටියහ.

'පිස්සන් ගේ ප්‍රශ්නවලට පිළිතුරු දීමට මට පුළුවන් කමක් නැහැ" යි මියුසෝ කෝපයෙන් කී ය. "මීට පසු ව මා උඹේ ආශ්‍රය සම්පූර්ණයෙන් ම අත්හරිනවා......... කෝ අර පූජකයා?"

"අර පූජකයා" යන නමින් හැඳින්වූයේ ආශ්‍රමයේ නායක පියතුමා සමග දිවාභෝජනය ගැනීමට ආරාධනා කළ පූජකයා ය. එහෙත් ඒ පූජකයා තාවුසාගේ කුටියෙන් පිට වී යන පිරිසට හමුවුණේ ඔවුන් පැමිණෙන තෙක් මග බලා සිටියකු මෙනි.

"ගරු පියතුමාණෙනි, කරුණාකර මට උපකාරයක් කරන්න. නායක පියතුමාට මගේ ගෞරවය පිරිනමා කියන්න මා තුළ බලවත් ආශාවක් ඇතත්, බලාපොරොත්තු නොවූ කරුණක් නිසා, පොරොන්දු වූ පරිදි එතුමා සමග දිවාභෝජනය ගැනීමට මට පුළුවන් කමක් නැති බව" යි මියුසෝ කිපී කී ය

"ඒ බලාපොරොත්තු නොවූ කරුණ මා යි" කරමසෝව් කතාවට බාධා කරමින් කී ය. "තමුන්නාන්සේට තේරුණා ද? මේ මහත්මයා කෑමට නො යන්නේ මා සමග යාමට ඇති අකැමැත්ත නිසයි. නැති නම් එකපයින් යනවා. මියුසෝ, තමුසේ ගිහින් හොඳට බඩ කට පිරෙන්න කනවා. මා කෑමට යන්නේ නැහැ. මා ගෙදර ගිහින් කෑම කනවා. ආශ්‍රමයේ කෑම කන්න මගේ වැඩි කැමැත්තක් නැහැ. මියුසෝ මගේ හොඳ නෑයා."

"වනචරයා, මම උඹේ නෑයෙක් නො වෙයි. කවදාවත් උඹෙයි මගෙයි නෑකමක් තිබුණේ නැහැ."

"උඹ මගේ නෑයෙක් වුවත්, අප අතරේ නෑකමක් නැතැයි උඹ හැමතිස්සේ ම කියන නිසා මා මේ කතාව කිව්වේ උඹව පිස්සු කරවන්නටයි. මට පුළුවනි පල්ලියේ දිනසටහනින් අපේ නෑකම ඔප්පු කරන්න. ඉවාන්, උඹ කැමැති නම් නතර වෙයන්. මම පස්සේ කරත්තය එවන්නම්. මියුසෝ, උඹ ගිහින්, අප මෙතැන කළ පෙරළිය ගැන නායක පියතුමාට අපේ කනගාටුව ප්‍රකාශ කරපන්."

"උඹ ගෙදර යන බව ඇත්ත ද? උඹ කියන්නේ බොරුවක් නේ ද?"

"මෙතැන කළ පෙරළියෙන් පසු මා කොහොම ද නායක පියතුමාට පෙනෙන්න යන්නේ? මට බොහොම කනගාටුයි මගේ හිත දමනය කරගන්ට බැරිවුණාට. මට බොහෝ ම ලැජ්ජයි. එක මිනිහකුට තියෙනවා මැසඩෝනියාවේ මහා ඇලෙක්සැන්ඩර්

රජතුමාගේ හිතට සමාන හිතක්. තවත් මිනිහකුට තියෙනවා බල්ලකුගේ හිතට සමාන හිතක්. මගේ හිත අර බල්ලාගේ හිතට සමානයි. මට බොහොම ලැජ්ජයි. මේ විදියේ තිත්දිත දෙයක් කරලා මා කොහොම ද ආශ්‍රමයෙන් කෑම කන්නේ? බැහැ බැහැ, මට එන්න බැහැ. මට සමාවෙන්න."

"මෙ මිනිහගේ කතාවේ ඇත්ත නැත්ත දන්නේ යකා පමණයි. මිනිහ අපව රවටන්න හදනව ද දන්නේ නැහැ"යි මියුසෝ කල්පනා කෙළේ ආපසු යන බම්මන්නා දෙස සැකයෙන් බලමිනි. ආපසු හැරී බැලූ කරමසෝ තමා දෙස තවමත් බලා සිටින කුලවතාට අත වැනුවේය.

"මොකද නුඹ නායක පියතුමා සමග කෑමට යනව ද?" යි මියුසෝ අනතුරුව ඉවාන් ගෙන් ඇසුවේය.

"මොකද නැත්තේ? මට ඊයේ විශේෂ ආරාධනාවක් ලැබුණා."

"අවාසනාවකට වගේ මේ භෝජන සංග්‍රහයට යාමට මා බැඳී සිටිනවා වගේ මට දැනෙනවා"යි මියුසෝ කීවේ තමාගේ කතාව අසා සිටි පූජකයාට කිසිම සැලකිල්ලක් දක්වා නොවේ 'මට හිතෙනවා මෙතැන වෙච්ච පෙරළිය ගැන කනගාටුව පළ කොට ඒක අපේ වරද නොවන බව කියන්න...... මොකද නුඹේ කල්පනාව?"

"ඔව්, ඒ අදහස හොඳයි. අපි කියමු අපේ අතේ වරදක් නැහැ කියා........ හැරත් තාත්තා එන්නේ නැහැ නොවැ"යි ඉවාන් කීය.

"ඔව්, නුඹේ තාත්තා නොඒය කියා මාත් බලාපොරොත්තු වෙනවා.!"

කෙසේ වෙතත් ඔවුහු දෙදෙනා එක්ව ගියහ. පූජකයා ඔවුන්ගේ කතාව නිහඬව අසා සිටියේය. එහෙත් මූකලාන මැදින් වැටී ඇති මග දිගේ යන අතරේ නායක පියතුමා ඔවුන් පැමිණෙන තෙක් බලා සිටින බවත්, ඔවුන් පැය භාගයක් පමණ පමාවූ බවත් පූජකයා කීවේය. ඔහුට පිළිතුරක් නොලැබිණි. මියුසෝ ඉවාන් දෙස කෝපයෙන් බැලුවේය.

"හරියට කිසිම දෙයක් සිදුනුණා වගේ කෑමට යනවා. කරමසෝ පවුලේ එවුන්ගේ හැටි ඔහොම තමයි" කුලවතා සිත යටින් තමාටම කියා ගත්තේය.

## හත් වන පරිච්ඡේදය

## වෘත්තියකට හිතැති තරුණයා

තවුසා සහන් ගැබට කැඳවා ගෙන ගිය අලෝෂා අනතුරුව එතුමාට සයනය මත හිඳ ගැනීමට උපකාර විය. එය ඉතා අවශ්‍ය බඩු කැලි කීපයකින් යුත් කුඩා කාමරයකි. ඇතිරිල්ලක් වෙනුවට සමකින් වසන ලද කුඩා යකඩ ඇඳක් එහි තිබා තිබිණි. කාමරයේ මුල්ලක තබන ලද සුරුවම යට පොත් තබා කියවන මේසයක් ඇත. ඒ මේසය උඩ කුරුසයක් සමග බයිබලයක් තබා තිබිණි. විඩා පත් තවුසා ඇඳ මත වැතුරුණේ ය. එතුමා ගේ නෙත් බැබ-ළිණි. එතුමා හුස්ම ගත්තේ ඉතා අමාරුවෙනි. යම් කිසිවක් ගැන කල්පනා කරන්නාක් මෙන් එතුමා අලෝෂා දෙස බැලුවේ ය.

"දරුව, දැන් යන්න. මගේ වැඩ කර ගැනීමට පොපිරී සිටියාම ඇති. නායක පියතුමා ගේ භෝජනාගාරයට ඉක්මනට යන්න. නුඹ එහි සිටීම ඉතා අවශ්‍ය යි."

"මට ඔබතුමා සමග මෙ තැන සිටින්න ඉඩ දෙන්න" යි අලෝෂා කන්නලව් කරමින් කීය.

"නුඹ සිටිය යුත්තේ මෙ තැන නො වෙයි, එ තැනයි. එ තැන කිසි ම සාමයක් නැහැ. නුඹෙන් ඔවුන්ට ලොකු සේවයක් සිදු වෙන්න පුළුවනි. නපුරක් වුණොත් යාච්ඤාවක් කරන්න. දරුව, (තවුසා අලෝෂා ඇමතුවේ දරුවා යන වචනයෙනි.) නුඹේ අනාගතය ගත කිරීමට මේ ආශ්‍රමය සුදුසු තැනක් නො වන බව මතක තබා ගන්න. මා කැඳවා ගැනීමට දෙවියන් වහන්සේ තීරණය කළ පසු සදහට ම මේ ආශ්‍රමය අත්හැර යන්න."

අලෝෂා පුදුම විය.

"ඇයි පුදුම වුණේ? දැනට නුඹට මෙ තැන සුදුසු තැනක් නො වෙයි. ලෝකසත්ත්වයාට උතුම් සේවයක් කිරීම පිණිස මම නුඹට ආශිර්වාද කරමි. නුඹේ ජීවිතය දිග වන්දනා ගමනකට සමානයි. නුඹ විවාහ විය යුතු යි. ආශ්‍රමයට පැමිණීමට පෙර නුඹ දුක සැප හැඳින සිටිය යුතු යි. නුඹ විසින් කළ යුතු දේ බොහෝ ම තිබෙනවා. නුඹ මේ හැම දෙයක් ම ඉටු කරනවාට කිසි ම සැක-

යක් නැහැ. මා මේ හාරදූර කටයුත්ත නුඹට පවරන්නේ ඒ නිසයි. ක්‍රිස්තුන් වහන්සේ නුඹ සමග වසන සේක. එතුමා අත්-හරින්න එපා. එවිට එතුමා නුඹව අත් නොහරියි. නුඹ බොහෝ දුක් වින්ද යුතු යි. ඒ දුක තුළින් නුඹ සැපත සොයා ගන්නවා ඇති. මෙය මා නුඹට දෙන අන්තිම අවවාදය යි. අප්‍ර-මාදව හැම කටයුත්තකම යෙදෙන්න. නුඹ සමග නැවත වරක් මට කතා කරන්නට ලැබෙන්න පුළුවනි. එහෙත් මේ වචනය සිහි තබා ගන්න. දින ගණනකින් නොව පැය ගණනකින් මගේ ජීවිතය අවසන් වන්න පුළුවනි."

අලෝෂා ගේ සිතේ අවදි වූ උග්‍ර හැඟීම් මුහුණින් මතු විය. ඔහු ගේ කටේ දෙ කෙළවර වෙව්ලන්නට විය.

"මොකද දරුවා නුඹ අඬන්නේ?" යි තවුසා මඳ සිනාවක් පා ඇසී ය. "ලෞකික සැප සම්පත්තියට ගොදුරු වූ ගිහියන් මරණය ගැන අඬන්නට පුළුවනි. මෙහි දී මගේ පරලෝ ගමන ගැන අප ප්‍රීති විය යුතු යි. මා වෙනුවෙන් යාච්ඤා කළ යුතු යි. වහා ම නුඹේ සහෝදරයන් දෙදෙනා ළගට යන්න. එක් කෙනකු ළග නොව නුඹ දෙදෙනා ළග ම සිටිය යුතු යි."

මෙසේ පැවසූ තවුසා අලෝෂාට ආශිර්වාද කිරීම පිණිස අත එසෙව්වේ ය. තවුසා ළග සිටීමේ ආශාව කො තරම් දැඩි වුවත් එතුමා ගේ බසට විරුද්ධ විය නොහැකි ය. තම සොහො-යුරා ළග දණින් වැටී ආචාර කිරීමේ අදහස කුමක් දැ යි තවුසා ගෙන් දැන ගැනීමට අලෝෂා ගේ ආසාව බලවත් විය. ඒ ප්‍රශ්නය ඔහු ගේ දිවග ලෙළ දෙයි. එහෙත් තවුසා ගෙන් ඒ ගැන ප්‍රශ්න කිරීමට තරම් ශක්තියක් ඔහු තුළ නැත. තමා ගේ ක්‍රියාවට පිටු දුන් අදහස හෙළි කිරීම සුදුසු බව තවුසාට වැටහී ගියේ නම් එතුමා සිය කැමැත්තෙන් ම එය විස්තර කරනවා ඇත. සමහර විට එතුමා ඊට කැමැති නොවන්නට ඇත. තවුසා ගේ ඒ ක්‍රියාව අලෝෂා ගේ සිතේ තදින් බලපැවැත්වූයේ ය. එහි සැඟවුණු අද්භූත අදහසක් ඇතැ යි අලෝෂා දැඩිව විශ්වාස කෙළේ ය. ඒ අදහස අද්භූත වනු පමණක් නොව සමහර විට භයානක වන්-නට ද පිළිවන.

අසපුවෙන් නික්මී, ආශ්‍රමයේ භෝජනාගාරය බලා ගමන් ගත් අලෝෂාට හදිසියෙන් ම හදවතේ හටගත් වේදනාවක් දැනුණෙන් වහා මග නතර විය ළග ළග ම එන මරණය ගැන තවුසා කී බස් අලෝෂාට ආයෙත් ඇසෙන්නාක් මෙන් දැනිණි. එතුමා විසින් නිවැරැදිව කියන ලද දෙය කෙසේ හෝ සිදු විය යුතු යයි

අලෝෂා සම්පූර්ණයෙන් ම විශ්වංස කෙළේ ය. එහෙත් එතුමා තනි කර යන්නේ කෙසේ ද? එතුමා නොදැක, එතුමාගේ කට හඬ නොඅසා සිටින්නේ කෙසේ ද? එතුමාගේ මරණයෙන් පසු කොතැන යන්න ද? එතුමාගේ මරණය ගැන ශෝක නොවී ආශ්‍රමය අත්හැර යන ලෙස එතුමා නියම කෙළේ ය. අහෝ දෙවියනි, අලෝෂා මෙවැනි දුක් පීඩා මීට පෙර විඳ පුරුදු නැති. තපෝවනය ආශ්‍රමභූමියෙන් වෙන් කළ වනළැහැබ තුළින් වහ වහා ගමන් ගත් අලෝෂා සිතේ පැවැති ශෝකය දරාගත නොහැක්කේ මග දෙපස තිබෙන පැරණි පයින් රුක් දෙස බැලුවේ ය. ඔහු තපෝවනයේ සිට අඩි පන්සියකට වඩා දුර ගියේ නැත. එවේලේ මග දී කිසිවකු හමුවෙතැ යි ඔහු බලාපොරොත්තු නොවීය. එහෙත් පළමු වන වංගුවෙන් හැරෙද්දී අලෝෂා රැකිටින් දුටුවේ ය. රැකිටින් යම් කිසිවකු එන තෙක් මග බලා සිටියි.

"නුඹ බලා සිටින්නේ මා එන තෙක් ද?" යි අලෝෂා රැකිටින් පසු කර යන ගමන් ඇසී ය.

"ඔව්" යි රැකිටින් දත නියවමින් කී ය. "නුඹ ඉක්මනට යන්නේ නායක පියතුමාගේ භෝජන ශාලාවට නේ ද? මා දන්නවා එතුමා අද භෝජන සංග්‍රහයක් පවත්වන බව. බිෂොප් තුමාටයි පහතෝ සෙනෙවිතුමාටයි පැවැත් වූ භෝජනසංග්‍රහයෙන් පසු මෙතරම් ජයට භෝජනසංග්‍රහයක් පැවැත්තුවේ නැහැ. නුඹට ඒ භෝජනසංග්‍රහය මතක ද? එහෙත් මට අද පැවැත්වෙන භෝජනසංග්‍රහයට එන්න ලැබෙන්නේ නැහැ. ගිහින් ටිකක් උදව් වෙන්න. අලෝෂා, අර ක්‍රියාවේ තේරුම කුමක් ද? නුඹ එන තෙක් බලා සිටියේ ඒ ගැන දැනගන්නයි."

"මොන ක්‍රියාව ද?"

"නුඹේ අයියා ළඟ දණින් වැටී නළල බිම ගසා වැන්දා නේ ද?"

"නුඹ කියන්නේ තවුසා කළ දෙය ගැන ද?"

"ඔව්."

"නළල බිම ගසා වැන්ද?"

"සමහර විට මගේ කතාවෙන් තවුසාට අගෞරවයක් වන්න පුළුවනි. ඒකට මක්වෙනව ද? එහෙත් ඒ වැඩේ තේරුම කුමක් ද?"

"මා දන්නේ නැහැ."

"මා දන්නවා තවුසා නුඹට එහි තේරුම පහදා දෙන බව. ඒ ක්‍රියාවේ කිසිම තේරුමක් නැහැ. හැමදාම කරන බොරු මනස්ගාත. එහෙත් අද කරපු ඔය විජ්ජාවේ කිසියම් තේරුමක් තියෙන්න ඕනෑ. නගරයේ සිටින බැතිමතුන් හැම දෙනාම මේ ගැන නොයෙක් විදියේ කතා කියනවා. ඒක මේ පළාතේ හැම තැනම පැතිරිලා. මිනිසුන්ට මේ වැඩේ මහ පුදුමයක්. මගේ කල්පනාවේ හැටියට ඔය මහලු තවුසාට මිනීමැරුමක ඉව දැනෙන්න ඇති. මිනිහට හොඳට ඉව තියෙනවා. හැරත් නුඹලාගේ ගෙය අපරාධවලින් ගඳගහන තැනක්."

"මොන අපරාධයක් ද?"

රැකිටින් කිසියම් දෙයක් කීමට පුලපුලා සිටිනවා විය හැකි යි.

"මේ අපරාධය සිදු වන්නේ නුඹලාගේ පවුලේ ඇත්තන් අතරයි. නුඹේ මහලු පොහොසත් තාත්තා හා සහෝදරයන් අතරයි. එහෙම දෙයකට සූදානමින් තමයි මහලු තවුසා නළල බිම ගසා වැන්දේ. යම් විදියකින් අපරාධයක් වුණොත් ඒ අපරාධය කලින් දැන සිටිය නිසා තමයි තවුසා නළල බිම ගසා වැන්දේ. එතුමා අපරාධය හා අපරාධකාරයා දැන සිටියා යයි මිනිසුන් කියාවි. මේ වැඩෙන් තවුසාගේ කීර්තිය වැඩි වෙනවා. පිස්සන්ට සමාන මේ තවුසන්ගේ හැටි ඔහොම තමයි. ඔවුන් තැබෑරුම ළඟ දී ආගම සිහි කොට පල්ලියට ගල් ගහනවා. නුඹේ ඔය තවුසාත් ඒ වගේ මිනිහෙක්. කෝට්ටුවක් ගෙන යහපත් මිනිසුන් පන්නා දමා මිනීමරුවන් ඉදිරිපිට දණින් වැටී වඳිනවා."

"මොන අපරාධයක් ද? මොන මිනීමැරුමක් ද? මොනව ද නුඹ මේ දොඩන්නේ?"

අලෝෂා නතර විය. ඒ සමග රැකිටින් ද නතර විය

"මොන මිනීමැරුමක් ද? හරියට නුඹ නො දන්නවා වගෙයි. නුඹ මේ ගැන මීට පෙර කල්පනා කළ බවට මා ඕනෑම ඔට්ටුවක් අල්ලන්න කැමැතියි. අලෝෂා, නුඹ හැම තිස්සෙම ඇත්ත කියන මිනිහෙක්. නුඹ මේ ගැන කල්පනා කළා ද නැද්ද? කරුණාකර පිළිතුරු දෙන්න."

"ඔව්, මා කල්පනා කළා"යි අලෝෂා සෙමෙන් කීය. ඒ කතාව අසා රැකිටින් පවා පුදුම විය.

"මොනවා?...... ඔය ඇත්ත ද?"

"නැහැ ... ... මං නියම විදියට කල්පනා කළේ නැහැ. එහෙත් නුඹ මේ ගැන පුදුමයෙන් ප්‍රශ්න කළ නිසා මට හිතුණා මාත් ඒ ගැන කල්පනා කළා ය කියා."

"නුඹ බොහොම හොඳට නුඹේ අදහස් පැවසුවා. අපරාධයක් වෙය කියා කල්පනා කළේ අද තාත්තයි ලොකු අයියයි දිහා බලන විට ද? එහෙම නේ ද? එහෙනම් මගේ අදහස හරි?"

"විකක් ඉන්න" යි අලෝෂා නො ඉවසිල්ලෙන් කී ය. "නුඹ මේ ගැන කල්පනා කළේ මොන හේතුවක් නිසා ද? නුඹ මේ ගැන මෙතරම් ලොකු සැලකිල්ලක් දක්වන්නේ මොක ද? මා නුඹෙන් අසන පළමු වන ප්‍රශ්නය එය යි."

"මේ ප්‍රශ්න දෙකේ කිසිම සම්බන්ධයක් නැහැ. එහෙත් ප්‍රශ්න දෙකම ස්වාභාවිකයි. මම ප්‍රශ්න දෙකට ම වෙන වෙන ම පිළිතුරු දෙන්නම්. මා කොහොම ද අපරාධයක් සිදුවන බව දුටුවේ. මට එක් වරම නුඹේ අයියා ඇඳින ගන්න නො ලැබුණා නම්, ඔහු ගේ හදවත විනිවිද දකින්නට නො ලැබුණා නම් මට මේ අපරාධය පෙනෙන්නේ නැහැ. නුඹේ අයියා ගේ එක ක්‍රියා-වකින් මා ඔහු සම්පූර්ණයෙන් ම ඇඳින ගත්තා. මෙවැනි අවංක, එහෙත් බලවත් හැඟීම්වලින් යුත් මිනිසුන් ගේ හැම වැඩකට ම සීමාවක් තියෙනවා. ඒ සීමාවෙන් එපිට යන්න හොඳ නැහැ. ඒ සීමාව පැන්නොත් නුඹේ අයියා තාත්තාට පිහියෙන් අනිනවා. නුඹේ තාත්තා වැනි බේබද්දකුට, මහලු පාපිෂ්ටයකුට, කවදාවත් සීමාවක් තියා ගෙන වැඩ කරන්න බැහැ. තාත්තයි පුතයි දෙන්නම සීමා ඉක්මවා ගියොත් දෙන්නට ම පසුතැවෙන්නට වෙනවා."

"නැහැ, එහෙම දෙයක් සිදු වන්නේ නැහැ."

"එහෙනම් මොකද නුඹ වෙව්ලන්නේ? මා කියන දෙය හොඳට අහගන්න. නුඹේ ලොකු අයියා අවංක වෙන්න පුළුවනි. (ඔහු මෝඩයි එහෙත් අවංකයි) ඒත් ඔහු සල්ලාලයෙක්. ඔහු ගේ ඇති විශේෂ ලක්ෂණයත්, අභ්‍යන්තර වැදගත් කමත් එයයි. ඔහුට මේ නින්දිත සල්ලාල කම් පුරුදු වුණේ නුඹේ තාත්තා ගෙන්. අලෝෂා, මට පුදුමයි නුඹ නුඹේ පිරිසුදු කම ආරක්ෂා කර ගෙන සිටීම ගැන. නුඹත් කරමසෝ පවුලේ කෙනෙක්. සල්ලාල කම නුඹේ පවුලට වැළඳී ඇති රෝගයක්. ඒත් දැන් මේ සල්-ලාලයන් තිදෙනා පිහි දිගඇරගෙන එකිනෙකා දිහා බලා සිටිනවා. තුන් දෙනා ම එකිනෙකා ගේ ඔළු හප්පා ගන්නවා. හතර වෙනියා නුඹ වෙන්න පුළුවනි."

''අර ස්ත්‍රිය ගැන නුඹ ඇති කරගෙන තියෙන අදහස වැරදියි. මිතියා ඇය පහත් කොට සලකනවා '' යි අලෝෂා කීය. ඔහු ගේ සරුවාංගය ම වෙව්ලන්නට විය.

''කවුද, ගෲසෙන්කා ද? නැහැ සහෝදරයා, නුඹේ අයියා ඇය පහත් කොට සලකන්නේ නැහැ. ගෲසෙන්කා නිසා ඔහු විවාහ ගිවිසගත් තරුණිය එළිපිට ම අත්හැරියා. ඉතින් කොහොම ද ඔහු ගෲසෙන්කා පිළිකුල් කරනවාය කියන්නේ? නුඹට තවමත් නො තේරෙන දෙයක් තියෙනවා, මිනිහකු ගැහැනියකට ආලය කරන්න පුළුවනි. ගැහැනියක ගේ ශරීරයට හෝ ශරීරයේ කිසියම් කොටසකට හෝ ආලය කරන්න පුළුවනි. සල්ලාලයකුට නම් මෙය ලෙහෙසියෙන් ම තේරුම් ගන්න පුළුවනි) ඒට පස්සේ ඔහු මේ ගැහැනිය වෙනුවෙන් අඹුදරුවන් අත්හරින්න පුළුවනි. දෙමා-පියන් විකුණන්න පුළුවනි. සියරට පාවා දෙන්න පුළුවනි. ගැහැනි-යකට ආලය කරන අවංක මිනිහා සොරෙකු වෙනවා. කරුණා වන්ත මිනිහා මිනීමරුවෙකු වෙනවා. හිතවත් මිනිහා වංචාකාර-යෙකු වෙනවා. පුෂ්කින් ගැහැනුන් ගේ දෙපා කවියෙන් වර්ණනා කළා. අනෙක් අය ගැහැනුන් ගේ දෙපා කවියෙන් වර්ණනා නො-කළත් සිතේ චංචල ගතියක් නැතිව ගැහැනුන් ගේ දෙපා බලන්න බැරි වුණා. දෙපා පමණක් නොව ශරීරයේ අනෙක් අවයව ගැනත් එසේමයි. නැහැ සහෝදරයා, නුඹේ අයියා මිතියා, ගෲසෙන්කා පහත් කොට සැලකුවත් කවදාවත් ඇය අත්හරින්නේ නැහැ.''

''ඔව්, ඒක මට තේරෙනවා '' යි අලෝෂා හදිසියෙන් ම කීය

''ඔය ඇත්ත ද? නුඹට එය තේරෙන බව නුඹේ කතාවෙන් වැටහෙනවා'' යි රැකිටින් තපුරු අදහසින් කීය. ''ඒ බව නො-දැනුවත්ව ම නුඹේ කටින් පිට වුණා. එහෙනම් සල්ලාලකම නුඹට අමුතු දෙයක් නො වෙයි. දැනටම නුඹ ඒ ගැන කල්පනා කරලා තියෙනවා. අලෝෂා නුඹ සාන්තුවරයෙකු වැනි සත්පුරුෂ කෙනෙකු බව මා පිළිගන්නවා. ඒත් නුඹේ සිතේ තියෙන්නේ මොනවද? නුඹ කෙබඳු කෙනෙක් ද? කියා කියන්න පුළුවන් යක්ෂයාට පමණයි. නුඹ බොහො ම පිරිසුදු කෙනෙක්. ඒත් නුඹ ජීවිතයේ අධම ගති දැක තියෙනවා. මා බොහො ම කාලයක් නුඹ ගැන පරීක්ෂා-වෙන් සිටියා නුඹ කරමසෝ පවුලේ කෙනෙක්. ජන්මය බොහෝ දුරට කෙනෙකු ගේ ජීවිතය කෙරෙහි බලපවත්වනවා. පිය පසින් නුඹ සල්ලාලයෙක්. මව් පසින් නුඹ පිස්සු සාන්තුවරයෙක්......... ඇයි නුඹ වෙව්ලන්නේ? එහෙනම් මා කියන දෙය ඇත්ත ද? ඇත්ත ද? නුඹ දන්නවා ද? නුඹ එක්ක එන්න ය කියා ගෲසෙන්කා

මට වද කරන බව? ‘ මම අලෝෂා ගේ ලෝගුව ගලවා දමන්නම් ’ යි ගෲසෙන්කා කිව්වා. තුඹ අඩගහගෙන එන්නය කියා ඇ මට කන්නලව් කරත හැටි තුඹ දන්නේ නැහැ. ඇ තුඹ ගැන ඔය තරම් සැලකිල්ලක් දක්වන්නේ මන් ද කියා මට පුදුමයි ඇ පුදුම ගැහැනියක් බව තුඹ දන්නවා ද? ”

“ ඇයට මගේ ස්තුතිය ප්‍රකාශ කොට කියන්න මා එන්නේ නැහැ කියා ” අලෝෂා කීවේ අමාරුවෙන් සිනාසෙමිනි. “ තුඹේ කතාව කියා අවසන් කරන්න. ඊට පසුව මා මගේ කතාව කියන්නම්.”

“ අවසන් කරන්න දෙයක් නැහැ. මා කියන දෙය තුඹට හොඳට තේරෙනවා ඇති. මා කියන්නේ පරණ කතාවම යි. තුඹ සිතින් සල්ලාලයෙක්. ඒත් ඉවාන් කොහොම කෙනෙක් ද? එයාත් කරමසෝ පවුලට අයිතියි. කරමසෝ පවුලට අයිති තුඹලා ගේ තියෙන වරද තුඹලා බොහොම කාමාදිකයි. බොහොම තණ්හා- දිකයි. තුඹලා හැමෝටම පිස්සු. ඉවාන් ආගමක් ධර්මයක් නැති මිනිහෙක්. ඒත් විහිළුවට, නැති නම් වෙන කිසියම් අදහසක් ඇති ව ආගම ගැන ලිපි ලියනවා. මෙසේ ලිපි ලිවීමෙන් තමා කරන්නේ වංචාවක් බව ඔහු පිළි ගන්නවා. ඔහු වැඩම කරනවා මිතියා සරණ ගිවිස ගෙන සිටින තරුණිය කසාද බැඳ ගන්න සමහර විට මිනිහ ගේ අදහස හරියන්න පුළුවනි. මිනිහා කසාද බඳින්න හදන්නේ මිතියා ගේ කැමැත්ත ඇතිවයි ගෲසෙන්කා කසාද බැඳ ගන්න මිතියා මේ තරුණිය කැමැත්තෙන් ම ඉවාන්ට පාවා දේවි. තමා ගේ වැදගත්කම පැත්තකින් තබා මිතියා මේ වැඩේ කරාවි. මේ වගේ මිනිස්සු තමයි බොහොම භයානක. තුඹලා ගේ හැටි මොන යකකුටවත් තේරුම් ගන්න බැහැ. මිතියා දන දනම නීච කම් කරනවා. මේ බලාපන් අලෝෂා, තුඹේ නාකි තාත්තා මිතියාට සතුරුකම් කරනවා. තුඹේ තාත්තාට හිටිහැටියේම ගෲසෙන්කා ගැන පිස්සු වැටිලා. ඇය දකින විට මිනිහ ගෙ කටින් කෙළ හැලෙනවා. දැන් ටිකකට පෙර මිනිහා තවුසා ඉදිරිපිට දී අර විකාරය කළේ මියුසෝ ගෲසෙන්කාට ‘වනචර ගෑනි’ කියාපු නිසයි. තුඹේ තාත්තා රුළේ වැටුණු බල්ලකුටත් අන්තයි. ඉස්සෙල්ලා මිනිහා ගෲසෙන්කාට පඩියක් දීලා මිනිහ ගේ හොර වැඩ කරගත්තා. මිනිහගෙ තැබෑරුම්වල රස්සාව දුන්නා. දැන් මිනිහට හදිසියෙන් ම ගෲසෙන්කා ගේ ලස්සණ පෙනිලා පිස්සු වැටිලා වගෙයි. මිනිහා නොයෙක් විදියේ පොරොන්දු වෙමින් ගෲසෙන්කාට කරදර කරනවා. ඒත් ඒ එකක්වත් අවංක පොරොන්දු නො වෙයි. දැන් ඉතින් ගෲසෙන්කා නිසා තාත්තයි පුතයි මිනීමරා ගන්නවා. ඒත් ගෲසෙන්කා

දෙන්න ගෙන් එක්කෙනකුටවත් කැමැති නැහැ. ඈ තෑත්තයි පුතයි දෙන්නම රවටනවා. වැඩිය කඩා ගන්න පුළුවන් කාගෙන් ද කියා බලනවා. නාකියා ගෙන් හුඟක් මුදල් ගන්න පුළුවන් වුණත් මිනිහා තමා කසාද නො බඳින බව ගෲසෙන්කා දන්නවා. සමහර විට අන්තිමේ දී නාකියා ඈයට තඹයක්වත් නො දෙන්න පුළුවනි. එතකොට තමයි ඈයට මිතියා උවමනා වෙන්නේ. අතේ ශතේ නැති වුණත් ගෲසෙන්කා කසාද බඳින්න මිතියා කැමැතියි. කර්නල් කෙනකු ගේ දියණියක් වූ, බොහො ම වැදගත්, බොහො ම පොහොසත්, බොහො ම ලස්සණ කැතිරිනා අත්හැර දමා ජරාවට ගිය මසුරු වෙළෙන්දෙකු විසින් අනියම් භාරියාව හැටියට තබා ගෙන සිටින ගෲසෙන්කා කසාද බඳින්න මිතියා කැමැතියි. මේ විදියට ගියොත් අන්තිමේ දී මිනීමැරුමක් වෙනවා. නුඹේ පොඩි අයියා බලා සිටින්නේ ඒ මිනිමැරුම සිදුවන තෙක්. ඊට පස්සේ ඔහු ගේ අදහස් මුදුන් පමුණුවා ගන්න පුළුවනි. ඔහුට කිසි ම අමාරුවක් නැති ව හැට දහේ දෑවැද්ද සාක්කුවේ දමා ගන්න පුළුවනි. අතේ තඹයක්වත් නැති සුළු මිනිහකුට හොඳ පෙලවාසියක් ඒත් මතක තියා ගතින්, ඉවාන් මිතියාට කරන්නේ ලොකු සේවයක්. මා හොඳට දන්නවා ගිය සතියේ මිතියා අහිකුණ්ටික තරුණියක සමග වෙරි වී සිටින විට, කැතිරිනා විවාහ කර ගැනී-මට තමා නුසුදුසු බවත් ඈය සුදුසු ඉවාන්ට බවත් කිව්වා. ඉවාන් වැනි හොඳ තරුණයෙකු සමග විවාහ වීමට කැතිරිනා අකැමැති වන එකක් නැහැ. ඈ දැනට ම දෙදෙනා ගෙන් කොයි එක්කෙනා විවාහ කරගත යුතු ද කියා නො දැන පසුතැවෙනවා. ඉවාන් ඔය තරම් ලොකු මිනිහකු හැටියට නුඹලා පිළිගන්නේ මොකද? මිනිහා නුඹලා ගේ මෝඩකම් ගැන හිනා වෙනවා."

"නුඹ කොහොමද මේ දේවල් මේ තරම් හොඳට දන්නේ? මෙ තරම් විශ්වාසයක් ඇති ව නුඹ කතා කරන්නේ කොහොම-ද"යි අලෝෂා හදිසියෙන් ම රවා බලමින් ඇසී ය.

"ඇයි අහන්නේ? මගේ කතාවට භය වුණා ද? එයින් ම පේනවා මගේ කතාව ඇත්ත බව."

"නුඹ ඉවාන්ට කැමැති නැහැ. ඉවාන් මුදලට වාල් වන මිනිහෙක් නො වෙයි."

"ඔය ඇත්ත ද? එහෙනම් ඉවාන් කැතිරිනා විවාහ කර ගන්නේ ඈගේ දෑවැද්දට නොව ඈගේ රූපයට ඇති ආශාවෙනුයි? රූබල් හැට දහක් කියන එක පොඩි දෙයක් නො වෙයි."

"ඉවාන් බොහොම උසස් අදහස් ඇති කෙනෙක්. ධනයට හෝ රූපයට වහල් වන කෙනෙක් නො වෙයි. ධනය හෝ සැප සම්පත් සොයන කෙනෙක් නො වෙයි. සමහර විට දුක සොයා යනවා ඇති."

"මොන පිස්සු කතාවක් ද නුඹ කියන්නේ? කුලවතුන් ගේ හැටි ඔහොම තමයි."

"ඉවාන් ගේ සිත බොහොම නො සන්සුන් සිතට කිසිම නිදහසක් නැහැ. කිසියම් ගැඹුරු ගැටළු ප්‍රශ්නයක් ඔහු ගේ සිතට වද දෙනවා. ඔහු ධනයට වඩා ප්‍රශ්නයට ලැබෙන පිළිතුර උසස් කොට සලකන වර්ගයේ කෙනෙක්."

"නුඹ ඔය කියන්නේ අනුන් ගේ අදහසක්. නුඹේ තවුසා ගේ පරණ බණක්. ඉවාන් ගේ ගතිගුණ නුඹට ලොකු ගැටළුවක් වෙන්න පුළුවනි. ඒත් ඒක මහ මෝඩ ප්‍රශ්නයක්. නුඹේ පොඩි අයියා ගේ ගතිගුණ තේරුම් ගන්න එ තරම් අමාරු නැහැ. නිකම් හිතුවට වැඩක් නැහැ. හොඳට කල්පනා කර බැලුවොත් තේරුම් ගන්න පුළුවනි. ඉවාන් ලියාපු ලිපිය මහ විහිළුවක්, අවමානයක්. දැන් ටිකකට පෙර මිනිහා ඉදිරිපත් කළ මොට්ට තර්කය නුඹ අහගෙන සිටියා නේද? ආත්මය සදාකාලිකය යන අදහස නැති නම් මිනිසුන් යහපත් වන්නේ නැති ලු. හැම දෙයක්ම නීතියට එකඟ ලු. ('මම මතක තියා ගන්නම්' කියා මිනියා කෑ ගැ සැටි නුඹට මතකයි නේ ද?) තක්කඩින්ට මේවා හොඳ තර්ක. (මා මේ විදියට කතා කරන එක වැරදියි.) නැහැ මේවා තක්කඩින්ට නොව, ඉතා ගැඹුරු, විසඳිය නො හැකි ප්‍රශ්න වලින් හිස පුරවා ගත්ත, උගත්කමින් හිස පුම්බා ගත්ත කුහකයන්ට හොඳ තර්ක ...... මේ තර්කය මහ කැත උගුලක්. මනුෂ්‍යයාට, ආත්මය සදාකාලික ය යන විශ්වාසය නැතිවට ශක්තිය තියෙනවා යහපත් ජීවිතයක් ගත කරන්න. මේ ශක්තිය නිදහසට, සමානාත්මතාවට හා සහෝදරත්වයට ඇති ආශාවෙහි ගැබ් වී තියෙනවා."

රැකිටින්ට සිතේ වේගය මැඩ ගත නො හැකි විය. එහෙත් ඔහු හදිසියෙන් ම නතර වුණේ කිසියම් දෙයක් මතක් වූවාක් මෙනි.

"දැන් ඉතින් කතා කළා ඇති" යි ඔහු කපටියකු ලෙස සිනාසෙමින් කීය. "මොකද නුඹ සිනාසෙන්නේ? නුඹ හිතුව ද මා වල් මෝඩයෙක් ය කියා?"

"නැහැ, නුඹ වල් මෝඩයෙක් ය කියා මා හීනෙකින්වත් හිතුවේ නැහැ. නුඹ බොහොම දක්ෂයි......... මම සිනාසුණේ

මෝඩකමටයි ඒ ගැන මා සමග තරහ වෙන්න එපා. නුඹේ කතාවෙන් මට තේරුණා නුඹ කැතිරිනාට කැමැති බව. මා බොහොම කාලයක් සිට මේ ගැන සැක කළා. සහෝදරයා ඒ නිසයි නුඹ ඉවාන්ට කැමැති නැත්තේ. නුඹ ඉවාන්ට ඊරිසියා කරනව ද?"

"කැතිරිනාගේ ධනයට ඊරිසියා කරනව ද කියා ඇයි නුඹ මගෙන් අහන්නෙ නැත්තේ?"

"ධනය ගැන සඳහන් කොට නුඹට අපහාස කරන්න මා කැමැති නැහැ."

"නුඹ කියාපු නිසා මා එය පිළිගන්නවා ........ නුඹයි නුඹේ පොඩි අයියයි යකාට ගියදෙන්. කැතිරිනා නැතිවට නුඹේ අයියා සමග තරහ වෙන්න ඕනෑ තරම් කරුණු තියෙනවා. මා මොනවට ද ඉවාන්ට කැමැති වෙන්නේ? පුළුවන් කමක් තියෙනවා නම් ඉවාන් මට අපහාස කරන බව නුඹ දන්නවා. එහෙනම් මිනිහට අපහාස කරන්න මට අයිතියක් නැද්ද?"

"ඉවාන් නුඹ ගැන හොඳක් හෝ නරකක් හෝ කියනවා මා අහලා නැහැ. අයියා නුඹ ගැන කතාකරන්නේ නැහැ."

"මට ආරංචියි පෙරේදා කැතිරිනාගේ ගෙදරදී ඉවාන් මට අපහාස කළාය කියා. පේනවා නේද මිනිහ මට දක්වන සැලකිල්ලක තරම! ඉතින් සහෝදරයා කවුද ඊරිසියා කරන්නේ මා ද නුඹේ අයියා ද කියන්න මට තේරෙන්නේ නැහැ. මා නුදුරු අනාගතයේදී දේවස්ථානයක නායක කම පතා පූජකයකු නොවුවහොත් නිසැකවම පීටස්බර්ග් නුවරට ගොස් ප්‍රසිද්ධ සඟරාවකට විචාරකයකු ලෙස අවුරුදු දහයක් පමණ කල් ලිපි සපයා අන්තිමේ දී සඟරාවේ අයිතිකාරයා වී දෙපැත්ත අල්ලා ගෙන මෝඩයන් මුළා කරන අතර සමාජවාදය, කලාව හා නිදහස් අදහස් ප්‍රචාරය කරමින් සඟරාව පවත්වා ගෙන යන බව ඉවාන් කියා තියෙනවා. ඉවාන්ගේ අදහසේ හැටියට මා සඟරාව ප්‍රසිද්ධ කරන්නේ මගේ සමාජවාදී අදහස් පසකින් තබා සඟරාවේ දායකයන්ගේ මුදල් ගෙන බැන්කුවේ තැන්පත් කොට, පස්සේ යුදෙව්වන්ගේ උපදෙස් පිට ඒ මුදල් පොලී කොට, ඒ පොලියෙන් පීටස්බර්ග් නුවර විශාල ගොඩනැගිල්ලක් තනා මගේ කන්තෝරුව එක තට්ටුවකට ගෙන අනෙක් තට්ටු කුලියට දීමටයි. වෙන එකක් තබා ඉවාන් මේ ගොඩනැගිල්ල තැනීමට පීටස්බර්ග් නුවර ගඟ හරහා බඳින ලද ගල් පාලම ළඟ තැනක් තෝරා ගෙන තියෙනවා......"

"අයියා කියාපු හැම දෙයක් ම ඒ විදියටම සිද්ධ වෙනවා" යි අලෝෂා හදිසියෙන් ම කීය. ඔහුට ප්‍රීතියෙන් හටගත් සිනාව මැඩ ගත නොහැකි විය.

"එහෙනම් නුඹත් මට ඇනුම් පද කියා සන්තෝස වෙනවා ද?"

"නැහැ, නැහැ, මා කළේ විහිළුවක්. මට සමාවෙන්න. මා සිතේ වෙන අදහසක් ඇතිවයි මෙහෙම කිව්වේ. ඒ ගැන මට බොහො ම කනගාටුයි. ඒත් මෙතරම් විස්තර දැනගත්තේ කාගෙන් ද? මෙතරම් විස්තර කීවේ කවුද? ඉවාන් කැතිරිනාගේ ගෙදර දී නුඹ ගැන කතා කරන විට නුඹ අසා සිටියද?"

"මා එතැන සිටියේ නැහැ. ඒත් එතැන සිටිය මීතියා මේ සේරම කියනවා මා අහගෙන සිටියා. මීතියා මට කිව්වේ නැහැ. ඔය වෙලාවේ දී මා සිටියේ ගෘසෙන්කාගේ කාමරයේ. මීතියා අනෙක් කාමරයේ සිටිය නිසා පිට වී යන්න පුළුවන් කමක් තිබුණේ නැහැ."

"ගෘසෙන්කා නුඹේ නෑයකු වන බව මට අමතක වුණා."

"ගෘසෙන්කා මගේ නෑයෙක්?" යි රැකිටින් හදිසියෙන් ම ඇසුවේය. ඔහුගේ මුහුණ රතු විය. "නුඹට පිස්සු ද?"

"ඇයි ගෘසෙන්කා නුඹේ නෑයෙක් නො වෙයි ද? මට දැන ගන්න ලැබුණා ඈ නුඹේ නෑයකු බව."

"නුඹ කොහෙන් ද දැනගත්තේ? නුඹල වගේ මිනිස්සු ජාතියක්. නුඹේ තාත්තා අනුන්ගෙන් කකා කෝලම් නටනවා. ඒත් කන්න දෙන්නෙ කුස්සියේ. ඒකට මොකද නුඹලා හොඳ පෙළ-පතකින් පැවත එන වංසක්කාරයෝ. මා පූජකයකුගේ පුතෙකු වෙන්න පුළුවනි. නුඹල වගේ කුලවතුන්ට සම කරන විට මා පහත් තැනැත්තෙකු වෙන්න පුළුවනි. ඒත් මට ඔය තරම් පහත් කොට නින්දා කරන්න එපා. මටත් තියෙනවා ආත්ම ගරුත්වය. මම ගණිකාවක වූ ගෘසෙන්කාගේ නෑයෙක් නො වෙයි. කරුණාකර ඒක හොඳව මතක තියා ගන්න."

රැකිටින් තුළ දැඩි කෝපයක් ඇති විය.

"මට සමාවන්න......... මා නුඹව පහත් කොට සැලකුවේ නැහැ. නුඹ කොහොමද ගෘසෙන්කාට ගණිකාවක් කියන්නේ? ඈ ගණිකාවක් ද?" යි අලෝෂා හදිසියෙන් ම ඇසුවේය. මට ආරංචි වුණා ඈ නුඹේ නෑයකු බව. නුඹ නිතර ගෘසෙන්කා බලන්න යනවා. ඇයට ආලය නොකරන බව නුඹ මට කිව්වා.

මා කවදාවත් හිතුවේ නැහැ නුඹ ඇයට බාල්දු කරාවිය කියා. ඈ එ තරම් පහත් කොට සැලකිය යුතු තැනැත්තියක් ද?"

"මා ඇය හමු වෙන්න ගියේ හේතුවක් ඇති ව වෙන්න පුළුවනි. ඒ ගැන විමසන්න නුඹට අයිතියක් නැහැ. නැකම අතින්, නුඹේ තාත්තා නැතිනම් ලොකු අයියා ඇය නුඹේ නෑයකු කරාවි. දැන් ඉතින් ඒ ගැන කතා කළා ඇති. අප කතාමෙත් භෝජනාගාරයටත් ළං වුණා. ඉක්මනට කුස්සියට පලයන්...... මොකද කලබලය? අප පමා වුණාද? මෙ තරම් ඉක්මනට භෝජන සංග්‍රහය අවසන් වෙන්න බැහැ. මොකද නුඹේ තාත්තායි අයියයි තවත් කෝලාහලයක් කර ගෙන ද? ඇත්ත තේන්නම්. අන්න නුඹේ පොඩි අයියා තාත්තා ගේ පස්සෙන් දුවනවා. අන්න ජෝසෙප් පියතුමා පඩිපෙළ උඩ සිට මොනවාදෝ කියා කෑගානවා. නුඹේ තාත්තා මොනවාදෝ කියා අත වනනවා. අන්න මියුසෝ කරත්තයේ නැගලා යනවා. අන්න නාකි මැක්සිමෝ දුවනවා කිසි ම සැකයක් නැහැ මෙ තැන විශාල කෝලාහලයක් වෙන්න ඇති. එහෙනම් භෝජන සංග්‍රහයක් තිබිල නැහැ. මේ මිනිසුන් එකතු වෙලා නායක පියතුමාට ගැහැව්වද දන්නේ නැහැ. නැති නම් උන් එකිනෙකා සමග ගහගත්තද දන්නේ නැහැ. යසයි වැඩේ."

රකිටින් මෙසේ කීවේ හේතුවක් නැතිව නො වේ. පෙර නොවූ විරූ, කිසිවකු බලාපොරොත්තු නොවූ, නින්දිත දෙයක් මෙ තැන සිදු විය. එය සිදුවුණේ ඒ මොහොතේ දී සිතේ හට-ගත් වේගය නිසා ය.

## අට වන පරිච්ඡේදය

## නින්දිත ජවනිකාව

ඉවාන් සමග නායක පියතුමා වෙත, යන උසස් ශික්ෂණයකින් හා විනීත ගතිගුණවලින් යුත් මියුසෝ මහතා තුළ කිසියම් මනස්තාපයක් ඇති විය. තවුසා ගේ අසපුවේ දී කෝප වීම ගැන ඔහු ලැජ්ජා විය. කාලකණ්ණි, මහලු කරමසෝට මඳ සැලකිල්ලක් හෝ දක්වා තවුසා ගේ අසපුවේ දී කෝප නොවී සිටියා නම් යෙහෙකිය යන අදහස ඔහු තුළ ඇති විය. "කොහොම වුණත් පූජකයන්ට දෙස් කියන්න බැහැ"යි කුලවතා පඩි පෙළ නගිමින්

කල්පනා කෙළේ ය. "මේ පූජකයෝ වැදගත් මිනිස්සු නම් (මට ආරංචි වී තිබෙන හැටියට ආශ්‍රමයේ නායක පියතුමා රදළ පෙළපතකින් පැවත එන්නෙකි.) ඔවුන් සමග මිත්‍ර වී ඔවුන්ට කරුණාවෙන් යිටියොත් නරක ද? මීට පසුව මා ඔවුන් සමග වාද කරන්නේ නැහැ ඔවුන් කියන හැම දෙයකටම එකග වෙනවා. ඔවුන් සමග මිත්‍ර වී අර බහුභූතයා සමග කිසිම සම්-බන්ධයක් නැති බවත් අනෙක් අය වගේ මාත් ආශ්‍රමයට පැමිණි බවත් කියනවා."

ආශ්‍රමය සමග නඩු කියා ගැනීම නතර කොට කැලයෙන් ලී කැපීමට හා ගඟෙන් මාළු ඇල්ලීමට තියෙන අයිතිය අත් හැර දැමීමට කුලවතා ඉටා ගත්තේ ය. ඔහු මෙසේ අදහස් කළේ ඒ ඉඩකඩම්වල ඇති වටිනාකම දත් අඩු වී ඇති හෙයිනි. තමා සතු මේ වනාන්තරය හා ගංගාව තිබෙන්නේ කොතැනදැයි හේ නොදත්තේ ය.

කුලවතා තුළ ඇති වූ මේ උතුම් අදහස් නායක පියතුමා ගේ භෝජනාගාරයට ළඟා වන විට වඩ වඩාත් ප්‍රබල විය. ඇත්ත වශයෙන් එය භෝජනාගාරයක් නො වේ. නායක පියතුමා ගේ පරිහරණය සඳහා තිබුණේ කාමර දෙකක් පමණි. ඒ කාමර තවුසා ගේ කාමරවලට වඩා විශාල ය. සැපපහසු ය. එහෙත් එහි එ තරම් වටිනා බඩු බාහිරාදිය නොතිබිණි. 1820 වන වර්ෂයේ පැවැති පැරණි සම්ප්‍රදය අනුව මොහොගනි ලීයෙන් සාදන ලද එම දවභාණ්ඩ සමින් වසා තිබිණි. බිම ඔප දමා තිබිණි. එහෙත් හැම දෙයක්ම පිරිසුදු කමින් බැබළුණේ ය. වෙසෙසින් ම තෝරා ගත්තා ලද මල් වගී කීපයක් කවුළුකඳමත තබා තිබුණේ ය. එහෙත් ඒ වේලාවේ කාමරයේ තිබුණු ඉතා ම අලංකාර දෙය විසිතුරු ලෙස සරසන ලද කෑම මේසය යි. මේසය ඉතා පිරිසුදු රෙද්දකින් වසා තිබිණි. ඔප දමා මදින ලද හැඳි ගෑරුප්පු හා පිඟන් දිළිසෙයි. හොඳට පිළියෙළ කරන ලද පාන් වගී තුනක් මේසය උඩ තිබිණි. වයින් බෝතල් දෙකක් ද, රසවත් මධුද, පලතුරු යුෂ සහිත විශාල ජෝගුවක් ද, සූදනම් කර තිබුණේ ය. ආශ්‍රමයේ පෙරන මෙම බීම වගී මුළු පළාතේ ම ප්‍රසිද්ධයි. එහෙත් වොඩ්කා නැත. කෑම වගී පහක් පිළියෙළ කර තිබුණු බව රැකිටින් පසුව කීය. ඒ පස් වගීය නම් පොඩි මාළුන් ගෙන් සාදන ලද පැටිස් සමග ගතයුතු සූපයක්, අවුතු ක්‍රමයට තම්බා පිළියෙල කරන ලද මාළු, සැමන් කට්ලිස්, සීත කරන ලද පුඩින්, පලතුරු සිරප් සහ කිරි පුඩින් ය. රැකටින් මේ තොරතුරු දැන ගත්තේ මුළුතැන්ගෙට එබී නො බලා සිටිය නො හැකි වූ හෙයිනි. ඔහුට මුළුතැන්ගෙයි ද සම්බන්ධයක් තිබිණි.

මුළුතැන්ගෙයි පමණක් නොව ඔහුට හැම තැනම සබඳකම් තිබිණි. ඉන් ඔහුට හැම දෙයක් ගැනම තොරතුරු දැනගත හැකි විය. රැකිටින් වහා කිපෙන නොසන්සුන් පුද්ගලයෙකි. තමා ගේ සමත් කම් ගැන හොඳ අවබෝධයක් ඇතිව සිටි හෙතෙම ලොකුකම් දක්වීම පිණිස ඒ සමත් කම් වර්ණනා කෙළේ ය. තමාට කිසියම් ශ්‍රේෂ්ඨ ක්‍රියාවක් කළ හැකියයි ඔහු දැන සිටියේ ය. එහෙත් රැකිටින්ට ලැදිව සිටි අලෝෂා රැකිටින් අවංක නොවන බවත්, ඒ බව ඔහු නොදන්නා බවත් දැක ශෝක විය. මේසයක් උඩ තබන ලද මුදල් තමා කිසිකලක සොරා නොගත්තේ ය. එ හෙයින් තමා අවංකයයි රැකිටින් අදහස් කෙළේ ය. කිසිවකුට ඔහු ගේ ඒ අදහස වෙනස් කළ නො හැකි ය.

ජෝසේප් පියතුමා, පියසි පියතුමා ඇතුළු තවත් පූජකයකු නායක පියතුමා ගේ භෝජන සංග්‍රහයට කැඳවනු ලැබුවත්, රැකිටින් ට කැඳවීමක් නො ලැබුණේ ඔහු වැදගත් පුද්ගලයකු නොවූ හෙයිනි. පීටර් මියුසෝ ඉවාන් හා කල්ගානෝ පැමිණෙන තෙක් පූජකයෝ ආහාර නොගෙන බලා සිටිය හ. මැක්සිමෝ ද භෝජනාගාරයේ ඈත මුල්ලකට වී බලා සිටියේ ය. අමුත්තන් පිළිගැනීම පිණිස නායක පියතුමා භෝජනාගාරය මැදට පැමිණියේ ය. උස සිහින් සිරුරකින් යුත් එතුමා තවමත් අතපය හයියහක්තිය ඇති මහලු මිනිසෙකි. එතුමා ගේ හිස කෙස් තැනින් තැන සුදු විය. එතුමා ගේ දිග මුහුණ තවුසකු ගේ මුහුණට සමාන ය. එතුමා අමුත්තන් පිළිගත්තේ නිහඬව හිස නමා ආචාර කරමිනි. මෙ වර ඔවුහු පියතුමා ගේ ආශීර්වාදය ලැබීම පිණිස ළඟට ගියහ. මියුසෝ, පියතුමා ගේ අතගෙන සිඹීමට සැරසුණේ ය. එහෙත් ඊට පෙර එතුමා අත ඉවත ගත්තේ ය. හැමියන් අනුගමනය කරමින් ඉවාන් හා කල්ගානෝ පියතුමා ගේ අත ගෙන සිඹ සිරිත් අනුව එතුමාට ආචාර කළහ.

"අප ඔබතුමා ගෙන් ඉතා යටහත්ව සමාව ඉල්ලන් ඕනෑ යි" මියුසෝ සිනාමුසු වෙමුන් කීවේ උදාර බව හා ආත්මගෞරවය දක්වන කටහඬිනි. ඔබතුමා විසින් ආරාධනා කරනු ලැබූ පියෝදර පවුලොවිච් කරමසෝ නැති ව පැමිණියාට අපට සමා විය යුතු යි. ඔහු තමුන්නාන්සේ ගේ ආගන්තුකසත්කාරය ප්‍රතික්ෂේප කළේ හේතුවක් ඇතිවයි. සොසිමා පියතුමා ගේ අසපුවේ දී පුතා සමග ඇතිවූ අවාසනාවන්ත භේදයක් නිසා තැනට නුසුදුසු විදියට කතා කළා.......... බොහොම අශෝභන විදියට කතා කළා. (පූජක වරුන් දෙස බලමින්) තමුන්නාන්සේලා ඒ ගැන දන්නවා ඇති. ඉතින් තමා අතින් වුණ වරද ගැන ලැජ්ජා හිතිලා ඉවාන්ටයි මටයි කිව්වා ඒ ගැන තමුන්නාන්සේට කනගාටුව ප්‍රකාශ කරන්න ශ

කියා. මීට පසුව එවැනි වැරදි නොකරන්න ඔහු ඉටා ගත්තා ඔහු තමුන්නාන්සේ ගෙන් ආශිර්වාදය ඉල්ලමින් මේ අශෝභන සිද්ධිය අමතක කරන ලෙස ආයේත් ඉල්ලා සිටියා."

මේ දීර්ඝෝපවාදයේ අවසන් වචන සවල්පය කියන විට කුලවතා සම්පූර්ණ ආත්මසන්තුෂ්ටිය ලබා ගත්තේ ය. සිතේ ඇති වන පැරණි කෝපය සම්පූර්ණයෙන් ම අතුරුදහන් විය. ඔහු ගේ සිතේ ආයේත් මනුෂ්‍ය වර්ගයා කෙරෙහි අවංක පිරිසුදු ප්‍රේමයක් ඇති විය.

උදුර ගතියක් දක්වා කතාව අසා සිටි නායක පියතුමා හිස මඳක් නමා මෙසේ පිළිතුරු දුන්නේ ය.

"කරමසෝ මහත්මයා ගේ නො පැමිණීම ගැන මට බොහෝ ම කනගාටුයි. පැමිණියා නම් මේ භෝජන සංග්‍රහයේ දී අප අතර යහපත් සම්බන්ධයක් ඇති කර ගැනීමට ඉඩ තිබුණා. මහත්වරුනි, කරුණාකර වාඩි වෙන්න."

අනතුරුව සුද්ධ වූ ප්‍රතිමාව ඉදිරිපිට සිටගත් පියතුමෝ උස් හඬින් යාච්ඤා කරන්නට වූහ. හැම දෙනා ම බැති සිතින් හිස පහත් කරගත් අතර මැක්සිමෝ අමුතු ශ්‍රද්ධාවක් දක්වා වැඳ ගත්තේ ය.

පියෝදර් කරමසෝ ඔහු ගේ අවසාන නෙයියාඩම නැටුවේ මේ මොහොතේ දී ය. ඇත්ත වශයෙන් ම ඔහු ගෙදර යාමට අදහස් කළ බව අප මෙහි දී සිහි තබා ගත යුතු ය. තාවුසා ගේ අසපුවේ දී ඉතා නින්දිත ලෙස හැසිරීමෙන් පසුව කිසිවක් සිදු නො වූවාක් මෙන් නායක පියතුමා සමග එකට හිඳ ආහාර ගැනීමට නුසුළුවන් බව ඔහුට සැබවින් ම වැටහෙන්නට ඇත. ඔහු එසේ කළේ ලැජ්ජාව නිසා නො වේ. සමහර විට ඊට ඉදුරා වෙනස් වූ අදහසකින් විය යුතු ය. නායක පියතුමා සමග ආහාර ගැනීම නොහොබිනා කමක් යයි ඔහු සිතන්නට ඇත. හෝටලය ඉදිරිපිට නතර කොට තිබෙන පරණ අබලන් කරත්තයට කරමසෝ නැගගත්තා පමණි. ආයේත් ඔහු එක්වරම නතර විය. "මං මිනිසුන් අතරට ගිය හැම විටම මා ඔවුන්ට වඩා පහත් තැනැත්තෙක් ය, ඔවුන් මා බහුතුතයකු ලෙස පිළිගන්නවා ය යන අදහස මා තුළ ඇති වෙනවා. එහෙත් උන් සේරම මට වඩා පහත්, මට වඩා මෝඩ යි. ඒ නිසා මම කොහොලමක් නටන්නම්" යයි තමා අසපුවේ දී තාවුසාට කී කතාව හදිසියෙන් ම ආයේත් සිහි විය. තමා ගේ නොහොබිනාකම් නිසා හැම දෙනාගෙන් ම පළිගැනීමට කරමසෝ අදහස් කෙළේ ය. "නුඹ අසවලාට මෙතරම් වෛර කරන්නේ මන් ද?" මීට පෙර ඔහු තමාගෙන් ම ඇසූ ප්‍රශ්නයක්

ඔහුට සඳහන් විය. ඔහු ඒ ප්‍රශ්නයට පිළිතුරු දෙමින් "මිනිහා මට කිසිම වරදක් කරලා නැහැ. නමුත් මා මිනිහට කැත උගුලක් ඇද්දා. එදා ඉඳන් මා මිනිහට වෛර කරනවා" යි කීය.

මෙය සිහි කළ කරමසෝව් එදා වේලාවක් දෙගිඩියාවෙන් සිට අනතුරුව ද්වේෂයෙන් සිනාසුණේය. ඔහුගේ දෑස දිළිසුණේය. තොල් වෙව්ලුවේය. "බැඳගත්ත බෙරය ගහලා මිස ලිහන්න හොඳ නැහැ" යි ඔහු තීරණය කෙළේය. ඒ මොහොතේ දී ඔහුගේ සිතේ ඇති වූ හැඟීම් මෙසේ විස්තර කළ හැකිය. 'ගිෂ්ට වීමට දෙයක් මා ළඟ නැහැ. ඒ නිසා මම හැකි තරමින් ඔවුන්ට නින්දා කරමි. ඔවුන්ගේ අදහස්වලට තුට්ටුවක්වත් ගරු නොකරන බව පෙන්වමි.'

තමා ආපසු පැමිණෙන තෙක් සිටින ලෙස රියැදුරාට නියම කළ කරමසෝව් වහා ආශ්‍රමයට ඇතුළු වී නායක පියතුමාගේ භෝජනාගාරය බලා ගියේය. තමා එහි යන්නේ කුමක් කරන්නට දැයි ඔහු නොදත්තේය. එහෙත් තම සිත මැඩ ගැනීමට කිසිම ශක්තියක් තමා තුළ නැති බවත්, ඉතා සුළු දෙයකින් පවා තමා අශිෂ්ටකමේ අන්තයටම යන බවත් හෙතෙම දැන සිටියේය. අශිෂ්ටකමේ සීමා ඉක්මවා ගියත් තමාගේ අතින් කිසිම අපරාධයක් හෝ නීතියෙන් දඬුවම් කළ හැකි වරදක් හෝ සිදුනොවන බව ඔහු දැන සිටියේය. යම් ලෙසකින් අපරාධයක් සිදු වන තත්ත්වයකට පැමිණියහොත් ඒ මොහොතේ දී ඔහුට සිත මැඩ ගත හැකිය. තමාගේ ආත්මශක්තිය ගැන ඔහු ඇතැම් විට පුදුම විය. ඔහු භෝජනාගාරයට පැමිණියේ යාච්ඤාව අවසන් වී සියලු දෙනාම ආහාර ගැනීම පිණිස මේසය වටේ හිඳගත් මොහොතෙහි දී ය. දොර ළඟ නතර වූ හෙතෙම කාමරයේ සිටි පිරිස දෙස බලා ඉතා අවිනීත දුෂ්ට සිනාවක් පා අනතුරුව හැම දෙනාගේම මුහුණු දෙස ගරුසරුකමින් තොරව බැලුවේය.

"මා ගියා යැ කියා තුඹලා හිතුවාට මොකද මෙන්න මා ආවා" යි කරමසෝව් කාමරයේ සිටි හැම දෙනාටම ඇසෙන සේ හඬ නගා කීය.

කාමරයේ සිටි පිරිස ඔහු දෙස පුදුමයෙන් ගල් ගැසී බලා සිටියහ. ඉතා නින්දිත දෙයක් සිදු වන්නට යන බව කවුරුත් නිසැකවම දැනගත්හ. සන්සුන් වූ මියුසෝව්ගේ සිත එක්වරම රෞද්‍ර විය. සිතේ පතුලට බැස නැති වී ගිය හැඟීම් ආයේත් මතු වී ආයේය.

"මේක ඉවසන්න පුළුවන් දෙයක් නො වෙයි. කොහොමටත ඉවසන්න පුළුවන් දෙයක් නො වෙයි" කුලවතා කෑගා කී ය.

ඔහු ගේ ලේ ධාතුව රත් වී හිසට ගැසුවේ ය. කතා කරන අතර ගොත ගැසුවේ ය. අනතුරු ව ඔහු වහා හිස් වැස්ම අතට ගත්තේ ය.

"මොනව ගැන ද මිනිහා කෑගාන්නේ? මොනව ද ඉවසන්න බැරි? පියතුමාණෙනි, මා භෝජනාගාරයට එන්න ද? එපා ද? තමුන්නාන්සේ ගේ අමුත්තා හැටියට මාව පිළිගන්නව ද?" යි කරමසෝ ඇසුවේ ය.

"මා ඉතා ආදරයෙන් ඔබ පිළිගන්නවා" යි පියතුමා පැවසී ය. මහත්වරුනි, තමුන්නාන්සේලා අතර පවතින සියලු වාද භේද අත්හැර දමා දෙවියන්වහන්සේට සාවඥවක් කොට සමගියෙන් යුතු ව මගේ මේ දිළිඳු ආහාරය පිළිගන්නා ලෙස මා හැම දෙනා ගෙන් ම ඉල්ලා සිටිනවා."

"බැහැ, බැහැ, ඒක කරන්න පුළුවන් දෙයක් නො වෙයි" මියුසෝ කී ය.

"ඒ මහත්මයාට කරන්න පුළුවන් කමක් නැති නම් මට කරන්න පුළුවන් කමකුත් නැහැ. නමුත් මා නිකම් සිටින්නේ නැහැ. ඒ නිසයි ආපසු ආවේ. මීට පස්සේ මියුසෝ මහත්මයා යන හැම තැනටම මාත් යනවා. තුඹ යනවා නම් මාත් යනවා. තුඹ නතර වෙනවා නම් මාත් නතර වෙනවා. පවුලේ සමගිය ගැන මතක් කිරීමෙන් තමුන්නාන්සේ මියුසෝ මහත්මයාට පහරක් ගැසුවා. පියතුමාණෙනි, මියුසෝ මහත්මයා නෑයකු හැටියට මා පිළිගන්නේ නැහැ. එහෙම නේ ද වොන්සොන්? මේ ඉන්නේ වොන්සොන්. කොහොම ද වොන්සොන් තුඹේ සැප සනීප?"

"මහත්මයා කතා කරන්නේ මට ද?" යි මැක්සිමෝ පුදුමයෙන් ඇසී ය.

"ඔව්, තුඹට තමයි කතා කළේ. නැති නම් වෙන කාට ද? නායක පියතුමා වොන්සොන් වෙන්න බැහැ."

"මා වොන්සොන් නො වෙයි. මගේ නම මැක්සිමෝ.'

"නැහැ, තුඹට තමයි වොන්සොන් කියන්නේ. පියතුමාණෙනි, තමුන්නාන්සේ දන්නව ද වොන්සොන් කියන්නේ කාට ද කියා? ඒක බොහොම ප්‍රසිද්ධ මිනීමැරුම් නඩුවක්. වොන්සොන් වේසා ගේක දී මැරුම් කෑවා. මිනිහා මරලා, ළඟ තිබුණු මිල මුදල් අත

පොතගා ගෙන, මිනිහ ගේ වයසටවත් ගරු නො කර, මිනිය පෙට්ටි-යක දමා, ඇන ගසා, ලේබලයක් අලවා, කෝච්චියේ පටවා, පීටර්ස්බර්ග් නුවර සිට මොස්කව් නුවරට යැව්වා. මිනිය පෙට්ටියට දමා ඇන ගසන කොට ගණිකාවන් පියානෝව වාදනය කරමින් සිඳු කිව්වලු. ඉතින් මේ ඉන්නේ ඒ වොන්සොන් තමයි. මිනිහා මළවුන් අතරින් නැගිට ඇවිදින්. එහෙම නේ ද වොන්සොන්?"

"මොනව ද මේ දෙඩන්නේ? මොනව ද මෙ තැන වෙන්නේ?" යන හඬ පූජකයන් අතරින් ඇසිණි.

"අපි යමු යන්න" යි මියුසෝ, කල්ගානෝට කතා කර-මින් කී ය.

"නැහැ, යන්න දෙන්න බැහැ" යි මහ හඬින් කෑගාමින් කරමසෝ භෝජනාගාරයට ඇතුළු විය. "මගේ කතාව අවසන් කරන්න ඉඩ දෙන්න ඕනෑ. සොසිමා තවුසා ළඟ දී මා මාළු කෑම ගැන කතා කළාම නොනිසි ලෙස හැසුරුණා ය කියා නුඹලා මට දෙස් කිව්වා. පියතුමාණෙනි, මා විකාරකාරයෙකු වුවත්, විකාර දේ කළත්, මම ආත්මගරුත්වයක් ඇති මිනිහෙක්. මට උවමනා කරන්නේ මගේ හිතේ තියෙන දෙය කියන්නටයි. නමුත් අර ඉන්න මියුසෝ මහත්මයාට තියෙන්නේ යල් පැනපු බොරු අහංකාරකම විතරයි. මා ආශ්‍රමයට ආවේ, ආශ්‍රමය දැකබලා ගෙන මගේ හිතේ තියෙන දෙය කියා යෑමටයි. මගේ පුතා අලෝෂා ආත්මය ගලවා ගැනීම පිණිස මේ ආශ්‍රමයේ නතර වී සිටිනවා. මා ඔහු ගේ තාත්තා. අලෝෂා ගේ මතු දියුණුව ගැන මගේ ලොකු සැලකිල්ලක් තියෙනවා. සැලකිල්ලක් දැක්වීම මගේ යුතුකමක්. මා විකාර කරන අතර මෙ තැන කියන කෙරෙන දේ ගැන කල්පනාවෙන් සිටියා. දැන් මා පැමිණියේ මගේ අන්තිම ජවනිකාව නටා යන්නටයි. නුඹ දන්නවා නේද අපට සිදු වී තියෙන දෙය? පිරිහෙන තැනැත්තා බොරු කියනවා. වරක් පිරුහුණු තැනැ-ත්තා සදහටම බොරු කියනවා. ආයේත් යහපත් මිනිහෙකු වීමට මට උවමනා කර තියනවා. සුද්ධ වූ පියතුමාණෙනි, මම තමුන්නාන්සේ සමඟ තරහයි. පාපෝච්චාරණය ශ්‍රේෂ්ඨ ආගමික චාරිත්‍රයක් හැටියට මා පිළිගන්නවා. මා ඒ චාරිත්‍රයට මහත් භක්තියෙන් හිස නමා ආචාර කිරීමට සූදානම්. නමුත් අර අසපුවේ හැම දෙනා ම බිම දණ ගසා ගෙන, කළ පව් කියනවා. හැමෝට ම ඇහෙන්න පව් සමා කරන එක හොඳ ද? සුද්ධ වූ පියවරුන් නියම කර තියෙනවා රහසින් පාපෝච්චාරණය කරන්න. එතකොට තමයි පාපෝච්චාරණයේ ගුප්ත බලයක් තියෙන්නේ. පුරාණ කාලයේ දී පාපෝච්චාරණය

කළේ මේ ක්‍රමයටයි. දනෝ දහක් බලා සිටිය දී කොහොමද කියන්නේ මං අර පව කළා ය මේ පව කළා ය කියා ? සමහර විට මේ ගැන කතා කරන්න වචනයක් නැහැ. මහ නින්දුවක්. සමහර විට තමුන්නාන්සේලා මිනිසුන්ට කසයෙන් තළන්න පුළුවනි. මම ඉඩ ලැබුණු හැටියේ ම මේ ගැන පූජක සභාවට ලියා දන්වන්නම්. මං මගේ පුතා අලෝෂා ගෙදර එක්ක යනවා."

ආශ්‍රමවල සිදුවන නොයෙක් චනවරකම් ගැන කියවෙන කතා කරමසෝ් අසා ඇති බව අප මෙහි දී සිහි තබා ගත යුතු යි. ආශ්‍රමය ගැන නොයෙක් විදියේ අසභ්‍ය කතා රට තොට පවතියි. ආශ්‍රමවල නායක පූජකවරුන් ගේ අණසකට පවා හානි වන තරමට තාපසයන්ට උවමනාවට වඩා ගරුබුහුමන් දක්වන බවත් තාපසයන් පාපෝච්චාරණයේ නීති පවා උල්ලඞ්ඝනය කරන බවත් දක්වන ද්වේෂ සහගත සිතින් කරන ලද කතා ( අපේ ආශ්‍රමයෙන් පමණක් නොව තාපස නිකාය වැඩ සිටින හැම ආශ්‍රමයකම ) බිෂොප් තුමාට පවා ආරංචි වී ඇත. මේ චෝදනා වැඩි කල් යන්නට පෙර අමතක වෙයි. එහෙත් කරමසෝව් අපකීර්තියේ පතුලට ම ඇද ගෙන ගිය යක්ෂයා ඔහු ලවා ඉහත සඳහන් පැරණි චෝදනාව ආයේත් මතු කෙළේ ය. ඒ චෝදනා-වල වචනයක්වත් ඔහුට නො තේරෙයි. හැරත් ඒවා පැහැදිලි කොට කීමට ද ඔහුට පුළුවන් කමක් නැත. සොසිමා තවුසා ගේ අසපුවේ බිම දන ගසා ගෙන කළ පව් කියන අය ද ඔහු දැක නැත. එ හෙයින් ඔහු කීවේ මතක තිබුණු පැණිර බොරුවකි. මේ බොරු වැල කීමෙන් පසු ව තමා මහ මෝඩකමක් කළ බව ඔහුට පෙනී ගියේ ය. එ තැන් සිට ඔහු කළේ තමා බොරුවක් නො කී බව එහි සිටි අයටත් තමාටත් ඔප්පු කිරීමට වෑයම් කිරීම ය. තමා දොඩන හැම වචනයක් පා සාම තමා තව තවත් බොරුව නමැති මඩෙහි එරෙන බව දනදනත් සිත මැඩ ගත නොහැක්කේ තව තවත් බොරු කීවේ ය.

" මේ මිනිහා කරන්නේ කො තරම් නින්දුවක් ද ? " යි මියුසෝව් කී ය.

" මට ටිකක් සමාවන්න " යි නායක පියතුමා හදිසියෙන් ම කී ය. " මට විරුද්ධව නොයෙක් දෙනා නපුරු දේවල් කියනවා. මේ කතා ක්‍රිස්තුන් වහන්සේ විසින් මගේ අහංකාර සිත සුවකර ගැනීමට එවන ලද ඖෂධයකි, මං මට ම කියාගන්නවා. මේක පැරණි කතාවක්. ඒ නිසා අප හැම දෙනා ම මහත්මයාට ස්තුති කරනවා." මෙසේ පැවසූ නායක පියතුමා කරමසෝව්ට හිස නමා ආචාර කෙළේ ය.

"හා! හා! හා! බොරු සිල්, පරණ කතා, පරණ කෙරුම්, පරණ බොරු. අප ඕවා සේරම දන්නවා. 'ෂිලර්ගේ සොරු' නමැති නවකතාවේ තියෙන විදියට මේක හරියට මූහුණ ඉඹලා පපුවට පිහියෙන් අනිනවා වගෙයි. පියතුමාණෙනි මම බොරුවට කැමැති මිනිහෙක් නො වෙයි. මා කැමැති සත්‍යයටයි. නමුත් මාළු කෑමෙන් සත්‍යය සොයා ගත නොහැකි බව මට කෑගා වුවත් කියන්න පුළුවනි. තමුන්නාන්සේලා මොනවට ද උපවාසයේ යෙදෙන්නේ? උපවාසයේ යෙදිලා මොනවට ද මරණින් පසු දිව්‍යසම්පත් බලාපොරොත්තු වන්නේ? ඔය විදියට දිව්‍ය ලෝකේ යන්න පුළුවන්නම් මමත් ආශ්‍රමයට ඇවිදින් උපවාසයේ යෙදෙන්නම්. අශ්‍රාමවලට වෙලා අනුන්ගෙන් ලැබෙන දනය කකා දිව්‍යසම්පත් බලාපොරොත්තුව සිටිනවාට වඩා හොඳයි ලෝකයාට යහපතක් කරන එක. සමාජයේ දියුණුවට කටයුතු කරන එක. අවංක මනුෂ්‍යයන් වී සමාජසේවය කිරීම ආශ්‍රම-වලට වෙලා දනය ගිලිනවාට වඩා බොහොම අමාරු යි. අද කෑමට ලෑස්ති කරලා තියෙන්නේ මොනවා ද?" මෙසේ විමසූ කරමසෝ මේසය ළගට ගොස් බැලුවේ ය. "පරණ පෝට් වයින්, පූජකයන් විසින් පෙරන ලද මෙඩොක් වයින්, වයින් බීම මාළු කෑමට වඩා නරකයි. බලන්න පූජකවරු බිමට ගෙනත් තියෙන වයින්බෝතල්වල හැටි! හා! හා! හා! කවුද තමුන්නාන්සේලාට මේ වයින් ගෙනත් දෙන්නේ? අපේ දුප්පත් ගොවියන්, කම්කරුවන් දහඩිය මහන්සියෙන් හරිහම්බ කරල අඹුදරුවන්ට කන්න නො දී, අයබදුවලින් බේරා ගෙන ඉතිරි කරගත්ත මුදල්වලින් ගෙනාපු වයින්. තමුන්නාන්සේලා දුප්පතුන් ගේ රීරි මාංස උරා බොනවා."

"මේක අපට කරන මහ නින්දුවක්" යි ජෝසේප් පියතුමා කී ය.

පියසි පියතුමා ගොළුවකු මෙන් බලා සිටින අතරේ මියුසෝව් වහා කාමරයෙන් පිට විය. කල්ගානෝ ඔහු පිටිපසින් ගියේ ය.

"එහෙනම් සවාමිනි මාත් මියුසෝව් මහත්මයා එක්ක යනවා. මීට පස්සේ මා තමුන්නාන්සේ බලන්න එන්නේ නැහැ. තමුන්නාන්සේ මා ළග දණින් වැටී ඉල්ලා සිටියත් එන්නේ නැහැ. තමුන්නාන්සේ මට සලකන්න පටන්ගත්තේ රූබල් දහක් ආශ්‍රමයට දුන්නට පසුවයි. හා! හා! හා! මීට වැඩිය කිසි ම දෙයක් මා කියන්නේ නැහැ. මා කරන්නේ ඉලන්දාරි කාලේ සිට මා වින්ද නින්ද අපහාසවලට පළිගැනීමක්." එවෙලේ සිතේ හටගත් වේගය නිසා කරමසෝ මීට මොළවා මේසයට පහරක් ගැසුවේ ය. "මේ ආශ්‍රමය මගේ ජීවිතය කෙරෙහි බොහොම දුරට බල පා

තියෙනවා. මේ ආශ්‍රමය නිසා මා බොහො ම දුක් වින්ද. තමුන්-නාන්සේලා මගේ පිස්සු සිඳිද ලවා මට හිරිහැර කෙරෙව්වා. මාව ආගමෙන් පන්නා දමා සාප කළා. මට විරුද්ධව ගම පුරා නොයෙක් වල් කතා පැතිරෙව්වා. තමුන්නාන්සේලා හපන්කම් කළා ඇති. අප ජීවත් වන්නේ දුම් නැව්, දුම් කෝච්චි තියෙන නිදහස් මතවලින් පිරිච්ච යුගයකයි. මීට පස්සේ තමුන්නාන්සේ-ලාට මගෙන් රුබල් දහක් නොවෙයි, සීයක් නො වෙයි, තුට්ටු-වක්වත් ලැබෙන්නේ නැහැ."

අපේ ආශ්‍රමය පියෝදර් කරමසෝ ගේ ජීවිතය කෙරෙහි කිසිසේත් බල පා නැති බව මෙහි දී සිහි තබා ගත යුතු ය. ඔහු ගේ සිතට ශෝකය ගෙන දුන් කිසිවක් ආශ්‍රමයෙන් සිදු වී නැත. ආරූඪ කරගත් හැඟීම්වලින් ඔහු කො තරම් ආවේශ වූයේ ද කියතොත් තමා කියන්නේ සැබෑවක් යයි ඔහු මොහොතකට විශ්වාස කෙළේ ය. විලාප නගා ඇඬීමට තරම් පෙළඹුණේ ය. එහෙත් ආශ්‍රමයෙන් පිට වී යාමට දැන් වේලාව හොඳයයි ඒ මොහොතේ දී ඔහුට කල්පනා විය

ඔහු ගේ දුෂ්ට චෝදනාවලට හිස නමා ආචාර කළ නායක පියතුමා අනතුරුව මෙසේ කීය. "තමා විසින් කරන ලද කිසි ම වරදක් නැති ව තමාට කරනු ලබන නින්ද අපහාස ප්‍රීතියෙන් හා සාවධානව ඉවසන්න. තමාට නින්දා අපහාස කළ තැනැත්තාට වෛර නො කරන්න. මෙය පැරණි උපදේශයක්. අප ඒ උපදේශය හොඳට පිළිපදිනවා."

"හා! හා! හා! ඔය යල් පැන ගිය පල් හැලි ආයේත් මතක් වුණා ද? තමුන්නාන්සේ තමුන්නාන්සේලා ගැන ම හොඳට කල්පනා කර බලන්න. මම ගිහින් එන්නම්. පියකු හැටියට මට තියෙන බලය අනුව, ආයේත් මෙහාට නො එන්න මා මගේ පුතා අලෝෂා එක්ක ගෙන යනවා. ඉවාන් උඹ බොහො ම හොඳ කීකරු දරුවෙක්. උඹ මා එක්ක වරෙන්. වොන්සොන් උඹ මොනවට ද මෙ තැන නවතින්නෙ? වරෙන් මා එක්ක වටුමට යන්න. හොඳට විනෝද වන්න පුළුවන්. මෙහෙ ඉදලා වටුමට හැතැප්මයක් විතර ඇති. ඔය ජරා බිම නැතිවට මම උඹට හොඳ වයින් දෙන්නම් බ්‍රැණ්ඩි දෙන්නම්. කෑමට රෝස් කරපු ඌරු නාම්බෙකු දෙන්නම්. වරෙන් යන්න. මෙහෙම වාසියක් කවදාවත් ලැබෙන්නේ නැහැ"

මෙසේ කෑගාමින් හා අත පය වනමින් පියෝදර් කරම්සෝ ආශ්‍රමයෙන් පිට වී ය. රැකිළින් ඔහු දැක අලෝෂාට පෙන්නුවේ මේ මොහොතේ දී ය.

බොහෝ ඈත සිටි අලෝෂා දුටු කරමසෝ අලෝෂා කියා කෑ ගා කතා කෙළේ ය. "පැදුරයි කොට්ටෙයි අරගෙන අද ම ගෙදර වරෙන්. ආයේත් මෙහි නවතින්න එපා."

අලෝෂා පොළොවට මුල් ඇදගත්තාක් මෙන් නිහඬව බලා සිටියේ ය. ඒ අතරේ කරමසෝ කරත්තයට නැගගත්තේ ය. අලෝෂා දෙසවත් නොබැලූ ඉවාන් පියා සමග නිහඬව ගියේ ය. එහෙත් මේ මොහොතේ දී මේ අශෝභන සිද්ධිය අවසන් කිරීමට මෙන් තවත් ඉතා නින්දිත දෙයක් සිදුවිය. හිටිහැටියේම මැක්සිමෝෆ් කරත්තය ළඟ පෙනී සිටියේ ය. ඔහු හති දමමින් වහා දිව ගියේ පමා වේ ය යන බියෙනි. ඔහු දිව යන සැටි රැකිටින් හා අලෝෂා බලා සිටියේ ය. ඔහු කරත්තය ළඟට යනවිට ඉවාන් කරත්තයට නගිමින් සිටියේ ය. මැක්සිමෝෆ් කො තරම් නො ඉවසිල්ලෙන් සිටියේ ද කියතොත් ඉවාන් සමග කරත්තයට නැග ගැනීමට වෑයම් කරමින් "මාත් තුඹලා එක්ක එනවා, මාවත් එක්ක යන්න" යි කී ය. ඔහු සිනාසුණේ ය. ඔහු ගේ මුහුණ ආලෝක විය.

"අන්න මා කිව්වේ නැද්ද මිනිහා වොන්සොන් බව" කරමසෝ ප්‍රීතියෙන් කී ය. "මළවුන්ගෙන් නැගිට පැමිණි වොන්සොන්. කොහොමද උඹ අච්චර හොඳ කෑම නො කා ආවේ.? උඹ මහ අලජ්ජී මිනිහෙක්. මමත් උඹ වගේ අලජ්ජී මිනිහෙක්. නමුත් සහෝදරයා මට උඹ ගැන පුදුමයි. නැගපන්, නැගපන්. ඉවාන් ඔය මිනිහට නගින්න ඉඩ දීපන්. වොන්සොන් උඹට පුළුවන්නේ ද අපේ කකුල් ළඟ බිම ඉඳගන්න? නැතිනම් කරත්ත කාරයා එක්ක ඉඳගෙන යන්න පුළුවන් නේද? එහෙනම් කරත්තකාරයා ළඟින් ඉඳගනින්,"

එහෙත් දැනටම අසුන් ගෙන සිටි ඉවාන් වචනයක්වත් නො කියා මැක්සිමෝෆ් ගේ පපුවට වේගයෙන් ඈත තල්ලුකර දැම්මේ ය. කරත්තයෙන් එළියට විසි වී ගිය මැක්සිමෝෆ් නො වැටී බේරුණේ යන්තමිනි.

"කරත්තය දක්කපන්" යි ඉවාන් කෝපයෙන් කෑගා රියැදුරාට අණ කෙළේ ය.

"මොකද උඹ කරන්නේ? උඹට මොනාව වෙලා ද? ඇයි උඹ අර මිනිහා එළියට තල්ලු කළේ?" යි කරමසෝ කෝපයෙන් ඇසී ය.

කරත්තය ගමන් ගත්තේ ය. ඉවාන් මුවෙන් නො බැණ සිටියේ ය.

"උඹ හරි මිනිහා !" කරමසෝ ආයේත් කීය.

"ඇයි මිනිහෝ උඹ තේද ආශ්‍රමයට යන්න කැමැති වුණේ? ඇයි ඉතින් උඹ ඔය හැටි තරහ වන්නේ?" යි කරමසෝ මිනිත්තු දෙකකට පසු ව ආයේත් ඉවාන් දෙස බලා ඇසුවේ ය.

"මෙච්චර වේලා කෝලම් නැටුවා ඇති. දැන්වත් ටිකක් කට වහගෙන හිටපන්" යි ඉවාන් ගත් කටටම පියාට කී ය.

කරමසෝ මිනිත්තු දෙකක් පමණ වේලා නිහඬව සිට ආයේත් කතා කෙළේ ය.

"පොඩි බ්‍රැණ්ඩි අඩියක් ගහන්න තියෙනවා නම් හොඳයි" ඔහු මඳ වේලාවකට පසු කී ය. එහෙත් ඉවාන් කතා නො කෙළේ ය.

"ගෙදර ගියාම උඹටත් පොඩි අඩියක් ගහන්න පුළුවනි." එහෙත් ඉවාන් කතා නො කෙළේ ය.

කරමසෝ මිනිත්තු දෙකක් නිහඬව සිට ආයේත් කතා කෙළේ ය

"උඹ කො තරම් අකැමැති වුණත් මා අලෝෂා ආශ්‍රමයෙන් අස්කර ගන්නවා."

පිළිකුලින් උරහිස අකුලාගත් ඉවාන් පියා දෙසින් හැරී මහ පාර දෙස බලාගත්තේ ය. ගෙදර පැමිණෙන තෙක් පිය පුතු දෙදෙනා අතරේ වචනයක් වත් හුවමාරු නො වී ය.

## තුන් වන ග්‍රන්ථය

# සල්ලාලයෝ

### පළමු පරිච්ඡේදය

### දාසයන් ගේ නිවස

ෆියෝදර් කරමසෝ ගේ නිවස පිහිටියේ නගර මධ්‍යයෙන් එපිට ය. එහෙත් නගර සීමාවෙන් පිටත නො වේ. එය දකුම් කලු තට්ටු දෙකේ පැරණි ගොඩනැගිල්ලකි. දුඹුරු පාටින් සායම් කරන ලද එම නිවස රතු තහඩුවලින් හෙවිළි කොට තිබිණි. ඉඩකඩ ඇති සැප පහසුකමින් යුත් එම නිවස තවත් හවුරුදු ගණනාවක් නෝ දිරා පවතිනු ඇත. ගෙය පුරා නොයෙක් විදියේ කුඩා අල්මාරි, කුඩා කාමර හා තරප්පු පේළි තනා තිබිණි. ගෙයි සැහෙන තරම් මීයෝ වෙසෙති. එහෙත් කරමසෝ මීයන්ට එ තරම් අකැමැත්තක් නො දක්වී ය "සවස ගෙදර කවුරුවත් නැති වුණත් මීයන් සිටිනවා නම් තනිකම දැනෙන්නේ නැහැ "යි කරමසෝ කී ය. රාත්‍රිකාලයේ දී සේවකයන් ඔවුන් ගේ නිවසට පිටත් කොට යවා හුදෙකලාවේ සිටීම ඔහු ගේ සිරිත ය. දාසයන් ගේ නිවස ගෙවත්තේ තනන ලද ඉඩ කඩ ඇති ශක්තිමත් ගොඩනැගිල්ලකි. මහගෙට කුස්සියක් ඇතත් කරමසෝ ඉවුම් පිහුම් දාසයන් ගේ ගෙයි දී කර ගනියි. පිසනු ලබන ආහාරයෙන් පිට යන සුවඳට මහල්ලා කැමැති නැති. සීත කාලයේ දීත්, ග්‍රීෂ්ම කාලයේ දීත්, ආහාර රැගත් බඳුන් දාසයන් ගේ නිවසේ සිට ගෙමිදුල හරහා මහ ගෙට ගෙනෙනු ලැබේ. මහ ගෙය සාදන ලද්දේ විශාල පවුලකට වුව ද ඉඩකඩ ඇති වන පරිදි ය.

දූසයන් සමග පවුල් පහකට වුවත් එහි වාසය කළ හැකි ය. එහෙත් මේ කතාවට අයත් වකවානුවේ දී මේ විශාල නිවසේ පදිංචිව සිටියේ මහලු කරමසෝ හා ඉවාන් පමණි. දූසයන් ගේ නිවසේ සිටියෝ දූසයෝ තිදෙනෙකි. ඒ තිදෙනා නම් මහලු ගිරිගෝරිස් ඔහු ගේ මහලු බිරිඳ මාපා හා පැවල් සෙමාඩ්යාකෝප් නමැති තරුණයෙකි. මේ තිදෙනා ඔබට වචන කීපයකින් අඳුන්වා දිය යුතු ය. මහලු ගිරිගෝරිස් ගැන දැනට ම සුළු හැඳින්වීමක් කර තිබේ. හිතුවක්කාරයකු වන ගිරිගෝරිස් නොනැමෙන සුලු දැඩි සිතැත්තෙකි. ඔහු යමක් අදහස් කළොත් (ඔහු අදහස් කළ දෙය බොහෝ විට තර්කයට නොගැළපෙයි) ඒ අදහස නිවැරදි යයි ඔහු දැඩිව විශ්වාස කරයි. ඔහු අවංක ය. ඔහු ලවා වැරදි වැඩක් කරවා ගත නොහැකි ය. ඔහු ගේ බිරිඳ මාපා හැම ද සැමියාට කීකරුව සිටියා ය. එහෙත් දූසයන්ට නිදහස ලැබුණු පසු, කරමසෝ ගේ සේවයෙන් අස් වී මොස්කව් පුරයට ගොස්, මෙතෙක් කල් සැකසුරුවම් කරගත් සුළු මුදලින් වෙළෙඳමක් පටන් ගත යුතු යයි මාපා සැමියාට නොරක් නැතිව කරදර කළා ය. මේ ගැනි විකාර දෙඩන බවත් හැම ගැනියක් ම ඉතා චපල බවත්, තමා ගේ පැරණි ස්වාමියා කුමක් කළත්, කෙසේ හැසුරුණත්, ඔහු හැර ද නොයා යුතු බවත් ගිරිගෝරිස් තීරණය කෙළේ ය

"යුතුකම් ඉෂ්ට කරනවාය කියන කතාවේ තේරුම උඹ දන්නව ද?" යි ගිරිගෝරිස් බිරිඳ ගෙන් ඇසුවේ ය.

"යුතුකම් ඉෂ්ට කරනවාය කියන කතාවේ තේරුම මා දන්නවා. නමුත් මෙ තැන තවත් කල් ඉඳීමට අපේ ඇති යුතුකම කුමක් ද කියා මට තේරුම් ගන්න බැහැ" යි මාපා නොනැමෙන ගතියක් දක්වා කීවා ය.

"එහෙනම් තේරුම් නො ගෙන කට වහ ගෙන හිටපන්."

එය එසේ ම විය. ඔවුහු කරමසෝ හැර ද නො ගියා හ. ඔවුන්ට සුළු පඩියක් ගෙවීමට පොරොන්දු වූ කරමසෝ ඒ පඩිය නො වරදවා ගෙව්වේ ය. ස්වාමියා කෙරෙහි තමා ගේ බලපෑමක් තිබෙන බව ගිරිගෝරිස් දැන සිටියේය. එය සැබෑවකි. ඒ බව කරමසෝ ද දැන සිටියේ ය. කරමසෝ කපටි හිතුවක්කාර කෝලමෙකි. එහෙත් 'ජීවිතය පිළිබඳ ඇතැම් කරුණුවලදී' තමා එඩිතර සිතැත්තෙකු බව ඔහු කියතත් ඇතැම් හදිසි අවස්ථාවලට මුහුණ පෑමේ දී ඔහු ඉතා දුර්වල වෙයි. මේ දුර්වල කම නිසා ඔහු තැති ගනියි. ඉතා පරීක්ෂාවෙන් සිටිය යුතු අවස්ථා පැමිණේ. එ වැනි අවස්ථාවල දී විශ්වාසදායක හිතවතෙකු ළග

නැති ව සිටීම ලෙහෙසි නො වේ. ගිරිගෝරිස් ඉතා විශ්වාසදායක මිනිසෙකි. හදිසිඅවස්ථා කීපයක දී ම කරමසෝ ගුටි නො කා බේරුණේ ගිරිගෝරිස් ගේ මැදිහත් වීම නිසා ය. ඒ හැම අවස්ථාවක දී ම ගිරිගෝරිස් තම ස්වාමියාට නොසැහෙන්නට තරවටු කෙළේ ය. අනුන්ගෙන් තැළුම් කෑමට පමණක් නො වෙයි කරමසෝ තැති ගත්තේ. තමා ළඟ අවංක හිතවත් සේවකයකු සිටිය යුතු ඉතා පැටළුම් අවස්ථා පැමිණෙන බව ඔහු දනියි. භයානක මැස්සකු මෙන් නපුරු වූ, රාගයෙන් දූසිත වූ කරමසෝ සුරාවෙන් මත් වී සිටින විට ඇති වන අන්ධවිශ්වාසය නිසා තැති ගනියි. "එවැනි අවස්ථාවල දී මගේ ආත්මය උගුරේ හිර වෙනවා" යි ඔහු කියයි. එවැනි අවස්ථාවල දී, ගලක් මෙන් නොනැමෙන සුළු, ඉතා ශක්තිමත්, තමාට වඩා ගුණවත්, තමා ගේ වනචර කම් දක ඇති, තමා ගේ සියලු රහස් දන්නා, එහෙත් ස්වාමි භක්තිය නිසා ඒ සියල්ල අමතක කර දැමීමට කැමැති, තමාට විරුද්ධ නොවන, මෙ ලොවේ දී හෝ පරලොවේ දී හෝ තමාට දෙස් නොකියන, තමා තැති නොගන්වන, අවශ්‍ය වුවහොත් තමා ආරක්ෂා කර ගැනීමට නො බා ඉදිරිපත් වන අවංක කෙනෙකු තමා ළඟ හෝ තමා ගේ කාමරයේ හෝ තම නිවසේ හෝ සිටිනු දකීමට කරමසෝ ඉතා කැමැති ය. අවශ්‍ය වුවහොත් ඔහු තමා ආරක්ෂා කර ගත යුතුයි. එහෙත් ආරක්ෂා කරගන්නේ කාගෙන්ද? තමා නොහඳුනන, එහෙත් ඉතා භයානක අනතුරු සහිත කෙනෙකු ගෙනි. අවශ්‍ය වුවහොත් තමා අසනීපව සිටින විට මුහුණ දක ගැනීම පිණිස හෝ කතා කිරීමට හෝ පුළුවන් පරණ හිතමිතුරෙකු සිටින බව දන සිටීමට ය. ගිරිගෝරිස් කෝපයෙන් නොසිටින්නේ නම් කරමසෝට එය ලොකු සැනසීමකි. කෝපයෙන් සිටින්නේ නම් ඔහු අධෛර්‍යයට පත්වෙයි. ඇතැම් විට (මෙය ඉතා කලාතුරකින් සිදුවන දෙයකි) කරමසෝ ඉතා සුළු වේලාවකට ගිරිගෝරිස් කැඳවා ගෙන ඒම පිණිස මහ රෑ දුසයන් වෙසෙන ගෙට යයි. ගිරිගෝරිස් පැමිණි පසු නොවැදගත් දේවල් ගැන දොඩන මහල්ලා ඔහුට වහා ආපසු යන්නට ඉඩ දෙයි. ඇතැම් විට ගිරිගෝරිස්ට කවට කමක් කරයි. දුසයා නික්ම ගිය පසු සාප කරමින් ඇඳට යන කරමසෝ ධර්මිෂ්ටයකු මෙන් නිදා ගනියි. අලෝෂා ගේ පැමිණීමෙන් පසු කරමසෝට මීට සමාන දෙයක් සිදුවිය. "පියා සමඟ එක ගෙයි වාසය කරමින් පියා කරන සියලු නොපනත් කම් දකිමින්, එහෙත් දෙස් නො කියමින් සිටි අලෝෂා, කරමසෝට මහත් සිත් වේදනාවක් විය. හැරත් කරමසෝ මීට පෙර නො දන සිටි ගුණයක් අලෝෂා සිය නිවසට ගෙනාවේ ය. ඒ ගුණය නම් පියාට නින්දා නොකිරීම යි. වෙනස් නොවන කරුණාවක් දක්වීම යි. සහමුලින් ම ස්වාභාවික වූ

අවංක පිතෘ භක්තියෙන් පියාට ගරු කිරීම යි. එහෙත් දරු සෙනෙහස ලැබීමට තරම් කරමසෝ සුදුස්සෙක් නො වේ. පිය පුත් සබඳකම් සහමුලින් ම අත්හැර දැමූ මහලු සල්ලාලයාට මෙය මහත් පුදුමයක් විය. මෙතෙක් කල්, නපුරුකමට මිස වෙන කිසිවකට කැමැත්තක් නොදැක්වූ මහල්ලාට පුතා ගේ ආදරය සිතේ පුදුමය ඇති කරවන අලුත් අත්දැකීමක් විය. මෙතෙක් තමා ඉගෙනීමට අකැමැත්තෙන් සිටි දෙයක් උගත් බව ඔහු අලෝෂා ගිය පසු කි ය. කරමසෝ ගේ පළමු බිරිඳ හා මීතියා ගේ මෑණියන් වූ ඇඩිලෙයිඩා මහලු ගිරිගෝරිස් විසින් පිළිකුල් කරන ලද බවත්, දෙ වන බිරිඳ, එනම් 'අසරණ පිස්සු ගෑනිය' වන සොංපියා, සැමියා ගේ තාඩන පීඩනාවලින් හා ඇයට දෙස් කියන්නන් ගෙන් ගිරිගෝරිස් විසින් ආරක්ෂා කළ බවත් මම ඉහත සඳහන් කෙළෙමි. මේ අවාසනාවන්ත ඉතිරිය කෙරෙහි ගිරිගෝරිස් දැක් වූ අනුකම්පාව කිසියම් ශුද්ධ වූ ආගමික දෙයකට සමාන විය. මෙ කල වුව ද, එ නම් හවුරුදු විස්සකට පසුව ද යම් කිසිවෙකු ඇයට පුංචිකමක් කළොත් ගිරිගෝරිස් වහා ඒ පුංචිකම් කළ තැනැත්තා ගේ කට වසයි. පිටතින් නම් ගිරිගෝ-රිස් උදාසීන පුද්ගලයෙකි. උදුර ගතිගුණ ඇත්තෙකි. වැඩි කතා නැත්තෙකි. විහිළු තහළු නොකරන්නෙකි. ගිරිගෝරිස් ඔහු ගේ කීකරු නිහතමානී බිරිඳට ප්‍රේම කළේ දැයි බැලූ බැල්මට කිව නොහැකි ය. එහෙත් ඔහු ඇයට ප්‍රේම කෙළේ ය. මාංපා ඒ බව දැන සිටියා ය.

මාංපා මෝඩ ගෑනියක් නෝ වේ. ඇ සැමිසාට වඩා දක්ෂ වූවා පමණක් නොව ජීවිතය පිළිබඳ කටයුතුවල දී දුරදිග බලා කටයුතු කළා ය. එහෙත් විවාහ වූ ද සිට මාංපා හැම කටයුත්-තක දී ම සැමියාට කීකරු වූවා ය. තමා තුළ නොපිහිටි එහෙත් සැමියා තුළ පිහිටි ආධ්‍යාත්මික උසස් කමට ගරු කළා ය. මුළු ජීවිත කාලය තුළ ම අඹු සැමි දෙදෙනා එකිනෙකාට කතා නොකිරීම අපූරු දෙයක් ලෙස සැලකිය හැකි ය. ඔවුන් කතා කළේ දිනපතා කෙරෙන කටයුතු පිළිබඳ ඉතා අවශ්‍ය දෑ ගැන පමණයි. සැමියා තම දුකසැප හා වැඩ කටයුතු ගැන ඇගෙන් නොවිමසුවෙන් තමා ගේ අවවාදය අවශ්‍ය නැතැයි මාංපා බොහෝ කලක සිට දැන සිටියා ය. තමා ගේ නිශ්ශබ්දතාවට සැමියා ගරු කරන බව දැනගත් මේ ඉතිරිය එය තමා ගේ බුද්ධියෙහි යහපත් ලකුණක් ලෙස පිළිගත්තා ය. ඇයට සැමියා විසින් තළන ලද්දේ එක්වරක් පමණි. එ වරද ඔහු ඇයට තැළුවේ යන්තමිනි. ඇඩිලෙයිඩා සමග විවාහයෙන් හවුරුද්දකට පස්සේ දිනක් කරමසෝ (එකල වහල් භාවයේ සිටි) ගැමි ගැහැනුන් හා තරුණියන් නැටුම් ගැයුම් පිණිස නිවස ඉදිරියට කැඳෙව්වේ ය.

ඔවුන් 'නිල් තණ පිපිය' නමැති නැටුම නටනවාත් සමග ම, එකල තුරුණු වියේ සිටි මාපා ඉදිරියට පැන 'රුසියන් නැටුම' නැටුවා ය. ඈ ඒ නැටුම නැටුවේ ගැමියන් නටන තාලයට නොව මියුසෝ පවුලේ සේවය කරන කාලයේ දී ඔවුන් ගේ පෞද්-ගලික නැටුම්හලෙන් උගත් පිළිවෙළට ය. මොස්කව් නුවර සිට පැමිණි ගුරුවරයෙකු විසින් මියුසෝ ගේ නැටුම්හලේ නටන ගැමියන්ට නැටුම් පුහුණු කරන ලදී. බිරිඳ හැඬෙට නටන සැටි බලා සිටි ගිරිගෝරිස් ගෙදර ගොස් පැයකට පමණ පසු ඈගේ කොණ්ඩයෙන් ඇද යස පාඩමක් ඉගැන්නුවේ ය. ඊට පසු ගිරි ගෝරිස් කවදාවත් බිරිඳට නොනැළවේ ය. මාපා ගේ නැටුම් ද එතැනින් හමාර විය.

සුරිඳුන් ඔවුන්ට දරුසම්පතින් ආශිර්වාද කොට නැති. ඔවුන්ට එක දරුවෙක් ලැබිණි. එහෙත් ඒ දරුවා මිය ගියේ ය. ගිරිගෝරිස් දරුවන්ට බොහො ම ආදරෙයි. ඒ බව එළිපිට පෙන්නීමට ඔහු ලැජ්ජා නො වී ය. ඇඩිලෙයිඩා පැන ගිය පසු ගිරිගෝරිස්, හවුරුදු තුනක් වයසැති මීතියා ගෙන සියතින් ම නාවා, හිස පීරා, කවා පොවා හවුරුද්දක් ම ආදරයෙන් හදා වඩා ගත්තේ ය. මීතියා ගෙන් පසු ඉවාන් හා අලෝෂා රැක බලා ගැනීම නිසා ඔහුට දරුවන් ගේ මුත්තණියන් ගෙන් කළ හොඳට පඩුරක් වශයෙන් කම්මුල් පහරක් ලැබිණි. මේ සියල්ල මම මීට පෙර පවසා ඇත්තෙමි. ඔහු ගේ දරුවා ගෙන් ඔහුට ලැබුණු එක ම සැපත දරුවා ගේ උපත බලාපොරොත්තු වීම පමණි. එහෙත් දරුවා උපන් පසු ඔහු ශෝකී විය. බිය විය. දරුවාට ඇඟිලි හයක් තිබිණි. දරුවා ගැන ගිරිගෝරිස් කොතරම් දුක් වුණේද කියතොත් දරුවාට නම් තබන දවස වන තෙක් කතා නො කෙළේ ය. ගෙට නොපැමිණියේ ය. තෙදිනක් ම ගෙට ගොඩ නොවී වත්ත කෙටුවේ ය. තුන් වන දින දරුවාට නම් තැබීමට නියම කරගන්නා ලදී. ඒ අතරේ ගිරිගෝරිස් තීරණයකට බැස ගත්තේ ය. දරුවාට නම් තබන දවසේ පූජක තැන ඇතුළු නෑයන් කීපදෙනෙක් ගෙදරට රැස් වූ හ. දරුවා ගේ ඇපකාර පියා ලෙස කරමසෝ පැමිණියේ ය. ඒ අතරේ ගිරිගෝරිස් ගෙට ගොස් "දරුවාට නම් තබන්න එපා" යි සිපිහැපියේ ම කීය. ඔහු ඉතා සෙමින් එහෙත් කෙටියෙන් වචනයක් පාසා නවත්වමින් මෙසේ කීවේ පූජකයා දෙස සැලකිල්ලෙන් බලාගෙන ය.

"මොකද නම් තබන්න උවමනා නැත්තේ ?" පූජකයා පුදුම-යෙන් සිනාසී ඇසුවේ ය.

"මගේ දරුවා මකරයෙකු නිසයි" ගිරිගෝරිස් සෙමින් කී ය.

"මකරයෙක් ? මොන මකරයෙක් ද ?"

මඳ වේලාවක් කරබාගෙන සිටි ගිරිගෝරිස් "මගේ දරුවා කොරෙක්" යි තදින් එහෙත් සෙමින් කිවේ දරුවා ගැන වෙනත් කිසිවක් කීමට නොකැමැති බව හඟවමිනි.

ඔවුහු සිනාසී අසරණ දරුවාට නම් තැබූහ. ගිරිගෝරිස් සුද්ධ වූ පැන් බඳුන ඉදිරිපිට සිට යාච්ඤා කළ මුත් දරුවා පිළිබඳ අදහස වෙනස් නො කෙළේ ය. එහෙත් ආගමික වතාවත්-වලට විරුද්ධ නො වී ය. ඒ දුවිලි දරුවා ජීවත්ව සිටින තුරා ගිරිගෝරිස් දරුවා දෙස නොබැලුවේ ය. කිසි ම සැලකිල්ලක් නොදක්වීමට වෑයම් කෙළේ ය. හැකි තරම් ගෙට නො ගොස් සිටියේ ය. එහෙත් දෙ සතියකට පසු උගුරේ අක්කාරම් බැඳී දරුවා මළේ ය. ගිරිගෝරිස් මිනිය කුඩා පෙට්ටියක තැන්පත් කොට ඒ දෙස දැඩි ශෝකයෙන් බලා වළලා දැම්මේ ය. කුඩා වළ වසා පස් දමන විට ඔහු වළ ළඟ දණින් වැටී හිස පහත් කර ගත්තේ ය. හවුරුදු ගණනක් ගතවන තුරු ගිරිගෝරිස් දරුවා ගැන මතක් නො කෙළේ ය. මාපා ද සැමියා ඉදිරිපිට දරුවා ගැන කතා නොකළා ය. සැමියා නැති අතරේ ඈ දරුවා ගැන කතා කෙළේ රහසක් කියන්නාක් මෙනි. දරුවා ගේ මරණයෙන් පසු 'ආගම' කෙරෙහි සැලකිල්ලක් දක්වූ ගිරිගෝරිස්, ලොකු රවුම් රිදී රාමුවෙන් යුත් උපැස් දමාගෙන එකලාවේ හිඳ 'සාන්තුවරයන් ගේ චරිත කතා' නැමැති පොත කියවන බව මාපා දුටුවා ය. ඔහු හඬ නගා පොත කියෙව්වේ කොරොස්ම කාලයේ දී පමණි. 'බුක් ඔෆ් ජොබ්' නමැති පොතට වෙසෙසින් ම ආශා කළ ගිරිගෝරිස් 'දෙවියන්ට' බිය ඇත්තා වූ සිරියාවේ අයිසැක් පියතුමා ගේ කියමන් හා දේශනා ඇතුළත් පොත කෙසේ හෝ සොයා ගත්තේ ය. හවුරුදු පහක් ම හෙතෙම මේ පොත මහත් වෑයමින් කියෙව්වේ ය. එහෙත් කියවූ දෙයින් ඔහුට තේරුණේ ඉතා සුවල්පයකි. ඔහු පොතට ගරු කළේත්, මහත් භක්තියෙන් කියෙව්වේත් එය නොතේරුණු නිසා ම ය. තුදුරේ වාසය කළ එක්තරා නිකායකට අයත් පූජකයන් ගේ දේශනාවලට ගිරගෝරිස් මෑතක සිට සැලකිල්ලක් දක්වයි. ඒ දේශනා නිසා ඔහු ගේ සිතේ නව හැඟීමක් ඇති වුවත් අලුත් ආගමක් වැළඳ ගැනීම නුසුදුසු ය යි ඔහු අදහස් කෙළේ ය. ඔහු පෙරට වඩා දන් සන්සුන් වූයේ නිතර ආගමික පොත පත කියවීමේ ප්‍රතිඵලයක් වශයෙනි.

සමහර විට ගිරිගෝරිස් ගුප්ත දේවල්වලට ළැදිකමක් දක්වන්නට ඇත. ඔහු ගේ අංගවිකල වූ දරුවා ගේ උප්පත්තියත් මරණයත් සමග ඔහු විසින් පසුව සඳහන් කළ තවත් පුදුම දෙයක්

ඔහු ගේ ආත්මය තුළ තදින් බල පැවැත්වී ය. දරුවා වැළලූ දින රෑ අලුත උපන් දරුවෙකු හඬන හඬින් මාපා අවදි වූවා ය. ඉන් තැතිගත් මාපා වහා සැමියා අවදි කළා ය. මඳ වේලාවක් සවන් දී සිටි ගිරිගෝරිස් 'එය ගැහැනියක ගේ කෙඳිරි ගෑමක්' යයි කී ය. ඔහු වහා නැගිට ඇඳගත්තේ ය. එය මැයි මස උණුසුම් දිනයකි. ගෙයි පඩිපෙළ බැස යන ඔහුට වත්තේ සිට පැමිණි ඇඬීම කනේ තිබ්බාක් මෙන් ඇසුණි. වත්තේ සිට ගෙමිදුලට ඇති ගේට්ටුව රාත්‍රී කාලයේ දී වසා තබන බැවින් කිසිවකුට ගෙමිදුලට ඇතුළු විය නොහැකි ය. ගෙමිදුල උස ශක්තිමත් වැටකින් වට විය. ආපසු ගෙට ගිය ගිරිගෝරිස් ලන්තෑරුමක් දල්වා ගේට්ටුවේ යතුර ගෙන, කෑගාන බිරිඳ ගණන් නො ගෙන නිහඬව වත්ත දෙසට ගියේ ය. තමාට ඇසුණේ දරුවකු ගේ ඇඬීමක් බවත් නිසැකව ම ඒ තමා ගේ දරුවා තමාට කතා කරන බවත් මාපා කීවා ය. එහෙත් ඒ කෙඳිරිය ඇසුණේ ගේට්ටුව ළඟ තිබෙන නානගෙයි සිට බවත් එය ගැහැනියක ගේ කෙඳිරි ගෑමක් බවත් එක් වර ම ගිරිගෝරිස්ට දැනිණි. නානගෙයි දොර ඇරිය හෙතෙම දුටු දෙයින් ගල් ගැසිණි. පාරක් ගානේ දඩාවතේ යන ලිසවෙතා සෙමාඩියස්චයා (ගඳ ගහන ලිසවෙතා) යන විකට නමින් මුළු ගම ම දන්නා අඳුනන මෝඩ අනාථ තරුණිය විසින් නානගෙට වැදී දරුවෙක් වදන ලදී. දරුවා ළඟ ඇති ව ඇ පණ අදිමින් සිටියා ය. ඈ ගොළුවකු බැවින් කිසිවක් කියා ගස නොහැකි විය. එහෙත් ඇගේ කතාව කීමට වෙන ම පරිච්ඡේදයක් අවශ්‍යයි.

## දෙ වන පරිච්ඡේදය

# අනාථ තරුණිය

ගිරිගෝරිස් ගේ සිත කම්පා කොට වික කලක සිට එයි ඉතා පිළිකුල් සැකයක් ඇති කළ විශේෂ සිද්ධියක් විය. ලිසවෙතා කුරු තරුණියකි. "ඈ අඩි පහකට විකක් අඩුයි" ඇගේ මරණයෙන් පසු ගමේ වැසි මහලු සිල්වත් ගැහැනු බොහෝ දෙනෙක් අනුකම්පාවෙන් කීහ. ලිසවෙතා මෝඩ තරුණියක බව ඇගේ වටකුරු නීරෝගි රතු මුහුණ බලා කිව හැකි ය. ඇගේ අහිංසක පෙනුම කෙසේ වෙතත් එක අරමුණක රැඳුණා වැනි දැස ඉතා

අප්‍රසන්න ය. ලිසවෙතා ග්‍රීෂ්ම සෘතුවේත් සීත සෘතුවේත් වෙනසක් නැතුව හණවලින් මසන ලද ගවුමක් ඇඳ හිස් පයින් ගම පුරා ඇවිද්දා ය. බැටළුවකු ගේ ලෝම මෙන් රැලි ගැසුණු ඇගේ දළ කළු හිස කෙස් කාක් කූඩුවක් වැන්න. ඇ බිම හා කුණු ගොඩවල් උඩ නිදගැනීමට පුරුදුව සිටි නිසා ඇගේ කාක් කූඩුවක් වැනි හිසකෙස්වල මඩ තැවරී තිබිණි. කොළ, කෝටු කැලි හා යතු කුඩු රැඳී තිබිණි. ගෙයක් දොරක් නැති ඇගේ රෝගාතුර වූ පියා බේබද්දෙකි. මුළු සේසත ම විනාශ කරගත් හෙතෙම ධනවත් වෙළෙන්දකු යටතේ හවුරුදු ගණනක සිට මෙහෙ කරයි. ලිසවෙතා ගේ මව මිය ගොස් බොහෝ කල් ය. ගෙදර ගිය හැම විටම රෝගයෙන් හා කෝපයෙන් පෙළෙන පියා ලිසවෙතාට තෙතක් මෙතක් නැතිව තළයි. එහෙයින් කලාතුරකින් හෝ ගෙදර නොගිය ලිසවෙතා මෝඩ වූ නිසාත්, දෙවියන්ට ප්‍රිය වූ නිසාත් ගමේ ගොඩේ කවුරුත් රැකබලා ගැනීමට කැමැති වූහ. ඇගේ පියා ගේ ස්වාමියා ඇතුළු ගමේ බොහෝ දෙනෙක්, වෙසෙසින් ම වෙළෙන්දෝ ඇයට හොඳ ඇඳුම් පැළඳුම් යපයා දුන්හ. සීත කාලයේ දී ඇයට උස් පාවහන් හා සම්සැට්ටයක් අරන් දුන්හ. ඇඳුම් ඇන්දවීමට ඉඩ දෙන ලිසවෙතා අතතුරුව සිරිත්සේ පල්ලියේ දොරකඩට ගොස් ඒ ඇඳුම් ගලවා දමා ගවුම පමණක් ඇතිව හිස් පයින් ගියා ය. වරක් අපේ ගමට පැමිණි අලුත් ආණ්ඩුකාරයෙකුට ගම පිරික්සමින් යන අතරේ ලිසවෙතා දක සිතේ ලොකු වේදනාවක් ඇති විය. ඇ මෝඩ තරුණියක බව එතුමාට දන්වන ලදි. එහෙත් හවුරුදු විස්සක තරුණියක ගවුමක් පිටින් ඉබාගාතේ යාම සදාචාරයට බාධවක් බව පැවසූ ආණ්ඩුකාරතුමා යන්නට ගියේ ය. ලිසවෙතා ද නොනවත්වා ඉබාගාතේ ගියා ය. අන්තිමේ දී ඇගේ පියා මිය ගියේ ය. පියා ගේ ඇවෑමෙන් අනාථ වූ ලිසවෙතා ගමේ ආගමාලයෙන් දපුණු අය ගේ ඇසට පින්කෙතක් මෙන් පෙනුණාය. ඇත්ත වශයෙන් ගමේ හැමෝම ඇයට හිතවත් වූහ. හැමෝට ම සරදම් කරන ළමයි පවා ඇයට සරදම් නො කළාහ. වෙසෙසින් ම අපේ ගමේ පාසල් ශිෂ්‍යයෝ බොහො ම දඟයි. ලිසවෙතා ආගන්තුක ගෙවල්වලට ද ගියාය. එහෙත් කිසිවෙක් ඇය පන්නා නොගත්හ. කවුරුත් ඇය ඉතා ආදරයෙන් පිළිගෙන යම් කිසිවක් දුන්හ. ඇයට යම් කිසිවෙකු මුදල් දුන්නොත් ඇ එම මුදල් පල්ලියේ හෝ හිරගෙදර හෝ පින්කැටයට දමයි. ඇයට පාන් ගෙඩියක් හෝ බනිස් ගෙඩියක් හෝ ලැබුණොත් ඇ එය මඟ දී හමුවන පළමු ළමයාට දෙයි. ඇතැම් විට ඇ මඟ යන නගරයේ ඉතා ධනවත් කුලකතක නතර කොට බනිස් ගෙඩිය දෙයි. කුලකත මහත් සතුටින් බනිස්ගෙඩිය පිළිගනියි. ලිසවෙතා

කළු පාන් හා ඇල්වතුර හැර වෙන කිසිම ආහාරයක රස බලා නැත. එවිනා බඩුමුට්ටු හා මිල මුදල් එළියේ තබා ඇති සාප්පු- වකට ඈ ගියොත් කිසිවෙක් ඇය ගැන සෝදිසියෙන් නො සිටියි. අමතක වී දමා යන රූබල් දහස් ගණනක් දුටුවත් ඈ ඉන් තඹයකටවත් අත නො තබයි. ලිසවෙතා කලාතුරකින්වත් පල්ලියට නො ගියා ය. එහෙත් ඈ නිදාගත්තේ පල්ලියේ දොර යට ය. නැති නම් බඩවැටියක් උඩින් කාගේ හෝ වත්තකට පැන නිදාගත්තා ය. (අපේ ගමේ මේ දක්වා ගෙවතු වෙන් කොට තිබෙන්නේ බඩවැටිවලිනි.) සතියකට වරක් ලිසවෙතා 'ගෙදර' ගියා ය. එනම් පියා ගේ සවාමියා ගේ ගෙදරට ගියා ය. සීත කාලයේ දී ලිසවෙතා දිනපතා ම වාගේ එහි ගොස් ඉස්තෝප්පුවේ හෝ හරක් මඩුවේ හෝ නිදාගත්තාය. ඈ ගත කරන මේ ජීවිතය ගැන ගම්වැස්සෝ පුදුම වූහ. එහෙත් ලිසවෙතා මේ අරුම පුදුම ජීවිතයට පුරුදු වූවාය. ඈ කුරු වුවත් ශක්තිමත් ය. ඈ මේ පුදුමාකාර ජීවිතය ගත කරන්නේ අහංකාර කම නිසා යයි ඇතැමෙක් කී ය. එහෙත් එය යුක්තිසහගත කතාවක් නො වේ. කතා කළ නොහැකි වූ මේ තරුණිය වරින් වර නො පැහැදිලි හඬක් නැගුවා ය. එවැනි තැනැත්තියක අහංකාර වන්නේ කෙසේ ද?

හවුරුදු බොහෝ ගණනකට පෙර, සැප්තැම්බර මාසයක හඳ බබලන උණුසුම් රැයක (අපේ ගමේ පැවැති මතේ හැටියට) වෙරිමතින් සිටි තරුණ මහත්වරු පස් දෙනෙක් හෝ හය දෙනෙක් සමාජශාලාවක සිට රෑ බෝ වී ගෙදර යමින් සිටියහ. ගෙවල් දෙ පේ- ළියක් මැදින් වැටී ඇති දෙ පස බඩවැටිවලින් යුත් පාරක් දිගේ මේ තරුණ මහත්වරු ගමන් ගත් හ. අප 'ගග' යන නමින් හැඳින්- වීමට පුරුදු වී සිටි දුගඳ හමන මඩ කඩිත්තක් උඩින් තනා ඇති පාලම උඩින් මෙ මග වැටී ඇත. පාර අයිනේ බඩවැටියක් යට නිදා සිටි ලිසවෙතා අපේ මේ සෙල්ලක්කාරයන් විසින් දක්නා ලදී. ඇය දෙස බැලීමට නතර වූ ඔව්හු සල්ලාලයන් මෙන් සිනා සුණහ. මෙ වැනි සතකු ගැහැනියක ලෙස පිළිගත හැකිදැයි සොයා බැලීමට එක් තරුණ මහතකුට අදහස් විය.......... ඇය ගැහැනියක ලෙස පිළිගත නොහැකි යයි අනෙක් අය ඇය දෙස පිළිකුලින් බලා කී හ. එහෙත් පිරිස අතරේ සිටි කරමසෝ වහා ඉදිරියට පැන ඇය ගැහැනියක ලෙස පිළිගැනීමට අපහසුවක් නැතැයි කී ය.........ඒ මොහොතේ දී ඔහු ගේ බහුබූත නැටුම සීමා ඉක්මවා ගිය බව කිව යුතු ය. තම යහළු මිත්‍රයන් ගේ විනෝ- දය සඳහා ඉදිරිපත් වීමට ඔහු කැමැති විය. ඔහු ගේ පළමු බිරිඳ ගේ මරණය ගැන ආරංචිය ඔහුට ලැබුණේ මේ කාලයේ දී ය. බිරිඳ මළ ශෝකය පෑවසීම පිණිස කළු හිස්වැස්මක් පැළඳගත්

කරමසෝ සුරා බොමින් කොතරම් නොසන්ඩාලකම් කළේ ද කියතොත් ගමේ වැසි සාහසික සිත් ඇති අය පවා බිරාන්ත වූහ. කරමසෝ ගේ බලාපොරොත්තු නොවූ කතාව අසා බේබද්දු මිත්‍රයෝ පුදුම වූහ. ඒ අතරේ ලිසවෙතා ස්ත්‍රියක බව පෙන්වන ලෙස එකෙක් අභියෝගයක් කෙළේ ය. එහෙත් පිරිසෙන් කීප දෙනෙක් ම ඒ අදහස ප්‍රතික්ෂේප කළ හ. අන්තිමේ දී ඔවුහු සිනා සෙමින් නිදා සිටි ලිසවෙතා හැරදා යන්නට ගිය හ. ඒ පිරිස සමග තමා ද ගිය බව පසු කල කරමසෝ දිවුරා කීය. ඇතැම් විට ඔහු ගේ කීම සැබෑ වන්නට පිළිවන. කිසිවෙක් මෙහි ඇත්ත නැත්ත නොදනියි. එහෙත් මාස පහකට හෝ හයකට පස්සේ ගම්වැසියෝ ලිසවෙතා ගේ තත්ත්වය දැක සිතේ හටගත් අවංක කෝපයෙන් කතා කරන්නට වූහ. ඔවුහු ඇයට මේ දරුණු අපරාධය කළ අධමයා සොයා ගැනීමට වෑයම් කළ හ. මේ අධමයා පියෝදර් පවුලොවිච් කරමසෝ මිස වෙන කිසිවකු නොවන බව හඟවන භයානක ආරන්චියක් හිටිහැටියේම ගම පුරා පැතිරී ගියේ ය. මේ කතාව ප්‍රචාරය කර යැව්වේ කවරකු විසින් ද? එදා රෑ සුරා බී කෑගාමින් පැමිණි තරුණ මහත්වරු පස් දෙනෙක් ගම හැර ගිය හ. හයවැනියා තවමත් ගමේ වෙසන, වැඩිවිය පැමිණි ගැනු දරුවන් ඇති කාගේත් ගරු සැලකිලි ලබන සිවිල් ඇමතිවරයෙකි. ඉහත සඳහන් කළ ආරන්චියෙහි ඇත්තක් ඇතත් නැතත් එය මේ මහතා විසින් ප්‍රචාරය කරන ලද කතාවක් ලෙස පිළිගත හැකි ය. මේ ආරන්චිය කෙළින් ම කරමසෝ කෙරෙහි බලපැවැත්වී ය. එහෙත් එය තමාට කරන ලද අපහාසයක් ලෙස කරමසෝ නොපිළිගත්තේ ය. ගමේ ගොඩේ වෙළෙඳුන් ගේ ඕපාදූප කතාවකට විරුද්ධ වීමට ඔහු කරදර නොවී ය. ඒ කාලයේ දී ඔහු ඉතා ඉහළින් සිත්ගත් පුද්ගලයෙක් විය. තමා විසින් නිතර සංග්‍රහ කරනු ලැබූ නගරයේ වෙසෙන රජයේ නිලධාරීන් හා රදළයන් හැර වෙන කිසිවකු සමග කතා බහ කිරීමට තරම් පහත් නොවී ය.

මේ කාලයේ දී නපුරු චෝදනාවලින් තම ස්වාමියා ආරක්ෂා කර ගැනීමට ගිරිගෝරිස් ඉදිරිපත් විය. ස්වාමියා රැක ගැනීමට ගොස් කලහ කරගත් ගිරිගෝරිය් කීප දෙනෙකු ගේ සිත් තමා ගැනීමට සමත් විය. "මේක ඒ කාලකණ්ණි ගෑනි ගේ වරද "යි පැවසූ හෙතෙම තරුණියට වරද කළේ හිරෙන් පැන ගිය කාප් නැමැති භයානක අපරාධකාරයෙක් යයි කීය. ඔහු ගේ නම කාප් බව අප දන සිටියේ ඔහු හිරෙන් පැන ගොස් අපේ නගරයේ සැඟවී සිටි හෙයිනි. මේ භයානක මිනිහා ගමේ සැඟවී සිට තිදෙනකු ගේ මිල මුදල් සොරාගත් බැවින් ගිරිගෝරිස් ගේ කතාව අනුමාන කළ හැකි සත්‍යයක් ලෙස පෙනිණි. නගර වාසීන් විසින් ලිසවෙතා කෙරෙහි දක් වූ අනුකම්පාව මේ සිද්ධියත්

ඒ පිළිබඳ කතාවත් නිසා යන්තමින් හෝ අඩු නොවීය. මීට කලින් නොදක්වන ලද ආදරයෙන් යුතුව ඇය රැක බලා ගන්නා ලදී. නගරයේ වැසි ධනවත් වෙළෙන්දකු ගේ වැන්දඹුවක් අප්‍රේල් මාසය අවසානයේ දී ලිසවෙතා ඇගේ ගෙදර නතර කර ගැනීමට කටයුතු සූදානම් කළා ය. ඈ අදහස් කළේ දරුවා ලැබෙන තෙක් අසරණ තරුණියට ගෙත් පිටත යාමට ඉඩ නො දීමට ය. ඈ තරුණිය ගැන සෝදිසියෙන් සිටියමුත් දරුවා ලැබෙන දින රෑ ලිසවෙතා ගෙදරින් පැනගොස් කරමසෝ ගේ වත්තට රිංගා ගත්තා ය. ඉතා සියුමැලි තත්ත්වයක සිටි ලිසවෙතා බඩවැටිය උඩින් කෙසේ නැගගත්තා ද යන්න අබිරහසක්ව පවතියි. යම්කිසිවකු ඇග වැට උඩින් උස්සා තබන්නට ඇතැයි ඇතැමෙක් කීහ. ඒ අතරේ වෙනත් අය ඊට වඩා භයානක දේවල් කීහ. දිය හැකි එකම පිළිතුර නම් අනුන් ගේ ගෙවතුවල නිදා ගැනීමට පුරුදු වී සිටි ලිසවෙතා කෙසේ හෝ වැට උඩින් නැග ගත් බවත්, මෙසේ වැට උඩින් නගිනා අතරේ බිම වැටී තුවාල කරගත් බවක් ය.

වහා ආපසු ගෙට ගිය ගිරිගෝරිස් බිරිඳ ලිසවෙතා ළගට යවා තුදුරේ පදිංචිව සිටි මහලු වින්නඹුවක කැඳවා ගෙන ඒමට දිව ගියේය. ඔවුහු දරුවා බේරා ගත්හ. එහෙත් එළිවන පාන්දර ලිසවෙතා මළා ය. බිළිඳු ගෙදර ගෙන ගිය ගිරිගෝරිස් බිරිඳට කතා කොට බිම ඉඳ ගැනීමට නියම කොට, බිළිඳා ඇගේ ඇකයේ තබා "මේ දරුවා දෙවියන් සතු වස්තුවකි. අනාථ දරුවා හැම දෙනාටම නෑකම් ඇත්තෙකි. යක්ෂයා ගේ පුත්‍රයාට ජාතකව ශුද්ධ වූ අහිංසක ස්ත්‍රියක ගේ කුසේ උපන් මේ දරුවා අපේ මියගිය කුඩා පුතා විසින් එවන ලදී. මීට පසුව අඬන්නෙ දෙඩන්නෙ නැතිව මේ දරුවා හදා වඩා ගනින්" යි කීවේය.

එතැන් සිට මාපා ඒ අසරණ දරුවා ඇති දැඩි කළා ය. ඔහුට පැවල් යයි නම් තබන ලදී. එහෙත් ඒ නම අගට 'පියෝදරවිච්' (පියෝදර් ගේ පුතා) යන වාසගම එකතු කිරීමට ගම්වැසියෝ පමා නොවූහ. ඊට විරුද්ධ නොවූ පියෝදර් පව්ලොවිච් කරමසෝ එය විනෝද වීමට කරුණක් යයි කල්පනා කෙළේය. එහෙත් දරුවා ගැන තමා ගේ වගකීමක් නැතැයි හේ තරයේම කියා සිටියේය. කෙසේ වෙතත් ඔහු ඒ අසරණ දරුවා භාර ගැනීම ගැන ගම් වැසියෝ ප්‍රීති වූහ. පසු කාලයේ දී කරමසෝ දරුවා ගේ මව ගේ විකට නම ඇසුරු කොට නම අගට 'සෙමාඩියාකෝප්' යන වාසගම එකතු කෙළේය.

මෙසේ කරමසෝ ගේ දෙවන වැඩකාරයා වූ පැවල් අපේ කතාව ආරම්භයේ දී ගිරිගෝරිස් හා මාපා සමග එක ගෙයි

වාසය කෙළේය. ඔහු කරමසෝගේ අරක්කැමියා විය. පැවිල් ගැන විස්තරයක් කළ යුතුව තිබේ. එහෙත් පාඨකයා ගේ සිත මෙහෙකරුවන් කෙරෙහි යොමු කිරීම ගැන මම ලැජ්ජා වෙමි. එ හෙයින් ආයේත් මම මගේ කතාව කියමි. ඒ අතරේ පැවිල් ගැන ද විස්තරයක් කිරීමට බලාපොරොත්තු වෙමි.

## තුන් වන පරිච්ඡේදය

# කවයෙන් පැවසූ දයාබර හද තතු

කිරත්තයේ සිටිය පියා විසින් කෑගා කරන ලද නියෝගය ඇසූ අලෝෂා මඳ වේලාවක් විමතියෙන් බලා සිටියේය. එහෙත් ඔහු වැඩි වේලා බලා සිටියේ නැත. නිකම් බලා සිටීම ඔහු ගේ පුරුද්ද නො වේ. කොතරම් නොසන්සුන් වුවත් පියා කුමක් කළේ දැයි දැන ගැනීම පිණිස අලෝෂා වහා මුළුතැන්ගෙය දෙසට ගියේය. අතතුරුව අලෝෂා නගරය බලා ගියේ තම සිතට වද දෙන ගැටළු පැනයට පිළිතුරක් ලබා ගත හැකිවේ ය යන බලාපොරොත්තුවෙනි. පැදුරයි කොට්ටයයි ගෙන වහා ගෙදර පැමිණෙන ලෙස පියා විසින් කෑගා කරන ලද නියමයෙන් අලෝෂා තැති නොගත් බව මෙහිලා මා විසින් ඔබට දැනුම් දිය යුතු ය. ඒ කෑගැම පියා ගේ සිතේ ඒ මොහොතේ දී හටගත් හෑගීමකින් ඇති වූවක් බව අලෝෂා මැනවින් දැන සිටියේය. ඊට සමාන දෙයක් අපේ නගරයේ වැසි වෙළෙන්දෙක් ද කෙළේය. තමා ගේ නම් තැබූ දිනය සිහි කිරීම සඳහා වෙළෙඳ උත්සවයක් පැවැත්වූයේය. උත්සවයේ දී හිතමිතුරන් වඩා කෑම බීම නොකළ නිසා කෝපයෙන් පුපුරන්නට වූ හෙතෙම වළන් පිඟන් හා ඇඳ පුටු පමණක් නොව වීදුරු කවුළුද බිඳ බිරිඳ ගේ හා ඔහු ගේ ඇඳුම් පැළඳුම් ද ඉරා දැම්මේය. ඔහු මේ සියල්ල කළේ ඔහු ගේ පුළුවන්කාරකම පෙන්නීම පිණිස ය. එහෙත් වෙරි සිඳී ගිය පසු තමා කළ විනාශය දැක ඔහු කම්පා විය. පසුව ද ආයෙත් අරමට යාමට පියා තමාට ඉඩ දෙන බව අලෝෂා දනිසි. සමහර විට එ දින සවස වුවද ආපසු අරමට යාමට පියා ඉඩ දෙන්නට පිළිවන. හැරත් ලොවේ හැම දෙනාටම හිරිහැර කළත් පියා

තමාට හිරිහැර නොකරන බව අලෝෂා දන සිටියේ ය. එය ඔහු විසින් පිළිගත් සිද්ධාන්තයකි. ඒ සිද්ධාන්තය කෙරෙහි සම්පූර්ණ විශ්වාසය තැබූ අලෝෂා පමා නොවී වහා නික්ම ගියේ ය.

එහෙත් ඒ මොහොතේ දී අමුතු විදියේ හේතුවක් නිසා ඔහුගේ සිත නොසන්සුන් විය. ඒ නොසන්සුන්කම සිතට වේදනාවක් වූයේ එය විස්තර කළ නොහැකි වූ හෙයිනි. එය ගැහැනියක නිසා සිතේ ඇති වූ භීතියකි. කිසියම් කරුණක් නිසා වහා තමා හමු වන ලෙස අයදිමින් හෝලාකෝ මැතිනිය අතේ ලියුමක් එවන ලද කැතිරිනා නිසා ඇති වූ භීතියකි. ඇගේ ඉල්ලීමත්, ඒ ඉල්ලීම ඉටු කිරීමක් වශයෙන් ඇය හමුවීමට යාමත් ඔහු ගේ හදවතේ හදිසියෙන් ම නොසන්සුන්කමක් ඇති කෙළේ ය. අසපුවේ දී හා නායක පියතුමා ගේ භෝජනාගාරයේ දී සිදු වූ නින්දිත දෙය ගැන කම්පා නො වූ අලෝෂා උදේ සිට ම කැතිරිනා ගේ කැඳවීම ගැන සිතේ හටගත් නොසන්සුන්කමින් පසු විය. කැතරිනා තමාගෙන් කුමක් අසයි ද? පිළිතුරු වශයෙන් ඇයට කුමක් කිය යුතු ද? අලෝෂා නොසන්සුන් වූයේ මේ ප්‍රශ්නය නිසා නො වේ. කැතරිනා ස්ත්‍රියක වූ නිසා ඔහු බිය නොවී ය. මුවෙන් නොහළ කිරි සුවඳ ඇති කාලයේ සිට ආශ්‍රමයට ඇතුළු වන තෙක් ඔහු ස්ත්‍රීන් සමග ජීවත් වුවත් ස්ත්‍රීන් පිළිබඳ ඔහුගේ දැනීම ඉතා අල්ප විය. අලෝෂා බිය වූයේ කැතිරිනාට ය. පළමු වරට කැතිරිනා දුටු දා සිට අලෝෂා ඇය ගැන තැති ගත්තේ ය. ඔහු ඇය දෙ තුන් වරකට වඩා දැක නැත. ඇය සමග වචන දෙකතුනකට වඩා කතා කොට නැත. කැතිරිනා ඉතා සුන්දර එහෙත් උඩඟු තරුණියක ලෙස අලෝෂාට පෙනිණි. ඔහු නොසන්සුන් වූයේ ඇගේ පියකරු රූපය නිසා නො වේ. ඔහු බිය වූයේ වෙන කරුණක් ගැන ය. ඔහු ගේ සැකයේ පැවැති නොපැහැදිලි කම සැකය වැඩි වීමට හේතු විය. කැතිරිනා ගේ අදහස් උතුම් බව අලෝෂා දන සිටියේ ය. දෙටු සොහොයුරු මීතියා ඇයට නපුරු කම් කර ඇතත් උදාර සිතින් මීතියා ගලවා ගැනීමට කැතිරිනා වෑයම් කළා ය. කැතිරිනා යහපත් තරුණියක බව අලෝෂා පිළි-ගත්තේ ය. එහෙත් ඇගේ නිවසට ළංවන විට ඔහුගේ පිට කොන්ද හිරිවැටෙන්නට විය.

කැතිරිනා ගේ කුළුපග මිත්‍රයකු වූ ඉවාන් ඇගේ නිවසේ නැතැයි අලෝෂා කල්පනා කෙළේ ය. ඉවාන් පියා සමග මහ ගෙදර සිටින බව අලෝෂා දනියි. මීතියාට ද කැතිරිනා සමග සිටිය නොහැකි බව ඔහු නිසැකවම දනියි. ඊට හේතුව පේන කියන්නාක් මෙන් කිව හැකි ය. එ හෙයින් අලෝෂාට කැතිරිනා සමග තනියෙන් කතා කිරීමට සිදුවෙයි. කැතරිනා හමුවීමට

පෙර දිවගොස් මීතියා හමුවීමට අලෝෂා තුළ බලවත් ආසාවක් පැවතිණි. කැතිරිනා විසින් එවනලද ලියුම නො පෙන්නා ඇය ගැන මීතියා සමග කතා කළ හැකිය. එහෙත් මීතියා පදිංචි වී සිටියේ බොහෝ ඈත ය. ඔහු මේ වේලාවේ ගෙදර නැතිවාට කිසි ම සැකයක් නැත. මඳ වේලාවක් සන්සුන්ව සිටිමෙන් ඉක්බිති අලෝෂා අවසාන නිගමනයකට බැස ගත්තේ ය. අනතුරුව සිනා- වෙන් මුව සරසා ගත් තරුණයා එකහිතක් හිතා ගෙන ඒ තරුණියගේ නිවස බලා ගමන් ගත්තේ ය.

කැතිරිනාගේ නිවස තිබෙන තැන අලෝෂා දනියි. ඔහුට මහ මග දිගේ ගොස් වෙළෙඳපොළ හරහා යා හැකිය. එහෙත් ඒ ගමන දුර වැඩිය. අපේ නගරය කුඩා වුවත් ගෙවල් තනා තිබෙන්නේ එකිනෙකට ඈතිනි. ඒ අතරේ තමා ආශ්‍රමයේ සිට ගෙදර පැමිණෙන තෙක් පියා මග බලා සිටිනවා ඇත. පියාගේ නියමය අලෝෂාට අමතක නො වෙයි. පියාගේ අණ කැඩීම යුක්තිසහගත නැත. එහෙයින් කැතිරිනා හමුවීමෙන් පසුව වහා ගෙදර යා යුතු ය. ඔහු කෙටි මගකින් කැතිරිනාගේ නිවසට යාමට අදහස් කළේ ඒ නිසා ය. අල්ලේ රේඛා මෙන් අලෝෂා අපේ කුඩා නගරයේ හැම අතුපාරක් ම දන සිටියේ ය. ළඟ පාරකින් යන්නට නම් බඩවැටි අතරින් වැටී ඇති පාළු පාරවල් දිගේ ද, ඇතැම් විට බඩ වැටි උඩින් ද පැන අනුන් ගේ ගෙවතු හරහා යා යුතු ය. මග දී මුණ ගැසෙන අය ඔහු අඳුනන නිසා, ඔහුට සුබ පතනු ඇත. මෙසේ කෙටි මගින් ගොස් ඔහුට ටික වේලාවකින් ම මහ මගට පැමිණිය හැකි ය. එක් තැනක දී ඔහු පියාගේ වත්තට අල්ලපු වත්ත හරහා යා යුතු ය. ඒ වත්තේ කවුළු සතරකින් යුත් දිරාගිය ගෙයක් ඇත. මේ ගෙයි ඔත්පළ වූ මහලු වෙළෙන්දියක් ඇගේ දියණියත් සමග වාසය කළා ය. මෑතක් වනතුරු පීටස්බර්ග් පුරයේ සෙනෙවිවරුන් ගේ නිවෙස්වල බැලමෙහෙ කළ දියණිය ගෙදර පැමිණියේ ඔත්පළ වූ බව බලා හදා ගැනීම පිණිස ය. ඔවුන් කොතරම් දුප්පත් වුවත් තරුණිය බොහොම ජයට ඇඳුම් පැළඳුම් කළා ය. අන්තිමේදී කිසිවක් කරකියාගත නොහැකි වූ මහලු මවත් දියණියත් දිනපතා ම වාගේ කෑම සොයා මහ ගෙදරට ගියා හ. මාපා බොහො ම ආසාවෙන් ඔවුන්ට සංග්‍රහ කළා ය. අනුන් ගෙන් ලැබෙන ආහාරයෙන් ජීවත් වුවත් තරුණිය ඈ සතු ඇඳුම් පැළඳුම් විකුණුවේ නැත. බිම දිගේ ඇදෙන දිග සායක් ද ඇයට තිබිණි. බිම ඇදෙන සායෙන් යුත් තරුණිය අලෝෂාට පෙන්වන ලද්දේ රැකිටින් විසිනි. රැකිටින් නොදන්නා දෙයක් මුළු පළාතේ ම නැත. මෙ පමණ කාලයක් අලෝෂාට මේ ඇඳුම ගැන කතාව අමතක වී තිබුණත් වත්තට ඇතුළු වූ වහා ම සළි මතක් විය.

මෙතෙක් වේලා කල්පනා කරමින් බිම බලාගෙන ගමන් ගත් අලෝෂා හිටි හැටියේම හිස උස්සා බැලුවේ ය. කිසිසේත් බලාපොරොත්තු නොවූ පුද්ගලයෙක් ඔහුට දකින්නට ලැබිණි.

වත්තේ කෙලවර බඩවැටියක් උඩ නැගගත් මීතියා කිසියම් දෙයකට හේත්තු වී අලෝෂාට අත වනන්ට විය. ඔහු අත වැනුවේ කතා කළොත් යම් කිසිවකුට ඇසේය යන බියෙන් විය යුතු ය. අලෝෂා වහා වැට ළඟට දිව ගියේ ය.

"අලෝෂා මේ පැත්ත බලාපු එක හොඳට ගියා. නැතිනම් මා කෑ ගා කතා කරන්නටයි හිටියේ." මීතියා රහසක් කියන්නාක් මෙන් මහත් සතුටින්, එහෙත් සෙමෙන් කීවේ ය. "ඉක්මනට වැට උඩට නඟින්න. කො පමණ හොඳද මුණගැසුණ එක. මා අලෝෂා ගැන කල්පනා කරමිනුයි සිටියේ."

සොහොයුරා මුණගැසීම ගැන අලෝෂා ද ප්‍රීති විය. එහෙත් බඩවැටිය උඩින් නැග ගත යුත්තේ කෙසේ දැයි ඔහු නොදත්තේ ය. මීතියා ඔහුගේ ශක්තිමත් දෑත අලෝෂාගේ වැලමිට යටින් දමා ඉස්සූ පසු පාදිලිලෝගුව හකුලා ගත් අලෝෂා පාවහන් නැති ව මඟ බැස යන කොලුවකු මෙන් වැට උඩින් පැන්නේ ය.

"බොහො ම හොඳයි! දන් ඉතින් යමු" යි මීතියා සෙමෙන් එහෙත් සතුටින් කී ය.

"කොහෙද යන්නේ?" යි විමසා වටපිට බැලූ අලෝෂාට දකින්නට ලැබුණේ පාළු වත්තක සිටින තමා හා තම සොහො-යුරා පමණි. ඒ වත්ත කුඩා එකකි. ගෙය පිහිටියේ ඔවුන් සිටි තැනට අඩි පනහක් පමණ ඈතිනි.

"මෙ තැන කවුරුවත් නැති කොට මොකද හෙමින් කතා කරන්නේ?" යි අලෝෂා ඇසීය.

"ඒක යකාට ගියදෙන්!" යි මීතියා උස් හඬින් කී ය. "පේනවා නේ ද මිනිහාගේ හිස් මොළ අවුල් වන හැටි. මා මෙ තැනට ආවේ කාටවත් නො පෙනී මල්ලිව රහසින් හමුවීමටයි. රහස පස්සේ කියන්නම්. රහසින් පැමිණි නිසයි මා මෝඩයකු වගේ උවමනාවක් නැති ව රහසින් කතා කළේ. අපි යමු අතනට, එතකන් කතා කරන්න එපා

හැමට ම උතුම් වූ
මා හද තුළේ වෙසෙනා.
දෙවියන්හට මගේ මේ,
ආසිරි වදන් වේවා.

මල්ලී එන්න ඉස්සෙල්ලා මා මෙ තැන ඉඳගෙන මේ සිංදුව කියමින් සිටියා."

අක්කර තුනක් පමණ ඇති එම වත්තේ මායිම් සතර වටේ පමණක් ඇපල්, මේපල් දෙහි හා බර්ච් ගස් සිටවා තිබිණි. වත්තේ මැද තණ කොළ මැරුණු තැනක් ඇත. මේ මුඩු බිමේ ගිම්හානයේ දී හොණ්ඩර ගණන් පිදුරු ගොඩගසනු ලැබේ. පිදුරු ගොඩගැසීම සඳහා රූබල් කීපයකට ගිම්හානයේ දී වත්ත කුලියට දෙනු ලැබේ. වැට දිගේ රැස් බෙරි, ගුස් බෙරි හා කළු කරන්ට් ගස් සිටුවා තිබිණි. ගෙය අසල තිබෙන එළවුළු පාත්ති ඉන්දවන ලද්දේ මෑත දී ය.

මීතියා, මලණුවන් වත්තේ කෙළවර කිසිවකුට නො පෙනෙන තැනකට කැඳවා ගෙන ගියේ ය. එහි දෙහි, කළුකරන්ට් හා එල්ඩර් ගස් පඳුරු අතරේ දිරා ගොස් පරණ වී කළු ගැසුණු මණ්ඩපයක් ඇත. ට්‍රැලිස් ගසා තනන ලද මේ මණ්ඩපයේ වහල තවමත් රැඳී තිබේ. එය කවරදා තනන ලද්දේ දැයි දන්නේ දෙයියන් පමණි. මෙම මණ්ඩපය මීට හවුරුදු පහකට පෙර මේ ගෙදර වාසය කළ විශ්‍රාම ලත් ඇලෙක්සැන්ඩර් වොන් ස්මිත් නමැති කර්නල් කෙනෙකු විසින් තනන ලද්දේ යයි කියනු ලැබේ. එහෙත් දැන් එය දිරාපත් වී තිබේ. බිම ලෑලි දිරයි. වහලේ බුරුල් වූ ලෑලිවලින් පුස් ගඳ හමයි. මණ්ඩපය මැද බිම සවිකරන ලද තිල් පැහැති මේසයක් ඇත. මේසය වටේ තබා ඇති තිල් පැහැති බන්කු මත තවමත් වාඩි විය හැකි ය. සොහොයුරා සොම්නසින් සිටින බව අලෝෂා එක් වරම දැන ගත්තේ ය. මණ්ඩපයට ඇතුළු වූ අලෝෂා මේසය උඩ තබා ඇති බ්‍රැණ්ඩි බාගයක් හා වීදුරුවක් දුටුවේ ය.

"ඔය තියෙන්නේ බ්‍රැණ්ඩි" මීතියා සිනා සෙමින් කී ය. "මා ආයේත් බේබදුකමට වැටිලා ය කියා හිතන්න පුළුවනි. නමුත් කවදාවත් ඇහැට පෙනෙන දෙය විශ්වාස කරන්න එපා... ...

මුසා වාදය හැම
තැන්හිම නිතර කියනා.
නොම අදහමින් හැම තැන
වෙසෙව් කොන් කර හැම දා.

මා මත්පැන් බොන්නේ නැහැ. මඳ පමණින් බොනවා මිස වැඩිය බොන්නේ නැහැ. මල්ලි ගේ මිත්‍රයකු වන ඌරකුට සමාන රැකිටින් කියනවා වගේ මඳ පමණින් බොනවා විතරයි. මිනිහා කවද හරි රාජ මන්ත්‍රී කෙනෙක් වී 'මා මඳ පමණින් සුරාපානයේ

යෙදෙනවා' යයි කියා වී. ඔතැනින් ඉඳ ගන්න. මට අලෝෂා බදාගෙන මිරිකන්න හිතෙනවා. ඇත්ත කියනවා නම් මුළු ලෝකයේ ම තුඹට මිස වෙන කිසිම කෙනෙකුට මා අඹමල් රේණුවක් තරම්වත් ආදරේ නැහැ."

ඔහු අවසාන වචන කීපය කිවේ ප්‍රීතියෙන් තෝන්තුවූවකු මෙනි.

"මා ආදරය තුඹටත්, තවත් කිසිම වැදගැම්මකට නැති තරුණියකටත් පමණයි. ඒ තරුණියට මා ආලය කරන්නේ මගේ ම නාස්පැත්තියටයි. තරුණියකට ආලය කිරීමෙන් අදහස් වන්නේ නැහැ ඒ තරුණියට හැබැහින් ම ආලය කරනවාය කියා. තරුණියකට ආලය සමග වෛරය කරන්නත් පුළුවනි. මෙ තැනින් ඉඳගන්න. එතකොට මට පුළුවනි මුහුණ බලා ගෙන කතා කරන්න. මගේ හිතේ තියෙන දේවල් එළි කිරීමට දැන් කාලය ඇවිත් තියෙන නිසා බාධා නො කර මගේ කතාව අහගන්න. මා මුල් වතාවට සතුටින් කතා කරන්නේ තුඹටයි. කොහොම වුණත් මම සෙමෙන් කතා කරන්නම්, කවුද දන්නේ කවුරුවත් අහ ගෙන ඉන්නවා ද කියා........ මා මෙපමණ කාලයක් මල්ලී මුණගැහෙනකන් බලා සිටියා. පස් දවසක් ම මෙ තැන බලා සිටියා. මුණගැහෙනකන් බලා සිටියේ මගේ හිතේ තියෙන හැම දෙයක් ම කියන්නට පුළුවන් එකම තැනැත්තා තුඹ නිසයි. කොහොමහරි මගේ කතාව සහමුලින් ම කිය යුතුයි. හෙට මගේ පරණ ජීවිතය අවසන් වී අලුත් ජීවිතයක් පටන් ගන්නවා. කන්දක් මුදුනේ සිට වළකට වැටෙනවා මල්ලිට දැනිලා තියෙනවද? හීනෙන්වත් පෙනිලා නැද්ද? අන්න ඒ වගේ දෙයක් තමයි මටත් සිද්ධවුණේ. හැබැයි හීනෙන් නොව හැබැහින්. නමුත් මා බය නැහැ. තුඹ බය වෙන්නත් එපා. ඇත්ත කියනවා නම් මගේ හිතේ බයක් තියෙනවා. නමුත් ඒ බය මට ලොකු ප්‍රීතියක්. ප්‍රීතියක් නොව හිතට සනීපයක්. මා ඒකට බොහො ම කැමැතියි. කොයි දෙයක් වුණත් කමක් නැහැ. කොයි දෙයක් වුණත් අප සොබාදහමට ප්‍රශංසා කළ යුතු යි. බලන්න අද හවස් කාලය කො තරම් අලංකාර ද කියා. අහස කො තරම් පිරිසුදු ද? ගස් වැල් නිල් පාටයි. තවමත් ග්‍රීෂ්ම කාලය අවසන් වුණේ නැහැ. දැන් වෙලාව හවස හතරයි. බලන්න කො තරම් සන්සුන් ද කියා...... මල්ලී තුඹ කොහෙද යන්නේ?"

"මා තාත්තා බලන්න යන්න යි ආවේ. නමුත් ඊට ඉස්සෙල්ලා කැතිරීනා හමු වන්න අදහස් කළා."

"තාත්තයි, කැතිරිනයි දෙන්නම බලන්න යන්නද අදහස් කළේ? කොතරම් අපූරු දෙයක් ද? දන්නවද මං මෙතෙක් වේලා නුඹ එන තෙක් බලාගෙන සිටියේ මන් ද කියා? මල්ලිගේ අතේ තාත්තටයි, කැතිරිනටයි පණිවුඩයක් යවා ඒ අය එක්ක තියෙන සම්බන්ධය අවසන් කරන්නටයි. මා බලාපොරොත්තුව සිටියේ ඒ සඳහා දේවදූතයෙකු යවන්නටයි. මට වෙන කෙනෙකු යවන්න තිබුණා. නමුත් මගේ ආසාව දේවදූතයෙකු යවන්නටයි. දැන් ඉතින් තාත්තයි, කැතිරිනයි හමුවෙන්න යන නිසා මේ ගමනම මගේ පණිවිඩයත් අරන් යන්න."

"අයියගේ කල්පනාව මගේ අතේ පණිවිඩය යවන්නද?" යි අලෝෂා ඇසුවේ සිතේ හටගත් වේදනාවෙන් යුතුවය.

"අන්න හරි, දැන් මල්ලීට මගේ අදහස වැටහෙනවා. නමුත් දැන් ඒ ගැන වචනයක්වත් කතා කරන්න එපා. ටිකක් ඉවසන්න. මා ගැන දුක් වන්න එපා, අඬන්න එපා."

හිඳ ගත් තැනින් නැගී සිටි මිතියා මඳ වේලාවක් කල්පනා කොට නළල අත ගා මෙසේ කීවේය.

"මල්ලීට එන්නට කියා කැතිරිනා පණිවිඩයක් එව්වද? නැතිනම් ලියුමක් එව්වද? ඒ නිසාද යන්නේ? පණිවිඩයක් එව්වේ නැතිනම් යන්නේ නැද්ද?"

"මේ තියෙන්නේ කැතිරිනා එවාපු ලියුම" කියමින් අලෝෂා සාක්කුවේ තිබුණු ලියුම ගත්තේය. මිතියා ලියුම ගෙන වහා කියෙව්වේය.

"එහෙනම් කැතිරිනා බලන්න යන්න ලෑස්ති වුණේ ලඟ පාරෙන් ද? සුරංගනා කතාවල සඳහන් වන මෝඩ මාළුකාරයා ළඟට රත්රන් මාළුවා එව්වා වගේ අනේ දෙවියනි ඔබ තුමා මගේ මල්ලී මට මුණගැහෙන්නට කෙටි පාරකින් එවීම ගැන මා ඔබතුමාට සතුති කරනවා. මල්ලී, අනේ මල්ලී, මා කියන දෙය අහන්න. මගේ හිතේ පැසෙමින් තිබෙන දෙය කාටහරි කියන්න ඕනෑ. කියන්න පුළුවන් එකම තැනැත්තා නුඹ පමණයි. ඒ නිසා මා කියන දෙය හොඳට අහන්න. මා මගේ හිතට වද දෙන කතාව දෙව්ලොවේ සිටින දේවදූතයන්ට කියා තියෙනවා. දැන් කියන්න තියෙන්නේ මේ ලෝකේ සිටින දේව-දූතයෙකුට පමණයි. මේ ලෝකේ සිටින දේවදූතයා නුඹයි. මල්ලී, නුඹ මා කියන දෙය හොඳට අහල, එහි හොඳ නරක තෝරා බේරා හෙන මට සමාව දේවි. මට උවමනා කරන්නේ

මට සමාව දෙන මට වඩා උසස් කෙනෙක්. අපි හිතමු මිනිසුන් දෙන්නෙකු මේ ලෝකයේ හැම දෙයක්ම අත්හැර දමා නොදන්නා තැනකට යනවාය කියා. දෙන්නා ම නො වෙයි එක්-කෙනෙක් යනවාය කියා හිතමු. ඒ තැනැත්තා යම්කිසි කෙනෙකු ළගට ගිහින්, කරුණාකර මට මේ වැඩේ කරදෙන්න කියා කිසි ම කලක නො ඉල්ලපු උපකාරයක් ඉල්ලනවා. ඒ උපකාරය මරණ මංචකයේ සිටින කෙනෙකු කරන අවසාන ඉල්ලීමට සමාන දෙයක්. අනෙක් තැනැත්තා සහෝදරයෙක් නම්, නැති නම් මිත්‍රයෙක් නම් ඒ ඉල්ලීම ඉෂ්ට නො කර සිටියි ද?"

"හොඳයි මම අයියාගේ ඉල්ලීම ඉෂ්ට කරන්නම්. නමුත් මොකක් ද ඔය කරන ඉල්ලීම? ඉක්මනට කියන්න." යි අලෝෂා කී ය.

"ඉක්මන් කොටවන බව දන්නේ නැද්ද ? ඉක්මන් වීමෙන් පසුතැවෙන්න වෙනවා. ඉක්මන් වීමට උවමනාවක් නැහැ. ලෝකය දුන් ගමන් කරන්නේ අලුත් මාර්ගයකයි. මල්ලීට සෞන්දර්යය තේරුම් ගැනීමට නොහැකි වීම කො තරම් ලොකු කනගාටුවක් ද? මම කො තරම් ලොකු මෝඩයෙක් ද? හරියට අලෝෂාට සෞන්දර්යය තේරුම් ගන්න බැරුවා වගෙයි. මා මොනවද මේ දෙඩන්නේ? 'මිනිසා උතුම් - ගුණයෙහි නිතර පිහිටනු' යන කතාව කිවේ කවුද?"

මෙය තමාට ලොකු සේවයක් කළ හැකි අවසථාවක් යයි කල්පනා කළ අලෝෂා මඳක් නතර වීමට අදහස් කෙළේ ය. මීතියා වැළමිට මේසය උඩ තබා හිස දෑත මත රඳවා ගෙන මඳ වේලාවක් කල්පනා කෙළේ ය. සොහොයුරෝ දෙදෙනා නිහඬ වූ හ.

"අලෝෂා නුඹ විතරයි අනුන්ට සිනා නොවන එකම තැනැත්තා මම කැමැතියි ෂිලර්ගේ 'ප්‍රීතියේ ගීතය' කියා මගේ කතාව පටන් ගන්න. නමුත් මා ජර්මන් භාෂාව දන්නේ නැහැ. මා දන්නේ පොතේ නම පමණයි. බීලා සිටින නිසා මා විකාර දෙඩනවා ය කියා හිතන්න එපා. මට පොඩ්ඩක්වත් වෙරි නැහැ. බ්‍රැණ්ඩි බිව්වට වෙරි වන්නේ නැහැ. වෙරිවන්න නම් අඩු ගණනේ බෝතල් දෙකක්වත් බොන්න ඕනෑ."

පෙරළෙන කොටලු පිට
රඳනා මුහුණ රතු පැහැ.
සිලිනස් දෙව්දු වැනෙමින්
එනවා පෙනෙන සේ මට.

“ මා බෝතලෙන් කාලක්වත් බිව්වේ නැහැ. නමුත් මා සිලිනස් වගේ නො වෙයි. මට ශක්තිය තිබුණත් සිලිනස් වගේ නො වෙයි. දැන් මා අවසාන තීරණයට බැසගෙන ඉවරයි. මගේ කතාව ගැන මට සමාවන්න ඕනෑ. කලබල වෙන්න එපා. මා බොරුවක් කියන්නේ නැහැ. මා කියන්නේ ඇත්තයි. තව ටිකකින් කාරණය සම්පූර්ණයෙන් ම පැහැදිලි කරලා දෙන්නම්.”

මෙ සේ පැවසූ මිතියා හිස උස්සා බලා මිනිත්තුවක් පමණ වේලා කල්පනා කොට පහත සඳහන් කවි පෙළ උනන්දුවෙන් කියන්නට විය.

“තවුසා බියකරු ය.
වනචරකමින් අඩු නැහැ.
තම ලෙනෙහි නිතර ම ඔහු
සෙලුවෙන් වෙසෙයි සැකයෙන්.

අවි රැගත් සෙබළෝ
යති වනසමින් සරු බිම්.
වනයට පිවිසි දඩයම්
කරු යයි යනෙන මං නැති.

නපුරු, පැරණි, දරුණු
ගං ඉවුරෙහි ම වෙසෙනා
අසරණ දීන දනහට
විපතක් ම සිදු වේවා.

ඔලිම්පස් මුදුනෙන්,
දෙව්දූ සෙරෙස් දෙව්මව
නැති වූ ඇගේ ප්‍රොසපින්
සොයමින් යයි සියලු තැන.

ගිරිදුරුගයෙන් වැසි
පෙදෙසෙහි වෙහෙසෙමින් බෝ
දුව සොය සොයා ගිය මුත්
නැහැ ඉන් පලක් ලැබුණේ.

ඇය සනසන්ට එහි
නැහැ කිසිවකුත් සිටියේ,
දෙව්ලොවේ දෙවියන්
පුදන බව පෙන්වන්නට
එදෙස කිසි දෙවොලෙක්
ඇගෙ නෙතට නො ම පෙනුණේ.

ගොරහැඩි අපිරිසුදු
පූජාසනය මත්තේ.
අසරණයන් ගෙ ලේ කැටි
පමණයි තිබුණෙ දක්නට.

මලමිනීවල මස්
පමණයි යටට එ ගිලුණු.
සෙරෙස් ගේ දෙඇසට එහි
දක්නට තිබුණෙ අවටින්.

පාළුව සමග කැත කුණු
හැම තැන පැතිර තිබුණේ
පිළිකුල් බව ම එහි සිටි
මිනිසුන් වෙතින් පිට වී."

කිවිහැවියේ ම අඩන්නට පටන්ගත් මිතියා, අලෝෂා ගේ අත අල්ලා ගත්තේ ය.

"අනේ මල්ලී මේක මහ නින්දුවක්. මේ ලෝකයේ ජීවත්වන මිනිසා බොහො ම දුක් වින්ද යුතු යි. බොහො ම කරදර විය යුතු යි. මා මත්පැන් බොමින්, සල්ලාල කම් කරන නිලකර ඈඳු-මෙන් සැරසුණු තිරිසනකු හැටියට පිළිගන්න එපා. ආත්ම-ගෞරවයෙන් පිරිහුණු මිනිහා ගැන මිස වෙන කිසිවක් ගැන මා වැඩිය කල්පනා කරන්නේ නැහැ. මා කරන්නේ රැවටීමක් නො වෙයි. මා බොරුවක් කියනවා නො වෙයි. ඒ බව මට දෙවියන් ඉදිරිපිට සිට කියන්න පුළුවනි. මා මේ පිරිහුණු මිනිහා ගැන කල්පනා කරන්නේ ඒ මිනිහා මා නිසයි.

"මිනිහා විසින් තම
පහළ ම අඩියෙ සිට මතු
ඉහළ ම තැනට පත් වී
පැරණි ම මව් තුමිය වූ
මේ මහ පොළොව හා
එක් විය යුතුයි සෙනෙහැති.

"මා කොහොමද තවත් කල් මේ ලෝකේ ජීවත් වන්නේ? ඒක තමා තියෙන අපහසුව. ඒක බොහො ම අමාරු කටයුත්තක්. මා ගොවිතැන් කරන්න ද? එහෙම නැතිනම් හරක් බලන්න ද? කොහොම හරි මා ජීවත් වෙනවා. නමුත් මගේ ජීවිතය අවසන් වන්නේ නින්දුවෙන් ද? නැති නම් ආලෝකයෙන් හා සැපතින් ද? කියා මා දන්නේ නැහැ. මේක තමයි තියෙන කරදරය. මේ ලෝකයේ තියෙන හැම දෙයක් ම ගැටළුවක්. ඉතා නීච නින්දිත

දෙයක් කරන්නට අරඅදින හැම තිස්සේ ම (මෙය නිතර සිදුවන දෙයක්) මං සෙරෙස් හා මිනිහා ගැන ලියන ලද කවිපෙළ කියනවා. ඒකෙන් මට යහපතක් සිදු වී තියෙනවා ද? නැහැ. මම කරමසෝ පවුලේ මිනිහෙක්. මගේ ගතිගුණ වෙනස් කරන්න බැහැ. නීච වැඩක් කරනවිට මා කවදාවත් කල්පනා කරන්නේ නැහැ. නීච කමේ පතුලට ම බහිනවා. ඒක මට ලොකු ප්‍රීතියක්. නම්බුවක්. මා ඒ ගැන බොහෝ ම ආඩම්බර වෙනවා. ඒක මා වගේ මිනිහකුට කරන්න පුළුවන් බොහෝ ම ලස්සණ දෙයක් ය කියා කල්පනා කරනවා. මට අර කවිපන්තිය මතක් වෙන්නේ නීච කමේ පතුලට ම බැහැල සිටින විටයි. මම නීච නින්දිත පුද්ගලයෙක් වෙම්වා. මට සාප වේවා. ඒත් මගේ දෙවියන් ඇඳි වස්ත්‍රයේ වාටිය සිඹීමට මට අවසර ලැබේවා. මම යක්ෂයා අනුගමනය කළත් දෙවියන් සතු දරුවෙක්. මා දෙවියන්ට ප්‍රේමය කරනවා. මගේ හිතේ ලොකු ප්‍රීතියක් ඇතිවෙනවා, ඒ ප්‍රීතිය නැති ව මේ ලෝකය පවතින්නේ නැහැ.

"සඳ පවතින ඒ
පීතිය සියල්ලන් සිත
සතතින් පුරා ලයි නිති
ජීවිත එකලු කරමින්.

රහසිගත බලයක්
මෝරා දියුණු වී ගොස්
ජීවිතබඳුන් පුරවා
ඉතිරී පැතිරී යන්නේ.

නොපෙනෙන තරම් දුර
පිහිටා තිබෙන සක්වල
පිහිටි දිනකර ඇවිදින්
නැවතී සිටී නිතැතින්.

සොබාදම් මවගේ
ඇකෙහි හැම තුට ගෙන දේ
හැම දෙන ලොවේ වෙසෙනා
ඉපිලී වෙසෙත් සතුටින්.

සියලු ලෝ වැස්සෝ
සියලු සත්නු ඈ වෙත
රැඳී ගෙන සොම්නස නිති
පතති නිතර නිත්රම.

සතට දුකදුර ගිලි
පිතිය සතුට මල්වැසි
මිදියුස සමග මල්දම්
අත් සැම තැන ම ගෙන දේ.

එහෙත් සිරුරත වැසි
පණු කැල කරති පෙරළී.
නමුත් අහසේ නම්
දෙවිදුන් හට පෙනෙන
සුරදූතයෝ නිතියෙන්
සොම්නස් වෙමින් සිටිති.

දැන් ඉතින් කවි කිව්වා ඇති. මගේ ඇස්වල කඳුළු පිරෙනවා. මට අඩන්න ඉඩ දෙන්න. ඇඬීම දෙඩීම මෝඩකමක් වන්න පුළුවනි. ලෝකයා මට හිනා වන්න පුළුවනි. ඒත් මල්ලි තුඹ මට හිනා වන්නේ නැහැ නේද? තුඹේ ඇස්වලත් කඳුළු පිරී තියෙන බව මට පේනවා. දැන් කවි කිව්වා ඇති. දැන් මගේ කල්පනාව දෙවියන් වහන්සේ විසින් කාමරාගය ඇති ව මවන ලද නරපණුවා ගැන විස්තරයක් කිරීමට යි.

එහෙත් සිරුරත වැසි
පණු කැල කරති පෙරළී

මල්ලී. කාමරාගයෙන් අසාධ්‍ය වූ ඒ නරපණුවා මම යි. මේ කවි පන්තිය ලියා තියෙන්නේ විශේෂයෙන් ම මා ගැන විස්තර කිරීමට යි. කරමසෝ පවුලේ උපන් අප හැම දෙනා තුළ ම මේ පණුවා සිටිනවා. තුඹ සුරදූතයෙකු වුණත් තුඹ තුළත් මේ කාමරාගය නමැති පණුවා සිටිනවා. ඒ පණුවා තුඹේ ලේ නහර ඇතුලේ මහ පෙරළියක් කරනවා. කාමරාගය කුණාටුවක් වගෙයි. කුණාටුවකටත් වඩා වණ්ඩයි. මා පෙරළියක් ලෙස හඳුන්වා දෙන්නේ කාමරාගයයි. සෞන්දර්යය බොහො ම භයානක දෙයක්. භයානක වන්නේ එහි ගැඹුර නොදන්නා නිසයි. එහි ගැඹුර කිසිම කෙනකුට සොයා ගන්න බැහැ. එහෙම වෙන්න හේතුව දෙවියන් වහන්සේ හැම තැන ම, හැම දෙයක ම ගැටළුවක් ඇති කර තියෙන නිසයි. මෙහි දී කො තරම් විරුද්ධ කම් තිබුණත් ඒ විරුද්ධකම් පැත්තකින් තියා හැම දෙයක් ම එකතු වෙනවා. මා උගතකු නොවූවත් මේ ගැන බොහො ම දුරට කල්පනා කළා. මෙහි අද්භූත දේවල් හා අබිරහස් බොහො ම තියෙනවා. මේ ලෝකේ වෙසෙන මිනිසා විසින් විසඳිය යුතු ප්‍රශ්න බොහො ම තියෙනවා. අබිරහස් බොහො ම තියෙනවා. ඒ ප්‍රශ්න හා අබිරහස් විසඳිය යුතු යි. නමුත් ඒවා විසඳන්න ගිහින් අමාරුවේ වැටෙන්න එපා. ශ්‍රේෂ්ඨ හදවතක්

හා සිතක් ඇති මිනිහා ආගමික පරමාර්ථවලින් පටන් ගෙන කාමරාගයෙන් අවසන් වීම ඉවසන්න පුළුවන් දෙයක් නො වෙයි. කෙලෙස් බරින් මිරිකී සිටින මිනිහා ආගම් අත්හරින්නේ නැතිව බදු ගෙන සිටීම ඊටත් වඩා භයානකයි. තරුණ අහිංසක හදවතක ආගමික හැඟීම් දැවෙනවා වගේ තවමත් අර මිනිහා තුළ ආගමික හැඟීම් පවතිනවා. මිනිස් සිත බොහොම විශාලයි. ඕනෑවට වඩා විශාලයි. මා කැමැති පොඩි සිතක් ඇති මිනිහාටයි. මිනිහාගේ සිත ක්‍රියා කරන සැටි තේරුම් ගන්න පුළුවන් යක්ෂයාට පමණයි. සිත නින්දිත ලෙස පිළිගන්නා දෙය හදවතට අලංකාරයක්, සෞන්දර්යයක්. කාමරාගයේ අලංකාරයක් තියෙනව ද ? මා කියන දෙය විශ්වාස කරන්න. මනුෂ්‍යයන් අතරින් වැඩිදෙනකුට සෞන්දර්යය තියෙන්නේ කාමරාගයෙහි ය. තුඹ ඒ රහස දන්න-වා ද? සෞන්දර්යය බොහො ම භයානක දෙයක්. අබිරහසක්. සිතේ භීතිය ඇතිකරවන දෙයක්. දෙවියන් වහන්සේ හා යක්ෂයා එකි-නෙකාට විරුද්ධ ව මිනිස් හදවතේ මහ හටනක් කරනවා. ඒත් මිනිහා හැම තිස්සේ ම දොඩන්නේ ඔහුගේ වේදනාව ගැනයි. දැන් ඉතින් ඇත්ත නැත්ත සොයා බලමු.''

## සතර වන පරිච්ඡේදය

## උපමා අලංකාරයෙන් පැවසූ හද තතු

''ඒ කාලේ මා ගත කළේ බොහො ම නොහික්මුණු ජීවිතයක්. කෙල්ලන් දූෂණය කිරිමට මා රූබල් දහස් ගණන් වියදම් කළ බව තාත්තා දන් විකකට ඉස්සෙල්ලා කිව්වා. ඒක බොහො ම කෑත බොරුවක්. ඒ වගේ වනචර වැඩ මා කවදාවත් කරලා නැහැ. මා ඒ වගේ වනචර කම් කළා නම් ඒ සඳහා මුදල් වියදම් කරන්න උවමනා නැහැ. මුදල් මට අමතර දෙයක්. මුදල් වියදම් කිරීම මට වැළඳුණු රෝගයක් වගෙයි. හදවතින් උතුරා යන ප්‍රීතියක් වගෙයි. මා අද ගෙන යන ගැහැනිය කුලකාන්තාවක් වන්නට පුළුවනි. හෙට ගෙන යන තරුණිය මහ පාරේ සිටින වෙසඟනක් වන්නට පුළුවනි. මා මේ දෙදෙනාටම සංග්‍රහය කළේ එක විදියටයි. මා නැටුම් ගැයුම්වලට හා

අහිකුණ්ඨික තරුණියන්ට අත මීට දිගහැර වියදම් කළා. සමහර විට මා බොහෝ ම හොඳ ගෑනුන්ටත් මුදල් දුන්නා. උන් බොහෝ ම ආශාවෙන් මුදල් ගෙන මට ප්‍රශංසා කළා. ඒක පිළි-ගන්න ඕනෑ. වැදගත් ගෑනු මට ලොකු කැමැත්තක් දක්වූවා. ඒත් හැම දෙනා ම නොවෙයි. සමහර අය මට බොහෝ ම ආදරය කළා. මුඩුක්කුවල ගැවසෙන්න මගේ ලොකු ආසාවක් තිබුණා. පුදුම දේවල්, ලස්සණ දේවල්, සිදු වන්නේ මුඩුක්කුවලයි. වටිනා ලෝහ වගී තියෙන්නේ කුණු ගොඩවල්වලයි. මල්ලී මා කතා-කරන්නේ උපමා අලංකාරවලින්. මා පදිංචි ව සිටි නගරයේ මේ වගේ මුඩුක්කු තිබුණේ නැහැ. නමුත් සදාචාරය අතින් නම් බොහෝ ම පහත්. තුඹ මා වගේ කෙනෙක් නම් තුඹට මා කියන දෙය තේරුම් ගන්න පුළුවනි. මා දුසිරිතට බොහෝ ම ප්‍රිය කළා. දුසිරිතෙහි ඇති නින්දිතකමට ප්‍රිය කළා. නපුරු කම් කිරීමට ආසා කළා. ඇයි මා දුසිරිතට ගිජු වූ කරමසෝ කෙනෙක් නො වේ ද? වරක් අප කීප දෙනෙකු හිමපාරු හතක නැඟී විනෝද ගමනක් ගියා. එදා සීත සෘතුවේ බොහෝ ම අන්ධකාර දවසක්. මා කළුවරේ මා ළඟ සිටි තරුණිය ගේ අත මිරිකා මගේ මුහුණ සිඹින්නටය කියා ඇයට බලකර සිටියා. ඇ නිලධාරි-යකු ගේ දුවක්. බොහෝ ම ලස්සණ අහිංසක කරුණාවන්ත කීකරු තරුණියක්. ඒ අඳුරේ මා කැමැති දෙයක් කිරීමට ඇ මට ඉඩ දුන්නා. ඒ අහිංසක තරුණිය කල්පනා කළා පසු දා මා ඇය හමු වී ඇයට විවාහ යෝජනා කරාවිය කියා. (මා ඇයට කැපෙන මනමාලයකු හැටියට පිළිගෙන සිටියා.) නමුත් ඊට පස්සේ මාස පහක් ගත වන තෙක් මා ඇය සමග වචනයක්වත් කතා කළේ නැහැ. ඇ නැටුම් හලේ මුල්ලකට වෙලා මා දිහා බලා සිටියා. (ඒ දවස්වල අප හැම දාම බාල් නැටුවා.) ඇගේ දෑස කෝපයෙන් බැබළෙන සැටි මා දුටුවා. මේ සෙල්ලමෙන් මගේ කාමය කිතිකැවෙන නිසා ඉන් මා ලොකු ආශ්වාදයක් ලැබුවා. මාස පහකට පස්සේ ඇ නිලධරයකු සමග විවාහ වී නගරය අත්හැර වෙන පළාතක පදිංචියට ගියා. ඇ එතෙක් මට වෛර කරන්න ඇති. නැති නම් ආලය කරන්න ඇති. නමුත් ඇ දැන් බොහෝ ම සැපවත් විවාහ ජීවිතයක් ගත කරනවා. අද වනතුරු මා මේ කතාව කාටවත් කිව්වේ නැහැ. ඒ ගැන පුරසාරම් දෙඩුවේ නැහැ. මා රාගාධික පුද්ගලයකු වුවත්, ඉතා පහත් දෙයට ප්‍රිය කළත්, වංක පුද්ගලයෙක් නො වෙයි. මගේ කතාව අසා තුඹේ මුහුණ ලැජ්ජාවෙන් රතු වන සැටි මට පේනවා. මා මීට වඩා මේ වනචර කතා කියන්නේ නැහැ. මේ වාගේ දේවල් තවත් බොහෝ ම තියෙනවා. නමුත් මේක පටන් ගැන්ම පමණයි. මා බොහෝ ම තරුණියන් ආශ්‍රය කළා. උන්ට දෙසියන් ගේ පිහිටයි. තරුණියක් අත්හරින කොට මා කවදාවත් ඇය

සමග රණ්ඩු කරගත්තේ නැහැ. මා කවදුවත් මා ආශ්‍රය කළ තරුණියකට ද්‍රෝහිකම් කළේ නැහැ. අපහාස වන දෙයක් කළේ නැහැ. ඔය ඇති ගැනු ගැන කතා කළා. මා මල්ලී නතර කර ගත්තේ මේ විකාර දේවල් කියන්නටය කියා කල්පනා කරනවා ද? නැහැ මල්ලී තුඹට කිය යුතු මීට වඩා බොහෝ ම වැදගත් දෙයක් තියෙනවා. තුඹට මේ සේරම කියන්නේ මගේ හිතේ කිසි ම ලැජ්ජාවක් නැති නිසා ය කියා පුදුම වන්න එපා. මේ සේරම කියන්න ලැබීම මට ලැජ්ජාවක් 'නොව විශාල සතුටක්."

"අයියා එහෙම කියන්නේ මගේ මුහුණ ලැජ්ජාවෙන් රතු වූ නිසයි." අලෝෂා හිටි හැටියේ ම කීය. "මා ලැජ්ජා වුණේ අයියා කළ කී දෙය ඇසීමෙන් නො වෙයි. මාත් අයියාට සමාන නිසයි."

"තුඹ මට සමානයි? මල්ලී, තුඹ සීමා ඉක්මවා යනවා !"

"නැහැ මා සීමා ඉක්මවා ගියේ නැහැ." යි අලෝෂා අවංක සිතින් කී ය. (සමහර විට මේ අදහස අලුත් නොවන්නට පිළිවන). "අප දෙදෙනා නගින්නේ එක ම හිණිමග දිගේ යි. මා තව ම සිටින්නේ හිණිමග මුල. තුඹ සිටින්නේ අඩි දහතුනක් පමණ ඉහළ. ඒකේ ඇති වෙනසක් නැහැ. හිනි පෙළ මුල සිටින මිනිහා කවදු හරි මුදුනට නගිනවා."

"එහෙනම් තියෙන්නේ හිණිමගට ගොඩ නොවන එකයි."

"හිණිමගට ගොඩ නොවී සිටින්න පුළුවන් නම් හොඳයි."

"තුඹට පුළුවන් ද ගොඩ නොවී සිටින්න?"

"මා හිතන්නේ නැහැ පුළුවන් ය කියා."

"මල්ලී ඔය ගැන කතා කරන්න එපා. තුඹේ කතාවෙන් මා බොහො ම පැහැදුණා. මට තුඹේ අත ගෙන සිඹින්න හිතයි.........අර කපටි ගෲසෙන්කා මිනිසුන් වසග කරගන්න හැටි හොඳට දන්නවා. ඈ මට කිව්වා කවදු හරි තුඹව ගිලිනවාය කියා.........දැන් ඉතින් අපි මේ කතාව නවත්වා හැම දුශ්චරිතයකින්ම පිරුණු මගේ අවාසනාවන්ත ජීවිතය ගැන කල්පනා කර බලමු. මා අසරණ තරුණියක් දූෂණය කළා යයි නොකියා බොරුවක් කීවත් ඊට සමාන දෙයක් මගේ අතින් සිදු වුණා. එවැනි දෙයක් වුණේ එක වතාවක් පමණයි. ඒත් වැඩිය දුර දිග ගියේ නැහැ. තාත්තා

මා ගැන අමූලික බොරු කිව්වට මේ සිද්ධිය ගැන කිසි ම දෙයක් දන්නේ නැහැ. මා මේ සිද්ධිය අද වන තුරු කිසි ම කෙනෙකුට කිව්වේ නැහැ. ඉවාන් හැරෙන්නට මේ කතාව අසන පළමු වන තැනැත්තා නුඹයි. නමුත් ඉවාන් කාටවත් කියන එකක් නැහැ. මිනිහා සොහොන්ගැබක් වගේ නිශ්චලයි."

"ඉවාන් සොහොන් ගැබක් වගේ නිශ්චලයි?"

"ඔව්."

අලෝෂා උනන්දුවෙන් කතාව අසා සිටියේය.

"ඒ කාලේ මා යුධ පෙරමුණේ රෙජමේන්තුවක ලයිතන් කෙනෙකු හැටියට සේවය කළා. ලයිතන් කෙනෙකු වුවත්, අපරාධකාරයකු ගැන හෝඩුවාවෙන් සිටිනවා වගේ ඔවුන් මා ගැන පරීක්ෂාවෙන් සිටියා. අප වාඩිලා සිටි ඒ කුඩා නගරයේ කවුරුත් මා බොහොම ඉහළින් පිළිගෙන සිටියා. අත මිට දිගහැර වියදම් කළ නිසා කවුරුත් හිතුවා මා බොහොම ලොකු පොහොසතෙක් ය කියා. මාත් හිතා ගෙන සිටියේ මා බොහොම ලොකු පොහොසතෙකු හැටියටයි. වෙනත් නොයෙක් කටයුතු-වලිනුත් මා ඔවුන් සතුටු කරන්න ඇති. මගේ කල්ක්‍රියාව ගැන පුදුම වුවත් ඔවුන් මට ලොකු කැමැත්තක් දක්වූවා. වයසට ගිය මගේ අණදෙන නිලධරයා හිටිහැටියේම මා ගැන අප්‍රසා-දයක් ඇති කරගත්තා. මිනිහා හැම තිස්සේම බැලුවේ මාව අමාරුවේ දමන්න යි. නමුත් මට හිටියා බොහොම බලපුළුවන් කම් ඇති යහළු මිත්‍රයන් හැරත් මුළු නගරයම මට පක්ෂයි. ඉතින්, මිනිහට පුළුවන් කමක් තිබුණේ නැහැ මාව අමාරුවේ දමන්න. මේ අමනාපය ඇතිවුණේ මිනිහට දිය යුතු ගරු සැල-කිලි නොදක්වූ නිසයි. ඒක මගේ වරද. මා මිනිහට ගරු නොකළේ මගේ අහංකාර කම නිසයි. මේ මහලු නිලධරයා බොහොම හොඳයි. කරුණාවන්තයි. ආගන්තුකසත්කාරයට බොහොම කැමැති යි. මිනිහා දෙපාරක් කසාද බැඳලා. නමුත් ගෑනු දෙන්නම මැරිලා. පළමු වන බිරිඳ බොහොම දුප්පත් පවුලක ගෑනියක්. ඈයට හිටියා ඈයට සමාන නිහතමාන ගති-ගුණ ඇති දුවක්. මා රෙජමේන්තුවට බැඳෙන කාලයේ දී මේ තරුණියට වයස අවුරුදු විසිහතරක් පමණ ඇති. ඈ සිටියේ ඈගේ තාත්තා හා නැන්දා කෙනෙකු සමගයි. නැන්දා බොහොම නිහතමානී ගතිගුණ ඇති යහපත් ස්ත්‍රියක්. නමුත් මළපොතේ අකුරක් දන්නේ නැහැ. තරුණිය වාම් වුණත් බොහොම ප්‍රාණවත්. මිනිසුන්ගේ හොඳ කියන්න මම බොහොම කැමැතියි. ඈගේ නම අගාපියා. ඈ තරම් යහපත් තරුණියක් මා

ජීවිතයටම දුකලා නැහැ. රූපයෙන් ඈ එතරම් නරක නැහැ. ඈ සාමාන්‍ය රුසියන් තරුණියන් වගේ උසයි මහතයි. මුහුණ ටිකක් රළු වුණත් ඇස් දෙක බොහොම ලස්සණයි. ඇයට මනමාලයන් දෙන්නෙකු ම විවාහ යෝජනා කර ඇතත් ඈ විවාහ වීමට වැඩිය කැමැත්තක් දක්වූයේ නැහැ. මනමාලයන් දෙදෙනාම ප්‍රතික්ෂේප කළාට මොකද ඈ කවදාවත් ඒ ගැන දුක් වුණේ නැහැ. ඈ හැම තිස්සේ ම හිටියේ බොහොම සතුටින්. මා ඇය බොහොම උණින් ආශ්‍රය කළා. නමුත් නරක අදහසකින් නොවෙයි. අප බොහොම හොඳ මිත්‍රයන් ව සිටියා. මල්ලී මා තරුණියන් බොහොම දෙනෙකු ආශ්‍රය කර තියෙනවා. ආශ්‍රය කළ හැම තරුණියටම මා ආලය කළේ නැහැ. මා ඇයට බොහොම විහිළු තහළු කළා. නොයෙක් විදියේ දේවල් කිව්වා. ඈ සිනාසෙනවා මිස වෙන කිසිම දෙයක් කියන්නේ නැහැ. සාමාන්‍යයෙන් විහිළු තහළු කරනවාට තරුණියෝ බොහොම කැමැතියි. තරුණියක් වූ ඈ මා කී කතා අසා බොහොම සතුටු වුණා. අනෙක් අයට වඩා විනෝද වුණා. ඇයට තරුණියක් කියා කියන්න අපහසුයි. නැන්දා සමග පියාගේ ගෙයි සිටි ඈ අනෙක් අය සමග වැඩිය ඇයි හොඳයි කීවේ නැහැ. අනෙක් අය සමග සමාන තත්ත්වයක සිට ආශ්‍රය කිරීමට ඈ කැමැති වුණේ නැහැ. ඈ හැම දෙනාගේම සිත් දිනාගෙන සිටියා. ඇගෙන් කාටත් උපකාර තිබුණා. මැහුම් ගෙතුම්වලට බොහොම සමර්ථයි. කාටත් නොමිලේ ඇඳුම් මසා දුන්නා. කවුරුහරි ඇයට මුදල් දුන්නොත් ඈ නොගෙන සිටියේ නැහැ. නමුත් ඇගේ තාත්තා දුවට වඩා බොහොම වෙනස් ගති ගුණ ඇති මිනිහෙක්. ඒ පළාතේ හිටිය, ලොකුම වැදගතා එයයි. ඉතින් මිනිහා අත මිට දිගහැර වියදම් කර-මින් ගමේ මිනිසුන්ට කන්න බොන්න දෙමින් බාල් නැටුවා. මා ඒ පළාතට ගිය අලුත, කර්නල්ගේ දෙවැනි දුව පීටර්ස්බර්ග් නුවර සිට උසස් අධ්‍යාපනයක් ලබා ගමට එනවාය කියා මුළු පළාතේම ආරංචි වුණා. කවුරුත් කිව්වා ඈ බොහොම හැඩ වැඩ ඇති ලස්සණකාරියක් බව. කැතිරිනා නමැති මේ තරුණිය කර්නල්ගේ දෙවන කසාදයෙන් ලැබුණු දුවයි. කර්නල්ගේ බිරිඳ වැදගත් සෙනෙවියෙකුගේ පවුලකට අයිති තරුණියක්. විශ්වාස කළ හැකි කෙනෙකුගේ මාර්ගයෙන් මට දැන ගන්න ලැබුණා කර්නල්ට දෙවන කසාදෙන් සතයක්වත් දෑවැද්ද නොලැබුණු බව. ඇයට තිබුණේ වැදගත්කමත් ලොකුකමත් පමණයි. කර්නල් බලාපොරොත්තු වුණා දෙවන කසාදෙන් දෑවැද්දක් ලැබෙය කියා. බලාපොරොත්තු වුණාට මොකද තඹයක්වත් ලැබුණේ නැහැ.

"නමුත් කර්නල් ගේ දෙණියන්දූ ගමට ආවාට පස්සේ මුළු පළාත ම කලඑළි වුණා. අපේ පළාතේ සිරිය කුල කාන්තාවන්, ජනරාල් දෙදෙනකු ගේ හා කර්නල් කෙනෙකු ගේ භාරියාවන් අනෙක් ගැනුත් එකතු කරගෙන මේ තරුණිය බොහො ම ඉහළින් පිළිගෙන ඇය වෙනුවෙන් භෝජනසංග්‍රහ පැවැත් වූවා. ඇ බාල්නැටුම් හා විනෝද ගමන් වල දී රූපසුන්දරියක් ලෙස පිළිගනු ලැබුවා. නමුත් මා මේ කිසි ම දෙයකට කිසි ම සැලකිල්ලක් නොදක්වා මගේ පරණ පුරුදු නොහික්මුණු ජීවිතය ගත කළා. ඒ කාලයේ මා කළ එක්තරා නොසන්ඩාල කමක් නිසා පළාත ම කලබල වුණා. දවසක් ද කාලතුවක්කු හමුදාවේ අණදෙන සෙනෙවියා ගේ ගෙදර පැවැත් වූ බාලක දී මේ තරුණිය මගේ හැඩ නිල බලන බව මා දුටුවා. ඇගේ ආශ්‍රයට නොකැමැති බව දක්වීමට මෙන් මා ඇයට කිසි ම සැලකිල්ලක් දක්වූයේ නැහැ. නමුත් ඒ ළඟදි තිබුණු බාල්නැටුමක දී මා ඇය ළඟට ගොස් කතා කළා. ඇ මා දිහා බැලුවේත් නැහැ. කතා කළේත් නැහැ. මට නින්ද කළා. 'ටිකක් හිටපන්, මගේ වාරය පැමිණියාම මා නුඹෙන් මේකට පළිගන්නවා.' යි මම මට ම කියාගත්තා. ඒ කාලේ මා දැනදැන ම කිප වතාවක් ම මෝඩකම් කළා. මා දැනගත්තා කැතිරිනා බෝඩිමක ඉඳලා ආපු, කිසිවක් නොදන්නා අහිංසක කෙල්ලක් නොව උසස් චරිතයකින්, හා ප්‍රතිපත්තිවලින් යුත් අහංකාර තරුණියක් බව. ඇයට උගත්කම තිබුණා. නමුත් මේ එකක්වත් මට තිබුණේ නැහැ. නුඹ හිතනවාද මා ඇයට විවාහ යෝජනා කිරීමට කල්පනා කළාය කියා? මා වීරයෙකු නිසා මා බලා සිටියේ පළිගැනීමට හොඳ වෙලාවක් එනතෙක් පමණයි. කැතිරිනා මගේ අදහස දැන සිටියේ නැහැ.

"ඒ අතරේ අපේ අණදෙන නිලධරයා මා අල්ලා දවස් තුනක් හිරකොට තබන තෙක් මා අඩිගහමින් කෝලාහල කළා. මගේ ඉඩකඩම්වලට තිබුණු අයිතිය මුළුමනින්ම අත්හැර දැමූ බවත්, තාත්තා සමග මින් ඉදිරියට කිසි ම ගනුදෙනුවක් නැති බවත් දන්වා ලියවිල්ලක් අත්සන් කළාට තාත්තා ගෙන් මට රූබල් හය දහක් ලැබුණේ මේ දවස්වලයි. මල්ලී, මා තාත්තා සමග කළ ගනුදෙනු ගැන වචනයක්වත් මට අද වන තුරු තේරුණේ නැහැ. ඒ කතාව අපි පැත්තකින් තියමු. අපි ඒ ගැන පස්සේ කතා කරමු.

"තාත්තා එවාපු රූබල් හය දහ ලැබුණු දවස්වල ම මට බොහො ම හිතවත් මිත්‍රයකු ගෙන් ලියුමනක් මගින් බොහො ම වැදගත් ආරංචියක් දැනගන්න ලැබුණා. අපේ අණදෙන නිල-

ධරයා මුදල් වංචා කළ බවත්, ආණ්ඩුවට ආරංචි වී ඔහු සැක කරන බවත්, ඔහුට මේ උගුල අටවා තියෙන්නේ ඔහුගේ එදිරි කාරයන් බවත් මට මගේ මිත්‍රයා කිව්වා. ඒ අතරේ රෙජමේන්තුවේ නායක සෙනෙවියා ඇවිදින් අපේ අණ දෙන නිලධරයාට හොඳට ම බැන්නා. බැනලා ටික දවසක් යන්නට කලින් මිනිහාට විශ්‍රාම ගන්න නියම වුණා. මෙ සේරම දේවල් වුණේ කොහොමද කියා මා මල්ලීට විස්තර කරන්නේ නැහැ. මිනිහට තරහකාරයන් බොහො ම සිටිය බව ඇත්තයි. මුළු පළාත ම මිනිහටත් මිනිහ ගේ පවුලටත් දක්වූ ගරු සැලකිලි හිටිහැටියේ ම නැති වී ගියා. සහළු මිත්‍රයන් මිනිහ අත්හැර දැම්මා. මෙතෙක් කල් මගේ හිතේ පැසෙමින් තිබුණු අදහස් ක්‍රියාවේ යෙදවීමට මා මුල් පියවර ගත්තේ මේ වෙලාවේ දීයි. මා හොඳට ආශ්‍රය කළ මිනිහ ගේ වැඩිමල් දුව හමුවී 'ආගයියා දන්නවද තාත්තා ගේ භාරයේ තිබුණු ආණ්ඩුවේ සල්ලිවලින් රූබල් හාරදාස් පන්සීයක් නැති වුණ බව?' කියා ඇසුවා.

'ඇයි එහෙම කියන්නේ? ජනරාල් ඇවිදින් මුදල් ගණන් බලා වැඩි දවසක් නැහැ. එතකොට මුදල් හරියට තිබුණා.'

'එතකොට මුදල් හරියට තිබුණට දැන් මුදල් හරියට නැහැ.'

"ඈ හොඳටම බය වුණා."

'කවුද මුදල් අඩු බව කිව්වේ? මාව භය කරන්න එපා'

"බය වෙන්න එපා, මා කාටවත් මේ ගැන වචනයක්වත් කියන්නේ නැහැ. සමහර විට ආණ්ඩුව මේ හිග රූබල් හාරදාස් පන්සිය තාත්තා ගෙන් ඉල්ලන්න පුළුවනි. මුදල් දෙන්න බැරි වුණොත් තාත්තාට විරුද්ධව නඩු දමා නිලයෙන් පහත් කරන්න පුළුවනි. එතකොට තාත්තාට මහලු වයසේදී සාමාන්‍ය සොල්දාදුවකු වගේ වැඩ කරන්න වෙනවා. නමුත් නංගිව රහසින් මා ළගට එවන්න පුළුවන් නම් තාත්තාට කිසි ම විපත්තියක් වෙන්නේ නැහැ. මා ළග මුදල් තියෙනවා. කැමැති නම් මට පුළුවනි නංගිට රූබල් හාරදාහක් දීලා කාටවත් නො කියා රහස රැකගන්න."

'තක්කඩියා කිසි ම හිතක් පපුවක් නැති තක්කඩියා. දුර්ජනයා.' කියා ඈ මට බැන වැදුණා.

"ඈ මට තරහෙන් බණිමින් යන කොට මා ආයේත් කෑගා කිව්වා මේ රහස කිසිවකුට නො කියා සුද්ධ වූ දෙයක් හැටියට ආරක්ෂා කරන බව. මේ ගැනු දෙන්නා, අගාපියා හා ඇගේ

නැන්ද මේ කටයුත්ත අවසන් වන තෙක් දේවදූතයන් මෙන් බොහෝ ම සාන්තදාන්තව සිටියා. ඔවුන් කැතිරිනාට බොහෝ ම. ආදරෙයි. ඇය බොහෝ ම ඉහළින් පිළිගෙන ඇගේ අත්පා මෙහෙවර කර දුන්නා. අගාපියා මා කී දෙය කැතිරිනාට කියාපු බව මට දැනගන්න ලැබුණා. ඇයට නො කියා සිටින්න බැරි වුණා මටත් උවමනා කළේ එපමණයි.

"රෙජිමේන්තුවේ වැඩ භාර ගැනීමට හිටිහැටියේ ම අලුත් කර්නල් කෙනෙක් ආවා. ඒ එක්ක ම පරණ නිලධාරියා ලෙඩ වෙලා දවස් දෙකක් ම ගෙට වෙලා සිටියා මිස ආණ්ඩුවේ සල්ලි අලුත් නිලධාරියාට භාරදුන්නේ නැහැ. දොස්තර පරීක්ෂා කරලා කිව්වා මිනිහා අසනීපයෙන් සිටින බව ඇත්තයි කියා. ප්‍රධාන අණදෙන නිලධාරියා මුදල් පරීක්ෂා කිරීමට පැමිණි වෙලාවේදී හැර අවුරුදු හතරක සිට කර්නල් ළඟ මුදල් නොතිබුන බව මම බොහෝ ම කාලයක සිට දැන සිටියා. මිනිහා අපේ ගමේ සිටිය බොහෝ ම විශ්වාසදායක වෙළෙන්දකුට ආණ්ඩුවේ මුදල් ණයට දීමට පුරුදු වී සිටියා. එයා රත්රන් රාමුවලින් හදපු කණ්ණාඩි කුට්ටමක් පළඳින ලොකු රැවුලක් ඇති ගැනී මැරිච්ච මිනිහෙක්. මිනිහා කර්නල්ගෙන් ගත්ත මුදලින්, වෙළෙඳ පොළේ දී ලාභ ඇති වෙළෙඳමක් කරලා ආපසු ඇවිදින් කර්නල්ට තෑග්ගකුත් පොලියත් සමග ණයට ගත්ත මුදල් ආපසු දෙනවා. නමුත් මේ පාර මිනිහා ආපසු මුදල් නොදුන් බව මට මිනිහාගේ පුතාගෙන් දැනගන්න ලැබුණා. මිනිහ ගේ පුතා තරම් දුෂ්ටයෙකු මා දැකලා නැහැ. කර්නල් තරහෙන් වෙළෙන්දට බැන්නහම වෙළෙන්ද කිව්වා 'මා නුඹෙන් මුදල් ගත්තෙ නැහැ' කියා. ඉතින් මොනව කරන්නද? දැන් අපේ කර්නල් ඔළුවේ තුවායක් ඔතා ගෙන ගෙදරට වෙලා හිටියා. ගෑනු තුන් දෙනා මිනිහ ගේ ඔළුවට අයිස් තිබ්බා. ඒ අතර, රෙජිමේන්තුවේ මුදල් පැය දෙකක් ඇතුළත දී භාර දෙන්නය කියා නියෝගයක් සමග පොතක් ගෙන හදිසියේම විශේෂ පණිවිඩකාරයෙකු පැමිණියා. කර්නල් පොත අත්සන් කරලා. (මා පස්සේ අත්සන දුටුවා.) යුනිෆෝමය ඇඳ ගෙන එන බව කියා කාමරයට ගිහින්, කානු දෙකේ තුවක්කුවට පතරොමක් දමා පපුවට තබා දකුණු කකුලේ සපත්තුව ගලවා ඇඟිල්ලෙන් කොකා තද කරන්න වෑයම් කළා. මා කී දෙය මතක තබා ගෙන සිටිය අගාපියා සැක හිතිලා හරියට ම වෙලාවට කාමරයට එබී බැලුවා. ඈ එක පාරට ම කඩාවැදිලා පිටිපස්සෙන් කර්නල් අල්ල ගත්තා. මට මේ විස්තරය දැනගන්න ලැබුණේ පසුව යි. එ වෙලාවේ මා ගෙදර හිටියා. ඉර බහින වෙලාව නිසා මා ගමනක් යන්න සූදානම් වුණා. මා ඇඳ පැළඳ ගෙන කොණ්ඩය පීරා ලේන්සුවට සෑන් දමා, හිස් වැස්ම අතට

ගත්තා විතරයි හිටි හැටියේම දෙර ඇරගෙන කැතිරිනා මගේ කාමරයට ඇතුළු වුණා.

"ඇතැම් විට යම් යම් දේවල් සිදුවන සැටි බොහෝ ම පුදුමයි. පාරේදී ඇයට කිසිවෙකු මුණනොගැසුණු නිසා මේ සිද්ධිය පළාතේ කිසි ම කෙනකුට දැනගන්න ලැබුණේ නැහ. මා නතර වී සිටියේ නාකි ගෑනු දෙන්නකු ගේ ගෙදරකයි. මගේ වැඩ කටයුතු කරදෙන මේ ගෑනු දෙන්නා මට හොඳට සැලකුවා. මගේ ඉල්ලීම පරිදි මේ ගෑනු දෙන්නා කැතිරිනා ගේ පැමිණීම ගැන රහස කිසිවකුට කිව්වේ නැහැ. කැතිරිනා දුටු හැටියේම මා දැනගත්තා ඇ ආවේ මොනවටද කියා. ඇ දැඩි අධිෂ්ඨාන-යකින් හා නොසැලකිල්ලකින් මා දිහා බැලුවා. නමුත් ඇගේ තොල් දිහැ බලා මා දැනගත්තා ඇගේ සිත එ තරම් තද නැති බව.

'අක්කා මට කිව්වා මා තනියෙන් ආවොත් මහත්මයා මට රුබල් හාදුරස් පන්සියක් දෙන බව, මම ආවේ ඒ මුදල් ගෙන යන්නයි. දැන් මට ඒ මුදල් දෙන්න' යි ද කිව්වා.

"නමුත් ඊට වඩා ඇයට කතා කරගන්න බැරි වුණා. ඇ ඒ තරම් බය වෙලයි සිටියේ. තොල් වෙව්ලන්න පටන් ගත්තා. අලෝෂා නුඹ මගේ කතාව අහගෙන ඉන්නවද? නැති නම් නිදිද?"

"අයියේ මා දන්නවා නුඹ මට සම්පූර්ණ ඇත්ත කියන බව" අලෝෂා නොසන්සුන් වෙමින් කී ය.

"ඔව්, මා ඇත්ත තමයි කියන්නේ. වෙච්ච විධියටම කියන්නම්. ඒ වෙලාවේ මගේ හිතේ ඇති වුණ පළමු වන අදහස සාමාන්‍යයෙන් කරමසෝවරුන් ගේ සිතේ ඇති වන කැත අදහසක්. මල්ලී, වරක් පත්තෑයෙකු කාලා මා සති දෙකක් ම උණ ගැනිලා සිටියා. එ වෙලාවේ මගේ පපුව පත්තෑ-යෙකු කනව වගේ මට දැනුණා. ඌ අවැඩදායක පත්තෑයෙක්. මා කියන දෙය තේරෙනවා නේද? මා කැතිරිනා දෙස හිස සිට දෙපා දක්වා හොඳට බැලුවා. ඇය දැක තියෙනවා නේ ද? ඇ රූප සුන්දරියක්. රූපය පමණක් නොව වෙනත් අතිනුත් ඇ තුළ ලස්සණයක් දකින්න තිබුණා, එ වෙලාවේ ඇ වඩාත් ලස්සණට පෙනුණේ ඇගේ උතුම් අදහස් හා මගේ තක්කඩි කම් නිසායි. පියා ගේ ජීවිතය ගලවා ගැනීමට ආත්මපරිත්‍යාගයෙන් ඉදිරිපත් වූ කැතිරනා ඒ ආත්මපරිත්‍යාගය නිසා ඇති වූ ලස්සණයෙන් බැබළුණා. නමුත් මම මකුණෙක්, තක්කඩියෙක්.

සිතින් කයින් දෙකෙන් ම ඈ මගේ අනුකම්පාවට ගොදුරු වී සිටියා. අවංකව කියනවා නම් ඒ විසකුරු අදහස මගේ සිතේ තදින් බල පෑ නිසා මා දෙගිඩියාවෙන් තෝන්තු වුණා. කිසි ම තෙතක් මෙතක් නැතිව විසකුරු දිවිමකුළුවෙකු වාගේ ක්‍රියා කළ යුතුය යන අදහස මැඩ පවත්වා ගැනිමට මට පුළුවන් කමක් තිබුණේ නැහැ. මේ අදහස නිසා ඒ වෙලාවේ මට හුස්ම ගන්න පවා අපහසු වුණා. හොඳට අහගන්න. පසුව ද උදේ ඈගේ ගෙදරට ගොස් ඇයට විවාහ යෝජනා කොට මේ කටයුත්ත ශිෂ්ට විදියටත්, කිසිවකුට කිසි කලක දූන ගැනීමට නොලැබෙන විදියටත් අවසන් කිරීමට ඉඩ, තිබුණා. ඒක තමයි හොඳම නම්බුකාර ක්‍රමය. මා සල්ලාලයකු වුවත් අවංකයි. නමුත් ඒ මොහොතේ දී යම් කිසිවෙකු උඹ හෙට උදේ ඇයට විවාහ යෝජනා කිරීමට ගිය විට ඈ කරත්තකාරයා ලවා උඹව පන්නා දමාවි. ඒ බව මුළු පළාතේ ම ප්‍රචාරය වේවි' යි රහසින් කියනවා වගේ මට ඇහුණා. 'මා උඹට බය නැහැ' යි ඈ මට කියන්න පුළුවනි. මම කැතිරිනා දෙස බැලුවා. මට ඇසුණු කටහඬ මට කිව්වේ බොරුවක් නො වෙයි. පසු ද ඈගේ ගෙදරට ගිය වහා ම ඈ මා පන්නා දමන බව ඈගේ මුහුණ දුටු හැටියේම මා දූනගත්තා. මගේ කෝපය ඇවිස්සුණා. ඇයට ඉතා නීච නින්දිත කාඩයකු කරන කාඩ කමකට සමාන ක්‍රියාවක් කිරීමට අදහස් කරලා, ඇය දිහා අවඥාවෙන් බලා ඇය ගල්ගැහෙන්න කතා කළා. මේ විදියට කතා කරන්න පුළුවන් කඩකාරයන්ට පමණයි.

"භාර දූහක්! මොනව හිතාගෙන ද භාරදූහක් ඉල්ලුවේ? මා කළේ විහිළුවක්. නෝනා මහත්මයා කැමැති නම් දෙදූහක් දෙන්නම්. නමුත් භාරදූහක් වැදගැම්මකට නැති දෙයකට විසි කරන්න පුළුවන් ගණනක් නො වෙයි. ඇපු කටයුත්ත හරියන්නේ නැහැ."

"මේ සෙල්ලමෙන් මට පාඩුවක් මිස ලාභයක් වන්නේ නැහැ. ඈ පැනදුවන්න පුළුවනි. එහෙනම් මා කළ දෙය අපාගතවන පළිගැනීමකට සමාන වෙන්න පුළුවනි. එහෙත් එය කළ යුතු දෙයක්. කළා නම් මට මුළු ජීවිතයට ම පසුතැවෙන්නට සිදුවන බව මා දන්නවා. මල්ලි තුඹ දන්නව ද මා මෙ වැනි දෙයක් වෙන කිසි ම තරුණියකට කරලා නැහැ. සිතේ බෙහොම දරුණු කෝපයක් ඇති ව මා කැතිරිනා දිහා තත්පර දෙකක් නැති නම් පහක් පමණ වේලා බලා සිටිය බව මට දිවුරා කියන්න පුළුවනි. නමුත්, ඒ කෝපයත්, උමතු ප්‍රේමයත් අතර ඇත්තේ කෙස් ගසක පමණ පරතරයක්.

"මං ජනේලය ළඟට ගිහින් සීතල වූ වීදුරුවට නළල තද කරගෙන හිටියා. වීදුරුවේ සීතල ගතියෙන් මගේ නළල පිච්චෙනවා වගේ දැනුණා මතකයි. බය වෙන්න එපා, මං ඇය වැඩි වේලා තියාගත්තේ නැහැ. මං ආපසු හැරී මේසය ළඟට ගිහින් ලාච්චුව ඇරලා රූබල් පන්දහක බැන්කු නෝට්ටු ඇර ගෙන (මුදල් දමා තිබුණේ ප්‍රංශ ශබ්දකෝෂයක් ඇතුළෙයි) කතාවක් බහක් නැතිව මුදල් දිගහැර පෙන්නලා, නමා කැතිරිනා ගේ අතේ තබා දොර ළඟට ගිහින් ඇයට පිටවී යාමට දොර ඇර, පැත්තකට වී බොහොම ගරුසරු දක්වා හිස නමා ආචාර කළා. කැතිරිනා වෙවුලන්න පටන් ගත්තා. මගේ දිහා තත්පර කිපයක් පමණ බලා සිටිය කැතිරිනා පිරිවටයක් වගේ සුදුමැලි වුණා. ඊළඟට හිටිහැටියේම ඇ මගේ දෙපා ළඟ පහත් වී නළල බිම තබා මට වැන්දා. ඇ වැන්දේ බෝඩිමක ඉඳලා ආපු කෙල්ලක් වගේ නොවෙයි, නියම රුසියන් ජාතික කාන්තාවක් හැටියටයි. ඊළඟට ඇ හිටිහැටියේම නැගිට කාමරයෙන් එළියට දිව්වා. ඒ වෙලාවේ මා මගේ කඩුව පැළඳ ගෙනයි සිටියේ. තව ටිකකින් මා කඩුවෙන් පපුවට ඇනගෙන එතැනම මැරෙනවා. මට එවැනි අදහසක් ඇති වුණේ මොන හේතුවක් නිසාද කියා විස්තර කිරීමට පුළුවන් කමක් නැහැ. සමහර විට ඒ අදහස ඇති වුණේ අධික ප්‍රීතිය නිසා විය යුතුයි. නුඹ දන්නවා නේද සමහර අය අධික ප්‍රීතිය නිසා පණ නහ ගන්නවා! නමුත් මා පපුවට ඇනගත්තේ නැතිව කඩුව සිඹලා ආපසු කොපුවට දමා ගත්තා. මේක නුඹට කියයුතු දෙයක් නොවෙයි. මගේ සිතේ ඇතිවූ පෙරළිය කීම ආත්ම වර්ණනාවකට සමානයි. ඒක එහෙම ගියදෙන්. මිනිසාගේ හදවත තුළට වැදී එහි කතු කියන අය යකාට ගියදෙන්. ඉතින් කැතිරිනාගෙයි මගෙයි කතාව මේක තමයි. දැන් මේ කතාව දන්නේ නුඹත්, ලොකු මල්ලිත් පමණයි. වෙන කිසිම කෙනෙකු දන්නේ නැහැ."

අසුනෙන් නැගී සිටි මීතියා, කතාව නිසා සිතේ හටගත් වේගයෙන් අඩි දෙකක් පමණ ඉදිරියට ගොස්, සාක්කුවෙන් ලේන්සුව ගෙන නළල පිසදා ආයේත් හිඳගත්තේය. එහෙත් හිඳගත්තේ හිඳ සිටි අසුනේ නොව අනෙක් පැත්තෙහිය. ඒ හෙයින් මීතියාගේ මුහුණ දෙස බැලීමට අලෝෂාට ආපසු හැරීමට සිදු විය.

## පස් වන පරිච්ඡේදය

# සම්පූර්ණයෙන් පැවසූ හද තතු

"දැන් මට මේ කතාවේ මුල් කොටස තේරුණා" යි අලෝෂා කී ය.

"මුල් කොටස ඒ නගරයේ රඟ දැක්වූ නාටකයක්. දෙවන කොටස ශෝක නාටකයක්. ඒක මෙහි දී රඟදක්වනවා ඇති.'

"දෙවන කොටස ගැන නම් මා තවම කිසිවක් දන්නේ නැහැ" අලෝෂා කී ය.

"අලෝෂා හිතනවද ඒ කොටස මාත් දන්නවය කියා?"

"අයියේ ටිකකට ඔය කතාව නවත්වා මා අහන ප්‍රශ්නයට උත්තර දෙන්න. අයියා කැතිරිනා සමඟ විවාහ ගිවිස ගත්තා නේ ද? තවමත් සිටින්නේ විවාහ වන පොරොන්දුව පිට නේ ද?"

"මා එකපාරටම කැතිරිනාට විවාහ යෝජනා කළේ නැහැ. අප විවාහ ගිවිස ගත්තේ මේ සිද්ධියෙන් තුන් මාසයකට පසුව යි. කැතිරිනාට මුදල් දුන්නට පස්සේ මා තීරණය කර ගත්තා මේ සම්බන්ධය මෙතැනින් අවසන් කරන්න. ඇයට විවාහ යෝජනා කිරීම අශිෂ්ට කමක් ලෙස මා සැලකුවා සති හයක් ගත වන තෙක් මට ඇගෙන් වචනයක්වත් දැන ගන්න ලැබුණේ නැහැ. නමුත් ඇ නගරයෙන් බැහැර ගියේ නැහැ. එක දෙයක් සිදු වුණා. කැතිරිනා මා හමු වන්නට පැමිණි දිනයට පසු ද ඇගේ වැඩකාරිය මගේ කාමරයට ඇවිදින් වචනයක්වත් නො කියා මට ලියුමක් දුන්නා. මගේ නමට එවා තිබුණ නිසා මා ලියුම දිගහැර බැලුවා. ලියුමේ තිබුණේ මා දුන් රූබල් පන්දහෙන් ඉතිරි මුදලයි, කැතිරිනාට උවමනා කර තිබුණේ රූබල් හාරදස් පන්සීයයි. නමුත් පන්දහේ නෝට්ටු මාරුකරන්න රූබල් දෙසීයක් වියදම් වී තිබුණා. කැතිරිනා මට එවා තිබුණේ රූබල් දෙසීය හැටයි. මට හරියට මතක නැහැ. මුදල් හැරෙන්නට වෙන කිසිම දෙයක් තිබුණේ නැහැ. ලියුම් කවරේ පැන්සල් ඉරක්වත් තියෙනවාද කියා මා සොයා බැලුවා. කිසිම දෙයක් තිබුණේ නැහැ. ඉතින් මා මොකද කළේ?

ඉතිරි මුදලින් මත්පැන් බී වල්කම් කරමින් කොතරම් ලොකු පෙරළියක් කළාද කියතොත් අපේ අලුත් අණ දෙන නිලධාරියා මට හොඳටම තරවටු කළා.

"ඉතින් අන්තිමේ දී කර්නල් වැඩි කරදරයක් නැතිව ගිහ මුදල් ආපසු ගෙව්වහම කවුරුත් පුදුම වුණා. කිසිම කෙනෙකු හිතුවේ නැහැ මිනිහ ලග මුදල් තියෙනවය කියා. මුදල් ගෙවා වැඩි දවසක් ගියේ නැහැ මිනිහ ලෙඩ වුණා. සුමාන තුනකට පස්සේ මොළය මොළොක් වන්නට පටන් ගෙන දවස් පහකට පස්සේ මළා. යුධහමුදුවෙන් අස්වීමට ලියකියවිලි භාර නොදුන් නිසා, යුධහමුදුවට අයිති සේරම ගරුබුහුමන් ඇතිව මිනිහගේ අවසාන කටයුතු නිම කළා. මිනිය වළලා දවස් දහයකට පස්සේ කැතිරිනා ඇගේ නැගණිය හා නැන්දා එක්ක මොස්කව් නුවරට ගියා. ඒ අතරේ අපූරු දෙයක් සිදුවුණා. ඈ ගම හැර ගිය දවසේම (ඈ යනවා මා දුටුවෙත් නැහැ. ඇය හමුවීමට මා ගියෙත් නැහැ.) නිල්පාට කොළයක ලියන ලද ලියුමක් මට ලැබුණා. 'මගෙන් ලියුම් බලාපොරොත්තු වන්න. මීට කැතිරිනා' කියා එහි ලියා තිබුණා. ඊට වඩා වචනයක්වත් ලියා තිබුණේ නැහැ.

"ඉතිරි හරිය වචන දෙකකින් කියන්නම්. මොස්කව් නුවර දී අරාබිනිසොල්ලාස කතාවල සිදු වනවා වගේ හිටිහැටියේම ඔවුන් පොහොසත් වුණා. ඔවුන්ගේ ලග නෑයකු වන ජනරාල් කෙනෙකුගේ වැන්දඹු භාර්යාවක් සිටියා. ඈ බොහොම පොහොසත්. ඈ මුළු බූදලයම ඇගේ මිනිපිරියන් දෙදෙනකුගේ නමට ලියා තැබුවා. නමුත් ඔවුන් දෙදෙනාම සුමානයක් ඇතුළත දී වසූරියෙන් මළා. බොහොම ශෝකයෙන් සිටිය වැන්දඹුව කැතිරිනා තමාගේ දියණිය හැටියට ආදරයෙන් පිළිගත්තා. කැතිරිනාගේ පැමිණීම ඇයට ලොකු සැනසීමක් වුණා. ඇගේ මරණයෙන් පස්සේ මුළු බූදලයම කැතිරිනාට අයිති වන්නට ඈ අන්තිම කැමැත්ත වෙනස් කළා. ඒ අතර දෑවැද්දේ කොටසක් වශයෙන් කැමැති දෙයක් කරන්නට කැතිරිනාට රූබල් අසූදහසක් දුන්නා. මේ මැහැල්ල මහ පිස්සු ගෑනියක්. මොස්කව් නුවර දී මා ගියා ඇය බලන්න.

"දවසක් කිසිම බලාපොරොත්තුවක් නැතිව හදිසියෙන්ම මට රූබල් හාරදස් පන්සීයක් තැපැලෙන් ලැබුණා. මා කොතරම් පුදුම වුණාද කියනවා නම් මට කතා කරගන්න බැරි වුණා. දවස් තුනකට පස්සේ මට අර පොරොන්දු වූ ලියුම කැතිරිනාගෙන් ලැබුණා. ඒ ලියුම දැන් මා ලග තියෙනවා. යන යන

තැන මා ඒ ලියුම ගෙනයනවා. මැරෙන තෙක් මා ඒ ලියුම මා ළඟ තියාගන්නවා. ලියුම පෙන්නන්න ද? මල්ලී ඒ ලියුම කියවන්න ඕනෑ. කැතිරිනා මගේ බිරිඳ වීමට කැමැති බව කියා තිබුණා. 'ඔබ මට ආලය නොකළත් මම ඔබට දැඩිව ආලය කරමි. ඔබ මට ආලය කළත් නොකළත් කමක් නැහැ. මගේ ස්වාමිපුරුෂයා වන්න. මම ඔබට හිරිහැර කරන්නේ නැහැ. ඔබ කරන කිසිම දෙයකට බාධා කරන්නේ නැහැ. මම ඔබ සතු භාණ්ඩයක් වෙමි. ඔබේ පයට පෑගෙන කලාලය වෙමි...... සැම කල්හි ම මම ඔබට ආලය කිරීමට කැමැත්තෙමි. ඔබේ ක්‍රියා වලින් ඔබව ආරක්ෂා කර ගනිමි.........' අලෝෂා, හැම තිස්සේ ම අශිෂ්ට දේවල් කියන මගේ කටින් මේ ලියුම කියවීමට තරම් මම සුදුසු නැති පුද්ගලයෙක්. මට කවදාවත් මගේ වල්කම් අත්හරින්න බැහැ. අද වනතුරු මේ ලියුම මට මහත් කරදරයක්. සිතට ලොකු වේදනාවක්. මා කවදාවත් සතුටින් සිටියේ නැහැ. ඒ වෙලාවේ මොස්කව් නුවරට යන්න පුළුවන් කමක් නොතිබුණ නිසා මා වහා ම කැතිරිනාට පිළිතුරක් යැව්වා. ඒ ලියුම ලියන කොට මගේ ඇස්වලට කඳුළු ආවා. කවදාවත් මට ඒ ලැජ්ජාව අමතක වන්නේ නැහැ. කැතිරිනා විශාල දායාදයකට හිමිකම් ඇති ධනවත් තරුණියක් බවත් මා කිසිම උගත් කමක් නැති හිඟන්නකු බවත් මා ලිව්වා. මා මුදල් ගැනත් මතක් කළා. මට තිබුණේ ඒ ගැන නිහඬව සිටින්නටයි. නමුත් නොදනුවත්ව ම ලියවුණා. ඊට පස්සේ මා වහා ම මේ මුළු සිද්ධියම විස්තර කරලා ඉවාන්ට පිටු හයක් දිග ලියුමක් ලියා යවා, ගිහින් කැතිරිනා හමු වන්නටය කිව්වා........... මොකද අලෝෂා මා දිහා රවා බලන්නේ?.........ඉතින් මොකද වුණේ? ඉවාන් කැතිරිනාට ආලය කරන්න පටන් ගත්තා. තවමත් ඉවාන් කැතිරිනාට ආලය කරනවා. මා ඒ බව දන්නවා. ලෝකයා ගේ අදහසේ හැටියට මා කළේ මෝඩ කමක්. සමහර විට මා කළ ඒ මෝඩ කම අප හැම දෙනා ගේ ම ගැලවිල්ලට හේතුවන්නට පුළුවනි. පේන්නේ නැද්ද කැතිරිනා බොහොම ඉහළින් ඉවාන් පිළිගන්න බව. ඈ ඉවාන්ට කො තරම් ගරු කරනවා ද? අප දෙදෙනා එකිනෙකාට සම කළොත්, මගේ හැටියටත්, මා කැතිරිනාට කළ දේවල් සිහි කරන විටත් කැතිරිනා මට ආලය කරාවිය කියා හිතනවා ද?"

"මට හොඳට විශ්වාසයි කැතිරිනා පතන්නේ ඉවාන් වගේ මිනිහකු නොව අයියා වගේ කෙනෙකුයි."

"කැතිරිනා ආලය කරන්නේ ඇගේම යහපත් ගතිගුණවලට මිස මට නො වෙයි" මීතියා කීවේ කෝපයෙනි. නොකැමැත්තෙනි.

ඔහු සිනාසුණේ ය. එහෙත් මොහොතකට පසු ඔහු ගේ නෙත් කෝපයෙන් දිළිහුණේ ය. මුහුණ රතු විය. හෙතෙම මිට මොළවා මේසයට වේගයෙන් පහරක් ගැසුවේ ය.

"අලෝෂා, නුඹ මගේ කතාව විශ්වාස නොකරන්න පුළුවනි" යි මිතියා තමා ගැන ඇති කරගත් අව්‍යාජකෝපයෙන් හා වේගයෙන් කිය. "දෙයියන්පල්ල කැතිරිනා ගේ යහපත් ගති ගුණ ගැන දන් සිණාසුනත් මා දන්නවා මා ඇයට වඩා දස ලක්ෂ වාරයක් නීච බව. ඇගේ ඒ උතුම් ගති ගුණ දෙව්ලොව සිටින දේවදූතයෙක් මෙන් අවංකයි. ඒ බව මා හොඳට දන්නවා. ඒක තමා විපතට මුල. මිනිහෙකු ඉඳ හිට ප්‍රමාණයට වඩා ටිකක් කෑගැවට ඇති වරද මොකක් ද? මා වුවත් ඉඳ හිට ටිකක් වැඩිය කෑගාන්නේ නැද්ද? මා එහෙම කෑගාන්නේ නරක අදහසින් නො වෙයි. මගේ සිත අවංකයි. ඉවාන් වගේ උගතෙකු සොබා දහමට සාප කරන සැටි මට තේරුම් ගන්න පුළුවනි. නමුත් කැතිරිනා වැඩි කැමැත්තක් දක්වා තියෙන්නේ කාට ද? කුමකට ද? බොහොම භයානක සතෙකුටයි. දුරාචාරය මැඩ ගන්නට බැරි දනෝ දහක් බලා සිටියදී, තමා විවාගිවිස ගත් ශිෂ්ට තරුණිය ඉදිරිපිට දුරාචාරයේ යෙදෙන පුද්ගලයකුටයි. ඉවාන් වගේ උගත් ශිෂ්ට තරුණයෙක් ප්‍රතික්ෂේප කොට මා වගේ කෙනෙකුයි පිළිගෙන තියෙන්නේ. මොන හේතුවක් නිසා ද? තරුණියකට උවමනා වී තියෙනවා කලගුණ සැලකීමක් වශයෙන් ඇගේ ජීවිතයත් දෛවයත් පූජා කිරීමට. මහ විකාර වැඩක්! මා මේ ගැන ඉවාන්ට වචනයක්වත් කියා නැහැ. ඉවාන් ද මේ ගැන දන්න බව හැඟවීමට වචනයකින්වත් ඉඟියක් කරලා නැහැ. නමුත් කවදා හරි දෛවය අනුව කටයුතු සිද්ධ වෙනවා ඇති. නුසුදුස්සා ඔහුට සුපුරුදු පහත් ජීවිතයට වැටී සිය කැමැත්තෙන් ම අපවිත්‍ර දුර්ගන්ධයෙහි ගිලී ප්‍රීති වන අතර සුදුස්සා ජය ගනීවි. මා මෙතෙක් වේලා කළේ මහ මෝඩ කතාවක්. දන් මට කියන්න දෙයකුත් නැහැ. නමුත් හැම දෙයක් ම මා කී විදියටම ඉෂ්ට වේවි. මා කාලකණ්ණි අශිෂ්ට ජීවිතයක් ගත කරන අතර කැතිරිනා ඉවාන් කසාද බඳීවි."

"ඔය කතාව ටිකක් නවත්වන්න" යි අලෝෂා නොසන්සුන් සිතින් කීවේ සොහොයුරා ගේ කතාවට බාධා කරමිනි. "තවමත් මට පැහැදිලි කරල නොදුන්න දෙයක් තියෙනවා. අයියා තව මත් කැතිරිනා බඳින්න පොරොන්දු වී සිටිනවා නේ ද? කැතිරිනා කැමැති නැති නම් කොහොම ද මඟුල කඩා දමන්නේ?"

"විවාහ ගිවිස ගත් කෙනෙකුට පුළුවන් ද වෙනත් ගැනියක් ළඟට යන්න? කැතිරිනා වැනි තරුණියක් සමග විවාහ ගිවිස ගෙන ලෝකයා බලා සිටිය දී වෙනත් ගැනියක් ළඟට යන්න පුළුවන් ද? මා යන්තම් හරි ආත්ම ගෞරවයක් ඇති මිනිහෙක්. ගෘසෙන්කා ළඟට යන්න පටන් ගත්තාට පස්සේ මා විවාහ ගිවිස ගත් අවංක මිනිහෙකු වෙන්නේ නැහැ. මට ඒක තේරෙනවා. ඇයි නුඹ මා දිහා බලන්නේ? මා ඉස්සෙල්ලා ගියේ ගෘසෙන්කාට තළන්නටයි. මට ආරංචි වුණා තාත්තා එයා ගේ ඒජන්ත වන අර කපිතන් ගේ අතේ ගෘසෙන්කාට මගේ නෝට්ටුවක් යවා මට විරුද්ධව නඩු දමා මා විනාශ කරන්න කටයුතු කරන බව. උන් සූදනම් වුණේ මා භය කරන්නට යි. මා ගියා ගෘසෙන්කාට හොඳ පාඩමක් උගන්වන්න. මා මීට ඉස්සරත් ඇය දැක තියෙනවා. ඈ බැලූ බැල්මට සිත් ගන්නා තරම් ලස්සණ කාරියක් නො වෙයි. ඇව තියාගෙන ඉන්න නාකි වෙළෙන්දා මා අඳුනනවා. මිනිහට අංශබාගේ. ඒ නාකියා ගෘසෙන්කාට සෑහෙන ධනයක් දුන්නා. ගෘසෙන්කා මුදල්වලට බොහො ම කෑදරයි. මුදල් එකතු කරමින් ගිනිපොලී කරනවා, ඈ කිසි ම තෙතක් මෙතෙක් නැති කපටි කයිරාටික වංචාකාර තරුණියක්. මා ඇගේ හැටි දන සිටියා. ඇයට තළන අදහසින් ගිය මා එහි නතර වුණා. මා ඇයට වසඟ වුණා. ඒක වසංගතයක් බෝ වුණා වගෙයි. තවමත් මා ඒ රෝගයෙන් පෙළෙනවා. දැන් මගේ ගන්න දෙයක් නැහැ. මම විනාශ වූ පුද්ගලයෙක්. මගේ චක්‍රය කැරකිලා ඉවරයි. මගේ දෛවයේ හැටියට මා හිඟන්නෙකු වුවත් ඒ වෙලාවේ මා ළඟ රූබල් තුන් දහක් තිබුණා. මා ගෘසෙන්කා එක්ක හැතැපුම් විසිපහක් පමණ දුර තියෙන මොක්රෝ නමැති ගමට ගිහින් අහිකුණ්ටිකයන් ගෙන්නලා ගැනු පිරිමින් හා ළමිස්සියන් සේරට ම අතේ සතේ නැති වන තෙක් කන්න බොන්න දුන්නා. දවස් තුනකට පස්සේ මම හිඟන්නෙක්, නමුත් හිතින් වීරයෙක්. නුඹ හිතනව ද මේ වීරයා හිතේ තිබුණු අදහස් ඉෂ්ට කර ගත්තාය කියා? ගෘසෙන්කාගෙන් කිසි ම ඉඩක් ලැබුණේ නැහැ මට ඈ ළඟටවත් එන්න දුන්නේ නැහැ. ඈ බොහො ම හැඩකාරි. ඇගේ පොඩි කකුල් දිහා, මහ පොට ඇඟිල්ල දිහා බලා කියන්න පුළුවන් ඇගේ හැඩ තිළ නමුත් මා කකුල සිඹිා විතරයි. මම දිවුරා කියන්නම් ඊට වඩා කිසි ම දෙයක් කළේ නැහැ. 'මීතියා නුඹ අතේ සතේ නැති හිඟන්නෙක්, ඒ වුණත් නුඹ කැමැති නම් මම නුඹ බඳින්නම්. හැබැයි නුඹ බඳින්නේ මට නො ගහා මා කැමැති දෙයක් කිරීමට ඉඩ දෙනවා නම් පමණයි.' කියමින් ගෘසෙන්කා හිනා වුණා. තවමත් ඈ හිනා වෙනවා.

"අප බොහොම ජයට විවාහ ගිවිස ගත්තා. මා මොස්කව නුවරට ගිය වහාම සුරුවම් ආදිය තබා ආගමානුකූලව සියලු චාරිත්‍ර වාරිත්‍ර ඇතිව විවාහ ගිවිස ගත්තා. මහලු කාන්තාව අපට ශුභාශංසනය කළා. 'කැතිරිනා, නුඹ තෝරා ගත්තේ බොහො ම යහපත් මහත්මයෙක්. මහත්මයා බොහොම හොඳ බව මට මුහුණ බලා කියන්න පුළුවනි.' කියා කැතිරිනාට සතුට ප්‍රකාශ කළා. නමුත් ඈ ඉවාන්ට කිසිම කැමැත්තක් දක්වූයේ නැහැ. මා කැතිරිනාට මා පිළිබඳ හැම දෙයක් ම අවංකව නොසඟවා කිව්වා. ඈ මා කී දෙය සාවධානව අසා සිටියා.

මිහිරි කල කල හඬ
අතරින් නැගෙන නිතර ම
කුලුණුබර වදන ද එහි
නිතර ම කියනු ඇසුණා.

මේවා බොහොම උසස් වචන. කැතිරිනා මගෙන් විශාල පොරොන්දුවක් ගත්තා මීට පසසේ යහපත් ජීවිතයක් ගත කරන බවට. මාත් පොරොන්දු වුණා. ඉතින්———"

"ඉතින් මොක ද?"

"අද මා මල්ලිව මෙතැනට කැඳවා ගෙන ආවේ අද ම—— හොඳට මතක තියා ගන්න, අද ම කැතරිනා ළඟට යවන්නට යි."

"මොනවට ද?"

"මීට පස්සේ මා කවදාවත් ඈය බැලීමට නොඑන බව කියන්න."

"ඒක කරන්න පුළුවන් දෙයක් ද?"

"කරන්න බැරි නිසා තමයි නුඹ යවන්නේ. මා කොහොම ද කැතිරිනා ගේ මුහුණ බලාගෙන මෙවැනි දෙයක් කියන්නේ?".

"ඊට පස්සේ අයියා කොහෙ ද යන්නේ?"

"මා යනවා පාතාල ලෝකයට."

"එහෙනම් ගෲසෙන්කා ළඟට යනවා ද?" යි අලෝෂා ශෝක-යෙන් දෑත එක්කර ගනිමින් ඇසුවේ ය.

"එහෙනම් අයියා ගැන රකිටින් කීවේ ඇත්තක් ද? මා හිතුවෙ නැහැ අයියා වෙන අදහසක් ඇති ව ගෲසෙන්කා බලන්න ගියා ය කියා.'

කෝපාංගනියෙන් දවෙන්නකු මෙන් හදිසියෙන් ම මීතියා නැගී සිටියේ ය. බේබද්දෙකු මෙන් වැනුණේ ය. ඔහු ගේ දෑස හදිසියෙන් ම රතු විය

" අයියා ගේ අදහස ගෲසෙන්කා කසාද බඳින්න ද ? "

" ගෲසෙන්කා කැමැති නම් මේ මොහොතේ වුවත් කසාද බඳින්න මම කැමැතියි. ඈ කැමැති නැතිනම් නිකම් සිටිනවා. මම ඇගේ ගේට්ටුව මුර කරන මුරකාරයා වීමට වුවත් කැමැතියි." මෙසේ පැවසූ මීතියා හදිසියෙන් ම අලෝෂා ගේ උරහිසින් අල්ලා වේගයෙන් සොලවන්නට විය. " මල්ලි, නුඹ බොහො ම අහිංසකයි. නුඹ දන්නවද මේ ස්ෙරම සිහිමුළාවෙන්, උමතුවෙන් කරන දේවල් බව. මේක බොහො ම කතගාටුදායක දෙයක්. මා නීච-නින්දිත සල්ලාලයෙකු වෙන්න පුළුවනි. නමුත් මම අනුන් ගේ සාක්කුවලට අත දමා මුදල් ගන්නා සොරෙක් නො වෙමි. මා පළමු වරට ගෲසෙන්කා හමු වන්න ගිය දවසේ උදේ පාන්දර කැතිරිනා බොහො ම රහසින් මට එන්න කියා, (මොන කාරණා වක් නිසා රහසින් එන්න කිව්වද දන්නේ නැහැ, රහසින් එන්න කියන්න කිසියම් හේතුවක් තියෙන්න ඇති.) මේ නගරයේ කිසි ම කෙනකුට ආරංචි නො වන ලෙස ළඟ ම තියෙන නගරයට ගිහින්, මොස්කව් නුවර සිටින ඇගේ සොහොයුරියට තැපැලෙන් යවන ලෙස රූබල් තුන්දහක් දුන්නා. ඉතින්, ගෲසෙන්කා බලන්න යන කොට මා ළඟ රූබල් තුන්දහක් තිබුණා. ඒ මුදල් තමයි ගෲසෙන්කා වෙනුවෙන් නැටුම්ගැයුම්වලට මා වියදම් කළේ. මා මුදල් යැව්ව බව කැතිරිනාට කිව්වා, නමුත් තැපැල් කන්තෝරුවේ කුයිතාන්සිය දුන්නේ නැහැ. පස්සේ කුයිතාන්සිය ගෙනත් දෙන බව කිව්වා, නමුත් අද වනතුරු මුදල් යැව්වෙත් නැහැ, කුයිතාන්සිය ගිහින් දුන්නෙත් නැහැ, මට ඒ ගැන අමතක වුණෙත් නැහැ. මල්ලී නුඹ දන්නව ද අද කැතිරිනා හමුවන්න ගියාම ඇයට කියයුතු දෙය? " අයියා මීට පස්සේ නුඹ බලන්න එන්නේ නැහැ. කීවාම කැතිරිනා නුඹෙන් අසාවි 'කෝ මා අයියාට දුන්න මුදල්?' කියා. මගේ අයියා සල්ලාලයෙක්. මැඩ ගත නො හැකි රාගයෙන් පෙළෙන නීචයෙක්. මිනිහ නුඹේ මුදල් යැව්වේ නැහැ. ආත්මදමනයක් නැති තිරිසනෙකු නිසා ඒ මුදල් නාස්ති කළා' යයි නුඹ කියන්න පුළුවනි. ඒ එක්කම නුඹ කැතිරිනාට කියාවි 'මගේ අයියා හොරෙක් නොවෙයි. මේ තියෙන්නේ නුඹ අයියාට දුන්න මුදල්, නුඹ ම ඒ මුදල් නුඹේ සහෝදරියට යවන්න. අයියා කිව්වා මීට පස්සේ නුඹ හමුවන්න එන්නේ නැහැ කියා'. නමුත් දුන් තියෙන විදියට කැතිරිනා අසාවි 'කෝ මා දුන්න මුදල්?' කියා.

" අයියා සිටින්නේ බොහෝ ම කනගාටුවෙන්. නමුත් තත්ත්-වය හිතන තරම් නරක නැහැ. කනගාටු වෙන්න එපා."

" මල්ලි ගේ කල්පනාව ණය ගෙවන්න රූබල් තුන්දහක් සොයා ගන්න බැරි වුණොත් මා වෙඩි තියාගෙන පණ නහ ගනීවි කියා ද? වෙඩි තියා ගැනීමට පුළුවන් කමක් නැති එක තමයි වරද. පණ නහ ගැනීමට තරම් ආත්මශක්තියක් දැන් මට නැහැ. සමහර විට පස්සේ ශක්තිය ලැබෙන්න පුළුවනි. දැන් මා ගෲසෙන්කා ළඟට යනවා. මොනවා වුණත් කමක් නැහැ."

" ඊට පස්සේ මොකද කරන්නේ ?"

" ගෲසෙන්කා කැමැති නම් ඇය කසාද බඳිනවා. ඇගේ පෙම්වතුන් ආවාම ඔවුන්ට බාධා නො කර මඟ හැර යනවා. ඔවුන් ගේ මඩ තැවරුණු පාවහන් පිරිසුදු කර දෙනවා. බොයිලේ-රුව රත් කර බොන්න තේ වතුර සාදා දෙනවා. ඔවුන් ගේ පණිවිඩ ගෙන යනවා."

" අයියාට සිදුවී තිබෙන මේ විපත කැතිරිනා තේරුම් ගනීවි" යි අලෝෂා සෙමෙන් කී ය. " සිදුවී තිබෙන විපත දැක අනුකම්පා කොට සමාව දේවි. උසස් අදහස් ඇති කාන්තාවක් වන ඇයට අයියා ශෝකයෙන් සිටින බව පෙනේවි."

" කැතිරිනා මා කළ හැම වරදකට ම සමාව දෙන එකක් නැහැ" යි මීතියා දත් තියවා කී ය. " කිසි ම ගැනියක් සමාව නො දෙන වැරදි තියෙනවා. දන්නව ද අපට කරන්න පුළුවන් හොඳම දෙය ?"

" ඒ මොකක් ද?"

" රූබල් තුන්දහ ආපසු කැතිරිනාට දීමයි."

" කොහෙන්ද එ තරම් විශාල මුදලක් සොයන්නේ? මා ළඟ රූබල් දෙ දහක් තියෙනවා. ඉවාන් ගෙන් දහක් ඉල්ලා ගන්න පුළුවනි. ඒ තුන්දහ අරගෙන කැතිරිනා ගේ මුදල් ගෙවන්න."

" මල්ලිට අයිති තුන්දහ කවද්ද ලැබෙන්නේ? ඒ මුදල් ගැනීමට තවම වයස සම්පූර්ණ නැහැ. නුඹ අඩු වයස් කාරයෙක්. මුදල් ඇතිව හෝ නැතිව හෝ අද ම කැතිරිනා හමුවී මීට පස්සේ මා ඇය බලන්න නොයෙන බව කියන්න ඕනෑ. කැතිරි නාටයි මටයි මේ විදියට කල දවස ගෙවන්න බැහැ. හෙටට කල් දමන්න එපා, පමා වෙනවා. අද ම යන්න ඕනෑ. දැන් කෙළින්ම තාත්තා ළඟට යන්න."

" තාත්තා ළඟට ? "

" ඔව්, ඉස්සෙල්ලා තාත්තා ළඟට ගිහින් රූබල් තුන්දහක් ඉල්ලන්න."

' තාත්තා මුදල් දෙන එකක් නැහැ."

"තාත්තා මුදල් නොදෙන බව මා දන්නවා. බලාපොරොත්තු නැතිව සිටීමේ ඇති බරපතලකම මල්ලී දන්නේ නැහැ."

"ඔව්."

"මා කියන දෙය හොඳට අහගන්න. නීත්‍යානුකූලව මට තාත්තා ගෙන් තඹයක්වත් ලැබෙන්නෙ නැහැ. අන්තිම තඹය දක්වා තාත්තා ගෙන් අරන් තියෙන බව මා දන්නවා. නමුත් යුක්තිධර්මයේ හැටියට තාත්තා මට යමක් දෙන්න ඕනෑ. එහෙම නේ ද? තුඹ දන්නවා නේ ද තාත්තා ජීවිතය ආරම්භ කළේ මගේ අම්මාගෙන් ගත්ත රූබල් විසි අට දහෙන් බව? ඒ මුදලෙන් තාත්තා ලක්ෂ ගණනක් හම්බ කළා. අම්මා ගේ විසි අට දහෙන් මට තුන්දහක් දී මගේ ආත්මය අපා දුකින් නිදහස් කරගන්න බැරි ද? ඒ කුසලය නිසා තාත්තා කළ පව්වලින් තාත්තාට ගැලවිල්ල ලැබේවි. ඒ තුන්දහ දෙනවා නම් ඊට පස්සේ තාත්තා ගේ ධනයට තිබෙන සියලු ම අයිතිවාසිකම් අත් හරින බවට මා පොරොන්දු වෙනවා. ඊට පස්සෙ තාත්තාට මා සිටිනවා ද නැද්ද කියා අහන්නවත් ලැබෙන්නේ නැහැ. අන්තිම වතාවට පියකු ලෙස ක්‍රියාකිරීමට මා අවසථාවක් දෙනවා. තාත්තාට කියන්න දරූ ස්නේහය පෙන්නීමට මේ අවසථාව දෙන්නේ දෙවියන් වහන්සේ බව."

"මොනවා කිව්වත් තාත්තා මුදල් දෙන්නේ නැහැ."

"මා දන්නවා නොදෙන බව. හොඳහැටි දන්නව නොදෙන බව. එ පමණක් නො වෙයි. මා තවත් කාරණයක් දන්නවා. ගෘසෙන්කා විහිළුවක් කරනවා නොව, සැබැවින් ම මා සමග විවාහ වීමට කැමැත්තෙන් සිටින බව පළමු වරට, දුන් ටික දිනකට කලින් සමහර විට ඊයේ වෙන්න ඇති, තාත්තාට දැන ගන්න ලැබුණා. තාත්තා ගෘසෙන්කා ගේ ගතිගුණ හොඳට දන්නවා. තාත්තා ගෘසෙන්කාට ඇති ආශාවෙන් පිස්සු වැටී සිටින විට ඇය කසාද බඳින්න මට මුදල් දේය කියා තුඹ හිතනවා ද? එ පමණක් නො වෙයි, මම තවත් බොහො ම දේවල් දන්නවා. දවස් පහක සිට තාත්තා බැංකුවෙන් රූබල් තුන් දහක් අරගෙන රූබල් සීයේ නෝට්ටුවලට මාරු කරලා, ලොකු ලියුම් කවරයක

දමා සිල් පහක් තියා, රතු පිත්ත පටියකින් ගැට ගසා, ළග තියා ගෙන ඉන්නවා. මේ ගැන මා හොඳට විස්තර කියන්න දන්නවා. ලියුම් කවරයේ ලියා තියෙනවා 'මා ළගට පැමිණි විට මගේ සුරදුව, ගෲෂෙන්කාට තෑගි දීම පිණිස ය' කියා. තාත්තා මේක ලිව්වේ කාටවත් නොපෙනෙන්නටයි. පැවල් හැර වෙන කිසි ම කෙනෙකු දන්නේ නැහැ ලියුම් කවරයේ මුදල් තියෙන බව. තාත්තාට පැවල් බොහො ම විශ්වාසයි. ඉතින් දවස් තුන හතරක සිට තාත්තා බලා සිටිනව ගෲසෙන්කා එන තෙක්. තාත්තා ගේ කල්පනාව මුදල්වලට ආශාවෙන් ගෲසෙන්කා ඒවිය කියායි. තමා ළගට එන්නට ය කියා තාත්තා ගෲසෙන්කාට පණිවිඩයකුත් යවා තියෙනවා. හැකි වුණොත් එන බව කියා ගෲසෙන්කා තාත්තාට දන්වා තියෙනවා. බැරිවෙලාවත් ගෲසෙන්කා තාත්තා ළගට ගියොත් ඊට පස්සේ මට පුළුවන්ද ගෲසෙන්කා කසාද බඳින්න ? දන් ඉතින් මල්ලී නුඹට පෙනෙනවා නේ ද මා මෙ තැන සැගවී බලාපොරොත්තුව සිටින්නේ මොනවට ද කියා ?"

"අයියා බලාසිටින්නේ ගෲසෙන්කා තාත්තා ළගට යනව ද කියා දැන ගන්න ද ?"

"ඔව්, මේ වල් ගෑනුන් ගේ ගෙදර කාමරයක පෝමා නතර වී සිටිනවා. පෝමා අපේ ගමේ මිනිහෙක්. මිනිහා අපේ රෙජි-මේන්තුවේ සොල්දාදුවෙක් ව සිටියා. මිනිහා මේ ගෑනුන්ට නොයෙක් වැඩ කටයුතු කරලා දෙනවා. රෑට මුර කරනවා. දවාලට කුකුළ් දඩයමේ යනවා. මිනිහා ජීවත් වන්නේ මේ විදියටයි. මා මිනිහ ගේ කාමරයේ නතර වී සිටිනවා. නමුත් මිනිහවත් ගෑනුන්වත් දන්නෙ නැහැ මා මෙ තැන ගෲසෙන්කා ගැන ඔත්තු බලන බව."

"එහෙනම් පැවල් හැරෙන්නට වෙන කිසි ම කෙනෙකු දන්නේ නැහැ ?"

"මෙලෝ මනුෂ්‍යයෙකු දන්නේ නැහැ. ගෲසෙන්කා තාත්තා ළගට ගියොත්, පැවල් වහා ම ඒ බව මට දන්වාවි."

"තාත්තා ගෲසෙන්කාට දීමට ලියුම්කවරයක රුබල් තුන් දහක් දමා තියාගෙන සිටින බව කිව්වේ පැවල් ද ?"

"ඔව්, ඒක ලොකු රහසක්. ඉවාන් වුණත් මේ මුදල් ගැන කිසි ම දෙයක් දන්නෙ නැහැ. තාත්තා ඉවාන්ව චමස්නියාවට යවනවා. ඉවාන්ට දවස් දෙක තුනකින් එන්න ලැබෙන්නේ නැහැ. ලී වෙළෙන්දෙකු ඇවිත් සිටිනවා රුබල් අටදහක විතර ලී ගන්න. තාත්තා ඉවාන්ට වද කරනවා මේ ලී වෙළෙන්දා මුණ

ගැහිලා ගනුදෙනුව පිළිසෙළ කරන්න. ඉවාන්ට මේ ගමන ගිහින් එන්න දවස් දෙක තුනක් ගතවේවි. තාත්තාට උවමනා කරන්නේ ඉවාන් ගෙදර නැති අතර ගෘසෙන්කා ගෙදරට ගෙන්න ගන්නයි."

"එහෙනම් ගෘසෙන්කා අද ඒවි ය කියා තාත්තා බලාපොරොත්තුව සිටිනවද ?"

"නැහැ නැහැ. ගෘසෙන්කා අද එන්නේ නැහැ. ඈ නොඑන බවට ලකුණු තියෙනවා" යි මීතියා හදිසියෙන් ම කීය. "ගෘසෙන්කා නොඑන බව පැවල්ට හොඳට විශ්වාසයි. තාත්තා ඉවාන් එක්ක ගෙදර ඉඳගෙන බොනවා. අලෝෂා ගිහින් තාත්තා ගෙන් රූබල් තුන්දහක් ඉල්ලන්න."

"අයියේ, නුඹට මොකද වෙලා තියෙන්නේ ?" ඉඳ ගත් තැනින් වහා නැගී සිටි අලෝෂා මීතියා ගේ උමතුවෙන් අඳුරුවූ දැස බලා විමසුවේ ය. මීතියා උමතුවෙන් දෙඩවන්නේ ය යි අලෝෂා කල්පනා කෙළේ ය.

"මට පිස්සු නැහැ" යි මීතියා මලණුවන් දෙස සැලකිල්ලෙන් බලා කී ය. "භයවන්න දෙයක් නැහැ. කොහොම වුණත් මා නුඹව තාත්තා ළඟට යවනවා. මා හොඳ සිහිකල්පනාවෙන් කතා කරන්නේ. හාස්කම් ගැන මගේ විශ්වාසයක් තියෙනවා."

"හාස්කම් ගැන විශ්වාස කරනවා ?"

"ඔව්, දෙවියන්ගේ හාස්කම් ගැන මගේ විශ්වාසයක් තියෙනවා. මගේ හිතේ හැටි දෙවියන්වහන්සේ හොඳට දන්නවා මගේ ශෝකයේ තරම එතුමා දන්නවා. මේ කාරණාව ගැන අග මුල දන්නේ දෙවියන් පමණයි. කිසි ම විපත්තියක් සිදුවීමට එතුමා ඉඩ දෙන්නේ නැහැ. මල්ලී හාස්කම් ගැන මගේ විශ්වාසයක් තියෙනවා. ඒක නිසා තාත්තා හමුවී මුදල් ඉල්ලන්න"

"හොඳයි, මම යන්නම්. නමුත් මා එන තෙක් මෙ තැන සිටිනවද ?"

"හොඳයි, මම ඉන්නම්. නමුත් නුඹට එන්න ටික වෙලාවක් ගතවේවි. ගිය හැටියේ ම මුදල් ඉල්ලන්න එපා. මෙලහකට තාත්තා වෙරිවෙලා ඇති. මම නුඹ එන තෙක් පැයක්, දෙකක්, තුනක්, නැහැ පැය හතක් ම බලා ඉන්නම්. නමුත් මතක තියා ගන්න අද මුදල් ඇතිව හෝ නැතිව හෝ කැතිරිනා හමුවන්න ඕනෑ. මහ රට වුණත් කමක් නැහැ. ගිහින් මා කියාපු දෙය වචනයක් නැර කියන්න ඕනෑ."

" නමුත් ගෘසෙන්කා අද හෝ හෙට හෝ අනිද්දා හෝ තාත්තා ළගට ගියොත් මොකද කරන්නේ? "

" ගෘසෙන්කා යන වෙලාව කොහොම හරි දැනගෙන ගෙට පැනලා ඇය නතර කරනවා. "

" බැරි වුණොත්————? "

" බැරි වුණොත් මෙ තැන මිනීමැරුමක් වේවි. මා කොහොමටත් ගෘසෙන්කාට ඉඩ දෙන්නේ නැහැ තාත්තා ළගට යන්න. "

" කවුද මරන්නේ ? "

" මැරුම් කන්නේ නාකියා. මට ගෘසෙන්කා මරන්න බැහැ. "

" අයියේ, නුඹ මොනවද මේ දොඩන්නේ ? "

" මා දන්නේ නැහැ——— සමහර විට තාත්තා මරන්නත් පුළුවනි, නොමරන්නත් පුළුවනි. මගේ හිතේ බයක් තියෙනවා හිටිහැටියෙ ම තාත්තාගේ මුහුණ නිසා මගේ හිතේ තද කෝපයක් ඇති වේය කියා. මිනිහ ගේ මුහුණ කෙතරම් කැතද! මිනිහ ගේ උගුරු ඇටයයි, නහයයි, ඇස් දෙකයි, විලිලැජ්ජා නැති විරිත්තිල්ලයි මට පෙන්නන්න බැහැ. මගේ හිතේ ලොකු පිළිකුලක් ඇති වෙනවා. අන්න ඒ නිසයි මට බය. එවැනි වේලාවකදී හිත දමනය කරගන්න බැරි වේය කියා මට බයයි. "

" එහෙනම් මම ගිහින් එන්නම්. දෙයියන් ගේ පිහිටෙන් කිසි ම ඇබැද්දියක් නොවී හැම දෙයක් ම යහපත් ලෙස අවසන් වේය කියා මා විශ්වාස කරනවා. "

" හොඳයි එහෙනම් හාස්කමක් සිදුවනතෙක් මම බලා සිටින්නම්. නමුත් හාස්කමක් සිදුනුණොත්——— "

අලෝෂා කල්පනා කරමින් පියා ගේ මහ ගෙය බලා ගියේ ය.

## හය වන පරිච්ඡේදය

## නොහික්මුණු දාසයා.

අලෝෂා යන විට පියා මේසය ළඟ හිඳ සුරා බොමින් සිටියේ ය. මහගෙට භෝජනාගාරයක් තිබුණත් සිරිත් පරිදි කෑම මේසය පිළියෙළ කර තිබුණේ විසිත්ත කාමරයෙහි ය. පරණ මෝස්තරයේ පිට ඔපයෙන් යුත් ගෘහභාණ්ඩ තබා ඇති විසිත්ත කාමරය ගෙයි විශාලතම කාමරය යි. සුදු පැහැති එම ගෘහභාණ්ඩ පාට ගිය පැරණි රතු පාට රෙදිවලින් පෝරු දමා තිබිණි. බිත්තියේ කවුළු අතරේ විශාල කැඩපත් එල්ලා ඇත. ඉන් සමහරක් පැරණි මෝස්තරයේ කැටයම් රාමුවල දමන අතරේ අනෙක් කැඩපත් සුදු රාමුවල ද රත්රන් පාට රාමුවල ද දමා තිබේ.බොහෝ තැන්-වල ඉරුණු සුදුපාට කොළ අලවන ලද බිත්තිවල විශාල චිත්‍ර දෙකක් එල්ලා ඇත. ඉන් එකක් මීට හවුරුදු තිහකට පෙර මෙම පළාතේ ආණ්ඩුකාර ධුරය දැරූ කුමාරයකු ගේ චිත්‍රයකි. අනෙක බොහෝ කලකට පෙර මියගිය බිෂොප් කෙනකු ගේ චිත්‍රයකි. දෙර ඉදිරිපිට මුල්ලේ සුරුවම් කීපයක් තබා තිබේ. හැම ද සවස අඳුරු වැටුණු පසු සුරුවම් ඉදිරිපිට පහනක් දල්වනු ලබන්නේ ශ්‍රද්ධාවට වඩා කාමරය එළිය කරනු පිණිස ය. සාමාන්‍යයෙන් පියෝදර් කරමසෝ නිදාගන්නේ පාන්දර තුනට හෝ හතරට පමණ ය. එහෙත් ඔහු කාමරයේ ඒ මේ අතට සක්මන් කරමින් කාලය ගතකරයි. නැතිනම් පුටුවක හිඳ කල්පනා කරයි. මෙය ඔහුට අත්හැරිය නොහැකි පුරුද්දකි. දාසයන් ඔවුන්ගේ නිවෙසට යවා මහ ගෙයි තනියෙන් ම නිදා ගනියි. එහෙත් සිරිත් පරිදි දාසයන් ගේ ගෙට නොයන පැවල් පමණක් ශාලයේ බන්කුවක් උඩ නිදා ගත්තේ ය.

අලෝෂා පැමිණෙන විට ගෙදර අය රාත්‍රි භෝජනය ගෙන සිටියත් අනතුරුව ගන්නා කැවිලි පෙවිලි සහිත කෝපි ගෙන නො සිටියහ. රාත්‍රි භෝජනයෙන් පසු බ්‍රැණ්ඩි සමග පැණි රස කෑමට කරමසෝ ඉතා කැමැති ය. ඉවාන් ද පියා සමග හිඳ කෝපි බොමින් සිටියේ ය. ගිරිගෝරිස් හා පැවල් මේසය ළඟ සිට ගෙන සිටියෝ ය. ස්වාමිවරුන් දෙදෙනා හා දාසයන් දෙදෙනා කවරදුවත් නැති ප්‍රීතියකින් සිටින බව පෙනේ. මහලු කරමසෝ කොක්හඬලා සිනාසුණේ ය. හොඳට අසා පුරුදු පියාගේ සිනාව, ගෙට ඇතුළු වීමට පෙර අලෝෂාට ඇසිණි. සුරාවෙන් පදම් වූ තාත්තා ප්‍රීතියෙන් සිටින බවත්, තවම මත් වී නැති බවත්, අලෝෂා සිනාවෙන් දැන ගත්තේ ය.

" මෙන්න ඉන්නවා!, මෙන්න ඉන්නවා! "යි මහල්ලා අලෝෂා දැක ප්‍රීතියෙන් කෑගා කී ය. " වරෙන් පුතා වරෙන්, ඇවිදින් කෝපි ටිකක් බීපන්. කෝපි කොරොසම කාලයට සුදුසු බීමක්. කෝපි උණුයි. උඹ උපවාසය කරන නිසා බ්‍රැණ්ඩි දෙන්නේ නැහැ——— සමහරවිට උඹ පොඩි අඩියක් ගහන්න කැමැති ඇති. නැහැ උඹට මම හොඳ ප්‍රසිද්ධ බීම ජාතියක් දෙන්නම්. පැවල්, සේප්පුවේ දෙවන තට්ටුවේ දකුණු පැත්තේ තියෙන බෝතලය අරන් වරෙන්, මෙන්න යතුර. ඉක්මනට ගෙනෙන්."

අලෝෂා විශේෂ බීම වර්ගය ප්‍රතික්ෂෙප කෙළේ ය.

" කමක් නැහැ, උඹට එපා නම් අපි බොන්නම් " යි තාත්තා සිනාසෙමින් කී ය. " උඹ කෑම කෑව ද ? "

" ඔව් " යයි අලෝෂා කීය. එහෙත් නායක පියතුමා ගේ භෝජනාගාරයේ දී ගත් පාන්පෙත්ත හා කවාස් වීදුරුව හැරෙන්නට ඔහු තව ම කිසි ම ආහාරයක් ගෙන නැත. උවමනා නම් මම උණු කෝපි ටිකක් බොන්නම්."

" බොහො ම හොඳයි, බොහො ම හොඳයි. මගේ පුතා කෝපි ටිකක් බොනවලු. කෝපි රත් කරන්න උවමනා ද? නැහැ නැහැ, රත් කරන්න උවමනා නැහැ. කෝපි උණුයි. ඉස්තරම් කෝපි. පැවල් කෝපි වක්කරන්නවත් මාළු තලප හා සුප් හැදිල්ල ටත් බොහො ම සමර්ථයි. දවසක් වරෙන් පැවල් ගේ මාළු සුප් බොන්න———හැබැයි එනවනම් කල් ඇතිව කියන්න ඕනෑ——— මා අද උඹට කිව්වා නේද පැදුරයි කොට්ටයයි අරන් ගෙදර එන්නය කියා ? ඉතින් උඹ පැදුරයි කොට්ටයයි ගෙනාව ද? හා! හා ! හා ! "

" නැහැ "යි අලෝෂා ද සිනාසෙමින් කී ය.

" කොහොම වුණත් අද උදේ උඹ හොඳට ම භය වුණා නේද? පුතා, උඹේ හිත රිදෙන කිසි ම දෙයක් මා කරන්නේ නැහැ. ඉවාන් උඹේ මල්ලී මුහුණ දිහැ බලාගෙන හිනාවෙන හැටි දකින කොට බොකු බඩවැල් හෙලවෙනකන් මට හිනා යනවා. මම අලෝෂාට බොහො ම ආදරෙයි. අලෝෂා මෙහාට වරෙන්, මගේ ශුභාංසනය දෙන්න."

පියාගේ ශුභාංසනය ලබාගැනීම පිණිස අලෝෂා නැඟී සිටියේ ය. එහෙත් ඊට පෙර කරමසෝ ගේ සිත වෙනස් විය.

"නැහැ නැහැ, දූනට මම උඹේ ඔළුව උඩින් කුරුසිය වීතරක් අඳින්නම්. නැගිටින්න උවමනා නැහැ. ඔහොම ඉඳගනින්. දූන් මම උඹේ අදහස්වලට ගැළපෙන කතාවක් කියන්නම්. ඒ කතාව අහලා උඹට හිනා වෙන්න පුළුවනි. උඹ එන්න ඉස්සෙල්ලා බලාම් ගේ බූරුවා කතා කරන්න පටන්ගත්තා. බලන්න ඕනෑ ඌ කතා කරන හැටි. ඉල කැඩෙනකන් හිනා වෙන්න පුළුවනි."

'බලාම්ගේ බූරුවා' යන නමින් හඳුන්වන ලද්දේ කරමසෝව්ගේ කෝකියා වන පැවල් සෙමාඩියාකෝෆ් ය. හවුරුදු විසිහතරක් පමණ වයසැති පුදුම ගතිගුණ ඇත්තෙකි. ඔහු මිනිසුන් සමග ආශ්‍රයට කැමැති නැති. කතා කිරීමට කැමැති නැති ඔහු කතා නොකළේ ලැජ්ජාව නිසා නො වේ. අහංකාර සිත් ඇති පැවල් හැම දෙනාට ම අපහාස කෙළේ ය. අප මෙහි දී මඳක් නතර වී මේ තරුණයා ගැන හැඳින්වීමක් කළයුතුයි. කුඩා කල සිට පැවල් හදා වඩා ගන්නා ලද්දේ ගිරිගෝරිස් හා මාපා විසිනි. ගිරිගෝරිස් කියන්නාක් මෙන් පැවල් කිසි ම කෙළෙහිගුණයක් නැති ව වැඩුණේ ය. ඉතා නපුරු ය. ලෝකයා කෙරෙහි කිසි ම විශ්වාසයක් නොතැබුවේ ය. බළලුන් බෙල්ලෙන් එල්ලා මරා අනතුරුව උත්සවාකාරයෙන් වළලැම කුඩා කාලයේදී ඔහු ප්‍රිය කළ ක්‍රීඩාවකි. දේවගැතියෙකු මෙන් සුදු රෙද්දක් ඇඳගන්නා පැවල් දුම්කබලක් උඩින් කොළ අත්තක් වනන්නාක් මෙන් බළලාගේ මළ කුණ උඩින් යම් කිසි දෙයක් වනමින් සින්දු කීවේ ය ඔහු මේ සෙල්ලම කරන්නේ හොර රහසින් ය. දිනක් ගිරිගෝරිස් පැවල් අල්ලා කවරදුවත් අමතක නොවන ලෙස තැළුවේ ය. තැළුම් කෑ පැවල් ගෙයි මුල්ලකට රිංගා ගෙන සතියක් පමණ කල් කිසිවකු සමග කතා නොකර සිටියේ ය. "මේ වල් සතා උඹටවත් මටවත් කිසි ම සැලකිල්ලක් දක්වන්නේ නැහැ. මූ කිසි ම කෙනකුට සලකන්නේ නැහැ." යි ගිරිගෝරිස් බිරිඳට කීවේ ය. "උඹ මනුෂ්‍යයෙක්ද?" ඔහු අනතුරුව පැවල් ගෙන් විමසුවේ ය. "නැහැ, උඹ මනුෂ්‍යයෙක් නොවෙයි. උඹ නානගෙයි පුස්වලින් උපන් මිනිහෙක්." ගිරිගෝරිස් කළ මේ අපහාසය පැවල්ට කවරදුවත් අමතක නොවූ බව අපට පසු ව දූනගත හැකි ය. පැවල්ට ලියන්නටත් කියවන්නටත් ඉගැන්වූ ගිරිගෝරිස් හවුරුදු දොළහෙන් පසු බයිබලය ඉගැන්නුවේ ය. එහෙත් ඒ ඉගැන්ම ගඟට හිනි කැපුවා වැන්න. ඉගැනීම හිටිහැටියේ ම අවසන් විය. දෙ වන තුන් වන පාඩමේ දී පැවල් හිටිහැටියේ ම දත නියවා සිනාසුණේ ය.

"මොකද උඹ හිනා වෙන්නේ ?" යි ගිරිගෝරිස් උපැස් යටින් කොලුවා දෙස රවා බලා ඇසුවේ ය.

" මුකුත් නැහැ. දෙයියන්වහන්සේ පළමු දවසේ ලෝකය මැව්වලු. ඉර හඳ තාරකා මැව්වේ හතර වන දවසේ ලු. එහෙනම් පළමු දවසේ ආලෝකය ඇති වුණේ කොහෙන් ද ? "

ගිරිගෝරිස් බිරාන්ත විය, ගෝලයා ගුරුවරයා දෙස උපහාසාත්මක බැල්මක් හෙළුවේ ය. ඔහු ගේ බැල්මේ උඩඟුරම් ගතියක් තිබිණි. සිත මැඩගත නොහැකිවූ ගිරිගෝරිස් "මම තොට පෙන්නන්නම් ආලෝකය ඇතිවුණේ කොහෙන් ද කියා " පැවල් ගේ කම්මුල හරහා පහරක් ගැසුවේ ය. වචනයක්වත් නො කියා කම්මුල් පහර පිළිගත් ළමයා ආයේත් ගෙයි මුල්ලට වී ටික දිනක් තුෂණිම්භූතව සිටියේ ය. සතියකට පස්සේ ඔහුට පළමු වරට අපස්මාරය වැළඳුණි. ඔහු ජීවත්ව සිටින තුරා මේ රෝගය සුව කළ නො හැකි විය. පැවල්ට අපස්මාරය වැලඳුණු බව ආරංචි වූ වහා ම කාරමසෝ ඔහුට අමුතු සැලකිල්ලක් දක්වූයේ ය. මීට පෙර කරමසෝ පැවල්ට වැඩි සැලකිල්ලක් නො දක්වී ය. කවරදා වත් පැවල්ට නො බැන්නේ ය. ළමයා හමු වූ හැමවිට ම කොපෙක් කාසියක් දුන්නේ ය. සතුටින් සිටිය වෙලාවල දී පැවල්ට පැණි රස කෑම යැව්වේ ය. එහෙත් අසනීප වූ බව ආරංචි වූ වහා ම ළමයාට අමුතු සැලකිල්ලක් දක්වීය. වහා දොස්තර කැඳවා ළමයා පෙන්නා අසනීපය සුව කළ හැකි දැයි ඇසුවේ ය. එය සුව කළහැකි රෝගයක් නොවී ය. සාමාන්‍යයෙන් මසකට වරක් පැවල්ට අපස්මාරය වැලඳෙයි. සමහර විට යන්තම් වැලඳෙයි සමහරවිට දුඃසාධ්‍ය වෙයි. මීට පස්සේ පැවල්ට දඬුවම් නොකරන ලෙස ගිරිගෝරිස්ට අවවාද කළ කරමසෝ උඩුමහලේ තිබෙන ඔහුගේ කාමරයට ඒමට පැවල්ට ඉඩදුන්නේ ය. ටික කලක් ගත වන තුරු කිසි ම දෙයක් ඉගැන්වීම තහනම් කෙළේ ය. පැවල් නිතර පොත් අල්මාරිය ළඟට ගොස් වීදුරු තුළින් පොත්වල නම් කියවන බව කරමසෝ දුටුවේ ය.ඒ කාලේ පැවල්ගේ වයස හවුරුදු පහළොවක් පමණ ඇත. කරමසෝ ළඟ පොත් සියයකට වඩා තිබිණි. එහෙත් ඔහු පොතක් කියවනවා කිසිවෙකු කවරදාවත් දැක නැත. වහා පැවල්ට කතා කොට පොත් අල්මාරියේ යතුර දුන් මහල්ලා "වරෙන් පුතා, මීට පස්සේ උඹ මගේ පොත් අල්මාරිය බලා ගනින්. වත්තේ ඇවිදිනවට වැඩිය හොඳයි මෙ තැන ඉඳ ගෙන පොත් කියවන එක. ඉඳ මේ පොත කියවපන් " යි කියමින් + 'ඩිකාන්කාව අසල ගොවි පොළක ගත කළ සන්ධ්‍යා කාලය' නමැති පොත දුන්නේ ය.

---

+ Evening near a farm in Dikanka – මෙය නිකොලායි ගොගොල් ගේ පොතකි.

පැවල් පිටු කීපයක් කියෙව්වේ ය. එහෙත් ඊට වැඩි කැමැත්තක් නො දැක්වී ය. සිනා නොවූ ළමයා රවා බලා පොත ඉවත තැබුවේ ය.

"මොකද පොත හොඳ නැද්ද? පොත කියවා හිනා වෙන්න පුළුවන්නේද ?" යි සවාමියා ඇසුවේ ය. ළමයා කතා නො කෙළේ ය.

"කතා කරපන් මෝඩයා."

"පොතේ තියෙන්නේ සේරම බොරු" යි ළමයා දත තියවා සෙමින් කියවී ය.

"එහෙනම් තෝ යකාට පලව්වදෙන්. තෝ උපන් ගෙයි දූසයෙක්. ඔහොම හිටපන්. මේ තියෙන්නේ 'ලෝක ඉතිහාසය. සේරම ඇත්ත. ඉඳ පොත අරන් කියවපන්."

පැවල් පිටු දහයක්වත් නො කියවී ය. ලෝක ඉතිහාසය නීරස යයි අදහස් කෙළේ ය. එ හෙයින් ආයේත් පොත් අල්මාරිය වසා දමනු ලැබී ය.

ඊට ටික කලකට පස්සේ පැවල් ආහාරපානාදියට අප්‍රිය පිළිකුලක් දක්වීමට පටන් ගෙන සිටින බව ගිරිගෝරිස් හා මාපා සවාමියාට පැමිණිලි කළහ. සුප් පිගාන ළඟ හිඳගන්නා පැවල් සුප් පිගාන දෙස පරීක්ෂාවෙන් බලා අනතුරුව හැන්දට සුප් ටිකක් ගෙන පහන් එළියට අල්ලා බලයි.

"මොකද සුප් එකට කැරපොත්තෙක් වැටිල ද?"යි ගිරිගෝරිස් අසයි.

"නැහැ, මැස්සෙකු වෙන්න ඇති" මාපා කීවා ය.

එහෙත් පිළිතුරු නුදුන් පැවල් මස්, පාන් ආදී හැම ආහාරයක් ම මෙසේ හෝදිසි කර බැලුවේ ය. ගැරුප්පුවට ආහාර සවල්පයක් ගන්නා ඔහු එය අනුභව කිරීමට තීරණය කරන්නේ බොහෝ වේලා මෙසේ සෝදිසි කිරීමෙන් අනතුරුව ය.

"උඹ කෑම කන්නේ හරියට ලොකු මහත්මයකු වගෙයි" ගිරිගෝරිස් පැවල් දෙස බලා කී ය.

පැවල් තුළ ඇතිවූ මේ වෙනස දැනගත් කරමසෝ පැවල් තමාගේ කෝකියා කරගැනීමට අදහස් කොට ඒ සඳහා පුහුණුවක් ලබා ගැනීම පිණිස මොස්කව් නුවරට යැව්වේ ය. මොස්කව් නුවර හවුරුදු කීපයක් ගතකොට ගමට පැමිණි පැවල් රූපයෙන් බොහෝ සේ වෙනස් වී සිටියේ ය. වයසට වඩා මහලු විය.

දුර්වල පෙනුමෙන් යුත් රැලි වැටුණු මුහුණ කහපාට විය. ගතිගුණ-වලින් නම් මඳ පමණිත්වත් වෙනස් නො වී ය. ඔහු සමාජය තුරුස්සන්නෙක් විය. කිසිවකු සමග මිත්‍ර වීමට කැමැති නොවී ය. මොස්කව් නුවරදී ද ඔහු තුෂ්ණිම්භූතව සිටිය බව අපට පසුව දැන ගන්නට ලැබිණි. ඔහු මොස්කව් පුර අලංකාරයට ද වැඩි කැමැත්තක් නො දැක්විය. පැවල් නගර විසිතුරු කිසිවක් නො බැලුවේ ය. වරක් නාට්‍යයක් බැලීමට ගිය පැවල් නිහඬව ආපසු පැමිණියේ නාටක ගැන ඇති කරගත් පිළිකුලින් යුතුව ය. එහෙත් ඔහු ගමට පැමිණියේ අලංකාර ලෙස ඇඳ පැළඳ ගෙන ය. නිතර පිරිසුදුවට ඇඳ සිටින හෙතෙම දවසකට දෙවරක් ඇඳුම් මැද්දේ ය. කැඩපතක් මෙන් දිළිසෙන්නට ඉංග්‍රීසි පොලිෂ් වර්ගයකින් පාවහන් ඔප දැමීම ඔහුට මහත් විනෝදයක් විය. ඉතා දක්ෂ කෝකියකු වූ ඔහුට පියෝදර් කරමසෝ පඩියක් ගෙව්වේ ය. පැවල් මුළු පඩියම ඇඳුම් පැළඳුම් හා සුවඳ විලෙවුන් සඳහා වියදම් කෙළේ ය. මිනිසුන්ට දක්වන පිළිකුල ගැහැනුන්-ටද දැක්වී ය. කරමසෝ පැවල්ට සැලකුවේ අනෙක් දාසයන්ට සල කන්නාක් මෙන් නො වේ. දැන් ඔහු නිතර අසනීප වෙයි. අසනීප වූ දිනවල දී ආහාර පිළියෙළ කෑරුණේ මාපා විසිනි. එහෙත් මාපා පිළියෙළ කරන ආහාරයට කරමසෝ වැඩි රුචියක් නො දැක්වී ය.

"ඇයි උඹ දැන් නිතර අසනීප වෙන්නේ ?'' යි දිනක් මහලු ස්වාමියා තරුණ කෝකියා ගේ මුහුණ සෝදිසියෙන් බලා ඇසුවේ ය. "උඹ කසාද බඳින්න කැමැති නැති ද ? උඹට මගුලක් කතා කරන්නද ?''

කෝපයෙන් සුදුමැලි වූ තරුණයා මුවෙන් නොබැණ සිටියේ ය. කරමසෝ නොසැලකිල්ලෙන් අත වනා කතාව නතර කෙළේ ය. එහෙත් තරුණයා කෙරෙහි දැඩි විස්වාසයක් තැබුවේ ය. දිනක් කරමසෝ සුරා බී සිහි විකල වී සිටියේ ය. එ වේලේ ඔහු ළඟ තිබුණු රූබල් තුන් ලක්ෂයක් මිදුලේ මඩ ගොඩක් මත වැටිණි. මුදල් නැති වූ බව ඔහු දැනගත්තේ පසු ද ය. සාක්කුව අවුස්සමින් මුදල් සොයන මේසය උඩ තිබුණු නෝට්ටු මිටිය දුටුවේ ය. මේ මුදල් මෙසය උඩට ආවේ කෙසේ ද ? පෙර දින පැවල් මිදුලේ වැටී තිබුණු මුදල් අහුලා මේසය උඩ තැබුවේය.

"ඉලන්දරියා උඹ වගේ මිනිහෙකු මා කවදාවත් දැකලා නැහැ'' යි ටික දිනකට පස්සේ කරමසෝ, පැවල්ට රූබල් දහයක් දෙමින් කී ය. අනෙක් අය දෙස රවා බලන්නාක් මෙන් තරුණයා කරමසෝ දෙස රවා බැලුවත් කරමසෝ තරුණයා ගේ අවංක කම ගැන විශ්වාස කළා පමණක් නොව කිසියම් හේතුවක් නිසා

විශේෂ කැමැත්තක් දක්වූ බව ද මෙහිලා සඳහන් කළයුතු ය. පැවල් කලාතුරකින්වත් මහලු ස්වාමියා සමග කතා නො කෙළේ ය. මේ තරුණයා කැමැති කුමන දෙයකට ද? ඔහු කල්පනා කරන්නේ කුමක් ගැනදැයි එ කල යම් කිසිවකුට අදහස් වුණා නම් තරුණයා ගේ මුහුණ බලා ඔහුට කිවනොහැකි වෙයි. එහෙත් ඇතැම් විට හිටිහැටියේ ම ගෙදර හෝ මිදුලේ හෝ මහ මග හෝ සිටි තැන ම නතර වී මිනිත්තු දහයක් පමණ වේලා කල්පනා කරයි. 'මුහුණ බලා ශාස්ත්‍ර කියන කෙනෙකු පැවල් ගේ මුහුණ බලා එහි කිසි මු අදහසක් හෝ සිතිවිලි මාත්‍රයක් හෝ නැත. ඇත්තේ භාවනාවක යෙදී සිටින්නකු ගේ මුහුණේ ඇති ලක්‍ෂණ පමණ ය'යි කියන්නට පිළිවන. ක්‍රම්ස්කෝයි නමැති චිත්‍රශිල්පියා විසින් අඳින ලද 'භාවනාව' නමැති අපූර්ව චිත්‍රයක් ඇත. සීත කාලයේ හිමෙන් වැසුණු ගසින් යුත් වනාන්තරයක් එම චිත්‍රයෙහි දකින්නට තිබේ. ඒ වනය මැදින් පාරක් වැටී ඇත. ඒ පාළු පාර මැද ඉරී ගිය කබායක් හා පාවහන් යුවලක් පැළඳගත් ගැමියෙක් කල්පනාවේ ගිලී සිටින්නකු මෙන් බලා සිටියි. එහෙත් ඔහු කල්පනා කරන්නෙත් නැත, භාවනා කරන්නෙත් නැත. යම් කිසි-වෙකු ඔහු ගේ ඇගට අත තැබුව හොත් නින්දෙන් අවදිවූවකු මෙන් ඔහු වහා පුදුමයෙන් බලනු ඇත. සැණෙකින් ම ඔහු ප්‍රකෘති තත්ත්වයට පැමිණෙන බව සැබෑ ය. එවිට තමා කල්පනා කළේ කුමක් ගැන දැයි ඔහුගෙන් විමසුව හොත් පිළිතුරු දීමට නොදනියි. මෙසේ භාවනාවේ යෙදී සිටින විට ඔහු තුළ ඇතිවූ චිත්ත සුවය ඔහුට කිසි කලෙක අමතක නො වෙයි. ඔහු එය හැමදා සිතේ සඟවා ගෙන සිටිනු ඇත. ඒ චිත්ත සුවය ඔහුට බොහෝ අගනා බැවින් නො කල්පනාවෙන් ම ඔහු ඒ හැඟීම් රැස් කරනු ඇත. එසේ කරන්නේ කුමන කරුණක් නිසා දැයි විමසුව හොත් ඔහු එය නො දන්නා බව කියනු ඇත. සමහර විට මෙසේ කාලයක් තුළ මේ චිත්ත සුවය රැස් කරගත් හෙතෙම හිටිහැටි-යේම ආත්ම ගැලවිල්ල පතා යෙරුසලමට වන්දනාවේ යයි. සමහර විට වන්දනාව පසකින් තබා මුළු ගමට ම ගිනි තබයි. නැතිනම් ඒ දෙක ම කරයි. මෙසේ භාවනාවේ යෙදෙන අය අපේ ගැමි යන් අතරේ එමට සිටිති. කිසි ම සැකයක් නැති ව පැවල් එවැන් නකු විය හැකි ය. සමහර විට ඔහු ද කිසිවක් නොදන භාවනා-වෙන් ලබනා චිත්ත සුවය ආසාවෙන් රැස් කරනවා විය හැකි ය.

## හත් වන පරිච්ඡේදය

## වාදය

එහෙත් බලාම් ගේ බූරුවා හදිසියෙන් ම කතා කෙළේ ය. ඔහු කතා කෙළේ පුදුම කරුණක් ගැන ය. එදින පත්තරේ පළ වූ රුසියන් සොල්දාදුවකු පිළිබඳ කතාවක්, උදේ කඩේට ගිය ගිරිගෝරිස්ට කඩකාරයා විසින් කියන ලදි. ආසියාවේ අප්‍රකට පළාතක දී එක්තරා පිරිසක් විසින් සොල්දාදුවකු සිරභාරයට ගෙන තමා කිතු සමය අත් හැර ඉස්ලාම් ධර්මය වැළඳ නො ගත්තොත් දඬු වද දී මරා දමන බවට තර්ජනය කරන ලදී. එහෙත් ආගම අත්හැරීමට අකැමැති වූ සොල්දාදුවා පණපිටින් හම ගසා මරන ලදි. ක්‍රිස්තුන් වහන්සේට ප්‍රශංසා කරමින් අවසන් හුස්ම හෙළුවේ ය. මේ පුවත එදින පත්‍රයේ පළ වී තිබිණි. රාත්‍රී කෑම කන අතරේ ගිරිගෝරිස් මේ කතාව කීවේ ය. රෑ කෑමෙන් අනතුරුව කැවිලි පෙවිලි කරන අතරේ ගිරිගෝරිස් සමග පමණක් කතා කරමින් සිනාසීම මහලු කරමසෝ ගේ සිරිත ය. එදින සවස ඔහු වෙනදාට වඩා ප්‍රීතියෙන් සිටියේ ය. බ්‍රැන්ඩි පානය කරන අතරේ මේ කතාවට සවන් දුන් කරමසෝ, මේ සොල්දාදුවා සාන්තුවරයකු ලෙස නම් කොට ඔහු ගේ හම තාපසාරාමයකට යැවිය යුතුයයි කී ය. "එහෙම කළොත් හම බලා වැඳ පුදා ගැනීමට වැල නොකැඩී මහාජනයා එන්නට පටන් ගනීවි. ඒ වැඩෙන් තාපසාරාමයට සම්මාදම් මගින් විශාල ආදා-යමක් ලැබෙන්නට පුළුවනි."

කතාව අසා ස්වාමියා තුළ ශ්‍රද්ධාවක් ඇති නොවූ බවත් ඒ වෙනුවට ඔහු සිරිත් පරිදි ආගමට අපහාස කිරීමට පටන්ගත් බවත් දුටු ගිරිගෝරිස් රවා බැලුවේ ය. ඒ අතරේ දොර ළඟ සිටි පැවල් සිනාසෙන්නට විය. රෑ කෑම අවසන් වන විට මේසය ළඟට පැමිණීමට පැවල්ට ඉඩ දී තිබිණි. ඉවාන් ගේ පැමිණීමෙන් පසු පැවල් හැම දාම මේසය ළඟට පැමිණියේ ය.

"උඹ මොකද දත විරිස්සන්නේ ?" යි කරමසෝ විමසුවේ පැවල් ගිරිගෝරිස්ට සිනාසෙන බව දැනගෙන ය.

"අර සොල්දාදුවා ගේ ක්‍රියාව බොහො ම ශ්‍රේෂ්ඨයි. නමුත් හාමුදුරුවනේ මගේ කල්පනාවේ හැටියට සොල්දාදුවා ඒ හදිසි අවස්ථාවේ දී ජීවිතය බේරා ගැනීමට ක්‍රිස්තියානි ආගම අත්හැරියා නම් පවක් සිද්ධ වෙන්නේ නැහැ. එහෙම කළානම් තමා අතින්

සිද්ධ වූ වරදට වන්දි ගෙවීමක් වශයෙන් යහපත් වැඩ කිරීමට ජීවත් වන්න තිබුණා.'' පැවල් හිටිහැටියේ ම බලාපොරොත්තු නොවූ හඬින් කී ය.

"පවක් සිද්ධ වෙන්නේ නැහැ කියන කතාවේ තේරුම මොකක්ද ?'' යි කරමසෝ හදිසියෙන් ම කතාවට එක් වෙමින් ඇසුවේ ය. "ඉලන්දුරියා උඹ කියන්නේ පිස්සු කතාවක්. ඒ පවට උඹ අපායට ගිය වහා ම යමපල්ලන් උඹව එළු මස් රෝස් කරනව වගේ පුච්චාවි.''

අලෝෂා කාමරයට පිවිසියේ මේ මොහොතේ දී ය. අප ඉහත සඳහන් කළාක් මෙන් පුතාගේ පැමිණීමෙන් පියා අපමණ සතුටට පත් විය.

"අප කතා කරන්නේ උඹට අයිති කරුණක් ගැනයි'' සිනා සෙමින් පැවසූ මහලු පියා වාඩි වී කතාවට සවන් දෙන ලෙස අාලෝෂාට කීවේ ය.

"යුක්තිධර්මයේ හැටියට මෙ වැනි දෙයක් ගැන කතා කළාට අපායට යන්නේ නැහැ. අපායේ මස් රෝස් කරනවා වගේ මිනිසුන් පුච්චන්නේ නැහැ.'' පැවල් සෙමෙන් කී ය.

"මොකද යුක්තිධර්මයේ හැටියටයි කිව්වේ?'' යි තවමත් සිනා සෙමින් ඇසූ කරමසෝ අනතුරුව අලෝෂාට දණහිසින් ඇන්නේය.

"හාමුදුරුවනේ, මේකා මහ තක්කඩියා'' යි ගිරිගෝරිස් කෝපයෙන් තරුණයා දෙස බලා හිටිහැටියේ ම කෑගා කී ය.

"ඔය තරම් ඉක්මන් වෙන්න එපා මට තක්කඩියා කියා චෝදනා කරන්න'' යි පැවල් සන්සුන් සිතින් කීය. "හොඳයි ටිකක් කල්පනා කරලා බලාපන්. ක්‍රිස්තියානි ආගමේ සතුරන් මා සිරභාරයට ගෙන මට කියනවා දෙයියන් වහන්සේට සාප කරලා ආගම අත්හරින්න ය කියා. එ වැනි අවස්ථාවක දී මට අයිතියක් තියෙනවා තැනට සුදුසු විදියට, මගේ අදහසේ හැටියට කටයුතු කරන්න, ඒක පාපයක් වන්නේ කොහොමද ?''

"උඹ ඔය කතාව මීට ඉස්සෙල්ලා වතාවකුත් කිව්වා. උඹ කියන දෙය ඔප්පු කරපන්'' යි කරමසෝ කී ය.

"මූට පුළුවන් සුප් තම්බන්න විතරයි'' ගිරිගෝරිස් අවඥා වෙන් කී ය.

"මට නින්දා කිරීමට ඉක්මන් නොවී මා කියන දෙය හොඳට අහලා ටිකක් කල්පනා කරලා බලාපන්, 'මම ක්‍රිස්තු භක්තික-

යෙක් නොවෙමි. මං දෙවියන්වහන්සේට සාප කරනවා' යි මා මගේ සතුරන්ට කියාපු හැටියේ ම, දෙවියන් වහන්සේගේ විනිශ්චය අනුව මා සාප ලද්දෙකු වෙනවා. මා ආගමෙන් පිටු වහල් වෙනවා. මිථ්‍යාදෘෂ්ටිකයෙකු වෙනවා. මේ විදියට කියන්න උවමනා නැහැ, හිතුවත් ඇති. හිතපු හැටියේ ම මා ආගමෙන් පිටුවහල් වෙනවා. එහෙම නේ ද ගිරිගෝරිස් ? "

පැවල් කතා කළේ ගිරිගෝරිස්ට ය. මහල්ලාට මෙසේ කතා කිරීම ඔහුට මහත් විනෝදයක් විය. ඔහු කළේ තම සවාමියා ඇසූ ප්‍රශ්නයට පිළිතුරු දීම ය. එහෙත් ඒ ප්‍රශ්නය ගිරිගෝරිස් ඇසූ බව පෙන්නීමට වෑයම් කෙළේ ය.

" ඉවාන්, උඹට රහසක් කියන්න මෙහාට වරෙන් " යි කරමසෝ හිටිහැටියේ ම පහත් වී ඉවාන්ට කීවේ ය. " මිනිහා කතා කරන්නේ උඹ වෙනුවෙන්. මිනිහට උවමනා කරනවා උඹෙන් ප්‍රශංසාවක් ලබාගන්න. ඉතින් මිනිහට ප්‍රශංසා කරපන්. "

පියා ගේ රහසට ඉවාන් ලොකු සැලකිල්ලක් දක්වී ය.

" කට වහ ගෙන හිටපන් විකකට " යි පැවල්ට කී කරමසෝ ආයේත් වරක් ඉවාන් දෙසට හැරෙමින් " මෙගාට වරෙන් උඹට තවත් රහසක් කියන්න " යි කීවේ ය.

ඉවාන් පියා ගේ රහස ඇසීමේ ආශාවෙන් පියා දෙසට හැරුණේ ය.

" ඉවාන්, මම අලෝෂාට ආදරය කරන තරමට උඹටත් ආදරෙයි. මා උඹට ආදරය නැහැ කියා කල්පනා කරන්න එපා———තව බ්‍රෑන්ඩි අඩියක් ගහනවද ? "

" බොහො ම ස්තුතියි " ඉවාන් කී ය.

" අද තාත්තාට පදමට වැදිලා " යි ඉවාන් පියා දෙස සැලකිල්ලෙන් බලා තමාට ම කියා ගත්තේ ය අනතුරුව පැවල් දෙස බැලුවේය.

" තොට දන්ම ම සාප වෙලා තියෙන එක ඇත්තයි. සාප වෙලා මදිවට තෝ තවත් තර්ක කරනවා————" යි ගිරිගෝරිස් හිටිහැටියේ ම කඩා පනිමින් කෑගා කී ය.

" ගිරිගෝරිස්, පැවල්ට බණින්න එපා. බණින්න එපා " යි කියමින් කරමසෝ ගිරිගෝරිස් ගේ බෑනීම වැළැක්වූයේ ය.

"කෑ නොගා මා කියන දෙය හොඳට අහගනින්. මා තව ම කතා කරලා ඉවර නැහැ" යි තරුණයා ගිරිගෝරිස්ට කී ය. "දෙවියන් වහන්සේට සාපකළ හැටියේ ම, ඒ මොහොතේදීම මා මිථ්‍යාදෘෂ්ටිකයෙකු වෙනවා. මගේ බෞතිස්මය නැති වෙනවා. එහෙම නේද?"

"ඉලන්දරියා, ඉක්මනට උඹේ කතාව ඉවර කරපන්"යි පැවසූ කරමසෝ බ්‍රැණ්ඩි අඩියක් ගසා තලු මැරුවේ ය.

"ඉතින් මම ක්‍රිස්තුභක්තිකයෙක් නො වෙම් නම් 'මම ක්‍රිස්තු භක්තිකයෙකු නොවෙමි' කියා සතුරාට කීමෙන් මා කියන්නේ බොරුවක් නො වෙයි. එහෙම වෙන්නේ සතුරාට මගේ ආගම ගැන වචනයක්වත් කීමට පෙර මා ක්‍රිස්තුභක්තිකයෙකු නොවූ නිසයි, හිතාපු හැටියේ ම දෙවියන් වහන්සේ විසින් ම මා ආගමෙන් ඉවත් කළ නිසයි. ඉතින් මේ ක්‍රමයට මා ආගමෙන් ඉවත් කළා නම් ක්‍රිස්තුභක්තිකයෙකු හැටියට මා ක්‍රිස්තුන්වහන්සේට අපහාස කළාය කියා අනෙක් ලෝකයේ දී මට දඬුවම් කරන්නේ මොන යුක්තිධර්මයක් උඩ ද? මම ක්‍රිස්තුභක්තිකයෙක් නො වෙම් නම් මට ක්‍රිස්තුන්වහන්සේ අත්හරින්න උවමනා නැහැ. මිනිහෙකු ක්‍රිස්තුභක්තිකයෙකු ව ඉපදුණේ නැත කියා අනෙක් ආත්මයේ දී ඒ මිනිහට දඬුවම් කරන්න පුළුවන් ද ? ඒක හරියට හරකෙකු මරලා දෙපාරක් හමගහන්න හදනවා වගෙයි. යම් විදියකින් මේ අන්‍යලබ්ධිකයා ක්‍රිස්තුභක්තිකයෙකු නො වීම, දෙවියන් වහන්සේ විසින් ම වරදක් කොට සලකනවා නම් (මගේ කල්පනාවේ හැටියට) ඔහු ක්‍රිස්තු භක්තිකයෙකු නොවූයේ මිථ්‍යාදෘෂ්ටික මා පියන්ට දුව උපන් නිසා යයි කල්පනා කොට දෙවියන් වහන්සේ ඔහුට ඉතා සුළු දඬුවමක් දෙන්න පුළුවනි. අන්‍ය ලබ්ධිකයෙකු පෙන්නා මේ ක්‍රිස්තු භක්තිකයෙක් ය'යි, කියන්න දෙවියන් වහන්සේට පුළුවන් කමක් නැහැ. එහෙම වුණොත් අපට පෙනෙන්නේ සර්වබලධාරී දෙවියන් වහන්සේ බොරුවක් කියන බවයි. මා හිතන්නේ නැහැ දෙව්ලොවට හා මෙලොවට අධිපති දෙවියන් වහන්සේට හීනෙන්වත් බොරුවක් කියන්න පුළුවන් ය කියා."

ගිරිගෝරිස් බිරාන්ත වී කථිකයා දෙස බලා සිටියේ ය. ඔහු ගේ ඇස් ගුලි දෙවිට පැනීමට තරම් ළං විය. තරුණයා ගේ කතාව ඔහුට හරිහැටි තේරුම් ගත නො හැකි විය. එහෙත් ඒ වැල්වටාරම් කතාවේ කිසියම් හරයක් ඇතැයි කල්පනා කළ ගිරිගෝරිස් බිත්තියකට හිස ගසා ගත්තෙකු මෙන් තෝන්තු වී බලා සිටියේ ය. බ්‍රැණ්ඩි විදුරුව හිස්කළ ඔහුගේ සවාමියා කොක්හඬලා සිනාසුණේය

"අලෝෂා, අලෝෂා, උඹ මොකද මේ කතාව ගැන කියන්නේ? ඉවාන් මේ හාදයා කොහේ දී නමුත් ජේසුයිට් කාරයන් එක්ක ඉඳල තියෙනවා. ගඳගහන ජේසුයිට්වරු - කවුද උඹට ඔය බණ ඉගැන්නුවේ? ආගමට දෙස් කියන උඹලා පිස්සු දෙඩනවා. ගිරි-ගෝරිස් උඹ අඩන්න එපා. අප තව ටිකකින් මිතිහව පුච්චනවා. මට මෙන්න මේ ප්‍රශ්නයට උත්තර දීපන් බූරුවා. සතුරන් ඉදිරිපිට දී උඹේ ක්‍රියාව හරිවෙන්න පුළුවනි. නමුත් උඹ හිතින් ආගම අත්හැරියා. ඒ මොහොතේ දී උඹ සාප ලැබූ පුද්ගලයෙකු වූ බව උඹ ම පිළිගත්තා. ඉතින් උඹ අපායට ගියාම සමපල්ලන් උඹේ ඔළුව අතගා නිකම් ඉන්නේ නැහැ. උඹ ඒකට මොකද කියන්නේ?"

"මා හිතින් ආගම අත්හැරිය බව ඇත්තයි. ඒක විශේෂ පාපයක් නො වෙයි. පාපයක් වුණත් ඒක බොහො ම සුළු පාපයක්"

"කොහොම ද බොහො ම සුළු පාපයක් වෙන්නේ ?"

"තෝ බොරු කියනවා, තොට සාපවේවා"යි ගිරිගෝරිස් කී ය.

"ගිරිගෝරිස්, උඹ, උඹ ගැන ම ටිකක් කල්පනා කරලා බලා-පන්"යි තමා ජයගත් බව දත, එහෙත් පරාජය වූ සතුරාට ත්‍යාගවන්ත බව දක්වන්නාක් මෙන් පැවල් ඉතා සන්සුන්ව කී ය. "උඹේ හිතේ අඹ ඇටයක තරම් වත් භක්තියක් තියෙනවා නම් උඹ කන්දකට කිව්වොත් මුහුදට යන්නටයි කියා ඒ කන්ද වහා ම මුහුදට යන බව බයිබලයේ කියා තියෙනවා. ඉතින් ගිරිගෝරිස් මගේ හිතේ ආගමභක්තිය නැතිනම්, හැම තිස්සේ ම මට සාප කරන උඹ තුළ විශාල ආගමභක්තියක් තියෙන්න ඕනෑ. උඹේ ආගමභක්තියේ තරම මැනගන්න කන්දට කියාපන් මුහුදට යන්න කියා. මෙ තැන ඉඳලා මුහුදට හුගක් දුර යන්න තියෙනවා. මුහුදට යන්න උවමනා නැහැ, අපේ වත්ත අයිනෙන් ගලන කුණු වතුර පිරිච්ච කාණුව ළගට යන්න කියාපන්. උඹට පෙනේවි උඹ උගුර කැඩෙනකන් කෑගැවත් කන්ද අගලක්වත් හෙලවෙන්නේ නැති බව. ඒකෙන් පේනවා උඹේ හිතේ කිසි ම ආගමභක්තියක් නැති බව. උඹට පුළුවන් අනෙක් අයට ආගමේ නාමයෙන් සාප කරන්න විතරයි. උඹ විතරක් නො වෙයි. මේ ලෝකේ ලොකු කුඩා, දුප්පත් පොහොසත් කිසි ම කෙනෙකු අතර නැහැ මුහුදට කන්දක් ගෙනයන්න පුළුවන් සමතෙක්. සමහරවිට මෙතරම් විශාල

භක්තියක් තියෙන එක්කෙනෙකු නැති නම් දෙන්නෙකු සිටින්න පුළුවනි. ඔවුන් මිසරයේ කාන්තාරයක රහසින් ආත්මය ගලවා ගැනීමට වෑයම් කරන නිසා උඹට ඔවුන් දැක ගන්න ලැබෙන්නේ නැහැ. ඉතින් මේ තවුසන් දෙදෙනා හැර මේ ලෝකයේ සිටින කිසිම කෙනෙකුට ආගමභක්තිය නැති නිසා දෙවියන් වහන්සේ උන් සේරට ම සාප කරනවද? මේ ලෝකේ මුළු ජනගහනයට ම සාප කරනව ද? එතුමා සියලු සත්ත්වයාට ම අනුකම්පා කරන නිසා මනුෂ්‍යවර්ගයා අතරින් එක්කෙනෙකුට පමණක් අනුකම්පා නො කර සිටින්නේ නැහැ. මා කළ වරද ගැන මා පසුතැවෙනවා නම් එතුමා මට අනුකම්පා කරන බව මා දන්නවා."

"ටිකක් හිටපන්"යි කරමසෝව් තරුණයා ගේ කතාව අසා මහත් සතුටින් කීය. "එහෙනම් උඹ විශ්වාස කරනව ද කඳු පෙරළන්න පුළුවන් මිනිසුන් දෙන්නෙකු මේ ලෝකයේ සිටින බව? ඉවාන් මේ කාරණාව මතක තියාගනින්, නැති නම් ලියා ගනින්. තියම රුසියන් ගතිය පේනවා නේ ද?"

"උඹේ කතාව ඇත්තයි. මිනිසුන් ආගම අදහන්නේ මේ විදියට තමයි" ඉවාන් තරුණයා ගේ කතාවට එකඟ වෙමින් කීවේ සිනාමුවෙන් යුතුව ය.

"එහෙනම් උඹත් මේ අදහස පිළිගන්නවා? උඹ පිළිගන්නවා නම් ඒක ඇත්ත වෙන්න ඕනෑ. අලෝෂා මේ කතාව ඇත්ත ද? රුසියන් ජාතිකයන් ආගම අදහන්නේ මේ විදියට ද?"

"නැහැ, රුසියන් ජාතිකයන් තුළ තියෙන ආගමභක්තිය පැවිල් තුළ නැහැ"යි ආලෝෂා සවීරව කී ය."

"නැහැ නැහැ, මා අහන්නේ පැවිල් ගේ ආගමභක්තිය ගැන නොවෙයි. මම අහන්නේ කාන්තාරයේ තවුස්දම් රකින අර තවුසන් දෙදෙනා ගැන කතාව. ඒ කතාවේ රුසියන් ගතියක් තියෙනවා නේ ද?"

"ඔව්, ඒක නම් රුසියන් ගතියට එකඟයි" ආලෝෂා ද සිනාසෙමින් කී ය.

"බුරුවා, උඹේ කතාව රන් පවුමක් වටිනවා. ඒ රන් පවුම මම හෙට දෙන්නම්. නමුත් උඹේ කතාවේ අනෙක් හරිය කිසි ම අර්ථයක් නැති වල්පල් ගොඩක්. මෝඩයා, මා කියන දෙය හොඳට අහගනින්. අපි වැඩිය හොඳට ආගම අදහන අය නොවෙමු. අප ආගම ගැන වැඩි සැලකිල්ලක් නොදක්වන්නේ ආගම

අදහන්න තරම් අපට කාලයක් නැති නිසයි. අපට වැඩ වැඩියි. හැරත් දෙයියන් වහන්සේ අපට දී තියෙන්නේ බොහොම සුළු කාලයයි. දවසකට පැය විසිහතරයි. හරියට නිදාගන්නවත් කාලයක් නැතිකොට කළ පව් ගැන පසුතැවෙන්නේ කොහොම ද? නමුත් උඹ සතුරා ඉදිරිපිට ආගම අත්හරින කොට ආගම ගැන මිස උඹට කල්පනා කරන්න වෙන දෙයක් තිබුණේ නැහැ. ඒ වෙලාවේ දී තමයි ආගමභක්තිය පෙන්විය යුතු වෙලාව. ඒ නිසා සහෝදරයා ආගම අත්නැරීම පාපයක් වෙනවා. මගේ අදහස හරි ද?''

"පාපයක් වෙන්න පුළුවනි. පාපයක් වුණත් පාපයේ බරපතළ කම අඩු වෙනවා. මා හැම සත්‍යයක් ම පිළිගෙන මගේ ආගම වෙනුවෙන් දුක් පීඩා නොවිඳ ඉස්ලාම් ආගම වැළඳ ගත්තා නම් පවක් ලෙස සලකන්නට පුළුවනි එහෙම නම් ඒ වෙලාවේ දී මට තිබුණේ කිසි ම දුකක් නො විඳ 'මේ සතුරා මරා දමන්න' කියා කන්දට නියම කිරීමයි. එතකොට කන්ද ඇවිත් කළු කුරු මිනියෙකු මරා දමනවා වගේ මට වද දෙන මිථ්‍යාදෘෂ්ටිකයා මරා දමාවි. එතකොට මට තියෙන්නේ කිසි ම දෙයක් සිදු නො වූවාක් මෙන් දෙවියන් වහන්සේ ගේ තේජසට ප්‍රශංසා කරමින් යන්නටයි. නමුත් ඒ භයානක මොහොතේ දී මගේ ඉල්ලීම පිළිගෙන කන්ද සෙලවී සතුරා විනාශ නොකළා නම් මා කොහොමද ආගම ගැන විශ්වාස කරන්නේ? හැරත් මගේ ඉල්ලීම අනුව කන්ද නො සෙල්වුණා නම් මට ස්වර්ගරාජ්‍යයේ තැනක් නොලැබෙන බව දැනගන්න පුළුවනි. කන්ද නො සෙල්වුණ නිසා මගේ සතුරා දැනගනීවි මා තුළ ආගමභක්තියක් නැති බව ඒ නිසා අනෙක් ජාතියේ දී මට උසස් තත්ත්වයක් බලාපොරොත්තු වෙන්න බැහැ. ඉතින් කිසි ම අර්ථයක් නැති ව මා මොනවට ද නිකරුණේ සතුරා ගේ අතින් මැරුම් කන්නේ? මගේ හමෙන් භාගයක් ඉවත් කළ පසුවත් මගේ කෑගැම අසා කන්ද සෙලවෙන එකක් නැහැ. එවැනි අවස්ථාවක දී ආගම ගැන සැකයක් පමණක් නොව හිතේ හට ගන්නා බිය නිසා සිහිය අවුල් වී හරියට කල්පනා කරන්න වත් බැරි වෙනවා. ඉතින් මේ ලොවේ දීත් පරලොවේ දීත් මට ලාභයක් නොවන බව දැනදැනත් මගේ ජීවිතය බේරා ගැනීම ගැන මට දොස් කියන්නේ කොහොමද? දෙවියන් වහන්සේ ගෙන් මං කළ වරදට මට සම්පූර්ණ අනුකම්පාව ලැබේය යන විශ්වාසයෙන් මගේ ජීවිතය බේරා ගත්තාට වරදක් වෙන්නේ නැහැ......?"

## අට වන පරිච්ඡේදය

## සුරා මතය

වාදය අවසන් විය. එහෙත් පුදුමයකට මෙන් එතෙක් වේලා ප්‍රීතියෙන් සිටි කරමසෝ හදිසියෙන්ම රවන්නට විය. මෙසේ රවන්නට පටන්ගත් හෙතෙම සීමා ඉක්මවා බ්‍රැණ්ඩි පානය කරන්නට විය.

"පලයව් යන්න, ජේසුයිට්වරු"යි කියමින් ඔහු වැඩකාරයන් පන්නා ගත්තේ ය. "පලයන් පැවල්, මම පොරොන්දු වුණ රත් පවුම හෙට දෙන්නම්. ග්‍රිගෝරිස් ඔය ඇබිල්ල නවත්වලා උඹේ ගෑනි ළඟට පලයන්. ඒ ගෑනි උඹව නළවා නිදකරවාවි. මේ තක්කඩියන් කෑමෙන් පස්සේවත් අපට තිව්හැන්නේ ඉන්න දෙන්නේ නැහැ"යි කරමසෝ කෝපයෙන් කීවේ ඔහු ගේ අණට කීකරුව වැඩකාරයන් වහා කාමරයෙන් නික්ම ගිය පසුව ය.

"පැවල් දූන් නිතර කෑමෙන් පස්සේ කතාවට එනවා. මිනිහා සැලකිල්ලක් දක්වන්නේ උඹටයි. මිනිහ ගේ හිත් ගන්න උඹ මොනවද කළේ?" යි කරමසෝ අනතුරුව ඉවාන් ගෙන් ඇසුවේ ය.

"මා කිසි ම දෙයක් කළේ නැහැ"යි ඉවාන් කී ය. "මා ලොකු පණ්ඩිතයෙක්ය කියා කල්පනා කිරීම පැවල්ට තිසේ මලක් පිපුණා වගෙයි. පැවල් බොහො ම පහත් නීච මිනිහෙක්. විප්ලවයක දී වැඩට ගන්න පුළුවන් හොඳ මිනිස්සු."

"මොන විප්ලවයකට ද?"

"පැවල්ට වඩා හොඳ අය සිටිනවා. නමුත් පැවල්ට සමාන අයත් සිටිනවා. ඉස්සෙල්ලා ඇති වෙන්නේ පැවල් වගේ අයයි හොඳ අය ඇති වන්නේ ඊට පසුවයි."

"ඔය විප්ලවය කවද්ද එන්නේ?"

"සමහර විට විප්ලවය මල්වෙඩිල්ලක් වගේ පුපුරා නැති වී යන්න පුළුවනි. කොහොමටත් පැවල් වගේ මිනිසුන්ට ඇනුම්කන් දීමට අපේ ගැමියන් වැඩිය කැමති වෙන්නේ නැහැ."

"මේ බූරුව ගේ වැඬේ ම කල්පනා කරන එකයි. අන්තිමේදී මේ බූරුවා කොතැනින් ඉවර වෙයි ද කියා දන්නේ යකා පමණයි."

''මිනිහගෙ ඔළුවේ නොයෙක් විදියේ අදහස් ඇති වෙනවා''යි ඉවාන් සිනා සෙමින් කී ය.

"මිනිහා මටවත් වෙන කිසි ම කෙනෙකුටවත් කැමැති නැති බව මා දන්නවා මිනිහා උඹ ලොක්කෙකු හැටියට පිළිගෙන සිටිනවයි කියා උඹ කල්පනා කළත් මිනිහා උඹට කැමැති නැහැ. මිනිහට අලෝභා වහකදුරු වගෙයි, නමුත් මිනිහා හොර කම් කරන්නේ නැහැ. ඕපා දූප දෙඩන්නේ නැහැ. ලෝකයාට ඇහෙන්න අපේ වැරදි කියන්නේ නැහැ. මිනිහට බොහො ම හොඳට උයන්න පිහන්න පුළුවනි· නමුත් මිනිහා ගැන මෙ තරම් කතා කරන්න වටිනව ද?''

''ඔව්, එ තරම් වටිනා කමක් ඇති මිනිහෙක් නො වෙයි."

"මිනිහ ගේ අදහස් අනුව බලන කොට මිනිහා ගැමියන් අතරට ගොස් කුමන්ත්‍රණයක් කරනවාය කියා සැක කරන්න පුළුවනි. අපේ ගොවියන්ට හොඳට ම තළන්න ඕනෑ. මා මේක හැම දා ම පිළිගෙන සිටිය අදහසක්. අපේ ගොවියෝ පල් හොරු. උන්ට අනුකම්පා කරන්න වටින්නේ නැහැ. ඉඳ හිට වත් ඔවුන්ට තළන එක බොහො ම හොඳයි. අපේ රටේ බොහො ම වටිනා වනාන්තර තියෙනවා මුත් බැරිවෙලාවත් වනාන්තර විනාශ කළොත් අපේ රට ඉවරයි. මා දක්ෂ මිනිසුන්ට බොහො ම ගරු කරනවා. අප කො තරම් දක්ෂ මිනිසුන් වෙලා ද කියතොත් දූත් අප අපේ ගොවියන්ට තැළීමත් නතර කරලා. අපි නොතැළුවාට උන් උන්ට ම තළා ගන්නවා. ඒක බොහො ම අගෙයි. අනුනට කළ දේ තමනට පල දේ. ඒ කතාව කියන්නේ එහෙම නේද? කොහොම වුණත් කළ දේ පඩිසන් දෙනවා. රුසියාව ඌරෙකු වගෙයි. පුතා, මට රුසියාව පෙන්වන්න බැහැ. ඒ කියන්නේ රුසියාව නො වෙයි, මේ රටේ කෙරෙන වනචරකම්...... සමහරවිට රුසියාව වෙන්න පුළුවනි. උඹ දන්නවද මා කැමැති මොනවටද කියා? මම කැමැතියි ඥානවන්ත කමට."

"බිව්වා ඇති, දූත් නවත්වන්න.''

''ටිකක් හිටපන්. මා මේ අඩිය ඉවර කරලා තවත් අඩියක් ගහලා ඊට පස්සේ නවත්වනවා. උඹ මගේ කතාවට බාධා කළා.

දවසක් මුක්රෝවට ගිය වෙලාවේ දී මට නාකි මිනිහෙකු හම්බ වෙලා කිව්වා, 'ලම්ස්සියන්ට තැළීමට නියම කරනවාට වඩා ප්‍රතිදායක දෙයක් අපට නැහැ. අප හැම තිස්සේම ලම්ස්සියන්ට තැළීම බාර දෙන්නේ ඉලන්දාරින්ටයි. අද තළන ලම්ස්සිය හෙට ඒ ඉලන්දාරියා කසාද බඳිනවා. ඉතින් මේ වැඩේට ලම්ස්සියොත් බොහො ම කැමැතියි' කියා. මොකද උඹ මේ වැඩේට කියන්නේ? බොහො ම දක්ෂ වැඩක් නේද? ගිහින් බලන්න වටිනවා. මොකද ආලෝෂා උඹට ලැජ්ජද? ලැජ්ජ වෙන්න එපා දරුවා මට බොහො ම කනගාටුයි නායක පිය තුමා සමග අද දවල් කෑම කා පූජකයන්ට ලම්ස්සියන් ගැන විස්තරයක් කරන්න බැරිවුණාට උඹේ නායක පියතුමා ගේ හිත අමනාප කළාට තරහ වෙන්න එපා. ඒ වෙලාවේ දි මට කේන්ති ගියා.

"මේ ලෝකේ දෙවියෙකු සිටිනවා නම් පූජකයන්ට අපහාස කළාට මා වැරදිකාරයෙකු වෙනවා. නමුත් දෙවියෙකු නැතිනම් උඹේ ඔය පූජකවරුන්ට මොකක්ද දිය යුතු දඬුවම? ඔවුන් දියුණු-වට බාධා කරන ප්‍රතිගාමින් නිසා ඔවුන් ගේ බෙලි කැපුවත් මදි. ඉවාන් මේක මගේ හිතට ලොකු කරදරයක්. මගේ කතාව විශ්වාස නො කරන බව උඹේ මූණෙන් පේනවා මා කෝලමෙක් ය කියා මිනිසුන් කියන කතා උඹ විශ්වාස කරනවා නේ ද? අලෝෂා මා කෝලමෙක් ය කියා උඹ විශ්වාස කරනව ද?"

"නැහැ, මා විශ්වාස කරන්නේ නැහැ."

"උඹ විශ්වාස නොකරන බවත්, උඹ ඇත්ත කියන බවත් මා පිළිගන්නවා. උඹ අවංකයි. උඹේ කතාව අවංකයි. නමුත් ඉවාන් උඹ වගේ නො වෙයි. බොහො ම අහංකාරයි. අනෙක් අයට බාල්දු කරනවා.........මා ඔය පූජකයන් සේරම නැති කරනවා. ආශ්‍රම සේරම විනාශ කරනවා. රුසියාව පුරා සිටින සේරම පූජකයන් නැති කරලා උන්ට වැඳුම් පිදුම් කරන මෝඩයන්ට ඇත්ත නැත්ත කියා දෙනවා. ටිකක් කල්පනා කරලා බලාපන්, මේ පල්ලි විනාශ කළොත් කො තරම් විශාල ධනයක් ආණ්ඩුවට ලැබෙනව ද?"

"මොනවට ද පල්ලි විනාශ කරන්නේ?" ඉවාන් ප්‍රශ්න කෙළේ ය.

"සත්‍යය ආරක්ෂා කරගැනීමටයි."

"සත්‍යය ආරක්ෂා කිරීමට නම් ඉස්සෙල්ලාම තාත්තා ළඟ තිබෙන ධනය අරගෙන තාත්තා විනාශ කරන්න ඕනෑ."

"උඹේ කතාව හරි. මම බූරුවෙක්"යි කරමසෝ නළලට පහරක් ගසා මහ හඬින් සිනා සී කී ය.

"ඒක එහෙම නම් අලෝෂා උඹේ ඔය තාපසාරාමයට කිසි ම අනතුරක් වෙන්නේ නැහැ. දක්ෂ මිනිසුන් වන අප හොඳට උණුසුමට ඉඳගෙන අඩිගහමින් සන්තෝෂ වෙන්න ඕනැ. සමහර විට සර්වබලධාරි දෙවියන් වහන්සේ මේ විදියට අඩි ගැසීමට අපට නියම කරන්න ඇති. ඉවාන් බලන්න කියාපන් දෙවියෙකු ඉන්නව ද නැද්ද කියා. හැබැයි විහිළු නො කර ඇත්ත කියාපන්. ඇයි උඹ හිනා වෙන්නේ?"

"මට හිනා ගියේ කඳු සොලවන්න පුළුවන් සාන්තුවරයන් දෙන්නෙකු ගැන පැවල් තුළ ඇති විශ්වාසය ගැන තාත්තා කියාපු කතාව මතක් වන කොටයි."

"මොකද, එහෙනම් මාත් පැවල්ට සමාන ද?"

"ඔව්, හුගක් දුරට පැවල්ට සමානයි."

"එහෙනම් ඒකෙන් පේනවා මා තුළත් රුසියන් ගති ගුණ තියෙන බව. උඹ දර්ශනවාදියෙකු වුණත් උඹත් මේ වරදට අහු-වෙන්න පුළුවනි. ඕනැම ඔට්ටුවක් අල්ලපන් මේ වරදට මට පුළුවනි හෙට උඹවත් අල්ලන්න. කොහොම වුණත් බලන්න කියාපන් දෙවියෙකු ඉන්නවද නැද්ද කියා. හැබැයි ඇත්ත කියාපන්. මේක විහිළුවකට භාර ගන්න එපා."

"දෙවියෙකු නැහැ"

"අලෝෂා දෙවියෙකු ඉන්නව ද?"

"ඔව් ඉන්නවා."

"ඉවාන් ජීවිතය සදාකාලිකද, පොඩ්ඩක් හරි සදාකාලික ද?"

"සදාකාලිකය කියා කිසි ම දෙයක් නැහැ."

"එහෙම දෙයක් ඇත්තෙම නැද්ද?"

"ඇත්තෙම නැහැ."

"උඹ කියන්නේ කිසි ම දෙයක් නැහැ කියන එකයි. සමහර විට සුළු වශයෙන් හරි යම් කිසිවක් තියෙන්න පුළුවනි. ඉතා සුළු දෙයක් හරි තියෙන එක කිසි ම දෙයක් නැතිවට වඩා හොඳයි."

"කිසි ම දෙයක් නැහැ."

"අලෝෂා, ජීවිතය සදාකාලික ද?"

"ඔව්"

"එහෙනම් උඹේ කතාවේ හැටියට දෙවියෙකු ඉන්නවා. ජීවිතයත් සදාකාලිකයි?"

"ඔව්, දෙවියෙකුත් ඉන්නවා, ජීවිතයත් අමරණීයයි, දෙවියන් වහන්සේත් අමරණීයයි."

"හම්! මගේ කල්පනාවේ හැටියට ඉවාන් ගේ අදහස හරි. මේ අදහසක් වෙනුවෙන් මිනිහා කො තරම් භක්තියක්, කො තරම් ශක්තියක් නාස්ති කර තියෙනව ද? අවුරුදු කි දහක් මේ විදියට මිනිහා ශක්තියත් භක්තියත් නාස්ති කළා ද? මිනිහා මෙ තරම් මෝඩයෙකු කළේ කවුද? ඉවාන් අන්තිම වතාවට කියාපන් දෙවියෙකු ඉන්නව ද නැද්ද කියා."

"නැහැ, දෙවියෙකු නැහැ. මා මේ කියන්නේ අන්තිම වතාවටයි."

"එහෙනම් මිනිහා මෙ තරම් මෝඩයෙකු කළේ කවුද?"

"යක්ෂයා වෙන්න ඇති" ඉවාන් සිනා සෙමින් කී ය.

"එහෙනම් යක්ෂයෙකු ඉන්නව ද?"

"නැහැ, යක්ෂයෙකුත් නැහැ."

"යක්ෂයෙකු නැති එක බොහො ම කනගාටුදායක දෙයක්."

"දෙවියෙකු මවාගත්ත පළමු වන මිනිහාට කළ යුතු දඬුවම කුමක් ද? එල්ලා මරන එක හොඳ වැඩියි."

"මිනිහා දෙවියෙකු මැව්වේ නැතිනම් ශිෂ්ටාචාරය කියා දෙයක් ඇති වෙන්නේ නැහැ."

"දෙවියෙකු නැති ව ශිෂ්ටාචාරය ඇති වෙන්නේ නැද්ද?"

"නැහැ, ශිෂ්ටාචාරය පමණක් නො වෙයි බ්‍රැණ්ඩි කියා බීමක් පෙරන්නෙත් නැහැ, දැන් ඉතින් ඔය බිව්වා ඇති. බ්‍රැණ්ඩි බෝතලය අරන් තියන්න."

"නැහැ නැහැ පුතා, තව එක අඩියයි. මගේ කතාවෙන් අලෝෂා ගේ හිත රිදෙන්න ඇති. අලෝෂා උඹ මා එක්ක තරහ නැහැ නේද? මගේ හොඳ පුතා!"

"නැහැ, මා තරහ නැහැ මා තාත්තා ගේ අදහස් හොඳට දන්නවා. තාත්තා ගේ හිත හිසට වඩා හොඳයි."

"මොනවා, මගේ හිත හිසට වඩා හොඳයි. ඔය වගේ කතාවක් අහන්න ලැබුණේ උඹෙන් විතරයි. ඉවාන්, උඹ මල්ලිට ආදරේද?"

"ඔව්"

"උඹ මල්ලිට බොහො ම ආදරෙන් හිටපන්. (මෙවිට කරමසෝ හොඳට ම වෙරි වී සිටියේ ය). ආලෝෂා, අද උදේ මා උඹේ පියතුමාට බොහො ම නරක විදියට කතා කළා. ඒ වෙලාවේ මගේ ඔළුව නරක් වෙලයි හිටියේ. නමුත් පියතුමාට හොඳ ඥාන ශක්තියක් තියෙනවා. එහෙම නේද ඉවාන්?"

"වෙන්න පුළුවනි."

"ඔව්, පියතුමා ජේසුයිට් කාරයෙක්. රුසියන් ජේසුයිට් කාරයෙක්. මිනිහ අවංක මිනිහෙකු නිසා බොරු ගුණවත් කමක් බොරු සිල්වත් කමක් ආරූඪ කරගෙන සිටීමට සිදු වීම ගැන හිත යටින් බොහො ම කනගාටු වෙනවා."

"එතුමා දෙවියන් වහන්සේ ගැන විශ්වාස කරනවා."

"මොන පිස්සු ද, පොඩ්ඩක්වත් විශ්වාස කරන්නේ නෑහැ. ඇයි උඹ දන්නේ නැද්ද? මිනිහා ඒ බව හැමෝට ම කියනවා. හැමෝට ම නොවෙයි මිනිහා ළඟට එන හොඳට මොළය තියෙන අයට කියනවා. මිනිහා ෂුල්ටෙක්ස් ආණ්ඩුකාරයාට කිව්වා මට හොඳට විශ්වාසයි."

"ඔය ඇත්ත ද?"

"ඔව්, මිනිහා එහෙම කිව්වා. නමුත් මා මිනිහට බොහො ම ගරු කරනවා. මිනිහ හරියට මෙෆිස්ටෝෆලස් වගෙයි. නැති නම් 'අපේ කාලයේ වීරයා' * වගෙයි. මොකක්ද මේ වීරයා ගේ නම? මට මතක නැහැ. ආබේනින් නේද?......... මොකක් වුණත් කමක්

★ ලෙමැන්ටෝව් නමැති රුසියන් ගත්කරුවාගේ නවකතාවකි

නැහැ... ... මිනිහ හරි සල්ලාලයා. මිනිහා කොතරම් ලොකු සල්ලාලයෙක්ද කියනවා නම් මා මිනිහ ළඟට පව් සමාකරගන්න මගේ ගැතිවත්, දුවවත්, යවන්නේ නැහැ...... මිනිහා පරණ කතාන්තර කියන්න පටන් ගත්තාම ඉවරයක් නැහැ........, ගිය අවුරුද්දට ඉස්සෙල්ලා අවුරුද්දේ මිනිහා අපට තේ පැන් සංග්‍රහයක් කළා. බීමත් තිබුණා (මිනිහට ගැනු බීම ගෙනත් දෙනවා.) මිනිහ පරණ කතාන්තර කියන කොට ඉලකැඩෙනකන් හිනා වෙන්න පුළුවනි. අංසභාගය හැදිච්ච ගැනිට සනීප කළ හැටි කියන කතාව ඉල කැඩෙන කතාවක්. මගේ කකුල්වලට හයිය තියෙනවා නම් මට පුළුවනි උඹ එක්ක හොඳ නැටුමක් නටන්න. මා ඒ කාලේ දී හොඳ නැටුම් නැටුවා' කියා මිනිහා ඒ ගැනිට කිව්ව ලු. කොහොම ද මිනිහගෙ කතාව? මිනිහා අර කඩකාරයා ගේ රූබල් හැට දහකට ඇන්නා."

"මොනවා? හැට දහක් හොරකම් කළා?"

"නැහැ, කඩකාරයා විශ්වාස කරගෙන මිනිහට මුදල් ගිහින් දීලා කිව්වා 'තමුන්නාන්සේ කරුණා කරලා මේ මුදල් මට පරිස්සම් කරලා දෙන්නය. හෙට පොලිසිය මගේ ගෙය සෝදිසි කරනවාය' කියා. ඉතින් මිනිහා මුදල් අරගෙන කිව්වලු 'මේ මුදල් උඹ පල්ලියට පූජා කළාය කියා හිතා ගනින්' කියා. මා මිනිහ ගේ මූණට කිව්වා 'තමුන්නාන්සේ මහ තක්කඩියා'ය කියා. 'නැහැ මම තක්කඩියෙක් නො වෙයි. මම බොහො ම දියුණු අදහස් ඇති කෙනෙක්' කියා මිනිහා උත්තර දුන්නා........ නැහැ, නැහැ........ මට වැරදුණා. මා මේ කතා කරන්නේ වෙන මිනිහෙකු ගැනයි. දත්තෙම නැති ව කතාව අවුල් වුණා........ තවත් අඩියක් ගහන්න ඕනෑ. දත් ඉතින් බෝතලය අරන් පලයන්. මා මෙච්චර වෙලා කිව්වේ බොරු. ඇයි ඉවාන්, මා බොරු කියනවාය කියා උඹ මගේ කතාව නැවැත්තුවෙ නැත්තේ?"

"මා දන්නවා මා නොනැවැත්තුවාට තාත්තා ම කතාව නවත්වන බව."

"උඹ කියන්නේ බොරු, උඹ මට නින්ද කරනවා. මගේ ගෙදර ඉඳගෙන මට නින්ද කරනවා."

"මා යනවා, තාත්තා ඕනෑවට වඩා බීලා."

"දෙයියන් ගේ නාමෙට දවසකට දෙකකට චමස්නියාවට ගිහින් වරෙන්."

"හොඳයි, ඔය හැටි කියනවා නම් මම හෙට යන්නම්."

"නැහැ, උඹ යන්නේ නැහැ. උඹට උවමනා කරන්නේ මෙ තැන ඉඳ ගෙන මා ගැන ඔත්තු බලන්ටයි. උඹ මහ නරක මිනිහෙක්. අන්න ඒ නිසයි උඹ නොයන්නේ."

මහල්ලා නො නවත්වා බණින්නට විය. නිහඬව සිටින බේබද්දන් හිටිහැටියේ ම බණින්නට පටන් ගනියි. අනතුරුව කලහ කරයි. කරමසෝ ද ඒ අවස්ථාවට පැමිණියේ ය.

"මොකද මිනිහෝ උඹ මා දිහැ බලන්නේ? කැත බේබද්දෙකු දිහා බලන විදියටයි උඹ මා දිහා බලන්නේ. උඹේ බැල්ම විශ්වාස කරන්න බැහැ. බොහොම පිළිකුල්......... උඹ මගේ ගෙදරට ආවේ මොකක් නමුත් මගඩියකටයි......... බලපන් උඹේ මල්ලි ගේ දිහා. මිනිහත් මා දිහා බලනවා. නමුත් මිනිහ ගේ ඇස් බැබලෙනවා. අලෝෂා කවදාවත් මට අපහාස කරන්නේ නැහැ. මට බාල්දු කරන්නේ නැහැ. අලෝෂා, උඹ කවදාවත් උඹේ අයියාට ආදරය කරන්න එපා... ..."

"තාත්තේ අයියා එක්ක තරහ වෙන්න එපා. අයියාට බණින්න එපා" අලෝෂා හිටිහැටියේ ම ශබ්ද නගා කීය.

"බොහොම හොඳයි ...... අපොයි මගේ හිස කකියනවා ඉවාන් ඔය බෝතලය අරන් පලයන්. බෝතලය ගෙනයන්න. කියා තුන් පාරක් කිව්වා නේද?"

අනතුරුව කරමසෝ මඳක් කල්පනා කෙළේ ය. ඒ සමග හිටිහැටියේ ම මුහුණ පුරා කපටි හිනාවක් පැතිර ගියේ ය.

"ඉවාන්, මා වගේ නාකි දුර්වල මිනිහකු එක්ක තරහ වෙන්න එපා. උඹ මට කොහෙත් ම කැමැති නැති බව මා දන්නවා. නමුත් මා එක්ක තරහ වෙන්න එපා. මට ආදරය කරන්න පුළුවන් කිසි ම ගුණයක් මා තුළ නැහැ. නමුත් කොහොම හරි චමස්නියාවට පලයන්. මම උඹට හොඳ තෑග්ගක් අරන් එන්නම්. හොඳ ගැටිස්සියක් අරන් එන්නම්. බොහොම කාලයක ඉඳලා මා ඒ කෙල්ලට ඇහ ගහගෙන හිටියා. තවමත් ඒකි හිස් පයින් යන්නේ. හිස් පයින් යන ගැටිස්සියන් එක්ක තරහ වෙන්න එපා. උන් මුතු ඇට වගේ වටිනවා."

මෙසේ කී මහල්ලා හඬනගා තමාගේ ම අත සිඹගත්තේ ය.

අනතුරුව කරමසෝ ගැහැනුන් ගැන කතා කරන්නට විය. ඔහුට හොඳට පළපුරුදු ඇති ගැහැනුන් පිළිබඳ කතාව පටන් ගත් වහා ම වෙරි හිඳී තියේ ය. "මගේ දරුවනි, මගේ ඌරු පැටවුනි, මගේ මුළු ජීවිතයටම මා කවදාවත් ගෑනියක් අවලස්සණ කොට සැලකුවේ නැහැ. ඒක තමයි මගේ සිරිත. උඹලාට මා කියන දෙය තේරෙනවා නේද? කොහොමද උඹලාට මේවා තේරෙන්නේ? උඹල ගේ නහරවල තියෙන්නේ ලේ නො වෙයි කිරි. තව ම උඹල ගේ පොත්තෙන් ඇටය වෙන්වෙලා නැහැ. මගේ අදහසේ හැටියට හැම ගෑනියක් ළග ම තියෙනවා වෙන කෙනෙකුගෙන් හොයා ගන්න බැරි බොහො ම වටිනා බඩුවක්. ඒ වැදගත් බඩුව තියෙන තැන දන ගන්න ඕනැ. අන්න ඒක තමයි ප්‍රශ්නය. ඒකට බොහො ම ලොකු දක්ෂකමක් තියෙන්න ඕනැ. මගේ කල්පනාවේ හැටියට කැත ගෑනු කියා ජාතියක් නැහැ. ගෑනියක් වුණොත් ඇති. නමුත් ඒක තේරුම් ගන්නේ කොහොම ද? සමහර දීග නොගිහින් නාකි වෙච්ච ගෑනු ළග තියෙනවා බොහෝ ම අගේ ඇති දේවල්. මේවා දකින කොට මේ දේවල් නො දක මේ ගෑනුන්ට නාකි වෙන්න ඉඩ හැරිය මෝඩයන් ගැන පුදුම හිතෙනවා. හිස් පයින් යන ගෑනුයි, කැත ගෑනුයි, උන්ට නොදැනෙන්න හිටිහැටියේ ම අල්ල ගන්න ඕනෑ ඇයි උඹලා ඒක දන්නෙ නැද්ද? උන් කුල්මත් කරන්න ඕනැ. පුදුම කරවන්න ඕනැ. අන්දුන්කුන්දුන් කරන්න ඕනැ. 'මා වැනි කැත එකියකට මහත්මයෙකු ආලය කරනවා නේද?' යන අදහස ඇති වන තෙක් ලැජ්ජා කරන්න ඕනැ. මේ ලෝකයේ හැම දා ම දාසයෝ ය, සවාමිවරුන්ය, කියා කොටස් දෙකක් සිටින එක හැබෑ හොඳයි. එතකොට හැම දා ම ලස්සණ ළමිස්සියන් දාසකමට තියා ගෙන මහත්වරුන්ට බොහොම හොඳට හිටිය හැකියි. ජීවිතය සැපවත් කරගැනීමට උවමනා කරන්නේ එපමණයි ........ අලෝෂා, ටිකක් ඉඳලා මා කියන දෙය හොඳට අහගනින්, මම හැමතිස්සේ ම උඹේ අම්මා අන්දුන් කුන්දුන් කළා. නමුත් ඒක කළේ අමුතු ක්‍රමයකටයි. මා කවදාවත් උඹේ අම්මා ළගට අරගෙන ආදරය කළේ නැහැ. නියම වෙලාව ආපු හැටියේ ම මා උඹේ අම්මා වටේ නටනවා. අතගානවා. දණගානවා. කකුල් ඉඹිනවා. මට අද වගේ හොඳට මතකයි, උඹේ අම්මා හිනා වෙන්න පටන් ගත්තා. ඒක පුදුම හිනාවක්. ඇයට හොඳට පුරුදු දෙයක්. මා මේ විදියට ඇ පිස්සු කරනවා. ඇ හැම දා ම අසනීප වෙන්නේ මේ විදියටයි. පසුව දා හිටන් ඇ පිස්සුවෙන් කෑ ගහන්න පටන් ගන්නවා. ඇ ඉස්සෙල්ලා දවසේ හිනා

වුණේ හොඳකට නො වෙයි...... බැලවිස්කි උඹේ අම්මාට ආලය කළා. මිනිහා බොහො ම ලස්සණයි. ඒ වගේ ම පොහොසත්. මිනිහා හැම දා ම එනවා උඹේ අම්මා බලන්න. දවසක් හිටිහැටියේ ම මිනිහා උඹේ අම්මා ඉදිරිපිට මට කම්මුල් පහරක් දුන්නා. බොහො ම අහිංසක කමට හිටිය උඹේ අම්මා කළ දෙය දන්න වද? 'උඹට ගැහැව්වා, උඹ මේ මිනිහ ගෙන් ගුටි කැවා. උඹ මෙච්චර කල් හැදුවේ මේ මිනිහට මාව විකුණන්න ........ මා ඉදිරිපිට මේ මිනිහා උඹට තැළුවා. මීට පස්සේ මා ළගට එන්න එපා. දුවපන් දුවපන්......... නම්බුව තියෙනව නම් ද්වන්ද්ව යුද්ධයකට කතා කරපන්' කියා කෑගැසු වා. උඹේ අම්ම ගේ පිස්සුව හොඳ කරන්න මා ඇය තාපසාරාමයට ගෙන ගියා. පිස්සුව හොඳ වෙනකන් පූජකයන් යාච්ඤා කළා. අලෝෂා මම දෙයිහාමුදුරුවන් ගැන වුණත් දිව්රන්නම්, මා කවදාවත් ඔය පිස්සු ගැනිට අපහාස කළේ නැහැ. මට මතක තියෙන හැටියට අප බැඳපු මුල් අවුරුද්දේ සුළු දෙයක් වුණා. උඹේ අම්මා යාච්ඤා කරන්න බොහො ම කැමැතියි. උපවාසය කරන කාලයේ දී ඈ මට ඈගේ කාමරයට එන්න දෙන්නේ නැහැ, පන්න ගන්නවා. දවසක් මා යස වැඩක් කළා. මේ ගැනි ගේ ආගම් පිස්සුව හොඳ කරන්න හිතා ගෙන මා සුරුවම ළගට ගිහින් කිව්වා 'පේනවා නේද?උ ඕ වැඳුම් පිදුම් කරන ප්‍රතිමාව. මෙන්න මා පහතට ගත්තා, පේනවා නේද? උඹ විසවාස කරනවා නේද මේ ප්‍රතිමාවට හාස්කම් කරන්න පුළුවන් කියා? එහෙනම් ඔන්න බලාපන් මා ප්‍රතිමාවට කෙළ ගහනවා. මට කිසි ම දෙයක් වෙන්නේ නැහැ...... මේ කතාව කියාපු හැටියේ ම අනේ දෙයියනේ මා හිතුවා, උඹෙ අම්මා මාව එ තැන ම මරාවිය කියා. නමුත් ඈ එක පාරට ම නැගිටලා අත් දෙක උස් කරලා මුහුණ වසා ගෙන වෙවුලන්නට පටන් ගත්තා. ටික වෙලාවක් වෙවුලලා බිම් ඇද වැටුණා...

"අලෝෂා, අලෝෂා, මොකද උඹට?''

තැතිගත් මහල්ලා වහා නැගී සිටියේ ය. අම්මා ගැන කතා කරන්නට පටන් ගත් තැනේ සිට අලෝෂා ගේ මුහුණ ක්‍රමයෙන් වෙනස් වන්නට විය. ඔහු ගේ මුහුණ රතු විය. දෑස රතු විය. තොල් වෙවුලන්නට විය. අලෝෂා තුළ ඇතිවන විපරියාසය නොදුටු මහල්ලා කතාව කරගෙන ගියේ ය. කතාව නතර කළේ අලෝෂාට කිසියම් පුදුම දෙයක් සිදුවූ බව දනගත් පසුව ය. ප්‍රතිමාවට කෙළ ගැසූ බව කීවිට පිස්සු ගැනිය තුළ ඇතිවූ

විපරියාසය අලෝෂා තුළ ද ඇති විය. මව උඩ පැන්න විදියට ම උඩ පැන්න අලෝෂා අතින් මුහුණ වසා ගෙන හිඳ ගත් පුටුව උඩ ඇද වැටුණේ ය. වැටී වෙවුලන්නට විය. මව හා පුතා අතරේ ඇති සමාන කම දුටු මහල්ලා පුදුම විය.

"ඉවාන්, ඉවාන්, ඉක්මනට වතුර ටිකක් ගෙනෙන්. හරියට ඒ දවස්වල අලෝෂා ගේ අම්මාට ලෙඩ වෙනවා වගෙයි. කටට වතුර ටිකක් අරගෙන මුහුණට පිඹපන්. ඒ දවස්වල මා ආලෝෂා ගේ අම්මාට කළේත් මේ විදියට මයි. මිනිහා අම්මා ගැන කලබල වුණා."යි කරමසෝ ඉවාන්ට කී ය.

"අලෝෂා ගේ අම්මත් මගේ අම්මයි. එහෙම නේ ද?" යි ඉවාන් ගත්කටට ම ඇසුවේ මැඩ ගත නොහැකි කෝපයෙන් හා පිළිකුලින් යුතුව ය. කෝපාග්නියෙන් බැබළෙන ඉවාන් ගේ දෑස දුටු මහල්ලා තැති ගත්තේ ය. මෙහි දී අපූරු දෙයක් සිදු විය, එහෙත් ඒ අපූරු දෙය විනාඩියකට වඩා කල් නොපැවතිණි. අලෝෂා ගේ මව ඉවාන් ගේ මව වන බව ඒ මොහොතේ දී මහල්ලාට මුළුමනින් ම අමතක විය.

"අලෝෂා ගේ අම්මා උඹේ අම්මා වෙනවා"?යි මහල්ලා ගොතගසමින් ඇසුවේ අන්දුන් කුන්දුන් වූවකු මෙනි. "උඹේ අම්මා ගැන ද මේ දොඩන්නේ? ඇ උඹේ අම්මා? ...... හෙණගහපන්, මට මුකුත් මතක නැති වුණා. ඇ උඹේ අම්මා තමයි. පුතා මට සමාවෙයන්. මට බොහො ම කනගාටුයි. මා කල්පනාවෙන් නොවෙයි කතා කළේ. මට මේ විදියේ දෙයක් කවදාවත් වුණේ නැහැ. මා කල්පනා කළේ .. ... හා! හා! හා!" ඔහු නතර විය. දත් විරිත්තා සිනාසුණේ ය. ඒ බේබදු හිනාව ඔහු ගේ මුහුණ පුරා පැතිර ගියේ ය.

ඒ මොහොතේ දී ඉතා භයානක කෑගැමක් සාලය දෙසින් ඇසිණි. දොර වේගයෙන් ඇරුණේ ය. මිතියා දොර තුළින් ගෙට කඩා වැදුණේ ය. මහල්ලා භීතියෙන් ඉවාන් ළගට දිව ගියේ ය.

"උඌ මාව මරාවී, මාව මරාවී, මා ළගට එන්න දෙන්න එපා. මාව බේරා ගනින්"යි මහල්ලා ඉවාන් ගේ කෝට්අතේ එල්ලී විලාප නැගුවේ ය.

# නව වන පරිච්ඡේදය

## සල්ලාලයෝ

ගිරිගෝරිස් හා පැවල් මීතියා පිටිපසින් කාමරයට දිව ආවෝ ය. මීතියා නතර කර ගැනීමට ඔවුහු ඇතුළු ශාලයේ දී බොහෝ වෑයම් කළහ. ඔවුන් එසේ කළේ දවස් කීපයකට පෙර කරමසෝ විසින් කරන ලද නියමය අනුව ය. කාමරයට කඩා වැදුණු මීතියා අවට බැලීමට මඳක් නතර විය. මේ අවසරයෙන් ප්‍රයෝජන ගත් ගිරිගෝරිස් මේසය වටේ දිව ගොස් ඇතුළු කාමරයට ඇතුළු වන මහ දොරේ පියන් දෙක ම වසා අන්තිම ලේ බිංදුව දක්වා තම සවාමියා ආරක්ෂා කරන බව හඟවන්-නාක් මෙන් දොර ඉදිරිපිට සිටගත්තේ ය. ගිරියෙන් කෑ ගැසූ මීතියා ගිරිගෝරිස් වෙත කඩා පැන්නේ ය.

"එහෙනම් ඈ මෙ තැන ඉන්නවා! ඈ හැංගිලා ඉන්නවා! පලයන් තක්කඩියා අහකට!"

මීතියා මහලු දසයා දොර ළඟින් ඇද්දමීමට වෑයම් කළේ ය. එහෙත් ගිරිගෝරිස් මීතියා ඉවතට තල්ලු කර දැම්මේ ය. මීතියා කිපී දත උස්සා මුළු වෙර යොදා, ගිරිගෝරිස්ට පහරක් ගැසුවේ ය. පහර කෑ මහල්ලා දරකොටයක් මෙන් ඇද වැටිණි. ඔහු ගේ ඇඟ උඩින් පැනගත් මීතියා තවත් පහරක් ගසා දොර කැඩු-වේ ය. කාමරයේ අනෙක් කෙළවරේ සිටි පැවල් භීතියෙන් වෙවුලමින් කරමසෝ ළඟට ගියේ ය.

"ඈ මෙහි ඉන්නවා නේද?"යි මීතියා කෑගැසුවේ ය. "මා දැක්කා ඈ මෙහාට එනවා. මට ඇය නවත්වා ගන්න බැරි වුණා. කෝ ඈ? කෝ ඈ?"

"ඈ මෙහි ඉන්නවා නේද?" යන කෑගැම කරමසෝ තුළ විස්තර කළ නොහැකි පුදුම විපරියාසයක් ඇති කෙළේ ය. මෙතෙක් වේලා ඔහු තුළ පැවැති බිය අතුරුදහන් විය.

"ඕකව අල්ලපියව්! ඕකව අල්ලපියව්!"යි කියමින් ඔහු මීතියා ලුහුබැඳ ගත්තේ ය.

ඒ අතරේ ගිරිගෝරිස් නැඟිට්ටේ ය. එහෙත් ඔහු තවමත් මීතියා ගේ පහරින් තෝන්තු වී සිටියි. ඉවාන් හා අලෝෂා පියා පිටි පසින් දිව ගියහ. තුන් වන කාමරයේ මහ හඬක් නගමින්

කිසියම් දෙයක් බිම ඇද වැටිණි. එය විශාල වීදුරු මල් බඳුනකි. එහෙත් එය එ තරම් වටිනා බඳුනක් නො වේ. කිරිගරුඬ පාදයක් උඩ තබා තිබුණු එම බඳුන මීතියා ගේ ඇගේ හැපී බිම වැටිණි.

"ඕකව අල්ලපියව්" කියමින් මහලු පියා පුතා ලුහුබැඳ ගත්තේ ය.

ඉවාන් සහ අලෝෂා පියා දුඹිව අල්ලාගෙන ඉතා අමාරුවෙන් ආපසු විසිත්තකාමරයට ඇද ගෙන ගියහ.

"ඇයි තාත්තා අයිය ගේ පස්සෙන් දුවන්නේ? අයියා උඹව මරා දමාවි." ඉවාන් කෝපයෙන් කී ය.

"එහෙනම් ගෘසෙන්කා මේ ගෙදර ඇති. ගෘසෙන්කා මෙහාට එනවා මීතියා දැක තියෙනවා."

මහලු කරමසෝව් හති දමන්නට විය. එදින ඔහු ගෘසෙන්කා ගේ පැමිණීම බලාපොරොත්තු නො වී ය. එහෙත් ඇ පැමිණි බව හිටිහැටියේ දැනගත් හැටියේ ම ඔහු තුළ බලවත් නොසන්සුන් කමක් ඇති විය. ඔහු ගේ සරුවාංගය ම වෙව්ලන්නට විය. ඔහු පිස්සකු මෙන් හැසුරුණේ ය.

"ගෘසෙන්කා නාපු බව තාත්තා හොඳට ම දන්නවා" ඉවාන් කී ය.

"ඇ පිටිපස්ස දොරින් එන්න ඇති."

"ඒ දොර වහලා. යතුර තියෙන්නේ තාත්තා ළඟයි."

හදිසියෙන් ම මීතියා ආයෙත් විසිත්තකාමරයට පැමිණියේ ය. ගෙට පිවිසෙන පැළ දොර වසා තිබෙන බව හෙතෙම දුටුවේ ය. දොරේ යතුර තියෙන්නේ පියා ගේ සාක්කුවෙහිය. දොරවල් පමණක් නොව ගෙයි කවුළු ද වසා තිබුණු බැවින් ගෙට පිවිසීමට හෝ ගෙන් පිටවීමට හෝ ගෘසෙන්කාට පුළුවන් කමක් නැත.

"ඕකව අල්ල ගනිව්" ආයෙත් මීතියා දුටු වහා ම කරමසෝව් කෑගා කී ය. "ඌ මගේ කාමරයේ තියෙන සල්ලි හොරකම් කළා." ඉවාන් ගේ ග්‍රහණයෙන් මිදුණු මහල්ලා ආයෙත් මීතියා වෙත කඩා පැන්නේ ය.

මීතියා හදිසියෙන් ම දුන උස්සා පියා ගේ හිසේ ඉතිරි වූ හිසකෙස් ස්වල්පයෙන් දැඩිව ගෙන උස්සා බිම ගැසුවේ ය. මහල්ලා මහ හඬක් නගා බිම ඇදවැටිණි. අනතුරුව මීතියා පියා ගේ මුහුණට දෙතුන් වරක් පයින් ඇන්නේ ය, මහල්ලා බෙරිසන් දුන්නේ ය. මීතියාට සමාන ශක්තියක් නැති වුවත් ඉවාන් වහා ඉදිරියට පැන මීතියා දැඩිව බදාගෙන මුළු වෙර ම යොදා ඉවතට ඇදගෙන ගියේ ය. අලෝෂා ද ඔහු ගේ සියුමැලි දෑතින් වැඩිමල් සොහොයුරා අල්ලා ගෙන විසිත්තකාමරයෙන් ඉවත ගෙන යාමට ඉවාන්ට උපකාරි විය.

"පිස්සා! උඹ තාත්තා මැරුවා නේද?"යි කියා ඉවාන් කෑගැවේ ය.

"මළා නම් බොහො ම හොඳයි. මළේ නැතිනම් මා ආයෙත් එනවා මරන්න. උඹලාට හැම දා ම බැහැ තාකියා බේරා ගන්න" මීතියා හති දමමින් කී ය.

"අයියේ වහා ම මේ තැනින් පිටවෙයන්" යි අලෝෂා අණක් දෙන්නාක් මෙන් කී ය.

"මල්ලී කරුණාකර උඹවත් මට ඇත්ත කියාපන්. උඹ විතරයි විශ්වාස කරන්න පුළුවන් කෙනකුට ඉන්නේ. ගෲෂෙන්කා ආව ද නැද්ද? මා දැක්කා ගෲෂෙන්කා වැටෙන් රිංගනවා. කතා කළා ම පැනල දිව්වා."

"මම දිවුරා කියන්නම්, ගෲෂෙන්කා ආවේ නැහැ. මේ ගෙදර කිසි ම කෙනෙකු ගෲෂෙන්කා බලාපොරොත්තුව සිටි-යේ නැහැ."

"ගෲෂෙන්කා එනවා මා දැක්කා...... මම ඇය ගිය තැන හොයා ගන්නම්...... හොඳයි එහෙනම් මා යනවා. මුදල් ගැන තාකියාට වචනයක්වත් කියන්න එපා. නමුත්, වරද්-දන්නේ නැතිව කැතිරිනා හමු වී මගේ පණිවිඩය කියන්න, මෙ තැන වෙච්ච දෙයත් කියන්න."

ඒ අතරේ ඉවාන්, ගිරිගෝරිස් සමග මහලු පියා උස්සා අත්ඇඳී පුටුව උඩ තැබුවේ ය. ඔහු ගේ මුහුණ ලෙයින් වැසී තිබුණත් ඔහු මීතියා කී දෙය නොඉවසිල්ලෙන් අසා සිටියේ ය. ගෲෂෙන්කා ගෙයි කො තැනක හෝ සැඟවී ඇතැයි ඔහු විශ්වාස කෙළෙ ය. ගෙන් පිට වී යන මීතියා පියා දෙස සාහාසික බැල්මකින් බැලුවේ ය.

"තොගේ මූණෙන් ලේ හැලෙන්න පහර දීම ගැන මං කවදාවත් පසුතැවෙන්නේ නැහැ. නාකියා, පරිස්සමින් හිටපන්. තොගේ හිතේ තියෙන අදහස් ගැන පරිස්සම් වෙයන් ඔය විදියේ අදහස් මගේ හිතෙත් තියෙන බව දැනගනින්.. මීට පස්සේ තොගෙයි මගෙයි සම්බන්ධය ඉවරයි. තොට ශාප වේවා" මෙසේ කියා මීතියා වහා කාමරයෙන් පිට වී ගියේ ය.

"පැවල් මෙහාට වරෙන්, ග්‍රූසෙන්කා මේ ගෙදර කොතැන නමුත් හැංගිලා ඇති."යි පැවල් ට අත වනා කතා කළ මහල්ලා ඉතා දුබල හඬින් කී ය.

"නැහැ, ඒ ගැනි ආවෙ නැහැ. නාකි පිස්සා"යි කියමින් ඉවාන් පියා ට බැණ වැදුණේ ය. "මෙන්න මිනිහා ක්ලාන්ත වෙනවා. පැවල් ඉක්මනට වතුර ටිකකුයි තුවායකුයි ගෙනෙන්."

පැවල් වතුර ගෙනෙන්නට වහා දිව ගියේ ය. අන්තිමේ දී ඔවුහු මහල්ලා ගේ ඇඳුම් මාරු කොට කාමරයට උස්සා ගෙන ගොස් ඇඳ උඩ දමා ඔළුව වටේ තෙත තුවායක් එතුවෝ ය. සුරා මතින් ද, සිත් වේදනාවෙන් හා පුතා ගෙන් ලත් පහරින් ද අබලන් වී සිටි මහල්ලාට කොට්ටය උඩ හිස තැබූ වහා ම නින්ද ගියේ ය ඉවාන් හා අලෝෂා විසිත්ත කාමරයට ගියහ. පැවල් බිම වැටුණු වීදුරු බඳුනේ සුන් බුන් එකතු කරන අතරේ ගිරිගෝරිස් මේසය ළඟ හිඳ ශෝකයෙන් බිම බලාගෙන සිටියේ ය.

"ඇයි ගිරිගෝරිස් උඹත් ඔළුව වටේ තෙත තුවායක් ඔතාගෙන නිදා නොගන්නේ?"යි අලෝෂා ඇසී ය. "අපි තාත්තා බලාගන්නම්. අයියා උඹේ ඔළුවටත් පහරක් ගැසුවා නේද?"

"තමුන්නාන්සේ ගේ අයියා මට නින්දා කළා."යි ගිරිගෝරිස් බලවත් ශෝකයෙන් කී ය.

"අයියා උඹට විතරක් නොවෙයි තාත්තාටත් නින්දා කළා"යි ඉවාන් කීවේ අමාරුවෙන් සිනා සෙමිනි.

"පොඩි කාලේ තමුන්නාන්සේ ගේ අයියාව නාවා, කවා පොවා හැදුවේ මම යි. එතරම් දෙයක් කළ මටත් නින්දා කළා නේද?"යි ගිරිගෝරිස් ආයෙත් කී ය.

"ඔය කතාව යකාට ගිය දෙන්. මං තාත්තාව ඇද ගෙන ගියේ නැතිනම් අයියා තාත්තා මරනවා"යි ඉවාන් අලෝෂාට සෙමෙන් කී ය.

"අනේ දෙවියනේ, කවදාවත් ආයේත් මෙහෙම දෙයක් වෙන්න එපා"යි අලෝෂා පැවසී ය.

"මොනවට ද දෙවියන් වහන්සේ මෙ වැනි දේවල් නවත්-වන්නේ? එක සර්පයෙකු තවත් සර්පයෙකු ගිලිනවා. ඉතින් මොකද තියෙන වරද?"

අලෝෂා වෙවුලන්නට විය.

"නමුත් මා තාත්තා මරන්න ඉඩ දෙන්නේ නැහැ. දූන් ආරක්ෂා කළා වගේ මතුවටත් ආරක්ෂා කරනවා. අලෝෂා ටිකක් මෙ තැන හිටපන්, මම එළියට ගිහින් එන්නම් මගේ හිස කකියනවා."

පියා ගේ කාමරයට ගිය අලෝෂා පැයක් පමණ වේලා ඇඳ උඩ හිඳගෙන උන්නේ ය. හිටිහැටියේ ම ඇස් ඇරිය මහල්ලා අලෝෂා දෙස බොහෝ වේලා බලා සිටියේ ය. සමහර විට ඔහු මීට ටිකකට කලින් සිදු වූ දෙය ගැන කල්පනා කරන්-නට ඇත. හදිසියෙන් ඔහු ගේ මුහුණේ බලවත් නො-සන්සුන්කමක් මතු විය.

"අලෝෂා කෝ ඉවාන්?"යි ඔහු රහසක් කියන්නාක් මෙන් සෙමෙන් ඇසුවේ ය.

"හිස කකියනවය කියා මිදුලට ගියා."

"මට අර මේසය උඩ තියෙන කණ්ණාඩිය දියන්."

අලෝෂා මේසය උඩ තිබුණු වටකුරු කැඩපත ගෙන පියාට දුන්නේ ය. මහල්ලා කැඩපත තුළින් මුහුණ පිරික්සා බැලුවේ ය. ඔහු ගේ නාසය ඉදිමී තිබිණි. ඇසට උඩින් නළලේ වම් පැත්ත තුවාල වී රතු විය.

"ඉවාන් මොකද කියන්නේ? අලෝෂා මගේ පුතා, උඹ විතරයි මට හිතවත්. මම ඉවාන්ට බයයි. මිතියාට වඩා මම ඉවාන්ට බයයි. උඹට විතරයි මා භය නැත්තේ."

"ඉවාන්ට භය වෙන්න එපා. ඉවාන් ඉන්නේ තරහෙන්. ඒ වුණත් තාත්තාට අනතුරක් වෙන්න ඉඩ දෙන්නේ නැහැ."

"මිතියා කොහෙද ගියේ? ගෲසෙන්කා සොයා ගෙන ගියා ද? පුතා මට ඇත්ත කියාපන්. ගෲසෙන්කා මෙහෙ හිටිය ද නැද්ද?"

"නැහැ, ගෲසෙන්කා ආවේ නැහැ. ඈ එනවා කිසි ම කෙනෙකු දැකලා නැහැ. වෙලා තියෙන්නේ වැරදීමක්."

"උඹ දන්නවද මීතියා ගෲසෙන්කා කසාද බඳින බව?"

"ගෲසෙන්කා අයියා කසාද බඳින්නේ නැහැ."

"නැහැ නැහැ, ඈ කවදාවත් මීතියා බඳින්නේ නැහැ, මොනම කරුණක් නිසාවත් බඳින්නේ නැහැ."

මහල්ලා ප්‍රීතියෙන් ඉපිලී ගියේ මීට වඩා සීතට සැප-දයක දෙයක් කිසිවෙකු කිසි කලක ඔහුට කියා නැත්තාක් මෙනි. ප්‍රීතියෙන් ඔහු අලෝෂා ගේ අත ගෙන පපුවට තද කර ගත්තේ ය. ඔහු ගේ දෑසේ කඳුළු දිළිසිණි.

"මා මීට ටිකකට ඉස්සෙල්ලා මතක් කළ උඹේ අම්මා වැඳුම් පිදුම් කළ දේවමෑණියන් ගේ ප්‍රතිමාව උවමනා නම් අරන් පලයන්. මම උඹට ආපසු ආශ්‍රමයට යන්න දෙන්නම්...මා අද උදේ කළේ විහිළුවක්. මා එක්ක තරහ වෙන්න එපා. මගේ ඔළුව කකියනවා ......පුතා මගේ හිත සනසා ඇත්ත කියාපන්."

"තාත්තා තවමත් අහන්නේ ගෲසෙන්කා ආවද නැද්ද කියාද?" අලෝෂා ශෝකයෙන් ඇසුවේ ය.

"නැහැ නැහැ, ඒක නොවෙයි. මා උඹ කියන දෙය විශ්වාස කරනවා. මට මේ උපකාරය කරල දීපන්. උඹ දන් ම පමා නොවී පලයන් ගෲසෙන්කා ළඟට. කොහොම හරි ඈය හමුවෙලා අහපන් ඈ කැමැති මට ද නැත්නම් අයියාට ද කියා.....උඹට පුළුවන් නේද?"

"ගෲසෙන්කා හමු වුණොත් අහන්නම්"යි අලෝෂා කීවේ නොසන්සුන් කමින් යුතුව ය.

"නැහැ නැහැ, ගෲසෙන්කා උඹට කියන එකක් නැහැ" යි මහල්ලා අලෝෂා ගේ කතාවට බාධා කරමින් කී ය. "ඒකි මහ වල් ගෑනි. උඹව බදාගෙන ඉඹල කියාවි ඒකිට උවමනා කරන්නේ උඹය කියා. ඒ ගෑනිට කිසි ම ලැජ්ජා බයක් නැහැ. නැහැ, උඹ ඔය ගෑනි ළඟට යන්න එපා."

"උඹ යන එක හොඳ නැහැ. ඒක හොඳ වැඩක් නොවෙයි.

"මිතියා කොහෙද උඹට යන්න කිව්වේ?"

"කැතිරීනා හමුවන්න."

"මොනවට ද? කැතිරිනාගෙන් මුදල් ඉල්ලන්නද?"

"නැහැ, මුදල් ඉල්ලන්න නොවෙයි"

"ඌ ළග තඹයක්වත් නැහැ. මේ බලාපන් පුතා, ගෲෂෙන්කා ගැන මම අද රට කල්පනා කරලා තීරණයකට බහින්නම් දන් උඹ පලයන්. බාගෙද උඹට ගෲෂෙන්කා හමුවන්න පුළුවනි...... හැබැයි හෙට උදේට වරදින්නේ නැතිව මාව හමු-වන්න වරෙන්. මට උඹව හමුවෙන්න උවමනාවකුත් තියෙනවා එනව නේද?"

"ඔව්, එන්නම්."

"හැබැයි මං එන්න කිව්ව බව හඟවන්න එපා, පෙන්න-පන් උඹේ උවමනාවට මාව හමුවෙන්න ආපු බව. මේ ගැන ඉවාන්ට වචනයක්වත් කියන්න එපා."

"හොඳයි."

"හොඳයි, මගේ රත්තරන් පුතා ගිහින් වරෙන්. උඹ මට කළ උදව්ව කවදාවත් අමතක වෙන්නේ නැහැ. හෙට උඹට කියන්න දෙයක් තියෙනවා. ඊට ඉස්සෙල්ලා ඒ ගැන කල්පනා කරලා බලන්න ඕනෑ."

"දන් කොහොම ද? සනීප ද?"

"හෙට මට හොඳ සනීපයෙන් කටයුතු කරන්න පුළුවනි"

ගෙමිදුල හරහා ගිය අලෝෂා ගේට්ටුව ළග බන්කුවක් උඩ හිඳ සිටින ඉවාන් දුටුවේ ය. ඔහු කිසියම් දෙයක් පොතක ලියමින් සිටියේ ය. පියා අවදිව සිටින බවත්, දන් ප්‍රකෘතිසිහිය ලැබී තිබෙන බවත්, ආපසු ආශ්‍රමයට ගොස් නිදා ගැනීමට තමාට අවසර දුන් බවත් අලෝෂා කී ය.

"අලෝෂා, හෙට උදේට නුඹ හමු වෙන්න පුළුවන් නම් මම බොහො ම කැමතියි" ඉවාන් හිතවත්කමක් දක්වා කී ය. හිටිහැටියේ ම සොහොයුරා දක්වූ හිතවත්කම අලෝෂා ගේ පුදුමයට හේතු වීය.

"හෙට මා හොලාකෝ මැතිනිය හමු වෙන්න යන්වා. දැන් මට කැතිරිනා හමුනුණොත් හෙට ආයෙත් යනවා."

"එහෙනම් නුඹ යන්නේ කැතිරිනා හමුවී අයියා නොඑන බව කියන්න ද ?" යි විමසූ ඉවාන් හදිසියෙන් ම සිනා සුණේ ය. අලෝෂා නොසන්සුන් විය.

"දැන් මට තේරෙනවා මේ පෙරළියට හේතුව. එහෙනම් මිතියා නුඹට කියන්න ඇති මීට පස්සේ එයා නොඑන බව කැතිරිනාට කියන්න."

"තාත්තයි මිතියායි අතරේ තියෙන මේ භයානක දෙය කොහොම කෙළවර වෙයි ද?"යි අලෝෂා විමසී ය.

"කිසි ම කෙනෙකුට කියන්න පුළුවන් කමක් නැහැ. සමහරවිට නිකම් ම අවසන් වෙන්න පුළුවනි. ඒ ගැනි මහ වල් සතෙකු වගෙයි. කොහොම වුණත් අප තාත්තාට ගෙදරින් පිට යන්න ඉඩ දෙන්න හොඳ නැහැ. මිතියාට ගෙදරට එන්න ඉඩ දෙන්නත් නරකයි."

"අයියා ගෙන් ඇසිය යුතු තවත් ප්‍රශ්නයක් තියෙනවා. අසවල් මිනිහා ජීවත් විය යුතු ය. අසවලා ජීවත් නොවිය යුතුය කියා විශ්වාස කිරීමට මිනිහකුට අයිතියක් තියෙන වද?"

"අයිතිය ගැන ප්‍රශ්නය ඉදිරිපත් කරන්නේ මොනවටද? මේ ප්‍රශ්නය නිතර විසඳන්නේ මිනිහෙක් ජීවත් විය යුතු ද? නැද්ද? යන ප්‍රශ්නය උඩ නොවෙයි. වෙනත් කරුණු උඩයි. මිනිසුන් ගේ අයිතිය ගැන කතා කරන විට, යම් කිසි-වක් ගැන ප්‍රාර්ථනා කිරීමට අයිතිය නැත්තේ කාට ද? යන ප්‍රශ්නය මතුවෙනවා."

"තවත් කෙනෙකු ගේ මරණය ප්‍රාර්ථනා කරන්න අයිති-යක් නැහැ."

"මොකා ද කැත්තෙත්? තවත් කෙනෙකු ගේ මරණය ප්‍රාර්ථනා කළාට ඇති වරද කුමක් ද? හැම දෙනා ම ජීවත් වන්නේ මෙ වැනි අදහස් ඇතිවයි. එහෙම නැති ව ජීවත් වෙන්නත් බැහැ. මේ බව දනදනත් අප මොනවට ද බොරු කියන්නේ? තුඹ ඔය කියන්නේ 'එක සර්පයෙකු තවත් සර්පයෙකු ගිලි-නවාය'යි මා කියාපු කතාව ගැන ද? එහෙනම් මා අහන ප්‍රශ්නයට පිළිතුරු දෙන්න. තුඹ හිතනව ද මිතියා වගේ මටත් අපේ පිස්සු තාත්තා මරන්න පුළුවන් ය කියා?"

"මොනව ද තුඹ මේ දොඩන්නේ? ඔය වගේ අදහසක් කවදාවත් මගේ හිතේ තිබුණේ නැහැ. මා හිතන්නේ නැහැ කවදාවත් ලොකු අයියා එ වැනි අපරාධයක් කරාවිය කියා."

"බොහො ම සතුතියි පිළිතුරට." යි ඉවාන් සිනා සෙමින් කී ය.

"කොහොම වුණත් මම තාත්තා ආරක්ෂා කරගන්නම්. නමුත් මේ ගැන උවමනා විදියට කල්පනා කිරීමේ නිදහස මට දෙන්න ඕනෑ." හොඳයි එහෙනම් අපි හෙට හමුවෙමු. හැබැයි මා අපරාධකාරයෙකු හැටියට කල්පනා කරන්න එපා" යි ඉවාන් නැවත සිනා සෙමින් කී ය.

දෙබෑයෝ ඉතා ආදරයෙන් එකිනෙකා ගේ අත ගෙන ආචාර කළ හ. මෙය මීට පෙර සිදු නොවූ දෙයකි. සොහො-යුරා තමා සමග එකතු වීමට මුල් පියවර ගත් බවත් ඔහු එසේ කළේ කිසියම් ස්ථිර අදහසක් ඇතිව බවත් අලෝෂාට දැනිණි.

## දස වන පරිච්ඡේදය

## පෙම්වතියෝ

අලෝෂා මහ ගෙදරින් නික්ම ගියේ එහි පැමිණෙනවිට ගතේ පැවැති විඩාවට වඩා විඩාවකින් ද සිතේ ඇති වූ අධෛර්‍යයෙන් ද යුතුව ය. එකිනෙකට සම්බන්ධ නොවූ ඔහු ගේ සිතිවිලි කැඩී බිඳී විසිරී ගියාක් මෙන් පෙනේ. මෙසේ කැඩී බිඳී විසිරී ගිය සිතිවිලි එක්තැන් කොට, එ දින සිදු වූ, සිතට වද දෙන එකිනෙකට පටහැනි වූ අත්දැකීම් ගැන සාමාන්‍ය අදහසක් ඇති කරගැනීමට පවා අලෝෂා බිය විය. තමා තුළ කිසි ම දෙයක් ගැන කිසි ම බලාපොරොත්තුවක් නැති බව ඔහුට හැඟිණි. එය මීට පෙර කිසි කලක ඇති නො වූ ගැඹීමකි. මේ භයානක තරුණිය නිසා පියා හා සොහොයුරා අතරේ ඇති වී තිබෙන වෛරය කෙසේ අවසන් වේ ද? යන භයානක ප්‍රශ්නය, හැම දෙයක් ම අභිභවා මහාපර්වතයක් මෙන් නැඟී සිටියේ ය. තමා ද මේ හබයට සාක්ෂිකාරයෙක් විය. පියා හා පුතා අතරේ ඇති වූ ගහබැණ ගැනීම අලෝෂා සියැසින් ම දුටුවේ ය. මේ හබයෙන් අමාරුවේ වැටෙන්නේ මීතියා මිස පියා නො වේ. මීතියාට නොයෙක් අමාරුකම්වලට මුහුණ පාන්නට සිදුවනු ඇත. මුලදී අලෝෂා සිතුවාටත් වඩා මේ හබයට සම්බන්ධ වූ වෙනත් අය ද සිටිති එහි කිසියම් අබිරහසක් ද පවතියි. ඉවාන් හා අලෝෂා අතරේ සබඳකම තහවුරු කර ගැනීමට එ දින සවස ඉවාන් පළමු පියවර ගත්තේ ය. එය අලෝෂා විසින් බොහෝ කලක සිට බලාපොරොත්තු වූ දෙයකි. සොහොයුරා ගත් මේ පියවර කිසියම් නොපැහැදිලි නොදන්නා හේතුවක් නිසා තමා තුළ බියක් ඇති වූ බව අලෝෂාට හැඟිණි. ඒ අතරේ කැතිරිනා ගැන ද ඔහු තුළ නොසන්සුන් කමක් ඇති විය. එය පුදුම දෙයකි. එ දින උදේ අලෝෂා කැතිරිනා හමුවීමට යන විට ඔහු ගේ සිතේ බලවත්. නොසන්සුන් කමක් ඇති විය. එහෙත් දැන් ඔහු තුළ එ වැනි කිසිවක් නැත. දැන් තතු ඊට ඉදුරා වෙනස් ය. අලෝෂා වහවහා කැතිරිනා හමුවන්නට යන්නේ තම හිසට වද දෙන මේ ප්‍රශ්නයට පිළිතුරක් බලාපොරොත්තුව සන්නාක් මෙනි එහෙත් මීතියා ගේ පණිවිඩය කැතිරිනාට කීම පෙරට වඩා දුෂ්කර දෙයකි. රුබල් තුන් දහ පිළිබඳ

ප්‍රශ්නය ගැන දත් . තීරණයකට බැස අවසාන යි. මුදල් සොයා ගැනීමට තිබුණු අන්තිම බලාපොරොත්තුව සුන් වීම නිසා මිතියා ගේ ශෝකය වැඩි වන්නට පිළිවන. හැරත් තාත්තා හා ඔහු අතරේ ඇති වූ කෝලාහලය කැතිරිනාට විස්තර කොට කියන ලෙස මිතියා තමාට නියම කර තිබේ.

වේලාව රාත්‍රි හතට පමණ ඇත. අලෝෂා උස් වීථියේ පිහිටි කැතිරිනා වෙසෙන අලංකාර නිවසට පිවිසෙන විට අඳුරු වැටෙමින් තිබිණි. කැතිරිනා නැන්දණියන් දෙදෙනකු සමග මේ නිවසේ වාසය කරන බව අලෝෂා දැන සිටියේ ය. ඉන් එක් ඉතිරියක් කැතිරිනා ගේ සොහොයුරිය ගේ නැන්දණිය වූවා ය. කැතිරිනා පාසල් අධ්‍යාපනය අවසන් කොට ගෙදර පැමිණි පසු පියා ගේ නිවසේ දී ඈයත් ඇගේ සොහොයුරියත් රැක බලා ගන්නා ලද්දේ මේ නැන්දණිය විසිනි. අනෙක් නැන්දණිය මොස්කව් නුවර අලංකාර ජීවිතයක් ගතකරන්නීය. කැතිරිනාට රිසි දෙයක් කිරීමට මේ ස්ත්‍රීන් දෙදෙනා ඉඩ දී ඇති බවත්, ගමන් බිමන් යන විට තමා ගේ ආරක්ෂාව පිණිස කැඳවා ගෙන යාමට කැතිරිනා විසින් ඔවුන් දෙදෙනා නතර කර ගෙන සිටිනබවත් පවසන ලදි. එහෙත් කැතිරිනා කීකරු වූයේ ඇයට විශාල ධනයක් හිමිකරදුන් සෙනෙවියා ගේ වැන්දඹුවට පමණි. අසනීපය නිසා මොස්කව් නුවර නතර වී සිටින ඇයට, තමා කරන කියන හැම දෙයක් ගැන ම සම්පූර්ණ විස්තරයක් කැතිරිනා විසින් සතියකට දෙ වරක් යැවිය යුතු ය.

ගෙට ගොඩ වූ අලෝෂා, තමා පැමිණි බව දන්වන ලෙස දොර ඇරිය වැඩකාරියට කියන විට, තමා ගේ පැමිණීම ගෙදර අය දැනට ම දැන සිටින බව ඔහුට දැනිණි. සමහර විට ඔහු එනවා කවුළු තුළින් දකින්නට ඇත. ගෙය තුළ දුවන අය ගේ හඬ ද, වස්ත්‍ර ගැටෙන හඬ ද අලෝෂාට ඇසේ. සමහර විට කාමරයේ සිටි ගැහැනුන් දෙතුන් දෙනෙකු දුවන්නට ඇත.

තමා ගේ පැමිණීම නිසා මේ ගෙදර මෙ තරම් කලබලයක් ඇතිවීම ගැන අලෝෂා පුදුම විය. කෙසේ වෙතත් නොපමාව ම ඔහු විසිත්තකාමරයට කැඳවන ලදි. එය සෝපා, හාන්සිපුටු, ජෝඩුපුටු; හා ලොකු කුඩා මේස ආදී අලංකාර ගෘහභාණ්ඩ තබා සරසන ලද්දේ ප්‍රාදේශික නගරයක නිවසක් සරසන හැටියට නො වේ. බිත්තිවල පින්තූර එල්ලා

තිබුණු අතර මේස උඩ මල් රැගත් බඳුන් හා පහන් තබා තිබුණේ ය. කවුළුකඳ මත මල්බඳුන් පමණක් නොව කුඩා මාළු ටැන්කියක් ද විය. අදුරු වැටෙමින් තිබිණි. අලෝෂා සෝපාව උඩ තියෙන පට පොරෝනාවක් දුටුවේ ය. සෝපාව උඩ විකකට පෙර කවුරු නමුත් හිඳගෙන උන් බව පෙනේ. හීස් කොකෝ කෝප්ප දෙකක් ද, කේක්, තිල් පැහැති වියළි මිදි සහිත වීදුරු පිගානක් ද, පැණිරස කැවිලි සහිත බඳුනක් ද මේසය උඩ තබා තිබිණි. ගෙදරට පැමිණ සිටි අමුත්තන්ට තමා බාධා කළේ ය යන අදහස නිසා අලෝෂා ගේ මුහුණ රතු විය. එහෙත් එ වේලේ ම දොරේ තිරය ඈත් විය. දොර තුළින් කැතිරිනා වහා විසිත්තකාමරයට පැමිණියා ය. අලෝෂා පිළිගැනීමට මෙන් දෑත දික්කර ගෙන පැමිණි ඇගේ මුහුණ සිනාවෙන් පැහැපත් විය. ඒ අතරේ සේවකයෙක් දල්වන ලද ඉටිපන්දම් දෙකක් මේසය උඩ තබා ගියේ ය.

"දෙයියන්ට පින්සිද්ධ වෙන්න අන්තිමේ දී අලෝෂා ආවා. මා අද මුළු දවස ම බලා සිටියේ අලෝෂා එනතෙක්. කරුණාකර වාඩිවෙන්න."

මීට සති තුනකට පෙර කැතරිනා ගේ ඉල්ලීම පරිදි මීතියා අලෝෂා කැඳවා ගෙන ගොස් ඇයට හඳුනා දුන් අවස්ථාවේ දී ඇගේ පියකරු රූපය අලෝෂා ගේ සිත දැඩිව ගත්තේ ය. එදා අලෝෂා හා කැතිරිනා අතරේ වැඩි කතා බහක් ඇති නොවී ය. අලෝෂා තරුණියන් සමග කතා කිරීමට ලැජ්ජා ඇතැයි කල්පනා කළ කැතිරිනා මුළු කාලය ම මීතියා සමග කතා කළා ය. අලෝෂා නිහඬව සිටියත් කැතිරිනා ගැන බොහෝ දෑ පරීක්ෂාවෙන් දැන ගත්තේ ය. මේ අහංකාර තරුණිය ගේ මහේශාක්‍ය භාවය, උඩගුකම හා ආත්මවිශ්වාසය අලෝෂා ගේ සිත් ගති. ඔහු ගේ සැකය තහවුරු විය. තමා ඇගේ ගතිගුණ අතිශයෝක්තියෙන් පිළිනොගත් බව අලෝෂාට විශ්වාසයි. ඇගේ වටකුරු විශාල කාන්තිමත් කළු පැහැති දැඩි දිග සියුමැලි මුහුණට ගැළපෙන්නේ යයි අලෝෂාට හැඟිණි. ඇගේ දෑසේ හා දෙතොලේ හැඩයෙහි තම සොහොයුරා විසින් දැඩිව ආලය කරන යමක්සිවක් තිබෙන බවත්, එහෙත් එයට වැඩි කල් එක ලෙස ආලය කළ නොහැකි බවත් අලෝෂා දුටුවේ ය. අලෝෂා සිය අදහස් නො සඟවා මීතියාට කීවේ, තමා විසින් විවාහකර

ගැනීමට බහ දී සිටින තරුණිය දකීමෙන් හටගත් හැඟීම් තමාට නොසඟවා කිය යුතු යයි මිතියා බල කළ හෙයිනි.

"අයියාට පුළුවනි ඇය සමග සැපවත් ජීවිතයක් ගත කරන්න. නමුත් එය එ තරම් උසස් සැපතක් වෙන්නේ නැහැ."

"ඇත්ත තමයි. සමහර ගෑනු කවදාවත් වෙනස් වෙන්නේ නැහැ. දෛවයට යටත් වන්නෙත් නැහැ. එහෙනම් මල්ලි ගේ අදහස හැම දා ම ඇයට ආලය කරන්න බැරි වේය කියා ද?"

"නැහැ, සමහර විට අයියාට පුළුවන් වේවි ඇයට හැම දා ම ආලය කරන්න. නමුත් අයියා ඇය සමග නිතර ම සතුටින් සිටින එකක් නැහැ."

එක් අතකින් සිතේ හටගත් ලැජ්ජාවෙන් ද, අනෙක් අතින් සොහොයුරා ගේ ඉල්ලීමට කීකරු වීම පිණිස ද එදා ආලෝෂා කළේ තමා ගැන සිතේ ඇති කරගත් අසතුටින් යුතුව සිතට නැග ආ මෝඩ අදහස් වචනයට නගා කීම ය. තමා ගේ අදහස් වැරදි බව ඔහුට කල්පනා වූයේ ඒ අදහස් පැවසීමෙන් අනතුරුව ය. ගැහැනියක ගැන මෙ වැනි නිශ්චිත තීරණයක් පැවසීම ගැන අලෝෂා ලැජ්ජා විය. කැතිරිනා තමා පිළිගැනීමට දිව පැමිණි සැටි දුටු විට ඇය ගැන මෙ වැනි අදහස් පළ කිරීමෙන් තමා කළේ වරදක් බව ඔහු කල්පනා කෙළේ ය. මෙ වර ඇගේ මුහුණ කරුණාවෙන් හා අවංකකමින් බැබළිණි. ගිය වර දුටු ඇගේ අහංකාර කම වෙනුවට මෙ වර අලෝෂාට දකින්නට ලැබුණේ අවංක කම, ඍජුකම, ත්‍යාගවන්ත කම හා ආත්මවිශ්වාසයයි. කැතිරිනා දෙස බැලූ පමණින්, ඇගේ කතාව ඇසූ පමණින් ඈ ආලය කරන තරුණයා නිසා ඇයට පත්වී තිබෙන විපත ඇයට රහසක් නොවන බවත් ඈ දැනටමත් හැම දෙයක් ම දන සිටින බවත් අලෝෂා දැනගත්තේ ය. එහෙත් ඇගේ මුහුණ ප්‍රීතියෙන් බැබළෙයි. අනාගතය ගැන එහි උසස් බලාපොරොත්තු තිබෙන බව පෙනෙයි. මීට පෙර කැතිරිනා ගැන නොපැසුණු අදහස් පැවසීමෙන් තමා ඇයට වරදක් කළේ ය යි අලෝෂා කල්පනා කෙළේ ය. ඒ ක්ෂණයෙන් ම අලෝෂා ගේ සිත කැතිරිනාට යටත් විය. ඈ මහත් කලබලයෙන් සිටින බව ඇගේ කතාවෙන් පෙනිණි. එය ළඟ ළඟ ම පැමිණෙන ප්‍රීති ප්‍රමෝදය නිසා ඇති වන කලබලයකි.

"අලෝෂා ගෙන් සම්පූර්ණ ඇත්ත දැනගන්නට පුළුවන් නිසා මා ආලෝෂා එනතෙක් කිසි ම ඉවසිල්ලක් නැති ව මඟ බලා සිටියා."

"මා ආවේ අයියා මට එන්න කියාපු නිසයි" අලෝෂා නොසන්සුන්කමක් දක්වා ගොතගසමින් කී ය.

"එහෙනම් අලෝෂා ආවේ මීතියා කියාපු නිසා ද? මම ඒ බව දැන සිටියා. දැන් මට සේරම අවබෝධ වෙනවා" කැතිරිනා කීවා ය. ඇගේ දෑස බැබළිණි. "ටිකක් ඉන්න. ම ඉස්සෙල්ලම කියන්නම් අලෝෂා හමුවීමට බොහෝ ම ආසාවෙන් හිටියේ මන් ද කියා. සමහර විට අලෝෂා දන්නවාට වඩා බොහෝ ම දේවල් මා දන්නවා ඇති. ඒ නිසා මට අලෝෂා ගෙන් කිසි ම දෙයක් දැන ගැනීමට උවමනා නැහැ. මට දැන ගන්න උවමනා කරන්නේ මෙ පමණයි. මට දැනගන්න උවමනා කරන්නේ නුඹ මීතියා ගැන අන්තිමට ඇතිකරගත්ත පෞද්ගලික අදහස ගැනයි. මට අවංකව පැහැදිලිව කොතරම් ගොරෝසු උණත් කමක් නැහැ කියන්න ඕනෑ මීතියා ගැන දැන් අලෝෂා ගේ සිතේ තියෙන අදහසත්, අද මීතියා හමුවුණ වෙලාවේ දී එයා සිටි තත්ත්වය ගැන විස්තරයකුත්, මීතියා හමු වී දැනගන්නවාට වඩා හොඳයි අලෝෂාගෙන් අසා දැනගන්නඑක. කොහොමටත් මීට පස්සේ මීතියා හමුවෙන්න එන්නෙත් නැහැ. දැන් මා බලාපොරොත්තු වන දෙය දන්නවා නේ ද? දැන් ඉතින් මීතියා එවාපු පණිවිඩය අකුරක්වත් අඩු නොකර ඒ විදියට ම කියන්න."

"කැතිරිනා මතක් කළ බව කියා මීට පස්සේ කැතිරිනා බලන්න නොඑන බව කියන්න කිව්වා."

"මීට පස්සේ මා බලන්න එන්නෙ නැහැ කිව්වා? ඒක ද පණිවිඩය?"

"ඔව්"

"සමහර විට මීතියා නියම වචනය නොකියා වචන පටලවා ගන්න ඇති.

"නැහැ, වැරදීමක් වෙන්න බැහැ. මීට පස්සේ කැතිරිනා බලන්න නොඑන බව කියන්න කිව්වා. නො වරදවා කියන්නය කියා තුන් වරක් ම කිව්වා."

කැතිරිනා ගේ මුහුණ රතු විය.

"අලෝෂා, දැන් මට කරුණාකර පිහිට වෙන්න ඕනෑ. දැන් මට තුඹේ උපකාරය බොහෝ ම අවශ්‍යයි. මම මගේ හිතේ තියෙන අදහස් කියන්නම්. ඒ අදහස් හරි ද වැරදි ද කියා මට කියන්න. දැන් මා කියන දෙය හොඳට අහගන්න. මීට පස්සේ මා හමුවීමට නොඑන බව මීතියා නිකම් මතක් කරන්න කිව්වා නම් එය හැම දෙයක ම අවසානය හැටියට පිළිගත යුතුයි. නමුත් තමා ගේ පණිවිඩය වචනයක් පාසා නො වරදවා කියන්නය කියා දෙතුන් වරක් ම මතක් කළා නම් මීතියා කිසියම් නො සන්සුන් කමකින් සිටින්න ඇති. මේ තීරණය ගැන මීතියා බයවෙලා ඇති. එය ස්ථිර සිතකින් මා අත්හැර යනවා නොවෙයි. නිකම් පැනල යනවා. සමහර විට එයා බොරු තර්ජනයක් කරන්න ඇති."

"ඔව්, ඔව්, ඒක එහෙම වෙන්න පුළුවනි." අලෝෂා ඡ්තවත්කමක් දක්වමින් කී ය.

"ඒක එහෙම නම් මීතියා විනාශ වෙලා නැහැ. බේරා ගැනීමට තවත් කල් තියෙනවා. එයා මුදල් ගැන මතක් කළේ නැද්ද? රූබල් තුන් දහක් ගැන මතක් කළේ නැද්ද?"

"මතක් කළා. මේ මුදල් ප්‍රශ්නය තමයි අයියා ගේ හිතට ලොකු කරදරයක් වී තියෙන්නේ. මේ මුදල් නිසා අයියා ගේ ගරුත්වයට ලොකු හානියක් වී තියෙනවා. ඒ නිසා දැන් අයියා කිසි ම දෙයකට සැලකිල්ලක් දක්වන්නේ නැහැ"යි අලෝෂා කීවේ සිතේ හටගත් බලාපොරොත්තුවෙන් යුතුව ය. සොහොයුරාට මේ සියලු දුකින් හා කරදරවලින් නිදහස් වීමට මගක් ඇතැයි ඒ අතරේ ඔහු කල්පනා කෙළේ ය "මේ මුදල් ගැන දන්නව ද? "යි විමසූ අලෝෂා එ තැනින් හදිසියෙන් ම කතාව නතර කෙළේ ය.

"ඔව්, මා බොහෝ ම කාලයක සිට දන සිටියා. මා මොස්කව් නුවරට විදුලිපණිවිඩයක් යවා දැනගත්තා මුදල් ලැබී නැති බව මීතියා මුදල් යවා නැහැ. ඒ ගැන මීතියාට දොස් කිව්වේ නැහැ. මට ආරංචි වුණා ගිය සතියේ

මීතියා මුදල් නැති ව සිටිය බව. එවැනි වෙලාවක දී උපකාර ලබාගත යුත්තේ කාගෙන් ද කියා මීතියා දන ගන්න ඕනෑ. සා දෙස කියන්නේ අන්න ඒ වරදටයි. තමා ගේ හිතවත් මිත්‍රයා කවුද කියා එයා දන ගන්න ඕනෑ. මා එයා ගේ නියම. මිතුරිය බව එයා පිළිගන්නේ නැහැ. මීතියා තව ම මා අඳුනා ගෙන නැහැ. මා දිහා බලන්නේ සාමාන්‍ය ගැහැනි-යක් දෙස බලන විදිහටයි. අර රූබල් තුන් දහ වියදම් කළ නිසා එයා තුළ පවතින ලැජ්ජාව නැති කිරීමේ ක්‍රම-යක් ගැන මම පසු ගිය මුළු සතිය තුළ ම කල්පනා කළා. එයා ගැන ම ලැජ්ජා වූදෙන්. පිට අය දනගත්ත නිසා ලැජ්ජා වුණාට කමක් නැහැ. නමුත් මා දනගත්තය කියා ලැජ්ජා වෙන්නේ මොනවට ද? ලැජ්ජා වෙන්න හේතුවක් නැහැ. මීතියා හැම දෙයක් ගැන ම ලැජ්ජාවක් නැති ව දෙයියන්ට කියනවා නම් එයා වෙනුවෙන් එයා ගේ වැරදි ඇසීමට මා නිතර සූදානම් බව ඇයි එයා පිළි නො ගන්නේ? මා මීතියා ගේ වැරදි දනගත්තට ලැජ්ජා වෙන්න හේතු-වක් නැහැ. ඇයි මීතියා මා විශ්වාස නොකරන්නේ? මෙ තරම් දේවල් සිදු වූ පසුවත් ඇයි මීතියාට මා විශ්වාස කරන්න බැරි? මට උවමනා කරන්නේ වැටී සිටින මේ කරදරයෙන් මීතියා නිදහස් කරගැනීමටයි. මා විවාහ කර ගැනීමට පොරොන්දු වී සිටින බව මීතියාට අමතක වුණාවේ. මීතියා දන් මට බය වී සිටින්නේ එයා ගේ ආත්මගරුත්වය නැති වූ නිසා ද? අලෝෂාට ඇත්ත කියන්න බය වුණේ නැති නම් ඇයි මට ඇත්ත කියන්න බය වන්නේ?''

කැතිරිනා අන්තිම වචන සවල්පය කීවේ දෑසේ කඳුළු ඇතිව ය. අනතුරුව ඈ අඬන්නට වූවා ය.

“දන් ටිකකට කලින් අයියා හා තාත්තා අතරේ ඇති වූ කෝලාහලය ගැන කැතරිනාට කියන්න ඕනෑ.''යි අලෝෂා තරුණියට කීවේ වෙවුලන කට හඬිනි.

තාත්තා ගෙන් මුදල් ඉල්ලා ගැනීමට මීතියා තමා තාත්තා ළගට යැවූ සැටිත්, අනතුරුව මීතියා ගෙට කඩා වැදී තාත්තාට පහර දුන් හැටිත්, කැතිරිනා හමුවී පණිවි-ඩය කියන ලෙස ආයේත් මතක් කළ සැටිත් විස්තර කළ අලෝෂා අනතුරුව “අයියා අර ගෑනි ළගට ගියා''යි සෙමෙන් කීවේ ය.

"මොකද, අලෝෂා ගේ කල්පනාව මට ඔය ගැනි එක්ක ඉන්න බැහැ කියා ද? මිතියා කල්පනා කරන්නේත් ඒ විදියට ද? නමුත් මිතියා කවදාවත් ගෲසෙන්කා බඳින්නේ නැහැ. කරමසෝ පවුලේ අය තුළ ආශාව වැඩි කල් පවතින දෙයක් නොවෙයි. මිතියා, ගෲසෙන්කාට දක්වන්නේ ආලය නොව ආශාවයි. ගෲසෙන්කා මිතියා සමග විවාහ වීමට කැමැති නැති නිසා මිතියාට කවදාවත් ගෲසෙන්කා බඳින්න ලැබෙන්නේ නැහැ"යි කැතරිනා කීවේ ඉතා අමාරුවෙන් සිනාසෙමිනි.

"සමහර විට මිතියා ගෲසෙන්කා බඳින්න පුළුවනි"යි අලෝෂා බිම බලා ගෙන කනගාටුවෙන් කීවේ ය.

"නැහැ. මම සත්‍යය ම කියන්නම්, කවදාවත් මිතියා ගෲසෙන්කා බඳින්නේ නැහැ. ගෲසෙන්කා සුරදූවක්. අලෝෂා තුඹ ඒ බව දන්නව ද?"යි කැතිරිනා ගත්කටට ම කීවේ ලොකු ආදරයක් දක්වමිනි. "ගෲසෙන්කා මහ පුදුම තැනැත්තියක් ඈ බොහො ම කරුණාවන්තයි. ඇගේ අදහස් සත්‍යයි. ගතිගුණ බොහො ම උදාරයි. ඇයි අලෝෂා මා දිහැ ඔය විදියට බලන්නේ? සමහර විට මගේ කතාව තේරුම් ගන්න බැරිව ඇති. මා විශ්වාස කරන්න බැරිව ඇති." මෙසේ පැවසූ කැතිරිනා අනෙක් කාමරයට එබී බලා හදිසියෙන් ම යම් කිසිවකුට කතා කළා ය. "මෙහාට එන්න. අලෝෂා ඇවිත් ඉන්නවා. අලෝෂා බොහොම හොඳයි. එයා අප ගැන හැම දෙයක් ම දන්නවා. ඇවිත් අලෝෂාට කතා කරන්න."

"මට කතා කරන තෙක් මා දොර රෙද්ද පිටිපසට වී බලා සිටියා"යි තරුණිය ගෝ ඉතා මුදු කන්කලු කට-හඬක් දොර පිටිපසින් ඇසිණි.

දොරේ තිරය ඇත් විය. සිනාවෙන් අලංකාර වූ මුහුණින් යුත් ගෲසෙන්කා මේසය ලඟට පැමිණියා ය. අලෝෂා තුළ බලවත් නොසන්සුන් කමක් ඇති විය. ගෲසෙන්කා ගෝ රුව කෙරෙහි ඇලුණු ඔහු ගෝ දෑස ඉන් ඈදගත නොහැකි විය. මීට පැය බාගයකට කලින් ඉවාන් විසින් 'වල් සතා' ලෙස හඳුනා දෙන ලද භයානක ඉතිරිය අලෝෂා ගේ නෙත් ඉදිරිපිට සිටියි- ඈ ඉතා චාම් ය. නිහතමානී ය.

කරුණාවන්තයයි කෙනෙකු සිතන්නට පිළිවන. වෙනත් රූප ඇති තරුණියන් මෙන් ගෘසෙන්කා ද රූමත් ය. බොහෝ පිරිමින් විසින් ප්‍රිය කරනු ලබන රුසියන් කතුන් සතු රූ සපුවෙන් යුත් ගෘසෙන්කා අතිශයෙන් ම රූමත් ය යි කිව යුතු ය. ඒ උස ය, එහෙත් විශේෂයෙන් ම උස සිරුරකින් යුත් කැතිරිනාට වඩා මදක් මිටි ය. ඇගේ පිරුණු අඟ පසඟ ඉතා සිවුමැලි ය. මඳලස ගමන් ඇත්තී ය. ඇගේ රූපයත්, ගමනත්, ඇගේ කට හඬ මෙන් මිහිරි ය. ඇය ගියේ කැතිරිනා මෙන් කඩිසර ගමනින් නො වේ. හඬ නොනැගෙන ලෙස බිම අඩි තබා යන ඇගේ ගමන ඉතා මෘදුය. ඉතා සෙමෙන් පුටුවක හිඳගත් ගෘසෙන්කා ගජදත් පැහැති මට සිළිටි බෙල්ල හා උරහිස් වටිනා කාෂ්මීර පට සළුවකින් වසා ගත්තා ය. ඇ හිඳගන්නා විට ඇ ඇඳ සිටි කළු පටවස්ත්‍රයෙන් සිහින් හඬක් නික්මිණි. ගෘසෙන්කා ගේ වයස හවුරුදු විසි දෙකකි. ඒ වයස ඇගේ මුහුණේ නිවැරදිව පිළිබිඹු විය රෝස පැහැති කම්මුල්වලින් යුත් හිම මෙන් සුදු පැහැති ඇගේ මුහුණ මදක් පළල් යයි කිව හැකි ය. පහළ හකුඇටය මදක් ඉදිරියට විත් තිබුණේ ය. ඇගේ උඩු තොල සිහින් ය. එය මසින් පිරී උල් වූ ඇගේ යටි තොල මෙන් දෙගුණයක් පමණ මහත් ය. අලංකාර කළු දිග කෙස්වැටියෙන් ද, දුඹුරු පැහැති වක් වූ ඇස් බැම ද, දිග පිහාටුවලින් යුත්, දුඹුරු පැහැයෙන් හා නිල් පැහැයෙන් බැබළෙන පියකරු දෑසින් ද යුත් ඇය නොසැලකිලිමත් තැනැත්තකුට ජනාකීර්ණ වූ මහ මග දී හදිසියෙන් හමුවුණොත් ඔහු මග නතර වී ඇගේ ඒ සුන්දර මුහුණ දෙස බලා බොහෝ කාලයක් ගතවනතුරු ඒ මුහුණ මතක තබාගන්නවා ඇත. වෙසෙසින් ම අලෝෂා ගේ සිත් ගත්තේ ගෘසෙන්කා ගේ මුහුණේ පැවැති දරුවකු ගේ මුහුණේ ඇත්තා වූ කරුණාවට සමාන කරුණාව ය. ඇගේ දෑසේ දරුවකු ගේ දෑසේ ඇත්තා වූ සෞම්‍යගතිය හා ප්‍රීතිය දකින්නට තිබුණේ ය. ඇ මේසය ළඟට ප්‍රීතියෙන් විකසිත වූ මුහුණින් යුතුව පැමිණියේ යම් කිසිවක් ගැන දැන ගැනීමට දරුවකු තුළ ඇත්තා වූ කුතුහලයෙන් හා නොඉවසිල්ලෙන් යුතුව ය. ගෘසෙන්කා ගේ දෑසෙන් නික්මෙන ආලෝකය නිසා තම ආත්මය විකසිත වන බව අලෝෂාට දැනිණි. තවද තමාට තේරුම් ගත නොහැකි, වචනයෙන් විස්තර කළ නොහැකි, එහෙත් නොදැන ම තමා කෙරෙහි බලපවත්වන කිසියම් ගුණයක් ඇය තුළ තිබෙන බව අලෝෂාට දැනිණි. එය ඇගේ නාරි

දේහයෙහි ඇත්තා වූ මුදුමොලොක්කම හා කාමය අවදිකර-
මින් අඟපසඟ නටවනටවා යන ගමනෙහි ඇති අලංකාරය හා
සන්සුන් කමයි. එහෙත් ගෘසෙන්කා ගේ පිරිපුන් දේහය ඉතා
ශක්තිමත් ය. ඇගේ පළල් උරහිස් හා උස් වූ, එහෙත් තවමත්
දැරියක ගේ පියයුරුවලට සමාන පුන්පියයුරු සළුව යටින්
පෙනේ. ඇගේ රූපය වීනස් දෙව් දුව ගේ රූපයට සමකළ
කී ය. එහෙත් එය මදක් අතිශයෝක්තියෙන් කීමක් වැන්න.
ඒ බව ඇය දෙස බලා කිව හැකි ය. රුසියන් ගැහැනුන් ගේ
රූප සෞන්දර්යයෙහි රසය දන්නා රසිකයාට, ගෘසෙන්කා ගේ
රූපය දෙස බලා හවුරුදු තිහ වන විට ඇගේ රූපයේ
අලංකාරය නැති වී යන්නේ ය. මුහුණ මහත් වී නළල උඩ
හා දෑස වටේ සම රැළි වැටෙන්නේ ය. සමේ පැහැය වෙනස්
වන්නේ ය. ඇගේ රූපය තාවකාලික අලංකාරයකි. එය
නිතර රුසියන් ගැහැනුන් කෙරෙහි දක්නට ලැබෙන අස්ථිර
අලංකාරයක් බව නො වරදින්නට කිව හැකි ය. එහෙත් ඒ
මොහොතේ දී අලෝෂා රුසියන් රසිකයන් ගේ අදහස් ගැන
කල්පනා නො කළේය. ගෘසෙන්කා ස්වාභාවික ලෙස කතා
නො කර වචන ඇද නළවනළවා කතා කරන්නේ මන්දැ යි
ඇගේ රූපයට වසඟ වූ අලෝෂා කල්පනා කෙළේ ය. එය
අලෝෂා ගේ ශෝකයට හේතු වූ කරුණකි. ගෘසෙන්කා එසේ
කතා කරන්නේ ඒ කතාවේ කිසියම් මිහිරක් ඇත යන
අදහසින් විය යුතු ය. එය කුඩා කල සිට නුසුදුසු අධ්‍යාපනය-
කින් හා සහපත් සිරිත් විරිත් ගැන ඇතිකරගත් වැරදි
හැඟීම් පෙන්වන අශිෂ්ට පුරුද්දකි. එහෙත් ගෘසෙන්කා ගේ
බොළඳ ගතිගුණවලට, මුහුණින් උතුරා යන සොම්නසට, දෑසේ
බැබළෙන අහිංසක ප්‍රීතියට නො ගැළපෙන ඇගේ ස්වර
භේදය හා කතාවිලාසය අලෝෂා ගේ සිත් පැහැර ගත්තේ ය.
අලෝෂා ඉදිරිපිට අත්හැඳිපුටුවක ගෘසෙන්කා හිඳුවා ගත්
කැතිරිනා, නිතර සිනාව රැඳි ගෘසෙන්කා ගේ දෙතොල් මහත්
ආශාවෙන් සිම්බා ය. කැතිරිනා ගෘසෙන්කාට මහත් ආදරයක්
දක්වන බව පෙනේ.

"අප දෙදෙනා පළමු වරට හමුවුණේ අද යි" කැතිරිනා
අලෝෂාට කීවේ ඉමහත් ප්‍රීතියෙනි. "මා බොහො ම ආශාවෙන්
සිටියා ගෘසෙන්කා හමු වී ඇඳින ගන්න. මා කල්පනා කරගෙන
සිටියේ ගෘසෙන්කා ළඟට යන්නටයි. නමුත් ගෘසෙන්කා හමුවී-
මට ඇති ආශාව ගැන මතක් කරනවාත් සමඟ ම ඇ මාව

හමුවෙන්න ආවා. අප දෙදෙනාට එකතුවෙලා හැම ගැටළුවක් ම විසඳ ගන්න පුළුවන් බව මා දන්නවා, ඒ බව මගේ හිත කියනවා. ගෙදර අය මගෙන් බැගෑපත් ව ඉල්ලා සිටියා ගෲසෙන්කා හමුවෙන්න එපාය කියා. නමුත් මා කල්පනා කළා මේ හැම ප්‍රශ්නයක් ම විසඳ ගැනීමට නම් ගෲසෙන්කා හමු-වීම හොඳය කියා. දැන් මට පේනවා මගේ කල්පනාව හරි බව. ගෲසෙන්කා මට හැම දෙයක් ම තේරුම් කරදුන්නා ඇ කරන්නට අදහස් කරන හැම දෙයක් ම මට කිව්වා. ඈ යහපත් සුරදූවක් වගේ සාමයත් ප්‍රීතියත් ගෙන මා ළඟට ආවා.''

"මේ යහපත් උසස් කුලකාන්තාව මා නරක ගැතියක් හැටියට පිළිගෙන නැහැ''යි ගෲසෙන්කා ඇගේ සුන්දර සිනාව දක්වා සුපුරුදු සුලලිත කටහඬින් කීවා ය.

"ගෲසෙන්කා හරි මායාකාරියක්. ඔය විදියට මට කතා කරන්න එපා. මා කොහොම ද ගෲසෙන්කා පහත් කොට සලකන්නේ? නුඹේ යටි තොල ආයේත් සිඹින්න ඕනෑ. යටි තොල ටිකක් ඉදිමිලා වගෙයි. එය තව තවත් ඉදිමේ වි. බලන්න අලෝෂා, ගෲසෙන්කා සිනාසෙන ලස්සණ. මෙ වැනි සුරදූවක් දකගන්නට ලැබීම හිතට කො තරම් ලොකු සැනසීමක් ද?''

අලෝෂා ගේ මුහුණ විළියෙන් රතු විය. ඒ සමග ඔහු ගේ පිටකොන්ද හිරිවැටිණි.

"ඔබතුමිය උවමනාවට වඩා මා උසස් කොට සලකනවා ඔබතුමිය ගේ ආදරය ලැබීමට තරම් මා සුදුසු නැහැ.''

"මොනවා, සුදුසු නැහැ?''යි කැතිරිනා පෙර පැවැති ආදරයෙන් ම විමසුවා ය. "අලෝෂා අපේ කුඩා හිස් තුළ විකාර අදහස් පිරී තිබෙන අතර අපේ කුඩා හිස් බොහො ම උඩගුයි. බොහො ම හිතුවක්කාරයි. අපේ අදහස් බොහො ම ශ්‍රේෂ්ඨයි. බොහො ම ත්‍යාගවන්තයි. අනෙක් අතින් අපි බොහො ම අවාසනාවන්තයි. සමහරවිට වංක සිත් ඇති නො වැදගත් මිනිහකු වෙනුවෙන් හැම ආත්මපරිත්‍යාගයක් ම කිරීමට අප නිතර සූදානමින් සිටියා. එ වැනි මිනිහෙක් සිටියා. ඒ මිනිහා යුද්ධහමුදුවේ නිලධාරියෙක්. අප මේ මිනිහට ආලය කළා.

හැම දෙයක් ම ඔහු වෙනුවෙන් කැප කළා. මේක සිදුවුණේ බොහෝ ම ඉස්සර. අවුරුදු පහකට කලින්. ඒ මිනිහා අප අමතක කර දමා වෙන ගෑනියක් කසාද බැන්ද. දන් එයා ගේ බිරිය මැරිලා. එයා මෙහාට එනවය කියා දන්වා එවා තියෙනවා. අලෝෂා දන්නව ද අප තවමත් මේ තැනැත්තාට ආලය කරන බව. අප හැම දූ ම එයාට ආලය කරනවා. එයා ආවාට පස්සේ ගෲසෙන්කාට ආයේත් ප්‍රීතියෙන් සිටිය හැකියි. දන් අවුරුදු පහක සිට ගෲසෙන්කා සිටින්නේ බොහෝ ම ලොකු කනගාටුවකින්. නමුත් ගෲසෙන්කා ගේ සිත සනසන්න පුළුවන් තැනැත්තා කවු ද? ඇගේ සිත් දිනා ගත හැකි තැනැත්තා කවු ද? ඔත්පොළ වී සිටින අර මහලු වෙලෙන්ද හැර වෙන කවු ද? නමුත් ඒ වෙලෙන්ද ගෲසෙන්කා ගේ තාත්තා වගෙයි. මිත්‍රයකු නැති නම් ආරක්ෂකයෙකු වගෙයි. ඔහුට ගෲසෙන්කා හමුවුණේ පෙම්වතා අත්හැරදමා අනාථ වී ශෝකයෙන් සිටින විටයි. ගෲසෙන්කා ගඟට පැන පණ නහ ගැනීමට සූදනම් වුණා. ඒ වෙලාවේ ඇය බේරාගත්තේ මේ මහලු වෙලෙන්ද යි."

"ඔබතුමිය බොහෝ ම ආදරයෙන් මා ආරක්ෂා කරන්න හදනවා, නමුත් ඔබතුමිය කොයි දෙයටත් ඉක්මන් වෙනවා වැඩියි." ගෲසෙන්කා ආයේත් ඇගේ සුපුරුදු කටහඬින් කීවා ය.

"ගෲසෙන්කා ආරක්ෂා කරන්න! අප කවුද තුඹ ආරක්ෂා කරන්න? තුඹ ආරක්ෂා කරන්න අපට අයිතියක් තියෙනව ද? ගෲසෙන්කා කරුණාකර මට අත දෙන්න. අලෝෂා බලන්න ගෲසෙන්කා ගේ සිනිඳු අත්වල ලස්සණ. මේ අතින් ඈ මට ලොකු සැනසීමක්, ලොකු ප්‍රීතියක් ගෙනාවා. මම මේ අත සිඹින්න ඕනෑ. අත පුරා ම සිඹින්න ඕනෑ."

මෙසේ පැවසූ කැතිරිනා තුන් වරක් ම ඉමහත් ප්‍රීතියෙන් ගෲසෙන්කා ගේ ඉතා සිනිඳු එහෙත් මදක් මහත අත ගෙන සිඹා ය, ගෲසෙන්කා මිණිහඬක් වැනි සිනාහඬින් යුතුව 'කුලකාන්තාවට' අත සිඹිමට ඉඩ දී බලා සිටියා ය. සමහර විට තමා ගේ අත සිඹිනවා දකීමට ඈ කැමැති වන්නට ඇත.

"කැතිරිනා, ගෘෂෙන්කාට දක්වන සැලකිල්ල පමණට වැඩි ය යි" අලෝෂා කල්පනා කෙළේය. ඔහු ගේ මුහුණ රතු වූ අතර මුළු කාලය තුළ ම තමා ගේ හදවතේ කිසියම් නො-සන්සුන් කමක් තිබෙන බව අලෝෂාට දැනිණි.

"කරමසෝ මහත්මයා බලාසිටිය දී මේ විදියට මගේ අත සිඹින විට මට ලැජ්ජා හිතෙනවා."

"ගෘෂෙන්කා ලැජ්ජා කිරීමේ අදහසින් අත සිම්බාය කියා කල්පනා කරනව ද?"යි කැතිරිනා විමසුවේ ගෘෂෙන්කා ගේ කතාව අසා පුදුම වූවාක් මෙනි. ගෘෂෙන්කා තවමත් මගේ හැටි දන්නේ නැහැ."

"සමහර විට ඔබතුමිය ද මගේ හැටි නො දන්නවා ඇති. සමහර විට මා ඔබතුමිය පිළිගෙන තිබෙන තරම්ම හොඳ තැනැත්තියක් නො වෙන්ටත් පුළුවනි. මම බොහො ම නපුරැ-යි. මගේ සිත බොහො ම තද යි. මම බොහො ම හිතුවක්කා-රයි. මම විහිළුවට මිතියා ගේ ඔළුව අවුල් කළා."

"නමුත් ගෘෂෙන්කා මිතියාව ආරක්ෂා කරගන්නවා කිව්වා නේද? පොරොන්දු වුණා නේ ද? මිතියාට හැම දෙයක් ම පහදා දී ගෘෂෙන්කා වෙන කෙනෙකුට ආලය කරන බවත් බොහෝ කාලයක සිට ඔහුට ආලය කළ බවත්, දැන් ඔහු තුඹ විවාහ කර ගැනීමට කැමැත්තෙන් සිටින බවත් කියන්න පොරොන්දු වුණා නේ ද?"

"නැහැ නැහැ, එහෙම දෙයක් කරන්න මා පොරොන්දු වුණේ නැහැ. මේ හැම දෙයක් ම මට කිව්වේ කැතිරිනායි නමුත් කිසි ම දෙයක් කරන්න මා පොරොන්දු වුණේ නැහැ."

"එහෙනම් ගෘෂෙන්කා මා තුඹ වරදවා තේරුම් ගන්න ඇති"යි කැතිරිනා සෙමෙන් කීවා ය. ඇගේ මුහුණ මඳක් සුදුමැලි විය. "තුඹ පොරොන්දු වුණා."

"නැහැ නැහැ. එහෙම දෙයක් කරන්න මා පොරොන්දු වුණේ නැහැ"යි ගෘෂෙන්කා ඉතා සෙමෙන් කැතිරිනා ගේ කතාවට බාධා කරමින් ඇගේ සුපුරුදු අහිංසක මිහිරි කට හඬින් කීවා ය. "ඔබතුමියට සම කරන විට මා කොතරම් හිතු-වක්කාර මුරණ්ඩු නරක ගැනියක් ද කියා දැන්වත් පේනවා

නේද? මං යමක් කිරීමට අදහස් කළොත් මොනවා වුණත් ඒ දෙය කරනවා. මං දැන් ඔබතුමියට යම්කිසි පොරොන්දුවක් වෙන්න ඇති. පොරොන්දුව කොහොම වුණත් මා ආයේත් වරක් මීතියාට කැමැති වුණොත් මොකද වෙන්නේ? මා වරක් මීතියාට ලොකු කැමැත්තක් දැක්වූවා. සමහර විට මට පුළුවන් දැන් ගිහින් මීතියාට කියන්න අද සිට මා සමග එක ගෙයි වාසය කරන්නය කියා......... මම බොහො ම ඉක්මනට වෙනස් වන කෙනෙක්. මගේ හැටි ඔහොම තමයි......"

"නමුත් දැන් ටිකකට ඉස්සෙල්ලා මට මීට වෙනස් කතා-වක් කිව්වා නේ ද?"යි කැතිරිනා ඉතා සෙමෙන් ඇසුවා ය.

"වෙන්න පුළුවනි. මම බොහො ම මොළොක් හිතක් ඇති මෝඩ ගැනියක්. බලන්න මීතියා මා නිසා කො තරම් දුක් විඳිනව ද කියා. ගෙදර ගියාට පස්සේ හදිසියෙන් ම මට මීතියා ගැන අනුකම්පාවක් ඇති වුණොත් මොක ද වෙන්නේ?......"

"එහෙම දෙයක් මා කවදාවත් බලාපොරොත්තු වුණේ නැහැ......"

"මට සම කරන විට ඔබතුමිය කො තරම් යහපත් ද? කො තරම් ත්‍යාගවන්ත ද? කො රම් උතුම් ද? දැන් මගේ හැටි දන්න නිසා ඔබ තුමිය මට සැලකිල්ලක් නොදක්වන්න පුළුවනි. මට වෛර කරන්න පුළුවනි. කරුණාකර අත දෙන්න." මෙසේ පැවසූ ගෘසෙන්කා ඉතා ආදරයෙන් හා භක්තියෙන් කැතිරිනා ගේ අත ගත්තා ය. "ඔබ තුමී මගේ අත සිම්බා වගේ මා ඔබ තුමිය ගේ අත සිඹිනවා. ඊට සමාන වන්නට නම් මේ අත තුන් සිය වරක් සිඹින්න ඕනෑ. මම අත තුන් සිය වරක් සිඹින්නම්. එය දෙවියන් වහන්සේ ගේ කැමැත්ත අනුව වේ වා. සමහර විට මම දාසියක වී ඔබ තුමිය ගේ මෙහෙවර කර දෙන්නම්. කිසි ම ගිවිසුමක් හෝ පොරොන්දුවක් නැති ව එය දෙවියන් වහන්සේ ගේ කැමැත්ත අනුව වේ වා. ඔබතුමිය වැනි ලස්සණ කාන්තාවක ගේ මේ අත් දෙක කො තරම් ලස්සණ ද?"

කැතිරිනාට සමා විය යුතුය යන පුදුම අදහසින් යුතුව ගෘසෙන්කා කැතිරිනා ගේ අත තොල් ළඟට ගත්තා ය. අත ඉවත නොගත් කැතිරිනා 'දාසියක මෙන්' සේවය කරන බව දන්වමින් ගෘසෙන්කා කළ කතාව අසා සිටියා ය. අනතුරුව

කැතිරිනා, ගෘසෙන්කා ගේ නෙත් දෙස මහත් ඕනෑ කමින් බලා සිටියා ය. ඒ නෙත් තුළ නිහතමානකම, විශ්වාසය හා සත්සුන් ප්‍රීතිය ද දකින්නට තිබිණි.

"මේ තරුණිය සමහර විට පමණට වඩා බොළඳ වන්නට පුළුවනි"යි කැතිරිනා කල්පනා කළා ය එ වේලේ හදිසියෙන් ම ඇගේ හදවතේ බලාපොරොත්තුවක ජායාමාත්‍රයක් ඇති විය.

ඒ අතරේ ගෘසෙන්කා, කැතිරිනා ගේ ලස්සණ අත ගැන මහත් ලැදිකමක් දක්වූවා ය. මහත් ආශාවකින් අත තොල් ළඟට ගත් ගෘසෙන්කා කිසියම් දෙයක් ගැන කල්පනා කිරීමට මෙන් මිනිත්තු දෙක තුනක් පමණ වේලා අත තොල් ළඟ තබාගෙන බලා සිටියා ය.

"දන්නව ද කාරණාවක්?"යි ගෘසෙන්කා ඇගේ කන්කලු සුලලිත කටහඬින් විමසුවා ය. "මා ඔබ තුමිය ගේ අත සිඹින්නේ නැහැ." අනතුරුව ඈ ඉතා මිහිරි ලෙස සිනාසුණා ය.

"කැමැති නම් සිඹින්න, නැත්නම් නිකම් ඉන්න.............. මොකද නුඹට වෙලා තියෙන්නේ?"යි කැතිරිනා ගත්කටට ම ඇසුවා ය.

"ඔබ තුමිය මගේ අත සිම්බ බවත්, නමුත් මා ඔබ තුමිය ගේ අත නො සිම්බ බවත් ඔබ තුමිය හැම දා ම මතක තබා ගත යුතුයි."

ගෘසෙන්කා ගේ දෑස හිටි හැටියේ ම බැබළෙන්නට විය. ඕ තැතිගන්වන බැල්මෙන් කැතිරිනා දෙස බැලුවා ය.

"අහංකාර ගෑනි!"යි කියා කැතිරිනා කෑගැවේ හදිසියෙන් ම කිසියම් දෙයක් අවබෝධ වූවාක් මෙනි. ඇගේ සරුවාංග-ය ම කෝපයෙන් දැවෙන්නට විය. ඈ වහා පුටුවෙන් නැඟී සිටියා ය.

ගෘසෙන්කා ද තමා හුන් අසුනෙන් නැඟී සිටියා ය. එහෙත් ඈ නැඟිට්ටේ සෙමෙනි.

"තුඹ මගේ අත ඕමබ බවත්, නමුත් මා තුඹේ අත නොඹ-ඹබ බවත් මා මීතියාට කියනවා. එතකොට මීතියා හොඳට ම හිනා වේවි."

"වල් දුෂ්ට ගෑනි, දුන් ම මෙ තැනින් දෙවට බැහැපිය."

"ලැජ්ජ නැද්ද? ඔය විදියට කතා කිරීම තුඹ වැනි ශිෂ්ට කාන්තාවකට සුදුසු ද?"

"බැහැපිය දෙවට වල් වෙසි"යි කියමින් කැතිරිනා මහ හඩින් කෑගැවා ය. කෝපයෙන් විකල වූ ඇගේ මුහුණේ හැම මස්පිඩුවක් ම නටන්නට විය.

"මම වෙසියක්? තුඹ අඳුරු වැටුණු පසු සල්ලි ඉල්ලා ගන්න මහත්වරු ළඟට ගියේ නැද්ද? රූපය විකුණා සල්ලි ගන්න හැදුවේ නැද්ද? මා ඒ සේරම දන්නවා."

කැතිරිනා යටිඋගුරෙන් කෑගා ගෘසෙන්කා වෙත කඩා පැන්නා ය. එහෙත් ඊට පෙර අලෝෂා මුළු වැරම යොදා ඇය නතර කරගත්තේ ය.

"ගෘසෙන්කා එක්ක කතා කරන්න එපා. වචනයක්වත් කියන්න එපා. ඈ දුන් යාවි, දුන් ම යාවි."

කැතිරිනා ගේ කෑගෑම අසා වහා දිව පැමිණි ඇගේ නැන්-දණියන් දෙදෙනා හා වැඩකාරිය ඇය වටකර ගත්හ.

"හොඳයි එහෙනම් මම යන්නම්"යි ගෘසෙන්කා සෝපාව උඩ තිබුණු සළුව අතට ගනිමින් කීවා ය. "අලෝෂා කරුණා-කර මා ගෙදර ඇරලන්න."

"කරුණාකර යන්න, කරුණාකර යන්න"යි අලෝෂා දෙ අත් එක් කොට බැගෑපත්ව කීවේ ය.

"අලෝෂා මා ගෙදර ඇරලන්න, මග දී කියන්න ලස්සන කතාවක් තියෙනවා. මා මේ පෙරළිය කළේ අලෝෂා ගේ ප්‍රයෝජනයටයි. මා ගෙදර ඇරලන්න. ඒ ගැන තුඹ පස්සේ සතුටු වේවි."

අලෝෂා ඉවත බලාගත්තේ ය. ගෘසෙන්කා ගෙය පුරා ඇගේ මිහිරි සිනා හඬ පතුරුවමින් සිනාසී ගෙන් පිටත දිව ගියා ය.

සන්නියක් වැලඳුණාක් මෙන් කැතිරිනා විලාප නඟන්නට වූවා ය. ඇගේ සරුවාංගයම වෙවුලන්නට විය. ගෙදර ඇත්තෝ කලබල වී ඇය වට කරගත්හ.

"මෙහෙම දෙයක් වන බව මා කල් ඇති ව කිව්වේ නැද්ද?"යි කැතිරිනා ගේ වැඩිමල් නැන්දණිය කීවා ය. "මා මේක නතර කරන්න කො තරම් වැයම් කළා ද? කැතිරිනා බොහො ම ඉක්මන් වෙනවා වැඩියි. ඇයි මේ ගෑනිව ගෙදරට වැද්ද ගත්තේ? මේ වගේ ගෑනුන් ගේ හැටි ඔහොම තමයි. මේ ගෑනි ඒ ජාතියේ අනෙක් ගෑනුන්ට වඩා නරකලු. කැති-රිනා නුඹ බොහො ම හිතුවක්කාරයි."

"ඒකි කොටි දෙනක් වගෙයි." කියමින් කැතිරිනා ආයේත් කෑගැවා ය. "අලෝෂා ඇයි මාව අල්ල ගත්තේ? නැතිනම් මා ඔය ගෑනිට හොඳට ම තළනවා."

කැතිරිනාට සිත මැඩගත නොහැකි විය. සිත මැඩ ගැනී-මට ඇයට උවමනා නො වී ය.

"ඒකිව පෝරකයට නංවා අලුගෝසුවා ලවා ප්‍රසිද්ධියේ තලවන්න ඕනෑ."

අලෝෂා සෙමෙන් දොර ළඟට ගියේ ය.

"අනේ දෙයියනේ මිතියා මේ තරම් නරක මිනිහෙක් ද? මේ තරම් වංක ද? මේ තරම් ලොකු අමනුෂ්‍යයෙක් ද? ඒ භයානක දවසේ, ඒ අවාසනාවන්ත දවසේ සිද්දවෙච්ච දේ මිතියා මේ වල්ගෑනිට කියා තියෙනවා නේද? ඒ නිසා තමයි ඈ නුඹ, නුඹේ රූපය විකුණන්න ගියා ය යි කිව්වේ. අලෝෂා නුඹේ සහෝදරයා මහ තක්කඩියෙක්, වනචරයෙක්."

යම් කිසිවක් කීමට අලෝෂාට උවමනා විය. එහෙත් ඊට උවමනා වචන සොයාගත නො හැකි විය. ඔහු ගේ හදවත වේදනාවෙන් හැකිළිණි.

"අලෝෂා, කරුණාකර දුන් ගිහින් හෙට එන්න, මේක මහ නින්දුවක්. කරුණාකර හෙට එන්න. මා පහත් කොට සලකන්න එපා, මට සමාවෙන්න. දුන් මොනව කරන්න ද කියා මට තේරෙන්නේ නැහැ."

අලෝෂා මගට බැස්සේ සුරා බී වෙරිවූවකු මෙනි. කැතිරිනා ඇඩුවාක් මෙන් ඇඬීමට ඔහුට ද අදහස් විය. එහෙත් හදිසියෙන් ම වැඩකාරිය ළඟට පැමිණියා ය.

"නෝනාමහත්මයාට මතක නැති වුණා හොලාකෝ නෝනා මහත්මයා එවාපු ලියුම දෙන්න. ලියුම ලැබුණේ අද සවසයි."

අලෝෂා, ළා රතු පැහැති කවරයක දමන ලද ලියුම ගෙන සාක්කුවේ දමා ගත්තේ කල්පනාවෙන් නො වේ.

## එකළොස් වන පරිච්ඡේදය

## විනාශ වූ තවත් චරිතයක්

නගරයේ සිට තාපසාරාමයට ඇති දුර සැතැපුම තුන්කාලකට වඩා නැත. එ වේලේ පාළු වූ පාර දිගේ අලෝෂා වහවහා ගමන්ගත්තේ ය. දුන් රෑ බෝවී ඇති බැවින් අඩි තිහක් ඇතින් තිබෙන දෙය පවා නොපෙනෙන තරමට අඳුර බලවත් ය. මහ මග දිගේ මඳ දුරක් ගිය තැනේ සතරමං සන්ධියක් තිබේ. මේ මංසන්ධිය අසල කුඹුක් ගස ළඟ යම් කිසිවකු සිටින බව පෙනේ. අලෝෂා මංසන්ධියට සමීප වූ වහා ම කුඹුක් ගස යට සිටි මිනිහා අලෝෂා ගේ ඇඟට කඩා පැන,

"සල්ලි නොදුන්නොත් මරනවා"යි කෑගා කී ය.

"මොකද මේ අයිය නේද?"යි අලෝෂා පුදුමයෙන් ඇසුවේ ය. කෙසේ වෙතත් අලෝෂා බියෙන් ගල්ගැසුණේ ය.

"හා! හා! හා! මා මෙ තැන සැඟවිලා සිටිවිය කියා මල්ලී හීනෙකින්වත් හිතුවේ නැහැ නේද? මා කල්පනා කළා නුඹ එනතෙක් කොතැන ඉන්නද කියා. නුඹ එනතෙක් කැතිරිනාගේ ගෙය ළඟ ඉන්නද? ඒ ගෙදර සිට පාරවල් තුනක් තියෙනවා. නුඹ කොයි පාරෙන් එයි ද කියා කවුද දන්නේ?

ආශ්‍රමයට යනවා නම් මේ පාරෙන් යන්න ඕනෑ. වෙන පාරක් නැහැ යන්න. ඒ නිසා මා කල්පනා කළා නුඹ එන තෙක් මෙ තැන සිටින්න. දැන් ඉතින් කැතිරිනා ගේ ගෙදර දී සිදු වූ හැම දෙයක් ම මට කියන්න ඕනෑ.........මොකද නිකම් කලබල වෙලා වගේ?''

''නැහැ, මුකුත් නැහැ. අයියා මා බය කළා. අද සවස තව ටිකකින් අයියා තාත්තාව මරනවා........'' අලෝෂා අඩන්නට විය. ඔහු බොහෝ වේලාවක සිට ඇඬීමට සැරසී සිටියේ ය. මේ මොහොතේ දී ඇඬීම නතර කරගත නොහැකි දෙයක් සිදු විය. ''තව ටිකකින් අයියා තාත්තා මරනවා. අයියා තාත්තාට සාප කළා. දැන් මෙ තැන දී සල්ලි ඉල්ලා මට විහිළු කරනවා.''

''ඉතින් මොකද විහිළු කළාම? ඇයි මේ වෙලාවට විහිළුව හොඳ නැති ද?''

''නැහැ, මං නිකම් කිව්වේ.''

''බලන්න අද රෑ කො තරම් කළුවර ද! වැහිවලාකුළුවලින් අහස බරවෙලා, හුළඟ කො තරම් සැරද? මා මල්ලී එනතෙක් මේ කුඹුක්ගහ යට සිටින විට මට හදිසියෙන් ම කල්පනා වුණා මේ විදිහට ජීවත් වන්නේ මොනවට ද කියා. ඉතින් මොනවට ද තවත් වේලා බලා ඉන්නේ? මෙ තැන කුඹුක් ගහක් තියෙනවා. මා ළඟ ලේන්සුවකුයි කමිසයකුයි තියෙනවා. මේ දෙකින් ලණුවක් හදා ගන්න පුළුවනි. මොනවට ද මගේ මේ නීච ජීවිතයෙන් මේ ලෝකය අපිරිසුදු කරන්නේ? එත-කොට ම මට ඇහුණා නුඹ එනවා. නුඹේ පැමිණීම මං වෙත දෙව්ලොවින් කෙනෙක් පැමිණියා වගෙයි. මේ එන්නේ මං ආදරය කරන කෙනකු. ලෝකයේ සිටින වෙන කිසිවකුට වඩා මං ආදරය කරන මගේ සහෝදරයායි. මට කල්පනා වුණා. එ වෙලාවේ මගේ හිතේ නුඹට කො තරම් ලොකු ආදර-යක් ඇති වුණාද කියතොත් නුඹේ බෙල්ල බදාගන්න හිතුණා ඒ එක්කම මට මහ මෝඩ අදහසක් ඇති වුණා. විහිළුවට නුඹව බය කරන්න........ ඉතින් සල්ලි දියන් කියා මෝඩයකු වගේ මා කෑගැවා. මට බොහො ම කනගාටුයි, මා කළේ මෝඩකමක්. දැන් ඒක යකාට ගිය දෙන්. මොකද වුණේ? කැතිරිනා මොකද කිව්වේ? ඈ තරහෙන් හිටිය ද?''

''නැහැ, කැතිරිනා අයියා එක්ක තරහෙන් හිටියේ නැහැ මට දෙන්නා ම හමුවුණා.''

"දෙන්න ම? කවුද දෙන්න ම කියන්නේ?"

"ගෲසෙන්කායි, කැතිරිනායි."

මීතියා බිරාන්ත විය.

"වෙන්න බැහැ. ඔය කියන්නේ බොරුවක්." යි මීතියා කෑගා කී ය.

කැතිරිනා ගේ නිවසට පය තැබූ වේලේ සිට සිදු වූ හැම දෙයක් ම අලෝෂා, මීතියාට විස්තර කොට කී ය. ඒ විස්තරයට මිනිත්තු දහයක් පමණ ගත විය. අලෝෂා හැකි තරම් හොඳට තරුණියන් දෙදෙනා අතරේ ඇති වූ කතාබහ ද ඒ වෙලාවේ ඔවුන් දෙදෙනා තුළ ඇති වූ හැඟීම් ද විස්තර කොට කී ය. මීතියා සොහොයුරා දෙස බිය එළවනසුළු බැල්මෙන් බලා නිහඬව අසා සිටියේ ය. මීතියා හැම දෙයක් ම තේරුම් ගත් බව අලෝෂාට පැහැදිලි විය. එහෙත් ක්‍රමයෙන් කතාව පැවසෙන අතර ඔහු ගේ මුහුණ අඳුරු වූවා පමණක් නොව එහි පැවැති බැල්මද බියකරු විය, මීතියා ඇස් බැම නැටෙව්වේ ය. දත් සැපුවේ ය. ඔහු ගේ බැල්ම උග්‍ර විය. බියකරු විය. එහෙත් හිටිහැටියේ ම ඔහු ගේ මුහුණේ පැවැති කෝපය අතුරුදහන් විය. තද වූ දෙතොල් විශ්වාස කළ නොහැකි ලෙස අතුරුදහන් විය. තද වූ දෙතොල් බුරුල් විය. මීතියා කොක්හඬලා සිනාසුණේ ය. ඔහුට ඒ සිනාව මැඩගත නොහැකි විය. සිනාවත් සමග සරුවාංගය ම නැටවුණේ ය. සිනාව නිසා බොහෝ වේලා ගත වන තුරු ඔහුට කතා කරගත නොහැකි විය.

"එහෙනම් ගෲසෙන්කා කැතිරිනා ගේ අත සිම්බේ නැහැ! අත සිඹින්නේ නැතිව පැන දිව්වා!" යි මීතියා කිව්වේ බලවත් ප්‍රීතියෙනි. එය ඉබේ ම හටගත් ප්‍රීතියක් නො වේ නම් ගරු සරු කමින් තොරව ඇති වූ සොම්නසක් යයි කිව හැකි ය. "ඉතින් කැතිරිනා ගෲසෙන්කාට බැන්නා කොටිදෙන ය කියා? ඔව් ගෲසෙන්කා කොටිදෙනක් තමයි. ඇයට ප්‍රසිද්ධියේ පෝරකය උඩ නංවා තළන්න වටිනවා. ඔව්, ඔව් ගෲසෙන්කාට තළන්න වටිනවා. තළන්න තිබුණේ බොහො ම ඉස්සර. නමුත් තළන්න ඉස්සෙල්ලා ඈ ගැන මගේ හිතේ තියෙන ආසාව අත්හැර ගන්න ඕනෑ. මා හොඳ මිනිහෙකු වෙන්න ඕනෑ. ගෲසෙන්කා ගරු සරු නැති කමට, අවිනීත කමට, රජ කරන රැජිනක් වගෙයි. අත සිඹීමේ සිද්ධියෙන් පේනවා නේ

ගෲසෙන්කා ගේ හැටි! ඈ යක්ෂිණියක්. මේ ලෝකේ සිටින යක්ෂිණියන් ගේ රැජින. ඔය වගේ වැඩවලට නම් ඈ බොහෝ ම දක්ෂයි. ඈ ගෙදර ගියා ද? එහෙනම් මා දන්න ම ඇය සොයා-ගෙන යනවා. මල්ලී මට දෙස් කියන්න එපා. එල්ලා මරන එක ඇයට හොඳ වැඩි බව මා පිළිගන්නවා."

"එතකොට අයියා කැතිරිනා ගැන මොකද කියන්නේ" අලෝෂා ශෝකයෙන් විමසුවේ ය.

"කැතිරිනා ගේ ගතිගුණ හොඳට දන්නවා. ඉස්සරට වඩා හොඳට දන් දන්නවා. කැතිරිනා ගේ ගතිගුණ දැනගැනීම ලෝකයේ අර්ධවීප හතර - නැහැ අර්ධවීප පහ සොයා ගැනීම වගෙයි. තමාට පැමිණෙන සදාකාලික නින්ද අපහාස කිසිවක් නොසලකා තාත්තා බේරා ගැනීම පිණිස වනචර සොල්දාදු-වකු ගේ ගුහාවට යාමට කැතිරිනා බය වුණේ නැහැ. තවමත් කැතිරිනා ඒ වගේමයි. ඇගේ උඩගුකම, නිර්භීත කම, දෛව-යට දක්වන නෙ සැලකිල්ල, ජීවිතයට දක්වන නොසැලකිල්ල තවමත් ඒ වගේමයි. මල්ලී කිව්වා නේද ඇගේ නැන්දා ඇය නතර කරගැනීමට වැයම් කළා ය කියා. ඇගේ ඒ නැන්දා බොහො ම අහංකාරයි. ඒ ගැනි මොස්කව් නුවර සිටින සෙනෙ-වියෙකු ගේ වැන්දඹු බිරියක ගේ සහෝදරියක්. මේ ගැනි ඒ ගැනිට වඩා අහංකාරයි. ඒකට මොකද ඇගේ මිනිහා ආණ්ඩුවේ සල්ලි හොරකම් කරලා අහුවෙලා, තිබෙයන සේසත නැති වුණා. ඉතින් මේ ගැනි හදනවා කැතිරිනා යටත් කරගන්න. ඒක නොකෙ-රෙන වැඩක්. කැතිරිනා ඔය ගැනි කියන දෙය අහන්නේ නැහැ. ඈ හිතන්න ඇති ගෲසෙන්කා රවටා ගන්න. කැතිරිනා හිතනවා ඇට ඕනෑ ම දෙයක් කරන්න පුළුවන්ය කියා. මල්ලී තුඹ හිතනවද කැතිරිනා ගෲසෙන්කා ගේ අත සිම්බෙ නිකම්ය කියා? නැහැ ඈ ගෲසෙන්කාට වසග වෙලා. ඒ කියන්නේ ඇගේ සිතේ තියෙන අදහසට වසග වෙලා. ඇගේ ම මායාවන්ට වසග වෙලා. අලෝෂා කොහොමද ඔය ගැනු දෙන්නගෙන් බේරිල ආවේ? මොකද ලෝගුව උස්සාගෙන දිව්ව ද? හා හා හා!"

"අර සිද්ධිය ගැන ගෲසෙන්කාට කීමෙන් අයියා කැතිරිනාට අපහාසයක් කළ බව අයියාට තවම වැටහුණේ නැහැ නේද? කැතිරිනා ඇගේ රූපය මහත්මයකුට විකුණන්න ගියාය කියා ගෲසෙන්කා කැතිරිනා ගේ මුහුණට ම කිව්වා. මේ අපහාසයට වඩා අපරාධයක් තවත් තියෙනව ද?"

කැතිරිනාට ගෘසෙන්කා විසින් කරන ලද අපහාසය ගැන අසා මීතියා සතුටු වීම අලෝෂා ගේ සිතට මහත් බරක් විය. එහෙත් මීතියා ඒ ගැන කනගාටු නොවීම සත්‍යයක් විය නොහැකි යයි අලෝෂා කල්පනා කෙළේ ය.

"අපොයි දෙයියනේ!"යි කී මීතියා රුදුරු බැල්මකින් බලා නළලට අතින් ගසා ගත්තේ ය.

ගෘසෙන්කා විසින් කැතිරිනාට කරන ලද අපහාසය ගැන කලින් අලෝෂා මීතියාට සඳහන් කළත් ඔහුට එය සිහිවූයේ දැන් ය. "අලෝෂා උඹේ අයියා මහ වනචරයෙක්"යි මීතියා අනතුරුව කී ය.

"ඔව්, ඒ භයානක දවසේ කැතිරිනා මා ළඟට පැමිණි බව මා ගෘසෙන්කාට කියන්න ඇති. ඔව් මට මතකයි. මා ගෘසෙන්කාට කිව්වා මතකයි. මා කිව්වේ මොක්රෝවේ දී. ඒ වෙලාවේ මම බිලයි හිටියේ. අභිකුණ්ටික ළමිස්සියන් සින්දු කියමින් නැටුවා මට මතකයි......... මා ඇඬුවා. ගෘසෙන්කාට මා කළ දෙය තේරුණා........ ගෘසෙන්කාත් ඇඬුවා. මට මතකයි...... නමුත් දැන්? ඈ හරියට පපුවට පිහියෙන් ඇන්නා වගෙයි. ගෑනුන්ගේ හැටි කවදත් ඔහොම තමයි."

මෙසේ පැවසූ මීතියා අනතුරුව බිම බලාගෙන කල්පනා කෙළේ ය.

"ඔව් මා වනචරයෙක් තමයි. නොම්මර එකේ වනචරයෙක්."යි ඔහු හදිසියෙන් ම ශෝකයෙන් කී ය. "ඇඬුවත් නැඬුවත් මම වනචරයෙක්. කැතිරිනාට සැනසීමක් ලැබෙනවානම් ඈ මට වනචරයා කිව්වට කමක් නැහැ. මා එය පිළිගන්නා බව ඈයට කියන්න. දැන් ඉතින් තව තවත් කතා කිරීමෙන් වැඩක් නැහැ. මේක කතා කරන්න තරම් හොඳ දෙයක් නො වෙයි. අලෝෂා නුඹ යන දිහාවකට යන්න. මා යන දිහාවකට මා යනවා. ලොකු ම උවමනාවකට මිස මා ආයෙත් නුඹ හමුවන්න එන්නේ නැහැ."

මීතියා අලෝෂා ගේ අත ගෙන මිරිකුවේ තවමත් බිම බලාගෙන ය. මලණුවන් ගෙන් ඉතා අමාරුවෙන් වෙන් වූ හෙතෙම වහවහා නගරය දෙසට ගියේ ය. අලෝෂා සොහොයුරා දෙස පුදුමයෙන් බලා සිටියේ මෙ තරම් ඉක්මනට ඔහු නික්ම යතැයි විශ්වාස කළ නොහැකිවූවාක් මෙනි.

"අලෝෂා ටිකක් නවතින්න. නුඹට තනියෙන් කියයුතු තවත් දෙයක් තියෙනවා."යි මීතියා හදිසියෙන් ම ආපසු හැරෙමින් කී ය. "මා දිහා බලන්න. හොඳට බලන්න. මෙ තැන බලන්න. මට බලවත් නින්දුවකට මුහුණ පාන්නට සිදු වී තිබෙනවා. ('මෙතැන' යන වචනය කියනවාත් සමඟ ම මීතියා පපුවට පහරක් ගසා ගත්තේ ඒ නින්දුව තියෙන්නේ පපුවෙහිය නැතිනම් යට සාක්කුවෙහිය, නැතිනම් බෙල්ල වටේ එල්ලන ලද කුඩා මල්ලක යයි පෙන්නීමට මෙනි.) මා තක්කඩියෙකු බව, පිළිගත්ත තක්කඩියෙකු බව නුඹ දන් දන්නවා. මේ මොහොතේ මගේ පපුවේ තියෙන නින්දුවට සම කළ හැකි කිසිවක් මා මීට පෙර කර නැති බවත් කවදාවත් නොකරන බවත් නුඹට කිය යුතුයි. මගේ පපුවේ රැඳී තියෙන ඒ නින්දුව නතර කරන්න මට සම්පූර්ණ නිදහස තියෙනවා. මට එය නතර කරන්නත් පුළුවනි. ඒක හොඳට මතක තියා ගන්න, මා කවදාවත් නින්දුව නතර කරන්නේ නැහැ. ඒක ඒ විදියට ම කරගෙන යනවා. මා නුඹට හැම දෙයක් ම කීවත් මේ දෙය පමණක් නො කියා සඟවා ගෙන සිටියේ කීමට තරම් ආත්මශක්තියක් නැති නිසයි මගේ අදහස් ක්‍රියාවේ නොයොදවා, නින්දුවෙන් වළකින්න පුළුවනි. වැළකුණොත් නැති වූ මගේ ආත්මගෞරවයෙන් අඩක් මට හෙට ලබා ගන්න පුළුවනි. නමුත් මා එහෙම කරන්නේ නැහැ. මා මගේ නින්දිත වැඩපිළිවෙළ ඒ විදියට ම ක්‍රියාවේ යොදවනවා. මා ඒ බව කල් ඇති ව කී බවට, එහි විපාක කල් ඇති ව දැන සිටි බවට නුඹ සාක්ෂිකාරයෙක් විය යුතුයි. මෙය ජීවිතය විනාශ කරන, අඳුරු කරන දෙයක් බව විස්තර කරන්න උවමනා නැහැ. නුඹට එය නියම වෙලාවට දැන ගන්න ලැබේවි. මා යක්ෂිණිය සොයා පාතාලලෝකයට යනවා. මා වෙනුවෙන් යාච්ඤා කරන්න එපා. මම ඊට සුදුස්සෙක් නො වෙයි. මට උවමනාවකුත් නැහැ. කොහොමටත් දෙවියන් ගේ පිහිට මට උවමනා කරන දෙයක් නො වෙයි……."

මෙ වර මීතියා ආපසු නො එන්නට ම ගියේ ය. අලෝෂා තාපසාරාමය බලා පිටත් විය.

"ආයෙත් තමා දකින්න ලැබෙන්නේ නැහැ යයි අයියා කීවේ මන්ද? එහි අදහස කුමක් විය හැකි ද? කිසි ම අර්ථයක් නැති කතාවක්. හෙට කොහොම හරි අයියා හමුවිය යුතුයි. කොහොම වුණත් මා හෙට අයියා හමුවන්න යනවා. කොහොම හරි යනවා. ඔහු කතා කළේ මොනවා ගැන ද?………"

තාපසාරාමය වටේ ගිය අලෝෂා අනතුරුව පයින්වනය තුළින් කෙළින් ම අසපුව බලා ගියේ ය. ඒ අවේලාවේ කිසිවකු වැද්ද නොගත්තා නමුත් අලෝෂාට පමණක් අසපුවට ඇතුළු- වීමට ඉඩ දෙන ලදි. සොසිමා තවුසා ගේ අසපුව හැර මාද ගියේ මන්ද? තවුසා තමා ගිහිගෙට යැව්වේ මන්ද? මෙ තැන සාමය තිබේ. පිරිසුදුකම තිබේ. එහෙත් ගිහිගෙයි ඇත්තේ මහා අවුලකි, අන්ධකාරයකි. ඒ අන්ධකාරයට අසු වූ ඇත්තෝ මං මුළා වෙති, අතර මං වෙති.”

සොසිමා තවුසා ගේ සුවදුක් දැනගැනීම පිණිස පැයෙන් පැයට පැමිණෙන පියසි පියතුමා හා පොපිරි නමැති ආධු- නික පූජකයා අලෝෂාට අසපුවේ දී හමු විය. තවුසා ගේ තත්ත්වය ක්‍රමයෙන් නරක අතට හැරෙන බව අසා අලෝෂා තැති- ගත්තේ ය. තවුසා විසින් සිරිතක් වශයෙන් අනෙක් පූජක- යන් සමඟ දිනපතා පවත්වන ධර්මසාකච්ඡාව ද එ දින නවත්වන ලදි. රාත්‍රි පූජාවෙන් අනතුරුව නිදගැනීමට පෙර සියලු ම පූජකවරු තවුසා ගේ කුටියට ගොස් එ දින තමන් විසින් කරන ලද පව්. සිතේ උපන් නරක අදහස් හා තම තමන් අතරේ ඇති වන අඬදබර පවා හඬ නගා කීම සාමාන්‍ය සිරිත ය. සමහරු තමන් විසින් කරන ලද පව් බිම දණ ඇන ගෙන කීවෝ ය. එවිට තවුසා ඔවුන් පවින් නිදහස් කොට, කලහ කර ගත් අය අතර සාමය ඇති කොට, අවවාද අනුසාසනා කොට, තමන් විසින් පමුණුවා ගත යුතු දඬුවම් නියම කොට විසුරුවා හරියි. තාපස නිකාය විරුද්ධවාදීන් ගේ පහරට ඉලක්ක වූයේ මේ පව්සමාකර ගැනීමේ ක්‍රමය නිසා ය මෙය ආගමට පටහැනි වූ, පව් සමා කරගැනීමේ ආගමික චාරිත්‍රය කෙලසන ක්‍රමයක් යයි විරුඬ වාදීහු කී හ. මේ ක්‍රමයෙන් යහපතක් නොව මිනි- සුන් තව තවත් පවට පෙළඹෙන බැවින් ඉන් අයහප- තක් ම සිදු වන බව බිෂොප් තුමා විසින් ද පැමිණිලි කරන ලදි. එහෙත් ඔවුන් නොකැමැත්තෙන් වුව ද තවුසා ළඟට ගියේ හැම දෙනා ම යන නිසා ය. නොගියොත් උඩඟුකම නිසා නොයන්නේ ය, කැරලිකාර අදහස් ඇත්තේ ය යන සැකයට ඇති බියෙනි. “මම අද තවුසාට කියන්නම් නුඹ සමඟ තරහ වුණා ය කියා. නුඹ එය සථිර කළ යුතු යි.” සමහර පූජකයෝ පව්සමාකරගැනීමට පෙර තීරණය කරගතිති. එසේ කරන්නේ තවුසා ළඟට ගොස් පව්සමා කරගැනීමේ දී කිය යුතු දෙයක් තිබිය යුතු නිසා ය. මෙ වැනි දේවල් සිදු වන බව අලෝෂා දැන සිටියේ ය.

මේ දේවල් යහපත් අදහසින් කරන බව සාමාන්‍ය යන් පිළිගන්නා ලදී. නමුත් ඇත්ත වශයෙන් ඉන් අයහපතක් ම සිදු විය. යටහත්කම, ආත්මපූජාව හා ගැලවිල්ල පතා අසපුවට යන අයට සැබවින් ම මහත් යහපතක් ම සිදුවී ඇතැයි කියමින් මහලු හා පැරණි පූජකයෝ තර්ක කළහ. එහෙත් මේ ක්‍රමයට විරුද්ධ වන, මේ ක්‍රමය අනුගමනය කිරීම අමාරු බව කියන පූජකවරු නියම පූජකවරු නො වෙති. ඔවුන්ට හිමි නියම තැන තපෝවනය නොව බාහිරලෝකයයි. පැවිදිබිමට පිවිසීමෙන් ඔවුන් කළේ වරදකි. පැවිදිව සිටි පමණින් කෙනකුට පාපයෙන් නිදහස් විය නො හැකි ය. එ හෙයින් ඒ ගැන උවමනාවට වඩා කතා කිරීමෙන් වැඩක් සිදු නො වෙයි.

"සොසිමා බොහො ම දුබලයි. දත් නිදිමත ගතියකින් සිටින්නේ"යි පියසි පියතුමා අලෝෂාට රහසක් කියන්නාක් මෙන් කී ය. "දත් අවදි කරවන්න හොඳ නැහැ. එතුමා මිනිත්තු. පහකට පමණ නැගිටලා අනෙක් පූජකවරුන්ට ශුභාශංසනය යවා රාත්‍රි කාලයේ දී තමා වෙනුවෙන් යාච්ඤා කරන ලෙස ඉල්ලා සිටියා. උදේට ආයේත් සක්‍රමේන්තුව ගැනීමට පියතුමා අදහස් කර ඉගන සිටිනවා. එතුමා නුඹ මතක් කළා. නුඹ ගියා ද කියා ඇසුවා ම අප කිව්වා නුඹ ටවුමට ගියා ය කියා. 'ඒක බොහො ම හොඳයි. දනට අලෝෂාට ආශ්‍රමය සුදුසු තැනක් නො වෙයි' පියතුමා කිව්වා. එතුමා නුඹ මතක් කොට කිව්වේ එපමණයි. එතුමා නුඹ ආදරයෙන් මතක් කළා. එතුමා නුඹට බොහො ම ආදරෙයි. නුඹ විකකලක් ගිහි ජීවිතයක් ගත කළ යුතු ය යි කියා එතුමා තීරණය කළේ මන් ද? සමහර විට එතුමා නුඹේ ඉරණම දන සිටින්න ඇති. අලෝෂා නුඹ ආපසු ගිහි ජීවිතයට ගියොත් නුඹ යන්නේ ලෞකික සැපසම්පත් විඳීමේ ආශාවෙන් නොව පියතුමා විසින් නියම කරන ලද යුතුකම් කොටස ඉටුකිරීමට විය යුතුයි."

මෙසේ පැවසූ පියසි පියතුමා අසපුවෙන් පිට වී ගියේ ය. තවුසා තව දවසක් දෙකක් ජීවත් වුවත් ක්‍රමයෙන් මරණය කරා ළංවන බව අලෝෂා දන සිටියේ ය. සෙට දින තාත්තා, හොලාකෝ මැතිනිය හා කැතිරිනා හමුවීමට තමා පොරො න්දු වී සිටියත් අසපුවෙන් පිට නොගොස් තවුසා ගේ අවසානය පැමිණෙන තෙක් එතුමා ළඟ සිටීමට අලෝෂා අධිෂ්ඨාන කරගත්තේ ය. ඔහු ගේ හදවත ප්‍රේමයෙන් ආලෝක විය. තමා විසින් ලොවේ හැ ම දෙනාට ම වඩා උතුම් කොට පුදනු ලබන තවුසා මරණමඤ්චකයේ සිටිය දී මොහොතකට හෝ

එතුමා අමතක කිරීමට තමාට පුළුවන් වීම ගැන අලෝෂා තමාට ම දෙස් පවරා ගත්තේ ය. අනතුරුව අලෝෂා තවුසා ගේ කාමරයට ගොස් සයනය ළග දණින් වැටී හිස නමා තවුසාට ආචාර කෙළේ ය. නො සැලී නිහඬව නිඳ සිටින තවුසා හුස්ම ගන්නා හඬ පවා නො ඇසෙයි. එතුමා ගේ මුහුණ ඉතා සාන්ත ය.

එ දින උදේ තවුසා අමුත්තන් පිළිගත් කාමරයට ගිය අලෝෂා පාවහන් ඉවත් කොට සමකින් වසන ලද පටු තද සෝපාවක නිඳගත්තේ ය. බොහෝ කාලයක සිට අලෝෂා නිඳගත්තේ මේ සෝපාවෙහි ය. ඔහු ගෙදරින් ගෙනාවේ හිස තැබීමට කොට්ටයක් පමණි. තාත්තා විසින් උදේ සඳහන් කරන ලද පැදුර කලක සිට කාමරයේ තබා තිබුණේ ය. අලෝෂා ඇඳ සිටි කබාය ගලවා පොරවා ගත්තේ ය. එහෙත් නිඳගැනීමට පෙර සිරිත් සේ ඔහු බිම දණ ගසා බොහෝ වේලා දෙවියන්ට යාච්ඤා කෙළේ ය. මෙසේ යාච්ඤා කරන අතරේ තමා ගේ ආත්මය වසා ගෙන ඇති අන්ධකාරය නැති කොට ආලෝක කරන ලෙස දෙවියන් ගෙන් ඉල්ලා සිටි-යේ ය. ආලෝකය වශයෙන් ඔහු බලාපොරොත්තු වුණේ සාමාන්‍යයෙන් යාච්ඤා කිරීමෙන් පසු ව ඇති වන චිත්ත සුවය පමණි. ඒ චිත්ත සුවය නිසා අලෝෂාට සුවසේ නිඳ ගත හැකි ය. මෙසේ බිම දණ ගසා ගෙන යාච්ඤා කරන අලෝෂාට සාක්කුවේ තිබුණු රෝස පැහැති කොළයක් අසු විය. එය කැතරිනා ගේ නිවසින් පිට වී එන විට සේවිකාව විසින් දෙන ලද ලියුමයි. ලියුම දැකීමෙන් ඔහු තුළ නොසන්-සුන් කමක් ඇති වුව ද එය යාච්ඤාවට බාධවක් කර නො ගත්තේ ය. යාච්ඤාව අවසන් වීමෙන් පසු ව ඔහු ලියුම ගෙන බැලුවේ මඳක් ලතවීමෙන් අනතුරුව ය. එය හොලාකෝ මැතිනිය ගේ බාල දියණිය විසින් එවන ලද ලියුමකි. එ දින උදේ තවුසා ඉදිරිපිට දී අලෝෂා දෙස බලා සිනාසුණේ මේ දූරියයි

ඈ මෙසේ ලිව්වා ය.

'අලෝෂා පියෝදරවිච් කරමසෝ' මහතාටයි.

'මා මේ ලියුම ලියන්නේ රහසින්. අම්මාටවත් මේ ගැනු කිසිවක් දන්නේ නැහැ. මේ ලියුම ලිවීම වරදක් බව මා දන්නවා. නමුත් මගේ හිතේ තියෙන හැඟීම් නුඹට නො කියා මට ජීවත් වන්න පුළුවන් කමක් නැහැ. කලක් ගත වන තුරු

අප දෙදෙනා මිස මේ ගැන වෙන කිසිවෙකු දැන නොගත යුතු යි. නමුත් කොහොම ද මා මේ කාරණාව කියන්නේ? කඩදාසියට ලැජ්ජාවක් ඇති නොවන බව මා අසා තියෙනවා. නමුත් ඒක සත්‍ය නොවෙයි. ලැජ්ජාවෙන් දැන් මා රතු වෙනවා වගේ කඩදාසියත් රතු වෙනවා. අලෝෂා මම නුඹට ආදරෙයි. මා කුඩා කාලයේ සිට නුඹට ආදරය කළා. ඒ දවස්වල නුඹ බොහො ම වෙනසියි, දැන් වගේ නො වෙයි. මගේ ජීවිතය තියෙන තුරු මා නුඹට ආදරය කරනවා. අප දෙදෙනා එකතු වී මහලු වන තෙක් එකට වාසය කිරීමට මගේ හදවත නුඹව තෝරා ගෙන ඉවරයි. නමුත් මා එසේ කරන්නේ නුඹ ආශ්‍රමය අත්හරින කොන්දේසිය උඩයි. අපට වයස මදි නිසා නීතියෙන් බලය ලැබෙන තුරු ඉවසා සිටිමු. සුදුසු කාලය පැමිණෙන විට මගේ රෝගය සුවවේවි. මට ඇවිදින්-නට පමණක් නොව නටන්නට පවා පුළුවන් වෙනවාට කිසි ම සැකයක් නැහැ.

'මා හැම දෙයක් ගැන ම කල්පනා කර තියෙන බව ඔබට පෙනේනවා නේද? එහෙත් මට සිතා ගන්න බැරි එක ම දෙයක් තියෙනවා. ඒ දෙය නම් මේ ලියුම කියවීමෙන් පස්සේ නුඹ මා ගැන ඇති කර ගන්නා අදහස ගැන යි. මම නිතර සිනාසෙන දඟකාර කෙල්ලක්. අද උදේ මා නුඹ තරහ කෙරෙව්වා. එහෙත් මම සත්‍යව කියන්නම්, මේ ලියුම ලියන්න ඉස්සෙල්ලා මම දේවමෑණියන් ගේ ප්‍රතිමාව ළඟ වැටී යාච්ඤා කළා.

'දැන් මගේ රහස තියෙන්නේ නුඹේ අතේ. හෙට අපේ ගෙදරට පැමිණියා ම මා කොහොමද නුඹේ මුහුණ බලන්නේ? අද උදේ සිනා සුණා වගේ සිනාසුණොත් මොකද කරන්නේ? මා නුඹට කවටකම කරන දඟකාර කෙල්ලක්ය කියා නුඹ හිතන්න පුළුවනි. මගේ ලියුමේ තියෙන දෙය විශ්වාස නො-කරන්න පුළුවනි. ඒ නිසා මට යන්තම්වත් අනුකම්පා කරනවා නම් හෙට අපේ ගෙදරට පැමිණියා ම මා දිහා කෙලින් බලන්න එපා. නුඹේ මුහුණ දුටු හැටියේ ම මට සිනායාවි. විශේෂයෙන් ම ඔය කළුලෝගුව දමාගෙන සිටින විට හිනායනවා..........මේ ගැන කල්පනා කරන කොට මගේ ඇඟ සීතල වෙනවා. ඉතින් හෙට අපේ ගෙදරට ආවාම ටික වෙලාවක් යන තෙක් මා දිහා බලන්න එපා. අම්මා දිහා බලන්න. නැති නම් ජනේලය දිහා බලන්න... ......

'මා නුඹට ලියා තියෙන්නේ පෙම්හසුනක්. අනේ මොන-වද මා මේ කරන්නේ? අනේ අලෝෂා මා පහත් කොට

සලකන්න එපා. මා ඉතා භයානක දෙයක් කොට නුඹේ හිත රිද්දුවා නම් මට සමා වන්න. දැන් මගේ ආත්මගෞරවය පිළිබඳ රහස හා, සමහර විට මගේ විනාශය තියෙන්නේ නුඹේ අතෙයි.

'මට අද නොවරදවා ම අඬන්න සිදුවෙනවා. හෙට හමු වෙන තෙක් ආයුබෝවන්—ලීසා.

'අලෝෂා කොහොම හරි හෙට එන්න ඕනැ— ලීසා.

අලෝෂා ලියුම කියෙව්වේ මහත් පුදුමයෙනි. දෙවරක් ම ලියුම කියෙව් අලෝෂා මඳක් කල්පනා කොට හඬිසියෙන් ම සිනාසුණේ ය. අනතුරුව ඔහු තිගැස්සුණේ ය. තිගැස්සුණේ ඒ සිනාව පාපයක් බව වැටහුණ හෙයිනි. එහෙත් මිනිත්තුව කට පසුව ඔහු ආයේත් සිනාසුණේ ය .අනතුරුව ඉතා සෙමෙන් ලියුම නමා කවරය තුළ දමූ අලෝෂා දෙවියන් සිහි කොට නිදගත්තේ ය. ඔහු ගේ සිතේ පැවැති පීඩාව නැති වී ගියේ ය. "දෙවියෝ සියලු දෙනාට ම අනුකම්පා කරත්වා. දුකින් සිටින අයට පිහිට වෙත්වා. ඔවුන් යහමග යවත්වා හැම මාර්ගයක් ම ඔබතුමා සතු ය. එ හෙයින් ඔබතුමා ගේ ප්‍රඥව අනුව සියලු සත්ත්වයන් ම නිදහස් කරත්වා. ඔබතුමා ප්‍රේමය වන්නේ ය. එ හෙයින් ඔබතුමා සියලු සත්ත්වයන් සැපවත් කරත්වා." මෙසේ ප්‍රාර්ථනා කළ අලෝෂා අනතුරුව සුවසේ නිදගත්තේ ය.

## දෙවන කොටස

## හතර වන ග්‍රන්ථය

# දුක් වේදනා

### පළමු පරිච්ඡේදය

### උමතු පූජකයා

එදා අලෝෂා වෙනදාට වඩා උදෙන්—බිමට එළිය වැටීමට කලින් අවදි විය. උදේ අවදි වූ තවුසා ඉතා දුර්වල තත්ත්වයක සිටියේ ය. එහෙත් ඇඳෙන් බැස පුටුවක හිඳගැනීමට එතුමාට උවමනා විය. එතුමා ගේ කල්පනාව ඉතා පැහැදිලි විය. මුහුණ විඩාවෙන් මැලවී ඇතත් ප්‍රීතියෙන් පැහැපත් විය. එහි ප්‍රීතිය, කරුණාව, සුහදතාව ඇඳී තිබුණේ ය "දරුව" සමහරවිට අද දවස අවසන් වන තෙක් මට ජීවත් වන්නට නොලැබෙන්න පුළුවනි"යි අලෝෂාට පැවසූ එතුමා අනතුරුව වහා ම පාපෝච්චාරණය කොට සක්‍ර-මේන්තුව ගැනීමට කැමැත්ත පළ කෙළේ ය. එතුමා හැම විට ම පාපෝච්චාරණය කළේ පියසි පියතුමාට ය. දිව්‍යසත්-ප්‍රසාදය ලැබීමෙන් පසු ව අන්තිම ආලේපය දීම ආරම්භ විය. අරමේ වැසි පූජකයන් ගෙන් අසපුව පිරිණි. ඒ අතරේ දිනය පහන් විය. ආශ්‍රමය දෙසින් මිනිස්සු පැමිණෙන්නට වූහ. දේව මෙහෙය අවසන් වූ අනතුරුව හැම දෙනා ම සිඹ සමු ගැනීමට • තවුසා කැමැත්ත පළ කෙළේ ය. කාමරය ඉතා කුඩා වූයෙන් කලින් පැමිණි අය පසු ව පැමිණි අයට ඉඩ දී කාමරයෙන් පිටවූ හ. අත්හැඳිපුටුවක හිඳගත් තවුසා ළඟ

අලෝෂා සිටගෙන සිටියේ ය. තවුසා හැකි තරම් කත කෙළේ ය. එතුමා ගේ කට හඬ දුර්වල වුවත් පැහැදිලි විය.

"පියවරුනි, සහෝදරවරුනි, මම ඔබ හැම දෙනාට අවුරුදු බොහෝ ගණනක් ම ඉගැන්නුවෙමි. එ හෙයින් හඬ නගා කතා කිරීමට පුරුදු මට අසනීපයෙන් දුර්වල වී සිටියදීත් කතා කිරීමට වඩා කතා නො කර සිටීම අපහසුයි" එතුමා අවට රැස්ව සිටි අය දෙස අවදි වූ හැඟීමෙන් යුතු ව බලා කවටකමක් කරන්නාක් මෙන් කියා සිනාසුණේ ය.

එ වේලේ එහි රැස්ව සිටි පිරිසට තවුසා විසින් කියන ලද කිසියම් දෙයක් අලෝෂාට පසු කාලයේ දී සඳහන්ව තිබිණි. එතුමා ගේ කතාව පැහැදිලි විය, කටහඬ ස්ථිර විය, එහෙත් කතාවේ සබඳකමක් නො තිබුණේ ය. එතුමා බොහෝ දේවල් ගැන කතා කෙළේ ය. ජීවත්ව සිටිය දී කියන්නට නොලැබුණු හැම දෙයක් ම මියයාමට පෙර කීමට තමා තුළ මහත් ආශාවක් තිබෙන බව හැඟෙව්වේ ය. තවුසා ඒ දේවල් කියන්නට වෑයම් කළේ එහි රැස්ව සිටි අයට දෙන ධර්මෝපදේශයක් හැටියට නොව මනුෂ්‍යවර්ගයා හා නිර්මාණය සමග තමා ගේ ප්‍රීතිප්‍රමෝදය බෙදා ගෙන, ජීවිතයේ දී ආයෙත් වරක් තම හදවත විදහා දක්වීම පිණිස ය.

"පියවරුනි, සියලු සත්ත්වයන්ට ප්‍රේමය කරන්න"යි තවුසා කී බව පසු කල අලෝෂාට සඳහන්ව තිබිණි. "දෙවියන්වහන්සේ විසින් මවන ලද සියලු සත්ත්වයන්ට ප්‍රේමය කරන්න. අපි මේ ආශ්‍රමයට පැමිණ මෙහි බිත්ති සතරට කොටු වී සිටින නිසා පිටත සිටින අයට වඩා ශුද්ධවන්තයෝ නො වෙමු. අපි මේ මිහිපිට වෙසෙන අනෙක් අයට වඩා පව්කාරයන් බව මේ ස්ථානයට පැමිණීමෙන් ම පිළිගෙන ඇත්තෙමු. සූජකයෙකු සමාජයෙන් ඈත් වී එකලාවේ ජීවත් වූ තරමට තමා අනෙක් අයට වඩා පව්කාරයෙකු බව පිළිගත යුතුයි. එසේ නො වේ නම් මේ ස්ථානයට පැමිණීමට කිසි ම හේතුවක් නැහැ. තමා අනෙක් මිනිසුන්ට වඩා අන්ත බවත් තමා හැම දෙයකට ම, හැම මනුෂ්‍යයකුට ම වග කිය යුතු බවත්, මනුෂ්‍යයා පෞද්ගලික වශයෙන් ද, ජාති වශයෙන් ද, එකතු වී කරන පාපයන්ට වග කිය යුතු බවත් අවබෝධ කරගත් විට, තමා ගත කරන මේ එකලා ජීවිතයෙන් නියම පල ලැබුවා වෙයි. එ හෙයින් ප්‍රිය සහෝදරවරුනි, හැම මනුෂ්‍යයකුට ම, මෙලොව ඇති හැම දෙයකට ම අප වග කිය යුතුයි. ලෝකයේ සිදු වන සාමාන්‍ය

අපරාධවලට පමණක් නොව පෞද්ගලික වශයෙන් අප හැම දෙනාටත්, මුළු මනුෂ්‍යවර්ගයාටත්, තනි පුද්ගලයන්ටත් වග කිය යුතුයි. පූජකයකු වශයෙන් හෝ ගිහියකු වශයෙන් හෝ මිනිසකුට ලැබිය හැකි ජීවිතයේ මිණිකිරුළ මේ දැනුමයි. පූජකයෝ විශේෂ මනුෂ්‍යවර්ගයක් නො වෙති. මිනිසුන් තුළ තිබෙන හොඳ නරක ඔවුන් තුළ ද තිබෙනවා. අපේ හදවත අවසන් කළ නො හැකි අනන්ත අප්‍රමාණ වූ ප්‍රේමයෙන් මැදූ වන්නේ මේ දැනුම නිසයි. එවිට මුළු ලොව ම ප්‍රේමයෙන් ජය ගෙන එහි ඇති සියලු පාපයන් කඳුළින් සෝදා හැරීමේ ශක්තිය ඔබට ලැබෙනවා..........ඔබ හැම දෙනා ම තම තමන් ගේ සිත් ගැන පරීක්ෂාවෙන් සිට, තමා අතින් සිදු වන පාපයන් ගැන අප්‍රමාදව තමාට ම නො සඟවා හෙළි කළ යුතු යි. පාපයට කවදාවත් බය වෙන්න එපා. පාපය අවබෝධ කරගැනීමට වෑයම් කරන විට පවා බය වෙන්න එපා පාපය නිසා ඇති වන පසුතැවිල්ලට පමණක් බය වෙන්න. දෙවියන් සමඟ කොන්දේසි ඇති කර ගන්න එපා. එහෙත් කවදාවත් උඩඟු නොවන ලෙස මම නැවත විශේෂයෙන් ම මතක් කරමි. දුබලයන්ට හෝ බල වතුන්ට හෝ උඩඟුකම පෙන්නන්න එපා. තුඹව ප්‍රතික්ෂේප කරන, තුඹට නින්දා අපහාස කරන අයට වෛර කරන්න එපා. දෙවියන් නැතැයි කියන අය සිටිනවා. අධර්මය උගන්-වන අය සිටිනවා. ඉන්ද්‍රිය විෂය වූ දේ හැර වෙන කිසිවක් නැතැයි කියන අය සිටිනවා. මේ ඇත්තන්ට වෛර කරන්න එපා. මෙ වැනි අදහස් දරන අය අතරේ හොඳ අයත් සිටිනවා. නරක අයත් සිටිනවා. නරක අයටවත් වෛර කරන්න එපා. උදේ හවස දෙවියන්ට යාච්ඤා කරන විට ඔවුන ගේ නම් සිහි කොට මෙසේ කියන්න. ‘අහෝ දෙවියනි, තමන් වෙනුවෙන් යාච්ඤා නො කරන අයත්, තමන් වෙනු-වෙන් යාච්ඤා කිරීමට කිසිවකු නැති අයත් ගලවා ගන්න. මා මෙසේ යාච්ඤා කරන්නේ සිතේ ඇති කර ගත් කිසි ම උඩඟුකමක් ඇති ව නො වෙයි. දෙවියනි, මම හැම දෙනාට ම වඩා පහත්වෙමි., ...දෙවියන් වහන්සේ සතු මනුෂ්‍යවර්ගයාට ප්‍රේම කරන්න. උන්වහන්සේ ගේ අනුගාමිකයන් නොමඟ ගෙනයාමට ආගන්තුකයන්ට ඉඩ නො දෙන්න. අලසකම නිසා හෝ පිළිකුල් කළ යුතු උඩඟුකම නිසා හෝ තෘෂ්ණාව නිස හෝ ඔබ ප්‍රමාද වුණොත් ඔවුන් හැම අතින් ම පැමිණ බැති-මතුන් ඇදගෙන යන්නට පිළිවන. අප්‍රමාදව මනුෂ්‍යයන්ට ධර්මය අවබෝධ කරවන්න......අයුතුකම් නො කරන්න......තණ්හා වෙන් ධනය රැස් නො කරන්න.........සිතේ ශ්‍රද්ධාව ඇති කර

ගන්න. ධජය අත නොහැර හැකි තරම් උස් කොට ඔසවන්න."

පසු කල අලෝෂා සඳහන් කළාටත් වඩා එදා තවුසා කළ කතාව අවුල් විය. හුස්ම ගෙන යළි ශක්තිය ලබා ගැනීමට මෙන් තවුසා කීප වරක් ම කතාව සම්පූර්ණයෙන් ම අතර මග නතර කෙළේ ය. එහෙත් එතුමා කිසියම් ප්‍රීතියකින් සිටියේ ය. එතුමා ගේ කතාව හා අදහස් එ තරම් පැහැදිලි නොවූවත් එහි රැස්ව සිටි අය සිතේ අවදි වූ හැඟීම්වලින් යුතු ව දේශනයට සවන් දුන්හ........ පසු කල ඔවුන් හැම දෙනාට ම ඒ දේශනය සඳහන්ව තිබුණේ ය.

මොහොතකට පමණ කුටියෙන් පිටත ගිය අලෝෂා කුටියේ රැස්ව සිටි පූජකයන් තුළ එ වේලේ පැවැති කුතුහලය හා උනන්දුව දැක පුදුම විය. සමහරකු තුළ ඇගාවෙන් ද, සමහරකු තුළ භක්තියෙන් ද, මේ කුතුහලය හා උනන්දුව පිළිබිඹු විය. තවුසා මිය ගිය වහා ම කිසියම් ප්‍රාතිහාර්යයක් සිදු වේතැයි කවුරුත් බලාපොරොත්තු වූ හ. එක් අතකින් බලන විට ඔවුන් ගේ මේ කුතුහලය නිරර්ථක දෙයකි. එහෙත් ඉතා උග්‍ර තවුස්දම් රකින පූජකයන් තුළ පවා මෙය බලපැවැත්වී ය. මෙය තදින් ම බලපැවැත්වූයේ පියසි පියතුමා කෙරෙහි ය. අන්කිසිවකු ගේ මුහුණේ නොවූ සන්සුන් බවක් එතුමා ගේ මුහුණේ දකින්නට තිබුණේ ය.

හොලාකෝ මැතිනියගෙන් අලෝෂාට ලියුමක් ගෙන නගරයේ සිට පැමිණි රැකිටින් හමුවීම පිණිස පූජකයකු විසින් අලෝෂා කැඳවන ලදි. එය ඉතා අද්භුත කැඳවීමක් විය. කාලානුරූප වූ ඉතා පුදුම සිද්ධියක් ගැන හොලාකෝ මැතිනිය අලෝෂාට දන්වා එවා තිබිණි. පෙරදින තවුසා ගේ ශුභාශංසනය ලැබීම පිණිස පැමිණි ගැහැනුන් අතරේ නගරයේ සිට පැමිණි ප්‍රහෝරොව්නා නමැති මැහැල්ලක් වූවා ය. ඕ සරෙන්තුවකු ගේ වැන්දඹුවකි. ඈත පළාතකට ගිය, හවුරුද්දකින් පමණ කිසි ම ආරංචියක් නොලැබුණු තම පුතා ගේ ආත්මය වෙනුවෙන් යාච්ඤා කිරීම සුදුසු දැයි දැන ගැනීම පිණිස ඈ තවුසා වෙත ගියා ය. මිය ගිය අය වෙනුවෙන් යාච්ඤා කරන්නාක් මෙන් ජීවත්ව සිටින අය වෙනුවෙන් යාච්ඤා කිරීම අණ්වින කිරීමකට සමානයයි පැවසූ තවුසා එසේ නො කරන ලෙස ඇයට තරයේම අවවාද කෙළේ ය. පසු ව ඇගේ නොදත්කම ගැන අනුකම්පා කොට ඇයට කමා කළ එතුමා අනාගතය පිළිබඳ ග්‍රන්ථයක් කියවන්නාක් මෙන් ඇගේ සිත සනසා (හොලාකෝ

මැතිනිය ගේ බසින්) ඇගේ පුතා වස්යා තවමත් ජීවත්ව සිටින බවත්, ළඟදී ම, ගෙදර පැමිණෙන බවත්, නැති නම් ලියුමක් හෝ එවන බවත්, දන්වා ගෙදර ගොස් පුතා ගේ පැමිණීම බලාපොරොත්තුව සිටින ලෙස කීවේ ය. "ඉතින් නුඹ විශ්වාස කරනවද එතුමා ගේ කියමන හරිගියා''යි හොලාකෝව් මතිනිය ලීවා ය. ඒ මහලු මවට ගෙදර යන්න ලැබුණේ නැත. ඇගේ නමට සයිබීරියාවේ සිට එවන ලද ලියුමක් ගෙදර අය ඇයට දුන්හ. එ පමණක් ද නොව තමා තවත් නිලධරයකු සමග ආපසු රුසියාවට පැමිණි බවත්, මේ ලියුම ලැබී සති තුනකට පසු ව මව වැලඳගැනීමට තමා බලාපොරොත්තු වන බවත් කියා තිබුණේ ය.

'දිවැසින් දක කියන්නාක්' වැනි මේ අලුත් අසුව් සිද්ධිය නායක පියතුමා ඇතුළු ආශ්‍රමයේ වෙසෙන අනෙක් පූජකයන්ට ද වහා දන්වන ලෙස හොලාකෝව් මැතිනිය ඉතා ආදර යෙන් අලෝෂාගෙන් ඉල්ලා සිටියා ය. 'සියලු දෙනා ම මෙය දැන ගත යුතු යි' කියමින් ඈ ලියුම අවසන් කර තිබිණි. ලියුම ලියා තිබුණේ මහත් කලබලයකිනි. ඒ කලබල ගතිය ලියුමේ හැම පෙළක් පාසා ම දකින්නට තිබිණි. එහෙත් මේ ආරංචිය අනෙක් පූජකයන්ට දැනුම් දීම අනවශ්‍ය වූයේ නට ම ඔවුන් එය දැන සිටි හෙයිනි. ගරු පියසි පියතුමාට දැනුම දිය යුතු කරුණක් තිබෙන බවත්, එය ඉතා වැදගත් බැවින් මොහොතක් හෝ පමා කළ නො හැකි බවත්, මෙසේ හදිසියෙන් කතා කිරීම ගැන තමාට කමා වන ලෙස ඉතා යටහත්ව ඉල්ලා සිටින බවත්, රැකිටින් ආරංචිය ගෙනා පූජකයාට කී ය. පූජකයා මේ ආරංචිය අලෝෂාට දැනුම් දීමට පෙර පියසි පියතුමාට දන්වන ලදින් අලෝෂාට තිබුණේ ලියුම කියවා සථිර කිරීම පිණිස ලියුම පියසි පියතුමාට පෙන්වීම පමණි.

උග්‍ර තවුස්දම් රකින සුපරීක්ෂ්‍යාකාරී පුද්ගලයකු වූ පියසි පියතුමා රවා බලමින් 'හාස්කම්' ගැන පුවත සඳහන් ලියුම කියෙව්වත් එතුමාට සිතේ නැග ආ හැඟීම් සම්පූර්ණයෙන් ම මැඩ ගත නො හැකි විය. එතුමා ගේ දෑස දීප්තිමත් විය. දෙතොල් මත ගැඹුරු සිනාවක් ආරූඪ විය.

"මීට වඩා ලොකු දේවල් අපට දකින්නට ලැබේවි!' එතුමා ගේ මුවෙන් පිට විය.

"ඔව්, මීට වඩා ලොකු දේවල් අපට දකින්නට ලැබේවි!' එහි රැස්ව සිටි පූජකයෝ පියසි පියතුමා අනුව කී හ.

"මෙලොව වෙසෙන හැම දෙනා ම කිසි ම ඇඟිල්ලක් බැලිල්ලක් නැති ව හැම දෙයක් ම පිළිගැනීමට පෙළඹෙන නිසා මේ පුවතේ ඇත්ත නැත්ත තහවුරු වනතෙක් ඒ ගැන කතා නො කරන ලෙස මා ඔබ හැම දෙනාගෙන් ම ඉතා බැගෑපත්ව ඉල්ලා සිටිනවා. සමහරවිට මෙය හාස්කමක් නොව සවාභාවික දෙයක් වන්න පුළුවනි" පියසි පියතුම ආයේත් රවා බලමින් කී ය. එහෙත් මේ පුවත සත්‍යයක් බව පිළිගත් එතුමා මෙසේ කීවේ තම සිත සනසා ගැනීමට මෙනි. එහි රැස්ව සිටි අයට එය සක්සුදක් සේ පැහැදිලි විය.

පැයක් යන්නට පෙර 'හාස්කම' පිළිබඳ මේ පුවත ආශ්‍රමය පුරා පැතිර ගියේ ය. පූජාවට පැමිණි අයට ද ඒ බව දැනගන්නට ලැබිණි. ඈත උතුරේ පිහිටි සාන්ත සිල්-වැස්ටර නමැති කුඩා ආශ්‍රමයේ සිටි පැමිණි පූජකයා තරම් වෙන කිසිවකු තුළ මේ පුවත තදින් බලපැවැත්වූ බවක් නො පෙනේ. පෙර දින සවස හොලාකෝ මැතිනිය ළඟ සිට තවුසා ඇගේ දියණිය සුව කරන සැටි බලා "ඔබ තුමා බිය සැක නැති ව මෙ වැනි දේවල් කරන්නේ කෙසේ ද?"යි සොසිමා තවුසාගෙන් ඇසුවේ මේ පූජකයා ය

මේ පුවත අසා අන්දුන්කුන්දුන් වූ හෙතෙම කවරකු විශ්වාස කළ යුතු දැයි නොදත්තේ ය. මිමැස්සන් ඇති කරන ස්ථානයට පිටුපසින් පිහිටි පෙරාපොන් පියතුමා ගේ කුටියට යාමට පෙර මේ පූජකයා ආශ්‍රමයට පැමිණි ගමන ගැන බොහෝ සේ පැහැදී සිටියේ ය. පෙරාපොන් පියතුම වනාහි අප විසින් ඉහත සඳහන් කළ නිශ්ශබ්දතාව නමැති ශීලය රකිමින් උපවාසයෙහි යෙදෙන මහලු පූජකයෙකි. එතුමා සොසිමා තවුසාට පමණක් නොව මුළු තාපසනිකායට ම විරුද්ධ විය. එතුමා තාපසනිකාය පිළිගත්තේ අනර්ථදායක නිස්සාර අලුත් පන්නයක් හැටියට ය. එතුමා රකින නිශ්ශබ්ද-තාශීලය නිසා කලාතුරකින් හෝ කිසිවකුට තාපසනිකාය ගැන වචනයක්වත් නො කියයි. එහෙත් එතුමා තාපස නිකායේ භයානක විරුද්ධවාදියෙක් විය. මේ මහලු පූජකය තාපසනිකායට විරුද්ධ වූයේ පූජකයන් කීප දෙනෙකු එතුමා ගේ අදහස් පිළිගැනීම හා එහි පැමිණි බොහෝ දෙනෙකු එතුමා සාන්තුවරයකු ලෙස වැඳුම්පිදුම් කිරීමත් නිසා ය. එහෙත් පෙරාපොන් පියතුමා පිස්සකු බව ඔවුහු දැන සිටියහ. එතුමා පිස්සකු ලෙස සැළකුම් ලැබුවේ මේ උමතුව නිසා ම ය,

මේ මහලු පූජකයා කිසිම කලක සොසිමා තවුසා හමුවීමට නොගියේ ය. එතුමා තපෝවනසිමාව තුළ වෙසෙතත් තපෝවනයට අයත් විනය රකින්නේ දැයි විශ්වාස නොකරන ලද්දේ එතුමා පිස්සකු මෙන් කටයුතු කළ නිසා ය. එතුමා ගේ වයස හවුරුදු හැත්තෑපහකට වැඩි විය යුතු ය. එතුමා වාසය කළේ මීමැස්සන් ඇති කරන ස්ථානයට ඇතින්, වත්තේ මූල්ලක ඈත කාලයේ විසූ ඉවෝනා නමැති ඉතා ශ්‍රේෂ්ඨ පූජකයකු සඳහා ලීයෙන් තනන ලද දිරා ගිය කුටියක ය. හවුරුදු එකසිය පහක් ආයු වැළඳූ ඉවෝනා පියතුමා ගේ සිල්වත් කම හා උතුම් ගුණ දහම් ගැන නොයෙක් විදියේ පුදුම කතා තවමත් ආශ්‍රමයේ හා අවට පළාත්වල පැතිර පවතී.

පෙරාපොන් පියතුමා මේ කුටිය ලබාගෙන එහි හුදෙකලා ජීවිතයක් ආරම්භ කළේ මීට හවුරුදු හතක සිට ය. එය කුඩා දේවස්ථානයක් මෙන් පෙනුණත් ගැමියකු ගේ දිළිඳු පැල්පතකට සමාන විය. දෙවියන්ට පූජා කිරීම පිණිස ආශ්‍රමයට ගෙනෙන ලද නිරතුරුව දල්වෙන පහන් සහිත බොහෝ සුරුවම් එහි තබා තිබේ. දොළොස් මස පුරා මේ පහන් දල්වා තැබීමේ කාරිය පෙරාපොන් පියතුමාට භාර දෙන ලදී. එතුමා ආහාරයක් වශයෙන් තෙදිනකට පාන් රාත්තල් දෙකක් ගන්නා බව කියනු ලැබේ. (එය සත්‍යයකි). නුදුරේ වෙසෙන මී මැස්සන් රැක බලා ගන්න මිනිහා තෙදිනකට වරක් පාන් රාත්තල් දෙකක් ගෙන එන්නේ ය. තමාට ආවතේව කම් කරන මේ මිනිහාට පවා මහලු පූජකයා කලාතුරකින් හෝ කතා නොකළේ ය. ආශ්‍රමයේ නායක පූජකතුමා විසින් හැම ඉරිදින ම අන්තිම පූජාවෙන් පසු ව එවන පාන් රාත්තල් හතර සමග සක්‍රමේන්තුවට දෙන පාන් කෑල්ලක් ද මහලු පූජකයා ගේ සතියේ ආහාරය විය. ඔහු ගේ පැන් බඳුනේ පැන් දවසකට වරක් මාරුකරන ලදී. එතුමා කිසිම දවසක පූජාවට සහභාගි නො වී ය. මේ පූජකයා ඇතැම් විට දවස පුරා බිම දණ ගසා ගෙන යාච්ඤා කරන සැටි එතුමාට හරසර දක්වීම පිණිස පැමිණි බැතිමතුන් විසින් දක්නා ලදී. එතුමා ඔවුන්ට කතා කළොත් ඒ කතාව ඉතා කෙටි විය. සිතේ පුදුමය ඇති කරවන සුලු ය. ඉතා නපුරු ය. කෙසේ වෙතත් ඉතා කලාතුරකින් එතුමා බැතිමතුන් සමග කතා කරයි. බොහෝ විට එතුමා කියන්නේ කිසිවකුට නොතේරෙන ප්‍රහේලිකාවක් වැනි අද්භූත දෙයකි. කො තරම් කන්නලව් කළත් කිසිම කලක කී දෙය යළි පහදා නො දෙයි. සාමාන්‍ය පූජකයකු වූ පෙරාපොන් පියතුමා මනුෂ්‍යයන් සමග කතා නොකරන්නේ දෙවි

දේවතාවන් සමග පමණක් සබඳකම් පවත්වන නිසා ය යන අද්භූත විශ්වාසයක් බෙසෙසින් ම නූගත් ගැමියන් අතරේ පවතී.

වඩා කතා නොකරන එහෙත් රළු ගති ගුණ ඇති, මී මැස්සන් ඇති කරන පූජකයා, උතුරේ සිට පැමිණි පූජකයා, පෙරාපොන් පියතුමා වෙසෙන කුටිය ළඟට කැඳවා ගෙන ගොස් "සමහර විට නුඹ ආගන්තුකයකු නිසා එතුමා නුඹ සමග කතා කරන්න පුළුවනි. සමහර විට කතා නොකරන්නත් පුළුවනි" කී ය. තමා කුටියට ගියේ බියෙන් හා සැකයෙන් යුතුව බව පූජකයා පසුව කී ය. ඔහු කුටියට යන විට සවස් විය. පෙරාපොන් පියතුමා කුටියේ දොර ළඟ කුඩා බන්කුවක් මත හිඳ සිටියේ ය. අතු පතර විහිදී ගිය පැරණි දැවැන්ත එල්ම් ගසේ කොළ සරසර ගා නද දිනි. වාතය ප්‍රාණවත් විය. ආගන්තුක පූජකයා පියතුමාට සිරස නමා ආචාර කොට ශුභාශංසනය ඉල්ලා සිටියේ ය.

"උඹ කියන්නේ මටත් හිස නමා ආචාර කරන්න කියා ද? නැගිටපන්" යි පෙරාපොන් පියතුමා කීය.

පූජකයා නැගී සිටියේ ය.

"උඹට මගේ ආශීර්වාදය ලැබේවා. ඔ තැනින් ඉඳගනින්. උඹ කොහෙ ඉඳල ද ආවේ?"

පෙරාපොන් පියතුමා කොතරම් නිරාහාරව සිටියත්, මහලු වුවත්, තවමත් ශක්තිමත්ව සිටිම අසරණ ආගන්තුක පූජකයා කෙරෙහි තදින් බලපැවැත්වී ය. පියතුමා උස ය. එතුමා ඒ උස කඳ කෙළින් තබා ගෙන ඇවිද්දේය. මුහුණ සිහින් ය. එහෙත් ප්‍රාණවත් ය. නීරෝගී පෙනුමෙන් යුක්ත ය. එතුමා තුළ තවමත් ශක්තිය තිබෙන බවට කිසි ම සැකයක් නැත. මහලු වුවත් හිස කෙස් එ තරම් සුදු වී නැත. හිස කෙස් ගොරෝසු ය. මුහුණ පුරා රැවුල වැවී තිබුණේ ය. විශාල දුඹුරු පැහැති නෙත් තුළින් කාන්තිය විහිදුණේ ය. විශිෂ්ට පෙනුමෙන් යුක්ත විය. කතාව ඉතා පැහැදිලි ය. එතුමා සිරකරුවන් අඳින වර්ගයේ ඉතා දළ ගුරු පැහැති කබායක් ඇඳ, ඉඟ වටේ ලණුවක් ගැටගසා ගෙන සිටියේ ය. එතුමා ගේ බෙල්ලත් පපුව පෙදෙසත් පෙනෙන්නට තිබිණි. කබාය තුළින්, එතුමා ඇඳ සිටි කමිසය පෙනේ. කුණු බැඳී කළු ගැසී තිබුණු කමිසය මාස ගණනකින් මාරු කොට නැත. රාත්තල් තිහක් පමණ බර ඇති යකඩ එතුමා කබාය යටින් එල්ලා ගෙන

සිටින්නේ යයි ඇතැමෙක් කී ය. එතුමා ගේ නග්න වූ දෙපා කැලී ගැලවී හැලෙන සෙරෙප්පු වලින් වැසිණි.

"මා ආවේ සාන්ත සිල්වැස්ටරයේ ඉඳලයි" පූජකයා ඉතා යටහත් පහත් බව දක්වා කී ය. ඒ අතරේ හෙතෙම පියතුමා දෙස තැතිගත් දෑසින් සෝදිසියෙන් බලා සිටියේ ය.

"මාත් උඹලගේ සිල්වැස්ටර ආශ්‍රමයේ නතර වී සිටියා. දැන් කොහොමද සිල්වැස්ටර සනීපයෙන් ඉන්නව ද?"

පූජකයා පිළිතුරු නොදී මඳක් ළත විය.

"උඹලා කිසි ම තේරුමක් නැති පිරිසක්. උඹලා උපවාසයේ යෙදෙන්නේ කොහොම ද?"

"අප උපවාසයේ යෙදෙන්නේ පැරණි චාරිත්‍ර අනුවයි. කොරොස්ම කාලයේ, සතියේ සඳුදා බදාදා හා සිකුරාදා දවස්වල දී අප කන්නේ නැහැ. අඟහරුවාදා හා බ්‍රහස්පතින්දා දවස්වල අප සුදු පාන්, මී පැණි සමග පිළියෙළ කරන ලද පලතුරු, වල් පලතුරු වර්ග හෝ ලුණු දමා තම්බන ලද ගෝවා කාලා කැඳ බොනවා. සෙනසුරාදා දවස්වල දී කංසා තෙල් දමා තම්බන ලද සුදු ගෝවා සුප්, බෝංචි ඇට සුප් සමග නූඩල්ස් කාලා කැඳ බොනවා. සතියේ දවස්වල දී අප කරවල හා ගෝවා සුප් ගෙන කැඳ බොනවා. සුද්ධ වූ සතියේ සඳුදා සිට සෙනසුරාදා සවස් කාලය දක්වා හය දවස තුළ අප කිසි ම ආහාරයක් පිළියෙළ කරන්නේ නැහැ. අප යන්තමට පාන් කාල වතුර බොනවා. කොරොස්ම කාලයේ පළමු සතිය නිරාහාරව ගත කරනවා වගේ පුළුවන් නම් කිසි ම ආහාරයක් නො ගෙන සිටිනවා. මහසිකුරාදා දවස්වලදී අප කිසි ම ආහාරයක් ගන්නේ නැහැ. මේ විදියට අප සෙනසුරාදා සවස තුන වන තෙක් නිරාහාරව සිටලා තුනට පස්සේ පාන් කෑල්ලක් කා වතුර ටිකක් බී පස්සේ වයින් බඳුනක් බොනවා. ශුද්ධ වූ බ්‍රහස්පතින්දා දිනවල දී අප වයින් බීලා තෙල් නො දමා ආහාරයක් පිළියෙළ කර ගන්නවා, නැතිනම් කිසි ම ආහාරයක් පිළියෙළ නො කර සිටිනවා. අප උපවාසය කරන්නේ මේ විදියටයි. නමුත් තමුන්නාන්සේ අවුරුද්ද පුරා ම, පාස්කුකාලයේ දී පවා පාන් හා වතුර හැර වෙන කිසි ම ආහාරයක් ගන්නේ නැහැ. අප දවස් දෙකකට ගන්නා ආහාරය තමුන්නාන්සේට සතියකට සෑහෙනවා. තමුන්නාන්සේ උපවාසය කරන සැටි බෝහොම පුදුමයි" පූජකයා බිය සැක දුර හැර කී ය.

"මං හතු කනවා" පියතුමා ගත්කටට කී ය.

"හතු කනවා?" පූජකයා පුදුමයෙන් ඇසී ය.

"ඔව්, මට පුළුවනි උන් දෙන පාන් නොකා වනාන්තරයට ගිහින් හතු හා ගෙඩි වර්ග කාලා ජීවත් වෙන්න. ඔවුන්ට පාන් කෑම අත්හරින්න බැරි නිසා ඔවුන් යක්ෂයාට බැඳිලා. මේ කාලේ අපිරිසුදු ජීවිත ගත කරන අය උපවාසයේ යෙදෙන්න උවමනා නැහැ කියා තර්ක කරනවා. ඔවුන් ගේ අදහස් බොහො ම අහංකාරයි. අපිරිසුදුයි."

"ඔව්, ඒක ඇත්තයි" පූජකයා සුසුමක් පිට කරමින් කී ය.

"උඹ දැකල තියෙනව ද උන් අතර සිටින යකුන්?"

"කා අතර ද?" පූජකයා බයාදුකම දක්වමින් ඇසී ය.

"ගිය අවුරුද්දේ ට්‍රිනිටි 1 ඉරිදා මං ගියා නායක පියතුමා හමු වෙන්න. ඊට පස්සේ අද වන තුරු ගියේ නැහැ. මං දැක්කා මිනිහකු ගේ කබාය යට හැන්ගිලා පපුව උඩ ඉඳ ගෙන ඉන්න යකෙකු. යකා ගේ පේන්න තිබුණේ අං දෙක පමණයි. තව යකෙකු සාක්කුවේ ඉඳලා මං දැකලා බය වුණා. තවත් යකෙකු එ තැන හිටිය පූජකයා ගේ අපිරිසුදු බඩ උඩ ඉඳ ගෙන හිටියා, තවත් යකෙකු මිනිහකුගේ බෙල්ලේ එල්ලිලා හිටියා. ඒ මිනිහා නා දන් යන යන තැන මේ යකා බෙල්ල වටේ එල්ල ගෙන යනවා."

"තමුන්නාන්සේට යකුන් පේනව ද?"යි පූජකයා පුදුමයෙන් විමසී ය.

"ඔව් මට යකුන් පේනවා. විනිවිද පේනවා. මං නායක පූජක තුමා හමුවී ආපසු එනකොට යාර එකාමාරක් පමණ උස යකෙකු මට භයෙන් දොර පිටි පස්සේ හැංගිලා මා දිහැ බලා හිටියා. උගේ දුඹුරු පාට වලිගය බොහො ම දිගයි. වලිගයේ කෙළවර දොර අස්සෙන් එළියට ඇවිත් තිබුණා. වලිගය අහුවෙන්න එක පාරට ම මං දොර වැසුවා. වලිගය අසු වී ඌ බෙරිහන් දී දඟලන්න පටන් ගත්තා. මං තුන් පාරක් උගේ ඇඟ උඩින් කුරුසිය ඇන්දා, හරියට ම අඩු පඩු කැඩුණු මකුණෙකුවගේ ඌ එ තැන ම මළා. ඌ එ තැන කුණු වෙන්න

---

I Trinity Sunday.

ඇති. නමුත් උන්ට යකා පේන්නෙත් නැහැ, උගේ කුණු ගඳ දැනෙන්නෙත් නැහැ. මේක වෙලා දැන් අවුරුද්දක් වෙනවා මා මේ කතාව කිව්වේ උඹ අමුත්තකු නිසයි."

"ශුද්ධ වූ පියතුමාණෙනි, තමුන්නාන්සේ ගේ කතාව බොහො-ම භයානකයි." පූජකයා වඩ වඩාත් එඩිතර වෙමින් කී ය. "තමුන්නාන්සේ නිතර ශුද්ධ වූ අවතාරය සමග කතා කරන වාය කියා බොහො ම ඈත පළාත්වල පවා ප්‍රසිද්ධයි. ඒ කතාවේ ඇත්තක් තියෙනව ද?"

"සමහර විට ශුද්ධ වූ අවතාරය පහතට ඉගිල්ලී එනවා.

"කොයි විදියට ද ඉගිල්ලී එන්නේ?"

"කුරුල්ලකු වගෙයි."

"පරෙවියකු ගේ වේසයෙන් ඉගිල්ලී එනව ද?"

"අන්න ඉන්නවා ශුද්ධ වූ අවතාරය. අන්න ඉන්නවා ශුද්ධ වූ ආත්මය. නමුත් ශුද්ධ වූ ආත්මය වෙනසියි. නොයෙක් විදියේ කුරුළු අවතාරවලින් එනවා. සමහර විට වැහිලිහිණි-යකුගේ වෙසින් එනවා."

"කුරුල්ලන්ගෙයි ශුද්ධ වූ අවතාරයෙයි අතර වෙනස දැන ගන්නේ කොහොම ද?"

"ශුද්ධ වූ අවතාරය කතා කරනවා."

"කොහොමද කතා කරන්නේ? කොයි බාසාවෙන් ද කතා කරන්නේ?"

"අප කතා කරන බාසා වෙනුයි."

"මොනව ගැන ද කතා කරන්නේ?"

"අද මට ශුද්ධ වූ අවතාරය කිව්වා මෝඩයෙක් මා හමු වෙන්න ඇවිත් මගෙන් නොහොබිනා ප්‍රශ්න අහවිය කියා.... උඹ ප්‍රශ්න අහනවා වැඩියි."

"ශුද්ධ වූ පියතුමාණෙනි, ඔබ තුමා ගේ කතාව බොහො ම භයානකයි" පූජකයා හිස වනා කී ය. ඔහු ගේ කුඩා දෑස තුළ සැකය හඟුන්වන බැල්මක් විය.

---

Holy Ghost.

"උඹට මේ ගහ පේනවානේද?"යි පූජකයා මඳ වේලාවක් බලා සිට ඇසී ය.

"එහෙමයි."

"උඹට පේන්නේ එය එල්ම් ගසක් හැටියටයි. නමුත් මට පේන්නේ වෙන විදියකටයි."

"තමුන්නාන්සේට පේන්නේ මොන විදියේ ගසක් හැටියට ද?" යි පූජකයා මඳ වේලාවක් බලා සිට ඇසුවේ ය.

"මේක වෙන්නේ රුටයි. උඹට අර අතු දෙක පේනවා නේද? ඒ අතු දෙක තමයි ක්‍රිස්තුන් වහන්සේ ගේ දූත. උන් වහන්සේ රුට දූත දික් කොට මාව හොයනවා. මේක බොහො ම භයානක දෙයක්. මට බොහො ම බය හිතෙනවා."

"ඒ පේන්නේ ක්‍රිස්තුන් වහන්සේ නම් මොනවටද ඔය තරම් භය වෙන්නේ?"

"උන්වහන්සේ මාව උස්සා ගෙන දිව්‍යලෝකයට ගෙන යාවි."

"පණ පිටින්ම ද?"

"ඇයි උඹ අහලා නැද්ද? උන්වහන්සේ දූතින් ම මාව උස්සා ගෙන යාවි."

සහෝදර පූජකයකු සමග ලැගුම් ගෙන සිටි කාමරයට නොසන්සුන් සිතින් පැමිණි පූජකයා තවමත්, සොසිමා තවුසාට වඩා භක්තියක් පෙරාපොන් පියතුමාට දක්වී ය. ඔහු තුළ උපවාසය ගැන ලොකු විශ්වාසයක් පැවතිණි. එ හෙයින් පෙරාපොන් පියතුමා වැනි උග්‍ර උපවාසයක යෙදෙන්නෙකු 'පුදුම දූ' දකීම ඔහු පුදුමයක් කොට නොසැලකුවේ ය. එතුමා ගේ කතාව විකාර දෙඩුමකි. එහෙත් එහි සැඟවුණු අදහස් දන්නේ දෙයියෝ පමණි. දෙවියන් වහන්සේ ගේ කීර්තිය වැඩි කිරීම පිණිස බුද්ධිය කැප කළ අය, කරන කියන දේවල කිසි ම අර්ථයක් නැත්තාක් මෙන් පෙනේ. යකා ගේ වලිගය දෙරට හිරවීම පිළිබඳ කතාව ඔහු පිළිගැනීමට සූදනම් විය. උපමා අලංකාර වශයෙන් නොව සැබෑවක් වශයෙන් පිළිගැනීමට කැමැති විය. හැරත් ආශ්‍රමයට පැමිණීමට පෙර තාපසනිකායට විරුද්ධව ඔහු තුළ අවිචාර අදහස් ඇති වී තිබිණි ඔහු ඒ අවිචාර අදහස් ඇති කර ගත්තේ කටකතා ඇසීමෙන් මිස ඇති තතු

දැන ගෙන නො වේ. මේ තාපස නිකාය අනර්ථදායක දෙයක් යයි ඔහු කල්පනා කෙළේ ය. මේ නිකායයට විරුද්ධ වූ පූජකයා විසින් රහසින් කළ කතා ද ඔහු අසා තිබේ. හැරත් ඔහු හැම දෙයකට ම ඇඟිලි ගසන වර්ගයේ මිනිහෙකි. තවුසා විසින් දක්වන ලද 'හාස්කම්' පිළිබඳ පුවත නිසා ඔහු තුළ බලවත් විමතියක් ඇති වුණේ මේ හේතුව නිසා ය. තවුසා ගේ කුටිය තුළ හා ඉන් පිටත රැස්ව සිටි පිරිස අතරේ ගැවසෙමින් හා ඔවුන් කරන කතා බහට සවන් දෙමින් නොයෙක් ප්‍රශ්න ඇසූ, කුතුහලයෙන් යුත් ආගන්තුක පූජකයා ගැන අලෝෂාට පසු ව සඳහන් විය. එහෙත් එදා අලෝෂා ඔහුට වැඩි සැලකිල්ලක් නො දැක්වී ය. පූජකයා ගැන ඔහුට මතක් වූයේ පසු කාලයේ දී ය.

එ වේලේ වෙන කිසිවක් ගැන කල්පනා කිරීමට අලෝෂාට අවකාශ නොතිබුණේ ය. ආයේත් විඩා වැටී සයනයෙහි වැතිර දැස වසාගත් තවුසාට අලෝෂා සිහි විය. අලෝෂා කැඳවන ලෙස එතුමා නියම කෙළේ ය. අලෝෂා වහා තවුසා ළඟට දිව ගියේ ය එ වේලේ පියසි පියතුමා, ජෝසෙප් පියතුමා හා පොපිරි නමැති ආධුනික පූජකයා හැර වෙන කිසිවෙක් තවුසා ළඟ නො සිටි-යේ ය. විඩාපත් නෙත් ඇර අලෝෂා දෙස බැලූ තවුසා හදිසි-යෙන් ම මෙසේ ඇසුවේ ය.

"පුතා, නුඹේ ගෙදර අය නුඹ එන තෙක් බලාපොරොත්තුව සිටිනවා නේද?"

අලෝෂා මදක් ළතවිය.

"ඔවුන්ට නුඹ අවශ්‍ය නැති ද? අද හමු වන බව කිය ඊයේ නුඹ යම්කිසි කෙනෙකුට පොරොන්දු වුණා නේ ද?"

"ඔව්, මා මගේ පියාටත්, අයියාටත්, වෙනත් අයටත් පොරොන්දු වුණා."

"පුතා, පොරොන්දු වූ පරිදි ඔවුන් හමු විය යුතුයි. මා ගැන දුක් වන්න එපා. මගේ අවසාන වචනය නුඹට ඇසෙන්නට නො දී මා මිය යන්නේ නැහැ. මගේ අවසාන වචනය කියන්නේ නුඹට යි. මගෙන් නුඹට ලැබෙන අවසාන ත්‍යාගයත් එයයි. ඒ ත්‍යාගය දෙන්නේ නුඹ මට ආදරය නිසයි. නමුත් වෙච්ච පො-රොන්දුව ඉෂ්ට කිරීම පිණිස දැන් ම යන්න."

තවුසා ගෙන් ඉවත් වී යාම කළ නො හැකි දෙයක් වුවත් අලෝෂා වහා එතුමා ගේ වචනයට කීකරු විය. එහෙත් එතුමා මිහිපිට සිට කියන අන්තිම වචනය තමාට අසන්නට ලැබෙන්නේ ය. එය තමාට එතුමා ගෙන් ලැබෙන අන්තිම ත්‍යාගය බව හඟවන පොරොන්දුව සිහි වන විට අලෝෂා ගේ ආත්මය තුළින් ප්‍රීතිය විනිවිද ගියේ ය. නගරයට ගොස් කළ යුතු සියලු කටයුතු අවසන් කොට ආපසු තවුසා වෙත පැමිණීමේ අදහසින් අලෝෂා නික්ම ගියේ ය. එ වේලේ පියසී පියතුමා පැවසූ අවවාදාත්විත වචන ස්වල්පය අසා අලෝෂා පුදුම විය. අසපුවෙන් පිට වන අලෝෂාට පියසී පියතුමා මෙසේ කීවේ ය.

"මේ ලෝකේ මහත් බලයක් බවට පත් වී තිබෙන විද්‍යාව විසින් වෙසෙසින් ම පසු ගිය ශතවර්ෂයේ සිට ආගමික පොත පතින් පැවැත එන සුද්ධ වූ හැම දෙයක් ම පරීක්ෂා කර තිබෙන බව හොඳට මතක තියා ගන්න. මේ දුෂ්ට පරීක්ෂණයෙන් පස්සේ උගතුන් විසින් පුරාණයේ සිට පැවැත එන සුද්ධ වූ කිසිවක් ඉතිරි කරලා නැහැ. නමුත් පරීක්ෂා කර තිබෙන්නේ කොටසක් පමණයි. අනෙක් කොටස ඔවුන් ගේ අතට අසු වී නැහැ. ඔවුන්ට ඒවා නොපෙනීම ලොකු පුදුමයක්. පරීක්ෂණයට අසු නොවී ඉතිරි වූ කොටස තවමත් ඔවුන් ගේ නෙත් ඉදිරිපිට නො සැලී තියෙනවා. ඉතිරි වූ කොටස ශත වර්ෂ දහනවයක් කල් පැවැත ආවේ නැද්ද? මහාජනයා අතරත්, අපේ හදවත් තුළත්, එම කොටස ජීවමානව පවතින බලවේගයක් නො වේද? හැම දෙයක් ම විනාශකරදමූ අදේවවාදීන් තුළ ද එය තවමත් ශක්තිමත්ව පවතිනවා. ක්‍රිස්තුධර්මය අත් හැර දමා ඊට පහර දුන් අය ගේ හදවත් තුළ ද ක්‍රිස්තුධර්මය පවතිනවා. පුරාණයේ විසූ ක්‍රිස්තුන් වහන්සේ විසින් දේශනා කළ මිනිසා පිළිබඳ උසස් ධර්මයට සම කළ හැකි කිසිවක් තවම මේ උගතුන්ට කරන්න පුළුවන් වුණේ නැහැ. එ වැනි ධර්මයක් ගොඩනැගීමට වෑයම් කළත් එහි ප්‍රතිඵල හාස්‍ය ජනක වෙනවා. මෙලොව හැර යන නුඹේ ගුරුතුමා විසින් නුඹව මෙලොවට ඉදිරිපත් කරන ලද නිසා නුඹ මේ කාරණය විශේෂයෙන් ම සිහි තබා ගත යුතු යි. මේ දවස සිහි තබා ගත්තොත්, සමහර විට නුඹේ යහපත සඳහා අවංක සිතින් මා දුන් මේ අවවාදය නුඹට අමතක නො වන්න පුළුවනි. නුඹ තව ම ළාබාලයි. නුඹේ චිත්තශක්තියෙන් වැඩ ගත නොහැකි තරමට රාගය වඩවන දේවල් මේ ලෝකේ බොහෝ ම තියෙනවා. මා මේ අවවාදය දුන්නේ ඒ නිසයි. දැන් ඉතින් යන්න."

මෙසේ පැවසූ පියසි පියතුමා අලෝෂාට ශුභාශිංසන කෙළේ ය. අරමෙන් නික්ම යන අලෝෂා පියසි පියතුමා දුන් අවවාදය ගැන කල්පනා කෙළේ ය. මීට පෙර තමාට තදින් සැලකූ මේ උග්‍ර තවුසා කිසි ම බලාපොරොත්තුවක් නැති ව තමා ගේ මිත්‍රයකු හා ගුරුවරයකු වූ බව හදිසියෙන් ම අලෝෂාට අවබෝධ විය. මරණ මොහොතේ දී සොසිමා තවුසා දයාදයක් වශයෙන් පියසි පියතුමා තමාට පිරිනමන්නට ඇත.

"සමහර විට ඔවුන් සාකච්ඡා කරන්න ඇත්තේ මේ ගැන විය යුතු යි" අලෝෂා හදිසියෙන් ම කල්පනා කෙළේ ය. තමාට, මීට ටික වේලාවකට පෙර කිසි ම බලාපොරොත්තුවක් නැති ව අසන්නට ලැබුණු ගැඹුරු දේශනය පියසි පියතුමා ගේ හිතවත්-කම ඔප්පුකරන්නක් විය යුතු ය. රාගාදී කිලුටු අදහස් නිසා ඇති වන සට්ටනවලින් ආරක්ෂාවීමට තරුණයා ගේ සිත සන්-නාහසන්නද්ධ කිරීමටත්, තමා ගේ ආරක්ෂාව යටතේ තබන ලද තරුණයා ගේ ආත්මය සිතින් සිතා ගත හැකි හැම ආපදාව-කින් ම රැකගැනීමටත් පියසි පියතුමා ඉක්මන් විය.

## දෙවන පරිච්ඡේදය
## පිය පුතු වෛරය

අලෝෂා පළමුව පියා හමුවීමට ගියේ ය. ඉවාන්ට නො පෙනී ගෙදරට පැමිණෙන ලෙස පෙර දින පියා තමාට බල කර සිටිය බව ගෙදර යන අලෝෂාට සඳහන් විය. "තාත්තා එසේ කීවේ මන් ද?"යි අලෝෂා හදිසියෙන් ම කල්පනා කෙළේ ය. "මට පෞද්ගලිකව යමක් කියන්නට ඇතත් මා කිසිවකුට නො පෙනී ගෙදර යා යුත්තේ මන් ද? සමහර විට ඊයේ ඇති වූ කලහයේ දී තාත්තා අමුතු දෙයක් කියන්නට අදහස් කරන්නට ඇත" යි ඔහු තීරණය කෙළේ ය. එහෙත් වත්තට ඇතුළුවන ගේට්ටුව අරින්නට පැමිණි මාර්ෆා අලෝෂා ඇසූ ප්‍රශ්නයට පිළිතුරු දෙමින් ඉවාන් පැය දෙකකට කලින් බැහැර ගිය බව කීවා ය. මේ ආරංචිය අලෝෂා ගේ ප්‍රීතියට හේතු විය. (මාර්ෆා ගේට්ටුව ඇරියේ ගිරිගෝරිස් අසනීපව සිටි නිසා ය.)

"තාත්තා ඉන්නව ද?"

"ඔව්, තව ම නිදාගත්තෙ නැහැ. කෝපි බොනවා." මාර්ෆා කීවේ ඇනුම්පදයක් කියන්නාක් මෙනි.

අලෝෂා යන විට කුඩා පරණ කබායක් ඇඳ සෙරෙප්පු කුට්ටමක් පය ලාගත් පියා මේසය ළඟ තනියෙන් හිඳ ගනු දෙනු බැලුවේ වැඩි සැලකිල්ලකින් නො වේ. පැවල් වෙළෙඳ පොළට ගොස් සිටි නිසා තාත්තා හැර ගෙදර වෙන කිසිවෙක් නො-සිටියේ ය. අලුයම අවදි වූ මහලු කරමසෝව් පෙර දින රූ කිසිවක් සිදු නොවූ බව හැඟවීමට වෑයම් කළත් ඔහු ඉතා දුර්වල තත්ත්ව-යක සිටින බව මුහුණෙන් පෙනිණි. පෙර දින රූ ඇති වූ ගහ බැණ ගැනීමේ දී තුවාල වූ ඔහු ගේ නළල රතු ලේන්සුවකින් ගැට ගසා තිබිණි. ඔහු ගේ නහය භයානක ලෙස තඩිස්සි විය. තුවාල වී ඉදිමුණු නාසය නිසා ඔහු ගේ මුහුණේ අමුතු කුඩුකේඩු නුරුස්නා ගතියක් පිළිබිඹු විය. ඔහු, ගෙට ගොඩ වූ අලෝෂා දෙස නො-කැමැත්තෙන් බැලුවේ තමා ගේ මුහුණ අරූප වී තිබෙන බව දැන සිටි හෙයිනි.

"කෝපි නිවිල නිසා උඹට බොන්න කියන්නේ නැහැ" යි හෙතෙම රළු බසින් කී ය. "අද කෑමට මං සුප් එකක් විතරක් ගෙනෙන්න කිව්වා. ඒ සුප්එක තව කෙනෙකු එක්ක බෙදා ගෙන බොන්න මගේ අදහසක් නැහැ. උඹ මොකද ආවේ?"

"තාත්තාට කොහොම ද කියා බලන්න ආවා."

"ඔව්, මං අද උඹට එන්න කිව්වා. නමුත් උඹේ පැමිණීමෙන් ඇති වැඩක් නැහැ. ඇවිත් කරදර වෙන්න උවමනාවක් නැහැ. මා දැන ගෙන සිටියා අද කොහොමටත් උඹ එන බව."

ඔහු මෙසේ කීවේ සතුටකින් නො වේ. ඒ අතරේ හේ හිඳ සිටි පුටුවෙන් නැඟිට ගොස් මහත් ඕනෑකමින් කැඩපතින් මුහුණ බැලුවේ ය. (ඔහු උදේ නැඟිට්ට පසු මුහුණ බැලූ හතර වන වතාව මෙයයි) අනතුරුව ඔහු රතු ලේන්සුව ලිහා යළි වඩාත් හොඳට නළල වටේ බැඳගත්තේ ය.

"රතු ලේන්සුවකින් බඳින එක හොඳයි. සුදු ලේන්සුවකින් බැන්දොත් ඉස්පිරිතාලේ ඉඳල ආපු ලෙඩෙකු වගේ පෙනේවි" ඔහු කී ය. "කොහොම ද ආශ්‍රමයේ ආරංචි? උඹේ තවුසාට දැන් කොහොම ද?"

"එතුමාට බොහො ම අමාරුයි. අද පණ යන්න පුළුවනි" අලෝෂා පිළිතුරු දෙමින් කී ය. එහෙත් ඊට සවන් නුදුන් පියාට තවුසා ගැන ඇසූ ප්‍රශ්නය ද අමතක විය.

"ඉවාන් කොහේදෝ ගියා"යි ඔහු හදිසියෙන් ම කී ය. "මිනිහා වලිකනවා මිතියා බඳින්නඉන්න අර ලමිස්සි අරන් යන්න. ඒ අදහසින් තමයි මිනිහා මෙහාට ඇවිත් ඉන්නේ." මෙසේ දුෂ්ට අදහසින් පැවසූ මහල්ලා අනතුරුව කට ඇද කොට අලෝෂා දෙස බැලුවේ ය.

"අයියා ඒ බව තාත්තාට කිව්වා ද?" අලෝෂා විමසුවේ ය.

"ඔව්, බොහො ම ඉස්සරත් කිව්වා. දැන් සුමාන තුනකට කලිනුත් කිව්වා. උඹ හිතනව ද මිනිහා ආවේ මාව මරල යන්න කියල ? මිනිහා ආවේ මොකක් නමුත් අදහසක් ඇතිවයි."

"මොකක් ද තාත්තා ගේ කතාවේ තේරුම? ඇයි තාත්තා ඔය විදියේ දේවල් කියන්නේ?"යි අලෝෂා ඇසුවේ සිතේ හටගත් නොසන්සුන් කමින් යුතුව ය.

"මිනිහා මගෙන් සල්ලි ඉල්ලන්නේ නැහැ. ඉල්ලුවත් මගෙන් තඹයක්වත් ලැබෙන්නේ නැහැ. මගේ කල්පනාව පුළුවන් තරම් කල් ජීවත්වෙන්ටයි. උඹත් ඒ බව දැනගන්න එක හොඳයි. ඉතින් මට හැම තඹයක් ම උවමනා කරනවා. වැඩි කල් ජීවත් වූ තරමට වැඩිවැඩිය මුදල් උවමනා කරනවා"යි ඔහු කහපැහැති කපු රෙද්දෙන් මසන ලද පරණ කබායේ සාක්කුව තුළ දත ඔබා ගෙන කාමරය හරහා ඒ මේ අත යමින් කී ය. "මට තවමත් අවුරුදු පනස් පහක මිනිහෙක් වගේ ජීවත් වෙන්න පුළුවනි. මට උවමනා කරන්නේ මේ විදියට තවත් අවුරුදු විස්සක් ජීවත්-වන්නටයි. වයසට යන කොට මගේ රූපය ලස්සණ වෙන්නේ නැහැ. ඔය ලමිස්සියන් කැමැත්තෙන් ම මා ළඟට එන්නේ නැහැ ඒ නිසා මට හුඟක් මුදල් උවමනා වෙනවා. මා පුළුවන් තරම් මුදල් හම්බකරන්නේ මේ උවමනාව නිසයි. මගේ කල්පනාව මැරෙන තෙක් ම පව්කාර ජීවිතයක් ගතකරන්ටයි. පුතා මා කියන දෙය හොඳට අහගනින්. පාපය බොහො ම මිහිරි දෙයක්. කවුරුත් පාපය හෙළා දකිනවා. ඒකට මොක ද පුළුවන් තරම් පව් කරමින් ජීවත් වෙනවා. මා පව් කරන්නේ එළිපිට. අනෙක් අය කරන්නේ හොරරහසේ. ඒ කයි තියෙන වෙනස. ඉතින් මේ පව්කාරයන් සේරම මට බණිනවා. අලෝෂා උඹලා විශ්වාස කරන ඔය පාරාදිසියට මා කැමැති නැහැ. උඹලා ගේ ඔය පාරාදිසිය තිබුණත්, එය මහත්මයකුට ඉන්න සුදුසු තැනක් නො වෙයි. මලොත් මළාමයි. ඊට පස්සේ වෙන දෙයක් ගැන මගේ විශ්වාසයක් නැහැ. මරණය හරියට ආයේත් නො නැඟිටින්න

නිදාගන්නවා වගෙයි. උඹ කැමැති නම් මගේ ආත්මය වෙනුවෙන් යාච්ඤා කරපන්. කැමැති නැති නම් නිකම් හිටපන්. ජීවිතය ගැන මගේ දර්ශනය ඕක තමයි. අප සේරම වෙරි වී සිටියත් ඊයේ ඉවාන් හොඳට කතා කළා. ඉවාන් අහංකාර උජාරු කාරයෙක්. මිනිහ ගේ ඇති විශේෂ උගත්කමක් නැහැ..... මිනිහා එ තරම් ඉගෙනගත්ත මිනිහෙක් නො වෙයි. මිනිහා කරන්නේ අනෙක් අය කතා කරන කොට දත විරිස්සන එක විතරයි. මිනිහා හිතන්නේ ඒකෙන් එයා ගේ උගත්කම පෙන්නන්න පුළුවන් කියා."

අලෝෂා නිහඬව පියා ගේ කතාව අසා සිටියේ ය.

"ඇයි ඉවාන් මා එක්ක කතා නොකරන්නේ? කතා කළොත් බොරු පණ්ඩිතකම් පෙන්නන්න හදනවා. උඹේ පොඩි අයියා ඉවාන්, මහ තක්කඩියා. මට උවමනානම් පුළුවනි මිනිත්තුවකින් ගෘසෙන්කා කසාද බඳින්න. පුතා, මුදල් තියෙනවානම් හිතන්න ලූතරයි උවමනා, හිතූ දෙය ලැබෙනවා. ඒකට තමයි ඉවාන් භය. මිනිහා වෑයම් කරන්නේ මා ගෘසෙන්කා බඳින එක නවත්-වන්නයි. ඒ අතර ගෘසෙන්කා බඳින්න කියා මිනිහා මිතියා උසි-ගන්වනවා. මිනිහා හදන්නේ කොහොමහරි මගේ මගුල කඩන්නයි. (මිනිහ ගේ හිතේ ඇති මා ගෘසෙන්කා කසාද නොබැන්දෙත් මගේ මුදල් ඔයාට ලැබේය කියා) මිනිහා බලාගෙන ඉන්නේ මිතියා ගෘසෙන්කා කසාද බැන්දහම කැතිරිනා අරගෙන යන්න. කැතිරිනා ළඟ මුදල් තියෙනවා. ඉවාන් ගේ වැඩ පිළිවෙළ ඒක තමයි. ඌ මහ තක්කඩියා."

"තාත්තා ගේ කතාව කො තරම් නරක ද? ඔය විදියට කතා කරන්නේ ඊයේ ඇති වූ කෝලාහලය නිසයි. තාත්තා ගිහින් ටිකක් නිදාගන්න"යි අලෝෂා කී ය.

"උඹ ඔහොම කියනවා"යි මහල්ලා හිටිහැටියේ ම කීවේ පළමු වරට කිසියම් අදහසක් ඇති වූවාක් මෙනි. "මා උඹ එක්ක තරහ නැහැ. නමුත් ඉවාන් ඔය විදියේ කතාවක් කීව්වා නම් මා තරහ වෙනවා. උඹ එක්ක විතරයි මා හොඳ හිතින් කතා කරන්නේ. උඹ දන්නව නේද මා නරක මිනිහෙකු බව?"

"තාත්තා නරක මිනිහෙක් නො වෙයි! තාත්තා ගේ වරද යම්යම් දේවල් වරදවා තේරුම් ගැනීමයි." අලෝෂා සිනාමුසු-මුහුණින් කී ය.

"මා අද උදේ ලැස්තිවුණේ අර මැරවරයා, මිතියා හිරේ දමන්නයි. දූන් මොනව කරන්න ද කියා මට තීරණය කරගන්න බැහැ. දෙමව්පියන් අගතියට ගිය අය හැටියට පිළිගැනීම අලුත් පැෂන් එකක්. ඒ වුණත් පිට මිනිසුන් බලා සිටිය දී තාත්තා ගේ ගෙට වැදී, නාකි තාත්තා ගේ කොණ්ඩයෙන් අල්ලා ඇදගෙන යන්නයි, මුහුණට පයින් අනින්නයි, නීතිය ඉඩදෙන්නේ නැහැ. ඊයේ උඹ මට කළ දෙයට මට පුළුවනි උඹ හිරේ දමන්න."

"එහෙනම් තාත්තා ගේ අදහසක් නැහැ අයියාට විරුද්ධව නඩු දමන්න?"

"ඉවාන් මට කිව්වා නඩු දමන්න එපාය කියා. මා ඉවාන් කියන දෙය පිළිගත්තේ නැහැ. මා නඩු නොදමා නිකම් ඉන්නේ වෙන අදහසක් ඇතිවයි."

අනතුරුව හෙතෙම අලෝෂා ළඟ පහත් වී රහසක් කියන්නාක් මෙන් මෙසේ කී ය.

"ඔය තක්කඩියා හිරේ දම්මොත් ගෘසෙන්කා දුවාවී උඹ බලන්න. නමුත් මා වගේ නාකි මිනිහකුට නොසැහෙන්න ගැහැව්වය කියා ආරංචිවුණ හැටියේ ම ඈ උඹ අත්හැර දමා මා ළඟට ඒවි............ඔන්න ඔය විදියට තමයි ඔය ගෑනි වැඩ කරන්නේ. හැම දෙයක් ම නො පිටටයි, මා ඇගේ හැටි හොඳට දන්නවා. උඹ බ්‍රැණ්ඩි උගුරක් බොන්නේ නැද්ද? නැතිනම් බ්‍රැණ්ඩි ටිකක් කෝපි එක්ක බිපන්. බොහො ම රසයි පුතා."

"නැහැ. බොහො ම සතුතියි. කැමැති නම් මම මේ පාන් ගෙඩියක් ගන්නම්." මෙසේ කියමින් ආලෝෂා පැන්ස හාගයේ පාන් ගෙඩියක් ගෙන ලෝගුවේ දමාගත්තේ ය. "තාත්තා බ්‍රැණ්ඩි බොන්න එපා"යි අනතුරුව ඔහු පියා ගේ මුහුණ බලා අවවාද කෙළේ ය.

"උඹේ කතාව ඇත්තයි. මගේ නහරවල තියෙන අමාරුව අඩු වෙනවා වෙනුවට තව තවත් වැඩි වෙනවා. සේප්පුවේ තියෙන බෝතලෙන් පොඩි අඩියක් ගහන්නම්."

හෙතෙම සේප්පුව ඇර බ්‍රැණ්ඩි වීදුරුවක් ගෙන පානය කොට අනතුරුව සේප්පුව වසා යතුරු කැරල්ල ආපසු සාක්කුවේ දමා ගත්තේ ය.

"ඔය ඇති. බ්‍රැණ්ඩි අඩියක් ගැහැව්වට මං මැරෙන්නේ නැහැ."

"අඩියක් ගැහැව්වට පස්සේ තාත්තාගේ හිත හොඳයි." අලෝෂා කීවේ සිනා සෙමිනි.

"හා! අඩියක් ගැහැව්වත් නො ගැහැව්වත් මම උඹට ආදරෙයි. නමුත් තක්කඩින්ට සලකන විට මාත් තක්කඩියෙක් වෙනවා. ඇයි ඉවාන් චමස්නියාවට නො යන්නේ? ගෘසෙන්කා මෙහාට ආවොත් මං කීයක් දෙනවද කියා බලන්නයි. මූලා සේරම තක්කඩි. මා ඉවාන් විශ්වාස කරන්නේ නැහැ. මිනිහා මොන විදියේ කෙනෙක් ද කියා මට තේරුම් ගන්න බැහැ. මිනිහා කොහෙ ඉඳලද එන්නේ? මිනිහා අප වගේ නො වෙයි. අප ළඟ තියෙන ගති ගුණ මිනිහා ළඟ නැහැ. මා මිනිහට කිසි ම දෙයක් දෙන්නේ නැහැ. මා අන්තිමකැමැත්තක් ලියන්නේ නැහැ උඹත් ඒ බව දැන ගත යුතුයි. පයින් පාගා කුරුමිනියෙකු මරනවා වගේ මා මිතියා විනාශ කර දමනවා. මා රුට සෙරෙප්-පුවෙන් කුරුමිණියන් මරනවා. පයින් පෑගුවාම කුරුමිණියා තැළිල මැරෙනවා. අන්න ඒ විදියට තමයි මිතියා මරන්නේ. මං දන්නවා උඹ මිතියාට ආදරය බව. නමුත් මා උඹේ ආදරේට භය නැහැ. ඉවාන් මිතියාට ආදරේ නම් ඒක භය වෙන්න දෙයක්. නමුත් ඉවාන් කිසි ම කෙනකුට ආදරය ඇති මිනිහෙක් නො වෙයි. ඉවාන් අපේ පවුලේ එකෙක් නො වෙයි. පුතා, ඉවාන් වගේ මිනිසුන් අපට ගැලපෙන්නේ නැහැ. මිනිහා දූලි වලාකුලක් වගෙයි. දූලි වලාකුළු සුළඟට ගසා ගෙන යනවා...... අද උඹට එන්න කිව්වේ මිතියා ගැන දැනගන්නයි. යම් විදිය-කින් මා රුබල් දහක් නැති නම් දෙදහක් දුන්නොත් ඔය කාලකණ්ණියා ගෘසෙන්කා අත්හැර දමා අවුරුදු පහකට නැති-නම් තිස්පහකට මගේ ඇහැට තුඩිච්චි නො වී යන්න කැමැති ද?"

"මම අහල බලන්නම්"යි අලෝෂා පැවසී ය. "සමහර විට රුබල් තුන් දහක් දුන්නොත් ගම අත්හැර දමා යන්න පුළුවනි.........."

"මොන පිස්සු ද! දැන් ම අහන්න උවමනා නැහැ. මා අද-හස වෙනස් කර ගත්තා. ඒක මහ පිස්සු අදහසක්. මා ඌට තුන් දහක් නො වෙයි තඹයක්වත් දෙන්නේ නැහැ. මගේ මුදල් කිසි ම කෙනකුට දෙන්නේ නැහැ"යි මහල්ලා අත වනමින් කී ය. "මුදල් දෙනවා වෙනුවට මා ඕකව කුරුමිණියකු වගේ පාගලා

මරනවා උඹ ගිහින් ඔය මිනිහට මුදල් ගැන වචනයක්වත් කියන්න එපා. නැති නම් ඌ බලාපොරොත්තු වේවි මගෙන් මුදල් ගන්න. දැන් ඉතින් උඹට මෙහෙ කරන්න දෙයක් නැහැ. පලයන් යන්න. මිනියා අර කැතිරිනා කියන ළමිස්සි කසාද බඳිනව ද? මෙච්චර කාලයක් මිනිහා ඔය මඟුල වසන් කරගෙන හිටියා. උඹ ඊයෙ ගියා නේද කැතිරිනා බලන්න?''

''කැතිරිනා කවදාවත් අයියා අත්හරින එකක් නැහැ''

''ජේනවා නේද මේ වැදගත් ගැනු ළමිස්සියන් සල්ලාලකම් කරන තක්කඩින්ට කැමැති වන හැටි! මේ ලාමක අසරණ ගැනු ළමිස්සියන් කිසි වැඩකට නැහැ. මමත් මිනියා වගේ ඉලන්දාරි-යෙක් නම්, මිනියාට තියෙන රූපය මටත් තියෙනවා නම් (අවුරුදු විසි අවේ දී මා මිනියාට වඩා හොඳ ලස්සණට හිටියා) එහෙනම් මා ඔය ගැනු සේරම වසඟ කරගන්නවා. මිනියා මහ වලා. කො තරම් ගැනු ගත්තත් මා ඌට ගෑසෙන්කා ගන්න දෙන්නේ නැහැ. එහෙනම් මා ඕකව මරණවා!''

අන්තිම වචන සවල්පයත් සමග ඔහු ගේ කෝපය අවදි විය.

''දැන් ඉතින් උඹට යන්න පුළුවනි. අද උඹට මෙතැන කරන්න දෙයක් නැහැ''යි අනතුරුව කරමසෝ රළු බසින් කී ය.

පියාගෙන් සමුගෙන ඔහු ගේ උරහිස සිඹීම පිණිස අලෝෂා පියා ළඟට ගියේ ය.

''මොනවට ද උරහිස සිඹින්නේ?''යි මහල්ලා පුදුමයෙන් විම-සී ය. ''අපට ආයෙත් මුණගැහෙන්න පුළුවනි. ඇයි උඹේ කල්පනාව අපට ආයේත් මුණ ගැහෙන්න නො ලැබෙයි කියා ද?''

''මා එහෙම දෙයක් අදහස් කළේ නැහැ.''

''නැහැ පුතා මාත් එහෙම දෙයක් අදහස් කරගෙන නො වෙයි ඇහුවේ''යි පැවසූ මහල්ලා නික්ම යන අලෝෂාට ආයේත් කතා කොට ''පුතා මතක ඇතිව පුළුවන් තරම් ඉක්මනට වරෙන්. මම උඹට බොහො ම හොඳ සුප්එකක් පිළියෙළ කරලා තියන්-නම් අද වගේ නො වෙයි, හොඳ සුප්එකක් දෙන්නම්. මතක ඇති ව වරෙන්, හෙට වරෙන්, උඹට ඇහුණා නේද? හෙට වරෙන්.''යයි කීය.

අලෝෂා නික්ම ගිය වහා ම ආයේත් සේප්පුව ළඟට ගිය මහලු කරමසෝ වීදුරුවට බ්‍රැණ්ඩි බාගයක් පුරවා බිව්වේ ය.

"මීට වඩා බොන්නේ නැහැ"යි ඔහු උගුර පාදමින් කී ය. මෙසේ කී හෙතෙම සේප්පුව වසා යතුරු,කැරල්ල සාක්කුවේ දමා ගත්තේ ය. අනතුරුව නිදන කාමරයට ගොස් ඇඳට වැටී නිදාගත්තේ ය.

## ශිෂ්‍යයෝ

"මොකක්දෝ වාසනාවකට තාත්තා ගෘසෙන්කා ගැන මගෙන් ඇසුවේ නැහැ. නැති නම් ඊයේ මට ගෘසෙන්කා හමු වූ හැටි කියන්න වෙනවා"යි පියා ගේ නිවසින් පිට වී හොලාකෝ මැතිනිය ගේ නිවස බලා යන අතරේ අලෝෂා කල්පනා කෙළේ ය.

පියා හා වැඩිමල් සොහොයුරා අතරේ පැවැති වෛරය පෙර දින සිට උග්‍ර තත්ත්වයකට පැමිණ තිබෙන බව දැනගත් අලෝෂා ගේ සිතේ බලවත් ශෝකයක් ඇති විය. "තාත්තා සිටින්නේ වෙන දාට වඩා කෝපයෙන් ඔහු කිසියම් උපායක් අනුව අයියා ගෙන් පළිගන්නවා සිකුරුයි. අයියාත් තාත්තා සමග වෙනදාට වඩා කෝපයෙන් සිටින්නේ. කොහොම හරි හදන්නේ තාත්තා ගෙන් පළිගන්නයි. මොනවා වුණත් අද කොහොමහරි අයියා හමුවෙන්න ඕනෑ."

මෙසේ කල්පනා කරමින් සිටීමට අලෝෂාට වැඩි වේලා නො ලැබිණි. සුළු වුවත් සිතේ තදින් බලපැවැත් වූ සිද්ධියකට ඔහුට මඟ දී මුහුණ පෑමට සිදු විය. ඔහු කඩපොළෙන් හැරී, මහ පාරේ සිට අගලකින් වෙන් වූ 'මිකෙල්ලොස්කි පාරට' හැරෙනවාත් සමග ම පාලම ළඟ සිටින හවුරුදු නවයේ සිට දොළහ දක්වා වයසැති ළමයින් කීප දෙනෙකු දුටුවේ ය. (අපේ නගරයේ හැම තැන ම අගල් තිබේ) පොත් පත් රැගෙන පාසලේ සිට ගෙවල් බලා යන ඔවුන් ගෙන් සමහරු බෑග් කර උඩ තබා ගෙන යන අතරේ තවත් සමහරු කර වටේ එල්ලා ගෙන යති. සමහරු කොට හැට්ට ඇඳ සිටි අතරේ තවත් සමහරු කුඩා කොට කබා ඇඳ සිටිය හ. සමහර ළමයි ඇස්වටය ළඟින්

රැළි ගැසුණු උස්පාවහන් පැළඳ සිටිය හ. ධනවත් මාපියන් විසින් නරක් කරනු ලැබූ ළමයි මෙ වැනි උස් පාවහන් පැළඳීමට ආසා කරති. මේ ළමයි යම්කිසිවක් ගැන මහත් ඕනෑකමින් සාකච්ඡා කරති. මොස්කව් නුවර නතර වී සිටි කාලයේ පටන් අලෝෂා පාසල් සිසුන් ගැන ලොකු සැලකිල්ලක් දක්වී ය. පාසල් සිසුන් දුටු විට නතර වී ඔවුන්ට කතා කිරීම අලෝෂා ගේ සිරිත ය. හවුරුදු තුනෙන් ඉහළ ළමයින්ට මහත් ආදරයක් දක්වූ අලෝෂා දහයේ හා එකොළහේ ළමයින්ට විශේෂ සැලකිල්ලක් දක්වී ය. මග දී හමු වූ මේ ශිෂ්‍යයන් සමග කතා කිරීමට අලෝෂා නතර විය. ළමයින් ගේ නොසන්සුන් වූ රෝස පැහැති මුහුණු දෙස බැලූ අලෝෂා ඔවුන් හැම දෙනාගේ ම අත්වල ගල් තිබෙන බව එක්වර ම දුටුවේ ය. අගලෙන් එහා පැත්තේ, අඩි තිහක් පමණ ඈතින්, වැට ළග තවත් ළමයෙකු සිටින බව අලෝෂා දුටුවේ ය. අනෙක් ළමයින් මෙන් මේ ළමයා ද පොත්බෑගයක් ගෙන යමින් සිටියේ ය. හවුරුදු දහයක් පමණ වයසැති සුදුමැලි පෙනුමෙන් යුත් ඒ ළමයා ගේ කළුපාට නෙත් බැබළෙයි. තමා සමග පාසලේ සිට පැමිණි අනෙක් ළමයින් හය දෙනා දෙස ඔහු සැලකිල්ලෙන් බලා සිටියි. පාසලේ සිට එකට පැමිණියත් ඔවුන් ටිකකට පෙර මග දී කලහ කරගත් බව පෙනේ.

අලෝෂා බොකුටු වූ හිස කෙසින් යුත්, කළු කමිසයක් ඇඳ සිටි රතු පැහැති ළමයකු ළගට ගොස් මෙසේ කීවේ ය.

“පොත්බෑග් අරගෙන ඉස්කෝලෙ ගිය කාලේ දකුණු අත නිදහස්ව තබා ගැනීමට මා බෑග්එක එල්ලා ගෙන ගියේ වම් පැත්තේ. ඔය ළමයා එල්ලා ගෙන යන්නේ දකුණු පැත්තේ.”

අලෝෂා පොත්බෑගය ගැන සඳහන් කළේ කිසියම් අදහසක් ඇති ව නො වේ. වැඩිහිටියකුට කුඩා ළමයකු සමග හෝ ළමයින් කීප දෙනෙකු සමග හෝ යහළුකම් ඇති කර ගැනීමට ඇති එක ම උපාය මෙයයි. ළමයකු ගේ විශ්වාසය දිනා ගැනීමට නම් ළමයා සමග සම තත්වයේ සිටින බව හැඟවිය යුතුයි. අලෝෂා මේ බව මැනවින් දැන සිටියේ ය.

“ඒ ළමයා වම් අත් කාරයෙක්”යි නීරෝගී පෙනුමෙන් යුත් හවුරුදු එකොළහක් පමණ වයසැති ළමයෙක් ගත්කටට ම කී ය. අනෙක් ළමයි අලෝෂා දෙස පුදුමයෙන් බලා හුන් හ.

“එයා ගල් ගහන්නෙත් වම් අතින්”යි තවෙකෙක් කී ය.

ඒ මොහොතේ ළමයින් අතරට ගලක් වැටිණි. අගලෙන් අනෙක් පැත්තේ සිටි ළමයා විසින් වේගයෙන් දමා ගසන ලද එම ගල වම් අත පුරුදු ළමයාට නොවැදී බෙරුණේ යන්තමිනි.

"සමුරෝ ඕකට හොඳටම ගහපන්"යි අනෙක් ළමයි කෑගෑ හ. එහෙත් සමුරෝට කිසිවකුගෙන් අනුබලයක් අවශ්‍ය නැත. ගල්පහර වමත් ළමයාට නොවැදිණි. සාක්කුවේ ගල් පුරවා ගෙන අගලෙන් අනෙක් පැත්තේ සිටි ළමයා තවත් ගලක් ගෙන ගැසුවේ ය. මෙ වර ඒ ගල් පහර වැදුණේ අලෝෂා ගේ උරහිසට ය

"නුඹ කරමසෝ ගේ පුතා නේද? ඒ ළමයා ගල ගැහැව්වේ අපට නොවෙයි නුඹටයි" කියමින් ශිෂ්‍යයෝ සිනා සුණ හ. "අපි සේරම ගහමු." ළමයින් හය දෙනා ම එක විට ගැසූ ගල්වලින් ගලක් ළමයා ගේ හිසේ වැදිණි. ළමයා ගල් පහරින් බිම වැටිණි. එහෙත් වහා නැගී සිට ළමයා පෙරළා ගල්වලින් පහර දෙන්නට විය. අනතුරු ව දෙපැත්තෙම ළමයි ගල්වලින් එකිනෙකාට ගසන්නට වූ හ ඔවුහු සාක්කුවල ගල් පුරවාගෙන සිටියෝ ය

"මොකද මේ ළමයි කරන්නේ? හය දෙනෙක් එකතු වෙලා අර ළමයට ගහන්න ලැජ්ජ නැද්ද? ඒ ළමයා මරන්න හදනව ද?"යි අලෝෂා කෑගා ඇසුවේ ය.

අනතුරුව හෙතෙම වහා ඉදිරියට පැන ගල් නොවදින ලෙස අගලෙන් අනෙක් පැත්තේ සිටි ළමයා මුවා කරගත්තේ ය. එවිට ළමයි තුන් හතර දෙනෙක් පමණ ගල් ගැසීම නතර කළ

"ඒ ළමයයි අපට ඉස්සෙල්ලා ගල් ගැහැව්වේ"යි රතු කමිසයක් ඇඳ සිටි ළමයෙක් තරහෙන් කී ය. "එයා මැගයා. ඊයේ පන්තියේ දී කරොස්කින්ටත් පිහියෙන් ඇන්නා. ඇන්න තැනින් ලේ ආවා. කරොස්කින් පිහියෙන් ඇන්න බව කාටවත් කිව්වේ නැහැ. අපි මේ ළමයාට හොඳට ම ගහන්න ඕනෑ."

"මොකද පිහියෙන් ඇන්නේ හේතුව? මේ ළමයි ඒ ළමයාට හිරිහැර කරන්න ඇති."

"අන්න ඒ ළමයා නුඹේ පිටට ගලකින් ගැහැව්වා එයා නුඹ අඳුනනවා ඇති. දැන් එයා ගල් ගහන්නේ අපට නොවෙයි නුඹටයි. ආයෙත් පාරක් අපි සේරම ගහමු." මෙසේ පැවසූ

ළමයි ආයේත් වරක් ගලින් පහර දෙන්නට වූ හ. ගල්පහරක් ළමයා ගේ පපුවේ වැදිණි. කෑගාමින් අඬන්නට පටන්ගත් ළමයා කන්ද නැග මිහෙල්ලොස්කි පාර දෙසට දුවන්නට විය. "අන්න බයේ දුවනවා"යි කියමින් අනෙක් ළමයි කෑගැවෝ ය.

"ඒ ළමයා බොහො ම නරකයි. මරලත් මදි" රතු කමිසයක් ඇඳ සිටි ළමයා කී ය. ඔහු ගේ නෙත් දිළිහුණේ ය. ඔහු පිරිසේ වැඩිමලා ය.

"මොකක් ද ඒ ළමයා කළ වරද?" අලෝෂා විමසුවේ ය. "ඒ ළමයා කේලාම් කියනව ද?"

"තුඹ මිකෙල්ලොස්කි පාර දිගේ යනව ද? යනවා නම් ඒ ළමයා අල්ල ගන්න............අන්න ඒ ළමයා නතර වෙලා තුඹ එන තෙක් බලා සිටිනවා"යි රතු කමිසය ඇඳ සිටි ළමයා නැවත කී ය.

"අන්න එයා තුඹ දිහැ බලා සිටිනවා"යි අනෙක් ළමයි ද කී හ.

"එයාගෙන් අහන්න අවුල් වෙච්ච රෑවුල් කඹයකට කැමැ-තිද කියා? ඇහුණ නේද? අහන්න බලන්න."

අනතුරුව ඔවුහු මහ හඬින් සිනා සුණ හ. අලෝෂා ඔවුන් දෙස පුදුමයෙන් බැලුවේ ය.

"බල.ගෙනයි, ඒ ළමයා ළගට යන්න එපා. ගල්වලින් ගහලා ඔළුව පලාවි" සමුරෝ කී ය.

"මට අහන්න බැහැ. සමහර විට මේ ළමයින් ඒ ප්‍රශ්නය අහමින් ඒ ළමයාට කවටකම් කරන්න ඇති. හොඳයි මම අහන්-නම් මේ ළමයින් ඒ ළමයා එක්ක තරහ වුණේ මොකද කියා."

"හොඳයි අහන්න"යි කියමින් ළමයි සිනා සුණහ.

පාලම උඩින් ගිය අලෝෂා කන්ද නැග කෙළින් ම ළමයා ළඟට ගියේ ය.

"බලාගෙනයි" ළමයි කෑගෑ හ. "ඒ ළමයා තුඹට භය නෑහැ කරොස්කින්ට පිහියෙන් ඇන්න වගේ හොරෙන් පිහියෙන්. අනී වි."

ළමයා ද සිටි තැනින් අඟලක්වත් නො සෙල්වී බලා සිටියේ ය. ලං වූ අලෝෂාට දකින්නට ලැබුණේ හවුරුදු නවයක් පමණ වයසැති නො වැඩුණු කෙට්ටු ශරීරයකින් හා සුදුමැලි වූ දිග මුහුණින් යුත් දුර්වල ළමයෙකි. නපුරුකමින් බැබළෙන වටකුරු දෑසින් ඔහු අලෝෂා දෙස බලා සිටියේ ය. ළමයා ඇඳ සිටි අපිරිසුදු කඩමාල්ලක් වැනි කබාය ඔහුට කුඩා විය. කබායේ අත් දෙක අතේ වැලමිට හරියෙන් අවසන් විය. කලිසමේ දණහිස ළඟ විශාල අණ්ඩයක් දමා තිබිණි. දකුණු කකුලේ සපත්තුවේ කෙළවරේ කැඩුණු තැන කළු තීන්ත ගා තිබුණේ කිසිවකුට නොපෙනෙන්නට ය. එහෙත් කබායේ විශාල සාක්කු ගල්වලින් බර විය. ළමයා ඉදිරිපිට නතර වූ අලෝෂා ඔහු ගේ මුහුණ දෙස විමසිල්ලෙන් බැලුවේ ය. අලෝෂා ගේ නෙත් දෙස බලා තමාට පහර නොදෙන බව දැනගත් ළමයා වැඩි විරුද්ධකමක් නොදක්වා කතා කෙළේ ය.

"මට පුළුවනි උන් හය දෙනාට ම තනියෙන් ගහන්න"යි ළමයා ගත්කටටම කී ය. ගේ නෙත් දිලිහුණේ ය.

"ඔය ළමයාට වැදුණු ගල් පහර හුගක් රිදෙන්න ඇති?"යි අලෝෂා ඇසී ය.

"මා සුමරෝ ගේ ඔළුවට හොඳ ගල් පහරක් දුන්නා."

"ඒ ළමයින් කිව්වා ඔය ළමයා මා අඳුනා ගෙන මට ගලකින් ගැහැව්වය කියා."

ළමයා ගේ මුහුණ අඳුරු විය.

"මා ඔය ළමයා අඳුනන්නේ නෑහැ. නමුත් ළමයා මාව අඳුනනව ද?"

"මට කරදර කරන්න එපා"යි නොසතුටින් කී ළමයා නතර වූයේ යම් කිසිවක් බලාපොරොත්තු වූවාක් මෙනි. සළිඳු ඔහු ගේ දෑස කෝපයෙන් දිලිහුණේ ය.

"බලන්න මගේ ඇඟිල්ල කොතරම් තුවාල වෙලා ද කියා? දන්වත් කියන්න මා කළ වරද?"

ළමයා පුදුමයෙන් විදහාගත් දෑසින් අලෝෂා දෙස බැලුවේ ය.

"ළමයා මා නුඹ අඳුනන්නේ නැහැ. මීට ඉස්සෙල්ලා නුඹ දැකලත් නැහැ. නමුත් මා නුඹට කිසියම් වරදක් කරන්න ඇති"යි අලෝෂා ඉතා සන්සුන්ව කී ය. "නුඹ හේතුවක් නැතිව මගේ ඇඟිල්ල විකුවේ නැහැ. ඉතින් කරුණාකරලා කියන්න මා නුඹට කළ වරද කුමක් ද කියා?"

පිළිතුරු දෙනවා වෙනුවට විලාප නගමින් අඬන්නට පටන් ගත් ළමයා පැනදිව්වේ ය. අලෝෂා මිකෙලොස්කි පාර දක්වා ළමයා පිටිපසින් සෙමෙන් ගමන් කෙළේ ය. විලාප නගමින් ආපසු නො බලා මහමග දුවන ළමයා අලෝෂා බොහෝ වේලා බලා සිටියේ ය. විවේක ලැබුණු වහා ම ළමයා ගැන සොයා බලා මේ අබිරහස විසඳිය යුතු ය යි හෙතෙම අදහස් කෙළේ ය. ඒ සඳහා දැන් ඔහුට කාලය මිඩංගු කළ නො හැකි ය.

## හතර වන පරිච්ඡේදය

## කුල ගෙදර කලබලය

වැඩි වේලා යන්නට පෙර අලෝෂා හොලාකෝ මැතිනියගේ නිවසට පැමිණියේ ය. ගලින් තනන ලද තට්ටු දෙකේ එම නිවස අපේ පළාතේ තිබෙන ඉතා ම ලස්සණ ගොඩනැගිල්ලයි. හොලාකෝ මැතිනිය වැඩි කාලයක් ගත කළේ ඇය සතු විශාල වත්තක් තිබුණු වෙනත් පළාතක ය. නැති නම් මොස්කව් නුවර තිබෙන ඇගේ නිවසෙහි ය. ඇයට පරපුරෙන් හිමි වූ නිවසක් අපේ පළාතේ තිබිණි. ඇය සතු වතුවලින් විශාල ම වත්ත තිබුණේ අපේ පළාතේ ය. එහෙත් මීට පෙර ඇ වැඩි කාලයක් අපේ පළාතේ ගත නොකළා ය. මේ කුලදුව විසිත්තකාමරයට දිවගොස් අලෝෂා පිළිගත්තා ය.

"එහෙනම් මා යනවා''යි අලෝෂා කී ය. "මා ඔය ළමයා, අඳුනන්නෙත් නැහැ. ළමයා මා අඳුනන්නෙත් නැහැ. ඒ ළමයින් කිව්වා ඔය ළමයාට විහිළු කරන හැටි. නමුත් මා විහිළු කරන්නේ නැහ ."

"සිලික් කලිසම් ඇඳගත්ත පූජකයා"යි ළමයා කීවේ අලෝෂා ගේ පිටිපසින් ගමන් කරමිනි. තමාට අලෝෂා නිසැකව ම පහර දේ ය යි අදහස් කළ ළමයා ඒ පහරින් ආරක්ෂා විය. අලෝෂා පිටිපස හැරී බලා ආයේත් ගමන් ගත්තේ ය. ඔහුට අඩි තුනක් යන්නට ඉඩ නො ලැබිණි. ළමයා ගේ සාක්කුවේ තිබුණු ලොකුම ගලින් අලෝෂා ගේ පිට මැදට දැඩි පහරක් වැදිණි.

"ඔය ළමයා හැංගිල ඉඳලා ගහනවා ය කියා අර ළමයින් කියාපු කතාව එහෙනම් ඇත්තයි? මට ගලින් ගැහැව්වේ මා පිටිපස හැරී යන විටයි." අලෝෂා ආපසු හැරී ළමයා දෙස බලා කී ය. මෙ වර ළමයා තවත් ගලක් ගෙන මුළු වෛර සොඳ අලෝෂා ගේ මුහුණට දමා ගැසුවේ ය. ගල් පහරින් බේරීමට අලෝෂාට යන්තම් ඉඩ ලැබිණි. ගල් පහර අලෝෂා ගේ වැලමිටේ වැදිණි.

"ළමයා තුඹට ලැජ්ජ නැද්ද? මට ගල්වලින් ගහන්න මා කළ වරද කුමක් ද?''යි අලෝෂා ඇසී ය.

ළමයා නිහඬව සිටියේ මෙ වර අලෝෂා නිසැකව ම පහරක් දේය යන අදහසිනි. එහෙත් මෙ වරද තමාට පහර නො දෙන බව දුටු ළමයා, කිපුණු කුඩා වනසතෙකු මෙන් අලෝෂා ගේ ඇඟට කඩා පැන්නේ ය. ළමයා ගෙන් ආරක්ෂාවීමට අලෝෂාට ඉඩ නොලැබිණි. ඊට කලින් ළමයා අලෝෂා ගේ වම් අත දැතින් ම අල්ලා මැද ඇඟිල්ල හැපුවේ ය. හැකි තරම් තදින් තත්පර දහයක් පමණ වේලා ඇඟිල්ල විකා ගෙන සිටියේ ය. වේදනාවෙන් කෑ ගැසූ අලෝෂා හැකි තරම වේගයෙන් ඇඟිල්ල ඇද්දේ ය. ඇඟිල්ල අතහැරිය ළමයා නැවත මඳක් ඈතට දිව ගොස් බලා සිටියේ ය. නියපොත්ත ළඟින් ඇටය දක්වා, හපන ලද ඇඟිල්ලෙන් ලේ ගලන්නට විය. අලෝෂා සාක්කුවෙන් ලේන්සුව ගෙන තුවාලය වටේ ඔතාගන්නා තෙක් ළමයා බලා සිටියේ ය. අන්තිමේ දී අලෝෂා කරුණාවෙන් පිරි දෙනෙතින් ළමයා දෙස බලා මෙසේ ඇසුවේ ය.

"අලුත් ම හංස්කම ගැන මා එවාපු ලියුම ලැබුණා ද?යි" ඈ නොං ඉවසිල්ලෙන් ඇසුවා ය.

"ඔව් මට ලැබුණා."

"ඒ ලියුම කාටවත් පෙන්නුව ද? තවුසං, අර අම්මාට ඇගේ නැති වූ පුතා සොයා දුන්නං!"

"එතුමාට බොහො ම අන්තිමයි. අද පණ යන්න පුළුවනි."

"ඔව් මට ආරන්චියි. මා කිසි ම ඉවසිල්ලක් නැති ව බලාසිටියේ තුඹ එක්ක හරි, වෙන කෙනෙකු එක්ක හරි මේ ගැන කතා කරන්නයි. නැහැ නැහැ, මා බලා සිටියේ තුඹ එන තෙක්. තවුසා දකගන්න නො ලැබීම කො තරම් දුකක් ද? මුළු පලාත ම එතුමා ගේ අසනීපය ගැන කම්පා වී බලා සිටිනවා......... අලෝෂා දන්නව ද කැතිරිනා මෙහෙ සිටින බව?"

"ඒක මගේ වාසනාව. එහෙනම් මට මේ ගමන ම කැතිරිනාත් හමු වන්න පුළුවනි. ඈ මට කිව්වා අද නො වරද-වා ම ඇය හමු වන්න කියා."

"මා දන්නවා. මට ආරන්චියි ඊයේ වෙච්ච දෙය. අර ගැති ගේ වනචර වැඩ. මා කැතිරිනා ගේ තත්ත්වයේ සිටිනවා නම් මොනව කරන්න ද කියා මට තේරෙන්නේ නැහැ. මොකද මීතියා ගැන අදහස... ... අනේ දෙයියනේ, මට පොඩ්ඩක්වත් මතක නැති වුණා නොවැ. තුඹේ අයියා කැතිරිනා බලන්න ආවා. මට කියන්න අමතක වුණා. අපෝයි ඊයේ කෝලාහල කළ තුඹේ අර භයානක අයියා නොවෙයි, කැතිරිනා බලන්න ආවේ ඉවාන්. කැතිරිනා එක්ක කතා කරමින් සිටිනවා. මොනව ගැන කතා කරනව ද දන්නේ නැහැ. මට නම් හිතන්නත් බයයි. මේක මහ දුකක්. ලේ උණු කරවන භයානක කතාවක් වගෙයි. කාටත් පේනව ඒගොල්ල කිසි ම හේතුවක් නැති ව ජීවිත විනාශ කරගන්න බව. ඒ දෙන්න ම ඒ බව දන්නවා. මේවා ඉවසන්න බැරිව මා මේ බලා සිටියේ තුඹ එන තෙක්. මට මේවා ඉවසන්න බැහැ. මේ ගැන තව ටිකකින් කතා කරන්න පුළුවනි. ඊට ඉස්සෙල්ලා කිව යුතු බොහො ම වැදගත් දෙයක් තියෙනව, මොකද ලීසා පිස්සුවෙන් වගේ සිටින්නේ? අලෝෂා පැමිණි බව දැනගත්තට පස්සේ ඇගේ පිස්සුව වැඩි වුණා."

"දැන් පිස්සු හැදිල තියෙන්නේ මට නො වෙයි අම්මටයි." ලීසා ගේ කටහඬ දොර තුළින් ආවේ ය. ඇගේ කටහඬ ඇසුණේ සිනාව මැඩ ගැනීමට වෑයම් කරන්නකු ගේ කට හඬ මෙනි. අලෝෂා, ලීසා ගේ කටහඬ පැමිණි දොර දෙස බැලුවේ ය. දොර තුළින් එබී බලන ලීසා, අලෝෂාට නො පෙනෙයි.

"ඇයි ලීසා, නුඹෙ හිතුවක්කාරකම් පෙනෙන විට මට පිස්සු හැදෙන්නේ නැද්ද? අලෝෂා, ඊයේ රෑ එළිවෙනකන් ලීසා අසනීපයෙන් සිටියා. දොස්තර මහත්මයා ගෙන්න ගන්න එළිවෙනකන් බලා සිටියේ කිසි ම ඉවසිල්ලක් නැතිවයි. දොස්තර මහත්මයා කියනවා ලෙඩේ තේරුම් ගන්න බැරි නිසා ටික කාලයක් බලන්න ඕනෑය කියා. එයා හැම දා ම කියන්නේ ඔය කතාවයි. නුඹ ගෙදරට ආපු හැටියේ ම ලීසාට පිස්සු හැදිලා ඇගේ කරත්තය මේ කාමරයට ගෙනෙන්න කිව්වා."

"අම්මේ මා දැන ගෙන හිටියේ නැහැ අලෝෂා ආපු බව. මා මේ කාමරයට ගෙනෙන්න කිව්වේ අලෝෂා ආපු නිසා නො වෙයි."

"බොරු කියන්න එපා ලීසා. යුලියා ගිහින් දුවට කිව්වා නේද අලෝෂා ආපු බව. යුලියා, අලෝෂා එන තෙක් මග බලා සිටියා."

"අම්ම ගේ කතාව කවුරුවත් විශ්වාස කරන්නේ නැහැ කියනවා නම් කියන්න පිළිගන්න පුළුවන් දෙයක්. ඊයේ සිද්ධ වෙච්ච දෙයින් පස්සේ මෙ ගෙදරට ආපුඑක එ තරම් නුවණක්කාර දෙයක් නොවන බව අලෝෂාට කියන්න. මුළු පළාත ම ඒ ගොල්ලන්ට හිනා වෙනවා."

"ලීසා, නුඹෙ තරමට කතා කරපන්. මීට පස්සේ මා නුඹ ගැන තදින් ක්‍රියා කරනවා. කවු ද අලෝෂාට හිනා වෙන්නේ? මම බොහො ම කැමැතියි අලෝෂා ආපු එක ගැන. මට අලෝෂා නැති ව කිසි ම දෙයක් කරන්න බැහැ. අනේ අලෝෂා මා සිටින්නේ බොහො ම කනගාටුවෙන්."

"ඇයි අම්මා ඔය තරම් කනගාටුවෙන් සිටින්නේ?"

"ඇයි නුඹෙ හිතුවක්කාරකම්, නුඹ කරන නොසන්සුන් වැඩ, නුඹෙ අසනීපය. අර දොස්තර ගේ ... ... කොටින් කියනවා නම් මේ සේරම මට මහ කරදරයක්........ වෙන

එකක් තියා අර හාස්කමත් මට මහ කරදරයක්...... අනේ අලෝෂා ඒ හාස්කමින් මගේ හිත සම්පූර්ණයෙන් ම අවුල් වුණා. ඊයේ ගෙදර සිද්ධවෙච්ච දෙය, මා කොහොමද මේවා ඉවසන්නේ? මට ඉවසන්න බැහැ. මේක කනගාටු වෙන්න දෙයක් නො වෙයි, හිනා වෙන්න දෙයක්. තවුසා හෙට වන තෙක් ජීවත් වෙයි ද? අනේ දෙයියනේ මට මොකද මේ වුණේ. ඇස් වසා ගත්ත හැටියේ ම මට මේ සේරම මහ විකාර දේවල් හැටියට පේනවා."

"මට කරුණා කර පිරිසුදු පාන්කඩ කෑල්ලක් දෙනව ද ඇඟිල්ල ඔතා ගන්න?" අලෝෂා හදිසියෙන් ම ගෘහිණිය ගේ කතාවට බාධා කරමින් කීවේ ය. "මගේ ඇඟිල්ල තුවාල වෙලා බොහො ම රිදෙනවා."

අලෝෂා ඇඟිල්ල ඔතා ගෙන සිටි ලේන්සුව ඉවත් කෙළේ ය. ලේ තැවරී තිබුණු ලේන්සුව දුටු ගෘහිණිය කෑ ගා දෑස වසාගත්තා ය.

"අනේ දෙයියනේ, කො තරම් බයානක තුවාලයක් ද?"

දොරේ සිදුර තුළින් අලෝෂා ගේ ඇඟිල්ල දුටු වහා ම ලීසා දොර ඇරියා ය.

"මෙහාට එන්න, මෙහාට එන්න." ඈ නො ඉවසිල්ලෙන් කීවා ය. "සෙල්ලමක් නො වෙයි, මෙහාට එන්න, මෙහාට එන්න. අනේ දෙයියනේ, ඇයි මෙච්චර වෙලා ඔය තුවාලය ගැන කතා නො කර සිටියේ? තව ටිකින් ලේ ගිහින් මැරෙනවා නේ ද? මක්වෙලාද ඔය තරම් ඇඟිල්ල තුවාල කර ගත්තේ. ඉක්මනට වතුර ටිකක් ගෙනෙන්න. ඉස්සෙල්ලා ඇඟිල්ල හොඳට හෝද වේදනාව නවතින තෙක් ඇල්වතුරේ දමා ගෙන ඉන්න ඕනෑ.......... අම්මේ සී ඉක්මන් කරලා බේසමකට වතුර ටිකක් ගෙනෙන්න. ඉක්මන් කරන්න."

"අපි දෙස්තර මහත්මයාට එන්න කියමු ද?"යි ගෘහිණිය ඇසුවා ය.

"කව ද හරි මා මැරෙන්නේ අම්මා නිසයි. දෙස්තර ඇවිත් කියාවි එයාට කිසි ම දෙයක් තේරුම් ගන්න බැහැ කියා. අම්මේ ඉක්මනට වතුර ටිකක් ගෙනෙන්න. ජූලියාට බැහැ ඉක්මනට ඇවිදින්න. අම්මා ඉක්මන් කරන්න. නැති නම් මා මැරේවි."

"මේක ඔය තරම් කලබල වෙන්න දෙයක් නො වෙයි" අලෝෂා කීවේ කලබලය ගැන තැති ගනිමිනි.

යුලියා ගෙනා වතුර බේසමට අලෝෂා ඇඟිල්ල එබුවේ ය.

"දැන් ඉතින් අම්මේ රෙදිපටියකුයි තුවාලවලට දමන අර මඩ පාට බෙත් බෝතලය යි ගෙනෙන්න. මොකක් ද ඒ බෙත්වලට කියන්නේ? අම්ම දන්නවද බෝතලය තියෙන තැන? අම්ම ගේ කාමරයේ දකුණු පැත්තෙන්. තියෙන අල්මාරියේ. එ තැන ලොකු බෝතලයක් ඇති."

"මිනිත්තුවට ගෙනෙන්නම්. නමුත් ලීසා පිත් සිද්ධවෙයි කෑ නොගා කලබල නොවී ඉන්න. බලන්න අලෝෂා කිසි ම කලබලයක් නො කර වේදනාව ඉවසා ගෙන ඉන්න හැටි. කොහොමද අලෝෂා ඔය තරම් ඇඟිල්ල තුවාල කර ගත්තේ?"

මෙසේ ප්‍රශ්න කළ ගෘහිණිය දියණිය ගේ ඉල්ලීම පරිදි බෙහෙත් බෝතලය ගෙන ඒම පිණිස වහා දිව ගියා ය.

"මොනව වෙලා ද ඔය තරම් ඇඟිල්ල තුවාල කරගත්තේ?"යි ලීසා ඇසුවා ය. "ඊට පස්සේ මම වෙන දෙයක් ගැන කතා කරන්නම්."

මට ලග නැති කාලය ලීසාට ඉතා වටිනා බව සහජ ගති-යකින් මෙන් දැන ගත් අලෝෂා හැකි පමණ කෙටියෙන් පාසල් සිසුන් පිළිබඳ පුවත කීවේ ය. ලීසා කතාව අසා දෑත එක්කර ගත්තා ය.

"කොහොම ද ඔය ඇඳුම් පිටින් ඉස්කෝලෙ ළමයින් එක්ක ගැවසෙන්නේ?" යි ලීසා අමනාපයෙන් කීවේ අලෝෂා හික්මවීමේ අයිතියක් ඇය සතුව ඇත්තාක් මෙනි. "ළමයින් එක්ක ඔය විදියට හැසිරෙන්න පුළුවන් නම් තුඹ ද ළමයෙක් විය යුතුයි. කොහොම වුණත් ඇඟිල්ල තුවාල කළ ඒ ළමයා ගැන සොයා බලා ඉක්මනට මට කියන්න. මෙහි මොකක් නමුත් රහසක් තියෙනවා. දැන් ඉතින් අපි අනෙක් කාරණාව ගැන කතා කරමු. ඊට ඉස්සෙල්ලා ප්‍රශ්නයක් ඇසිය යුතුයි. කිසි ම වැදගැම්මක් නැති දෙයක් ගැන කතා කරන්න ඇඟිල්ලේ වේදනාව බාධවක් වෙයි ද? නමුත් හොඳ සිහියෙන් කතා කළ යුතුයි අන්න ඒ කාරණය මතක තියා ගන්න."

"දැන් කිසි ම බාංදුවක් නැහැ. මගේ ඇඟිල්ල වැඩිය රිදෙන්නේ නැහැ."

"රිදෙන්නෙ නැත්තේ ඇඟිල්ල වතුරෙ දමා ගෙන සිටින නිසයි. දැන් ඇඟිල්ල එළියට ගන්න ඕනෑ. නැතිනම් රත්වෙන්න පුළුවනි. යුලියා ඉක්මනට අයිස් කැටයකුයි වතුර බේසමකුයි ගෙනෙන්න... .....දැන් ඉතින් යුලියා නැති නිසා කතා කරන්න පුළුවනි. මා ඊයේ එවාපු ලියුම දෙන්න. ඉක්මනට දෙන්න. දැන් අම්මා ඒවී. මා කැමැති නැහැ........"

"මා ළඟ ලියුම නැහැ."

"බොරු කියන්න එපා. ළඟ ලියුම තියෙනවා. මා දැන සිටියා නැහැ කියන බව. ලියුම සාක්කුවේ තියෙනවා. ලියුමක් දීමෙන් මා කළ මෝඩකම ගැන මා මුළු රැය ම පසුතැවුණා. ලියුම දෙන්න. ඉක්මනට දෙන්න."

"ලියුම ගෙදර තියල ආවා."

"මා කළ ඒ මෝඩකමින් පස්සේ තුඹ හිතන්නේ නැහැ මා පොඩි ළමයෙක් ය කියා. මා කළ මෝඩකම ගැන මට සමාවන්න. ලියුම දැන් ළඟ නැතිනම් වරද්දන්නේ නැති ව ගෙනත් දෙන්න අද ම ගෙනත් දෙන්න කොහොම හරි ගෙනත් දෙන්න."

"අද ගෙනත් දෙන්න බැහැ. අද මා ආශ්‍රමයට යනවා. දවස් දෙක තුනකින්-තුන හතරකින් ලීසා හමු වන්නට ලැබෙන්නේ නැහැ. සොසිමා පියතුමාට බොහො ම......"

"දවස් හතරකින් එන්න ලැබෙන්නේ නැහැ? තුඹට පිස්සු ද ...? ඒක නො වෙයි මගේ ලියුම කියවා හිනා වුණා ද?"

"කොහෙත්ම හිනාවුණේ නැහැ."

"ඇයි හිනාවුණේ නැත්තේ?"

"ලීසා කියාපු හැම දෙයක් ම විශ්වාස කළ නිසයි."

"මට නින්ද කරන්න එපා."

"මා නින්දවක් නො වෙයි කරන්නේ, මා සොසිමා පියතුමා මියගියාට පස්සේ ආශ්‍රමයෙන් අස්වෙනවා. ඊට පස්සේ ලියුමේ කියා තිබුණ හැම දෙයක් ම සිදුවන බව මා දන්නවා. මා ආශ්‍ර

මයෙන් අස්වෙලා ඉගෙනීම අවසන් කරනවා. ඊට පස්සේ නුඹ නීත්‍යානුකූල වයසට පැමිණියාට පස්සේ අපි විවාහ වෙමු. මම නුඹව ආදරයෙන් බලාගන්නම්. මා හිතන්නේ නැහැ ලීසාට වඩා හොඳ බිරියක් සොයා ගන්න පුළුවන් වේය කියා. සොසිමා තවුසා කිව්වා මා විවාහ විය යුතුයි කියා.''

''මම පුටුවක තබා තෙන තල්ලු කර ගෙන ගිය යුතු කොරෙක්''යි ලීසා සිනාසෙමින් කීවා ය. ඇගේ මුහුණ රතු විය.

''මට පුළුවනි ලීසාව පුටුවක තියා ගෙන් ඕනෑ තැනක තල්ලු කරන් යන්න. කොහොම වුණත් ඒ කාලය වන විට හොඳට සනීප වේවි.''

''මා වීහිළුවට කියාපු දෙයක් විශ්වාස කරගෙන මේ වගේ දේවල් කියන්නේ පිස්සුවෙන්ද?''යි ලීසා නොසන්සුන් වෙමින් ඇසුවා ය. ''මෙන්න අම්මා එනවා. හරියට වෙලාවට එනවා. අනේ අම්මේ ඇයි මෙච්චර පමා වුණේ? මෙන්න යුලියා අයිස් අරගෙන එනවා.''

''ලීසා කෑගාන්න එපා. පින්සිද්ධ වෙයි කෑගාන්න එපා...... මා කොහොම ද මේ දේවල් හොයන්නේ? කිසි ම දෙයක් එක තැනක නැහැ. හැම තැකම හෙව්වා. කවුද දන්නේ දුව මේවා හැංගුව ද කියා?''

''අලෝෂා ඇඟිල්ල තුවාල කරගෙන එන බව මා දන ගෙන හිටිය ද? සමහරවිට අලෝෂා ඇඟිල්ල තුවාල කරගන්න ඇත්තේ මගේ උවමනාවට වෙන්න ඇති. අම්මා පුදුම දේවල් නොවැ කියන්නේ!''

''මගේ කතාව පැත්තකින් තිබුණ දෙන්. අලෝෂා ගේ ඇඟිල්ලේ වේදනාවට දුව ලොකු සැලකිල්ලක් දක්වන බව මට පේනවා...... අනේ අලෝෂා, ලීසාට බෙත් කරන දෙස්තර විතරක් නො වෙයි මේ හැම දෙයක් ම මගේ සිතට ලොකු කරදරයක්.''

''ඔය ඇති අම්මා දෙස්තර ගැන කතා කළා, ඉක්මනට බෙත් ටික ගෙනෙන්න''යි ලීසා සිනාසෙමින් කීවා ය. ''අම්මා දන්නවද අලෝෂා මෙහාට එන අතර මග දී ඉස්කෝලෙ ළමයින් එක්ක කෝලාහාල කරගෙන, එක ළමයෙකු ඇඟිල්ල විකාපි තියෙනවා. මෙසා හරියට ළමයකු වගෙයි හැසිරෙන්නේ. ඉතින්

මේ වගේ කෙනකුට පුළුවන් ද කසාද බඳින්න? අලෝෂා කසාද බඳින්න කල්පනා කරගෙන සිටිනවා. ඒක විහිළුවක් නේ ද?'' මෙසේ කී ලීසා අලෝෂා දෙස ලැජ්ජාවෙන් බලා සිනා සුණා ය.

''මොනවට ද අලෝෂා කසාද බඳින්නේ? ඇයි මේ හදිසියෙන් ම ඔය ගැන කතා කරන්නේ? දැන් කසාද බැඳීම ගැන කතා කරන්න හොඳ වෙලාවක් නො වෙයි, සමහර විට අර ළමයට පිස්සු තිබුණ ද දන්නේ නැහැ.''

''මොනවට ද අම්මේ මේ දෙඩන්නේ? හරියට ළමයින්ට පිස්සු හැදෙනවා වගෙයි.''

''මොක ද නැත්තේ. දුව හිනාවෙන්නේ මා මෝඩ කතාවක් කිව්ව වගෙයි. සමහර විට ඒ ළමයට පිස්සු බල්ලෙකු කාලා පිස්සු හැදිලා ළඟ සිටින අය හපනවා ද දන්නේ නැහැ කො තරම් හොඳට ලීසා ඇඟිල්ලට බෙහෙත් දමා බැන්දද? මට නම් ඔච්චර හොඳට බෙත් දමන්න බැහැ. තවමත් ඇඟිල්ල රිදෙනව ද?''

''වැඩිය රිදෙන්නේ නැහැ.''

''අලෝෂා වතුර දැක්කම බය වෙනව ද?''යි ලීසා ඇසුවා ය.

''ඔය ඇති ලීසා. ළමයකුට පිස්සු හැදුණය කියා මා කිව්වා ඉක්මන් වැඩියි. තුඹ එක පාරටම ඒ කතාව අල්ල ගත්තා...... අලෝෂා ඇවිත් සිටින බව කැතිරිනාට දැන ගන්න ලැබුණේ දැනුයි. අලෝෂා දකිනකන් ඇයට ම ඉස්පාසුවක් නැහැ.''

''අම්මා යන්න. කොහොම ද අලෝෂා යන්නේ අතේ වේදනාව තියාගෙන?''

''නැහැ, නැහැ, මට යන්න පුළුවනි''යි අලෝෂා කී ය.

''මොනව, තුඹ යනවා?''

''මා ගිහින් කැතිරිනා හමුවී එන්නම්. ඊට පස්සේ අපට පුළුවනි ඕනෑ තරම් කතා කරන්න. මට ඉක්මනට ආශ්‍රමයට යන්නත් ඕනෑ.''

"අම්මේ ඉක්මනට අලෝෂා එක්කර ගෙන යන්න. ඊට පස්සේ මාව බලන්න එන්න උවමනා නැහැ. කෙලින් ම ආශ්‍රමයට යන්න. දැන් මට නිදා ගන්න ඕනෑ. ඊයේ මුළු රැම නිදා ගත්තේ නැහැ."

"ලීසා නුඹ විසිළු කරනවා. නුඹට නිදා ගන්න පුළුවන් නම් කො තරම් හොඳ ද?"

"මට තේරෙන්නේ නැහැ මා මොනව කළා ද කියා. උවමනා නම මම තව මිනිත්තු තුනක් නැත්නම් පහක් සිටින්නම්" අලෝෂා කී ය.

"මිනිත්තු පහක් සිටින්නම්?...... අම්මේ ඉක්මනට අලෝෂා එක්කරගෙන යන්න. එයා මහ අඳුගෝසුවෙක්."

"ලීසා නුඹට පිස්සු ද? එන්න අලෝෂා යන්න. මා හයයි ලීසා තරහ කරවන්න. අසනීපයෙන් සිටින ළමයින්ගෙන් තියෙන කරදර! සමහරවිට නුඹට කතා කළාට පස්සේ ලීසාට නිදා ගන්න පුළුවන් ඇති. නුඹ දුටු හැටියේ ම ඇයට කො තරම් ඉක්මනට නිදිමත හැදුණ ද? කො තරම් ලොකු වාසනාවක් ද?"

"අම්මා කො තරම් ලස්සණට කතා කරනව ද? ඒකට අම්මව සිඹින්න ඕනෑ."

"එන කොට මා දුවත් සිඹිනවා"යි දියණියට කී ගෘහිණිය අනතුරුව ඉතා සෙමෙන් රහසක් කියන්නාක් මෙන් අලෝෂාට මෙසේ කීවා ය. "මේ කතාව හොඳට අහගන්න. කැතිරිනා ගැන කිසි ම දෙයක් කියන්න මා කැමැති නැහැ. නුඹට ම ඒක දැනගන්න පුළුවනි. මේක බොහො ම භයානක දෙයක්. මහ විකාර වංචාවක්. කැතිරිනා එක් අතකින් ඉවාන්ට ආලය කරමින් අනෙක් අතින් මීතියාට ආලය කරන බව තමාට ම කියා ගන්න වෑයම් කරනවා. මමත් නුඹ එක්ක එන්නම්. ඒ ගොල්ල මට යන්න කිව්වෙ නැති නම් අන්තිම වෙන තෙක් සිටින්නම්."

# පස් වන පරිච්ඡේදය

## සිත් වේදනා

අලෝෂා, හොලාකෝ මැතිනිය සමග විසිත්ත කාමරයට යන විට ඉවාන් හා කැතිරිනා හා අතරේ පැවැති කතා බහ අවසන් විය. කැතිරිනා නොසන්සුන් වුවත් ව්‍යාජ එඩිතර බවක් පෙන්වීමට වෑයම් කළා ය. අලෝෂා ගෘහිණියත් සමග විසිත්ත කාමරයට ඇතුළු වනවාත් සමග ඉවාන් නික්ම යාමට නැඟී සිටියේ ය. සොහොයුරා ගේ සුදුමැලි වූ මුහුණ දෙස අලෝෂා විමසිල්ලෙන් බැලුවේ ය. ටික කලක සිට අලෝෂා ගේ සිතේ හොල්මන් කරමින් වද දුන් සැකයකින් නිදහස්වීමට මෙය කදිම අවස්ථාවක් වූ හෙයිනි. ඉවාන්, කැතිරිනා පිළිබඳ සිත් ඇති ව පසු වන බවත්, එ පමණක් නොව මීතියාට සොරා ඇය සමග පැන යාමට සැරසෙන බවත්, අලෝෂාට දන් මාස කීපයක සිට වරින්වර ආරන්චි විය මැතක් වන තෙක් ඔහු ගේ සිතට මහත් වදයක් වූ මෙය මහා භයානක දෙයක් ලෙස ඔහුට පෙනී ගියේ ය. සොහොයුරන් දෙදෙනාට ම දැඩිව ප්‍රේම කළ අලෝෂා ඔවුන් අතරේ ඇතිවන්නට යන මේ තරගය ගැන තැති ගත්තේ ය. ඉවාන් තමා ගේ විරුද්ධවාදියා වීම ගැන තමා ප්‍රිති වන බවත්, එය තමාට කරන ලොකු උපකාරයක් බවත් පෙර දින රෑ මීතියා නො සඟවා කී ය. ඉවාන් ගේ විරුද්ධත්වය මීතියාට උපකාරයක් වූයේ කෙසේ ද? ග්‍රූසෙන්කා විවාහ කරගැනීමට ද? මීතියා ග්‍රූසෙන්කා විවාහ කර ගැනීම සිදු විය හැකි ඉතා ම නින්දිත දෙය ලෙස අලෝෂාට පෙනිණි කැතිරිනා, මීතියාට දැඩිව ආලය කරන බව පසු ගිය දින සවස් කාලය වන තෙක් අලෝෂා විශ්වාස කෙළේ ය. ඉවාන් වැනි තරුණයකුට ආලය කිරීමට කැතිරිනා කැමැති නොවන බවත්, ඓකා තරම් වැරදී තිබුණත් කැතිරිනා, මීතියාට ආලය කරන බවත්, අලෝෂා විශ්වාස කෙළේ ය. ඔහු තුළ මේ විශ්වාසය පැවතුණේ පසු ගිය දින සවස් කාලය වන තෙක් පමණි.

එහෙත් ඊයේ සවස කැතිරිනා, ග්‍රූසෙන්කා සමග කලහ කරගත් පසු අලෝෂා තුළ වෙනත් අදහසක් ඇති විය. මීට ටිකකට කලින් ගෘහිණිය විසින් පවසන ලද සිත්වේදනා' යන වචනය සවන් වැකුණු හැටියේ ම අලෝෂා තැති ගත්තත්

එ දින උදේ පාන්දර අඩ නින්දේ සිටින විට 'සිත්වේදනා' කියා සිහිනෙන් තමා කෑගැ හෙයිනි. මුළු රැය පුරා ඔහුට නින්දෙන් පෙනුණේ එ දින සවස කැතිරිනා ගේ නිවසේ දී ඇති වූ පෙරළියයි. කැතිරිනා ඉවාන්ට ආලය කරන බවත්, ඒ අතරේ මීතියාට කිසියම් කෙලෙඹිගුණ සැලකීමක් වශයෙන් ආලය කරන බව හඟවමින් සිතට දුක් වේදනා දෙන බවත් දන්වමින් ගෑහිණිය කී කතා ව ගැන අලෝෂා සැලකිලිමත් විය. "සමහර විට මුළු සත්‍යය ම ගැබ් වී ඇත්තේ මේ වචන තුළ විය යුතු ය සිා හේ අදහස් කෙළේ ය. එය එසේ නම් ඉවාන් ගේ තත්ත්වය කුමක් ද? කැතිරිනා වැනි ගෑහැනු හැම විටම පිරිමින් මැඩ ගෙන සිටින වර්ගයේ චරිත ඇත්තෝ ය. ඇයට මීතියා වැනි පිරිමි මැඩ ගෙන සිටිය හැකි ය. එහෙත් ඉවාන් එ වැනි නැමෙන සුළු චරිතයක් ඇත්තෙක් නො වේ. තමා ගේ ම සැපත පත මීතියා, කැතිරිනාට යටත් වන්නට පිළිවන. (අලෝෂා බලා-පොරොත්තු වූයේත් එ වැනි දෙයකි) නමුත් ඉවාන්?...... නැත_ ඉවාන් කිසි ම කලක ඇයට යටත් වන්නේ නැත. යටත් වීමෙන් ඔහු ගේ ජීවිතය සැපවත් නො වෙයි. මේ හැම සිතිවිල්ලක් ම විසිත්ත කාමරයට පිවිසෙන අලෝෂා ගේ සිතේ රඟපාන්නට විය. ඒ අතරේ තවත් අදහසක් ඔහු ගේ සිතේ පහළ විය. ඒ අදහස නම්...... "කැතිරිනා දෙන්නාට ම – මීතියාටත්, ඉවාන්ටත් ආලය නොකරන්නේ නම් කුමක් සිදුවෙයි ද?"

තමා ගේ අදහස් ගැන අලෝෂා ලැජ්ජා වූ බවත්, පසු ගිය මාසය තුළ ඒ අදහස් වරින් වර සිතේ ඇති වන විට ඔහු තමාට ම දෙස් නගාගත් බවත්, මෙහි ලා සඳහන් කළ යුතු ය "මා ආලය ගැනත්, ගෑනුන් ගැනත් මොනවා දන්නව ද? මෙ වැනි ප්‍රශ්න මා නිරාකරණය කරන්නේ කෙසේ ද?" අලෝෂා කල්පනා කළේ මඳක් සැක සිතීමෙන් පසුව ය. ඒ ගැන කල්පනා නො කර සිටීම ද කළ නොහැකි දෙයකි. ස්ත්‍රියක නිසා ඇති වූ මේ තරගය සොහොයුරන් දෙදෙනා ගේ ජීවිතයට ඉතා වැදගත් බවත්, ඒ මත බොහෝ දේ රැඳී ඇති බවත් ඔහුට නැතැතින් ම හැඟී ගියේ ය.

"එක සර්පයෙක් අනෙක් සර්පයා ගිල දමාවි ය යි" ඉවාන් පෙර දින සවස කෝපයෙන් කීවේ තම පියා හා වැඩිමල් සොහොයුරා ගැන සඳහන් කරමිනි. එසේ නම් ඉවාන්, මීතියා පිළිගෙන තිබෙන්නේ සර්පයකු හැටියට ය. සමහර විට ඔහු

බොහෝ කලක සිට එසේ පිළිගෙන සිටින්නට ඇත. ඉවාන් කැතිරිනා ඇඳිනගත්තේ ඊට පසුව ද? ඊයේ ඉවාන් මේ කතාව කීවේ නොකල්පනාවෙනි. ඒ නිසා ම එය ඉතා වැදගත් විය. හෙතෙම පියාත් සොහොයුරාත් සර්පයන් හැටියට සලකන්නේ නම් සාමයක් ඇති වන්නේ කෙසේ ද? සාමය වෙනුවට සිය පවුලේ වෛරයට හා කලහයට අලුත් මගක් නොපෑදෙන්නේ ද? එ වැනි දෙයක් සිදුවුණොත් අලෝෂා කවරකුට අනුකම්පා කරන්න ද? කුමන දෙයක් ප්‍රාර්ථනා කරන්න ද? අලෝෂා සොහොයුරන් දෙදෙනාට ම එක ලෙස ප්‍රේම කෙළේ ය. එසේ නම් ඔවුන් දෙදෙනා එකිනෙකා සමග කලහ කර ගන්නා විට කුමක් කරන්න ද? මේ අවුලේ දී ඔහු නොමග යන්න පිළිවන. ඔහු ගේ ප්‍රේමය ක්‍රියාත්මක දෙයක් බැවින් දෙගිඩියාවෙන් සිටිය නො හැකි ය. එසේ කිරීම ඔහුට ඉවසිය නො හැකි දෙයකි. අලෝෂා ක්‍රියාවෙන් තොර වූ ප්‍රේමය නො හඳුනන්නෙකි. ඔහු යම්කිසිවකුට ප්‍රේමය කළොත් ඔහු වහා එම තැනැත්තාට උපකාර කිරීමට සැරසෙයි. එසේ උපකාර කිරීමට නම් ඔහු ගේ අභිප්‍රාය දැන ගත යුතු ය. අනතුරුව ඔවුන් දෙදෙනාට ඉතා අවශ්‍ය දේවල් සොයා ගත යුතු ය. මෙසේ සොයාගත් පසු දෙදෙනාට ම නිතැතින් ම උපකාර කළ හැකි ය. එහෙත් නියම අරමුණක් වෙනුවට ඔහුට හැම අතින් ම දකින්නට ලැබුණේ සැකය හා අවුල්ජාලාවක් පමණි. මීට පෙර සඳහන් කළාක් මෙන් මෙය මහ 'සිත් වේදනාවකි., මේ 'සිත් වේදනාවෙන්' කුමක් තේරුම් ගත හැකි ද? ඔහුට මේ අවුල්ජාලයේ පළමු වචනයවත් නොතේරෙයි.

අලෝෂා දුටු හැටියේ ම නික්මයාමට සැරසෙන ඉවාන් නතර කරගත් කැතිරිනා "මගේ විශ්වාසය දිනා ගෙන සිටින මේ මහත්මයා ගේ අදහස් දැන ගන්න ඕනෑ''යි මහත් සතුටින් වහා කීවා ය. ''දැන්ම යන්ට එපා''යි කියමින් අනතුරුව ගෘහිණිය නතර කරගත් කැතිරිනා අලෝෂා, ළඟින් හින්දවා ගත්තා ය. ගෘහිණිය අලෝෂා ඉදිරිපිට ඉඳගත්තා ය.

"මෙ තැන සිටින ඔබ හැම දෙනා ම මගේ හිතවත්තු. මේ අස හැර මට හිතවත් කිසි ම කෙනෙක් මේ ලෝකේ නැහැ.''යි කැතිරිනා කඳුළු පිරි. දෑසින් කීවා ය. ඇගේ කටහඬ අවංක දුක්වේදනාවෙන් අවදි වූ හැඟීම්වලින් වෙව්ලුවේ ය. එක්ෂණයෙන් ම අලෝෂා ගේ හදවත අනුකම්පාවෙන් උණු විය. "අලෝෂා, ඊයේ මෙ තැන සිදුවුණ පිළිකුල් සහගත දෙය දුටුවානේ ද?

මාං කළ දෙයක් දුටුවාං නේ ද? ඒයේ සිදු වූ දෙය ඉවාන් නොං දුටුවට අලෝෂා දුටුවා. අලෝෂා ඒයේ මාං ගැන කුමක් අදහස් කළාං ද කියාං මාං දන්නේ නැහැ. ඒයේ සිදු වූ දෙය අදත් සිදුවෙනවාං නම්, ඒයේ කී දෙය ම මාං අදත් කියනවා. ඒයේ කළ දෙය ම අදත් කරනවාං. අලෝෂාට මතක ද මාං ඒයේ කළ දෙය. එක් අවසථාවක දී නුඹ මාං අල්ලාං නතර කළාං.........''

මෙසේ කියන අතරේ ඇගේ මුහුණ රතු විය. නෙත් බැබළුණේ ය. ''ඒයේ සිදු වූ දෙය මට අමතක කරන්න බැහැ. අලෝෂා මාං තවමත් මිතියාංට ආලය කරනව ද කියාං මට කියන්න පුළුවන් කමක් නැහැ. මිතියාංට මගේ ලොංකු අනුකම්පාංවක් තියෙනවාං. අනුකම්පාංව ආලය නොං වෙයි. මාං තවමත් මිතියාංට ආලය කරනවාං නම් මාං තුළ අනුකම්පාංවක් ඇතිවන්නේ නැහැ. අනුකම්පාංව වෙනුවට ඇතිවන්නේ වෛරයක්.''

ඇගේ කටහඬ වෙව්ලන්නට විය. ඇගේ ඇස්පිහාටු කඳුළින් තෙත් වී බැබළුණේ ය. අලෝෂා ගේ සරුවාංගයම වෙව්ලන්නට විය. ''මේ තරුණිය බොහොං ම අවංකයි. ඇ කියන්නේ ඇත්ත. ඇ දැන් මිතියාංට ආලය කරන්නේ නැහැ''යි අලෝෂා කල්පනාං කෙළේ ය.

''ඒක ඇත්තයි. ඒක ඇත්තයි'' ගාංහිණිය කැතිරිනාං ගේ කතාංව සථිර කරමින් කීවාං ය.

''ටිකක් ඉන්න. ටිකක් ඉන්න''යි කැතිරිනාං කීවාං ය. ''මාං ඊයේ රෑ බැසගත්ත අවසාංක වැදගත් තීරණය තව ම කිව්වේ නැහැ. ඒ තීරණය බොහොං ම භයාංනක බව මාං පිළිගන්නවාං. නමුත් කිසි ම හේතුවක් නිසාංවත් මාං ඒ තීරණය වෙනස් කරන්නේ නැහැ. මාං ජීවත්ව සිටින තෙක් වෙනස් කරන්නේ නැහැ. මේ ලෝකේ සිටින මගේ හොඳ ම මිත්‍රයාං සහ අනුසාංසකයාං වන, මිනිස් සිත අඳුනන ඉවාංන් මගේ අදහස සථිර කරනවාං.''

''ඔව් මාං කැතිරිනාං ගේ අදහස සථිර කරනවාං''යි ඉවාංන් පහත් එහෙත් සථිර සවරයෙන් කී ය.

''මගේ මේ හිතවතුන් ඉදිරිපිට, අලෝෂාත් (නුඹට අලෝෂා කියාං කතාං කළාංට අමනාංප වෙන්න එපාං.) මගේ අදහස හරිය කියාං අනුමත කරනවාං නම් මම බොහොං ම කැමැතියි. අලෝෂා

මගේ සහෝදරයෙකු වගෙයි. මා ගත් තීරණය අනුමත කරනවා නම් මා කොතරම් දුක් වින්දත්, ඒ අනුමතිය නිසා මට මහත් සැනසීමක් ලැබෙන බව සහිරව කියන්න පුළුවනි''යි කැතිරිනා ඇගේ උණුසුම් වූ අතින් අලෝෂා ගේ සීත වූ අත ගෙන මහත් ප්‍රීතියෙන් කීවා ය.

''කැතිරිනා මගෙන් කුමන දෙයක් බලාපොරොත්තු වෙනව ද කියා මා දන්නේ නැහැ''යි අලෝෂා කී ය. ඒ සමග ඔහු ගේ මුහුණ රතු විය. ''මම කැතිරිනාට බොහො ම ආදරෙයි. මේ මොහොතේ දී මා මගේ සැපතට වඩා නුඹේ සැපත උතුම් කොට සලකනවා. මට ඒ බව කියන්න පුළුවනි............නමුත් මෙ වැනි දේවල් ගැන මා කිසි ම දෙයක් දන්නේ නැහැ අලෝෂා අන්තිම කොටස කීවේ යම් කිසි දෙයක් ඔහුට බල කළ හෙයිනි.

''අලෝෂා මෙ වැනි දේවල දී අවශ්‍යයෙන් ම තිබිය යුත්තේ ධර්මිෂ්ඨකම, උදාර කම, යුතුකම් ඉටුකිරීමේ චේතනාව හා තවත් උසස් දෙයක්... .. නමුත් ඒ උසස් දෙය කුමක් ද කියා මා දන්නේ නැහැ...... ... සමහරවිට එය යුතුකම් ඉටුකිරීමේ ගුණ-යට වඩා උසස් දෙයක් වෙන්න ඕනෑ. ඒ දෙය මා තුළ තදින් බල-පවත්වන බව මට දැනෙනවා. සමහරවිට එය වචන කීපයකින් විස්තර කරන්න පුළුවනි. මීතියා අර ගෑනිව කසාද බැන්දත් මම කවදාවත් මීතියාව අත්හරින්නේ නැහැ. ඒ ගෑනිට නම් කවදාවත් මට සමාව දෙන්න බැහැ. ඒ ගෑනිට සමාව නුදුන්නත් මම මීතියා අත්හරින්නේ නැහැ. මා බැසගත්ත තීරණය මෙයයි.'' මෙසේ පැවසූ කැතිරිනා සොම්නසින් අඬන්නට වූවා ය. ''මා හැම දා ම මීතියා අත් නොහැර ඔහු ගේ පස්සෙන් යනවාය කියා මින් අදහස් වෙන්නේ නැහැ. ඔහු ගේ වැඩට බාධා කරමින් ඔහුට හිරිහැර කරන්නේ නැහැ. මා මේ ගම අත්හැරලා වෙන ගමක පදිංචි වෙනවා. නමුත් මා ජීවත්ව සිටින තෙක් මීතියාව ආරක්ෂා කරනවා. මීතියාට වැඩි කලක් ඔය ගෑනි එක්ක ඉන්න ලැබෙන්නේ නැහැ. එයාට කාලකණ්ණි ජීවිතයක් ගත කරන්න සිදුවෙනවා. එතකොට මීතියා මා ළගට ආපුදෙන්. මම මිතුරියක් හැටියට, සහෝදරියක් හැටියට මීතියා රැක බලා ගන්නම්. ... ..... ......... සහෝදරියක් හැටියට පමණයි සලකන්නේ. එතකොට මීතියාට මේ සහෝදරිය නියම සහෝදරියක් හැටියට ප්‍රේම කරන බවත්, ඇගේ මුළු ජීවිතය ම ඔහු වෙනුවෙන් පූජා කළ බවත් මීති-යාට දැන ගන්න ලැබේවි. මා කොහොම හරි එය පිළිගන්න සලස්වනවා. මීතියා මා ඇඳින ගෙන ලැජ්ජා නොවී හැම

දෙයක් ම මට කියන ලෙස බල කර සිටිනවා.........'' කැතිරිනා ආයේත් අඬන්නට වූවා ය. ''මම මීතියාට දෙවියකු වෙන්නම්. එතකොට දෙවියන්ට කියන හැම දෙයක් ම මට කියන්න පුළුවනි. මීතියා මට කළ ද්‍රෝහිකමත්, ඊයේ කළ නින්දා-වත් නිසා මීතියා මා දෙවියෙකු ලෙස පිළිගත යුතුයි. මට ද්‍රෝහිකම් කළත්, මීතියාට දුන් පොරොන්දුව පරිදි මුළු ජීවි-තයට ම මම අවංකව සිටින බව පෙන්නා දෙන්නම්. මම මීතියා ගේ සැපතට හේතුවන, සැපත ලබා දෙන දෙයක්, කොහෙ ද මා මේක විස්තර කරන්නේ? සැපත ලං කර. දෙන උපකාරයක්, නැතිනම් යන්ත්‍රයක් වෙන්නම්. ඒ සඳහා මම මගේ මුළු ජීවිතය ම කැපකරන්නම්. මීතියා මගේ මේ අදහස මුළු ජීවිතයට ම මතක තබා ගත යුතුයි. ඉවාන් අනු-මත කළ මගේ අවසාන නිගමනය මෙයයි.''

කැතිරිනා හති දමන්නට වූවා ය. තමා ගේ සිතැඟියන් ගරුසරුකමින් යුතුව, ස්වාභාවික ලෙස හෙළි කිරීමට ඇ අදහස් කරන්නට ඇත. එහෙත් ඇගේ කතාව ඉක්මන් විය රළු විය. තරුණ අය තුළ ඇත්තා වූ නොදූමුණුකම පමණක් නොව, ගත වූ දින ඇති වූ නින්දාවෙන් කැතිරිනා තවමත් දුක් විඳින බව හෙළි විය. කෙසේ වෙතත් ඇගේ අභිමා-නය, ඇයට කරන ලද අපහාසයෙන් පළිගැනීමට වෑයම් කෙළේ ය. ඇය කළ වරද ඇයට තේරිණි. ඇගේ මුහුණ හදිසියෙන් ම අඳුරු විය. දූස කෝපයෙන් බැබළුණේ ය මෙය දුටු විහා ම අලෝෂා ගේ හදවත වේදනාවෙන් පෑරුණේ ය. ඉවාන් එය තව තවත් අසාධ්‍ය කරමින් මෙසේ කී ය.

''මා කළේ මගේ අදහස් හෙළි කිරීම පමණයි. වෙන ගැනියක් නම් මා වරදවා තේරුම් ගන්න පුළුවනි. අසනීප වන්න පුළුවනි. නමුත් කැතිරිනා එ වැනි තැනැත්තියක් නො වෙයි. වෙන ගැහැනියක ගේ අදහසක් නම් වැරදි වන්න පුළුවනි. නමුත් කැතිරිනා ගේ අදහස හරි. මේකට කුමන හේතුවක් දිය යුතු ද කියා කියන්න පුළුවන්කමක් නැහැ. කැතිරිනා බොහො ම අවංකයි. අවංක නිසා අදහස් හරියි......''

''නමුත් ඒක මේ මොහොතට පමණයි. මේ මොහොත කුමක් ද? ඊයේ ඇති වූ නින්දාව මිස වෙන කිසි ම දෙයක් නො වෙයි.'' ගෘහිණිය කිවා ය. මේ කතාවට මැදිහත්වීමට ඇගේ කිසි ම බලාපොරොත්තුවක් නො තිබිණි. එහෙත් ඇයට තැනට සුදුසු පිළිතුර නො කියා සිටිය නො හැකි විය.

"ඔව් ඔව් ඒක ඇත්ත"යි ඉවාන් මහත් උනන්දුවෙන් කීවේ තමා ගේ කතාවට බාධා කිරීම ගැන නොසන්සුන්-වූවාක් මෙනි. "වෙන කෙනෙකුට නම් මේ මොහොත ඊයේ ඇති වූ සිද්ධියෙහි ප්‍රතිඵලයක් හැටියට පිළිගන්න පුළු-වනි. ඒ සිද්ධියත් එහි ප්‍රතිඵලයත් ටික වෙලාවකට පස්සේ අමතක වන්න පුළුවනි. නමුත් කැතිරිනා වගේ කෙනකුට නම් මේ සිද්ධිය ජීවිතාන්තය දක්වා අමතක වන්නේ නැහැ. වෙන කෙනෙකු පොරොන්දුවක් හැටියට පිළිගන්නා දෙය කැතිරිනාට නම් සදහට ම පවතින, ඉතා බර, සමහරවිට දරුණු, කිසි ම නැවතීමක් නැති වග කීමක් වෙනවා. මේ වගකීම නැති නම් යුතුකම ඉෂ්ටකිරීමේ හැඟීම නැමති බර ඈ මුළු ජීවිතයට ම උසුලා ගෙන සිටිනවා. කැතිරිනා, මීට පස්සේ නුඹට නුඹේ හැඟීම්, වීරක්‍රියා හා නුඹේ සිත්වේදනා ගැන කල්පනා කරමින් මුළු ජීවිත කාලය ම ගත කරන්න සිදු වෙනවා. ඒ ජීවිතය නුඹට මහත් දුකක් වෙනවා. නමුත් අන්තිමේ දී නුඹේ එඩිතර උඩඟු අදහස් මුදුන්පැමිණීම නිසා හෝ සම්පූර්ණ වීම නිසා හෝ ඒ දුක නැති වී මිහිරි සමාධියකට පරිවර්තන වෙනවා. මේ විදිහට තමා ගේ අදහස් හා බලාපොරොත්තු මුදුන් පැමිණියේය යන දැනුම නිසා නුඹට ලොකු සැපතක් ලැබෙනවා. ඒ සැපත නිසා අනෙක් හැම දෙයක් ම අමතක වෙනවා."

ඉවාන් මෙසේ කීවේ නිසැකව ම ඇති කරගත් දුෂ්ට අද-හසින් යුතුව ය. සමහරවිට එය ඕනෑකමින් ම කරන්නට ඇත. මේ කතාවේ ඇත්තා වූ ව්‍යාජගතිය හා එය ඕනෑකමින් කළ බව සැඟවීමට ඉවාන් වෑයම් නොකෙළේ ය.

"අනේ දෙයියනේ මේක ලොකු වැරදීමක්"යි ගාහිණිය කීවා ය.

"අලෝෂා ඇයි කතා නො කරන්නේ? අලෝෂා ගේ අදහස් දැනගැනීමට මා ඔබාහො ම කැමැතියි." මෙසේ පැවසූ කැතිරිනා අනතුරුව අඩන් ට පටන්ගත්තා ය. අලෝෂා හිඳ සිටි සෝපාවෙන් නැඟී සිටියේ ය.

'නැහැ, නැහැ, මා කතාකරන්නේ කිසි ම අර්ථයක් නැති වයි" ඈ ආයේත් අඩමින් ම කීවා ය. "මා ඊයේ රෑ නිඳගත්තේ නැහැ. නමුත් අලෝෂාත්, අලෝෂා ගේ පොඩි අයියා වැනි මිතවතුනුත් ඉදිරිපිට මට ශක්තිය ලැබෙනවා. මා දන්නවා, නුඹලා කවදාවත් මා අත් නොහරින බව."

"මා හෙට මොස්කව් නුවරට යන නිසා ටික කලකට කැතිරීනා අත්හරින්නට සිදු වෙනවා...... අවාසනාවකට වාගේ ඒක නොහිතින් ම බැරි ගමනක්"යි ඉවාන් හදිසියෙන් ම කීවේ ය.

"හෙට මොස්කව් නුවරට යනවා?"යි කැතිරිනා ඇසුවා ය. ඒ සමග ඇගේ මුහුණ රතු විය. "අනේ එහෙනම් කොතරම් ලොකු වාසනාවක් ද!"යි ඈ හදිසියෙන් ම වෙනස් කරගත් කට හඬින් කීවා ය. මොහොතකට පෙර ඇගේ දෑසේ තිබුණු කඳුළු අතුරුදහන් විය. අලෝෂා ගේ විමතියට හේතු විය. නින්දා අපහාස කරනු ලැබූ, දුකින් පෙළෙන අසරණ තරුණියක වෙනුවට අලෝෂාට දකින්නට ලැබුණේ සම්පූර්ණ ආත්මදමනයෙන් යුත්, මොහොතකට පෙර සිදු වූ කිසියම් ප්‍රීතිදායක දෙයක් නිසා තෘප්තියට පත් ව සිටින ගැහැනියකි.

"ලොකු වාසනාවක් කීවෙ ඉවාන් මා හැරදමා යන නිසා නොවෙයි" කැතිරිනා හිටිහැටියේ ම ඇගේ කතාව හරිගස්සමින් කීවේ සුන්දර සිනාවකින් මුව සරසාගෙන ය. "ඉවාන් වැනි අවංක මිත්‍රයෙකු මගේ කතාව වරදවා තේරුම් ගන්න හොඳ නැහැ. ටික කලකට වුණත් මගෙන් වෙන් වී සිටීම ගැන මට බොහෝ ම කනගාටුයි." මෙසේ පැවසූ කැතිරිනා හදිසියෙන් ම ඉවාන් ළගට ගොස් මහත් කලබලයෙන් ඔහුගේ දෑත ගෙන ආදරයෙන් තද කොට අල්ලාගත්තේ ය. "මා ලොකු වාසනාවක් යයි කිව්වේ මොස්කව් නුවර දී ඉවාන්ට මගේ නැන්දයි අක්කයි හමුවෙලා මා විඳින දුක කියන්න පුළුවන් නිසයි. අක්කාට සම්පූර්ණ විස්තරයක් කළත් නැන්දට වැඩිය කියන්න එපා. මා විඳින දුක් නැන්දට කියයුතු හැටි මා නොකීවාට ඉවාන් දන්නවා ඇති. මා අදහස් කළේ ලියුමක් ලියා යවන්නටයි. නමුත් ඒ භයානක ලියුම ලියන්නේ කොහොමද කියා මා ඊයේත් අද උදේත් කල්පනා කළ හැටි නුඹ දන්නේ නැහැ. මෙ වැනි දේවල් ලියුමක ලියන්න බැහැ.........ඔවුන් හමු වෙලා හැම දෙයක් ම විස්තර කර දුන්නාට පස්සේ මට පහසුවෙන් ම ලියුමක් ලියා යවන්න පුළුවනි......... මට නුඹේ ගමන ලොකු සැනසීමක්. සැනසීම මේ කාරණය නිසා පමණයි. නැති ව නුඹ යන නිසා නොවෙයි. නුඹ වැනි හිතවතෙකු කොහෙන් සොයන්න ද?......... දැන් ම ගිහින් ලියුම ලියන්නම්" මෙසේ හිටිහැටියේ ම කතාව අවසන් කළ කැතිරිනා කාමරයෙන් පිට වී යාමට සැරසෙන්නාක් මෙන් නැගී සිටියා ය.

"කැතිරිනා බොහෝ ම ආසාවෙන් සිටියා නේද අලෝෂා ගේ අදහස් දැන ගන්න?"යි ගෘහිණිය ඇසුවා ය. ඇගේ කට හඬේ කෝපයෙන් කියන ලද ඇනුම්පදයක සවරූපයක් තිබිණි.

"නැහැ නැහැ, ඒක මට අමතක වුණේ නැහැ"යි කැතිරිනා හදිසියෙන් ම නතර වෙමින් කීවා ය. "ඇයි මේ වගේ වෙලාවක මට සතුරුකම් කරන්නේ?"යි ඈ අනතුරුව දෙස් නගන්නාක් මෙන් කීවා ය. "මා ටිකකට කලින් කීවාක් මෙන් අලෝෂා ගේ අදහස් පමණක් නො වෙයි. තීරණයත් දැනගන්න ඕනෑ. එ පමණක් නො වෙයි ඒ තීරණය අනුව ක්‍රියා කළ යුතුයි. අලෝෂා ගේ අදහස් දැන ගැනීමට මගේ කො තරම් ලොකු ආසාවක් තියෙනවා ද කියා පේනවා නේද?............ මොක ද අලෝෂාට වෙලා තියෙන්නේ?"

"මේක මට විශ්වාස කරන්න බැහැ. මට තේරෙන්නේ නැහැ"යි අලෝෂා හදිසියෙන් ම ශෝකයෙන් කී ය.

"මොකක් ද තේරුම් ගන්න බැරි?"

"ඉවාන් මොස්කව් නුවරට යන්න හදනවා. තුඹ කියනවා ඒක තුඹේ වාසනාවක්ය කියා. ඒක ඕනෑකමින්මයි කිව්වේ. ඊළඟට අපට තේරුම් කර දුන්නා සතුටු වෙනවා වෙනුවට හිතවතකු නැතිවීම ගැන දුක් වෙන බව. මේක රඟදැක්වීමක්... තුඹ කරන්නේ නෘත්‍ය ශාලාවක නාට්‍යයක රඟපානවා වගේ දෙයක්!"

"මා කරන්නේ නෘත්‍ය ශාලාවක රඟපානවා වගේ දෙයක්? මොකක් ද අලෝෂා ඔය කතාවේ තේරුම?"යි කැතිරිනා මහත් පුදුමයෙන් ඇසුවා ය. ඈගේ මුහුණ රතු විය. ඈ රවා බැලුවා ය.

"හිතවතකු නැති වීම ගැන ශෝක වන බව කියන අතර ම තුඹ ඉවාන් ඉදිරිපිට කියනවා ඔහු ගේ යාම තුඹේ වාසනාවය කියා"යි අලෝෂා හුස්ම ගත නො හැකිවූවාක් මෙන් කී ය.

මේසය ළඟ සිටගෙන සිටිය අලෝෂා පුටුවක හිඳ නොගත්තේ ය.

"මොනව ද මේ දොඩන්නේ? අලෝෂා මට තුඹේ කතාව තේරුම් ගන්න බැහැ."

"මටත් හරියට තේරුම් ගන්න බැහැ......... මට හදිසියෙන් ම මේ වගේ කල්පනාවක් ඇති වුණා......... මට හරියට තේරුම් කරලා කියන්න බැරිවා වෙන්න ඇති. කොහොම වුණත් කීය යුතු හැම දෙයක් ම කියන්නම්"යි අලෝෂා තවමත් වෙවුලන කටහඬින් කීවේ ය. "මට පෙනෙන හැටියට කැතිරිනා මීතියාට

ආලය කරන්නේ නැහැ.........කවදාවත් ආලය කළේ නැහැ...... මුල සිටන් ම මිතියාට ආලය කළේ නැහැ. මිතියා ද කැතිරිනාට උසස් කාන්තාවක් ලෙස සැලකුවා මිස ආලය කළේ නැහැ......... මා මේ වගේ දේවල් කියන්නේ මන්ද කියා මට තේරුම් ගන්න බැහැ. නමුත් කවුරු හරි ඇත්ත කියන්න ඕනෑ......... මෙ තැන සිටින කිසි ම කෙනෙකු ඇත්ත කියන්නේ නැහැ.''

''මොන ඇත්ත ද?''යි කැතිරිනා ඇසුවා ය. උමතුවූවකු ගේ කටහඬේ තිබෙන සවරය ඇගේ කටහඬේ ද තිබිණි.

''මම කියන්නම් ඇත්ත''යි අලෝෂා මහත් වේගයෙන් කීවේ වහලයක සිට බිමට පැනීමට වෑයම් කරන්නකු මෙනි. ''මිතියාට කතා කරන්න, මම ගිහින් අඬගහගෙන එන්නම්. මිතියා මෙ තැනට ඇවිදින් තුඹේ අත ගෙන තුඹ ඉවාන්ට බාර දීපු දෙන්. තුඹ ඉවාන්ට ආලය කරමින් ඒ අතර ඉවාන්ට වද දෙනවා. කැතිරිනා තුඹ හැඟීම් අවුස්සා සිතේ වේදනාවක් ඇති කරගෙන හිතනවා තුඹ මිතියාට ආලය කරන-වාය කියා. නමුත් තුඹ මිතියාට ආලය කරන්නේ නැහැ...... බොරුවට පෙන්නනවා විතරයි........''

මෙසේ කී අලෝෂා අනතුරුව නිහඬ විය

''තුඹ—තුඹ ආගමින් උමතු වූ මෝඩයෙක්''යි කැතිරිනා කෑගා කීවා ය. ඇගේ මුහුණ සුදුමැලි විය. දෙතොල් කෝප-යෙන් වෙව්ලුවේ ය.

ඉවාන් මහත් හඬින් සිනා සී නැඟී සිටියේ ය. හෙතෙම හිස්-වැස්ම අතට ගත්තේ ය.

''අලෝෂාට වුණේ වැරදීමක්''යි ඉවාන් කී ය. එ වේලේ ඔහු ගේ මුහුණේ පැවැති සවභාවය අලෝෂා මීට පෙර කිසි ම දව-සක දැක නැත. එහි ප්‍රබල අවංක කමක් සමග නොවැළැක්විය හැකි ඍජු හැඟීම් දකින්නට තිබුණේ ය. ''කැතිරිනා කවදාවත් මට කිසි ම සැලකිල්ලක් දක්වූයේ නැහැ. නමුත් කැතිරිනා දන්නවා මා ඇයට ආලය කරන බව. මා ඒ ගැන වචනයක් වත් කතා කළේ නැහැ. මා නොකිව්වත් කැතිරිනා දැන ගත්තා. නමුත් මට කිසි ම සැලකිල්ලක් දක්වූයේ නැහැ. මා කවදාවත් කැතිරිනාට හිතවත්කමක් දක්වූයේ නැහැ. මම ඇගේ මිත්‍රයෙක් නො වෙයි. දවසකටවත් මා කැතිරිනා සමග මිත්‍රකමක් ඇති ව සිටියේ නැහැ. කැතිරිනා බොහො ම අහංකාර නිසා ඇයට මගේ මිත්‍රකමින් ප්‍රයෝජනයක් තිබුණේ නැහැ. කැතිරිනා මා

සමග ආශ්‍රය කළේ පළිගැනීමේ ආශාවක් ඇතිවයි. කැතිරිනාට මීතියා හමු වූ දා සිට මීතියා ගෙන් විඳින්නට සිදු වූ නින්ද අපහාසවලට මගෙන් පළිගත්තා. මීතියා සමග ඇති වූ පළමු හමුවීම පවා කැතිරිනා හිතේ තබාගත්තේ තමාට කරන ලද අපහාසයක් හැටියටයි. කැතිරිනාට තියෙන්නේ ඒ විදියේ හිතක්. කැතිරිනා මෙ පමණ වේලා කතා කළේ මීතියාට දක්වන ආලය ගැන යි. මා දන් යනවා. නමුත් කැතිරිනා නුඹ ඇත්ත. වශයෙන් ම ආලය කරන්නේ මීතියාටයි. අයියා නුඹට අපහාස කළ තරමට නුඹ අයියාට ආලය කරනවා. නුඹේ හිතට වදදෙන දුක් වේදනාව එයයි. නුඹ ආලය කරන්නේ අයියා ගේ ඔය ගතිගුණ නිසයි. නුඹ අයියාට ආලය කරන්නේ අයියා නුඹට අපහාස කරන නිසයි. යම් විදියකින් අයියා නරක ගතිගුණ අත්හැර දමා හොඳ මිනිහෙකු වුණොත් එදාට නුඹ අයියා අත්හැර දමනවා. නුඹේ ආලයත් ඉවරයි. සියලුම නරක ගතිගුණවලින් යුත් අයියයි නුඹට උවමනා කරන්නේ. නුඹේ අචලභක්තිය ගැන ගැඹුරට මෙනෙහි කර ගත්තා අතර අයියාට ද්‍රෝහිකම් ගැන චෝදනා කරනවා. මේ සේරම ඇති වන්නේ නුඹේ බොරු අහංකාරකම නිසයි. මා බොහො ම තරුණයි. මා නුඹට බොහො ම ආලය කළා. මේවා කීම නුසුදුසු බව මා දන්නවා. කිසිවක් නො කියා මෙ තැනින් පිටවී යාම මගේ ආත්මගෞරවයට හොඳයි. නුඹ මා සමග අමනාප වෙන්නෙ නැහැ. නමුත් මා බොහො ම ඈත ගමනක් යනවා. ආයේත් කවදාවත් ආපසු එන්නේ නැහැ. දුක් වේදනාවෙන් පෙළෙන තැනැත්තියක් ළඟ සිටීමට මා කැමැති නැහැ......... දන් කොහො ම කතා කළ යුතු ද කියා මා දන්නේ නැහැ. නමුත් කිය යුතු හැම දෙයක් ම කිව්වා...... කැතිරිනා මා යනවා. මා සමග තරහ වෙන්න එපා. නුඹට වඩා සිය වරක් මා දඬුවම් විඳ තියෙනවා. ඒ දඬුවම ආයේත් නුඹ දකින්නට නො ලැබීම නිසා ඇති වන දුකයි. නුඹේ අත ගැනීමෙන් ඇති වැඩක් නැහැ. නුඹ ඕනෑකමින් ම මට දුක් දුන්න නිසා මේ මොහොතේ දී නුඹට සමාව දීමට පුළුවනක් කමක් නැහැ. පසු කාලයේ දී සමාව දෙන්නම්." මෙසේ පැවසූ ඉවාන් ගෘහිණිය වූ හොලාකෝ මැතිනියටවත් නො කියා නික්ම ගියේ ය. අලෝෂා ශෝකයෙන් දෑත් එක්කර ගත්තේ ය.

"ඉවාන් යන්න එපා"යි කියමින් අලෝෂා කැ ගා සොහොයුරාට කතා කෙළේ ය, "මීට පස්සේ අයියා එන්නේ නැහැ"යි කියමින් අලෝෂා සොහොයුරා ගිය පසු ඇඬුවේ ය. "මේ සේරම වුණේ මගේ වරදින්. මායි මේ සේරම පටන් ගත්තේ. ඉවාන් කතා කළේ තරහෙන්. එයා ගේ කතාව වැරදියි. ඒ කතාවේ

කිසි ම යුක්තියක් නැහැ. ඉවාන් කොහොමහරි අාපසු පැමිණිය යුතුයි.'' කියමින් අලෝෂා උමතු වූවකු මෙන් අඬන්නට පටන් ගත්තේ ය.

කැතිරිනා හිටිහැටියේ ම අනෙක් කාමරයට ගියා ය.

''අලෝෂා නුඹ කිසි ම වරදක් කළේ නැහැ. නුඹ බොහෝ ම ලස්සණට කතා කළා. ඉවාන් නතර කරගැනීමට මම වෑයම් කරන්නම්''යි ගෑහිණිය රහසක් කියන්නාක් මෙන් ශෝකයෙන් සිටි අලෝෂා සනසමින් කීවා ය.

අලෝෂා ගේ බලවත් ශෝකයට ඇගේ මුහුණ ප්‍රීතියෙන් විකසිත විය. ඒ අතරේ කැතිරිනා ආයේත් හදිසියෙන් ම කාමරයට පැමිණියා ය. ඇගේ අතේ රූබල් දෙසීයක් තිබිණි.

''අලෝෂා, නුඹ මට ලොකු උපකාරයක් කරන්න ඕනැ''යි කැතිරිනා කිසි ම දෙයක් සිදුනොවූවාක් මෙන් කිසි ම කලබලයක් නො දක්වා කීවා ය. ''සතියකට කලින් මීතියා බොහෝ ම නරක, බොහෝ ම කැත වැඩක් කළා. මේ ගමේ තියෙනවා බොහෝ ම පහත් පෙළේ තැබෑරුමක්. මීතියාට ඉම් තැබෑරුමේ දී විශ්‍රාම ගත්ත කපිතන් කෙනෙකු හමු වුණා. නුඹේ තාත්තා මේ කපිතන් ලවා මොකක්දෝ වැඩක් කරවා ගෙන තියෙනවා. යම් කිසි හේතුවක් නිසා මීතියා මේ කපිතන් එක්ක තරහ වෙලා මිනිහ ගේ රැවුලෙන් අල්ලා ගෙන පාර දිගේ ටික දුරක් ඇදගෙන ගියා. මට ආරංචියි මේ කපිතන්ට පොඩි පුතෙකු සිටින වලු. ඒ දරුවා යන්නේ මේ පළාතේ පාසලටලු. මේ කුඩා දරුවා තාත්තාට කරන නින්දාව දැකලා තාත්තා ළඟින් දුවමින්, තාත්තා බේරාගන්නා ලෙස පාරේ බලා සිටි හැමෝටම කෑ ගා කියා තියෙනවා. නමුත් කිසි ම කෙනෙකු මේ අපරාධය නවත්වන්න ඉදිරිපත් වෙලා නැහැ. ඒ අසරණ මිනිහා බේරා ගන්නවා වෙනුවට හිනා වෙලා තියෙනවා. මට සමාවන්න අලෝෂා. මේ වගේ නීච නින්දිත අධම දෙයක් කරන්න පුළුවන් කෝපයෙන් සිටින නුඹේ අයියාට විතරයි. මේ අධම ක්‍රියාව විස්තර කරන්න මට වචන නැහැ.........මා මේ අසරණ කපිතන් ගැන සොයා බැලුවා. මිනිහා බොහෝ ම දුප්පත්. මිනිහ ගේ නම සෙනිග්‍රියෝෆ්. කිසියම් වරදක් කළ නිසා යුධ හමුදාවෙන් අස් කරලා. ඒ වරද මොකක් දැයි කියා මට කියන්න පුළුවන් කමක් නැහැ. දුන් මිනිහා දරු පවුලත් එක්ක බොහෝ ම අමාරුවෙන් කල දවස ගෙවන්නේ. මිනිහගෙ ළමයි සේරම ලෙඩින්. ගෑනිට පිස්සුලු. පවුලත් එක්ක බොහෝ ම කාලයක ඉඳලයි මේ පළාතේ පදිංචි වී සිටින්නේ. රැකියාවක් හැටියට

කළේ ල්පිකාර වැඩක්. දූන් එකත් නැති ලූ මා කල්පනා කළා නුඹ......... මා දන්නේ නැහැ මේක කොහො ම කියන්න ද කියා! මේ මිනිහ ළඟට ගිහින්......... මොකක් හරි උවමනාවක් පිට ගිහින් බොහො ම පරිස්සමින් කතා කරලා.........නුඹ දන්නව ඒක කරන හැටි......... උපකාරයක් හැටියට මේ රූබල් දෙසීය දෙන්න. කිසි ම සැකයක් නැහැ මිනිහ මුදල් ගන්නවට......... කොහොම හරි දෙන්න. මට ආරංචියි කපිතන් මීතියාම විරුද්ධව නඩු දමන්න හදනව ලූ......මේ මුදල් දෙන්නේ නඩුව නො දමා සිටීමට වන්දියක් වශයෙන් නො වෙයි. අනුකම්පාවෙන් කරන උපකාරයක් හැටියටයි. මීතියා විවාහ ගිවිස ගෙන සිටින තරුණිය විසින් කරන ලද උපකාරයක් හැටියටයි. නමුත් මීතියා ගෙන් නො වෙයි... මට මේ මුදල් ගිහින් දෙන්න පුළුවනි. නමුත් මට වඩා හොඳට මේ කටයුත්ත කරන්න නුඹ දන්නවා. කපිතන් ඉන්නේ වැව පාරේ කල්මිකෝ කියන ගෑනි ගේ ගෙදරයි.........අනේ අලෝෂා කොහොම හරි මේ උපකාරය කරන්න ඕනෑ.........දූන් ඉතින් මා යනවා. මට බොහො ම මහන්සියි.........''

කැතිරිනා කො තරම් ඉක්මනට දෙරේ තිරය තුළින් පිටවී ගියාද කියතොත් ඇයට කතා කිරීමට ආශාවෙන් සිටි අලෝෂාට කතා කිරීමට ඉඩ නො ලැබිණි. සියලූ ම වැරදි තමා පිට පටවා ගෙන ඇගෙන් සමාව ඉල්ලීමට ඔහු තුළ බලවත් ආසාවක් තිබිණි. ඇයට කතා නො කර කාමරයෙන් පිටවී යාමට ඔහුට පුළුවන් කමක් නැත. එහෙත් ගෘහිණිය අලෝෂා ගේ අතින් අල්ලා ගෙන කාමරයෙන් එළියට කැඳවාගෙන ගියා ය. යන අතරේ ශාලාවේ නතර වී රහසක් කියන්නාක් මෙන් මෙසේ කීවා ය.

''කැතිරිනා බොහො ම අහංකාරයි. ඈ සිත මැඩ ගැනීමට වෑයම් කරන හැටි පෙනෙන්නේ නැද්ද? ඈ බොහො ම ලස්සණයි. පිනට කැමතියි. මම ඇයට බොහො ම ආදරෙයි. දූන් මේ වෙච්ච දේ ගැන මට බොහො ම සන්තෝෂයි. අලෝෂා නුඹ දන්නෙ නැහැ අප කරපු දේ. නුඹට අප කරපු දේ විස්තර කරලා කියන්න ඕනෑ. අප සේරම, ඒ කියන්නේ කැතිරිනා ගේ නැන්දලා දෙන්නයි අපයි, වෙනෙකක් තබා ලීසාත් එකතුවෙලා පසු ගිය මුළු මාසය ම දෙයියන්ට යාච්ඤා කරමින් බලාපොරොත්තු වුණා කැතිරිනා, ඇයට කිසි ම සැලකිල්ලක් නොදක්වන මීතියා අත්හැර දමා බොහො ම උගත් ශිෂ්ට මහත්මයකු වන ඉවාන් කසාද බැඳගනීය කියා. ඉවාන් කැතිරිනාට බොහො ම ආදරෙයි. අප පුළුවන් තරම් වෑයම් කරන්නේ මේ කටයුත්ත ඉෂ්ට කරන්නයි. මා මේ ගමේ නතර වී සිටින්නේ ඒ නිසයි.''

"නමුත් කැතිරිනා කනගාටුවෙන් අඬනවා."

"අලෝෂා, ගෑනුන් ගේ ඇඩීම ගැන වැඩි සැලකිල්ලක් දක්වන්න එපා. මා කවදාවත් ගෑනුන් ගේ ඇඩීම ගණන් ගන්නේ නැහැ. මේ වගේ අවස්ථාවල දී මා හැම තිස්සේම පිරිමින් ගේ පැත්ත ගන්නවා."

"අම්මා අලෝෂා නරක් කරනවා"යි කියන ලීසා ගේ කටහඬ දොර තුළින් ඇසිණි.

"මේ සේරම වුණේ මගේ වරදින්" යි කියමින් අලෝෂා දෑතින් මුහුණ වසා ගෙන අඬන්නට පටන් ගත්තේ ය.

"නැහැ නැහැ, නුඹ කිසි ම වරදක් කළේ නැහැ. නුඹ කළ දෙය හරියි. මට ඒ බව දහස් වරක් වුවත් කියන්න පුළුවනි."

"අම්මා කොහොම ද අලෝෂා වරදක් කළේ නැහැ කියන්නේ?" යි අසන ලීසා ගේ කටහඬ ආයේත් ඇසිණි.

"මේ හැම දෙයක් ගැන ම කල්පනා කරන විට මට හිතෙනවා කැතිරිනා ඉවාන්ට ආලය කරනවාය කියා. ඒ නිසයි මා අර මෝඩ කතාව කිව්වේ.......දැන් මොනවා වෙයිද?" යි ආලෝෂා කීවේ ලීසා කී දෙය නො ඇසුණාක් මෙනි.

"කාට ද? කාට ද?" ලීසා ඇසුවා ය. "අම්මා හදන්නේ මා මරන්න ද? අම්මා මා අහන දෙයට උත්තර දෙන්නේ නැහැ."

ඒ මොහොතේ දී සේවිකාව කාමරයට දිව ආවා ය.

"කැතිරිනා නෝනාට සනීප නැහැ.........ඈ සිහිය නැති ව දඟලනවා, කෑගානවා."

"මොකද වෙලා තියෙන්නේ?" ලීසා තැති ගෙන ඇසුවා ය "අම්මේ දැන් අසනීප වෙන්නේ කැතිරිනාට නොවෙයි මට යි"

"ලීසා පින් සිද්ධ වෙයි කෑනොගා ඉන්න. නුඹේ වයසේ හැටියට ලොකු මිනිසුන් දන්නා හැම දෙයක් ම දැනගන්න උවමනා නැහැ. නුඹ දැනගත යුතු හැම දෙයක් ම මම ආපසු ඇවිදින් කියන්නම්. කැතිරිනා කෑගානවා නම් බොහෝ ම හොඳයි. මේ වගේ අවස්ථාවල දී මා ඔය ඇඬුම් දෙඩුම් ගණන් ගන්නේ නැහැ. යුලියා දුවල ගිහින් කියාපන් මා ඉක්මනට

එනවය කියා........ඉවාන් යන්න ගියේ කැතිරිනා ගේ වරදින්. නමුත් ඉවාන් කවදාවත් යන්නේ නැහැ.......... ලීසා පින් සිද්ධ වෙයි කැගාන්න එපා!........නැහැ නැහැ ලීසා නුඹ නොවෙයි කැගාන්නේ මායි. මට සමාවන්න දුව. නමුත් මට බොහො ම සන්තෝෂයි. බොහො ම සන්තෝෂයි. ඉවාන් කතා කරලා මේ කාමරයෙන් පිට වී යන කොට කොච්චර ලස්සණට පෙනුණද? කොච්චර තරුණ ද? මා හිතුවා ඉවාන් බොහො ම ලොකු උගතෙක් කියා. නමුත් ඉවාන් හරියට බොහො ම ලාබාල කෙනෙකු වගේ, කිසි ම දනුමක් නැති කෙනෙකු වගේ, කිසි ම බලාපොරොත්තුවක් නැති ව බොහො ම ආදරයෙන් අවංක ව කතා කළා. කොච්චර හොඳ ද? හරියට නුඹ වගෙයි.... ... මා ඉක්මනට යන්න ඕනැ. ඉක්මනට යන්න ඕනැ......... කරුණාකරලා ඉක්මනට ගිහින් කැතිරිනා ගේ කටයුත්ත කර දීලා ආපසු එන්න. ලීසා නුඹට මොකක්වත් ඕනැ ද? පින්සිද්ධ වෙයි අලෝෂා නතර කර ගන්න එපා. එයා ඉක්මනට ආපසු ඒවී... ...''

මෙසේ පැවසූ ගෘහිණිය අන්තිමේ දී කාමරයෙන් පිට වී ගියා ය. අලෝෂා තික්මයාමට පෙර ලීසා සිටින කාමරයට ඇතුළු වීම පිණිස දොර ඇරීමට සැරසුණේ ය.

''නැහැ නැහැ, දොර අරින්න එපා. දොර නැර එළියේ ඉඳලා කතා කරන්න්. කොහොම ද නුඹ දේවදූතයෙකු වුණේ? මට දනගන්න උවමනා කරන්නේ අන්න ඒකයි.''

''මා ලොකු මෝඩකමක් කළ නිසයි.......මා යනවා.''

''හා හා, එහෙම යන්න එපා.''

''ලීසා මා බොහො ම කනගාටුවෙන් සිටින්නේ. මම ඉක්මනට එන්නම්.''

මෙසේ පැවසූ අලෝෂා වහා නික්ම ගියේ ය.

## හය වන පරිච්ඡේදය

## දුප්පතා ගේ

මීට පෙර කිසි ම කලක ඇති නො වූ ශෝකයකින් අලෝෂා ගේ හදවත පෙළෙන්නට විය. ඔහු මෝඩයකු මෙන් ගොස් ඇඟිලි ගැසුවේ කුමකට ද? අනුන් ගේ පෙම්පුවතකට ය. "අනුන් ගේ පෙම්පුවත් ගැන මා දන්නේ මොනව ද? එ වැනි දේවල් ගැන මට කුමක් කිව හැකි ද"යි හෙතෙම තමාට ම සියවරටත් කියා ගත්තේ ය. මෙසේ කියන අතරේ ඔහු ගේ මුහුණ ලැජ්ජාවෙන් රතු විය. "ලැජ්ජා වුණාට කමක් නැහැ. ලැජ්ජාව ම විසින් ලැබිය යුතු දඬුවමයි. වරද, මගේ අතින් සැපත වෙනුවට නාව තවත් දුක ඇතිවීමයි........ සොසිමා තවුසා මා එව්වේ මගේ සහෝදරයන් හා තාත්තා අතරේ සමගියක් ඇති කිරීම පිණිස යි. ඔවුන් සමගි කරන්නේ මේ විදියට ද?" ඔවුන් අතරේ සමගියක් ඇති කිරීමට තමා වැයම් කළ සැටි අලෝෂාට හදිසියෙන් ම සිහි විය. ඒ සමග ආයේත් ඔහු තුළ මහත් ලැජ්ජාවක් ද ඇති විය. "මා ඔවුන් අතරේ සමගියක් ඇති කිරීමට වැයම් කළේ අවංක අදහසිනුයි. මීට පසු ව මීට වඩා සිහිකල්පනාවෙන් වැඩ කළ යුතුයි." අලෝෂා හදිසියෙන් ම තීරණය කරගත්තේ ය. එහෙත් ඒ ගැන ඔහු තුළ සතුටක් ඇති නො වී ය.

කැතිරිනා විසින් පවරන ලද කටයුත්ත ඉටු කිරීම සඳහා අලෝෂා වැවපාරදිගේ ගියේ ය. ඔහු ගේ වැඩිමල් සොහොයුරා මීතියා සිටින්නේ වැවපාරට තුදුරේ පිහිටි අතුරු මගක ය. කපිතන් හමුවීමට කලින් සොහොයුරා හමුවිය යුතු යයි අලෝෂා කල්පනා කෙළේ ය. එහෙත් සොහොයුරා හමු නො වේය යන අදහසක් ද ඒ සමග ඔහු තුළ ඇති විය. මීතියා ඕනෑ කමින් ම තමා මගහැර යාවි යයි අලෝෂා සැක කෙළේ ය. කෙසේ වෙතත් මීතියා හමු විය යුතු ම ය. කාලය ද ගෙවී යයි. ඒ අතරේ මරණාසන්නව සිටින තවුසා ද අලෝෂාට සිහි විය. ආශ්‍රමයෙන් පිට වූ පසු මොහොතකටවත් ඔහුට තවුසා අමතක නො වී ය.

කැතිරිනා විසින් තමාට පවරන ලද කටයුත්ත ගැන එක් දෙයක් අලෝෂාට වෙසෙසින් ම වැදගත් විය. කපිතන් ළඟින් අඩමින් ගිය කපිතන් ගේ පුතා ගැන කැතිරිනා සඳහන් කළ

විට, කිසි ම වරදක් නැති ව තමා ගේ ඇඟිල්ල හැපුවේ මේ ලමයා විය යුතු යයි අලෝෂාට කල්පනා විය. දන් ඒ ගැන ඔහුට කිසි ම සැකයක් නැත. එහෙත් එ වැනි සැකයක් ඇති වීමට හේතුව ඔහුට කිව නො හැකි ය. තමා අතින් සිදු වූ 'වරද' අමතක කොට මෙසේ වෙනත් දෙයක් ගැන කල්පනා කිරීම අලෝෂාට සැනසීමකි. කුමක් වුවත් තමා අදහස් කළ ලෙස කටයුතු කිරීමට අලෝෂා තීරණය කරගත්තේ ය. ඒ අදහස සිතට සැනසීමකි. මීතියා නතර වී සිටින අතුරු මගට ඇතුළු වූ අලෝෂාට දඩි කුසගින්නක් ඇති වූයෙන් පියා ගේ ගෙදර දී සාක්කුවේ දමාගත් පාන්ගෙඩිය ගෙන කෑවේ ය. ඉන් ඔහු ගේ ශරීරයට නව පණක් දනිණි.

මීතියා ගෙදර නොසිටියේ ය. ගෙදර ඇත්තෝ, එනම් මහලු වඩුවා ඔහු ගේ පුතා හා බිරිය, අලෝෂා දෙස සැකයෙන් බැලූහ. "දවස් තුනකින් ගෙදර ආවේ නැහැ. කොහෙහරි ඈත ගමනක් යන්න ඇති" මහල්ලා කීවේ අලෝෂා ඇසූ ප්‍රශ්නවලට පිළිතුරු වශයෙනි. මහල්ලා පිළිතුරු දෙන්නේ මීතියා ගේ බස් අනුව බව අලෝෂා දනගත්තේ ය මීතියා, ගෘසෙන්කා ගේ ගෙදර සිටින්නේ ද? නැති නම් පෝමා ගේ ගෙදර සැඟවී සිටින්නේ දැයි අලෝෂා කරුණු නො සඟවා ඇසූ විට තිදෙනා ම භීතියෙන් අලෝෂා දෙස බැලූහ. 'ඔවුහු අයියාට බොහො ම ආදරෙයි. ඔවුන් අයියා ආරක්ෂා කරන්න වෑයම් කරනවා. ඒක බොහො ම හොඳයි." අලෝෂා කල්පනා කෙළේ ය.

අන්තිමේ දී අලෝෂා වැවපාරේ තිබෙන කපිතන් ගේ ගෙය සොයා ගත්තේ ය. පාර පැත්තට කවුළු තුනක් ඇති එය එක පැත්තකින් ගිලාබැස්ස අබලන් වූ කුඩා ගෙයකි. මඩ වූ ගෙමිදුල මැද එළදෙනක් බැඳ සිටියා ය. ගෙමිදුල හරහා ගිය අලෝෂා ඇර දමන ලද දොර ළඟට පැමිණියේ ය. දොර තුළින් පටු ඉස්තෝප්පුවකට ඇතුළු විය හැකි ය. ඉස්තෝප්පුවට වම් පැත්තේ තිබෙන කාමරයේ මහලු ගෙවල් අයිතිකාරිය ඇගේ වයසටගිය දියණියත් සමග වාසය කළා ය. දෙදෙනා ම බිහිරෝ වෙති. අලෝෂා කීප වරක් ම ඔවුන් ගෙන් කපිතන් ගැන විමසුවේ ය. අන්තිමේ දී යන්තම් අලෝෂා කී දෙය තේරුම් ගත් ඉන් එකියක්, අමුත්තා විමසන්නේ කපිතන් ගැන බව දන ඉස්තෝප්පුවේ ඇති තවත් දොරක් පෙන්නුවා ය. කපිතන් වාසය කළේ කුඩා කාමරයක ය. දොර ඇරීම සඳහා අගුලට අත තැබූ අලෝෂා කාමරය තුළ පැවැති නිශ්ශබ්දතාව ගැන

පුදුම විය. එහෙත් කැතිරිනා කළ විස්තරයෙන් කපිතාන්ට දරුපවුලක් සිටින බව අලෝෂා දැන සිටියේ ය. "සමහරවිට උන් සේරම නිදාගෙන ඇති. නැතිනම් මා දොර අරින තෙක් නිහඬව සිටිනවා ඇති. කොහොමටත් දොර අරින්න ඉස්සෙල්ලා දොරට තට්ටු කරන එක හොඳයි." මෙසේ කල්පනා කළ අලෝෂා දොරට තට්ටු කෙළේ ය. ඔහුට පිළිතුරක් ලැබිණි. එහෙත් පිළිතුර ලැබුණේ එක්වර ම නොව තත්පර දහයකට පමණ පසුව ය.

"කවුද දොරට ගහන්නේ?"යි කවුදෝ කෝපයෙන් නැගුණු උස් හඬින් ඇසුවේ ය.

අලෝෂා දොර ඇරගෙන කාමරයට ඇතුළු විය. කාමරය ලොකු වුව ද නොයෙක් වගේ බඩු බාහිරාදියෙන් පිරුණේය. එහි කීප දෙනෙක් ම සිටියහ. වම් පැත්තේ විශාල රුසියන් උදුනක් තිබුණේ ය. උදුනේ සිට කවුළුව දක්වා බඳින ලද වැලක කිලුටු වැරහැලි එල්ලා තිබුණේය. කාමරයේ දෙපැත්තේ බිත්තිය අද්දර තබන ලද ඇඳන් දෙක ගොතන ලද ඇතිරිලි දෙකකින් වසන ලදි. වම් පැත්තේ තබා ඇති ඇඳ උඩ පුළුන්කොට්ට හතරක් එක උඩ එක තබා තිබිණි. උඩින් ඇති කොට්ට පහත කොට්ටවලට වඩා කුඩා ය. දකුණු පැත්තේ තබා තිබුණු ඇඳ උඩ දකින්නට ලැබුණේ ඉතා කුඩා කොට්ටයක් පමණි. කාමරයේ එක් මුල්ලක්, ලණුවක් ගැටගසා එල්ලන ලද රෙද්දකින් වැසුණේය. බන්කුවක් හා පුටුවක් තබා සාදනලද ඇඳක් තිරය තුළින් පෙනේ. කාමරයේ මුල්ලේ තිබුණු, සාමාන්‍යයෙන් ගැමි ගෙවල්වල දකින්නට ලැබෙන සතරැස් මේසය කවුළුව ළඟින් තබා තිබුණේය. නිල් පාට විදුරු සවිකරන ලද කුඩා කවුළු තුන ම වසන ලදින් කාමරය මඳක් අඳුරු විය. උණුසුම් විය. බදින ලද බිත්තරයකින් ඉතිරි වූ කෑලි සහිත සාස්පානක් ද, ඉතිරි කරන ලද පාන් කෑල්ලක් ද, අඩියේ ඉතිරි වූ වොඩ්කා ස්වල්පයක් සහිත බෝතලයක් ද මේසය උඩ තිබිණි. කාරුණික පෙනුමෙන් යුත් ගැහැනියක් වම් පැත්තේ ඇඳ ළඟ තබන ලද පුටුවක හිඳගෙන සිටියා ය. ඇ කපු පිළියෙන් කළ ඇඳුමක් ඇඳ සිටියා ය. ඇගේ සිහින් මුහුණ සුදුමැලි විය. ඇගේ ගිලුණු කම්මුල් දෙස බලන්නකුට ඇ රෝගයෙන් පෙළෙන බව කිව හැකි ය. එහෙත් අලෝෂා පුදුම වූයේ ඒ අසරණ කාන්තාව තමා දෙස බැලූ සැටියෙනි. විමතිය පළ කරන ඇගේ ඒ බැල්මේ අහංකාර ගතියක් ද විය. අලෝෂා ඇගේ සැමියා සමග කතා කරන විට ද අහංකාරකමින් හා

කුතුහලයෙන් යුත් ඇගේ ඒ වටකුරු දැස වරක් සැමියා දෙස සිට අලෝෂා දෙසට ද, අනෙක් වර අලෝෂා දෙස සිට සැමියා දෙසට ද යොමු විය. ඇය ළඟින් කවුළුව අසල දැරියක් සිටියා ය. රතු හිසකෙසින් යුත් ඈ ඉතා චාම් වුවත් පිරිසුදුවට ඇඳ සිටියා ය. කාමරයට ඇතුළු වූ අලෝෂා දෙස ඈ අවඥාවෙන් බැලුවා ය. අනෙක් ඇඳ ළඟ තවත් දැරියක් හිඳගෙන සිටියා ය. හවුරුදු විස්සක් පමණ වයසැති කුදු ගෑනුණු ඇය දුටුවත් තුළ ශෝකය උපදවයි. කොර වූ ඇගේ කකුල් දෙක විසළි ඇති බව අලෝෂාට පසු ව දැනගන්නට ලැබිණි. ඇගේ කිහිලිකරු දෙක ඇඳ ළඟ බිත්තියට හේත්තු කර තිබුණේ ය. ඉතා අලංකාර දයාබර දෑසින් ඈ අලෝෂා දෙස බැලුවා ය. එහි අහිංසක නිහතමානී ගතියක් දකින්නට තිබුණේ ය. හවුරුදු හතළිස් පහක මිනිසෙක් මේසය ළඟ හිඳ බදින ලද බිත්තරයක් අවසන් කරමින් සිටියේ ය. හේ කුඩා සිහින් මිනිසෙකි. ඔහු ගේ හිසකෙස් රතු මිශ්‍ර දුඹුරු පාට වන අතර කුඩා රැවුල තඹ පාටට හුරු ය. කඹයක් මෙන් දිග ය. (කිසියම් හේතුවක් නිසා අලෝෂාට එක්වරම 'කඹ රැවුල' යන වචනය සිහි විය.) දොරට තට්ටුකළ විට කෑගාන්නට ඇත්තේ මේ මිනිහා විය යුතු ය. නැති නම් එසේ කෑගැමට පුළුවන් කිසිවෙක් කාමරයේ නැත. අලෝෂා කාමරයට ඇතුළු වූ වහා ම හිඳ ගත් බන්කුවෙන් නැඟී සිටි හෙතෙම ඉරුණු අතපිස්නයකින් තොල කට පිස දමා අලෝෂා ළඟට පැමිණියේ ය.

"ආශ්‍රමයේ ඉඳලා සම්මාදමේ ආපු පූජකයෙක් හොඳ තැනකට සම්මාදමේ ආවේ!"යි වම්පැත්තේ කවුළුව ළඟ සිටි දැරිය උස්හඬින් කීවා ය.

වහා ඇය දෙසට හැරුණු මිනිහා ඉතා සෙමෙන් මෙසේ කී ය.

"නැහැ වර්වාරා, එහෙම කතා කරන එක වැරදියි. මම අහන්නම් මොනවට ද ආවේ කියා!" මෙසේ පැවසූ හෙතෙම අනතුරුව අලෝෂා දෙසට හැරී "අපේ මේ නිවහනට තමුන්-නාන්සේ ආවේ මොනවට ද?"යි ඇසුවේ ය.

අලෝෂා ගෙහිමියා දෙස සැලකිල්ලෙන් බැලුවේ ය. ඔහු මේ මිනිහා දුටු පළමු වතාව මෙයයි. මිනිහා තුළ නොසතුටු ගතියක්, නොරුස්නා ගතියක් හා නොසන්සුන් කමක් දකින්නට තිබුණේ ය. ඔහු සුරා බොමින් සිටියමුත් මත් වී නොසිටියේ ය.

ඔහු අතිශයෙන් ම අවිනීත වුවත් පුදුමයකට මෙන් ඒ අතරේ ඔහු තුළ භීතියක් ද දකින්නට තිබුණේ ය. ඔහු බොහෝ කාලයක් දුසහාවයෙහි තබන ලද බවත්, ඒ දුසහාවයේ සුවචව කීකරුව සිටි බවත්, එහෙත් දූන් හදිසියෙන් ම නිදහසේ නැඟී සිටීමට වෑයම් කරන බවත් පෙනේ. තවත් මැනවින් විස්තර කොට කියතොත්, ඔහු නුඹට පහරදීමට බලවත් ආශාවෙන් සිටින, එහෙත් නුඹ පහර දේය යන බියෙන් මහත්සේ තැතිගත් මිනිසකු වැන්න. ඔහු ගේ වචනවල ද ඒ වචන හඬ නගා කීමෙහි ද උමතු හාස්‍යරසයක් විය. ඇතැම්විට එම වචන ඊරිසියාවෙන් පිරුණේ ය. ඇතැම් විට ඔහු උවමනාවට වඩා නියාළු ගතියක් දක්වමින් වරින් වර වචනවල හඬ වෙනස් කෙළේ ය. 'අපේ නිවහන' යන ප්‍රශ්නය අසන විට ඔහු ගේ මුහුණේ මස් පිඬු ඇඹරුණේ ය. දූස කැරකැවුණේ ය. ඔහු අලෝෂාට කො තරම් ළංවූයේ ද කියතොත් අලෝෂා අඩියක් පස්සට ගත්තේ ය. ඔහු ඇඳ සිටි අන්ඩ දමන ලද අපිරිසුදු කබාය පුරා පැල්ලම් දකින්නට තිබිණි. ඔහු ඇඳ සිටි සිහින් රෙද්දෙන් මසන ලද කලිසම ද ඉතා පරණ ය. ඒ ඇඳුම් කොතරම් පොඩි වී කොතරම් කොට වී තිබුණේ ද කියතොත් ඔහු කුඩා කාලයේ සිට ඒ ඇඳුම් සමග වැඩුණෙකු මෙන් පෙනේ.

"මම අලෝෂා කරමසෝ" යි අලෝෂා තමා හඳුනා දෙමින් කී ය.

"මා තමුන්නාන්සේ අඳුනනවා"යි කපිතන් ගත්කටට කීවේ තමා අමුත්තා අඳුනන බව පෙන්වීමට මෙනි. "මම කපිතන් සෙනිග්‍රියෝප්. මම දැනගන්න කැමැතියි තමුන්නාන්සේ ආවේ මොනවට ද කියා?.. ........"

"මා ආවේ විශේෂ උවමනාවකට නොවෙයි. නමුත් මහත්මයා ගේ විරුද්ධත්වයක් නැති නම් මම කැමැතියි මහත්මයා සමග වචනයක් දෙකක් කතා කරන්න."

"එහෙනම් කරුණාකර මේ පුටුවෙන් වාඩි වෙන්න. එහෙම නේද පරණ නාඩගම්වල තියෙන්නේ? කරුණාකර මේ පුටු-වෙන් වාඩි වෙන්න." මෙසේ කී හෙතෙම වහා පුටුවක් ගෙන (එය පෝරු නොදමනු ලද පරණ පුටුවකි) අලෝෂාට හිඳගැනීම පිණිස කාමරය මැදින් තබා අනතුරුව එ වැනි ම තවත් පුටු-වක් ගෙන තමාට හිඳගැනීම පිණිස අලෝෂා ඉදිරිපිට තැබු-වේ ය. ඔහු ඒ පුටුව කො තරම් ළඟින් තැබුවේ ද කියතොත් ඔහු ගේ දණහිස් අලෝෂා ගේ දණහිස්වල ගැටිණි.

"මගේ නම නිකොලේ ඉලිච් සෙනිග්‍රියෝජ්. මා පාබළ හමුදාවේ සරෙන්තුවකු ලෙස රස්සාව කළා. නරක වැඩ නිසා අස් කළා. තවමත් මම කපිතන් කෙනෙක්. දැන් මා කතා කරන්නේ කපිතන් කෙනෙකු හැටියට නො වෙයි. මගේ ජීවිත-යෙන් භාගයක පමණ කාලයක සිට මා මිනිසුන්ට තමුන්නාන්සේ කියා කතා කිරීමට පුරුදු වුණා. ඒ වචනය මිනිහෙකු අන්තිම පහත් තත්ත්වයට වැටුණු පසු පාවිච්චි කරන වචනයක්."

"ඔව් ඒක ඇත්තයි." අලෝෂා සිනා සෙමින් කී ය. "නමුත් ඒ වචනය පාවිච්චි කරන්නේ අකැමැත්තෙන් ද, නැති නම් කිසියම් අදහසක් ඇතිව ද?"

"උඩ සිටින දෙයියෝ සාක්කි දරන්න ඕනෑ, මා 'තමුන්-නාන්සේ' කියන වචනය පාවිච්චි කරන්නේ කිසි ම කැමැත්තකින් නො වෙයි. මා මුළු ජීවිතයට ම කිසි ම කෙනකුට 'තමුන්නාන්සේ' කියා කතා කරලා නැහැ. නමුත් මා දුප්පත් වුණාට පස්සේ හැමෝට ම 'තමුන්නාන්සේ' කියා කතා කරනවා. ඒක කිසියම් බලයකින් සිදුවන දෙයක්. තමුන්නාන්සේ වර්තමාන සමාජ ප්‍රශ්න ගැන සැලකිල්ලක් දක්වන බව පේනවා. නමුත් මා කොහොම ද තමුන්නාන්සේට කිසි ම සංග්‍රහයක් කරන්න බැරි තරම් දුප්පත් තත්ත්වයක ඉඳගෙන මේ වගේ ප්‍රශ්නවල තේරුම දෙන්නේ?"

"මා ආවේ ඒ ගැන කතා කරන්න තමයි."

"මොනව ගැන කතා කරන්න ද?"යි කපිතන් නො ඉව-සිල්ලෙන් ප්‍රශ්න කෙළේ ය.

"මහත්මයාට මගේ සහෝදරයා, මිතියා පියෝදරවිච් කරමසෝ මුණගැසුණු හැටි ගැන කතා කරන්නයි." අලෝෂා කෙළින් ම කී ය.

"මොන මුණගැසීමක් ද? තමුන්නාන්සේ කියන්නේ අර මුණගැස්ම ගැන ද? මගේ රැවුලෙන් ඇදගෙන ගිය එක ගැන ද?"

ඔහු අලෝෂා ගේ දණහිස්වල හැප්පෙන තරමට තව තවත් ළං විය. ඔහු ගේ දෙතොල් තද විය.

"මොන රැවුල ද?"යි අලෝෂා ඇසුවේ ය.

"තාත්තා ඔයා ඇවිත් ඉන්නේ මා ගැන පැමිණිලි කරන්-නයි." කියන සුපුරුදු කටහඬක් අලෝෂාට තිරය පිටිපසින්

ඇසිණි. එය කුඩා ශිෂ්‍යයකු ගේ කටහඬකි. "මං දන් පීකකට ඉස්සෙල්ලා එයා ගේ ඇඟිල්ල විකුවා." තිරය ඉවත් විය. ගෙයි මුල්ලේ සුරුවම් යට බන්කුවක් හා පුටුවක් එක්තැන් කොට සාදන ලද ඇඳේ නිදා සිටින තමා ගේ ඇඟිල්ල විකුව ළමයා අලෝෂා දුටුවේ ය. පරණ රෙද්දක් පෙරවාගත් ළමයා අසනීපයෙන් සිටින බව පෙනේ. ඔහුට උණ ගැනී තිබෙන බව ඔහු ගේ දිළිසෙන දෑසින් පෙනේ. ඔහු අලෝෂා දෙස බියෙන් තොරව බැලුවේ දැන් තමා ගෙදර සිටින බැවින් කිසිවකුට තමාට හිරිහැර කළ නොහැකි බව දන ඕපි හෙයිනි.

"මොනවා, තමුන්නාන්සේ ගේ ඇඟිල්ල විකුවා?"යි කපිතන් පුදුමයෙන් නැඟී සිටිමින් ඇසුවේ ය. "ළමයා විකුවේ තමුන්නාන්සේ ගේ ඇඟිල්ල ද?"

"ඔව්, ඔය ළමයා තවත් ළමයින් එක්ක ගල්වලින් ගහගත්තා. ළමයින් හය දෙනෙකු ම ඔය ළමයට තනියෙන් ගැහැව්වා. ළඟට ගියා ම මටත් ගලකින් ගහලා ඊට පස්සේ තවත් ගලකින් ඔළුවට ගැහැව්වා. ගල් ගහන්න මා කළ වරද මොකක් ද කියා ඇහැව්වාම මගේ ඇඟට පැනලා ඇඟිල්ල විකුවා. මොනවට ඇඟිල්ල විකුව ද කියා මා දන්නේ නැහැ."

"මූට දැන්මම තළන්න ඕනෑ"යි කියමින් කපිතන් පුටුවෙන් නැඟී සිටියේ ය.

"මා නිකම් කිව්වා මිස ළමයට දඬුවම් කරන අදහසින් කිව්වේ නැහැ. හැරත් මේ ළමයා අසනීපයෙන් සිටින බව පේනවා."

"තමුන්නාන්සේ හිතනව ද මා මගේ දරුවාට දඬුවම් කරාවිය කියා? තමුන්නාන්සේ සතුටු කිරීමට මගේ දරුවාට තමුන්නාන්සේ ඉදිරිපිට තළාවිය කියා හිතනව ද? දැන් ම තළනවට තමුන්නාන්සේ කැමැති ද?"යි කපිතන් හිටිහැටියේ ම අලෝෂා දෙසට හැරෙමින් ඇසුවේ අලෝෂාට පහරදීමට සැරසෙන්නාක් මෙනි. "තමුන්නාන්සේ ගේ ඇඟිල්ල ගැන මට බොහො ම කනගාටුයි. නමුත් මගේ පුතාට දඬුවම් කරනවා වෙනුවට තමුන්නාන්සේ ගේ හිතේ තියෙන යුක්තිසහගත කෝපය සංසිඳවීමට තමුන්නාන්සේගේ ඇස් ඉදිරිපිට මගේ අතේ මේ ඇඟිලි හතර මේ පිහියෙන් කපා දමන්න තමුන්නාන්සේ කැමැති ද? මා හිතන්නේ තමුන්නාන්සේ ගේ පළි ගැනීමේ ආශාව සංසිඳුවන්න ඇඟිලි හතරක් කැපුවාම හොඳට ම ඇති. තමුන්නාන්සේ කියන්නේ පස් වන ඇඟිල්ලත් කපන්න කියා ද?" ඔහු නතර

වූයේ කිසියම් දෙයක් උගුරේ හිරවුණාක් මෙනි. ඔහු ගේ මුහුණේ මස් පිඩු නටන්නට විය. ඔහු අලෝෂා දෙස කෝපයෙන් බලා පිස්සකු මෙන් හැසුරුණේ ය.

“මට දැන් තේරෙනවා මහත්මයා කියන දෙය”යි අලෝෂා කතගාටුවෙන් කීවේ තවමත් පුටුවෙහි ඉඳගෙන ය. “එහෙනම් මහත්මයා ගේ පුතා බොහො ම හොඳ, තාත්තට ආදරය ඇති දරුවෙක්. ……..මගේ ඇඟිල්ල හැපුවේ මා මහත්මයාට පහර දුන් තැනැත්තා ගේ සහෝදරයා නිසයි……..මට දැන් කාරණය තේරෙනවා”යි අලෝෂා කල්පනා කරමින් කී ය. “නමුත් මහත්මයාට කළ අකටයුත්ත ගැන දැන් මගේ සහෝදරයා පසුතැවෙනවා. මගේ සහෝදරයාට පුළුවන්නම් මහත්මයා ළඟට එන්න, නැති නම් මහත්මයා මුණගැහෙන්න පුළුවන්නම්, මහත්මයා කැමැති නම් මිනිසුන් ඉදිරිපිට මගේ සහෝදරයා මහත්මයාගෙන් සමාව ඉල්ලාවි.”

“මගේ රැවුලෙන් ඇදලා මගෙන් සමාව ඉල්ලන්න කැමැති ලු? සමාව ඉල්ලුවාට පස්සේ සේරම හරියාවිය කියා එයා හිතනව ද?”

“නැහැ නැහැ මහත්මයා කැමැති දෙයක් කැමැති විදියකට කරන්න මගේ සහෝදරයා කැමැතියි.”

“ඔය කියන්නේ තැබෑරුමේ දී හෝ කඩපොළේ දී හෝ මා ළඟ දණගහන්නට කිව්වොත් එ උතුමා එසේ කරාවිය කියන එක ද?”

“ඔව්, මගේ සහෝදරයා මහත්මයා ඉදිරිපිට දණ ගසන්නටත් කැමැතියි.”

“තමුන්නාන්සේ මගේ පපුවට ඇන්නා. තමුන්නාන්සේ ගේ කතාව නිසා මට ඇඬෙනවා. තමුන්නාන්සේ ගේ සහෝදරයා ගේ ත්‍යාගවන්තකමට මගේ හිත උණුවෙනවා වැඩියි. විකක් ඉන්න, තමුන්නාන්සේම මගේ දරුපැටවුන් ටික අඳුන්වා දෙන්න. මා මළොත් මේ දරුපැටවුන් බලාගන්නේ කවු ද? මා ජීවත්ව සිටින තෙක් මුන් මිස මා වැනි කාලකණ්ණියකුට සලකන්නේ වෙන කවු ද? ඒක මා වගේ මිනිසුන්ට දෙයියන්වහන්සේ නියම කරලා තියෙන බොහො ම ලොකු දෙයක්. මා වගේ මිනිහකුට වුවත් ප්‍රේමය කරන අයෙකු සිටින්න ඕනෑ.”

“ඒක සහතික ඇත්ත”යි අලෝෂා කී ය.

“තාත්තා කටවහගෙන ඉන්න. කවුරු හරි මෝඩයෙකු ගෙදරට ආවා ම තාත්තා අප සේරටම ලැජ්ජ කරනවා”යි කවුළුව ළඟ සිටි දූරිය හිටිහැටියේ ම පියා දෙස පිළිකුලින් බලා කීවා ය.

“ටිකක් හිටපන් වවාරා”යි කපිතන් දුවට තරවටු කරන්නාක් මෙන් කීවත් ඇගේ කතාව ඉස්මතු කිරීමට මෙන් ඇය දෙස බැලුවේ ය. “ජේනවා තේද මගේ දුව ගේ ගතිගුණවල හැටි!”යි අනතුරුව ඔහු අලෝෂා දෙසට හැරෙමින් කී ය. දැන් ඉතින් තමුන්නාන්සේට මගේ හාමිනේ අරිනා පැට්රෙංව්නා අඳුන්වා දෙන්න ඕනෑ. මගේ හාමිනේ ගේ වයස අවුරුදු හතළිස් තුනයි. නමුත් එයා කොරවෙලා. ඒ වුණත් එයාට ඒ මේ අතට ඇවිදින්න පුළුවනි. මගේ හාමිනේ බොහො ම දුප්පත් පවුලක කෙනෙක්. අරිනා පැට්රොංව්නා ලැජ්ජා වෙන්න එපා. මේ ඉන්න මහත්මයා අලෝෂා පියෝදර්විච් කරමසෝ. ටිකක් නැගිටින්න මහත්මයා”යි කී කපිතන් අලෝෂා ගේ අත අල්ලා කිසි ම බලාපොරොත්තුවක් නැති ව ඇද්දේ ය. “කාන්තාවකට අඳුන්වා දෙන විට නැගිටින්න ඕනෑ... ..... මේ මහත්මයා මට හිරිහැර කරපු කරමසෝ නො වෙයි......... එයා ගේ බාල සහෝදරයා. බොහො ම හොඳ මහත්මයා. එන්න අරිනා, ඉස්සෙල්ලා නුඹේ අත දෙන්න සිඹින්න.”

මෙසේ පැවැසූ කපිතන් බිරිය ගේ අත ගෙන ඉතා ආදරයෙන් හා ගෞරවයෙන් සිම්බේ ය. කවුළුව ළඟ හිඳ සිටි දූරිය පිළිකුලින් ඉවත බලාගත්තා ය. ඒ අතරේ කපිතන් ගේ බිරිය ගේ මුහුණේ හදිසියෙන් ම ආදරයක සේයාවක් පිළිබිඹු විය.

“වාඩි වෙන්න චැරමසෝ මහත්මයා”ය ඇ කීවා ය.

“මේ මහත්මයා ගේ නම කරමසෝ, චැරමසෝ නො වෙයි. ...... අපි බොහො ම දුප්පත් මිනිස්සු.” කපිතන් ආයේත් සෙමෙන් කී ය.

“නම මොකක් වුණත් කමක් නැහැ. නමුත් මට හැම තිස්සේ ම කල්පනා වෙන්නේ චැරමසෝ කියන නමයි........... ඉඳගන්න. ඇයි තමුන්නාන්සේ නැගිට්ටේ? එයා මට කොරෙක් කිව්වට මං කොරවෙලා නැහැ. මගේ කකුල් දෙක පීප්ප දෙකක් වගේ ඉදිමිලා විතරයි. මගේ ඇඟ දිරනවා. ඉස්සර මම බොහො ම මහතයි. නමුත් දැන් ඉදිකටුවක් ගිල්ල වගේ කෙට්ටුයි.”

"අපි බොහොම දුප්පත් මිනිස්සු. අපි බොහො ම දුප්පත් මිනිස්සු"යි කපිතන් නැවතනැවතත් කීවේ ය.

"අනේ තාත්තේ! අනේ තාත්තේ!"යි මෙතෙක් වේලා නිහඬව හුන් කොර දැරිය හිටිහැටියේ ම කීවා ය. අනතුරුව ඈ ලේන්සුවෙන් දෑස වසා ගත්තා ය.

"බහුබූතයා!"යි කවුළුව ළඟ සිටි දැරිය කීවා ය.

"උඹලට දැනගන්න ලැබුණා ද?"යි මව දියණියන් දෙදෙනා අමතමින් කීවා ය. "මේක හරියට වලාකුළු පාවෙනවා වගෙයි. වලාකුළු පාවී ගියාට පස්සේ අපට ආයේත් සංගීතය ඇසේවි. අප යුධ හමුදාවේ සිටිය කාලේ දී අපේ ගෙදරට බොහො ම දෙනෙකු ආව ගියා. අප අපේ ගෙදරට ආගිය අය ගේ උස්මිටි කම් හොයන්න ගියේ නැහැ. පාදිලිඋන්නාන්සේ ගේ නෝනා ඇවිදින් කියනවා 'ඇලෙක්සැන්ඩ්‍රොවිච් බොහො ම හොඳ මිනිහා. ඒකට මොකද එයා ගේ හාමිනේ හරිම අමාරුකාරි' කියා. එතකොට මා කිව්වා 'එකළුක්කෙනා ගේ හැටි එහෙම තමයි නමුත් නුඹ පොඩි බඩුවක් නො වෙයි' කියා. 'නුඹ නුඹේ තරම දැනගෙන ඉන්න ඕනෑ.' 'මට මගේ තරම උගන්වන්න කවුද උඹව මෙහාට එව්වෙ?' 'මගේ කට සුවඳයි, නමුත් නුඹේ කට ගඳයි' ඈ කිව්වා, 'හොඳයි එහෙනම් අහපන් මෙහි සිටින මහත්වරුන්ගෙන් මගේ කට ගඳ ද සුවඳ ද කියා.' එදා ඉඳලා අද වන තෙක් කවදාවත් මට මේ කතාව අමතක වන්නේ නැහැ. දැන් ටික දවසකට කලින් මා හරියට ම මේ විදියට මෙතැන ඉඳගෙන ඉන්න කොට පාස්කු උත්සවය සඳහා ජනරාල් යනවා දැක්කා. එතකොට මා ඇහැව්වා 'උතුමාණෙනි, කාන්තාවක ගේ කට ගඳ හහනවා ද?' කියා. එතකොට ජනරාල් කිව්වා 'ඔව්, ඔය ජනේලය නැතිනම් දොර අරින්න. මේ කාමරයේ වාතය බොහො ම අපිරිසුදුයි' කියා. ඉතින් මා මොනවට ද මගේ කටේ ගඳ සුවඳ ගැන ඔය තරම් කරදර වෙන්නේ? මැරිච්ච මිනිසුන් ඊටත් වැඩිය ගඳ ගහනවා. මා වාතය අපිරිසුදු කරන්නේ නැහැ. මා සෙරෙප්පු කුට්ටමක් අරගෙන යන්න යනවා. අනේ ළමයිනේ, උඹලා ගේ අම්මාට බණින්න එපා. ඇයි මට මගේ ස්වාමිපුරුෂයා සතුටු කරන්න බැරි? ඉස්කෝලේ ගිහින් එන ඉලූෂා විතරයි මට ආදරේ. ඊයේ ඉලූෂා මට ඇපල්ගෙඩියක් ගෙනත් දුන්නා. අනේ දරුවනේ උඹලා ගේ අම්මාට සමාවෙයල්ලා. නාකිගෑනියකට සමා වෙයල්ලා. ඇයි උඹලාට මගේ කට ඔය තරම් ගඳ?"

මෙසේ පැවසූ ඒ අසරණ උමතු ඉතිරිය අනතුරුව ඉකි ගසමින් අඬන්නට වූවා ය. ඇගේ කම්මුල් දිගේ කඳුළු ගලා බැස්සේ ය. කපිතන් වහා ඇය ළඟට ගියේ ය.

"අනේ අම්මේ අඬන්න එපා. අපි සේරම අම්මට බොහෝ ම ආදරෙයි. අම්මා තනියෙන් නො වෙයි ඉන්නේ." මෙසේ ඇගේ සැමියා ඉතා ආදරයෙන් ඇගේ අත හෙන සිඹ මුහුණ අත ගෑවේ ය. අනතුරුව කපිතන් ඔහු ගේ දෑසින් ගලනා කඳුළු පිස දැම්මේ මේසය උඩ තිබුණු අතපිස්නයෙනි. තමා ගේ දෑසින් ද කඳුළු ගලන්නාක් මෙන් අලෝෂාට දැනිණි. "තමුන්නාන්සේට ඇහුණා නේද ඇගේ කතාව?"යි අනතුරුව කපිතන් අලෝෂා දෙස බලා ඇසුවේ කෝපයෙනි.

"ඔව් මට ජේනවා, මට ඇහෙනවා"යි අලෝෂා සෙමෙන් කී ය.

"තාත්තේ ඔය මිනිහට තිකම් ඉන්න අරින්න"යි ඇඳේ නිදා සිටි ළමයා, ඇඳ උඩ වාඩි වී, පියා දෙස බැබළෙන දෑසින් බලා කී ය.

"තාත්තා ගේ ඔය පිස්සු වැඩ නවත්වන්න. ඔය පිස්සු වැඩ-වලින් කිසි ම ප්‍රයෝජනයක් නැහැ"යි වර්වාරා කිපී පය බිම ගසා කීවා ය.

"දුව උඹට කේන්ති ගියාට මා උඹට දෙස් කියන්නේ නැහැ. උඹේ කෝපය යුක්ති සහගතයි. මා මගේ දුව තවත් තරහ කරන්නේ නැහැ. මහත්මයා තමුන්නාන්සේ ගේ තොප්පිය ගන්න. මම මගේ තොප්පිය ගන්නම්. අපි එළියට යමු තමුන්නාන්සේට කිය යුතු බොහො ම වැදගත් දෙයක් තියෙනවා. නමුත් මේ කාමරයේ ඉඳගෙන කියන්න බැහැ. මෙ තැන ඉඳගෙන ඉන්නේ මගේ දුව නීනා, මහත්මයාට අඳුන්වා දෙන්න බැරිවුණා. නීනා අප වැනි නරයන් ළඟට මිනිස් වෙසින් ආපු සුරකුමරියක්........තමුන්නාන්සේට මා කියන දෙය තේරුම් ගන්න පුළුවන් ද දන්නේ නැහැ."

"අන්න සන්නියක් හැදිල වගේ තාත්තා වෙවුලනවා"යි වර්වාරා පිළිකුලින් කීවා ය.

"දැන් ටිකකට කලින් බිම අඩිය හප්පා මට මෝඩයා කියා බැන්න ඔය දරියත් දෙව්ලොව ඉඳලා අප ළඟට එවාපු සුරදුවක්. ඈ මට මෝඩයා කියා බැණින්නේ හේතුවක් ඇතිව යි. අපි එළියට යමු. මේ කතාවේ අවසානයක් තියෙන්න ඕනෑ."

අලෝෂා ගේ අතින් අල්ලාගත් කපිතන් කාමරයෙන් පිට වී මහට බැස්සේ ය.

## හත් වන පරිච්ඡේදය

# මුදලට යට නොවන ආත්මගෞරවය

"මෙතැන වාතය බොහෝ ම පිරිසුදුයි. නමුත් අපේ කාමරය ඇතුළේ කොහෙත් ම වාතය පිරිසුදු නැහැ. අපි ටිකක් හෙමින් ඇවිදිමු. තමුන්නාන්සේ මට දක්වන සැලකිල්ල ගැන මම බොහෝ ම සන්තෝෂයි."

"මා ආවේ මහත්මයා සමග බොහෝ ම වැදගත් දෙයක් ගැන සාකච්ඡා කරන්නටයි. නමුත් කොහොම පටන්ගන්නද කියා මා දන්නේ නැහැ"යි අලෝෂා කී'ය.

"යම්කිසි හේතුවක් නැති ව තමුන්නාන්සේ කවදාවත් මා බලන්න එන්නේ නැහැ. නැති නම් තමුන්නාන්සේ එන්න ඇත්තේ මගේ පුතා ගැන පැමිණිලි කරන්න වෙන්න ඇති ඒකත් වෙන්න බැහැ. පුතා ගැන මතක් වෙන කොට.......... මට බැරිවුණා තමුන්නාන්සේට ඒක කාමරය ඇතුළේ දී කියන්න. දන් මම තමුන්නාන්සේට විස්තර කරලා කියන් නම් තැබෑරුමේ දී වෙච්ච දෙය. මගේ කඹය.........ඒ කියන්නේ මගේ රැවුල ගිය සුමානේ ටිකක් දිගට තිබුණා. මගේ රැවුලට විහිළු කරන්නේ 'කඹය' කියායි. වැඩියක් ම මට 'කඹය' කියා විහිළු කරන්නේ ඉස්කෝලේ යන ළමයි. තමුන්නාන්සේ ගේ සහෝදරයා මගේ රැවුලෙන් අල්ලා ඇද්දා. මා කිසි ම වරදක් කළේ නැහැ. එයා ඒ වෙලාවේ හිටියේ බොහෝ ම කේන්තියෙන්, කාලකණ්ණි කමට මා අහුවුණා. ඉතින් එයා තැබෑරුමේ ඉඳලා මාර-කැට්ටුව දක්වා මගේ රැවුලෙන් ඇදගෙන ගියා. ඒ වෙලාවේ ඉස්කෝලය ඇරිලා ළමයි ගෙදර යමින් සිටියා. ඒ ළමයින් එක්ක මගේ පුතා ඉලූෂාත් සිටියා. මා ඇදගෙන යන හැටි දුටු හැටියේ ම මගේ පුතා මා ළඟට දිවගෙන විත් මා බදා ගෙන 'තාත්තේ තාත්තේ' කියා කෑගාමින් මා බේරගන්න වෑයම් කළා 'මේ මගේ තාත්තා, මගේ තාත්තට සමාවෙන්න'යි තමුන්නාන්සේ ගේ සහෝදරයාට බැගෑපත්ව කිව්වා. එයා ගේ අත ගෙන, මා අතඅරින්න කියමින් ඉම්බා.........මට මතකයි ඒ වෙලාවේ මගේ පුතා ගේ පොඩි මුහුණේ හැටි. මට ඒක කවදාවත් අමතක වෙන්නේ නැහැ."

"මා දිවුරා කියන්නම් මගේ සහෝදරයා මහත්මයාගෙන් සමාව ඉල්ලාවි. මාරකැට්ටුව ළඟ දී මහත්මයා ඉදිරිපිට දණින් වැටී සමාව ඉල්ලාවි..........මම කොහොමහරි මගේ සහෝදරයා ලවා ඒක කරවන්නම්. නැති නම් එයා මගේ සහෝදරයා නො වෙයි." අලෝෂා කී ය.

"එහෙනම් මේක තමුන්නාන්සේ ගේ අදහසක් පමණයි! තමුන්නාන්සේ ගේ සහෝදරයා ගේ අදහසක් නො වෙයි! තමුන්නාන්සේ ගේ හොඳ හිතින් ඇති වූ අදහසක්. ඇයි ඒ බව මට කලින් නොකිව්වේ? එහෙනම් මා තමුන්නාන්සේට කියන්නම් ඒ වෙලාවේ දී තමුන්නාන්සේ ගේ සහෝදරයා කළ වීරක්‍රියාව ගැන විස්තරයක්. එයා මගේ රැවුල අතහැරලා 'උඹ යුධහමුදුවේ නිලධාරියෙක්, මාත් යුධහමුදුවේ නිලධාරි-යෙක්. උඹට පුළුවන් නම් වැදගත් කෙනෙකු සාක්කිකාරයකු හැටියට සොයා ගන්න මාව ද්වන්ද්ව යුද්ධයකට කැඳවපන්. උඹ තක්කඩියෙකු වුණත් මම උඹේ ආරාධනාව පිළිගන්නම්'යි කිව්වා. ඒක බොහො ම වීරක්‍රියාවක්. මා මගේ පුතා එක්ක ගෙදර ගියා. නමුත් මේ සිද්ධිය අපේ පවුලට කළ බලවත් අපහාසයක් හැටියට සදහට ම මගේ පුතා ගේ හිතේ තැන්පත් වෙලා ඇති. කුලවතුන්ට අයිති දේවල්වලට අයිතිවාසිකම් කීම අපට අයිති දෙයක් නො වෙයි. තමුන්නාන්සේ ම මේක විනිශ්චය කර බලන්න. තමුන්නාන්සේ දැන් මගේ පැල්පතට ගියා නේද? තමුන්නාන්සේට මොනවද දකින්න ලැබුණේ? ගෑනු තුන් දෙනෙක්. එක්කෙනෙකු ගේ මොළය හොඳ නැහැ. අනෙකා කොරවූ කුදියක්. තුන්වැන්නා කොර නොවූවත් ඕනෑවට වැඩිය දක්ෂයි. ඇ තව ම ඉගෙන ගන්නවා. නමුත් ඇට උවමනා කර තියෙන්නේ පිටර්ස්බර්ග් පුරයට ගිහින් ස්ත්‍රී වර්ගයා ගේ නිදහස පතා සටන් කරන්නයි. මා මගේ පුතා ගැන කිසි ම දෙයක් කියන්නේ නැහැ. උගේ වයස අවුරුදු නවයයි. මා මේ ලෝකේ තනිවෙච්ච මිනිහෙක්. මට නෑයෙක් නැහැ. හිත මිත්‍රයෙක් නැහැ. මං මළොත් මගේ අසරණ දරුවන්ට මොකද වෙන්නේ? මා තමුන්නාන්සේගෙන් අහන්නේ, මොකද මගේ දරුවන්ට වෙන්නේ? මා තමුන්නාන්සේ ගේ සහෝදරයා ද්වන්ද්ව යුද්ධයකට කැඳවා මාව එක වෙඩිපහරින් ම මැරුවොත් මොකද වෙන්නේ? මගේ දරුවන්ට යන කලදසාව කුමක් ද? ඊට වැඩිය දරුණු වෙනවා මට වෙඩි වැදී කොර වුණොත්. එතකොට මට රක්ෂාවක් කරන්න ලැබෙන්නේ නැහැ. එතකොට මටයි මගේ දරුපවුලටයි කන්න දෙන්නේ කවු ද? මගේ පුතා ඉස්කෝලෙන් අස්කරලා මඟ හිඟාකන්න අරින්න ද? මා තමුන්නාන්සේ ගේ

සහෝදරයා ද්වන්ද්ව යුද්ධයකට කැඳෙව්වොත් ඕක තමයි වෙන්නේ. මේක මහ මෝඩ කතාවක්.''

''අයියා මාරකෑට්ටුව ලග, මහත්මයා ඉදිරිපිට දණින් වැටී සමාව ඉල්ලාවි''යි අලෝෂා කීය. ඒ සමග ඔහු ගේ දෑස කාන්තිමත් විය.

''මා කල්පනා කළා ඔහුට විරුද්ධව නඩු දමන්න. නමුත් මගේ තත්ත්වයේ හැටියට මට පුළුවන් ද එ තරම් ලොකු අලාභයක් අයකර ගන්න? ඊට වැඩිය හපන් [1]අග්‍රපෑනා ඇලෙක්සැන්ඩ්‍රෝනා මට එන්න කියා හොඳට ම බැන්නා. 'උඹ මීතියා කරමසෝ මහත්මයාට විරුද්ධව නඩු දම්මොත් බලාගෙනයි. මා ප්‍රචාරය කරනවා උඹ කරපු හොරකමක් නිසා කරමසෝ මහත්මයා උඹට තැළුවාය කියා. ඊට පස්සේ උඹට විරුද්ධව නඩු දමනවා' දෙයියනේ දනිති වරද කළේ මාද වෙන කෙනෙක්ද කියා! මා කාගේ උවමනාවට ද වැඩ කළේ? ඇගෙයි පියෝදර් පවුලොවිච් කරමසෝ ගේ උවමනාවට නො වෙයි ද? එච්චර ද? 'මා උඹව රස්සාවෙන් අස්කරනවා. ඊට පස්සේ උඹට මගෙන් තඹයක්වත් ලැබෙන්නේ නැහැ. මා මගේ මුදලාලිට කියා උඹව අස්කරනවා' කියා ඈ මට තර්ජනය කළා. (ඈ ඇගේ නාකි මිනිහට කියන්නේ මුදලාලි කියාය.) මිනිහා මා අස්කර දමාවි. ඒ ගැන කිසි ම සැකයක් නැහැ. මාව අස්කළොත් මා සල්ලි හොයන්නේ කොහෙන් ද? මුදලාලියි තමුන්නාන්සේගේ තාත්තා විතරයි මට පිහිට වෙන්න ඉන්නේ. නමුත් තමුන්නාන්සේ ගේ තාත්තයි මාව රස්සාවෙන් අස්කරනවා විතරක් නො වෙයි මා අත්සන් කළ ලියකියවිලි ඉදිරිපත් කොට මට විරුද්ධව නඩු දමනවාය කිව්වා. ඉතින් මා තමුන්නාන්සේ ගේ සහෝදරයාට විරුද්ධව නඩු නො දමා නිකම් හිටියා. තමුන්නාන්සේ දුටුවා නේද අප කොයිතරම් දුප්පත් තත්ත්වයකද ඉන්නේ කියා!.........කොහොම ද තමුන්නාන්සේ ගේ ඇඟිල්ල? හුගක් රිදෙනව ද? මා කැමැති වුණේ නැහැ ගෙදර දී මෙ ගැන කතා කරන්න.''

''ඔව් හුගක් කකියනවා. ඒ ළමයා බොහො ම තරහෙන් හිටියේ. මහත්මයා ගේ රුවුලෙන් ඇද්දේ කරමසෝ පවුලේ කෙනෙකු නිසා මගෙන් පළිගත්තා. දන් මට කාරණාව වැටහෙනවා. මහත්මයා දුටුවානම් පුතා අනෙක් ළමයින්ට

1. ගෲසෙන්කා

ගල්වලින් ගහපු හැටි! බොහො ම භයානකයි. ඒ ළමයිත් එකතු වෙලා පුතා මරන්න පුළුවනි. ළමයින් මොනව ද දන්නේ! ගලක් වැදී ඔළුව පැළී තුවාල වෙන්න පුළුවනි."

"ඒක තමයි සිද්ධ වුණේ. මගේ පුතාට ගල්පාරක් වැදී තියෙනවා. ඔළුවට නොවෙයි පපුවටයි. ගෙදර ආවේ අඬාගෙනයි. දන් උණ ගැනිලා."

"ඉස්සෙල්ලා ගල් ගැහැව්වේ මහත්මයා ගේ පුතාය‍ි. මහත්මයා නිසා පුතා අනෙක් ළමයින් එක්ක කෝලාහල කරගන්නවා. ළඟ දී කරොස්කින් කියන ළමයකුට පිහියෙන් ඇන්නලු."

"ඔව්, මට ආරංචියි. ඒක බොහො ම භයානකයි. කරොස්-කින් මේ පළාතේ සිටින නිලධාරියකු ගේ පුතෙක්. අපට මේ ගැන බොහො ම දේවල් දැනගන්න ලැබේවි."

"පුතා ගේ හිත සන්සුන් වෙලා හිතේ තියන කේන්තිය යන තෙක් ඉස්කෝලේ අරින්න එපා."

"ඒක ඇත්තයි. මේ ළමයා පොඩි උණත් හැම තිස්සේම ඉන්නේ තරහින්. තමුන්නාන්සේ මේ ළමයා ගැන වැඩිය දන්නේ නැහැ. මම තමුන්නාන්සේට විස්තර කරලා කියන්නම් මේ සිද්ධියෙන් පස්සේ ඉස්කෝලෙ ළමයින් මගේ පුතාට විහිළු කරන්න පටන් ගත්තා. ඉස්කෝලෙ ළමයි මහ එපාකරපු ජාතියක්. වෙන වෙන ම නම් ළමයි බොහො ම හොඳයි. නමුත් එකතුවුණාට පස්සේ බොහො ම නරකයි. මේ ළමයින්ගේ විහිළු කිරීම නිසා මගේ පුතා බොහො ම නිර්භීත වුණා. වෙන ළමයෙක් නම් භයවෙලා නිකම් ඉන්නවා. තාත්තා පිළිකුල් කරනවා. නමුත් මගේ පුතා උන් සේරට ම විරුද්ධව මාව ආරක්ෂා කරගත්තා. තාත්තා ගේ ගෞරවයත්, සත්‍යයත්, යුක්ති ධර්මයත් ආරක්ෂා කිරීමට ඉදිරිපත් වුණා. තමුන්නාන්සේ ගේ සහෝදරයා ගේ අත සිඹ 'තාත්තාට සමාවෙන්න, තාත්තාට සමාවෙන්න!'යි කියන කොට මගේ පුතාට ඇති වූ දුක දන්නේ උඩ ඉන්න දෙවි හාමුදුරුවනුත් මාත් පමණයි. අපේ ළමයින්— තමුන්නාන්සේලා ගේ ළමයින් නොව, අපේ ළමයින් — හැමෝම පහත්කොට සලකන අප වගේ දුප්පතුන් ගේ ළමයින්, අවුරුදු නවයේදී වුවත් දන්නවා යුක්තිය අයුක්තිය කියන්නේ මොකක්ද කියා. කොහොම ද මේ දේවල් ගැන පෝසත් මිනිසුන් ගේ ළමයින් දන්නේ? ඔවුන් මුළු ජීවිතයටවත් මෙ වැනි ගැඹුරු දේවල් ගැන සොයා බලන්නේ නැහැ. මාරකෑව්වුවේ දී තමුන්නාන්සේ ගේ සහෝදරයා ගේ අත සිම්බ මොහොතේ දී

මගේ පොඩි පුතා යුක්තිය කියන දෙය සම්පූර්ණයෙන් ම අවබෝධ කරගත්තා. ඒ සත්‍යය දැනගත්තට පස්සේ මගේ පුතා ගේ හිත සදහට ම විනාශ වුණා.'' උමතු වූවකු මෙන් කෝපයෙන් කතා කළ කපිතන් පුතා විනාශ වූ සැටි පෙන්වීමට මෙන් දකුණු අත මිටමොළවා වම් අත්ලට පහරක් ගැසුවේ ය. ''එදා ම පුතාට උණ අරගෙන රෑ බොහො ම අමාරු වුණා. මුළු දවස ම මා එක්ක කතා කළේ නැහැ. ජනේලය දිහැවට හැරී පාඩම් කරන බව අඟවා හොරෙන් මා දිහා බලන බව මා දුටුවා. නමුත් හිත තිබුණේ පොතේ නොවන බව මා හොඳට ම දුටුවා. පසුව දා හිතේ තියෙන අමාරුව මතක නැති වෙන්න මා හොඳට ම බිව්වා. මම මහ පව්කාරයෙක්. මට කිසි ම දෙයක් මතක නැහැ. මගේ පවුල අඬන්න පටන් ගත්තා. මා මගේ පවුලට බොහො ම ආදරෙයි. නමුත් මා අතේ තියෙන අන්තිම දොයිතුව ඉවර වෙනකන් බිව්වා. තමුන්නාන්සේ මා බේබද්දෙක්ය කියා පහත් කොට සලකන්න එපා. හාමුදුරුවනේ, රුසියාවේ බොන මිනිහා තමයි හොඳ ම මිනිහා. අප අතර සිටින හොඳ ම මිනිස්සු බේබද්දෝ. එදා මුළු දවස ම ඉස්කෝලේ ළමයින් මගේ පුතාට කවටකම් කළා. වෙරි වෙලා සිටිය මට පුතා ගැන මතක් වුණේ නැහැ. 'කඹ රැවුලා, කඹ රැවුලා, උඹේ තාත්තා ගේ කඹ රැවුලෙන් ඇදලා තැබෑරුමෙන් දොට්ට දැම්මා. උඹ තාත්තා ගේ පිටිපස්සෙන් දුවමින් සමාව ඉල්ලුවා' කියමින් ළමයින් කවටකම් කළා.

''තුන් වන දවසේ ඉස්කෝලේ ඇරලා ගෙදර පැමිණියාට පස්සේ මා දැක්කා මගේ පුතා සුදුමැලිවී සිටිනවා. 'මොකද පුතා වුණේ?' කියා මා ඇහැව්වා. දරුවා කතා කළේ නැහැ. මගේ පවුලයි කෙල්ලන් දෙන්නයි, කටගහන්නේ නැති ව මගේ ගෙදර කිසි ම දෙයක් ගැන කතා කරන්න බැහැ. එච්චරයෑ? පළමු දවසේ ම මේ සිද්ධිය මගේ කෙල්ලන් දෙන්නට ආරංචි වුණා. 'ගොන් මෝඩයා, උඹලාට පුළුවන් ද සිහිකල්පනාව ඇති ව කිසි ම දෙයක් කරන්න'යි කියා චවාරා මට බණින්න පටන් ගත්තා. 'ඔව් ඒක ඇත්තයි. අපට කවදාවත් සිහිකල්පනා-වෙන් කිසි ම දෙයක් කරන්න බැහැ' කියා මා කටවහ ගත්තා. ඉතින් එදා හවස මම පුතා එක්ක ඇවිදින්න ගියා. අපි නිතර හවසට ඇවිදින්න යනවා. අප යන්නේ මේ පාර දිගේමයි. මා පුතා ගේ අත අල්ලා ගෙන ගියා. පුතා ගෙ ඇඟිලි බොහො ම සිහින්. බොහො ම හීතලයි. පුතාට පපුවේ අසනීපයක් තියෙනවා. ටිකක් දුර යන කොට 'තාත්තේ' කියා මට පුතා කතා කළා. 'මොකද පුතේ?' කියා මා ඇහැව්වා. මා දැක්කා පුතා ගේ

ඇස් කෝපයෙන් බැබළෙනවා. "තාත්තාට අර මිනිහා කරපු දෙයක හැටි!" 'කරන්න දෙයක් නැහැ පුතා' කියා මා කිව්වා 'තාත්තේ කවදාවත් ඒ මිනිහට සමාව දෙන්න එපා. ඉස්කෝලෙ ළමයින් කියනවා තාත්තා ගේ රැවුලෙන් අදින්න ඉස්සෙල්ලා ඒ මිනිහා තාත්තාට රූබල් දහයක් දුන්නය කියා.' නැහැ පුතා මා ඒ මිනිහගෙන් කිසි ම දෙයකට සල්ලි ගත්තේ නැහැ.' පුතා වෙවුලන්න පටන් ගත්තා. ඊට පස්සේ දෑතින් ම මගේ අත අරගෙන ඉම්බා. 'තාත්තේ එහෙනම් ඒ මිනිහා ද්වන්ද්ව යුද්ධයකට කැඳවන්න. ඉස්කෝලෙ ළමයින් කියනවා තාත්තා බයට ඒ මිනිහගෙන් සල්ලි ගත්තය කියා' 'නැහැ පුතා මට එහෙම දෙයක් කරන්න බැහැ' කියා, මා දැන් තමුන්නාන්සේට කළ විස්තරය පුතාටත් විස්තර කරලා කිව්වා. ටික වෙලාවක් මා කී දෙය අහගෙන ඉඳලා 'තාත්තේ කවදාවත් ඒ මිනිහට සමාව දෙන්න එපා. මා ලොකු වුණා ම ඒ මිනිහට වෙඩි තියා මරනවා' කිව්වා. පුතා ගේ ඇස් දෙක ගිනිඅඟුරු කැට දෙකක් වගේ පෙනුණා. මා කිව්වා ද්වන්ද්ව යුද්ධයක දී වුවත් මිනිහෙකු මරන එක පාපයක්ය කියා. 'එහෙනම් තාත්තේ මා ලොකු වුණා ම ඒ මිනිහා බිම දමා, මිනිහ ගේ කඩුව විසිකරලා මගේ කඩුව ගෙන 'මට පුළුවනි උඹව මරන්න, නමුත් මා උඹට සමාව දෙනවා කියනවා.' පේනවා නේද මේ දරුවා ගේ හිත මේ දවස් දෙක තුනේ දී ක්‍රියා කළ හැටි? දවස තිස්සේත්, රෑ තිස්සේත් පළිගන්න හැටි ගැන කල්පනා කරන්න ඇති.

"දැන් ටික දවසක ඉඳලා පුතා ඉස්කෝලේ සිට ගුටිකාගෙන ගෙදර එන්න පටන් ගත්තා. මා මේ ගැන දැනගත්තේ පෙරේදයි. තමුන්නාන්සේ කියාපු කතාව ඇත්තයි. මා මීට පස්සේ මගේ පුතා ඔය ඉස්කෝලෙට යවන්නේ නැහැ. මට ආරංචි වුණා මගේ පුතා පන්තියේ ළමයින් සේරට ම තනියෙන් ගැහැව්වය කියා. මට බය හිතුණා. ඊට පස්සේ අප තවත් දවසක් ඇවිදින්න ගියා. එදා පුතා මගෙන් ඇහැව්වා 'තාත්තේ පොහොසත් මිනිස්සු මේ ලෝකේ සිටින සියලු දෙනාට ම වඩා ශක්තිමත් ද? කියා. 'ඔව් පුතා පොහොසත් මිනිසුන්ට වඩා ශක්තිමත් අය මේ ලෝකේ නැහැ' කියා මා පිළිතුරු දුන්නා 'එහෙනම් තාත්තේ මා බොහෝ ම පොහොසත් වෙනවා. මා උසස් නිලධාරියෙකු වෙලා සේරම යටත් කරගන්නවා. එතකොට මට සාර් රජ්ජුරුවෝ නම්බුනාමයක් දේවි. ඊට පස්සේ මා මේ පළාතට එනවා. එතකොට මට කිසි ම කෙනෙක්——' දරුවා නිශ්ශබ්ද වුණා. නමුත් දරුවා ගේ තොල් වෙවුලන්න පටන් ගත්තා. 'තාත්තේ මේ පළාත කො තරම් නරක පළා-

තක් ද?'යි දරුවා ආයේත් ඇසුවා. 'ඔව් පුතා මේ පළාත එ තරම් හොඳ නැහැ' කියා මම පිළිතුරු දුන්නා.

'එහෙනම් අපි වෙන පළාතකට යමු. මිනිසුන් අපව නො හඳුනන පළාතකට යමු' 'හොඳයි පුතා අපි යමු. නමුත් ඊට ඉස්සෙල්ලා සල්ලි ටිකක් එකතු කරගන්න ඕනෑ.' දරුවා ගේ හිත වෙනත් අරමුණක රඳවන්න ලැබීම ගැන මා සතුටු වුණා. එදා ඉඳලා පුතා කල්පනා කළේ වෙනත් පළාතකට යන්න අශ්වකරත්තයක් ගන්නා හැටි ගැනයි. 'අම්මයි අක්කලා දෙන්නයි කරත්තයේ ගියදෙන්. අපි පයින් යමු. තාත්තාට පුළුවනි වරින් වර කරත්තයේ නැගලා යන්න. මම කරත්තේ පිටිපස්සෙන් ඇවිදගෙන එන්නම්. අප සේරම නැගලා ගිහින් අශ්වයා මහන්සි කරවන්න හොඳ නැහැ. අන්න එහෙම තමයි අප යන්න ඕනෑ.' අශ්ව කරත්තයක් ගෙන නැගයාම දරුවාට ලොකු ප්‍රීතියක් වුණා. රුසියන් දරුවෝ අශ්වයන් අතර උපන් ජාතියක්. මේ විදියට අප බොහො ම වේලා කතා කරමින් ඇවිද්දා. දෙයියන්ට පින්සිද්ධ වෙන්න දරුවාට අර කාරණාව අමතක කරලා සිත සැනසුවාය කියා මා බොහො ම සන්තෝෂ වුණා.

"මේ සේරම සිද්ධ වුණේ පෙරේදා හවසයි. නමුත් ඊයේ ර සේරම වෙනස් වුණා. පුතා උදේ ඉස්කෝලේ ගිහින් හවස බොහො ම අමාරුවෙන් ගෙදර ආවා. හවස අතින් අල්ලා ගෙන ඇවිදින්න ගියාට මොක ද වෙන ද වගේ කතා කළේ නැහැ. බොහො ම තදින් සුළඟක් හමන්න පටන් ගත්තා. ඒ වෙලාවේ ඉර පෙනෙන්න තිබුණේ නැහැ. කළුවර වෙන්නට පටන් ගත්තා. අප දෙන්නා තුෂ්ණීම්භූතව ගමන් කළා. 'කොහොම ද පුතා අපේ ගමන?' කියා මා අන්තිමේ දී ඇහැව්වා. මා කල්පනා කළා ඊයේ හවස වගේ අද හවසත් පුතා ගම හැර යාම ගැන කතා කරාවිය කියා. නමුත් ඒ ගැන වචනයක්වත් කිව්වේ නැහැ. පුතා ගේ ඇඟිලි වෙවුලන්න පටන්ගත්තා, අප මේ ගල ළඟට ආවට පස්සේ මා ගල උඩ ඉඳ ගත්තා. එදා බොහො ම සරුන්ගල් ඇරලා තිබුණා. සරුන්ගල් තිහක් විතර දකින්න තිබුණා. දැන් සරුන්ගල් අරින කාලයයි. 'පුතා අපි ගිය අවුරුද්දේ හදපු සරුන්ගලය ගෙන අරිමු. මම ඉරුණු තැන් හරිගස්සා දෙන්නම්. කොහෙද සරුන්ගලය තිබ්බේ?' කියා මා ඇහැව්වා. නමුත් දරුවා කතා කළේ නැහැ. අහක බලා ගත්තා. ඒ වෙලාවේ පාරේ වැලි අවුස්සා හුළඟක් හැමුවා, දරුවා හිටිහැටියේ ම මගේ ඇඟට පැනලා බෙල්ල බදා ගත්තා. තමුන්නාන්සේ දන්නවා නේද දරුවන් අඬන්නේ

නැතිව සිට්මට වැයම් කරලා බැරි තැන කෑගා අඩන හැටි? මගේ පුතා හිටිහැටියේම අඩන්න පටන් ගත්තා. තාත්තේ අර මිනිහා තාත්තාව අපහාස කරපු හැටි' කියමින් මගේ බෙල්ල බදා ගෙන අඩන්න පටන් ගත්තා. අසනීපයකින් වගේ දරුවා ගැහෙන්න පටන් ගත්තා. ගල උඩ ඉඳගෙන හිටිය මාව බදාගෙන 'අනේ තාත්තේ ඒ මිනිහා තාත්තාට කො තරම් අපහාස කළා ද?' කියා ඇහැව්වා. අප දෙදෙනා එකිනෙකා බදා ගෙන අඩන්න පටන් ගත්තා. ඒ වෙලාවේ දෙයියන් වහන්සේ හැරෙන්නට වෙන කිසි ම කෙනෙක් අපව දුටුවේ නැහැ. මා හිතන්නේ උන්වහන්සේ මේක මගේ වාසියට සඳහන්කර ගනීවි. තමුන්නාන්සේ ගේ සහෝදරයාට ස්තුති කරන්න වටිනවා නැහැ, මා තමුන්නාන්සේ ගේ හිත සතුටු කරන්න මගේ පුතාට දඬුවම් කරන්නේ නැහැ."

ඔහු කතාව අවසන් කළේ මීට පෙර දක්වූ අමනාපයෙන් යුතුව ය. කපිතන් තමා විශ්වාස කරන බවත්, තමා හැර වෙන කෙනෙකුට නම් ඔහු මෙසේ අවංක සිතින් තම සිතැඟියන් එළි නොකරන බවත්, දැන් තමාට කී කතාව වෙන කෙනෙකුට නොකියන බවත් අලෝෂා දැනගත්තේ ය. මෙයින් අලෝෂා ධෛර්‍යවත් විය. ඔහු ගේ පපුව ගැහෙන්නට විය. දෑසින් කඳුළු පිටවන තරමට හිත උණු විය.

"මම බොහො ම කැමැතියි මහත්මයා ගේ පුතා සමග යාළු වෙන්න. ඒ සඳහා අවස්ථාවක් පිළියෙළ කර දෙන්න පුළුවන් නම්——"

"පිළියෙළ කර දෙන්නම්"යි කපිතන් සෙමෙන් කී ය.

"දැන් ඉතින් මා කියන අමුතු දෙයකට කරුණාකරලා ඇහුම්කන් දෙන්න"යි අලෝෂා කී ය. "මා ආවේ මහත්මයාට පණිවිඩයක් කියන්නයි. මහත්මයාට අපහාස කළ මගේ සහෝ-දරයා බොහො ම වැදගත් පවුලක තරුණියක් කසාද බඳින්න පොරොන්දු වී සිටිනවා. මගේ සහෝදරයා මේ තරුණියටත් අපහාස කළා. සමහර විට මහත්මයා මේ තරුණිය අඳුනනවා ඇති. මගේ සහෝදරයා ඇයට කළ අපහාසය ගැන විස්තරයක් කිරීම මගේ යුතුකමක්. මගේ සහෝදරයා මහත්මයාට කළ අපහාසය ගැන ඇයට ආරංචි වුණා. මහත්මයාට තියෙන අමාරුකම් ගැනත් දැනගන්න ලැබිලා දැන් ටිකකට කලින් මට කතා කරලා කිව්වා, මහත්මයා හමුවෙලා මේ උපකාරය කරන්නය කියා. නමුත් ඒ තරුණිය මේ උපකාරය කරන්නේ

තනියෙන්. නැති ව ඇයට අපහාස කොට ඇය අත්හැර දමූ මගේ සහෝදරයාගෙන් නො වෙයි. මගෙනුත් නො වෙයි කිසි ම කෙනෙකුගෙන් නො වෙයි. ඇගෙන් පමණයි. ඈ මහත්මයාගෙන් ඉල්ලා සිටිනවා කරුණා කර මේ සුළු උපකාරය පිළිගන්නය කියා. ඇයටත් මහත්මයාටත් අපහාස කළේ එක ම තැනැත්තායි. ඇයට මහත්මයා මතක් වුණේ, මගේ සහෝදරයා මහත්මයාට අපහාස කළා වගේ ඇයටත් බොහො ම නින්දිත විදියට අපහාස කළ පසුව යි. ඈ මහත්මයාට මේ උපකාරය කරන්නේ අමාරු අඩියකට වැටුණු සහෝදරයෙකුට සහෝදරියක් උපකාර කරනවා වගෙයි........ඈ මට කිව්වා සහෝදරියක් වගේ මහත්මයා ගේ නැති බැරි කම දන ගෙන උපකාරයක් වශයෙන් දෙන මේ රුබල් දෙසීය කරුණා කර පිළිගන්න කියන්නය කියා. මහත්මයාට මේ උපකාරය කරන බව කිසි ම කෙනෙකු දන්නේ නැහැ. නුවමනා කතන්දර ඇතිවෙන්නේත් නැහැ. මෙන්න තියෙනවා රුබල් දෙසීය මේ ලෝකයේ සිටින සියලු ම මනුෂ්‍යයෝ එකිනෙකා ගේ සතුරෝ නො වෙත් නම් මහත්මයා මේ මුදල් කොහොම හරි පළිගන්න ඕනෑ. මේ ලෝකයේ සහෝදරයන් මෙන් එකිනෙකාට ප්‍රේමය කරන අය සිටිනවා.........මහත්මයා බොහො ම යහපත් හිතක් ඇති උසස් මනුෂ්‍යයෙක්........ ඒ නිසා කොහොම හරි මේ මුදල් පිළිගන්න.'' මෙසේ පැවැසූ අලෝෂා දේදුන්නේ පැහැයෙන් යුත් රුබල් දෙසීයේ නෝට්ටු දෙක කපිතන් ගේ අතේ තැබුවේ ය.

එ වේලේ ඔවුන් දෙදෙනා සිටියේ වැට අසල තිබුණු විශාල ගල ළඟ ය. පෙනෙතනෙක් මානයේ කිසිවෙක් නොසිටියේ ය. මුදල් දුටු හැටියේ ම කපිතන් තුළ බලවත් නොසන්සුන්කමක් ඇති විය. ඔහු බිරාන්ත විය. අලෝෂා සමග කළ කතාවෙන් මෙ වැනි දෙයක් සිදුවෙතැයි ඔහු කිසිසේත් බලාපොරොත්තු නො වී ය. කිසිවකු ගෙන් ඔහු මෙ තරම් විශාල ආධාරයක් හිතයකින්වත් බලාපොරොත්තු නො වී ය.

හෙතෙම මුදල් ගත්තේ ය. මිනිත්තුවක් පමණ වේලා ඔහුට කතා කර ගත නො හැකි විය. ඒ සමග ඔහු ගේ මුහුණේ මීට පෙර ඇති නො වූ පෙනුමක් ඇති විය.

"මෙ තරම් විශාල මුදලක්— රුබල් දෙසීයක් මට දුන්නා? අනේ දෙයියනේ, මෙ තරම් විශාල මුදලක් මා පසු ගිය අවුරුදු හතරට ම දැක්කෙ නැහැ. දෙයියන් වහන්සේ අපට අනුකම්පා කරත්වා. ඒ නෝනා මගේ සහෝදරියක් කියනවා?.... ......එක ඇත්ත ද?''

"මා ඇත්ත කියාපු බවට දිව්රන්න පුළුවනි" අලෝෂා කී ය.

කපිතන් ගේ මුහුණ රතු විය.

"මා කියන දෙය හොඳට අහගන්න. මා මේ මුදල් ගැනීමෙන් තක්කඩියෙකු වෙන්නේ නැහැ නේ ද? තමුන්නාන්සේට පෙනී පෙනී තක්කඩියෙකු වෙන්නේ නැහැ නේ ද? මා කියන දෙය හොඳට අහගන්න"යි ඔහු දැතින් ම අලෝෂා අල්ලමින් කී ය.

"මේ මුදල් එව්වේ සහෝදරියක්ය, ඒ නිසා ගන්නය කියා තමුන්නාන්සේ මට බල කරනවා. නමුත් මා මුදල් ගත්තොත් හිත යටින් තමුන්නාන්සේ මා පිළිකුල් කරන්නේ නැද්ද?"

"නැහැ නැහැ, මා කවදාවත් එහෙම කල්පනා කරන්නේ නැහැ. මට දිව්රා කියන්න පුළුවනි. මහත්මයාත්, මාත්, ඇයත්, ඇගේ හොඳ මිතුරියක් වන තවත් කාන්තාවක් ඇරෙන්නට වෙන කිසි ම කෙනෙකු මේ ගැන කිසි ම දෙයක් දන්නේ නැහැ."

"ඒ කාන්තාව ගැන කරදර වෙන්න උවමනා නැහැ. මෙ වැනි වෙලාවක දී මා කියන දෙය හොඳට අහගන්න ඕනෑ. නැතිනම් මේ වෙලාවේ හැටියට රුබල් දෙසීය මට කො තරම් ලොකු මුදලක් ද කියන එක තමුන්නාන්සේට තේරුම් ගන්න බැරිවෙනවා"යි ඒ අසරණ මිනිහා කො තරම් උනන්දුවෙන් කීවේද කියතොත් ඔහු ගේ කතාව ආකූල විය. තමා විසින් කිය යුතු දෙය කියන්නට නො ලැබේය යන බියෙන් පෙළෙන්නකු මෙන් ඔහු වහවහා කතා කෙළේ ය.

"මේ මුදල් 'සහෝදරියක්' වැනි බොහො ම සහපත් කාන්තාවක ගෙන් ඉතා අවංකව ලැබුණා වගේ ම තමුන්නාන්සේ දන්නව ද දැන් මට, මගේ හාමිනේටත්, කොර වූ නීනා දුවටත් බේත් අරන් දෙන්න පුළුවන් බව? දෙස්තර මහත්මයා මට අනුකම්පා කරලා ඇවිදින් මගේ හාමිනේත්, නීනාත්, පැයක් පමණ හොඳට සෝදිසි කරලා බැලුවා. 'මට නම් කිසි ම ලෙඩක් පෙනෙන්නේ නැහැ' කියා දෙස්තර මහත්මයා සාප්පු බේතක් අරන් දෙන්න නියම කළා. මේ බේතෙන් හොඳට ගුණ ලැබෙන බව දෙස්තර මහත්මයා කිව්වා. ඒ එක්ක ම බේත් වතුරක් දමා උණුවතුර නාන්න නියම කළා. සාප්පු බේත කොපෙක් තිහක් වෙනවා. බෝතල් හතළිහක් විතර බොන්න ඕනෑ. ඉතින් මා බේත්සීට්ටුව අරගෙන රාක්කය උඩ සුරුවම යටින් තිබ්බා. තවමත් එ තැන ඇති. මගේ දුව නීනාට නියම කළා බෙහෙත්

වතුරක් කලවන් කරපු උණු වතුර උදේ හවස නාන්න. උදව්වට කිසි ම කෙනෙකු නැති ව, වැඩකාරයෙකු නැති ව, නාන බාල්දියක් නැති ව, වතුර නැති ව, අපේ ගෙදර ඉඳගෙන කොහොම ද මේ වෙදකම කරන්නේ? මගේ දුව නීනා ගේ ඇඟ පුරා ම ප්‍රමේහවාතය. ඒ ගැන මහත්මයාට කිව්වද කියා මට මතක නැහැ. රෑට ඇගේ දකුණු පැත්ත කකියන්න පටන් ගන්නවා. නමුත් තමුන්නාන්සේ විශ්වාස කරනව ද අපට ඇහැරෙයි කියා බයට කට අරින්නෙවත් නැති ව වේදනාව ඉවසා ගෙන සිටිනවා. අප කන්නේ අපට ලැබුණ ආහාරයක් පමණයි. නමුත් නීනා කන්නේ අප කාලා ඉතිරිවුණ ටික පමණයි මෙ වැනි කෑම තමුන්නාන්සේලා ගේ බල්ලන්ටවත් කන්න දෙන්නේ නැහැ. 'මේ කෑම ලැබීමට තරම් මා සුදුසු නැහැ. තුඹලාට තිබෙන කෑම ටික මා කනවා. මා තුඹලාට මහ බරක්.' මේ අදහස නීනා ගේ ඇස්වලින් කියවෙනවා නමුත් අප අපේ ශක්ති ප්‍රමාණයේ හැටියට ඇය බලාගන්නවා නීනා ඒකට කැමැති නැහැ. 'මා කිසි ම ප්‍රයෝජනයක් නැති කොරෙක්' කියා නීනා අප කරන සාත්තුව ප්‍රතික්ෂෙප කරනවා නමුත් නීනා අපේ ගෙදර සිටීම අපට විශාල සැනසීමක් බව නීනා නො දන්නවා ඇති. නීනා නැති නම්, ඇගේ කතාව අසන්නට නැති නම් අපේ ගෙය අපායක් වගෙයි. ඇගේ කතා-වෙන් වවාරා ගේ හිත පවා මොලොක් වෙනවා. වවාරා එ තරම් නපුරු නැහැ. ඈ දෙව්දුවක් වගෙයි. ඈත් බොහො ම දුක් විඳිනවා. වවාරා ගෙදර ආවේ ග්‍රීෂ්මකාලයේ දී යි. ළමයින්ට උගන්නලා ඈ රූබල් දසයක් එකතු කරගෙන හිටියා. ඒ මුදල සැකසුරුවම් කරගෙන හිටියේ සැප්තැම්බර මාසයේ දී, ඒ කියන්නේ මේ මාසයේ දී පිටස්බර්ග් නුවරට යන්නයි. නමුත් අපි ඒ සල්ලිවලින් කෑවා. දැන් වවාරා පිටස්බර්ග් නුවරට යන්න සල්ලි නැති ව බලා ඉන්නවා. ඈ නො ගියාට දාසියක් වගේ ගෙදර වැඩ සේරම කරනවා. වවාරා හරියට අප සේරගේ ම බර ඇදගෙන ගොස් විඩා වැටුණු අශ්වයෙකු වගෙයි වවාරා අප සේරගේ ම වැඩ කරලා දෙනවා. රෙදි හෝදනවා, රෙදි වේලනවා, ගේ දොර අතු පතු ගා පිරිසුදු කරනවා. අම්මාට ඇපඋපසථාන කරනවා. දැන් ඉතින් මේ සල්ලිවලින් මට වැඩ කාරයෙකු නවත්වා ගන්න පුළුවනි. තමුන්නාන්සේට තේරෙනවා නේද? මගේ හාම්නේටත්, දුවටත් බෙහෙත් අරන් දෙන්න පුළුවනි. වවාරා පිටස්බර්ග් නුවරට යවන්න පුළුවනි. හරක් මස් ටිකක් අරගෙන මගේ දරුපවුලට හොඳට කන්න දෙන්න පුළුවනි. අනේ දෙයියනේ මේක හීනයක් වගෙයි."

තමා මේ අසරණ මනුෂ්‍යයා වෙත මෙ තරම් විශාල සැපතක් ගෙන ඒම ගැනත්, ඔහු ඒ සැපත පිළිගැනීමට කැමැති වීම ගැනත් අලෝෂා ප්‍රීති විය.

"විකක් ඉන්න, විකක් ඉන්න"යි මේ දවල් සිහිනයට අසු වූ කපිතන් උමතු වේගයකින් කීවේ ය. "තමුන්නාන්සේ දන්නවද මගේ පුතා ගේ අදහස අනුව අපට වෙන ගමකට යන්න පුළුවනි. අප අශ්වකරත්තයකුයි අශ්වයකුයි ගන්නවා. කළු අශ්වයකු ගන්නවා. පුතා කැමැති කළු අශ්වයකුටයි. පෙරේදා අප කතා කරගත්තා වගේ මේ කරත්තයේ අපේ බඩු පටවා ගෙන වෙන ගමකට යනවා. කුෂික් පළාතේ මගේ මිත්‍රයෙකු ඉන්නවා. එයා නීතිඥයෙක්. මගේ මේ මිත්‍රයා ගේ කන්තෝරුවේ ලියන්නකු හැටියට රක්ෂාවක් ලැබෙන්න පුළුවනි කියා මට හොඳ විශ්වාස දයක කෙනෙකුගෙන් දනගන්න ලැබුණා කවුද දන්නේ, සමහර විට එයා මට රක්ෂාවක් දෙන්න පුළුවනි. ඉතින් මා මගේ බඩු කරත්තේ පටවා, මගේ හැම්නෙයි නීනයි කරත්තයට නංවලා පුතාට කියනවා කරත්තය දක්කන්න. මා කරත්තය පිටුපසින් ඇවිදගෙන යනවා. සමහරවිට මා ගත්ත ණය ගෙවන්නත් මුදල් ඉතිරි වෙන්න පුළුවනි."

"මහත්මයාට උවමනා තරම් මුදල් ලැබේවි" අලෝෂා කී ය. "මහත්මයාට තවත් මුදල් උවමනා වුණොත්, කැතිරිනා මුදල් එවාවි. මා ළඟත් මුදල් තියෙනවා. සහෝදරයකුගෙන්, මිත්‍රයකුගෙන්, ගන්නවා වගේ මහත්මයාට උවමනා තරමක් මුදල් ගන්න. පස්සේ ආපසු ගෙවන්න පුළුවනි............(නුඹ පොහොසත් වේවි) දන්නව ද? මේ පළාත අත්හැර යන එක බොහොම හොඳ අදහසක්. සතීපයටත් හොඳයි. යනවා නම් සීත කාලයට ඉස්සෙල්ලා යන්න ඕනෑ. එහාට ගියාට පස්සේ සැපසනීප දන්වා මට ලියුමක් එවන්න. අපි හැමදා ම සහෝදරයන් වගේ සිටිමු......නැහැ මේක සිහිනයක් නො වෙයි."

කපිතන් වැලඳ ගැනීමට තරම් අලෝෂා තුළ දැඩි සොම්නසක් ඇති විය. එහෙත් කපිතන් දෙස බැලූ අලෝෂා මඳක් නතර විය. කපිතන් තොල් උල් කර ගෙන බෙල්ල දික් කොට නැඟී සිටියේ ය. ඔහු ගේ සුදුමැලි වූ මුහුණේ උමතු ගතියක් දකින්නට තිබිණි. යම් කිසිවක් කියන්නාක් මෙන් ඔහු ගේ තොල් සෙලවුණේ ය. එහෙත් ඉන් හඬක් පිට නො වී ය. තවමත් ඔහු ගේ තොල් සෙලවෙයි. එය බියකරු විය.

"මොක ද?"යි අලෝෂා කපිතන්ගෙන් තැති ගෙන ඇසුවේ ය

"අලෝෂා පියෝදරවිච්..... ...ම..........මම.........."යි කපිතන් අලෝෂා දෙස අද්භූත උමතු බැල්මකින් බලා ගොත ගසමින් කීය. හෙතෙම කන්දකින් පහතට පැනීමට සැරසෙන එහෙත් ඒ මොහොතේ අද්භූත ලෙස සිතාසෙන මිනිසකුට සමාන ය. "තාමුන්නාන්සේට මා දන්නා පොඩි විජ්ජාවක් කරල පෙන්නන්න ද?"යි ඔහු හදිසියෙන් ම රහසක් කියන්නාක් මෙන් සෙමෙන් කී ය. කලින් ගොත ගැසුවාක් මෙන් ඔහු ගොත නො ගැසුවේ ය.

"කොයිවිදියේ විජ්ජාවක් ද?"

"ලස්සණ විජ්ජාවක්"යි කපිතන් පිළිතුරු දුන්නේ ය. ඔහු ගේ කටේ වම් පැත්ත ඇද විය. ඇස් මහත් විය. ඔහු තවමත් අලෝෂා දෙසින් නෙත් ඉවත නො ගෙන බලා සිටියේ ය.

"මොක ද මහත්මයට වෙලාතියෙන්නේ? මොන විජ්ජාවක් ද?"යි අලෝෂා තැති ගෙන ඇසුවේ ය.

"මෙන්න බලන්න"යි හිටිහැටියේ ම කෑගා කී කපිතන් මෙතෙක් වේලා මහපොටඇඟිල්ලෙන් හා දබරැඟිල්ලෙන් අල්ලා ගෙන සිටි රූබල් සීයේ නෝට්ටු දෙක උමතු වූවකු මෙන් පොඩි කොට අනතුරු ව දකුණු අතට ගෙන මිට මොළවා "පේනවා නේද? පේනවා නේ ද?"යි කියමින් කෑගැවේ ය. සුදුමැලි වී සිටි කපිතන් කෝපයෙන් දැවෙන්නට විය. ඉක්බිති ව හදිසියෙන් දෑත විදහා මුදල් වීසිකළ හෙතෙම "පේනවා නේද? අන්න බලන්න."යි කියා බිම වැටුණු මුදල් පෙන්නමින් කී ය.

"ඔන්න තමුන්නාන්සේ ගේ මුදල්. ඔන්න තමුන්නාන්සේ ගේ මුදල්"යි කියමින් කපිතන් කෝපයෙන් දැවෙන මෘගයකු මෙන් හති දමමින් දකුණු පයින් පෑගුවේ ය.

හදිසියෙන් ම හෙතෙම අලෝෂා ඉදිරිපිට කෙළ දිග හැර හිස උස්සා කෙළින් සිටගත්තේ ය. ඔහු ගේ ස්වරූපයේ දැඩි අහංකාර කමක් පිළිබිඹු විය.

"මට මුදල් දෙන්නය කියා තමුන්නාන්සේ මෙහාට එවාපු අයට කියන්න 'කබරවූලා' ඔහු ගේ ගෞරවය මුදල්වලට විකුණන්නේ නැහැ කියා"යි ඔහු අත උස්සා කී ය. අනතුරු ව ඔහු ආපසු හැරී දුවන්නට පටන් ගත්තේ ය. එහෙත් යාර පහක්වත් දුවන්නට පෙර ඔහු ආපසු හැරී අලෝෂා ගේ අත

සිඹින බව හඟවමින් තමා ගේ අත සිඹ පෙන්නුවේ ය. තවත් අඩි කීපයක් දිව ගිය හෙතෙම අන්තිම වරට ආපසු හැරිණි. මෙ වර ඔහු ගේ මුහුණ සිනාවෙන් විරූප නො වී ය. ඒ වෙනුවට කඳුළින් තෙත් වූ මුහුණ වෙවුලන්නට විය.

"මට කරන ලද අපහාසය වෙනුවට තමුන්නාන්සේ ගෙන් මුදල් ගෙන මා මගේ පුතාට කියන්නේ මොනවා ද?" යි ඔහු අඬමින් ඇසුවේ ය.

අනතුරු ව හෙතෙම ආපසු නො බලා කෙළින් ම දිව්වේ ය. අලෝෂා ඔහු දෙස බලා සිටියේ විස්තර කළ නො හැකි බලවත් ශෝකයකින් යුතුව ය. තමා මුදල් විසිකරන බව ඒ අසරණ මිනිහා අන්තිම මොහොත වන තෙක් නො දැන සිටි බව අලෝෂා දැන සිටියේ ය. ඔහු ආයෙත් ආපසු නො හැරුණේ ය. ඔහු ආපසු නොහැරෙන බව අලෝෂා දැන සිටියේ ය. අලෝෂා ඔහු පිටුපසින් දිව ගියේ ය. එහෙත් කතා නො කෙළේ ය. කතා නො කළේ හොඳ හේතුවක් ඇතිව ය. කපිතන් නො පෙනී ගිය පසු අලෝෂා මුදල් අහුලා ගත්තේ ය. පොඩි වී වැල්ලට තද වී තිබුණු රූබල් සීයේ නෝට්ටු දෙක ඉරී නො තිබුණේය. අලෝෂා නෝට්ටු දෙක දිගහරින විට, අලුත් නෝට්ටුවලින් නගින 'සර සර' හඬ ද නික්මිණි. අලෝෂා නෝට්ටු දෙක දිගහැර නමා සාක්කුවේ දමා ගමනේ ප්‍රතිඵල දැන්වීම පිණිස කැතිරිනා හමුවීමට ගියේ ය.

---

## පස් වන ග්‍රන්ථය

# පක්ෂව හා විපක්ෂව

### පළමු පරිච්ඡේදය

### විවාහ ගිවිස ගැනීම

ආපසු ගිය අලෝෂා යළි පිළිගත්තා ලද්දේ හොලාකෝ මැතිනිය විසිනි. ඉතා වැදගත් දෙයක් සිදු වූ නිසා කුලකත නොසන්සුන් තත්ත්වයක සිටියා ය. කැතිරිනාට වැළඳුණු සන්නියකට සමාන රෝගය අවසන් වූයේ ගැස්මකිනි. ගැස්-මෙන් අනතුරු ව ඇ ක්ලාන්ත වූවා ය. "දන් කැතිරිනාට කිසි ම සිහිකල්පනාවක් නැහැ. බොහො ම දුර්වලයි. ඇස් උඩ ගිහින්. සිහිසන් නැති ව දෙඩෝනවා. බොහො ම තදින් උණ තියෙනවා. දෙස්තරටත් ඇගේ නැන්දලාටත් එන්නය කියා පණිවිඩයක් යැව්වා. නැන්දලා නම් ආවා. නමුත් තව ම දෙස්තර ආවේ නැහැ. දෙස්තර එන තෙක් ඒ ගොල්ල ශාලාවේ ඉඳගෙන ඉන්නවා. තව ම කැතිරිනාට සිහිය නැහැ මොළයේ උණ ගැනුණොත් මොකද වෙන්නේ?"යි ගෘහිණිය අලෝෂා පිළිගනිමින් කීවා ය.

හොලාකෝ මැතිනිය සැබවින් ම තැති ගෙන සිටියා ය. "මේක බොහො ම භයානකයි! බොහො ම භයානකයි!" ඇ වරින් වර කීවේ මීට පෙර ඇයට සිදු වූ දෑ භයානක නො වූවාක් මෙනි අලෝෂා මහත් ශෝකයෙන් ඇගේ කතාවට ඇහුම්කන් දුන්-නේ ය. අලෝෂා එ දින සිදුවූ දෑ කීමට සැරසෙන විට ගෘහිණිය ඊට බාධා කළා ය. මේ විස්තරවලට ඇහුම්කන් දීමට ඇයට වේලා නැති. තමා ආපසු පැමිණෙන තෙක් ලීසා සමග සිටින ලෙස ඇ අලෝෂාට කීවා ය.

"දන් ටිකකට කලින් ලීසා ගැන මට පුදුම හිතුණා" ගෘහිණිය අලෝෂා ගේ කනට කොඳුරා රහසක් කියන්නාක් මෙන් කීවා ය "එ පමණක් නො වෙයි, මට ලීසා ගැන කො තරම් කනගාටු

හිතුණා ද කියතොත් ලීසා අතින් සිදු වූ හැම වරදකට ම මා සමාව දුන්නා. ඊයේත් අදත් අලෝෂාට හිනාවුණාය කියා තුඹ ගිය හැටියේ ම ලීසා දුක් වුණා. ඈ අලෝෂාට කවටකම් කළා මිස හිනා වුණේ නැහැ. ඈ කො තරම් දුක්වුණා ද කියනවා නම් මා හිතුවා ඈ අඩාවිය කියා. ඈගේ හැසිරීම මට පුදුමයි. ඈ සමහරවිට මටත් හිනා වෙනවා. නමුත් ඒ ගැන කනගාටු වෙනවා වෙනුවට විහිළුවකට භාර ගන්නවා. අලෝෂා දන්නවා නේද ලීසා මට නිතර ම හිනා වෙන බව. මේ පාර නම් ඈ බොහො ම කනගාටු වුණා. අලෝෂා ගේ අදහස් ලීසා බොහො ම ඉහළින් පිළිගන්නවා. ඈ කියන දේවල් ගැන හිත නරක්කරගන්න එපා. මා නම් කවදාවත් ලීසා ගැන නරකක් හිතන්නේ නැහැ. ඈ එ තරම් කපටි කෙල්ල. අලෝෂා විශ්වාස කරනව ද දූන් ටිකකට කලින් ලීසා මට කිව්වා කුඩා කාලේ දී තුඹ ඈය සමග මිත්‍රවෙලා සිටියා ය කියා. කුඩා කාලේ දී ඈයට සිටිය හොඳ ම යාළුවා තුඹ ලු. කොහොම ද ඈගේ කතාව? ඈ මා ගැන කියන්නේ මොනවා ද? ඈ මට බොහො ම ආදරේ ලු. නමුත් පුදුමය නම් අවේලාවේ දී ඈ කිසි ම බලාපොරොත්තුවක් නැති ව සිටිහැටියේ ම පුදුම දේවල් කියනවා. ලීසා ළඟ දී පයින්ගහක් ගැන මතක් කළා. ඈ කුඩා කාලේ දී අපේ මිදුලේ පයින්ගහක් තිබුණා මට මතකයි. තවමත් ඒ ගහ එ තැන ඇති. ඉතින් ඒ ගහ බොහො ම ඉස්සර තිබුණ දෙයක් හැටියට මතක් කරන්න උවමනා නැහැ. පයින්ගස් මිනිසුන් වගේ බොහො ම ඉක්මනට වෙනස් වන්නේ නැහැ. 'අම්මේ ජීනයකින් දුටුවා වගේ මට මේ ගහ තවමත් මතක තියෙනවා.' කියා ලීසා මට කිව්වා. ඈ ඒ කතාව අලුත් විදියකට කියාපු නිසා මට ඒක ඈ කියාපු විදියට ම කියන්න බැහැ. මට මතකත් නැහැ.........දූන් මට යන්න ඕනැ. මේ කරදර නිසා මගේ ඔළුව නරක් වෙන්න පුළුවනි'' මීට ඉස්සෙල්ලා දෙපාරක් ම මගේ ඔළුව නරක් වුණා. අලෝෂා කරුණාකර ලීසා ළඟට ගිහින් ඈගේ හිත සතුටු වන දෙයක් කියන්න. තුඹට ඒක බොහො ම හොඳට කරන්න පුළුවනි.'' අනතුරුව ගෘහිණිය දොර ළඟට ගොස් ලීසාට මෙසේ කීවා ය. "දුව අපහාස කළ අලෝෂා මා එක්කගෙන ආවා. අලෝෂා දුව සමග සවල්පයක් වත් තරහ නැහැ. දුව එහෙම කල්පනා කිරීම ගැන අලෝෂා පුදුම වෙනවා.''

"අම්මාට බොහො ම ස්තුතියි.........එන්න අලෝෂා කාමරය ඇතුළට'' යයි කියමින් ලීසා, තරුණයාට කතා කළා ය.

අලෝෂා කාමරයට ඇතුළු විය. මදක් නොසන්සුන් වූ ලීසා ගේ දෙකොපුල් රතු විය. ඈ කිසියම් දෙයක් ගැන ලැජ්ජාවෙන්

සිව්නා බව පෙනේ. මෙ වැනි අවස්ථාවලට මුහුණ පාන වෙනත් අය මෙන් ලීසා ද වහා ම බාහිර දේවල් ගැන කතා කරන්නට වූයේ ඒ දේවල් ඒ මොහොතේ දී ඉතා වැදගත් වූවාක් මෙනි.

"අම්මා දැන් ටිකකට කලින් මට කිව්වා කැතිරිනා දුන්න රූබල් දෙසිය අලෝෂා අර දුප්පත් මිනිහට දෙන්න ගියා ය කියා. අම්මා මට කිව්වා මිනියා ඒ දුප්පත් මිනිහට අපහාස කළ හැටි .........අම්මා කතා කරන කොට හැම දෙයක් ම පටලවා ගන්නවා. හැම දෙයක් ම එකපාර කියන්න හදනවා. ඒ වුණත් අම්මා ගේ කතාව අහලා මට ඇඬුණා. කොහොම ද, සල්ලි දුන්න ද? ඒ දුප්පතා ගේ තොරතුරු කොහොම ද?"

"සල්ලි දුන්නේ නැහැ. ඒක බොහො ම දිග කතාවක්"යි අලෝෂා කීවේ තමා ගේ අසමත්කම ගැන පසුතැවෙනවා මිස වෙන කළ හැකි දෙයක් නැත්තාක් මෙනි. තමා මෙන් අලෝෂා ද ඉවත බලා ගෙන වෙනත් දේවල් ගැන කතා කිරීමට වෑයම් කරන බව ලීසා දුටුවා ය.

මේසය ළඟ හිඳගත් අලෝෂා කතාව කීමට පටන් ගත්තේ ය. එහෙත් වචන කීපයක් කීමෙන් අනතුරු ව ඔහු ගේ සිතේ පැවැති ව්‍යාකූලත්වය පහ විය. ලීසා ගේ සිත ඇදගත් හෙතෙම මීට ටිකකට කලින් ලැබූ ඇත්දැකීමෙන් හැඟීම් අවදිකරවා ගෙන කපිතාන් පිළිබඳ කතාව ඉතා හොඳටත් ස්වාභාවික ලෙසටත් කී ය. මොස්කව් නුවර සිටිය දී ලීසා වෙත ගොස්, තමාට සිදු වූ දේවල් හෝ තමා පොතපතින් දැනගත් දේවල් හෝ කුඩා කාලය ගැන තමාට මතක තිබෙන දේවල් හෝ කීම අලෝෂාට මහත් ප්‍රීතියක් විය. සමහරවිට ඔවුහු එකතුව, දවල් සිහින දකින්නවුන් මෙන් පෙම්පුවත් ගොතති. සාමාන්‍යයෙන් ඒවා විනෝදදායක, හාස්‍යජනක කතා වේ. තමන් හවුරුදු දෙකකට කලින් මොස්කව් නුවර ගත කළ ඒ පැරැණි ජීවිතයට ආයේත් ආපසු ගියාක් මෙන් ඔවුන්ට දැනිණි. අලෝෂා විසින් ඉතා ආදරයෙන් ඉලූෂා ගැන කියන ලද කතාව අසා ලීසා ගේ සිත පැරුණේ ය. ඒ අවාසනාවන්ත මිනිහා මුදල් බිම දමා පෑගූ හැටි අලෝෂා කියා නිම කළ විට ලීසා දෑත එක් කොට "අනේ එහෙනම් ඒ දුප්පතාට මුදල් දුන්නේ නැද්ද? එයාට දුවන්න ඉඩ දුන්න ද? ඇයි පස්සෙන් දුවලාගිහින් මුදල් නුදුන්නේ?"යි ඇසුවා ය.

"නැහැ ලීසා, මා ඒ මිනිහ ගේ පස්සෙන් නො ගිය එක හොඳයි"යි අලෝෂා කී ය. ඔහු හිඳ ගත් පුටුවෙන් නැගිට කාමරය හරහා සක්මන් කරමින් කල්පනා කරන්නට විය.

"කොහොම ද හොඳ වෙන්නේ! ඒ දුප්පතුන්ට කන්න බොන්න නැහැ නේද? පිහිට වෙන්න කෙනෙකු නැහැ නේද?"

"ඒ ගොල්ලන් ගේ තත්ත්වය එ තරම් නරක නැහැ. රූබල් දෙසීය කොහොම හරි මිනිහට ලැබේවි. හෙට ඇවිදින් මුදල් ගනීවි." මෙසේ කාමරය තුළ ඒ මේ අතට ඇවිදමින් කී අලෝෂා හදිසියෙන් ම ලීසා ඉදිරිපිට නතර වී "ලීසා මගේ අතින් ලොකු වරදක් වුණා. නමුත් ඒ වරද වුණේ හොඳටයි" කී ය.

"මොකක් ද වුණ වරද? කොහොම ද ඒක හොඳ වෙන්නේ?"

"මම කතාව කියන්නම්, මේ කපිතන් බොහො ම දුඊල බයාදු මිනිහෙක්. මිනිහා බොහො ම දුක් විඳ තියෙනවා. ඒ වගේ ම බොහො ම හොඳ යහපත් මනුෂ්‍යයා. මා කල්පනා කළේ මෙතරම් ඉක්මනට මිනිහා තරහා වීම ගැනයි. අන්තිම මොහොත වන තෙක් තමා මුදල් බිම දමා පාගන බව මිනිහා දැන නො සිටිය බව සපීරව කියන්න පුළුවනි.........දැන් මට කල්පනා වෙනවා තරහවීමට ඒ මනුෂ්‍යයාට හේතුවක් තියෙන බව...... එයා ගේ තත්ත්වයේ හැටියට මෙහෙම තරහ නො වී කරන්න පුළුවන් වෙන දෙයකුත් නැහැ. පළමු වන කාරණය මුදල් ලැබීම ගැන මිනිහා මා ඉදිරිපිට බොහො ම සතුටු වුණා. ඒ සතුට සඟවා ගන්න බැරිවීම මිනිහ ගේ හිතට ලොකු වේදනාවක්. වෙනත් අය වගේ මුල දී මුදල් ගැනීමට අකැමැත්තක් දක්වූවා නම් අන්තිමේ දී අකැමැත්තෙන් හරි මුදල් ගන්නවා. නමුත් මිනිහා මුදල් ගත්තේ බොහො ම සන්තෝෂයෙන්. ඒ කාරණාව නිසයි බොහො ම කේන්ති ගියේ. ලීසා, මේ කපිතන් බොහො ම අවංක, බොහො ම යහපත් මිනිහා. ඒක තමයි නරකට හිටියේ. මිනිහා බොහො ම ඉක්මනට කතා කළා. නමුත් කතාව බොහො ම දුඊලයි. නැතින් තැන කතාව නවතිනවා. ඒත් බොහො ම ඉක්මනට කතා කළා. ඒ එක්කම හිනා වුණා. එහෙම කතාවක්! නැහැ සමහරවිට හිනා වුණා නො වෙයි. අඩන්න ඇති. සන්තෝෂය වැඩි කමට අඩන්න ඇති. එයා ගේ දූරු දෙන්නා ගැන මට කිව්වා. වෙනත් පළාතකට ගිහින් රස්සාවක් කරන හැටි කිව්වා......... මේ විදියට පෞද්ගලික දේවල් විස්තර කරලා කීවාට පස්සේ මිනිහට ලැජ්ජා හිතිලා මා එක්ක තරහ වුණා. මිනිහා බොහො ම මොළොක් හිතක් තියෙන අහිංසකයෙක්. මිනිහට ලැජ්ජා හිතුණේ මෙ තරම් ඉක්මනට මා විශ්වාස කර ගෙන, මා මිත්‍රයකු ලෙස පිළිගෙන තමා ගේ පෞද්ගලික දේවල් කීම ගැනයි. ඉස්සෙල්ලා මිනිහා මගේ ඇඟට පැනල මා භය කරන්න හැදුවා. නමුත් මුදල් දුටු-

වට පස්සේ මා වැලඳගන්න හැදුවා. මා අත ගැව්වා. ඒ නිසා වෙන්න ඇති ලැජ්ජා හිතුණේ. ඒ වෙලාවේ දී ම තමයි මගෙ අතින් ලොකු වරදක් වුණේ. ඒක බොහො ම වැදගත් දෙයක් මා හදිසියෙන් ම කිව්වා ගම ඇරලා යන්න මුදල් නැතිනම් අපට උවමනා තරම් මුදල් දෙන්න පුළුවන් බව. මට තනියෙන් වුවත් මුදල් දෙන්න පුළුවන් බව මා කිව්වා. මේ කතාව මිනිහට බොහො ම තදින් හිතට වැදුණා. මා මොනවට ද එයාට උපකාර වීමට ඉදිරිපත් වන්නේ කියා මිනිහා කල්පනා කළා. තමාට උපකාර කිරීමට නොයෙක් දෙනා ඉදිරිපත් වෙන කොට දහ-දුක් විඳ පුරුදු මිනිහ ගේ හිතේ ලොකු වේදනාවක් ඇති වීම සාමාන්‍ය සිරිතයි... මා ඒ බව අහල තියෙනවා. සොසිමා තවුසාත් මට කියා තියෙනවා. වචනයෙන් විස්තර කරලා කියන්-නට බැරි වුණත් මා ඇහින් දැක තියෙනවා. එ වැනි හැඟීම් මා තුළත් ඇති වෙනවා. ඉතින්, තමා මුදල් බිම දමා පාගන බව ඒ මනුෂ්‍යයා අන්තිම මොහොත වන තෙක් දැනගෙන සිටියේ නැහැ. එ වැනි හැඟීමක් කලින් ඔහු තුළ ඇති වූ බව මට හොඳට විශ්වාසයි. එ වැනි හැඟීමක් තිබුණ නිසා තමයි මිනිහා ඔය තරම් සන්තෝෂ වුණේ.........මේක බොහො ම භයානක දෙයක් වුණත් සිදුවුණේ යහපතටයි. මගේ විශ්වාසයේ හැටියට මීට වඩා හොඳ දෙයක් සිද්ධ වෙන්න බැහැ."

"ඇයි මීට වඩා හොඳ දෙයක් වෙන්න බැරි?"යි ලීසා, අලෝෂා දෙස පුදුමයෙන් බලා ඇසුවා ය.

"ඒ මනුෂ්‍යයා මුදල් ගත්තා නම් ගෙදර ගිහින් පැයක් යන්න ඉස්සෙල්ලා පසුතැවෙන්න පටන් ගන්නවා. කිසි ම සැකයක් නැති ව ඒක වෙනවා. සමහර විට පසුව දා උදේ මා හමු වෙන්න ඇවිදින් මගේ මුහුණට මුදල් දමා ගසා, නැති නම් දැන් ටිකකට කලින් කළා වගේ බිම දමා පාගන්න පුළුවනි. නමුත් දැන් එයා විශාල ජයක් ලැබුවකු වගේ බොහො ම ආඩම්බරයෙන් ගෙදර ගියත් හිත යටින් දන්නවා තමා විනාශ වූ පුද්ගලයෙකු බව. මුදල් විසි කොට පයින් පාගා තමා ගේ ආත්මගෞරවය ආරක්ෂා කළ නිසා හෙට මිනිහට මුදල් දීම බොහො ම ලෙහෙසියෙන් ම කළ හැකි දෙයක්.........මුදල් බිම දමා පාගන විට එයා දැනගෙන සිටියේ නැහැ, හෙට මා ආයේත් මුදල් අරන් එන බව. නමුත් මිනිහට මුදල් බොහො ම උවමනා කරනවා. තමා ගැන බොහො ම උඩඟු වුණත් මෙලහකට කල්පනා කරනවා ඇති කො තරම් ලොකු උපකාරයක් ද නො ලැබුණේ කියා. මිනිහා මේ ගැන වැඩියත් කල්පනා කරන්නේ රෑටයි. සමහර විට හීනෙන් පෙනෙන්නටත් පුළුවනි. හෙට එළිවන කොට මා ළගට ඇවිදින්

මගෙන් සමාව ඉල්ලීමට සූදනමින් සිටීවි. අන්න එතකොට මා කියනවා 'මහත්මයා බොහො ම අහංකාර තැනැත්තෙකු බව අපට පෙන්නුවා. දන් ඉතින් මේ මුදල් අරගෙන අපට සමාවන්න' කියා. එතකොට මිනිහා මුදල් ගනීවි."

'එතකොට මිනිහා මුදල් ගනීවි' යන අන්තිම වචන කියවෙනවාත් සමග ම අලෝෂාට ප්‍රීතියෙන් කෑගැසිණි. ලීසා දෑත එක්කර ගත්තා ය.

"ඔව්, ඔව්, ඒක ඇත්ත. මට දන් කාරණාව හොඳට තේරුණා. අලෝෂා, කොහොම ද මේවා ගැන මෙ තරම් හොඳට දැන ගත්තේ? අලෝෂා බොහො ම තරුණයි. ඒ වුණත් මිනිසුන් ගේ සිත ක්‍රියා කරන හැටි හොඳට දන්නවා. මට නම් කවදාවත් මේ විදියට කල්පනා කරන්න බැහැ.''

"අපෙන් මුදල් ගත්තත් කපිතන් අප හා සමාන තත්ත්වයක සිටින බව මිනිහට ඔප්පු කිරීම තමා දන් කළ යුතු ඉතා ම වැදගත් දෙය'' අලෝෂා නො ඉවසිල්ලෙන් කී ය. "සමාන තත්ත්වයක නොව අපට වඩා උසස් තත්ත්වයක සිටින බව පෙන්නන්න ඕනෑ."

"අපට වඩා උසස් තත්ත්වයක නම් බොහො ම හොඳයි. ඉතින් කියන්න, කියන්න........."

"මොකද ලීසා ගේ අදහස 'අපට වඩා උසස් තත්ත්වයක' සිටින අය නැතැයි කියා ද? මෙන්න මේ කාරණාව නිසා වරදක් වෙන්නේ නැහැ........."

"නැහැ. නැහැ. ඒකට වරදක් නැහැ. මට සමා වන්න......... අලෝෂා දන්නව ද, මේ මොහොත වන තෙක් මා අලෝෂාට ගරු කළේ නැහැ. මීට කලින් ගරු නො කළා නො වෙයි. මා අලෝෂාට ගරු කළේ මගේ තත්ත්වයේ සිටින කෙනෙකු හැටියටයි. මීට පස්සේ මට වඩා උසස් තත්ත්වයක සිටින කෙනෙකු හැටියට මා ගරු කරනවා. විහිළු කිරීම ගැන මා සමග තරහ වෙන්න එපා. මම බොහො ම පොඩි කෙනෙක්. නමුත් නුඹ...... මා කියන දෙය ටිකකට අහන්න. අප මේ කපිතන් ගේ හිත ක්‍රියා කරන හැටි විග්‍රහ කිරීමෙන්—ඒ කියන්නේ අලෝෂා ගේ විග්‍රහය — නැහැ. ඒට වැඩිය හොඳයි 'අප' කියන එක. ඉතින් අප කපිතන්ට වඩා උසස් තත්ත්වයක සිටින අය බව හිතාගෙන කපිතන් ගේ හිත ක්‍රියා කරන හැටි විග්‍රහ කිරීමෙන් කරන්නේ ඒ අසරණ මනුෂ්‍යයා පහත් කොට සැලකීම නො වේ ද? මිනිහා

නො වරදවාම හෙට මුදල් ගනීවිය කියා තීරණය කර ගැනීමෙන් අප ඒ මනුෂ්‍යයා පිළිකුල් කරනවා නේ ද?''

"නැහැ ලීසා අප ඒ මනුෂ්‍යයා පිළිකුල් කරනවා නො වෙයි." අලෝෂා පිළිතුරු දෙමින් කීවේ ඒ ප්‍රශ්නයට කලින් පිළිතුරු දීමට සූදානම් වී සිටියාක් මෙනි. "මා මෙහාට එන ගමන් ඔය ගැන කල්පනා කළා. අපි හැම දෙනා ම ඒ අසරණයාට සමාන නම්, සම තත්ත්වයේ සිටිනෙමු නම්, අප කොහොම ද කපිතන් පහත් කොට සලකන්නේ? ලීසා අපි හැම දෙනා ම සමාන තත්ත්වයක සිටින බව දන්නවා නේ ද? අප අනෙක් අයට වඩා හොඳයයි කියන්න බැහැ. හොඳ නම් අප ද කපිතන් සිටින තත්ත්වයේ සිටිය යුතුයි.........මා දන්නේ නැහැ ලීසා ගේ හිත ගැන කියන්න. නමුත් නොයෙක් කරුණු අනුව බලන කොට මට තියෙන්නේ බොහො ම කැත නීච හිතක්. ඒ මනුෂ්‍යයා ගේ හිත නීච නැහැ. බොහො ම අවංකයි.......... නැහැ ලීසා, මා මේ මනුෂ්‍යයා පහත් කොට සලකන්නේ නැහැ. ලීසා දන්නවා ද වරක් මට සොසිමා තවුසා කිව්වා දරුවන් ආදරයෙන් රැක බලා ගන්නවා වගේ මනුෂ්‍යයන් ද ආදරයෙන් රැක බලා ගන්නය කියා. එපමණක් නො වෙයි, සමහර අයට රෝහලක සිටින රෝගීන්ට සලකනවා වගේ ආදරයෙන් සලකන්නය කිව්වා."

"එහෙනම් අපි රෝගීන්ට සලකනවා වගේ මිනිසුන්ට ද ආදරයෙන් සලකමු."

"ඔව් අපි එහෙම කරමු. මා ඊට කැමැතියි. නමුත් තව ම මා ඊට සම්පූර්ණයෙන් ම සූදානම් නැහැ. සමහර අවස්ථාවල දී මගේ හිතේ බලවත් නොඉවසිල්ලක් ඇති වෙනවා. අනෙක් අවස්ථාවල දී මට නිවැරදි ව යමක් තේරුම් ගන්න බැහැ. නමුත් ලීසා ගේ තත්ත්වය ඊට වෙනසියි."

"මා ඒක විශ්වාස කරන්නේ නැහැ. මා සිටින්නේ බොහො ම සන්තෝෂයෙන්."

"ඒ ගැන මා සතුටු වෙනවා."

"අලෝෂා, නුඹ බොහො ම යහපත් කෙනෙක්. සමහර විට නුඹ සිරිත් විරිත් ගැන තුච්චමනා සැලකිල්ලක් දක්වනවා. නමුත් නුඹ ඒ වගේ කෙනෙක් නො වෙයි. කරුණාකර ගිහින් හෙමින් දොර ඇර බලන්න අම්මා අපේ කතාව අහගෙන ඉන්නව ද කියා."

දොර ළඟට ගොස් දොර ඇර බැලූ අලෝෂා කිසිවෙකු තමන් අතරේ කෙරෙන කතාව අසා නොසිටින බව කීවේ ය.

"අලෝෂා මා ළඟට එන්න"යි ලීසා කීවා ය. ඒ අතරේ ඇගේ දෙ කොපුල් වඩවඩාත් රතු විය. "කරුණාකර අත දෙන්න. අන්න හොඳයි. මා නුඹට ලොකු පාපොච්චාරණයක් කළ යුතුයි. මා අලෝෂාට ඊයේ ලියුමක් දුන්නේ විහිළුවට නො වෙයි. මගේ අදහස කීම පිණිසයි." මෙසේ පැවසූ ලීසා දෑතින් දෑස වසා ගත්තා ය. මෙසේ සිය සිතැගියන් හෙළි කිරීම නිසා ඇගේ සිතේ බලවත් ලැජ්ජාවක් ඇති වූ බව පැහැදිලිව පෙනේ. ඈ හිටිහැටියේ ම තරුණයා ගේ අත ගෙන ඉතා ආසාවෙන් තුන් වරක් ම සිම්බා ය.

"ඒකට වරදක් නැහැ. ඒක කො තරම් හොඳ දෙයක් ද? මා දන සිටියා ලීසා මට ලියුම එව්වෙ ඕනෑකමින් ම බව" යි අලෝෂා ප්‍රීතියෙන් කීවේ ය.

"සහතික ඇත්ත. මා ලියුම ලිව්වෙ ඕනෑකමින් ම තමයි." මෙසේ පැවසූ ලීසා තරුණයා ගේ අත පහත් කළා ය. එහෙත් අත නොහැරියා ය. ඇගේ මුහුණ ඉදුණු මිරිස්කරලක් මෙන් රතු විය. එහෙත් "මා එයා ගේ අත සිම්බා. එයා කියනවා ඒකට කමක් නැහැ කියා" යයි කියමින් සිනාසුණා ය.

ලීසා, අලෝෂාට මෙසේ දොස් කීම නුසුදුසු ය. අලෝෂා තුළ ද බලවත් නොසන්සුන්කමක් ඇති විය.

"ලීසා නිතර සතුටු කරන්න මම බොහො ම කැමැතියි නමුත් ඒක කොහොම කළ යුතු ද කියා මා දන්නේ නැහැ"යි තරුණයා විළියෙන් රතු වූ මුහුණින් යුතු ව කීවේ ය.

"අලෝෂා නුඹ බොහො ම නපුරුයි, උඩඟුයි. අලෝෂා මා බිරිය හැටියට තෝරා ගෙන ඉවරයි. නුඹ ඒ ගැන ලොකු උනන්දුවකුත් දක්වනවලු. හැබැ දෙයක් නොව කියන්න. ඒක ගරු සරු කමින් තොර කියමනක්."

"ලීසා මගේ බිරිය ලෙස සජීර වශයෙන් පිළිගැනීමේ ඇති වරද කුමක් ද?"යි අලෝෂා හදිසියෙන් ම සිනාසෙමින් ඇසුවේ ය.

"නැහැ, කිසි ම වරදක් නැහැ"යි ලීසා කීවේ ආදරයෙන් හා ප්‍රීතියෙන් තරුණයා දෙස බලමිනි.

තවමත් ලීසා ගේ අත අල්ලා ගෙන ඇය ළඟින් සිටි අලෝෂා හදිසියෙන් ම පහත් වී ඇගේ තොල් සිඹිබේ ය.

"මොනව ද මේ කරන්නේ?"යි අසමින් දැරිය කෑගෑවාය. අලෝෂා බිරාන්ත විය.

"මා වරදක් කළා නම් මට සමාවන්න........සමහර විට මා මෝඩ වැඩක් කරන්න ඇති. ලීසා කිව්වා තේද මා උදාසීනය කියා. මා මුහුණ සිඹිබේ ඒ නිසයි.........නමුත් මා කළේ මෝඩ කමක් බව දන් මට වැටහෙනවා."

දැරිය සිනා සී දෑතින් මුහුණ වසා ගත්තා ය. "මා සිඹින්නේ ඔය ලෝගුව ඇඳගෙන ද?"යි ඈ සිනා සෙමින් ඇසුවා ය. එහෙත් හදිසියෙන් ම ඈ ආයේත් සන්සුන් වූවා ය. තද ගතියක් දක්-වූවා ය.

"අප එකිනෙකා සිඹ ගැනීම කල් දැමිය යුතුයි. අප තව ම ඒට සූදානම් නැහැ. ඒ සඳහා අපි තවත් බොහෝ කාලයක් සිටිය යුතුයි." අනතුරුව ලීසා හදිසියෙන් ම මෙසේ කීවා ය. "අලෝෂා වැනි දක්ෂ, ඥානවන්ත, උගත් තරුණයෙක්, මා වැනි කොර වූ මෝඩ කෙල්ලක් තෝරා ගත්තේ මන් ද? අලෝෂා, තුඹ වැනි කෙනෙකු ලැබීමට තරම් මම සුදුස්සෙක් නො වෙයි ඒක මට ලොකු සතුටක්."

"ලීසාට හැම සුදුසු කමක් ම තියෙනවා. තව ටික දිනකින් මා ආශ්‍රමය සම්පූර්ණයෙන් ම අත්හැර දමා ආයේත් ගිහි ජීවිතයට ඇතුළු වෙනවා නම් විවාහ විය යුතුයි. විවාහ වෙන්නය කියා සොසිමා තවුසා මට කිව්වා. ඉතින් විවාහ කර ගැනීමට ලීසාට වඩා සුදුසු තැනැත්තියක් සිටිනවා ද? හැරත් ලීසා හැර වෙන කාට ද මා උවමනා කරන්නේ? මා මේ ගැන බොහො ම දුරට කල්පනා කළා. පලමුව කුඩා කාලයේ සිට ලීසා මා ඇඳින ගෙන සිටියා. මා තුළ නැති උසස් ගති ගුණ බොහොමයක් ලීසා තුළ තියෙනවා. මට වඩා නිතර ප්‍රීතියෙන් සිටිනවා. මට වඩා අහිංසකයි. මා දැනට ම නොයෙක් දේවල් සමඟ සම්බන්ධකම් ඇතිකර ගෙන සිටිනවා.........ඒට වඩා මම කරමසෝ පවුලේ කෙනෙක්. මට සිනාසී විහිළු කළාට වරදක් නැහැ. සිනාසෙන්න, මම ඒ ගැන බොහො ම සතුටුයි. ලීසා සිනාසෙන්නේ දරුවකු සිනාසෙනවා වගෙයි. නමුත් ලීසා කල්පනා කරන්නේ උතුම් ප්‍රතිපත්ති නිසා ආත්මපූජාවෙන් කටයුතු කරන්නකු හැටියටයි."

"ඒ කොහොම ද?"

"ලීසා දුන් විකකට කලින් ඇසූ ප්‍රශ්නය මතක ද? 'අර දුප්පත් මිනිහා ගේ සිත ක්‍රියා කරන හැටි විග්‍රහ කිරීමෙන් අප ඒ මිනිහා පහත් කොට සලකනවා නේ ද?' යන ප්‍රශ්නය........ එ වැනි ප්‍රශ්කයක් අහන්න පුළුවන් දුක සැප අඳුනන කෙනෙකුට පමණයි.........මා දන්නේ නැහැ මේ කාරණාව කොහොම විස්තර කරන්න ද කියා. නමුත් එ වැනි ප්‍රශ්නයක් අහන්න පුළුවන් දුක් විඳින්න පුළුවන් කෙනෙකුට පමණයි. ඇවිද ගන්න බැරිව ඔය පුටුවේ හිඳින නුඹ බොහෝ දේවල් ගැන කල්පනා කරනවා ඇති."

"අලෝෂා, අත දෙන්න. ඇයි අත ඉවත ගත්තේ"යි ලීසා කීවේ ප්‍රීතියෙන් දුබල වූ කටහඬිනි. "ආශ්‍රමය අත් හැරියාට පස්සේ මොන විදියේ ඇඳුමක් ද අඳින්නේ? හිනා වෙන්න එපා. තරහ වෙන්න එපා. ඒක දැනගැනීම මට බොහො ම වැදගත් දෙයක්."

"මා ඒ ගැන තව ම කල්පනා කළේ නැහැ. ලීසා කැමැති ඇඳුමක් අඳින්නම්."

"මම කැමැතියි නිල්පාට විල්ලුද කබායක් හා සුදු ගොරෝසු වේස්කෝට් එකක් ඇඳ දුඹුරු පාට හිස්වැස්මක් පළඳිනවා නම් ...... මා අර ලියුම ලිව්වේ විහිළුවට යයි මා ඊයේ කීවහම මා ආදරය නැහැ කියා කල්පනා කළා ද?"

"නැහැ මා එහෙම කල්පනා කළේ නැහැ."

"අලෝෂා ආශ්‍රය කරන්න බැරි බොහො ම මුරණ්ඩු මිනිහෙක්."

"මා දැනසිටියා ලීසා මට ආලය කරන බව. නමුත් ලීසා මට කිසි ම සැලකිල්ලක් නොදක්වන බව මා හැඟෙව්වේ ලීසාට ලැජ්ජාවක් ඇති නො වන්නටයි."

"එයින් තව තවත් තත්ත්වය අමාරු අතට හැරෙනවා. ඔව්, එක් අතකින් අමාරු වන අතර අනෙක් අතින් යහපතකුත් වෙනවා. අද උදේ අලෝෂා එන්නට කලින් මා මගේ වාසනාව සොයා බැලුවා. මා අදහස් කරගෙන සිටියා නුඹට දුන් ලියුම ආපසු ඉල්ලන්න. ලියුම ආපසු දුන්නා නම් (නුඹෙන් බලාපොරොත්තු විය හැක්කේ එපමණයි) එයින් මට තේරුම් ගන්න පුළුවනි නුඹ මට ආදරය නැති බවත්, නුඹ කිසි ම වැදගැම්මකට නැති නිවටයකු බවත්, නුඹට ලියුමක් දීමෙන් මගේ අනාගතය විනාශ වූ බවත්. නමුත් නුඹ ලියුම ආශ්‍රමයේ තබා පැමුණුණා ය

කිව්වා නම් මට ලොකු සතුටක් ඇති වෙනවා. ලියුම නොගෙනාවේ මා ඉල්ලුවොත් ආපසු දෙන්න වේය කියා හිතා ගෙන නේ ද? මා ලියුම ඉල්ලන බව දන ගෙන සිටියා නේ ද? ඇත්ත කියන්න.”

“නැහැ ලීසා ඒක එහෙම නො වෙයි. ලියුම දනුත් මා ළඟ තියෙනවා. අද උදෙත් මගේ සාක්කුවේ තිබුණා. මේ තියෙන්නේ ලියුම.”

සිනා සෙන්නට වූ අලෝෂා සාක්කුවට අත දමා ලියුම ගෙන ටිකක් ඈතින් සිට පෙන්නුවේ ය.

“මා ලීසාට ලියුම ආපසු දෙන්නේ නැහැ. ඔ තැන ඉඳලා බලන්න.”

“එහෙනම් අලෝෂා බොරුවක් කිව්වා නේ ද? පූජකයකුත් වෙලා බොරු කියනවා නේ ද?”

“කැමැති නම් ඒක බොරුවක් හැටියට පිළිගන්නට වරදක් නැහැ.” තරුණියා සිනා සෙමින් කී ය. “මා බොරුවක් කිව්වේ ලියුම ආපසු නොදෙන්නට යි. ඒක මට බොහො ම වටිනා දෙයක්. මා කවදාවත් ලියුම කාටවත් දෙන්නේ නැහැ”යි ඔහු හදිසියෙන් ම කීවේ සිතේ අවදි වූ හැඟීමෙන් යුතුව ය. නැවත ඔහු ගේ මුහුණ විළියෙන් රතු විය.

“බලන්න දොර ළඟ අම්මා අපේ කතාව අහගෙන ඉන්නව ද දන්නේ නැහැ”යි දරිය මහත් සතුටින් තරුණියා දෙස බලා කීවේ රහසක් කියන්නාක් මෙනි.

“හොඳයි ලීසා කැමැති නම් බලන්නම්. නමුත් නො බලා සිටිනවා නම් වැඩිය හොඳ නැද්ද? අම්මා එහෙම නරක වැඩක් කරාවිය කියා අවිශ්වාස කරන්නේ මොනවට ද?”

“කොහොම ද නරක වැඩක් වෙන්නේ? දුව ගැන පරීක්ෂාවෙන් සිටීම අම්මාට අයිති වැඩක්, ඒක නරක වැඩක් නො වෙයි” දරිය අමනාපයෙන් කීවා ය. “අලෝෂා මම නුඹට සපිරව කියන්නම් මා අම්මා කෙනෙකු වී, මට මා වැනි දුවක් සිටියොත් මා ඇය ගැන නිතර සෝදිසියෙන් සිටිනවා.”

“ඒක හොඳ වැඩක් නො වෙයි.”

“අනේ දෙයියනේ, ඒක නරක වැඩක් වෙන්නේ කොහොම ද? අම්මා සාමාන්‍ය කතාවක් අහගෙන සිටියා නම් ඒක නරක

වැඩක් වෙන්න පුළුවනි. නමුත් තමා ගේ දුව තරුණයකු සමඟ තනියෙන් කාමරයක සිටින විට.........දන්නව ද අලෝෂා, අප විවාහ වූවාට පස්සේ මා නුඹ ගැන සෝදිසියෙන් සිටිනවා. නුඹට ලැබෙන ලියුම් සේරම කඩා බලනවා. ඒ නිසා දන් ම සිට සූදානමින් සිටින්න."

"මම ඒකට සූදානම්..............නමුත් ඒක හොඳ වැඩක් නො වෙයි."

"අනේ එහෙනම් ඒක කො තරම් ලොකු නින්දාවක් ද? අලෝෂා, අපි විවාහ වූ පළමු දින ම කෝලාහල නො කර සිටිමු. නමුත් නුඹට අවංකව ඇත්ත කිය යුතුයි. මිනිසුන් ගැන ඔත්තු බලන එක හොඳ නැහැ. අලෝෂා ගේ අදහස හරි. මගේ අදහස වැරදියි. කොහොම වුණත් මා නුඹ ගැන සෝදිසියෙන් සිටිනවා."

"ඒකට වරදක් නැහැ. නමුත් ලීසාට කවදාවත් මගේ වරදක් සොයා ගන්න ලැබෙන්නේ නැහැ."යි තරුණයා සිනා සෙමින් කී ය.

"අලෝෂා මා කියන දෙය කරනවා ද? අපි ඒ ගැන දන් ම තීරණයකට බසිමු."

"ඔව් ඒකට මම බොහො ම කැමැතියි. ඉතා ම වැදගත් දේවල් ඇරෙන්නට මා අනෙක් හැම දෙයක් ගැන ම ලීසාගෙන් විමසනවා. ඉතා වැදගත් දේවල්වල දී ලීසා මගේ අදහස්වලට එකඟ නො වූවත් මා ඒවා මගේ හිතට එකඟව ක්‍රියාවේ යොදනවා."

"ඒක බොහො ම හොඳයි. බොහො ම වැදගත් දේවල් ගැන පමණක් නොව හැම දෙයක් ම මා අලෝෂාට උවමනා විදියට කරන්න ඉඩ දෙනවා. මා දන් ම ඒ ගැන පොරොන්දු වෙනවා. බොහො ම සතුටින් එකඟ වෙනවා. එ පමණක් නො ව මා කවදාවත් අලෝෂා ගැන සෝදිසියෙන් සිටින්නේ නැහැ. ලියුම් කඩා බලන්නේ නැහැ. අලෝෂා ගේ අදහස හරි. මගේ අදහස වැරදියි. මගේ ලොකු ආසාවක් තිබුණා නුඹ ගැන සෝදිසියෙන් සිටින්න. නමුත් නුඹ ඒක වංක වැඩක් හැටියට සලකන නිසා මා එය කරන්නේ නැහැ. මෙ තැන් සිට මා නුඹට දෙවියකුට වගේ සලකනවා.........අලෝෂා ඇයි ඊයේයි අදයි බොහො ම කනගාටුවෙන් සිටින්නේ? මා දන්නවා අලෝෂාට බොහො ම

දුක්කරදර තියෙන බව. නමුත් මේ කිසිවකට සම්බන්ධ නැති දුකකින් පසුවන බව මට පේනවා. සමහරවිට ඒක රහසක් වෙන්න පුළුවනි.''

''ඔව් ලීසා, රහසක් වූ දුකක් තියෙනවා.''යි අලෝෂා ශෝක-යෙන් කී ය. ''නුඹ ඒ බව දැනගත් නිසා නුඹ මට ආලය කරන බව මා දන්නව .''

''අලෝෂා ශෝක වෙන්නේ මොනව නිසා ද? මට කියන්න බැරි ද?''යි ලීසා බයාදු කමක් දක්වමින් ඇසුවා ය.

''දැන් නොවෙයි පස්සේ කියන්නම්''යි අලෝෂා කීවේ අවුල් වූ සිතැත්තකු මෙනි. ''දැන් කීවොත් නො තේරෙන්නට ද පුළුවනි. සමහර විට මට එය හරිහැටි විස්තර කරන්නටවත් නුපුළුවන් වන්නට පුළුවනි.''

''මා දන්නවා තාත්තාත් අයියල දෙන්නාත් අලෝෂාට මහ කරදරයක් බව.''

''ඔව්, මගේ සහෝදරයන් මට කරදරයක් තමයි'' අලෝෂා කීවේ මදක් කල්පනා කිරීමෙන් පසුව ය.

''මා පොඩි අයියට කැමැති නැහැ''යි ලීසා හිටිහැටියේ ම කීවා ය.

ලීසා ගේ මේ කතාව අලෝෂාට මහත් පුදුමයක් විය. එහෙත් ඒ ගැන හේ කිසිවක් නො කීවේ ය.

''මගේ සහෝදරයන් එකිනෙකා විනාශ කර ගන්නවා. මගේ තාත්තත් සහෝදරයන් විනාශ කරනවා. මේ තුන් දෙනා එකතු වී අනෙක් අය විනාශ කරනවා''යි අලෝෂා කී ය. ''ඒක කරමසෝ වරුන් ගේ උපන් ගෙයි ගතිය. පියසි පියතුමා කිව්වා වගේ මේක මැඩපවත්වන්නට බැරි අශිෂ්ට බලවේගයක්. මේ බල-වේගයට උඩින් දෙවියන් වහන්සේ ගේ බලය පවතිනවා ද කියා, මා දන්නේ නැහැ. මා දන්නේ මා ද කරමසෝ පවුලේ කෙනෙකු බවයි...........නමුත් මම පූජකයෙක්. ලීසා, ටිකකට කලින් කිව්වා නේද මා පූජකයකු බව?''

''ඔව්, මා කිව්වා.''

''සමහරවිට මා දෙවියන් ගැනවත් විශ්වාස නොකරන්න පුළුවනි.''

"දෙවියන් ගැන විශ්වාස කරන්නේ නැහැ? මොක ද වෙලා තියෙන්නේ?"යි ලීසා සෙමෙන් එහෙත් ආදරයෙන් ඇසුවා ය. අලෝෂා පිළිතුරු නුදුන්නේ ය. ඔහු හදිසියෙන් කළ කතාවේ අද්භූත ගතියක් තිබිණි. සිතේ පවත්නා හැඟීම් දනවන ගතියක් ද තිබිණි. ඔහුට ම ඒ වචන නො පැහැදිලි වන්නට ඇත. එහෙත් එය ඔහු ගේ සිතට මහත් ශෝකයක් වූ බව පෙනේ.

"සේරම කරදර මැද්දේ, මගේ හොඳ ම මිත්‍රයා, ලෝකයේ සිටින හොඳම තැනැත්තා, මේ ලෝකය අත්හැර යන්න සූදානම් වෙනවා. ලීසා දන්නවා නම් මා ගතින් සිතින් කො තරම් එතුමාට බැඳී සිටිනවද කියා! සොසිමා තවුසා මළාට පස්සේ මා තනිවෙනවා.........එතකොට මම නුඹ සොයා එන්නම්. ඊට පස්සේ අප දෙන්නාට එකට ජීවත් වන්න පුළුවනි."

"ඔව් අලෝෂා අපි එකට ජීවත් වෙමු. සදහට ම එකට ජීවත්වෙමු. දැන් මා සිඹින්න මා නුඹට අවසර දෙනවා."

අලෝෂා ඇය සිම්බේ ය.

"දැන් ඉතින් යන්න, ක්‍රිස්තුන් වහන්සේ නුඹව ආරක්ෂා කරත්වා." මෙසේ පැවසූ ලීසා, අලෝෂා ගේ හිස උඩින් කුරුසයේ ලකුණ ඇන්දු ය. "සොසිමා තවුසා මියන්නට පෙර වහා එතුමා ළගට යන්න. මා නුඹව නිකරුණේ පමා කළා. මම අදත් හෙටත්, තවුසාත් නුඹත් වෙනුවෙන් යාච්ඤා කරන්නම්. අලෝෂා අපට සතුටින් සිටින්න පුළුවන් නේ ද?"

"ඔව් ලීසා, මා හිතනවා අපට සතුටින් සිටින්න පුළුවන් වේය කියා."

ගෘහිණියට නො කියා යාම හොඳය යි අදහස් කළ අලෝෂා ඇගෙන් සමු නො ගෙන ගෙන් පිට වී ගියේ ය. එහෙත් කාමරයේ දොර අරිනවාත් සමග ම තමා ඉදිරිපිට සිටින ගෘහිණිය දුටුවේ ය. තමා හමුවීමට ඇ උදක් ම බලාපොරොත්තුව සිටින බව අලෝෂාට ඇගේ කතාවෙන් දැනගත හැකි විය.

"අලෝෂා මේක මහ භයානක දෙයක්, බොහො ම ළාමක දෙයක්, මෝඩකමක්"යි කියමින් හොලාකෝ මැතිනිය අලෝෂාට දොස් කියන්නට වූවා ය.

"ලීසාට මේ ගැන කිසි ම දෙයක් කියන්න එපා"යි අලෝෂා පිළිතුරු දෙමින් කී ය. "ලීසා ගේ හිත නරක් වෙන්න පුළුවනි. ඒ ක ඇගේ අසනීපයට හොඳ නැහැ."

"සිහිබුද්ධිය තියෙන තරුණයකුගෙන් ලැබුණු සිහිබුද්ධිය ඇති අවවාදයක්. නුඹ ඇගේ අදහස්වලට එකඟ වුණේ අසනීපයෙන් සිටින ඇයට අනුකම්පාවෙන් ඇගේ හිත රිද්දවන්න හොඳ නැති නිසා ද?"

"නැහැ, නැහැ, මා කළේ විහිළුවක් නො වෙයි." අලෝෂා ස්ථිර අදහසින් කී ය.

"මේක කරන්න පුළුවන් දෙයක් නො වෙයි. කරනවා කියා හිතන්නවත් බැහැ. මීට පස්සේ නුඹ පිළිගැනීමට මා මේ ගෙදර සිටින්නේ නැහැ. මා ලීසාත් එක්ක ගෙය අතහැර යනවා."

"ඇයි මෙච්චර කලබල වෙන්නේ? අපට තව බොහෝ ම කල් තියෙනවා. තව අවුරුදු එකහමාරක් පමණ සිටින්න සිදුවේවි."

"ඔව් ඒක ඇත්තයි. මේ අවුරුදු එකහමාර තුළ දී නුඹලාට එකිනෙකා සමග කලහ කර ගෙන දහස් වරක්වත් වෙන් වන්නට කල් තියෙනවා. මේක මගේ හිතට ලොකු වේදනාවක්. මේක කිසි ම තේරුමක් නැති පිස්සු වැඩක්. මට මහත් දුකක්. මා නුඹලා ගේ කතාව අහගෙනයි සිටියේ. නුඹලා ගේ කතාව අහලා මා සිහි නැති ව වැටෙන්න ගියා ............එහෙනම් ලීසා රෑ තිස්සේ නිදි නැති ව පිස්සුවෙන් වගේ හිටියේ මේ කාරණාව නිසා වෙන්න ඇති. මේක මගේ දුවට සැපතක් වුවත් මටට මරණයයි. මීට වැඩිය හොඳයි දූන් ම මගේ පණ යනවා නම්........ මොකක් ද ලීසා නුඹට දුන්න ලියුම? මට දූන් ම ඒ ලියුම පෙන්නන්න ඕනෑ."

"ලියුම පෙන්නන්න උවමනාවක් නැහැ. කොහොම ද කැතිරි නගේ අසනීපය? ඇගේ සැප සනීප කොහොම හරි මා දැනගන්න ඕනෑ."

"කැතිරිනාට තව ම සිහිය ලැබුණේ නැහැ. ඇගේ නැන්දලා, ඇවිත් සිටිනවා. ඒ ගොල්ලන්ට, බොරු අහංකාරකම් පෙන්නනවා මිස වෙන කරන්න පුළුවන් දෙයක් නැහැ. දෙස්තර මහත්මයාත් ආවා. එයා ලෙඩා දැක බොහො ම බය වුණා. මා කල්පනා කළා මේ දෙස්තරට බෙහෙත් කරන්න තවත් දෙස්තර කෙනෙකු ගෙන්නන්න වේය කියා. මා දෙස්තර මගේ කරත්තයේ නංගවලා ගෙදර ඇරියා. ඉතින් මේ සේරම කරදර මැද්දේ නුඹයි නුඹේ ලියුමයි! අවුරුදු එකහමාරක් තුළ දී කිසි ම දෙයක් සිදු නොවන බව ඇත්තයි. ඒ බව මා දන්නවා.

කොහොම වුණත්, සියලු ම සුද්ධ වූ දේවල්වල නාමයෙන් සොසිමා තවුසා ගේ නාමයෙන් ඔය ලියුම මට දෙන්න. ඔබ ඇගේ මවයි. මගේ අතට දෙන්න කැමැති නැති නම් ලියුම අල්ලාගෙන ඉන්න, මම කියවන්නම්."

"ලීසා අවසර දුන්නත් මා ලියුම පෙන්නන්නේ නැහැ. මා හෙට ආයේත් මෙහාට එනවා. එතකොට පුළුවනි මා එක්ක ඕනෑ ම දෙයක් ගැන කතා කරන්න. මා යනවා, ආයුබෝවන්."

මෙසේ පැවසූ අලෝෂා වහා පඩි පෙළ බැස මාගීගට දිව ගියේ ය.

## දෙ වන පරිච්ඡේදය

## ජන්මයේ දෝෂය

අලෝෂාට පමාවීමට කාලයක් නැත. ලීසා ගෙන් සමු ගන්නා විට ද අලෝෂා කල්පනා කළේ ඕනෑකමින් ම මගහරින වැඩිමහල් සොහොයුරා හමුවීමට ක්‍රමයක් ගැන ය. දන් සවස් වී ඇත. වේලාව තුනට කිට්ටු ය. අලෝෂා ගේ මුළු ආත්මය ආශ්‍රම- යේ මරණාසන්නව සිටින සාන්තුවරයා වෙත යොමු විය. එහෙත් මිතියා හමුවීමට ඇති අවශ්‍යතාව අනෙක් හැම දෙයක් ම යට කරගෙන මතු විය. මහ විපතක් සිදුවන්නේ ය යන අදහස පැයෙන් පැය අලෝෂා ගේ සිත තුළ වැඩෙන්නට විය. මේ විපත කුමක් විය හැකි ද? ඒ මොහොතේ දී සොහොයුරාට කුමක් කිය යුතු ද? යි. අලෝෂාට නිසැකව ම කිව නොහැකි ය. "මගේ ආරක්ෂකයා, මා ළග නැති ව මිය ගියත්, කිසියම් විපතක් වැළැක්වීමට ඉඩ තිබිය දී මා එසේ නො කොට ගෙදර ගියාය කියා මුළු ජීවිතයට ම මට දෙස් පවරා ගන්න පුළුවන් කමක්, නැහැ. දන් මා අදහස් කළ පරිදි ක්‍රියා කළොත් නිසැකයෙන් ම මගේ තවුසා අනුගමනය කළා වෙනවා."

අලෝෂා අදහස් කළේ ඊයේ සවස කළාක් මෙන් වැට උඩින් පැන වත්තට ඇතුළු වී මණ්ඩපයෙහි සිට සොහොයුරා හමුවීමට ය. "අයියා එහි නොසිටිය හොත් ගෙවල් හිමිකාරියට- වත් පෝමාටවත් නො කියා අවශ්‍ය වුවහොත් ඉර බසින තෙක් වත් සිටිමි"යි අලෝෂා අදහස් කෙළේ ය. එහෙත් මිතියා

ගෘසෙන්කා ගේ පැමිණීම බලාපොරොත්තුව සිටිනවා නම් මණ්ඩපයට පැමිණෙනවා ඇති........." මෙසේ අදහස් කළ අලෝෂා තමා ගේ වැඩ පිළිවෙළ ගැන වැඩි දුරට කල්පනා නොකෙළේ ය. එදින සවස ආශ්‍රමයට යන්නට නොලැබුණත් මිතියා හමු වීමට ඉටා ගත්තේ ය.

හැම දෙයක් ම බාධාවක් නැති ව සිදු විය. පෙර දින සවස වැට උඩින් නැගගත් තැනින් ම නැගගත් අලෝෂා කිසිවකුට නො පෙනී මණ්ඩපයට ගියේ ය. ඔහුට උවමනා වූයේ කිසිවකුට නො පෙනී සිටීමට ය. ගෙවල් හිමිකාරිය හෝ පෝමා හෝ තමා දුටුවොත්, මිතියා ගේ නියමය පරිදි තමාට වත්තට ඇතුළු වීමට පවා ඉඩ නොදෙන්නට පිළිවන. නැතිනම් තමා පැමිණ සිටින බව මිතියාට දන්වන්නට පිළිවන.

මණ්ඩපයේ කිසිවෙකු නොසිටියෙන් පෙර දින සවස හිඳ ගත් තැන ම හිඳගත් අලෝෂා, මිතියා පැමිණෙන තෙක් බලා සිටියේ ය. මේ ගොඩනැගිල්ල තමා හිතුවාටත් වඩා පැරණි බව මණ්ඩපය දෙස විමසිල්ලෙන් බැලූ අලෝෂාට කල්පනා විය. ගිය දවස මෙන් මෙ දින ද ඉතා දීප්තිමත් විය. මෙ තැන ඉතා කාලකණ්ණි තැනක් මෙන් පෙනේ. මේසය උඩ රවුන් පැල්ලමක් දකින්නට තිබිණි. එය පෙර දින මේසය උඩ ඉහිරන ලද බ්‍රැණ්ඩි වීදුරුවෙන් ඇති වූ පැල්ලමක් බවට කිසි ම සැකයක් නැත. බොහෝ වේලා බලා සිටින විට සිතේ නිතැතින් ම ඇති වන අර්ථයක් නැති අදහස් අලෝෂා ගේ සිතේ ද ඇතිවන්නට විය. තමා පෙර දින හිඳගත් තැන ම අද සවස ද හිඳ සිටින්නේ මන් දැ යි අලෝෂා කල්පනා කෙළේ ය. අනෙක් අසුනේ හිඳ නොගන්නේ මන් ද? අන්තිමේ දී ඔහු ගේ සිතේ බලවත් උදාසීනත්වයක් ඇති විය. එය කුතුහලයෙන් හා අස්ථිර බලාපොරොත්තුවලින් ඇති වන උදාසීනත්වයකි. එහෙත් ඔහු පැය කාලක්වත් එහි හිඳ නොසිටියේ ය. නුදුරේ සිට එන ගිටාරයක හඬක් ඇසිණි. අඩි විස්සක් පමණ ඇතින් තිබෙන බඩවැටිය පිටිපස යම් කිසිවෙකු හිඳ සිටිනවා විය හැකි ය. පෙර දින සවස මණ්ඩපයේ සිට යන අතරේ පඳුරු අතර වම් පැත්තේ වැට අසල කොළ පාට තීන්ත ගාන ලද මිටි බන්කුවක් දුටුවා අලෝෂාට සඳහන් විය. මිනිසුන් මේ බන්කුව උඩ හිඳ ගන්නවා විය හැකි ය. එහෙත් මේ මිනිස්සු කවුරුන් විය හැකි ද?

හදිසියෙන් ම ගිටාරයක් වයමින් මිහිරි ගීයක් ගයන මිනිසකු ගේ කට හඬක් ඇසිණි.

නොපෙනෙ නොහඳුනන
බලයකින් ඇයට බැඳුණෙමි.
අහෝ මගේ දෙවියනි,
ඇයට හා මා හට,
අනුකම්පා කරනු මැන!
අනුකම්පා කරනු මැන!
අනුකම්පා කරනු මැන!

ගීය අවසන් විය. එය පහත් පෙළේ රාගයක් අනුව ගයන ලද පහත් පෙළේ ගීයකි. ඒ අතරේ ආදරයෙන්, එහෙත් ද්වේෂාරෝපනයෙන් හා ලැජ්ජාවෙන් යුත් ගැහැනියක ගේ කට හඬක් හිටිහැටියේ ම ඇසෙන්නට විය.

"පැවල් පියෝදරවිච්, ඇයි හුග කාලයකින් අප බලන්න නාවේ? ඇයි අප පහත් කොට සලකන්නේ?"

"මා නුඹලා පහත් කොට සලකන්නේ නැහැ"යි මිනිහා කරුණාවෙන් වුව ද උදුර බවක් හඟවා පිළිතුරු දුන්නේ ය. මිනිහා උසස් තත්ත්වයක සිටින බවත්, තරුණිය ඔහු ගේ සිත් ගැනීමට වෑයම් කරන බවත් කතාවෙන් පෙනේ. මේ මිනිහා පැවල් සෙමාඩියාකෝෆ් විය යුතු යයි අලෝෂා කල්පනා කෙළේ ය. තරුණිය මැත දී මොස්කව් සිට පැමිණි ගෙහිමිකාරිය ගේ දියණිය විය යුතු ය. බිම ඇතිල්ලෙන තරම් දිග ගවුමක් ඇඳ මාපාගෙන් සුප් ඉල්ලා ගෙන එන්නේ මේ තරුණිය විය යුතු ය.

"තාලයට කියන්න පුළුවන් කවිවලට මම බොහො ම කැමැතියි" තරුණිය කීවා ය. "ඇයි එහෙනම් තවත් නො කියන්නේ?"

මිනිහා ආයේත් ගීය කී ය.

මගේ ප්‍රිය සොඳුරිය,
සැප සේ සිටින්නේ නම්.
රජ සැපෙන් මට ඇති
පලය කිම දැයි අසමි මම.
අහෝ මගෙ දෙවියනි,
ඇයට හා මා හට
අනුකම්පා කරනු මැන!
අනුකම්පා කරනු මැන!
අනුකම්පා කරනු මැන!

"මේ ගීය සැලින් කියාපු ගීයට වඩා හොඳයි" තරුණිය කීවා ය. " 'මගේ ප්‍රිය සොඳුරිය, සැපසේ සිටින්නේ නම්' කියන කොටසේ ආදරයක් දකින්න තියෙනවා. මං හිතන්නේ නුඹට අදහස අමතක වෙන්න ඇති."

"කවිය වැඩකට නැති දෙයක්"යි පැවල් කෙටියෙන් පිළිතුරු දුන්නේ ය.

"නැහැ නැහැ, මම කවිවලට බොහො ම කැමැතියි."

"කවි කිසි ම වැඩකට ඇති දෙයක් නො වෙයි. කල්පනා කර බලන්න කවු ද තාලයක් අනුව කතා කරන්නේ? ආණ්ඩුවේ ළලකිරීම පිට අප තාලයක් අනුව කතා කරන්න ගියොත් අපට වැඩිය කතා කරන්න ලැබෙන්නේ නැහැ. මායා කවි හොඳ දෙයක් නො වෙයි."

"පැවල් කො තරම් ලොකු උගතෙක් ද? කොහොම ද මෙ තරම් දේවල් දන්නේ?" තරුණිය ගේ කටහඬ වඩවඩාත් සිත් ගන්නා සුළු විය.

"මට මීට වඩා ලොකු උගතෙකු වෙන්න තිබුණා. කුඩා කාලේ සිට මගේ දෛවය හොඳට තිබුණා නම් මීට වඩා බොහො ම දේවල් දනගන්න තිබුණා. හිඟන්නියකගෙන් උපන් අප්පා නැති මට යම් කිසිවෙකු නින්දවක් කළොත්, මා ඒ මිනිහා ද්වන්ද්ව යුද්ධයකට කැඳව වෙඩි තබා මරනවා. මොස්කව් නුවර දී මිනිසුන් මගේ ජන්මය මතක් කරලා මට අපහාස කළා. ඔවුන් මගේ ජන්මය ගැන දනගෙන තියෙන්නේ මේ පළාතෙන්. ගිරිගෝරිස්ට පින් සිද්ධ වෙන්න. ඔවුන් දනගෙන තියෙන්නේ ගිරිගෝරිස්ගෙන්. මගේ ජන්මය ගැන අවලාද කියනවාට ගිරි-ගෝරිස් මට දෙස් කියනවා. මම බොහො ම කැමැතියි උපන්දා ම උන් මා මරා දම්මා නම්. එහෙනම් මට මේ දුක විඳින්න සිද්ධ වෙන්නේ නැහැ. මාරකැට්ටුවට ගියත් මිනිසුන් මගේ අම්මා ගැන මට නොයෙක් දේවල් කියනවා. ඇයි, නුඹේ අම්මත් නොයෙක් දේවල්වල් කියනවා. අනුන් ගේ සිත් රිදෙන බව මොහොතකටවත් කල්පනා නො කොට, මගේ අම්ම ගේ කොණ්-ඩය, ඔළුව උඩ තියෙන පැදුරක් වගේ ය. ඇ අඩි පහකට වඩා ඇබිත්තක් මිටිය යි කියනවා. ඒට වැඩිය හොඳ නැති ද මගේ අම්මා අනෙක් ගෑනු වගේ අඩි පහකට වඩා ටිකක් මිටියි කියනවා නම්. සමහර විට ගැමියකු ගේ සිතේ ඇති වන හැඟීම් මගේ සිතේ ද ඇති කිරීමට එහෙම කියන්න ඇති. උගත්

මිනිහකුට ඇති වන හැඟීම් කොහොම ද ගැමියකුට ඇති වන්නේ? ගැමියකු ගේ සිතේ හැඟීම් ඇති නො වන්නේ ඔහු හූගතෙකු නිසයි. කුඩා කාලේ ඉඳලා 'ඇබිත්තක්' යන වචනය ඇහෙන කොට මගේ ඇගේ මාළු නටනවා. මායා මට මුළු රුසියන් ජාතිය ම තිත්තයි."

"පැවල් යුද්ධහමුදුවට බැඳී සිටියා නම් ඔය විදියට කතා කරන්නේ නැහැ. එහෙනම් කඩුව අරගෙන රුසියාව බේරා ගන්න යුද්දෙට යන්න වෙනවා."

"මගේ කිසි ම අදහසක් නැහැ සොල්දාදුවෙකු වෙන්න. සොල්දාදුවන් සේරම නැති කරන්න පුළුවන් නම් මම බොහො ම කැමැතියි."

"අපේ රට ආක්‍රමණය කළොත් කවු ද අපව ආරක්ෂා කරන්නේ?"

"අපේ රට ආරක්ෂා කරන්න උවමනා නැහැ. 1812 දී නැපෝලියන් රුසියාව ආක්‍රමණය කළා. අපේ රට යටත් කර ගත්තා නම් බොහො ම හොඳයි. දක්ෂ රටක්, මෝඩ රටක් අල්ල ගන්න එක හොඳයි. එහෙනම් මීට වඩා අපේ රට දියුණු වෙනවා."

"එහෙනම් ප්‍රංශකාරයන් අපට වඩා හොඳට උන් ගේ රටේ ජීවත් වෙනවා ද? මා අපේ එක රුසියන් තරුණයෙකු ඉංග්‍රීසි තරුණයන් තුන් දෙනෙකුටවත් මාරු කරන්නේ නැහැ"යි මායා ආදරයෙන් කීවේ තරුණයා දෙස නෙත් කොනින් බලමිනි.

"ඒක තමන් ආලය කරන තැනැත්තා ගේ හැටියටයි."

"තුඹත් හරියට පිටරටක ඉඳලා ආපු මහත්මයෙකු වගෙයි. ලැජ්ජා හිතුණත් ඇත්ත කියන්න ඕනැ."

"පිට රට ඉන්න මිනිස්සුත් මේ රටේ ඉන්න මිනිස්සුත් එක වගේ ම නරකයි. වෙනසකට තියෙන්නේ පිට රට ඉන්න තක්කඩි හොඳට ඇඳුම් පැළඳුම් කරනවා. මේ රටේ ඉන්න තක්කඩි කුණු ගොඩවල්වල කුණු කමින් ජීවත් වෙනවා. ඒකේ වරදක් තියෙන බව උන්ට පෙනෙන්නේ නැහැ. පියෝදර් කරමසෝ පිස්සා. මිනිහ ගේ පුත්තු තුන් දෙනෙක් පිස්සෝ, නමුත් මිනිහා ඊයේ කිව්වා රුසියන් ජාතිකයන්ට කසයෙන් තළන්න ඕනැය කියා. ඒ කතාව ඇත්තයි."

"තුඹ මට කිව්වා ඉවාන් කරමසෝට තුඹ බොහො ම ගරු කරනවා ය කියා."

"ඉවාන් කරමසෝ මට කිව්වා මා හඩු ගඳ ගහන දසයෙක්ය කියා. එයා කල්පනා කරනවා මා එයාට විරුද්ධ වෙයි කියා. එයාට ලොකු වැරදීමක් වෙලා තියෙන්නේ. මා ළග සල්ලි ටිකක් තිබුණා නම් මා මේ පළාත අත්හැර ගිහින් බොහො ම කල්. කල්ක්‍රියාවෙන්, අදහස්වලින්, හා මිල මුදල් අතින් මීතියා හඩු ගඳ ගහන දසයකුටත් අන්තයි. මිනිහා කිසි ම දෙයක් දන්නේ නැති වුණත් කවුරුත් මිනිහට ගරු කරනවා. මා කෝකියෙකු වුණත් වාසනාව තියෙනවා නම් මට පුළුවනි පෙට්‍රොව්කාවේ නැති නම් මොස්කව් නුවර හෝටලයක් දමන්න. මට පුළුවනි බොහො ම හොඳට කෑම උයන්න. මොස්කව් නුවර හොඳට කෑම උයන්න පුළුවන් විදේශිකයන්ට පමණයි. මීතිණා හිඟන්නෙක්. නමුත් රටේ ඉන්න පළමු වන සිටුවරයා ගේ පුතා සටනකට කැඳෙව්වොත් මිනිහා සමග සටන් කරාවි. මීතියා මට වඩා හොඳයි කියන්නේ කොහොම ද? මිනිහා මට වඩා බොහො ම මෝඩයි. බලන්න කිසි ම හේතුවක් නැති ව මිනිහා කො තරම් විශාල ධනයක් නාස්ති කළා ද කියා."

"ඒක බොහො ම ලස්සණ ද්වන්ද්ව යුද්ධයක් වෙන්න ඕනෑ"යි මායා හිටිහැටියේ ම කීවා ය.

"ඒ කොහොම ද?"

"තරුණියක් නිසා තරුණ නිලධාරීන් දෙදෙනෙකු පිස්තෝල-වලින් එකිනෙකාට වෙඩි තබා ගැනීම බලන්න ලස්සණ නිර්භීත, නමුත් භයානක දෙයක් නේ ද? ගෑනුන්ටත් බලන්න ඉඩ දෙනවා නම් මා ඕනෑ ම දෙයක් දෙනවා ද්වන්ද්ව යුද්ධයක් බලන්න."

"තුඹ තවත් කෙනෙකුට වෙඩි තියනවා නම් කමක් නැහැ. නමුත් තවත් කෙනෙක් කෙළින් ම තුඹෙ ඔළුවට පිස්තෝලයක් එල්ල කරගෙන සිටින බව පෙනෙන කොට තුඹට හිතේවි මේක මහ මෝඩකමක් බව. තුඹට දුවන්න හිතේවි."

"පැවල් ගේ අදහස ද්වන්ද්ව යුද්ධයක දී පැනලා යන්න ද?"

තරුණිය ගේ ප්‍රශ්නයට තරුණයා පිළිතුරු නුදුන්නේ ය. මොහොතක් පමණ වේලා පැවැති නිශ්ශබ්දතාවකින් අනතුරුව තරුණයා අංයේත් ගිටාරය වයමින් ගීයක් ගයන්නට විය.

තුඹ කුමක් කීව ද
මම යන්නෙමිය දුර රට.
ඈත ඈති පුරයේ
ජිවිතය සැපවත් වේ.
මම දුක් නොවන්නෙමි.
කිසි කලක දුක් නො වෙමි මම.
කිසි කලක දුක් වීමට
නැතිය මං තුළ අදහස.

එවිට කිසිසේත් බලාපොරොත්තු නොවූ දෙයක් සිදු විය. හදිසියෙන් ම අලෝෂාට කිඹුහුම් ගියේ ය. ඒ සමග නිශ්ශබ්දතාවක් ඇති විය. අලෝෂා හිඳ සිටි තැනින් නැගිට තරුණයා සිටි තැනට ගියේ ය. හොඳට ඇඳ සිටි පැවල් ඔප දමන ලද පාවහන් පැළඳ රැළි වැටෙන ලෙස හිසකෙස් පීරා සිටියේ ය. හිටාරය බන්කුව උඩ තබා තිබිණි. යාර දෙකක් පමණ දික් වූ වාටියෙන් යුත් ළා නිල් පැහැති ඇඳුමකින් සැරසුණු තරුණිය ගෙවල්හිමිකාරිය ගේ දියණිය වූවා ය. ඈ වයසින් බාල ය. ඇගේ වටකුරු මුහුණ පුරා පුල්ලි වැටී නොතිබුණේ නම් ඈ එ තරම් අවලස්සණ නැත.

"අයියා ඉක්මනට ගෙදර ඒවි ද?" යි අලෝෂා හැකි තරම් සන්සුන් බව හඟවමින් විමසුවේ ය.

පැවල් සෙමෙන් නැඟී සිටියේ ය. ඒ සමග තරුණිය ද නැඟී සිටියා ය.

"මා කොහොම ද ලොකු හාමුදුරුවන් ගැන කියන්න දන්නේ? මම එයා ගේ මුරකාරයා නො වෙයි" තරුණයා සෙමෙන් එහෙත් පැහැදිලි ව කීය.

"මා ඇහැව්වේ තුඹ දන්නව ද කියා"යි අලෝෂා පැහැදිලි කරමින් ඇසී ය.

"ලොකු හාමුදුරුවන් කොහෙ යනව ද, කොහෙ ඉන්නව ද කියා මා දන්නේ නැහැ. දැනගැනීමට මට උවමනාවකුත් නැහැ."

"නමුත් අයියා මට කියා තියෙනවා. ගෙදර සිදුවන දේවල් පමණක් නොව ගෲසෙන්කා යන එන වේලාව පවා අයියාට කීමට තුඹ පොරොන්දු වී සිටින බව."

තරුණයා හිස උස්සා අලෝෂා දෙස බැලුවේ ය. ඒ බැල්මේ සන්සුන් කමක් දකින්නට තිබිණි.

"පැයකට කලින් ගේට්ටුව වසා තිබියදී තමුන්නාන්සේ කොහොම ද වත්තට ඇතුළු වුණේ?" පැවල් අලෝෂා දෙස බලා ඇසුවේ ය.

"මා අඩිපාර දිගේ ඇවිදින් වැට උඩින් වත්තට පැනලා මණ්ඩපයට ආවා. මට අයියා මුණගැහෙන්න ලොකු උවමනාවක් තියෙනවා. වැට උඩින් පැන වත්තට ඇතුළු වුණාට මට සමා වෙන්න ඕනෑ"යි අලෝෂා තරුණිය දෙස බලා කී ය.

"වැට උඩින් පැනලා වත්තට ඇතුළු වුණාට අප දෙස් කිව්වේ නැහැ"යි අලෝෂා ගේ කතාවෙන් සතුටට පත් තරුණිය කීවා ය. "මීතියා කරමසෝව් වත්තට ඇතුළු වී මණ්ඩපයට යන්නේ අඩිපාර දිගේ ඇවිදින් වැට උඩින් පැනලයි. අප දන්නේ නැහැ එයා මෙහෙ ඉන්න බව."

"මට ලොකු උවමනාවක් තියෙනවා අයියා මුණගැහෙන්න. නැති නම් අයියා ඉන්න තැන මට තුඹෙන් දැනගන්න පුළුවනි මා අයියා මුණගැහෙන්නේ මගේ උවමනාවකට නො වෙයි, අයියා ගේ යහපතටයි."

"උන්නාන්සේ යන එන තැන් අපට කියන්නේ නැහැ."යි තරුණිය ගොතගසමින් කීවා ය.

"යහළුවකු හමුවීමට මා මෙහාට ආවත් මීතියා කරමසෝව් තාත්තා ගැන මගෙන් නොයෙක් ප්‍රශ්න අසමින් කිසි ම අනුකම්පාවක් නැති ව මට හිරිහැර කරනවා"යි. පැවල් කී ය. "මොනව ද ගෙදර වෙන්නේ? කවු ද ගෙදරට යන්නෙ එන්නේ? කියා අහනවා.හරියට උත්තර දුන්නෙ නැහැ කියා දෙපාරක්ම මා මරන්න හැදුවා."

"මරන්න හැදුවා?"යි අලෝෂා ප්‍රශ්න කළේ පුදුමයෙනි.

"තමුන්නාන්සේ හිතන්නේ කේන්ති ගියොත් මීතියා කරමසෝව් මා නොමරා සිටියි කියා ද? කේන්ති ගියා ම අයියා ගේ වෙස් පෙරළෙන හැටි ඊයේ තමුන්නාන්සේ දැක්කා නේ ද? ගෲෂෙන්කාට මහ ගෙදරට ඇතුළු වෙන්න ඉඩ දුන්නොත්, ඈ රෑට මහ ගෙදර නැවැතුනොත් පළමුවෙන් ම වග කියන්න සිද්ධ වෙන්නේ මට ලු. මා සිටින්නේ මරණ බයෙන්. පොලීසියට කියන්නත් මට බයයි. මීතියා කරමසෝව් මට මොනවා කරයි ද කියා දන්නේ දෙයි හාමුදුරුවන් පමණයි."

"අනේ හාමුදුරුවනේ එදා මීතියා කරමසෝව් කිව්වා පැවල් වංගෙඩියක දමා කොටනවා ය කියා" මායා කීවා ය.

"වංගෙඩියක දමා කොටනවාය කිව්වා නම් ඒක කටට ආ පළියට කියාපු කතාවක්"යි අලෝෂා කී ය." අයියා මුණගැහුණාම මම ඒ ගැනත් අහන්නම්."

"තමුන්නාන්සේට කියන්න තියෙන්නේ මෙ පමණයි" අන්තිමේ දී පැවල් කී ය. "මා මෙහාට එන්නේ මගේ හිත මිත්‍රයන් හා අසල්වාසීන් බලන්නයි. එහි කිසි ම වරදක් නැහැ. වරදක් තියෙනව ද? අද උදේ පාන්දරින් ම ඉවාන් කරමසෝ මා යැව්වා වැව පාරේ නතර වී සිටින මීතියා කරමසෝ හමු වන්න. මට ලිපුමක් දුන්නේ නැහැ. නමුත් වෙළෙඳ පොළ ළඟ තියෙන හෝටලයට රෑ කෑමට එන්නය කියා පණිවිඩයක් කියන්න කිව්වා. මා උදේ අටට පමණ ගියා. නමුත් මීතියා කරමසෝ හිටියේ නැහැ. 'දැන් ගෙදර හිටියා, නමුත් කොහෙ ගියා ද දන්නේ නැහැ' කියා ගෙදර අයිතිකාර ගෑනි කිව්වා. මට පෙනෙන හැටියට ඒ ගෑනි තමුන්නාන්සේ ගේ ලොකු අයියා ගැන හැම දෙයක් ම වසන් කරනවා. සමහරවිට මෙලහකට හෝටලයේ ඇති. අද ඉවාන් කරමසෝ කෑමට ගෙදර හිටියේ නැහැ. දැන් පැයකට කලින් තමුන්නාන්සේ ගේ තාත්තා තනියෙන් ම කෑම කා නිදාගන්න ගියා. තමුන්නාන්සේට පින්සිද්ධ වෙයි මා ගැනවත් මා කියාපු දෙය ගැනවත් වචනයක්වත් කියන්න එපා. නැති නම් තමුන්නාන්සේ ගේ අයියා මා මරාවී."

"ඉවාන් අයියයි මීතියා අයියයි දෙන්න ම හෝටලයේ කෑම කනවයි කිව්වා?" අලෝෂා නො ඉවසිල්ලෙන් ඇසුවේ ය.

"ඔව්."

"මාරකැට්ටුව ළඟ තියෙන තැබෑරුමේ ද?"

"ඔව්."

"සමහර විට එ තැනට යන්න පුළුවනි."යි අලෝෂා නොසන්සුන් වූ සිතින් කී ය. "බොහො ම ස්තුතියි පැවල්, මා දැන් ම යනවා."

"මා කිව්වා කියන්න එපා." පැවල් කෑ ගා කී ය.

"නැහැ නැහැ. හදිසියෙන් ම යන විදියට මම තැබෑරුමට යන්නම්. උඹ බය වෙන්න එපා."

"ටිකක් ඉන්න ගේට්ටුව අරිනකන්"යි මායා කීවා ය.

"නැහැ උවමනා නැහැ. මම වැට උඩින් පනින්නම්. ඒ පාර ළඟයි."

පැවල් ගෙන් දැනගත් පුවතින් අලෝෂා නො සන්සුන් විය. ඔහු වහා තැබෑරුම බලා ගියේ ය. පූජක ඇඳුමෙන් තැබෑරුමට යාම කිසිසේත් කළ හැකි දෙයක් නො වේ. තැබෑරුමට නො ගොස් එළියේ සිට අසියාට කතා කළ හැකි ය. එහෙත් තැබෑ-රුමට ළඟාවනවාත් සමග ම එහි කවුළුවක් ඇරිණි. ඉවාන් කවුළුව තුළින් අලෝෂාට කතා කෙළේ ය.

"මල්ලී මෙහාට එන්න පුළුවන් ද? එන්න පුළුවන් නම් බොහො ම හොඳයි."

"එන්න පුළුවනි. නමුත් මේ ඇඳුම් පිටින් එන්න හොඳ ද කියා මා දන්නේ නැහැ........"

"මා සිටින්නේ තනියම වෙනම කාමරයකයි. පඩිපෙළ නැගලා එන්න. මම නුඹ ව හමුවෙන්න පහතට එන්නම්."

මිනිත්තුවකට පසු අලෝෂා ඉවාන් සමග හිඳ සිටියේ ය. ඉවාන් තනියෙන් ම රාත්‍රි භෝජනය ගනිමින් සිටියේ ය.

## තුන් වන පරිච්ඡේදය

## සහෝදරයෝ මිත්‍ර වෙති

කෙසේ වෙතත් ඉවාන් හිඳ සිටියේ වෙන ම කාමරයක නො වේ. එය ඉස්කිරිමකින් මුවා කරන ලද තැනක් හෙයින් අනෙක් අයට ඔහු නො පෙනෙයි. එය තැබෑරුමට ඇතුළු වූ තැන ම තිබෙන, බිත්තිය අයින දිගේ කෑම තබන ලද මේසය-කින් යුත් කාමරයකි. සේවකයෝ කාමරය හරහා ඒ මේ අත යති එති. ඒ කාමරයේ සිටි එක ම තැනැත්තා මේසයක් අසල හිඳ තේ පානය කරමින් සිටි විශ්‍රාම ලත් මහලු හේවායෙකි. එහෙත් තැබෑරුමේ අනෙක් කාමරයෙන් සුපුරුදු ඝෝෂාව ඇසේ. සේවකයන්ට කතා කරන හඬ, බීම බෝතල්වල මූඩි අරින හඬ, බිලියඩ් බෝල එකිනෙකට වදින හඬ, හා ඕගනයෙන් නගින සංගීතයක් ද ඇසේ. ඉවාන් මෙ වැනි ස්ථානවලට නො පැමිණෙන බවත්, සාමාන්‍යයෙන් ඔහු තැබෑරුම්වලට

නො කැමැති බවත් අලෝෂා දනියි. එසේ නම් ඔහු මෙහි පැමි-ණෙන්නට ඇත්තේ කලින් ගිවිසගත් පරිදි මීතියා හමු වීමට විය යුතුයි. එහෙත් මීතියා තව ම පැමිණ නැත.

"මොනව ද කන්න කැමැති? මාළු සුප්, කැමැති? දෙයක් ගෙනෙන්න කියන්නම්. මල්ලී ජීවත්වන්නේ තේවතුර විතරක් බීලා නො වෙයි නේ ද?"යි ඉවාන් විමසුවේ අලෝෂා හමුවීම ගැන ඇති වූ ප්‍රීතියෙනි. ඔහු රාත්‍රි කෑම අවසන් කොට තේ වතුර බොමින් සිටියේ ය.

"මම සුප් එකක් බොන්නම්. පස්සේ තේවතුර බොන්න පුළුවනි. දැන් මට බොහො ම බඩගිනියි" අලෝෂා ද ප්‍රීතියෙන් කී ය.

"චෙරිදෝසි මෙ තැන තියෙනවා. මතකයි නේද පොඩි කාලේ දී මල්ලී චෙරිදෝසි කෑමට බොහො ම කැමැති බව!"

"පොඩි කාලේ සිදු වූ දේවල් තවමත් මතක ද? එහෙනම් දෝසි ගෙනෙන්න කියන්න. මම තවමත් දෝසි කන්න කැමැතියි."

ඉවාන් සීනුව ශබ්ද කොට සුප්, දෝසි හා තේවතුර ගෙනෙන ලෙස නියම කෙළේ ය.

"මට අපේ ළමා කලය ගැන හැම දෙයක් ම තව ම හොඳට මතකයි. අවුරුදු එකොළහ වනතෙක් මල්ලී ගැන හොඳට මත-කයි. එතකොට මට අවුරුදු පහළොවක් විතර ඇති. අවුරුදු එකොළහ හා පහළොව අතර බොහො ම ලොකු වෙනසක් තියෙනවා. මේ වයසේ සිටින සහෝදරයන්ට කවදාවත් සමඟි-යෙන් සිටින්න බැහැ. ඒ කාලේ දී මා මල්ලීට ආදරයෙන් හිටිය ද කියා මට මතක නැහැ. මොස්කව් නුවරට ගිය කාලේ මා මල්ලී ගැන කොහෙත්ම කල්පනා කළේ නැහැ. නමුත් නුඹ මොස්කව් නුවරට ආවාට පස්සේ මට මතක තියෙන හැටියට අප හමු වුණේ එක වතාවක් පමණයි. දැන් මා ගමට ඇවිදින් තුන් මාසයක් වෙනවා. මේ තුන් මාසය තුළ දී මා මල්ලීත් එක්ක වචනයක්වත් කතා කළේ නැහැ. හෙට මා ගම හැර යන නිසා මා මෙ තැන හිඳ ගෙන කල්පනා කළේ නුඹ හමු වන ක්‍රමයක් ගැනයි. එතකොට ම නුඹ තැබෑරුම ළඟ සිටිනවා මා දුටුවා."

"එහෙනම් අයියා මාව හමුවන්න ඉඳලා තියෙන්නේ බොහො ම අංශාවෙන්?"

"ඔව්, ගම හැරයන්න කලින් මගේ ලොකු ආශාවක් තියෙ-නවා මල්ලී හමු වන්න. මම කැමතියි නුඹ මා අඳුනා ගන්නවා නම්. ඒ අතර මගේ ලොකු කැමැත්තක් තියෙනවා නුඹ හඳුනා ගන්න. වෙන්ව යාමට කලින් එකිනෙකා අඳුනා ගැනීම බොහෝ ම හොඳ දෙයක්. මේ තුන් මාසය තුළ මා කීප වතාවක් ම දුටුවා නුඹ මා දිහැ බලා සිටින සැටි. නුඹේ සිතේ ලොකු බලාපො-රොත්තුවක් තියෙන බව මා ඒ බැල්මෙන් දැන ගත්තා. එය මට ඉවසා සිටිය හැකි දෙයක් නො වෙයි. ඒ නිසයි මා මෙ පමණ කාලයක් නුඹ සමග කතා නො කළේ. අන්තිමේ දී නුඹට ගරු කළ යුතු සැටි මා දැනගත්තා, මේ පොඩි මිනිහා බොහෝ ම එඩිතර කෙනෙක් ය කියා මට කල්පනා වුණා. නුඹ නොසැලෙන ගතිගුණ ඇති කෙනෙක් නො වේ ද? මම බොහෝ ම කැමැතියි නොසැලෙන ගති ගුණ ඇති අයට. මොන විපතක දී වුවත් ඒ අය පසුබසින්නේ නැහැ. නුඹ වගේ පොඩි මිනිසුන් වුවත් එ වැනි අයට මම බොහෝ ම කැමැතියි. බලාපොරොත්තුවෙන් පිරි නුඹේ බැල්ම මුල දී මා තුළ නොමනාප ගතියක් ඇති කළත් පස්සේ ඒ බැල්මට මා ලොකු කැමැත්තක් දැක්වූවා. මල්ලී කිසියම් හේතුවක් නිසා නුඹ මට ආදරය බව පේනවා."

"ඔව්, මම අයියට ආදරෙයි. මිතියා කියන්නේ අයියා සො-හොන් ගැබකට සමාන නිශ්චල මිනිහෙක් කියායි. නමුත් මා කියන්නේ අයියා තේරුම් ගන්න බැරි ප්‍රහේලිකාවක් බවයි. දැනට වුවත් මට අයියා තේරුම් ගන්න බැහැ. නමුත් අද උදේ වනතෙක් අයියා පිළිබඳ තේරුම්ගත නො හැකි යම්කිසි දෙයක් මට අවබෝධ වුණා."

"මොකක් ද ඒ?"යි ඉවාන් ඇසුවේ සිනා සෙමිනි.

"තරහ වෙන්නෙ නැහැ නේද?"යි අලෝෂා ද සිනා සෙමින් විමසුවේ ය.

"නැහැ."

"අයියා තවමත් අවුරුදු විසි තුනක තරුණයෙකු වගෙයි. තවමත් කොලුගැටයකු වගෙයි. මා එක්ක තරහ නැහැ නේද?"

"නැහැ නැහැ, තරහා වෙනවා නො වෙයි, මේ කතාව කියන කොට මට වෙන දෙයක් මතක් වුණා"යි ඉවාන් ආදර-යෙන් කී ය. "කැතිරිනා ගේ ගෙදර දී ඇති වූ සිද්ධියෙන් පස්සේ මට කල්පනා වෙන්නේ මගේ ජීවිතයේ පළපුරුද්දක් නැති ළපටිකම ගැනයි. මේ වෙලාවේ දී මල්ලිත් හරියට ම ඒක මතක්

කළා, මෙ තැන ඉඳගෙන තනියෙන් ම කියා ගත්තා මේ ජීවිතය ගැන මගේ කිසි ම විශ්වාසයක් නැති නම්, මා ආලය කරන තරුණිය ගැන මගේ විශ්වාසයක් නැති නම්, මේ ලෝකයේ පැවැත්ම කෙරෙහි විශ්වාසයක් නැති නම්, හැම දෙයක් ම අවුලෙන් අවුලට ගිය, සමහරවිට යක්ෂයා සමග සම්බන්ධකම් ඇති මහා අවුලක් ලෙස මට අවබෝධවුවත්, මිනිසා ගේ අත්ම වංචනයේ හැම භීතියකින්ම මා තැති ගෙන සිටියත්, මා ජීවත්විය යුතුයි කියා. වරක් ජීවිතය නමැති බඳුනේ රස බැලූ පසු එය හිස් නො කොට මා පැනයන්නේ නැහැ. දැන් මගේ වයස අවුරුදු තිහයි. මේ වයසේ දී බඳුන හිස් කොට නැතත් විසිකර දමා පැන යන්න හිතෙනවා. කො තැන යන්න ද කියා මා දන්නේ නැහැ. මගේ තරුණකම, හැම දෙයක් ම හැම මුළාවක් ම, ජීවිතය කෙරෙහි ඇති කලකිරීමක් ම මැඩ ජය ගන්නා බව මා ස්ථිරවම දන්නවා. මා තුළ ජීවිතය කෙරෙහි පවතින මේ උමතු අශෝභන පිපාසය මැඩ ජය ගත හැකි දෞර්මනසක් මේ ලෝකයේ ඇද්දැයි මා මගෙන් ම ප්‍රශ්න කළා. මා තීරණය කර ගත්තා එ වැනි දෙයක් නැති බව. නමුත් ඒ තීරණය පවතින්නේ මගේ වයස අවුරුදු තිහ වන තෙක් පමණයි. අවු-රුදු තිහ ගෙවුණාට පස්සේ ජීවිතය කෙරෙහි පවතින ආශාව මා අත්හැර දමනවා. තොරක් නැති ව කතා කරන, කාසයෙන් පෙළෙන සමහර සුචරිතවාදීන් හා විශේෂයෙන් ම කවිකාරයන් නිතර ම කියනවා ජීවිතයට ඇති ආශාව බොහො ම පහත් දෙයක් බව. හොඳ නරක කිසිවක් ගැන සැලකිල්ලක් නො දක්වා ජීවිතයේ රස විඳීම කරමසෝ පවුලට අයත් ජන්මගත පුරුද්දක්. ඒ ආසාව තුඹ තුළත් තියෙනවා. නමුත් ඒ ආශාව පහත් දෙයක් වන්නේ කොහොම ද? අපේ පොළොවේ කේන්ද්‍රාභිසාරී* ශක්තිය තවමත් බොහො ම බලවත්ව පවතිනවා. ජීවත්වීමට මගේ ලොකු ආසාවක් තියෙනවා. න්‍යායධර්ම කෙසේ වෙතත් මා නියම විදියට ජීවත් වෙනවා. විශ්වය පිළිබඳ න්‍යායධර්මය මා විශ්වාස නො කළත් වසන්තයේ දී දිගහැරෙන කුඩා ළා දළු-වලට මම බොහො ම කැමැතියි. වලාකුළින් තොර වූ නිල් අහසට බොහො ම කැමැතියි. තුඹ දන්නා අඳුනන සමහර අයට මම බොහො ම කැමැතියි. නමුත් මා ඒ මිනිසුන්ට කැමැති කුමන හේතුවක් නිසා ද කියා මා දන්නේ නැහැ. මිනිසුන් විසින් කරන ලද ශ්‍රේෂ්ඨ ක්‍රියාවලට මම බොහො ම කැමැතියි. මේ ශ්‍රේෂ්ඨ ක්‍රියා ගැන මා තුළ පැවැති විශ්වාසය නැති වී දැන් බොහො ම කල් වෙනවා. නමුත් පරණ පුරුද්ද නිසා තවමත් ඒ ශ්‍රේෂ්ඨ ක්‍රියාවලට ප්‍රිය කරනවා. මෙන්න සුප් ගෙනත්

---

* Centripetal force.

තියෙනවා. ඉක්මනට බොන්න. සුප්එක බොහො ම හොඳයි මේ මිනිසුන් බොහො ම හොඳට සුප් හදන්න දන්නවා. මගේ අදහසක් තියෙනවා යුරෝපය පුරා ඇවිදින්න. මෙහෙ ඉඳලා යන්න යි කල්පනාව. නමුත් මා දන්නවා මා යන්නේ සොහොන් භූමියකට බව. මා යන්නේ බොහො ම වටිනා සොහොන් භූමි-යකටයි මේ සොහොන්භූමියේ නිදන අය බොහො ම අගය කොට සැලකිය යුතුයි. ඔවුන් නිදන තැන් වසා දමන ලද හැම ගලක් ම, අතීතයේ ඔවුන් විසින් ගතකරන ලද අලංකාර ජීවි-තය ගැන විත්ති, ඔවුන් කල කී දේවල් කෙරෙහි දක්වූ අචල භක්තිය, ඔවුන් හෙළි කල සත්‍යය, ඔවුන් ජීවත්වීමේ දී කල සටන්, ඔවුන් සොයාගත් විද්‍යාව ගැන තොරතුරු ලෝකයට කියාපානවා. මම බිම වැටී මේ ගල් සිඹ අඬන්නම්. මෙය සො-හොන් බිමක් බව දැනදැනත් බිම වැතිර සිඹින්නම්. මා අඬන්නේ දුකින් නො වෙයි සන්තෝෂයෙන්. මම මගේ ආත්මය මගේ හැඟීම්වල ගිල්වන්නම්. මම වසන්තයේ ලියලන ලාදලුවලට බොහො ම ආසයි. නිල් අහසට කැමැතියි. නමුත් මා එසේ කරන්නේ මගේ බුද්ධියෙන් නො වෙයි. කිසියම් න්‍යායකට එකගව නො වෙයි......... නුඹ ප්‍රියකරන්නේ නුඹේ අභ්‍යන්-තරයෙන්. නුඹේ කුසයෙන්. තමා ගේ තරුණකමින් ඇති වන පලමු ශක්තියට කවුරුත් කැමැතියි. අලෝෂා නුඹට මගේ මේ වල්බූත කතාව තේරුම් ගන්න පුළුවන් ද?''යි අසමින් ඉවාන් හදිසියෙන් ම සිනාසුණේ ය.

"මට හොඳට තේරෙනවා. තමා ගේ අභ්‍යන්තරයෙන්, තමා ගේ කුසයෙන් ප්‍රේමය කිරීමට කවුරුත් කැමැතියි. අයියා ඒ කොටස බොහො ම හොඳට විස්තර කළා. අයියා තුල ජීවි-තයට මෙ තරම් ලොකු ඇල්මක් තිබීම ගැන මම බොහො ම කැමැතියි. මගේ කල්පනාවේ හැටියට කවුරුත් මේ ලෝකයේ තියෙන හැම දෙයකට ම වඩා ජීවිතයට ප්‍රේමය කළ යුතුයි."

"ජීවිතය ගැන පවතින අදහසට වඩා ජීවිතයට ප්‍රේම කරන්න."

"ඔව්, මල්ලී කියනවා වගේ කිසි ම න්‍යායකට යටත් නො වී ජීවිතයට ප්‍රේම කළ යුතුයි. ජීවිතය ගැන නියම අවබෝධයක් ලබාගන්න පුළුවන් න්‍යායකට එකග නො වී නිදහස්ව කල්-පනා කිරීමෙන් පමණයි. මා මේ ගැන බොහො ම දුරට කල්පනා කළා. අයියා ගේ වැඩවලින් දත් භාගයක් ඉවරයි. ජීවිතයට ප්‍රේම කරන නිසා අයියාට තියෙන්නේ අනෙක් කොටසත් අවසන් කරන්නයි. ඊට පස්සේ ගැලවීම ලැබේවි."

"මල්ලි ගේ කල්පනාව මා ගලවා ගන්න ද? මම ගැලවීම ලැබිය යුතු මංමුලා වූ පුද්ගලයෙක් නො වෙයි. හැරත් අනෙක් කොටස යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද?"

"ඇයි, සමහරවිට කවදාවත් නොමළ මිනිසුන් මළවුන්ගෙන් අවදි කරවා ගැනීම! දැන් ඉතින් තේවතුර බොමු. මම බොහො ම කැමැතියි අයියා ගේ කතාවට."

"මට පේනවා මල්ලි ගේ සිතේ මගේ කතාවෙන් ප්‍රබෝධයක් ඇති වූ බව. ආධුනික පූජකයකු තුළ එවැනි ප්‍රබෝධයක් ඇති වීම ගැන මම බොහො ම සතුටුයි. මල්ලි, නුඹ විශ්වාස කළ හැකි පුද්ගලයෙක්. ආශ්‍රමයෙන් අස්වන බව ඇත්ත ද?"

"ඔව්, සොයිමා තවුසා මට කිව්වා ගිහි ජීවිතයක් ගත කරන්නය කියා."

"එහෙනම මේ ලෝකයේ දී අපට නිතර හමුවන්න පුළුවනි මට අවුරුදු තිහ අවසන්වීමට කලින්, ජීවිතය නමැති බඳුන ඉවත දැමීමට කලින්, අපට ආයේත් හමුවන්න පුළුවනි. අවුරුදු හැත්තෑව වනතෙක් මේ බඳුන ඉවත දැමීමට තාත්තා ගේ අද-හසක් නැහැ. එයා ගේ කල්පනාව අවුරුදු අසූව වන තෙක් මේ බඳුනෙන් පානය කරන්න. මිනිහා බහුබූතයෙකු වුණත් අවුරුදු අසූව වන තෙක් ජීවත්වීමට අදහස තියෙනවා. තාත්තා සිටින්නේ ස්ථිර අඩිතාලමක් උඩයි. සල්ලාලකම නමැති අඩිතාලම උඩයි. මගේ කල්පනාවේ හැටියට අවුරුදු තිහෙන් පස්සේ සිටගන්න පුළුවන් එක ම අඩිතාලම සල්ලාලකමයි. නමුත් අවුරුදු හැත්තෑව වන තෙක් සල්ලාලකමට ගැති වී සිටීම පිළිකුල් දෙයක්. තිහෙන් අවසන් කරන එක හොඳයි. තමා ම රවටා ගනිමින් බොරු කුලවත්කමක් තියාගන්න පුළුවනි. අද මීතියා හමුවුණා ද?"

"මීතියා හමුවුණේ නැහැ. නමුත් පැවල් හමුවුණා"යි පැවසූ අලෝෂා, පැවල් හමු වූ සැටි ගැන සම්පූර්ණ විස්තරයක් කෙළේ ය. අලෝෂා ගේ කතාව සැලකිල්ලෙන් අසා සිටි ඉවාන් අනතුරුව නොයෙක් ප්‍රශ්න අසන්නට විය.

"අයියා ගැන තොරතුරු කී බව අයියාට නො කියන ලෙස පැවල් මට නොවැන්ද විතරයි" අලෝෂා කී ය. ඉවාන් රවා බැලුවේ ය.

"රවා බලන්නේ පැවල් ගේ කතාව අහල ද?"යි අලෝෂා ඉවාන්ගෙන් ප්‍රශ්න කෙළේ ය.

"ඔව්, මා බොහෝ ම ආසාවෙන් සිටියා අයියා හමුවන්නට. න් ඉතින් උවමනාවක් නැහැ"යි ඉවාන් අසතුටින් කී ය.

"ඉක්මනට ගම හැර යනව ද?"

"ඔව්."

"මොකක් ද තාත්තාටයි අයියටයි වෙන්න යන්නේ?. මේ කෝලාහලය කොහොම අවසන් වෙයි ද?"යි අලෝෂා සැලකිල්ලෙන් විමසී ය.

"අලෝෂා ගේ වැඩේ ම තාත්තයි අයියයි ගැන කතා කරන එකයි. මා මොනවා කරන්න ද? මා මගේ අයියා ගේ ආරක්ෂකයා ද?"යි ඉවාන් නොසන්සුන් සිතින් විමසී ය. එහෙත් අනතුරුව හෙතෙම අවඥවෙන් සිනාසී මෙසේ කීවේ ය. "තාත්තයි අයියයි ආරක්ෂා කරන්න මට පුළුවන්කමක් නැහැ. කරන්න පුළුවන් හරිය මම කළා. දැන් මා යනවා යන්න. අලෝෂා හිතුව ද අයියා කැතිරිනා කසාද බඳිනවට තරහෙන් මා පසුගිය තුන් මාසය ම කැතිරිනා එක්ක පැනලා යන්න වෑයම් කළාය කියා? ඒක අර්ථයක් නැති කතාවක්. මට තිබුණා කළයුතු වැඩ ටිකක්. ඒ වැඩ අවසන් කළේ දැන් ටිකකට ඉස්සෙල්ලයි. තුඹ එය දකින්න ඇති. දැන් ඉතින් මා යනවා."

"වැඩ අවසන් කළේ කැතිරිනා ගේ ගෙදර දී ද?"

"ඔව්, මා සම්පූර්ණයෙන් ම නිදහස් වුණා. මොකක් ද මේ කලබලය? මොකක් ද අයියා එක්ක මගේ තිබෙන ගනුදෙනුව? මගේ වැඩ සමග අයියාගේ කිසි ම සම්බන්ධයක් නැහැ, සම්බන්ධය තිබුණේ කැතිරිනා එක්කයි. නමුත් අයියා කටයුතු කළේ හරියට අප අතර සම්බන්ධයක් තිබුණු හැටියටයි. කැතිරිනා එක්ක විවාහවීමට මගේ කැමැත්තක් තිබෙන බව මා කිව්වේ නැහැ නමුත් අයියා කැමැත්තෙන් ම මට කැතිරිනා පාවා දුන්නා. මේක මහ පිස්සු වැඩක්. දැන් මා සිටින්නේ බොහෝ ම සන්තෝෂයෙන්. මෙ තැන ඉඳගෙන කෑම කන අතර මට කල්පනා වුණා මා ලැබූ නිදහස ගැන ප්‍රීතිය ප්‍රකාශ කිරීම පිණිස ෂැම්පේන් බෝතලයක් බොන්න. හය මාසයක් ම මගේ හිතට වද දුන් මේ කරදරයෙන් මා එකපාර ම නිදහස් වුණා. උවමනාවක් තියෙනවා නම් යම්කිසි දෙයකින් සිත නිදහස් කර ගැනීම කොතරම් ලෙහෙසි වැඩක් ද කියා මට ඊයේවත් කල්පනා වුණේ නැහැ."

"ඔය කියන්නේ අයියා කැතිරිනාට දක්වූ කැමැත්ත ගැන ද?"

"ඔව්, මා කැතිරිනාට කැමැත්තෙන් සිටියා. මා කැතිරිනා නිසා බොහො ම දුක් වින්ද. කැතිරිනාත් මට බොහො ම කරදර කළා. මා ඈය ගැන පරීක්ෂාවෙන් සිටියා......... නමුත් කිසි ම බලාපොරොත්තුවක් නැති ව හිටිහැටියේම මා ඇයට දක්වූ ආලය නැති වී ගියා. මා අද උදේ වේගයෙන් කතා කළාට මොක ද මගට බැහැලා හොඳට ම හිනා වුණා. මගේ කතාව විශ්වාස කරනව ද? මා කියන්නේ සහතික ඇත්ත."

"අයියා ඒ ගැන බොහො ම සතුටු වෙනවා වගෙයි"යි අලෝෂා කීවේ හදිසියෙන් ම පැහැපත් වූ සොහොයුරා ගේ මුහුණ දෙස බලමිනි.

"නමුත් මා කැතිරිනාට ආලය නොකරන බව කියන්නේ කොහොම ද? දැන් මට පෙනෙන හැටියට මගේ හිතේ ඇයට ආලයක් තිබිලා නැහැ. ඇගේ රූපයට මා වසඟ වුණා. අද උදේ කැතිරිනාට අන්තිම වතාවට කතා කරනවිටත් ඇගේ රූපයට මා කො තරම් ආසා කළා ද? ඒත් මා ඇය අත්හැර දමා ආවේ කිසි ම සිත්වේදනාවකින් නො වෙයි. නුඹ හිතන්නේ මා ආත්මවර්ණනාවක් කරනවා කියා ද?"

"නැහැ, සමහරවිට අයියා ඇයට ආලය නො කරන්න ඇති."

"අලෝෂා, ආලයට දෙස් කියන්න එපා. එය නුඹට සුදුසු දෙයක් නො වෙයි." ඉවාන් සිනා සෙමින් කී ය. "අද උදේ නුඹ අප අතර ඇති වූ කතාවට මැදිහත් වූ හැටි කදිමයි. මට බැරිවුණා තොත්තුවක් දෙන්න ......... .......කැතිරිනා මට කො තරම් දුක් දුන්න ද? කැතිරිනා දන සිටියා මා ඇයට ආලය කරන බව. ඈ ආලය කළේ මටයි, අයියාට නො වෙයි." ඉවාන් විනෝද වෙමින් කී ය. "මීතියා ගැන කල්පනා කිරීම පවා කැතිරිනාට ලොකු සිත්වේදනාවක් වුණා. මා ඇයට අද කිව්වේ සම්පූර්ණ ඇත්ත. කැතිරිනා මීතියාට ආලය නොකරන බවත්, ඈ මට වද දුන්නත් ඈ ඇත්ත වශයෙන් ආලය කරන්නේ මට බවත්, ඇයට අවබෝධවීමට අවුගණනේ අවුරුදු පහළොවක් නැති නම් විස්සක් ගත-වෙන්න පුළුවනි. සමහරවිට ඇයට එය සම්පූර්ණයෙන් ම අවබෝධ නො වන්න පුළුවනි. ඒක වැඩිය හොඳයි. එතකොට සදහටම කැතිරිනා අත්හැර දමා යන්න පුළුවනි. මා ආවාට පස්සේ ඇයට මොකද වුණේ?"

ඉවාන් ගිය පසු කැතිරිනා අසනීප වූ බවත්, තවමත් ඇයට සිහිය නැති බවත් අලෝෂා කී ය.

"කැතිරිනාට අසනීප වුණා ද? නැති නම් හොලාකෝ නෝනා හිතන දේවල් ද?"

"මා හිතන්නේ නැහැ හොලාකෝ නෝනා හිතල කියනවය කියා!"

"මම ඒක හොයල බලන්නම්. කිසි ම කෙනකු සිහි නැති වී මැරෙන්නේ නැහැ. සිහි නැති වුණාට කමක් නැහැ. දෙයියන් වහන්සේ ගෑනුන්ට මේ රෝගය දී තියෙන්නේ ඔවුන්ට තියෙන ආදරයටයි. හිත සතුසා ගැනීමට යි. මා යන්නේ' නැහැ කැතිරිනා බලන්න. මා මොනවට ද ආයේත් යන්නේ!'

"නමුත් අයියා කැතිරිනාට කිව්වා නේ ද ඈ අයියට කිසි ම සැලකිල්ලක් දක්වූයේ නැහැ කියා?"

"මා එහෙම කිව්වේ අදහසක් ඇතිව යි..............ෂැන්පේන් බෝතලයක් ගෙන්නනන්න ද? මා ලැබූ නිදහස ගැන ප්‍රීති විය යුතුයි. මල්ලී, නුඹ දන්නවා නම් මගේ හිතේ පවතින ප්‍රීතියේ තරම!"

"අප දූන් මත්පැන් බී ප්‍රීති වන එක හොඳ නැහැ"යි අලෝෂා ගත්කටට ම කී ය. "මා වැඩි සතුටකින් නො වෙයි සිටින්නේ."

"ඔව්, මල්ලී බොහො ම කාලයක ඉඳලා සතුටින් නොසිටින බව මා දන්නවා."

"එහෙනම් හෙට උදේට යන්න තීරණය කර ගත්ත ද?"

"හෙට උදේට? මා කිව්වේ නැහැ හෙට උදේට යන වගක්.........සමහර විට මා උදේට පිටත් වෙන්න පුළුවනි. මල්ලී දන්නව ද මා කෑම කන්න මේ තැබෑරුමට ආවේ තාත්තා එක්ක කෑමට තියෙන පිළිකුල නිසයි. තාත්තා එ තරම් ම කැත මිනිහෙක්. තාත්තා නිසා මා ගම හැර යන්න හිටියේ මීට බොහො ම කලින්. නමුත් මල්ලී මොනවට ද මගේ ගමන ගැන මෙ තරම් කරදර වන්නේ? මට යන්න තවත් බොහො ම කල් තියෙනවා."

"හෙට උදේට යනවා නම් කොහොම ද හුඟක් කල් තියෙනවා කියන්නේ?"

"අප මොනවට ද ඔය ගැන කරදර වෙන්නේ?"යි ඉවාන් සිනා සෙමින් කී ය. "අපට කතා කිරීමට තවත් බොහො ම වේලා තියෙනවා. අප මෙ තැනට ආවේ අපට වැදගත් වූ දේවල් ගැන කතා කිරීමට නො වේ ද? ඇයි පුදුමයෙන් බලා සිටින්නේ? අප මේ තැබෑරුමට ආවේ මොනවට ද? කැතිරිනාට කළ ආලය ගැන කතා කරන්න ද? තාත්තයි ලොකු අයියයි ගැන කතා කරන්න ද? පිට රට සාම ගැන කතා කරන්න ද? රුසියාව මුහුණ පා සිටින භයානක තත්ත්වය ගැන කතා කරන්න ද? නැපෝලියන් අධිරාජයා ගැන සාකච්ඡා කරන්න ද?"

"නැහැ ඒකට නො වෙයි."

"එහෙනම් මල්ලී දන්නවා අප ආවේ මොනවට ද කියා! නොයෙක් දෙනා නොයෙක් දේවල් ගැන කතා කරනවා. තරුණ වයසේ සිටින අපටත් තියෙනවා සාකච්ඡා කළ යුතු දේවල්. අප පළමුව සදාකාලික ප්‍රශ්නය විසඳිය යුතුයි. අපට වැදගත් මේ ප්‍රශ්නය පමණයි. මේ කාලයේ දී තරුණ රුසියාව නිතර කතා කරන්නේ මේ සදාකාලික ප්‍රශ්නය ගැනයි. වෙන කිසි ම දෙයක් ගැන නො වෙයි. වයසට ගිය අය සාකච්ඡා කරන්නේ ක්‍රියාත්මක ප්‍රශ්න ගැනයි. පසු ගිය මාස තුනේ දී මල්ලී මා දිහා නිතර බලාපොරොත්තුවෙන් පිරි බැල්මෙන් බැලුවේ මොක ද? එහෙම බැලුවේ 'තුඹ විශ්වාස කරන්නේ මොනව ද? නැති නම් තුඹ කිසි ම දෙයක් විශ්වාස කරන්නේ නැද්ද?' කියා මගෙන් දැනගැනීමට ද? ඒ අදහසින් නො වේ ද පසු ගිය මාස තුනේ දී නිතර මා දිහැ බැලුවේ?"

"සමහර විට ඒ අදහසින් වෙන්න පුළුවනි"යි අලෝෂා සිනා සෙමින් කී ය. "දැන් මා ගැන සිනා සෙන්නේ නැහැ නේ ද?"

"මා මල්ලී ගැන සිනා සෙන්න? පුරා මාස තුනක් මා දෙස බලාපොරොත්තුවෙන් බලා සිටි මගේ මල්ලි ගේ සිත රිද්දන්න මගේ කිසි ම අදහසක් නැහැ. අලෝෂා මා දිහැ බලන්න. මමත් තුඹ වගේ තරුණයෙක්. නමුත් ආධුනික පූජකයෙක් නො වෙයි. සමහර රුසියන් තරුණයන් මෙ තෙක් කල් කරලා තියෙන්නේ මොනව ද? මේ අපිරිසුදු තැබෑරුමේ මුල්ලක ඉඳ ගෙන කතා කරනවා. ඔවුන් මීට කලින් කවදාවත් හමුවෙලා නැහැ. මේ තැබෑරුමෙන් පිට වී ගියාට පස්සේ ආයේත් අවුරුදු හතළිහක් යන තෙක් හමු වන්නේ නැහැ. ඉතින් තැබෑරුමේ දී හමු වූ මේ සුළු වේලාවේ දී ඔවුන් මොනවා ගැන ද කතා

කරන්නේ? දෙවියෙක් ඇද්ද නැද්ද? ජීවිතය අමරණීය ද? වැනි සදාකාලික ප්‍රශ්න ගැනයි. දෙවියන් ගැන විශ්වාස නො කරන අය කතා කරන්නේ සමාජවාදය හෝ විප්ලව නැති නම් අලුත් සමාජක්‍රමයක් අනුව මුළු මනුෂ්‍යවර්ගයා ම සංවිධානය කිරීම ගැන යි. මේවා සේරම යල්පැනපු ප්‍රශ්න, තියෙන අමුත්ත අමුතු විදියකට ඉදිරිපත් කිරීමයි. නමුත් දහස් ගණන් අලුත් අදහස් ඇති රුසියන් තරුණයන් කරන එක ම දෙය සදාකාලික ප්‍රශ්නය ගැන සාකච්ඡා කිරීමයි. එහෙම නේ ද?''

"ඔව්, නියම රුසියන් තරුණයා අහන්නේ දෙවියෙක් ඇද්ද? නැද්ද? ජීවිතය අමරණීය ද? නැද්ද? යන්න ගැනයි. නැති නම් අයියා කීවා වගේ අලුත් විදියට අසන පරණ ප්‍රශ්න ගැනයි. කොහොම වුණත් පලමු ප්‍රශ්නය තමයි වැදගත් වන්නේ''යි අලෝෂා විමසිලි බැල්මකින් සොහොයුරා දෙස බලා කීවේ ය.

"සමහර විට රුසියන් ජාතිකයකු වීම නුවණට හුරු දෙයක් නො වෙයි. නමුත් රුසියන් තරුණයන් ඔවුන් ගේ වර්තා කාලය නාස්ති කරන හැටි ගැන කල්පනා කරන විට ඊට වඩා අඥාන දෙයක් කෙනෙකුට හිතා ගන්න බැහැ. ඒ වුණත් එක රුසියන් තරුණයකු සිටිනවා අලෝෂා කියා. මම එයාට බොහො ම කැමැතියි.''

"අයියා ඒක කො තරම් ලක්ෂණට කිව්ව ද!''යි අලෝෂා, සඳහන් කළේ හදිසියෙන් ම සිනා සෙමිනි.

"හොඳයි, එහෙනම් කතාව පටන් ගන්නේ කො තැන ඉඳල ද? දෙවියෙක් ඇද්ද නැද්ද යන ප්‍රශ්නයෙන් ද?''

"කැමැති තැනකින් පටන් ගන්න. ඊයේ ගෙදර දී කිව්වා නේ ද දෙවියකු නැහැ කියා?''යි අලෝෂා කීවේ සොහොයුරා ගේ මුහුණ දෙස විමසිල්ලෙන් බලමිනි.

"කෑම කන අතරේ මා ඒ කතාව ඕනෑ කමින් ම කිව්වේ මල්ලීට සරදම් කිරීමේ අදහසිනුයි. නමුත් දැන් ඒ ගැන සාකච්ජා කරන්න මගේ කිසි ම විරුද්ධත්වයක් නැහැ. මල්ලී සමග යහළු වීමට මම බොහො ම කැමැතියි. මට යහළුවන් නැහැ. මම කැමැතියි යහළුවකු සොයා ගන්න. සමහර විට මාත් දෙවියන් ගැන විශ්වාස කරන්න පුළුවනි. මගේ කතාව සමහර විට මල්ලීට පුදුමයක් විය හැකියි. මෙ වැනි කතාවක් මගෙන් බලාපොරොත්තු වුණේ නැහැ නේ ද?''යි ඉවාන් සිනා සෙමින් ඇසුවේ ය.

"අයියා කරන්නේ විහිළුවක් නො වෙයි නම් එය පුදුමයක් තමයි."

"විහිළුවක්? ඊයේ සොසිමා තවුසා ගේ අසපුවේ දී මා විහිළුවක් කළා ය කියා මට දෙස් අහන්න ලැබුණා. මල්ලී දන්නව ද දහ අට වන සියවසේ දී එක්තරා මහලු පව්කාරයකු කිව්වා දෙවි-යෙක් නැතිනම් අප දෙවියෙක් මවාගත යුතුය කියා. ඉතින් ඒ මහලු පව්කාරයා කිව්වා වගේ ම මිනිහා දෙවියකු මවා ගත්තා. නමුත් මෙහි ඇති පුදුමය කුමක් ද? විස්මය කුමක් ද? පුදුමය දෙවියකු සිටීම ගැන නො ව, මිනිහා වැනි වනචර, අශිෂ්ට, දුෂ්ට, මෘගයකුට දෙවියකු ගේ අවශ්‍යතාව ගැන කල්පනා වීමයි. මේ අදහස නිසා මිනිසාට බොහො ම ශුද්ධ, බොහො ම ඥානවන්ත, බොහො ම ශ්‍රේෂ්ඨ කීර්තියක් ලැබීමයි. නමුත් දෙවියන් විසින් මිනිසා මවන ලද්දේ ද? යන ප්‍රශ්නය ගැන කල්පනා නො කිරීමට මා මීට කලකට පෙර අධිෂ්ඨාන කර ගත්තා. රුසියන් තරුණයන් විසින් යුරෝපයේ පවතින තර්කමාත්‍ර අනුව මේ ප්‍රශ්නය ගැන පවසන ලද සිද්ධාන්ත ගැන සැලකිල්ලක් දක්වීමට මගේ කිසි ම කැමැත්තක් නැහැ. මෙහි පවතින තර්කමාත්‍රය රුසියන් තරුණයන් අතර සිද්ධාන්තයක් බවට පරිවර්තන වෙනවා. තරුණයන් අතර පමණක් නොවෙයි මහාචාර්යවරයන් පවා තර්කමාත්‍රය සිද්ධාන්තයක් හැටියට පිළි-ගන්නවා. අපේ මහාචාර්යවරයන් ඇතැම් විට තරුණයන් වගේ හැසිරෙනවා. ඒ නිසා තර්ක මාත්‍ර සියල්ලක් ම මා බැහැර කරනවා. නමුත් අප දන් වෙහෙසෙන්නේ කුමක් සඳහා ද? මා වෑයම් කරන්නේ හැකි තරම් ඉක්මනට මගේ ස්වභාවය පැහැදිලි කරන්නයි. ඒ කියන්නේ මා කුමන විදියේ මිනිහෙක් ද? මා විශ්වාස කරන්නේ මොනවා ද? මා බලාපොරොත්තු වන්නේ මොනවා ද? යන දේවල් ගැන විස්තරයක් කිරීමටයි. එහෙම නේ ද? ඒ නිසා මා දෙවියන් ගැන සාමාන්‍යයෙන් විශ්වාස කරන බව කියන්න කැමැතියි. නමුත් ඒ සම්බන්ධව මේ කරුණු ද දැනගත යුතුයි. දෙවියකු සිටිනවා නම්, ඒ දෙවියා මේ ලෝකය මැවූ බව සත්‍ය නම්, එහෙනම් අප සියලු දෙනා ම දන්නවා ඒ දෙවියා ලෝකය මවා තියෙන්නේ [1]ඉයුසිල්ඩ් ගේ රේඛාගණිත ශාස්ත්‍රයට එකගව බව. එතුමා මිනිස් සිත මැව්වේ අවකාශය තුළ ඇත්තා වූ දිග, පළල, හා ගනකම හෙවත් ත්‍රිධාවිස්තෘතය පිළිබඳ අවබෝධය උඩයි. එහෙත් ඉයුසිල්ඩ් ගේ රේඛාගණිතශාස්ත්‍රයට එකගව ම ලෝකය, නැති නම් වඩාත්

1. Euclid – ක්‍රි වර්ෂයට හවුරුදු තුන් සීයකට පමණ පෙර මිසරයේ ඇලෙක්සැන්ඩ්‍රියා නගරයේ විසූ සුප්‍රසිද්ධ විද්‍යාඥයෙකි.

පළල් විදියට කියනවා නම් මුළු පැවැත්ම ම, නැතිනම් මුළු ජීවිතයම නිර්මාණය කළ බවට සැක කරන සුප්‍රසිද්ධ ශාස්ත්‍රඥයන් හා දර්ශනවාදීන් එදත් සිටියා, අදත් සිටිනවා. මොවුන් අතර බොහො ම උසස් ලෙස පිළිගත් උගතුන් ද සිටිනවා. ඉයුසිල්ඩ් ගේ නියාය අනුව සරලසමාන්තර රේඛා දෙකක් කවදුවත් පොළොව මත එකතු වන්නේ නැහැ. එහෙත් සරල සමාන්තර රේඛා අනන්තාවකාශයේ කිසියම් තැනක එකතු වන්නේ යයි සිතීමට පවා මේ උගතුන් භය වන්නේ නැහැ. මට මේ කාරණය අවබෝධ කරගන්න බැරිනම්, මට දෙවියන් වහන්සේ පිළිබඳ ඇත්ත නැත්ත වත් අවබෝධ කරගන්න නුපුළුවන, යන තීරණයට මා පැමිණියා. මෙ වැනි ප්‍රශ්න නිරවුල් කර ගැනීමට තරම් ඥානශක්තියක් මට නැති බව මා අවංකව පිළිගන්න ඕනෑ, මට තියෙන්නේ ලෞකික සිතක්. ලෞකික සිතකින් කොහොම ද ලෝකෝත්තර ප්‍රශ්න විසඳන්නේ? අලෝෂා, මම තුඹට අවවාදයක් දෙන්න කැමැතියි. ඒ අවවාදය නම් මේ ප්‍රශ්න ගැන කල්පනා කරන්න එපා. විශේෂයෙන් ම දෙවියෙක් ඇද්ද නැද්ද යන ප්‍රශ්නය ගැන කල්පනා කරන්න එපා. දිග, පළල ගනකම යන අදහස පමණක් ඇති ව නිර්මාණය කරන ලද සිතකින් මේ ප්‍රශ්න ගැන කල්පනා කිරීම කොහෙත් ම සුදුසු නැහැ. ඒ නිසා මා දෙවියන් ගැන විශ්වාස කරනවා. විශ්වාස කිරීමට ලැබීම ගැන මා සතුටු වෙනවා. එ පමණක් නොව මා එතුමා ගේ ප්‍රඥාවත් පිළිගන්නවා. අපට කොහෙත් ම අවබෝධ කළ නො හැකි එතුමා ගේ අරමුණ ද පිළිගන්නවා. ජීවිතය පිළිබඳ අර්ථයත්, ජීවිතය පාලනය වන ක්‍රමානුකූල වූ පිළිවෙළත් මා විශ්වාස කරනවා. අපි හැම දෙනා ම යම් කිසි දවසක දී එකතු වන්නෙමු යි කියන සදාකාලික එකඟත්වය ගැනත් මා විශ්වාස කරනවා. විශ්වය ලබා ගැනීමට වෑයම් කරන මෝක්ෂපදය ද මා විශ්වාස කරනවා. එය දෙවියන් සතු පදයක්. එම පදය අනන්ත අප්‍රමාණ කාලයක් දෙවියන් ලෙස පිළිගත හැකියි. මේක නොයෙක් ක්‍රමයට විස්තර කර තියෙනවා. මගේ අදහස හරි නේ ද? නමුත් මල්ලී දන්නව ද දෙවියන් වහන්සේ මවාපු මේ ලෝකය මා පිළිගන්නේ නැහැ. එය තිබෙන බව දැනදැනත් පිළිගන්නේ නැහැ. කරුණා කර මා කියන දෙය තේරුම් ගන්න. මා දෙවියන් වහන්සේ නො පිළිගන්නවා නො වෙයි. මට පිළිගන්න බැරි, මා නොපිළිගන්නේ උන්වහන්සේ මවාපු ලෝකය යි. මම එය තවත් හොඳට පැහැදිලි කර දෙන්නම්. දුක නැති කළ හැකි බව මා දරුවකු මෙන් විශ්වාස කරනවා. මිනිසා ගේ විරුද්ධවාදී අදහස්වල ඇත්තා වූ සියලුම තින්දුසහගත අඥාන කම්, කාලකණ්ණි මිරිගුවක් වාගේ

අතුරුදහන් වේවි. අතිශයින් ම කුඩා වූ, බලහීන වූ මිනිසා ගේ මොළයෙන් කරන ලද භයානක නින්දිත නිපදවීමක් වාගේ අතුරුදහන් වේවි. ලෝකයේ අවසානභාගයේ දී, සදාකාලික එකගත්වය ඇති වන මොහොතේ දී අගය කියා නිම කළ නො හැකි දෙයක් සිදු වේවි. එය සියලු දෙනාගේ ම ප්‍රීතියට හේතු වේවි. සියලු ම අමනාප කම් නැතිවේවි. මනුෂ්‍ය වර්ගයා විසින් කරන ලද සියලු ම අපරාධවලින් නිදහස ලැබේවි. මනුෂ්‍ය වර්ගයා විසින් කරන ලද මිනීමැරුම්වලට සමාව ලැබේවි මිනිසා විසින් කරන ලද අකුශලකර්මයන්ට සමාව දීම පමණක් නො ව ඒ අකුශලකර්ම සාධාරණ බව ඔප්පු කළ හැකියි. මේ හැම දෙයක් ම සිදු වන්න පුළුවනි. නමුත් මා එය පිළිගන්නේ නැහැ. සමාන්තර රේඛා එක් වුවත්, එක් වූ බව ඇසින් දුටුවත්, ඒ බව කියතත්, මා එය පිළිගන්නේ නැහැ. අලෝෂා මගේ හැටි මෙහෙම තමයි. මගේ දෘෂ්ටිය එයයි. මා කරන්නේ විහිළුවක් නො වෙයි. මා මේ කාරණය නූගතකු වගේ විස්තර කරන්නට පටන් ගත්තේ උවමනාවට ම ඇතිකරගත් නූගත් කමකින් යුතුවයි. කොහොම වුණත් මා මගේ හැටි නුඹට නො සඟවා එළි කළා. නුඹට උවමනා කරන්නෙත් එපමණයි. නුඹට උවමනා කළේ දෙවියකු සිටිනව ද නැද්ද කියා දැන ගැනීමට නොවෙයි. නුඹේ අයියා කුමන අදහසකින් යුතු ව ජීවත් වන්නේ දැයි දැන ගැනීමටයි. ඉතින් මා කාරණය පැහැදිලි කර දුන්නා."

ඉවාන් ඔහු ගේ දිග කතාව හදිසියෙන් ම අවසන් කළේ බලාපොරොත්තු නොවූ විශේෂ හැඟීමකින් යුතුව ය.

" 'නූගතකු වගේ' කතාව කීමට පටන් ගත්තේ මොක ද?"යි අලෝෂා විමසුවේ ය.

"නූගතකු විදියට කතාව කිව්වේ මා රුසියන් ජාතිකයකු නිසයි. රුසියන් ජාතිකයන් මෙ වැනි ප්‍රශ්න ගැන කතා කරන්නේ නූගතුන් හැටියටයි. දෙවෙනි කරුණ, කෙනෙකු නූගතකු වූ තරමට සත්‍යයට ළං වෙනවා. නූගතා ගේ සිත පැහැදිලියි. බොහො ම වාමී. නමුත් උගතා ගේ සිත නිදහස් නැහැ. උගත්කම සැඟවීමට වෑයම් කරනවා, පැනයන්න හදනවා. උගත්කම කපටියි. නැති නම් උගතා කපටියි. නූගතා අවංකයි, සෘජුයි. මා කතා කළ පිළිවෙළ ගැන මා කනගාටු වෙනවා. මා එය මෝඩයකු වගේ ඉදිරිපත් කළ තරමට මා ප්‍රීති වෙනවා."

"මේ ලෝකය නො පිළිගන්නේ මන්ද කියා මට විස්තර කරලා දෙන්න පුළුවන් ද?"

"පුළුවනි. එය රහසක් නො වෙයි. මා සූදනම් වුණේ එය විස්තර කර දෙන්නයි. මල්ලී නුඹේ සිත දූෂණය කිරීමටවත් නුඹේ අදහස් හා දෘෂ්ටිය වෙනස් කිරීමටවත් මගේ අදහසක්, නැහැ. සමහර විට මා නුඹෙන් සැනසීමක් බලාපොරොත්තු වෙනවා විය හැකියි" ඉවාන් හදිසියෙන් ම දරුවකු මෙන් සිනා සෙමින් කී ය. තම සොහොයුරා මෙසේ සිනාසෙනවා අලෝෂා මීට පෙර දැක නැත.

## හතර වන පරිච්ඡේදය

## දෙවියන්ට විරුද්ධ ව කැරලි ගැසීම

"අලෝෂා නො සඟවා කියයුතු තවත් කරුණක් තියෙනවා."යි ඉවාන් කී ය. "කෙනෙකු තමා ගේ අසල් වැසියාට ප්‍රේමය කරන්නේ කොහොම ද කියා මට තේරුම් ගන්න බැහැ. මගේ කල්පනාවේ හැටියට අපට දුර සිටින කෙනෙකුට ප්‍රේමය කළ හැකි වුණත් ළඟ සිටින අසල්වැසියාට ප්‍රේමය කරන්න බැහැ. මා වරක් කියෙව්වා 'අනුකම්පා සහගත ජෝන්' නමැති සාන්තුවරයකු ගැන ලියන ලද කතාවක්. වරක් කුස ගින්නෙන් පෙළෙන, සීතලෙන් වෙව්ලන, හිඟන්නකු මේ සාන්තුවරයා ළඟට ගියා. සාන්තුවරයා හිඟන්නා ඇඳට ගෙන උණුසුම් කිරීම පිණිස බදා ගෙන නිදාගත්තා. කිසියම් භයානක රෝගයකින් කුණු වී ගඳ ගහන හිඟන්නා ගේ කටට කට තබා සිම්බා. මගේ පිළිගැනීමේ හැටියට සාන්තුවරයා එහෙම කළේ ආත්මවධයක් වශයෙන්, කිසියම් වැරදි මතයක් නිසා හටගත් ආත්මවධයකින් තමා සතු යුතුකමක් ඉටු කිරීමේ අදහසින්. පින් රැස් කර ගැනීමේ අදහසින්. තමා විසින් ම තමා පිට පටවා ගත් කිසියම් දඬුවමක ප්‍රතිඵලයක් වශයෙන්. කෙනෙකුට ප්‍රේම කරන්න නම් ඔහු ඇසට නො පෙනී සිටිය යුතුයි. ඔහු ගේ මුහුණ පෙනුණු වහාම ප්‍රේමය නැති වී යනවා."

"සොසිමා තවුසා ඔය කාරණය ගැන කීප වතාවක් ම සඳහන් කළා"යි අලෝෂා කී ය. "ප්‍රේම කරලා පුරුදු නැති බොහො ම දෙනෙකුට, කෙනෙකු ගේ මුහුණ දුටුවාම ප්‍රේම කරන්න එපා

වෙනවා. නැති නම් කෙනෙකු ගේ මුහුණ ප්‍රේමයට බාධාවක් වෙනවා යයි එතුමා කිව්වා. නමුත් මනුෂ්‍යයා තුළ විශාල ප්‍රේමයක් තියෙන බව මාත් දන්නවා.''

''මෙ පමණ කාලයක් මේ ගැන මා කිසි ම දෙයක් දන ගෙන සිටියේ නැහැ. මට තේරුම් ගන්නත් බැහැ. මේ අතින් බලන කොට මට සමාන අදහස් දරන අය බොහො ම සිටිනවා. ප්‍රශ්නය වී ඇත්තේ මේක මිනිසා ගේ නරක ගති ගුණ නිසා ඇති වූ දෙයක් ද? නැති නම් ජන්මගත පුරුද්දක් ද? මගේ කල්පනාවේ හැටියට ක්‍රිස්තුන් වහන්සේ දක්වූ ප්‍රේමයට සමාන ප්‍රේමයක් මිනිසාට දක්වන්න බැහැ. එය කිසි ම කෙනෙකුට කළ නො හැකි හාස්කමකට සමානයි. ක්‍රිස්තුන් වහන්සේ දෙවියෙක්. නමුත් අපි දෙවිවරු නො වෙමු. සමහර විට මා දරුණු වේදනාවකින් පෙළෙන්න පුළුවනි. නමුත් වෙන කිසිවකුට මගේ වේදනාවේ ප්‍රමාණය දැනගන්න පුළුවන් කමක් නැත්තේ ඔහු වෙන අයකු මිස මා නොවන නිසයි. අනෙක් කාරණය තවෙකකු විඳින දුක භාර ගැනීමට කිසිම. කෙනකු කැමැති නැහැ. නුඹේ අදහසේ හැටියට මොන කරුණක් නිසා ද වෙන කෙනෙකු මගේ වේදනාව නොපිළිගන්නේ? මා ගඳගහන නිසා ද? මා මෝඩයකු මෙන් පෙනෙන නිසා ද? මා වරක් ඔහු ගේ කකුල පෑගුව නිසා ද? ඒ වගේ ම වෙනත් නොයෙක් හේතු නිසා ඇති වන දුක් තියෙනවා. මා ඉතා පහත් තත්ත්වයට පත් කරවන, නින්දා පරිභව කරවන, උදාහරණයක් වශයෙන් කුසගින්න නිසා ඇති වන දුක, මෙ වැනි දුකක දී මගේ ආරක්ෂකයා මට උපකාර වෙන්න පුළුවනි. නමුත් උසස් පරමාර්ථයක් සඳහා විඳින දුක මගේ ආරක්ෂකයා නො පිළිගන්න පුළුවනි. ඔහු මට අනුකම්පා නොකරන්නේ දුකින් පෙළෙන්නකු ගේ මුහුණේ තිබිය යුතු ලකුණු මගේ මුහුණේ දකින්නට නැති නිසා විය යුතුයි. ඉතින් ඔහු මට කිසි ම උපකාරයක් නොකරන්න පුළුවනි. ඔහු උප-කාර නොකරන්නේ නරක චේතනාවකින් නො වෙයි. මා දුකින් පෙළෙන්නකු බව ඔහුට නො පෙනෙන නිසයි. හිඟන්නන්, විශේෂයෙන් ම, නම්බුකාර හිඟන්නන් කවදාවත් මුහුණ පෙන්නා හිඟමන් නො ඉල්ලා පුවත්පත් මඟින් හිඟමන් ඉල්ලනවා. කෙනකුට පුළුවනි තමා ගේ අසල්වැසියා වෙන් කරලා ප්‍රේමය කරන්න. නැති නම් දුර සිට ප්‍රේමය කරන්න් පුළුවනි. නමුත් ළඟ පාත සිටින අසල් වැසියාට කොහෙත්ම ප්‍රේමය කරන්න පුළුවන්කමක් නැහැ. කිසියම් නාටකයක ඉරිඟිය පටරෙදි ඇඳ, වේදි-කාවට පැමිණ නටමින් හිඟමන් ඉල්ලන හිඟන්නකු දෙස බැලීමට

සමහරවිට අපට හිතෙන්න පුළුවනි. නමුත් අපට පුළුවන් කමක් නැහැ ඔහුට ප්‍රේම කරන්න. ඔය ඇති කතා කළා. මා වැයම් කළේ මගේ අදහස පැහැදිලි කරන්නයි. සාමාන්‍යයෙන් මනුෂ්‍ය වර්ගයා විඳින දුක ගැන යමක් කියන්නයි. නමුත් අපි ළමයින් විඳින දුක ගැන පමණක් කතා කරමු. මෙයින් මගේ තර්කය දහයෙන් පංගුවක් පමණ පටු වෙනවා. මගේ තර්කය දුර්වල වුණත් අපි ළමයින් ගැන පමණක් කතා කරමු. කො තරම් අපිරිසුදු වුවත්, වැරහැලි ඇඳගෙන සිටියත්, ළඟ සිටින ළමයාට ප්‍රේම කරන්න පුළුවනි. (මගේ කල්පනාවේ හැටියට ළමයින්ට කවදවත් අපිරිසුදුය, නැති නම් කැතයයි කියන්න බැහැ.) දෙවනුව, මා වැඩිහිටියන් ගැන කතා නොකරන්නේ ඔවුන් බොහො ම අප්‍රිය, ප්‍රේම කිරීමට තරම් සුදුසු නැති පිරිසක් නිසයි. ඔවුන් සාතන් ගේ ඇපල් ගෙඩිය කා ලෝකය පිළිබඳ හොඳ නරක දැනගත්ත නිසයි. ඔවුන් කුඩා දෙවිවරුන් ලෙස සලකන නිසයි. ලෝකය පිළිබඳ හොඳ නරක දැනගත් ඔවුන් තවතවත් පව් කරනවා. නමුත් කුඩා දරුවෝ අහිංසකයි. ඔවුන් ලෝකය පිළිබඳ හොඳ නරක දන්නේ නැහැ. මල්ලී නුඹ පොඩි දරුවන්ට ආදරේ ද? මා දන්නවා නුඹ පොඩි දරුවන්ට ආදරය බව. දරුවන් ගැන කතා කිරීමට මා අදහස් කළේ මන්ද කියා නුඹට තේරුම් ගන්න පුළුවනි. යම් විදියකින් මේ දරුවෝ මේ ලෝකයේ දී දුක් විඳිත් නම්, එසේ දුක් විඳින්නේ මා පියන් විසින් කරන ලද පාපයන්ට වන්දි ගෙවීමක් වශයෙන්, නොයෙක් පව් කළ මාපියන් වෙනුවෙන් මේ කුඩා දරුවන් දඬුවම් විඳිය යුතු යයි කියන්නේ නම්, එය මේ ලෝකයේ වෙසෙන මනුෂ්‍ය-යන්ට තේරුම්ගත නො හැකි ප්‍රශ්නයක්. එය තේරුම් ගන්න පුළුවන් අනෙක් ලෝකයේ දී පමණයි. කුඩා අහිංසක දරුවන් අනුන් කළ පව් වෙනුවෙන් කොහෙත්ම වන්දි ගෙවන්න උවමනා නැහැ. අලෝෂා නුඹ මා ගැන පුදුම වන්න පුළුවනි. මම කුඩා දරුවන්ට බොහො ම ආදරෙයි. ඒ අතර ඉතා දරුණු සිත් ඇති මිනිසුන් ගැන පරීක්ෂාවෙන් සිටීමට ද කැමැතියි. කරමසෝ පවුලේ ඇත්තන් සමහර විට කුඩා දරුවන්ට බොහො ම කැමැ-තියි. කුඩා දරුවෝ, විශේෂයෙන් ම අවුරුදු පහ දක්වා කුඩා දරුවෝ වැඩිහිටියන්ට වඩා බොහො ම වෙනස්. ඔවුන් අමුතු ම වර්ගයකට අයත් සත්ත්ව විශේෂයක් වගෙයි. මා දැන සිටියා හිරගෙදර සිටිය එක්තරා භයානක මිනීමරුවෙක්. මේ මිනිහා හොරකු ලෙස ජීවත් වූ කාලයේ දී කුඩා දරුවන් ඇතුළු පවුල් කීපයක් ම මරා දැම්මා. නමුත් හිරගෙදර සිටින විට දරුවන් ගැන අපූරු ආදරයක් පෙන්නුවා. මිනිහා මුළු කාලය ම ගත කළේ ජනේලය ළඟ ඉඳගෙන වත්තේ සෙල්ලම් කරන ළමයින්

දිහැ බලාගෙනයි. මිනිහා ඒ ළමයින් අතරින් පිරිමි ළමයෙකුට පුරුදු කළා ජනේලය ළඟට එන්න. මිනිහා මේ ළමයා එක්ක බොහොම මිත්‍ර වුණා. ......... දන්නව ද මල්ලී, නුඹට මා මේ සේරම කියන්නේ මන්ද කියා? මගේ හිස කකියනවා. මගේ හිතේ බලවත් දුකක් තියෙනවා.''

''අයියා කතා කරන්නේ පුදුම විදියටයි'' අලෝෂා කීවේ නොඉවසුම් බවක් පළකරමිනි.

''මට මේ ළඟ දී මොස්කව් නුවර දී හමුවුණ බල්ගේරියානු ජාතිකයෙකු කිව්වා ස්ලෙව් ජාතිය නැවැත නැග ඒය යන බියෙන් බල්ගේරියාව පුරා තුර්කි ජාතිකයන් කරන මිනී මැරුම් ගැන''යි ඉවාන් කීවේ අලෝෂා ගේ කතාවට සැලකිල්ලක් දක්වමින් නො වේ. ''ඔවුන් ගම් තියම්ගම් ගිනි තියමින් මිනී මරනව ලු. ස්ත්‍රීන් දූෂණය කරනව ලු. පොඩි දරුවන් මරනව ලු. සිරකරුවන් අල්ලා වැටවල්වලට හේත්තු කරලා කන්වලට ඇණ ගසා එළි වූ පසු එල්ලා මරනව ලු. මේ වගේ හිතන්නවත් බැරි භයානක අපරාධ ගැන මිනිසුන් නොයෙක් කතා කියනවා. සමහරවිට තිරිසනුන් වගේ කරන නොයෙක් අපරාධ ගැන නොයෙක් දේ කියනවා. නමුත් ඒක තිරිසනුන්ට කරන අපහාසයක්, අකටයුත්තක්. තිරිසනුන්ට බැහැ මිනිසුන් තරම් කෲර කම් කරන්න. මිනිසා තරම් ලස්සණට කෲර කම් කරන්න බැහැ. කොටියාට පුළුවන් ඌගේ නියපොතුවලින් මිනිහකු ඉරන්න, නැති නම් පහුරු ගාන්න. ඊට වඩා ඌට කරන්න පුළුවන් දෙයක් නැහැ. පුළුවන්කමක් තිබුණත් ඌ කවදාවත් මිනිසුන් ගේ කන්වලට ඇණ ගසා එල්ලා මරන්න අදහස් කරන්නේ නැහැ. තුර්කි ජාතිකයන් පොඩි දරුවන් මරා ආස්වාදයක් ලබනව ලු. ගැබ්ගත් මව්වරුන් ගේ කුස පළා දරුවන් එළියට ගන්නව ලු. අම්මා බලා සිටිය දී දරුවා උඩ දමා බයිනෙත්තුව අල්ලනව ලු. අම්මා බලා සිටිය දී දරුවා මැරීමෙන් තමයි ඔවුන් විනෝද වන්නේ. මෙන්න මේ කාරණය ගැනත් ටිකක් කල්පනා කරලා බලන්න. බයෙන් තැතිගත් මවක් දරුවකු තුරුලූ කරගෙන සිටිනවා. තුර්කි ජාතිකයන් ඇය වට කර ගන්නවා. උන් හොඳ සෙල්ලමක් පටන් ගන්නවා. උන් පළමු ව දරුවා සුරතල් කරමින් දරුවා සිනස්සනවා. ටික වේලාවකින් දරුවා සිනාසෙනවා. ඒ මොහොතේ දී තුර්කි ජාතිකයකු දරුවා ගේ මුහුණට ළං කරලා පිස්තෝලයක් අල්ලනවා. එතකොට දරුවා සිනාසෙමින් ඒ පිස්තෝලය අල්ලා ගැනීමට කුඩා අත් දෙක දික්කරනවා. ඒ මොහොතේ දී අර භයානක මිනිහා දරුවා ගේ හිස් මොළ සුනු

විසුළු වෙන්න වෙඩි තියනවා. වැඩේ බොහො ම ලස්සණයි නේ ද? විශේෂයෙන් ම තුර්කි ජාතිකයෝ මෙ වැනි සෙල්ලම්වලට බොහො ම සමර්ථයි.''

''අයියා, මොනව ද මට කියන්න සැරසෙන්නේ?'' අලෝෂා ඇසුවේ ය.

"මගේ කල්පනාවේ හැටියට යක්ෂයා කියා එකෙක් නැති නම්, මිනිසා තමා ගේ ස්වරූපය අනුව, තමා ගේ ගතිගුණ අනුව යක්ෂයා මවා ගත්තා.''

"අයියා අදහස් කරන්නේ, මිනිසා තමා ගේ ස්වරූපය අනුව දෙවියන් වහන්සේ මැව්වා වගේ යක්ෂයාත් මවා ගත්ත බව ද?''

"හැම්ලට් නමැති නාටකයේ, පොලෝනියස් කියනවා වගේ, 'නුඹ මගේ වචනවලින් මට ආපසු පහර දෙනවා.' කමක් නැහැ. මම ඒ ගැන බොහො ම සතුටුයි. මිනිසා ඔහු ගේ ස්වරූපය හා ගතිගුණ අනුව දෙවියන් මැව්වා. නුඹ අදහන ඒ දෙවියා මහ පුදුම දෙවියකු වෙන්න පුළුවනි. මා කියන්න අදහස් කරන්නේ කුමක්ද කියා මගෙන් ඇසුවා නේ ද? යම් යම් දේවල් ගැන ඇත්ත නැත්ත සොයා දැන ගැනීමට මම බොහො ම කැමැතියි. නුඹ විශ්වාස කරනව ද පුවත් පත් හා සඟරාවලින් මා එක් වර්ගයකට අයත් උපාඛ්‍යාන එකතු කරලා තියෙනවා. තුර්කි ජාතිකයන් පිළිබඳ කතාවක් මා එකතු කරලා තියෙනවා. උන් විදේශිකයෝ. උන් ගේ කතාවට වඩා හොඳ, අපේ රටේ සිදු වූ අපූරු කතා මා එකතු කරලා තියෙනවා. අපි කැමැතියි මිනිසුන්ට තළන්න. මිනිසුන්ට කසයෙන් හා දණ්ඩෙන් තැළීම අපේ ජාතික ලක්ෂණයක්. කන්වලට ඇණ ගසා එල්ලා තැබීම අපට හිතන්නවත් බැරි දෙයක්. හැරත් අපි යුරෝපීය ජාතිකයෝ නො වෙමු ද? කසයෙන් තැළීම අපට කවදාවත් අත්-හරින්න පුළුවන් පුරුද්දක් නො වෙයි. පිටරටවල නම් තැළීමේ සිරිත සම්පූර්ණයෙන් ම අත්හැරලා. ඒ රටවල සිරිත් විරිත් දැන් බොහො ම ශිෂ්ටයි. දැන් ඒ රටවල මිනිසුන්ට තැළීම තහ-නම් කොට නීති රීති වෙනස් කරලා තියෙනවා. ඒ වෙනුවට ඔවුන් ජාතියට ගැළපෙන වෙනත් දඬුවම් ක්‍රම සකස් කරගෙන තියෙනවා. හරියට අප අපේ ජාතික ලක්ෂණවලට ගැළපෙන්න දඬුවම් ක්‍රම සකස් කරගන්නවා වගෙයි. නමුත් ඔවුන් අනුගමනය කරන දඬුවම් ක්‍රම ඔවුන් ගේ ජාතික ලක්ෂණවලට කො තරම් ගැළපෙනවා ද කියතොත් ඒ ක්‍රම අපට කොහෙත්ම අනුගමනය කරන්න බැහැ. කොහොම වුණත් අපේ රදළයන්ට ආගම බෝවීමෙන් පසු අප අතර ද මේ දඬුවම් ක්‍රම මුල්බැස ගෙන තියෙන බව කිව යුතුයි

මීට අවුරුදු පහකට පමණ පෙර රිචඩ් නමැති මිනීමරුවකු මැරූ සැටි විස්තර කරන, ප්‍රංශ බසින් පරිවර්තනය කළ බොහෝ ම ලක්ෂණ පත්‍රිකාවක් මා ළඟ තියෙනවා. මට මතක තියෙන හැටියට මේ මිනිහා අවුරුදු විසි තුනක තරුණයෙක්. මිනිහා තමා කළ වරද ගැන පසුතැවුණා. අන්තිම මොහොතේ පෝර-කය උඩ දී මිනිහා ක්‍රිස්තියානි ආගමට හරවා ගත්තා. මේ තරුණයා අවජාතක දරුවෙක්. වයස හයේ දී ඔහු ගේ මා පියන්, හදා ගැනීම පිණිස, සුවිස් කඳුකරේ වාසය කරන එඬේරකුට දරුවා භාර දුන්නා. කුලී වැඩ ගැනීම පිණිස ඔවුන් රිචඩ් හැදුවා රිචඩ් ඉතා නපුරු තිරිසනකු වගේ ඇති දැඩි වුණා. මේ මිනිසුන් මේ දරුවාට කිසි ම දෙයක් ඉගැන්නුවේ නැහැ. ශරීරය වසා ගැනීමට සුදුසු වස්ත්‍රයක් දුන්නේ නැහැ. ඒ වෙනුවට උදේ පාන්දර වැස්සෙත් හිමෙත් බැටළුවන් බලාගන්න යැව්වා. කිසි ම කෙනෙකු රිචඩ් ගැන සැලකිල්ලක් දැක්වූයේ නැහැ. උවමනා විදියට හදාගැනීමට දෙන ලද දරුවකු නිසා ඔහු ගෙන් තමන් කැමැති විදියට වැඩ ගන්නට පුළුවනැයි ඔවුන් කල්පනා කරන්න ඇති. වෙනෙකක් තබා රිචඩ්ට කන්න අදින්න දීමවත් අවශ්‍ය නැතැයි ඔවුන් කල්පනා කළා. බයිබලයේ සඳහන් අකීකරු පුතා වගේ, විකිණීම පිණිස මහත් කරන ඌරන්ට දෙන කෑම කා ජීවත් වූ සැටි රිචඩ් පස්සේ විස්තර කළා. නමුත් ඔවුන් ඌරන්ට දෙන කෑමවත් රිචඩ්ට කන්න දුන්නේ නැහැ. ඌරන් ගේ කෑම හොරකම් කළ හැම විට ම ඔවුන් රිචඩ්ට නොසැ-හෙන්න තැළුවා. රිචඩ් ළමා කාලයත් තරුණ කාලයත් ගත-කළේ මේ විදියටයි. අන්තිමේ දී රිචඩ් බොහෝ ම ශක්තිමත් මිනිසකු වී පැනගොස් සොරකම් කරන්න පටන් ගත්තා. පළමු ව ඔහු ජිනීවා නුවර කුලී වැඩ කරමින් ජීවත් වුණා. හම්බ කළ දෙ න් බොන්න පටන්ගත්ත මේ මෑගයා අන්තිමේ දී නාකි මිනිහකු මරා ඔහු සතු දෙය පැහැරගත්තා. ඔහු සිරභාරයට ගෙන නඩු පවරා මරන්න නියම කළා. මිනිහට මරණ දණ්ඩනය නියම කරන කොට නම් කිසි ම කෙනෙකු කිසි ම අනුකම්පා-වක් දැක්වූයේ නැහැ. නමුත් ඊට පස්සේ පූජකයන්, ක්‍රිස්තියානි සහෝදර සමිතිවල සාමාජිකයන්, ත්‍යාගශීලී කාන්තාවන්, මිනිහා වට කරගත්තා. මිනිහට හිරගෙදර දී ලියන්න කියන්න ඉගැන්-නුවා. බයිබලය දේශනා කළා. තමා මිනී මැරූ බව කියන තෙක් ඔවුන් කිසි ම විවේකයක් නැති ව මිනිහට නොයෙක් විදියේ අනුශාසනා කළා. උනන්දු කෙරෙව්වා. උපදෙස් දුන්නා. අන්ති-මේ දී මිනිහා ආගමට හරවගත්තා. තමා ඉතා භයානක මිනී මරුවකු බවත්, නමුත් අන්තිමේ දී දෙවියන් වහන්සේ තමාට ආලෝකයත් සමාවත් දුන් බවත් කියා මිනිහා උසාවියට

පෙත්සමක් ඉදිරිපත් කළා. ත්‍යාගවන්තයන්ගෙන්, සමාජසේවක-යන්ගෙන්, සුචරිතවාදීන්ගෙන්, ශ්‍රද්ධාවන්තයන්ගෙන් පිරි මුළු ජිනීවා නුවර ම මේ මිනීමරුවා ගැන මහත් උනන්දුවෙන් බලා සිටියා. නගරයේ රදළයන් හා කුලවතුන් හිරගෙය වටකර ගත්තා 'නුඹ අපේ සහෝදරයා ය. නුඹ දෙවියන් වහන්සේගෙන් සමාව ලැබුයෙහි ය' කියමින් රිචඩ් වැලඳ ගෙන සිඹගත්තා. 'ඔව් මා දෙවියන් වහන්සේගෙන් සමාව ලැබුවා. ළමාවියේ දීත්, තරුණ වියේ දීත් මා ඌරන්ට ලැදිව සිටියා. නමුත් මා දැන් දෙවියන් වහන්සේගෙන් සමාව ලැබුවා. මම දෙවියන් වහන්සේ ගේ සමාව ලබා මිය යමි' කියමින් රිචඩ් අඬන්න පටන් ගත්තා. අඬන්නේ නැති ව ඒ මිනිහා වෙන මොනවා කරන්න ද? 'ඔව් රිචඩ් නුඹ දෙවියන් වහන්සේගෙන් අනුකම්පාව ලබා මිය යා යුතු යි. නුඹ තවත් අයකු ගේ ලේ සෙලවූ නිසා මිය යා යුතුයි. නුඹ දෙවියන් ගැන නො දන ඌරන් ගේ කෑම සොර-කම් කළ වරදට දඬුවම් ලැබීම ගැන නුඹ වරදකාරයා නො වෙයි. (එහෙත් සොරකම් කිරීම නීතිය මඟින් තහනම් කර තියෙන නිසා නුඹ කළේ වරදක්.) එහෙත් නුඹ තවත් කෙනකු ගේ ලේ සොලවා ඇති නිසා නුඹ ඊට වන්දි ගෙවිය යුතුයි.' නමුත් අන්තිම දවසේ රිචඩ් බොහො ම දුර්වල වුණා. 'මෙය මගේ ජීවිතයේ ඉතාමත් ප්‍රීතිමත් දවසයි. අද මා දෙවියන් වහන්සේ ළඟට යනවා'යි කියමින් මිනිහා මුළු දවස ම ඇඬුවා 'ඔව් රිචඩ්, අද නුඹ දෙවියන් වහන්සේ ළඟට යන නිසා මේක නුඹේ ඉතා ම ප්‍රීතිමත් දවසයි' පූජකවරුන්, නඩුකාරයන් හා ත්‍යාගශීලී කාන්තාවන් එක හඬින් කිව්වා. අන්තිම දවසේ උන් සේරම හිරකරුවා සමග හිරකරත්තය පිටිපසින් පෝරකය දක්වා පෙරහැරින් ගමන් කළා. පෝරකය ළඟ දී අන්තිම වතා-වට රිචඩ් අමතා 'සහෝදරයා නුඹ මැරෙන්න භය වෙන්න එපා. දෙවියන් වහන්සේ ගේ කරුණාව ලබා සිටින නිසා භය වෙන්න එපා'යි කියා ඔවුන් නැවත ඔහු සිඹගත්තා. අන්තිමේ දී අළු-ගෝසුවා රිචඩ් පෝරකය උඩට ඇදගෙන ගොස් බිම දණගස්වා, මිනිහා දෙවියන් වහන්සේ ගේ කරුණාව ලබා සිටි නිසා බොහො ම කරුණාවෙන් හා සහෝදරත්වයෙන් යුතුව හිස ගසා දැම්මා. මේ කතාව බොහො ම සවාභාවිකයි නේ ද? මේ පත්‍රිකාව රුසියන් බසට පරිවර්තනය කළේ රුසියාවේ රදළපන්තියට අයත් හොඳට ආගම ධර්මය අදහන පරාර්ථකාමී ශ්‍රද්ධාවන්තයෙක්. මහජනයා ගේ යහපත පිණිස මේ පත්‍රිකාව මුද්‍රණය කොට නොමිලයේ බෙදා හැරියා. මේ කතාව බොහො ම වැදගත් වන්නේ එහි ජාතික ඌරුවක් තියෙන නිසයි. කෙනෙකු දෙවියන් වහන්සේ ගේ කරුණාව ලබා අපේ සහෝදරයකු වූ පළියට හිස ගසා දැමීම

අප සලකන්නේ උමතු ක්‍රියාවක් හැටියටයි. නමුත් මිනිසුන් මරා දැමීමට අප යොදන ක්‍රම මීට වඩා අන්තයි. අප ජාතියක් වශයෙන් විනෝද වන්නේ මිනිසුන්ට කසයෙන් තැළීමෙන්. මෙය ඓතිහාසික කරුණක්. ගැමියකු අශ්වයකු ගේ ඇසට කසයෙන් තැළූ හැටි දක්වන කාව්‍යයක් තියෙනවා. ඒ කාව්‍යය කවුරුත් කියවා ඇති. එය රුසියන් ජාතිකයන්ට පමණක් විශේෂ වූවක්. ඒ කාව්‍යයෙන් විස්තර වන්නේ මහලු අශ්වයකු මහ බරක් අදින්නට බැරිව සිටිය සැටියි. කරත්තකාරයා අශ්වයාට තළන්නට පටන්ගත්තා. නො නවත්වා ම තැළුවා. පිස්සකු වගේ තැළුවා. කෝපයෙන් උමතු වී කරන්නේ කුමක් ද යි නො දැන තැළුවා. 'කො තරම් අමාරු වුණත්, තෝ මේ කරත්තය අදින්න ඕනැ'යි කියමින් තෙතක් මෙතක් නැති ව තැළුවා. අන්තිමේ දී අශ්වයා මුළු වෙර ම යොදා කරත්තය ඇද්දා. එහෙත් කරත්තය හොලවන්නටවත් බැරිවුණා. කරත්තකාරයා ආයේත් වරක් අශ්වයාට තළන්න පටන්ගත්තා. අශ්වයා ගේ කඳුළු ගලන ඇස් දෙකට තැළුවා. අන්තිමේ දී ඒ පුදුම තිරිසනා මුළු වෙර ම යොදා කරත්තය ඇද්දා, වැනිවැනී ඇද්දා, වෙව්ලවෙව්ලා ඇද්දා, හතිදමමින් ඇද්දා. ඒ කාව්‍යය කියවන කොට ඇඟ හිරිවැටෙනවා. මෙය අශ්වයකුට තැළූ සැටි විස්තර කරන කතාවක් පමණයි. දෙවියන් වහන්සේ අශ්වයන් මවා තියෙන්නේ තැළීමටයි. ටාටර්වරු මෙ විදියට තළන හැටි අපට උගන්වා අමතක නො වන්නට අපට කසය තෑගි දීලා ගියා. තිරිසනුන්ට තළනවා වගේ මනුෂ්‍යයන්ටත් තළන්න පුළුවනි. හොඳට උගත් නැණවත් අඹු සැමි යුවළක් අවුරුදු හතක දියණියට කෝටුවකින් තැළුවා. ඒ ගැන සම්පූර්ණ විස්තරයක් මා ළඟ තියෙනවා. කෝටුව පුරා ගැට තිබීම ගැන පියා බොහො ම සතුටු වුණා. 'මේ වගේ කෝටුවකින් හොඳට රිදෙන්න තළන්න පුළුවනි' කියමින් ඔහු දියණියට තවතමත් තැළුවා. මා දන්නා සමහර මිනිසුන් සිටිනවා, ඔවුන් කෙනකුට තළන විට තළන හැම පාරක් පාසා ම ඔවුන් ගේ රාගය වැඩි වෙනවා. ඉතින් මිනිත්තු පහක් තළනවා. පළමු ව ළමයා කෑගානවා. අන්තිමේ දී කෑගාන්න බැරිව වරින්වර කටබලියා අමාරුවෙන් හුස්ම ගනිමින් 'තාත්තේ, තාත්තේ' කියා කන්තලව් කරනවා. අන්තිමේ දී මහ පුදුම ක්‍රමයකින් පියාට විරුද්ධව උසාවියේ නඩුවක් පැවරෙනවා. පියා නීතිඥයකු කුලියට ගන්නවා. රුසියන් ජාතිකයන් බොහෝ කාලයක සිට නීතිඥයන් හඳුන්වන්නේ 'කුලියට දෙන හෘදය සාක්ෂිය' යන නමිනුයි. මේ දක්ෂ නීතිඥයා තමා කුලියට ගත් පියා වෙනුවෙන් තර්ක කරන්නට පටන්ගන්නවා. 'මේ සිද්ධිය බොහො ම සුළු දෙයක්. හැම දා ම හැම ගෙයක ම සිදුවන දෙයක්

පියකුට අයිතියක් නැද්ද නො මග යන දරුවකු හද ගන්න.? මෙ වැනි දෙයක් ගැන නඩු දැමීම ගැන අපි ලැජ්ජා විය යුතු යි, මේ දක්‍ෂ නීතිඥයා ගේ තර්කයෙන් ඇත්ත අවබෝධ කරගත් ජූරිසභාව විත්තිකාරයාට වාසි වන ලෙස තීන්දුව දෙනවා. වධකයා නිදහස්වීම ගැන මහජනයා ඔල්වරසන් දෙනවා. මට බොහො ම කනගාටුයි එ තැන සිටින්න නො හැකි වීම ගැන. මා හිටියා නම් මිනිහ ගේ ගෞරවය වෙනුවෙන් අරමුදලක් එකතු කරන්න යෝජනා කරනවා...... ...... කොහොම ද? බොහො ම ලස්සණ කතාව නේ ද?

"මට පුළුවනි ළමයින් ගැන මීටත් වඩා හොඳ කතාන්තර කියන්න. මා රුසියන් ළමයින් ගැන කතාන්තර මහත් රාශියක් එකතු කරගෙන තියෙනවා. දෙමාපියන් විසින් වෛර කරනු ලැබූ අවුරුදු පහක ගෑනු දරුවකු හිටියා. මේ දරුවගේ අම්ම තාත්තා උගත් බුද්ධිමත් වැදගත් කුලවත් මිනිස්සු. කුඩා ළමයින්ට පමණක් වද දීමට සමහර අය විශේෂ ආශාවක් දක්වන බව මා නැවැත කිව යුතු යි. මනුෂ්‍ය ගතිගුණ අගය කරන උගත් යුරෝපීය ජාතිකයන් මෙන් මේ වදකයෝ මනුෂ්‍යයන්ට නම් බොහො ම ත්‍යාගවන්තයි, බොහො ම කරුණාවන්තයි. නමුත් ඔවුන් දරුවන්ට වද දෙන්න බොහො ම ආසයි. අනෙක් අතින් මේ මිනිසුන් දරුවන්ට ආදරය කරන්නෙත් ඔවුන්ට වද දෙන්න පුළුවන් නිසයි. ඔවුන් දරුවන්ට වද දෙන්න පෙළඹෙන්නෙත් ආපසු හැරී ඔවුන්ට පහරදීමට දරුවන්ට පුළුවන් කමක් නැති නිසයි. දරුවෝ බොහො ම අහිංසකයි. පැමිණිලි කරන්න කිසි ම කෙනෙක් නැහැ. මේ අසරණකම නිසා වැඩිහිටියන් තවතවත් දරුවන් ගැන කිපෙනවා. දරුණු වෙනවා. හැම මිනිසකු තුළ ම යක්‍ෂයකු සැඟවී සිටිනවා. කෝපය නැමැති යක්‍ෂයකු, වදදෙනු ලැබූ අසරණ දරුවන් ගේ විලාපය අසා ප්‍රීති වන යක්‍ෂයකු, රාගී හැඟිම් සනසාගන්නා යක්‍ෂයකු, මුදා හරින ලද දමරික යක්‍ෂයකු, දුශ්චරිතයන් බෝකරගත්, දරුණු රෝගවලින් පෙළෙන, වාතරක්තය, රත් පිත් ගාය හා වකුගඩුවල රෝගවලින් පෙළෙන යක්‍ෂයකු අප හැම දෙනා තුළ ම සැඟවී සිටිනවා.

"අර අසරණ ගෑනු දරුවාට ඇගේ උගත් දෙමවුපියන් ගෙන් දරුණු වද වේදනා විඳින්න සිදු වුණා. කිසි ම වගවිභාගයක් නැති ව, කිසි ම හේතුවක් නැති ව, ඇගේ මාපියන් තුවාල වන තෙක් ඇයට තැළුවා, පයින් ඇන්නා. ඊට පස්සෙ බොහො ම ශිෂ්ට විදියේ වද දීමක් කළා. හීතලෙන් හා තෙතමනෙන් යුත් කාමරයක තනියෙන් දමා වැසුවා. දරුවා රෑ

නැඟිට කතා නො කළ වරදට (හරියට සුවසේ නිදියන හවුරුදු පහක දරුවෙකුට රෑට නැඟිට කතා කිරීමට පුරුදු කොට තියෙ-නවා වගේ) ඇගේ මුහුණේ අසූචි තවරා කවේ එබුවා. මේ වැඩේ කළේ ඇගේ අම්මයි. මේ කුඩා දරුවා කෙඳිරිගාමින් කෑගාද්දී අම්මා සුවසේ නිදාගත්තා. තමාට මෙසේ වද දෙන්නේ මන් දැයි නොදන්නා, අසරණ දරුවකු ඇගේ කුඩා දෑතින් පපුවට ගසා ගනිමින්, සීතලේ වෙව්ලමින්, අන්ධකාරයේ හිඳ අඬමින්, කරුණා වන්ත දෙවියනන් ගෙන් ආරක්ෂාව ඉල්ලන්නේ මන්ද කියා තුඹට තේරුම් ගන්න පුළුවන් ද? මල්ලී, බොහෝ ම අසරණ ශ්‍රද්ධා-වන්ත ආධුනික පූජකයකු වූ තුඹට පුළුවන් ද මේ කාරණය තේරුම් ගන්න? මෙ වැනි දුෂ්ට, අශිෂ්ට, අධම වැඩවලට ඉඩ දී තියෙන්නේ මන් ද කියා තුඹට තේරුම් ගන්න පුළුවන් ද? මට දැන ගන්න ලැබුණු හැටියට මෙ වැනි සාපරාධී වැඩ නො කර මනුෂ්‍යයාට මෙලොව ජීවත්වන්න පුළුවන්කමක් නැති ලු. එහෙම නැති ව ඔහුට හොඳ නරක තේරුම් ගන්න බැරි ලු. මෙ වැනි සාපරාධී ක්‍රියා මගින් හොඳ නරක දැනගැනීමෙන් ඇති ප්‍රයෝජනය කුමක් ද? මේ මුළු ලෝකයේ තිබෙන දැනුම එක්තැන් කළත් ඒ දැනුම අර දරුවා කාරුණික දෙවියන්ට කළ කන්නලව්ව තරම් වටින්නේ නැහැ. වැඩි හිටියන් විඳින දුක් පීඩා ගැන මා කිසිවක් නොකියන්නේ ඔවුන් සාතන් ගේ සාපලත් තහනම් ගෙඩිය කාපු නිසයි. ඔවුන් යකාට ගියදෙන්. නමුත් මේ අසරණ දරුවන් දුක්වින්ද යුත්තේ මන් ද? අලෝෂා මගේ කතාව අසා තුඹේ හිතේ මහත් වේදනාවක් ඇති වී තිබෙන බව මට පේනවා. කැමැති නම් කතාව නවත්වන්නම්.''

''ඒකට වරදක් නැහැ. දුක් විඳින්න මම කැමැතියි'' අලෝෂා කී ය.

''තවත් කතාවක් කියන්න තියෙනවා. බොහෝ ම පුදුම කතාවක්. අපේ ජාතික ලක්ෂණ ගැබ් වුණ කතාවක්. ඒ නිසා කතාව නො කියා බැහැ. මේ කතාව මා දත් විකකට කලින් පැරණි රුසියන් කතාවක තියෙල කියෙව්වා. මට පොතේ නම මතක නැහැ. පස්සේ නම බලා ගන්න ඕනෑ. මේ කතාව සිදු-වුණේ අපේ රටේ වහල් මෙහෙය පැවැති අඳුරු කාලයේ දීයි. අපේ රට වැසියා වහල්භාවයෙන් නිදහස් කරගත් උතුමන්ට ගෞරව වේවා. ඒ කාලයේ අපේ රටේ හිටියා ලොකු ජනරාල් කෙනෙක්. මිනිහා රදළයෙක්. ලොකු ඉඩම් හිමියෙක්. පුදුම මිනිහෙක්, යුධහමුදාවෙන් විශ්‍රාම ගෙන විවේක ජීවිතයක් ගත කරන මේ මිනිහා හිතුවා තමා ගේ ඉඩකඩම්වල වැඩ කරන දාසයන් ඇති කිරීමේ හෝ නැති කිරීමේ සම්පූර්ණ බලය තමා ගේ

අතේ තියෙනවාය කියා. මේ වගේ අදහස් තියෙන මිනිසුන් ඒ කාලයේ හිටියා. ඉතින්, දාසයන් දෙ දහකින් යුත් තමා ගේ වත්තේ මේ ජනරාල් විශ්‍රාම ගෙන පදිංචි වුණා. මිනිහා සේරම යස ඉසුරු ඇති ව වාසය කළේ තමා ගේ අසරණ අසල් වැසියෝ තමා ගෙන් යැපෙන්නෝ ය, නැති නම් මෝඩයෝ ය යන අදහසිනුයි. මිනිහට දඩබල්ලන් සිය ගණන් හිටියා. බල්ලන් බලා ගැනීමට නියම නිලඇඳුමෙන් සැරසුණු සේවකයන් ද සීයක් පමණ හිටියා. දවසක් දාසයකු ගේ දරුවකු, අවුරුදු අටක් පමණ වයසැති පිරිමි දරුවකු, සෙල්ලමට ගැසූ ගල් පහරක් වැදී ජනරාල් ගේ හොඳම බල්ල ගේ කකුල විකක් රිදුණා. 'මොක ද මගේ හොඳම බල්ලා අද නොන්ඩිගහන්නේ?' කියා ජනරාල් ඇසුවා. ළමයකු විසින් ගසන ලද ගල් පහරක් බල්ලා ගේ කකුලේ වැදුණු බව ජනරාල්ට දන්වනු ලැබුවා 'එහෙනම් තෝ මගේ බල්ල ගේ කකුලට ගලකින් ගැසුවා?' යි කියමින් ජනරාල් කෝපයෙන් දරුවා ගේ හිස සිට දෙපා දක්වා බලා 'ඔය කොලුවා අල්ලපියව්' කියා අණ දුන්නා. අණ පරිදි මව ගෙන් උදුරා ගත් දරුවා මුළු රැම කාමරයක දමා වසා තැබුවා. පසුදා උදේ ජනරාල් දඩ බල්ලන් හා සේවකයන් පිරිවරා ගෙන අසු පිට නැගී දඩයමේ යාමට සැරසී පැමිණියා. පාඩමක් ඉගැන්වීම පිණිස සියලු ම දාසයන් එ තැනට රැස් කෙරෙව්වා. ඔවුන් ඉදිරි පිට සිටියේ අර දරුවා ගේ මවයි. අනතුරුව මුළු රැම හිර කොට තැබූ දරුවා ගෙනාවා. එදා දඩයමේ යාමට නුසුදුසු මීදුමින් අඳුරු වූ සීතල දවසක්. දරුවා ගේ ඇඳුම් ගලවා දැමීමට ජනරාල් නියම කළා. දරුවා ගේ සියලුම ඇඳුම් ඉවත් කරනු ලැබුවා. දරුවා සීතලෙන් වෙව්ලන්න පටන් ගත්තා. බියෙන් ගල්ගැසී බලා සිටියා. කෑ ගැසීමට පවා බය වුණා............ ...'ඕකට දුවන්න කියාපියව්' කියා ජනරාල් අණ දුන්නා 'දුවපිය කොලුවා දුවපිය' කියා සේවකයන් කෑගැහුවා. දරුවා දිව්වා.......... 'උසි උසි, අර කොල්ලා අල්ලපියව්' කියා ජනරාල් දඩ බලුරැළ කුඩා දරුවා පිටුපසින් එලෙව්වා. දරුවා අල්ලා ගත් බලුරැළ අම්මා බලා සිටිය දී දරුවා කෑලිවලට ඉරුවා.........මගේ කල්පනාවේ හැටියට වත්තක් පාලනය කිරීමට සුදුසු නැති පුද්ගලයකු ලෙස- පසු කාලයේ දී ජනරාල් නම් කරනු ලැබුවා. ඉතින් මේ ජනරාල්ට කළ යුතු දඬුවම කුමක් ද? වෙඩි තබා මරා දැමිය යුතු ද? අප තුළ පවතින හොඳ නරක පිළිබඳ හැඟීම් සැනසීම පිණිස ඔහුට වෙඩි තබා මරා දැමිය යුතු ද? කතා කරපන් මල්ලී.''

''වෙඩි තියන්න වටිනවා'' යි අලෝෂා, සොහොයුරා දෙස බලමින් කී ය. සුදු මැලි වූ ඔහු ගේ මුහුණේ සිනාවක් රැඳී තිබුණේ ය.

"බොහො ම හොඳයි" ඉවාන් ප්‍රීතියෙන් කී ය. "නුඹ බොහො ම හොඳ පූජකයෙක්! එහෙනම් නුඹේ පපුවෙත් ඇති පොඩි යකෙක්!"

"මා කිව්වේ විහිළුවටයි. නමුත්..........."

"අර 'නමුත්' කියන වචනය තමයි වැදගත්" යි ඉවාන් කී ය.

"විහිළුව මේ ලෝකයේ අවශ්‍යයෙන් ම තිබිය යුතු දෙයක්. මේ ලෝකය රැඳී තියෙන්නේ විහිළුව උඩයි. සමහර විට මේ ලෝකයේ විහිළුව නැති ව කිසි ම දෙයක් සිද්ධ නොවන්න පුළුවනි. අපත් යමක් කමක් දන්නවා."

"අයියා මොනව ද දන්නේ?"

"මට කිසි ම දෙයක් තේරුම් ගන්න බැහැ" යි ඉවාන් උමතු-වෙන් දෙඩවන්නකු මෙන් කී ය. "මේ වේලාවේ දී කිසි ම දෙයක් තේරුම් ගන්න මට උවමනාවකුත් නැහැ. මට උවමනා කරන්නේ ඇත්ත නැත්ත පමණයි. යම්කිසි දෙයක් තේරුම් ගැනීමට වෑයම් කළොත් වෙන්නේ ඇත්ත වැසී යන එක පමණයි. ඇත්ත අත් නොහරින්න මා අධිෂ්ඨාන කරගත්තා."

"ඇයි අයියා මට හිරිහැර කරන්නේ?" යි අලෝෂා හදිසි-යෙන් ම ඇති වූ සිත් වේදනාවකින් විමසුවේ ය. "මට කරදර නො කර අයියා ගේ අදහස දැන්වත් කියනව ද?"

"ඔව් මම කියන්නම්. මගේ අදහස කීමට තමයි මා සැරසෙන්නේ. අලෝෂා, මම නුඹට බොහො ම ආදරෙයි. මා නුඹට පූජකයකු වෙන්න ඉඩ දෙන්නෙ නැහැ."

ඉවාන් මඳ වේලාවක් නිහඬ විය. අනතුරුව ඔහු ගේ මුහුණ ශෝකයෙන් හැකුළුණේ ය.

"මා කියන දෙය හොඳට අහගන්න. මා කුඩා දරුවන් ගැන කතා කීපයක් කිව්වේ මගේ අදහස පැහැදිලි කිරීම පිණිසයි. පිටපොත්තේ සිට මදය දක්වා මේ මහ පොළොව තෙත් කළ, මනුෂ්‍ය වර්ගයා විසින් හෙළන ලද කඳුළු ගැන මා කිසිවක් කියන්නේ නැහැ. ඕනෑකමින් ම මා මගේ කතාව පටු කළා. මම මකුණකු වගේ මිනිහෙක්. මේ ලෝකය මේ විදියට පව-තින්නේ මන් ද කියා මට පිළිගන්න බැරි බව මා අවංකව, නිහතමානව කියනවා. මගේ කල්පනාවේ හැටියට මීට දෙස් කිව යුත්තේ මිනිසුන්ටමයි. ඔවුන්ට ස්වර්ගසම්පත්තිය දුන්නා.

ඔවුන්ට නිදහස උවමනා කළා. තමන්ට දුක් විඳින්න සිදුවන බව දැනදැනත් සවර්ගයෙන් ගින්දර සොරකම් කළා. ඒ නිසා මේ මිනිසුන්ට අනුකම්පා කිරීමට හේතුවක් නැහැ. ඉයුසිල්ඩ් ගේ නියාය අනුව, මා ලබා ගත් උගත් කමේ හැටියට, මේ ලෝකය එක ම දුක් ගොඩක් බවත්, ඒ දුකට වග කිය යුතු කිසිවකු නැති බවත්, ක්‍රියාවකට විපාකයක් ලැබෙන බවත්, හැම දියාරු ද්‍රව්‍යයක් ම එක සමාන මට්ටමකට පැමිණෙන බවත් මා දන්නවා. මේවා සේරම ඉයුසිල්ඩ් ගේ විකාර අදහස්.නමු ත් ඒ අදහස් අනුව ජීවත් වීමට මා කැමැති නැහැ. දුක තියෙන බවත්, ක්‍රියාවට විපාක ලැබෙන බවත්, කිසිවකු මේ දුකට වරදකරු නොවන බවත්, දැන සිටීමෙන් මට ලැබෙන ප්‍රයෝජනය කුමක්ද? මට උවමනා කරන්නේ යුක්තිධර්මය යි. යුක්තිධර්මය නො ලැබුණොත් මා මගේ ජීවිතය විනාශ කර ගන්නවා. එය ඈත අනාගතයේ අනන්ත ආකාශයේ කිසියම් තැනක සිදුවන යුක්ති ධර්මයක් නො වෙයි. එය මේ පොළොව මත මා ඉදිරිපිට ඉෂ්ට විය යුතු යුක්තිධර්මයක්. මේ යුක්තිධර්මය ගැන මා තුළ ලොකු විශ්වාසයක් තියෙනවා. යුක්තිය ඉෂ්ට වන විට මා මිය ගොස් සිටියොත් එය දැක ගැනීම පිණිස මා මළවුන් ගෙන් අවදි කළ යුතුයි. මා නැති අවස්ථාවක දී යුක්තිය ඉෂ්ට වුණොත් එය යුතුකමක් නො වෙයි. අනාගතයේ දී ඇති වන යම් කිසිවකු ගේ සැපත හා සාමය සඳහා මා කළ අපරාධ හා මා වින්ද දුක් වේදනා කැප කිරීමට නොවෙයි මා මෙ තරම් කල් දුක් වින්දේ. සිංහයා මුවදෙන සමග සාමයෙන් සිටිනවා දැකීමට මම කැමැතියි. අසරණයා නැඟිට, තමා මැරීමට සැරසෙන මිනීමරුවා වැළඳ ගන්නවා දැකීමට මම කැමැතියි. මේ හැම දෙයක් ම සිදුවන්නේ කුමන හේතුවක් නිසා දැයි මිනිසා හදිසියෙන් ම අවබෝධ කරන මොහොතේ දී එ තැන සිටීමට මම කැමැතියි. ලෝකයේ ඇත්තාවූ හැම ආගමක් ම ගොඩනැඟී ඇත්තේ මේ ආශාව උඩයි. මා එය විශ්වාස කරනවා. නමුත් කුඩා දරුවන් ගැන මා කුමක් ද කරන්නේ? අන්න ඒක තමයි මට පිළිතුරු දෙන්න බැරි ප්‍රශ්නය. මා මේ කාරණය ගැන සඳහන් කරන්නේ සිය වන වතාවටයි. අප විසින් පිළිතුරු දිය යුතු ප්‍රශ්න බොහො ම තියෙනවා. නමුත් මා ළමයින් පිළිබඳ ප්‍රශ්නය පමණක් ඉදිරිපත් කළේ එය බොහො ම පැහැදිලි නිසයි. මා කියන දෙයට හොඳට ඇහුම්කන් දෙන්න. මනුෂ්‍යවර්ගයා සදාකාලික සාමය ලබා ගැනීමට නම් දුක් වින්ද යුතුයි. නමුත් ඒ ගැන කුඩා දරුවන් කුමක් කරන්න ද? මට මේ කාරණය පැහැදිලි කරලා දෙන්න. මනුෂ්‍ය වර්ගයා ගේ සාමය සඳහා බහ නොතේරෙන කුඩා දරුවන් දුක් වින්ද යුත්තේ මන් ද? මෙය තේරුම් ගත හැකි

ප්‍රශ්නයක් නො වෙයි. මනුෂ්‍යයන් අතර පාපය නිසා එකාගබවක් ඇති වීම මට තේරුම් ගන්න පුළුවනි. පලවිපාකවල ඇති වන එකග බව මට තේරුම් ගන්න පුළුවනි. නමුත් දරුවන් සමග එ වැනි එකගකමක් ඇති විය නො හැකි යි. තමා ගේ මුතුන් මිත්තන් ගේ පව්වලට දරුවන් වන්දි ගෙවීම සත්‍යයක් නම්, ඒ සත්‍යය මේ ලෝකයට අයිති සත්‍යයක් විය නො හැකි යි. එය අවබෝධ කළ හැකි සත්‍යයක් නො වෙයි. 'දරුවා ලොකු මිනිහකු වී පව් කරන්න පුළුවනි' යි කිසියම් කවටයකු කියන්න පුළුවනි. නමුත් දරුවාට මිනිහකු වීමට ඉඩ දුන්නේ නැහැ. අවුරුදු අටේ දී බල්ලන් විසින් කැලිවලට ඉරා මරා දමනු ලැබුවා. අලෝෂා මා අංගමට අපහාස කරනවා නො වෙයි. දෙව් ලොවේත් මනුලොවේත් ඇත්තාවූ හැම දෙයක් ම එක ම තුතිගීයකට පෙරළී, ජීවත්වන්නාවූ ද ජීවත්වූවාවූ ද හැම දෙනා ම එක් වී 'අහෝ දෙවියනි ඔබ තුමා යුක්ති ගරුකය, ඔබ තුමා ගේ ක්‍රියාමාර්ගය ඉතා පැහැදිලි ය' කියා කෑගා කීවොත් මේ විශ්වයේ කො තරම් ලොකු පෙරළියක් ඇති වේද කියා මට තේරුම් ගන්න පුළුවනි. එතකොට දරුවා බල්ලන්ට දමූ දුෂ්ටයා, දරුවා ගේ මව වැලඳ ගත් පසු තිදෙනා ම එකතු වී දෑසේ කඳුළු ඇති ව "අහෝ දෙවියනි ඔබ තුමා ධර්මිෂ්ඨ ය'යි කියනවා ඇත. එවිට ඔවුන්ට ප්‍රඥව ලැබී හැම දෙයක් ම අවබෝධ වෙනවා ඇත. නමුත් මෙහි ඇති වරද මා මේ කිසිවක් නොපිළිගැනීමයි. මා මෙලොව ජීවත් වී සිටින තෙක් මා හැම දෙයක් ම මගේ මිම්මෙන් මනිනවා. අලෝෂා, තම දරුවා බල්ලන්ට දමූ මිනීමරුවා, දරුවා ගේ මව විසින් වැලඳ ගන්නවා බැලීමට මා ජීවත්ව සිටින්නට පුළුවනි. නැති නම් මා මළවුන් අතරින් නැගිට එන්න පුළුවනි. සමහර විට මා ද අනෙක් අය සමග එකතු වී, මව මිනීමරුවා වැලඳ ගන්නා සැටි බලා 'අහෝ දෙවියනි ඔබ තුමා ධර්මිෂ්ඨ ය'යි මහ හඬින් කියන්න පුළුවනි. එසේ කෑගා කියන්න මට උවමනාවක් නැහැ. එහෙත් කල්වේලා තියෙන නිසා මගේ ආරක්ෂාව පතා ගෙන මා මේ උසස් සාමය හා සමගිය පිළිගන්නේ නැහැ. මේ සමගිය හා සාමය දුගඳ හමන, අඳුරු සීතල කාමරයේ කුසගින්නේ සිර කරන ලද කුඩා දරුවා පොඩි අත්වලින් පපුවට ගසා ගනිමින් දෙවියන්ට කළ කන්නලවුව තරම් වටින්නේ නැහැ. දරුවා ගේ දෑසින් ගැලූ උණුසුම් කඳුළුවලට තව ම වන්දි ගෙවා නැති නිසා වටින්නේ නැහැ. දරුවා ගේ උණුසුම් කඳුළුවලට වන්දි නො ගෙව්වොත් මේ ලෝකේ සාමයක් හෝ සමගියක් හෝ ඇති වන්නේ නැහැ' නමුත් කෙ හොමද වන්දි ගෙවන්නේ ? එය කළ හැකි දෙයක් ද? වන්දි ගෙවන්නේ දරුවාට වද දුන් අයගෙන් පළි ගැනී මෙන් ද ? ඔවුන් ගෙන් පළි ගත්තත් නොගත්තත් මට ඇති ප්‍රයෝ-

ජනය කුමක්ද ? මේ අපරාධකාරයන් අපා ගත වුවත් මීට ඇති ප්‍රයෝජනය කුමක් ද ? කුඩා දරුවන්ට වද දීමෙන් පසු අපරාධ කාරයන් අපාගත වුවත් නොවූවත් ඇති ප්‍රයෝජනය කුමක් ද? අපායක් තියෙනවා නම් සාමයට සමගියට කුමක් සිදුවෙයි ද? මට උවමනා කරන්නේ වරද කල අයට සමාව දෙන්න. ඔවුන් වැළඳ ගන්න. දුකට මගේ කිසි ම කැමැත්තක් නැහැ සත්‍යය වෙනුවෙන් අප විසින් වින්ද යුතු දුක වැඩි කිරීමට දරුවන් විඳිනා දුක ද එකතු කිරීමට සිදුවුව හොත් ඒ සත්‍යය එ තරම් වටින්නේ නැතැයි මා කල් ඇති ව කියනවා. මව තමා ගේ පුතා බල්ලන්ට දමූ අපරාධකාරයා වැළඳ ගන්නවාට මා කැමැති නැහැ. තම දරුවා මැරූ අපරාධකාරයාට සමාව දීමට ඇයට කිසි ම අයිතියක් නැහැ. ඇයට උවමනා නම් තමා වෙනුවෙන් සමාව දුන්නට වරදක් නැහැ. ඇයට දරුණු දුකක් දුන්න නිසා ඈ අපරාධකාරයාට සමාව දුන්නට වරදක් නැහැ, නමුත් තමා ගේ කුඩා දරුවා වින්ද දුක් වෙනුවෙන් සමාව දීමට ඇයට අයිතියක් නැහැ. දරුවාට සමාව දුන්නත් ඇයට සමාව දීමට යුතුකමක් නැහැ. ඉතින් ඔවුන් සමාව නො දෙනවා නම් සාමයට මොක ද වෙන්නේ ? සමාව දිය හැකි, සමාව දෙන්න අයිතියක් තියෙන කෙනකු මේ මුළු ලෝකයේම සිටිනව ද ? මට සාමය උවමනා නැහැ. මනුෂ්‍යවර්ගයාට මා තුළ ඇති ආදරය නිසා මට සාමය උවමනා නැහැ. පළි නොගත් දුක, තෘප්තියට නොපත් කෝපය, මට හොඳයි. සමහර විට මගේ අදහස වැරදි වන්න පුළුවනි. ඒකට වරදක් නැහැ. හැරත් සාමය වෙනුවෙන් අප විසින් ගෙවිය යුතු වටිනාකම බොහො ම වැඩියි. සාමය සඳහා එ තරම් මුදලක් දීමට අපට වත්කමක් නැහැ. ඒ නිසා සාමයට ඇතුළුවීමට මා ළඟ තියෙන අවසරපත්‍රය මා ආපසු දෙනවා. මා අවංක මිනිහෙක් නම් මොහොතක් හෝ පමා නො කොට වහා ම දිය යුතුයි. මා අවසර පත්‍රය වහා ම දෙනවා. අලෝෂා මා දෙවියන් වහන්සේ විශ්වාස කරනවා නො වෙයි, මා කරන්නේ බොහො ම ගෞරවයෙන් එතුමාට අවසර පත්‍රය ආපසු දීමයි.''

''එය දෙවියන්ට විරුද්ධව කැරලි ගැසීමක්'' යි අලෝෂා බිම බලා ගෙන කීවේ ය.

''කැරලි ගැසීමක් ? මට බොහො ම කනගාටුයි නුඹ ඒ වචනය පාවිච්චි කළාට'' යි ඉවාන් සැලකිල්ලෙන් කී ය. ''කෙනෙකුට කැරලි ගසමින් ජීවත්වන්න පුළුවන් කමක් නැහැ. මම කැමැතියි ජීවත් වන්න. නමුත් මා අසන ප්‍රශ්නයට පිළිතුරු

දෙන්න. මා අභියෝගයක් කරනවා මා අසන ප්‍රශ්නයට පිළිතුරු දෙන්න කියා. අවසානයේ දී මිනිසුන් අතර සාමයත් සමඟියත් ඇති කිරීම පිණිස නුඹ කිසියම් වැඩපිළිවෙළක් සකස් කරනවා ය කියා ටිකක් කල්පනා කරලා බලන්න. නමුත් ඒ වැඩ පිළිවෙළ ගොඩ නැගීමට එක ම අහිංසක දරුවකුට වද දීම ඉතාම අවශ්‍යයි, අනිවාර්යයි. ඒ කියන්නේ, පපුවට පොඩි අත් දෙකින් ගසා ගනිමින් දෙවියන්ට කන්නලවු කළ අර කුඩා අසරණ දරුවාට දස වද දිය යුතුයි. නුඹේ ඉහත සඳහන් වැඩ පිළිවෙළ ඉදිකළ යුත්තේ ඒ අසරණ දරුවා ගේ පළි නො ගත්තා ලද කඳුළු උඩයි. ඉතින් මේ කරුණු උඩ ඉහත සඳහන් වැඩ පිළිවෙළ ගොඩනැඟීමට ඉදිරිපත් වෙනවා ද? අවංකව පිළිතුරු දෙන්න"!

"නැහැ මා එ වැනි දෙයකට කැමැති නැහැ"යි අලෝෂා සෙමින් කී ය.

"කුඩා අසරණ දරුවකු ගේ රුධිරය මත ගොඩනගන ලද මේ වැඩ පිළිවෙළින් ලැබෙන සැපත පිළිගැනීමට මිනිසුන් කැමැති වේවි කියා හිතනව ද? එය පිළිගැනීමෙන් හැමදා ම සැපවත්ව සිටිය හැකි ය කියා විශ්වාස කරනව ද?"

"නැහැ, මට එය පිළිගන්න බැහැ"යි අලෝෂා හදිසියෙන් ම කීවේ ය. ඔහු ගේ නෙත් දීප්තිමත් විය. "සමාව දීමට පුළුවන්, සමාව දීමට අයිතියක් තියෙන කෙනෙක් මේ මුළු ලෝකයේ ම සිටිත් ද කියා මගෙන් ඇසුවා නේ ද? එ වැනි කෙනකු සිටිනවා. එතුමාට පුළුවනි හැම දෙයකට ම, හැම දෙනාට ම සමාව දෙන්න. එතුමාට ඒ විදියට සමාව දෙන්න පුළුවන් එතුමා අප හැම දෙනාගේ ම යහපත පිණිස තමාගේ අහිංසක ලේ දන් දුන් නිසයි. නුඹට එතුමා අමතක වුණා. ඉහත සඳහන් වැඩපිළිවෙළ ගොඩනගා තියෙන්නේ එතුමා පිටයි. 'අහෝ ස්වාමීනි. ඔබ තුමා ධර්මිෂ්ඨය. ඔබතුමා ගේ අභිප්‍රාය අපි දන්නෙමු'යි කියමින් ඔවුන් කන්නලවු කරන්නේ එතුමාටයි."

"ඔය කියන්නේ 'පාපයෙන් නිදහස් වූ උතුමා' හා එතුමා ගේ රුධිරය ගැන ද? නැහැ එතුමා මට අමතක වුණේ නැහැ. මා මෙතෙක් වේලා කල්පනා කළේ නුඹ එතුමා ගැන සඳහන් නොකළේ මන් ද කියායි. පූජකයන් වූ නුඹලා එතුමා ගේ නම හැම තර්කයකට ම ඉදිරිපත් කිරීම සාමාන්‍ය සිරිතයි. අලෝෂා මට හිනා වෙන්න එපා. මීට අවුරුද්දකට කලින් මා කාව්‍යයක් තැනුවා. නුඹට පුළුවන් නම් තවත් මිනිත්තු දහයක් මා සමග ගතකරන්න මට පුළුවනි කාව්‍යය කියන්න.'

"අයියා කාව්‍යයක් ලිව්වා ?"

"මගේ මුළු ජීවිතයට ම කවි පේළි දෙකක් ලියා නැහැ. නැහැ, නැහැ මා ලිව්වේ නැහැ"යි ඉවාන් සිනාසෙමින් කී ය. මා ලිව්වේ ගද්‍යකාව්‍යයක්. මට තව ම ඒක මතකයි. මේ කාව්‍යය අවසන් කළ පසු මා තුළ ලොකු ප්‍රීතියක් ඇති වුණා. නුඹ තමයි මගේ කාව්‍යය කියවන—නැහැ අසන පළමු තැනැත්තා. තමා ගේ කාව්‍යය ඇසීමට කැමැති එක ම පාඨකයාට හරි ගත් කතු වරයා කාව්‍යය නො කියා සිටින්නේ මන් ද? එහෙනම් කාව්‍යය කියන්න ද?"යි ඉවාන් සිනා සෙමින් ප්‍රශ්න කෙළේ ය.

"කියන්න. මම අහගෙන ඉන්නම්."

"මගේ කාව්‍යයේ නම 'ශ්‍රේෂ්ඨ කතෝලික ධර්මාධිකරණයේ නායකයා' ඒක මහ විකාර කතාවක්. ඒ වුණත් කියන්න ඕනෑ.

## පස් වන පරිච්ඡේදය

## කතෝලික ධර්මාධිකරණයේ නායකයා

කොහොම වුණත් මේ කතාවට සංඥපනයක් තියෙන්න ඕනෑ. ඒ කියන්නේ ශාස්ත්‍රීය සංඥපනයක් තියෙන්න ඕනෑ. නමුත් සංඥපනයක් ලිවීමට තරම් මම සමතෙක් නො වෙයි. මගේ කතාවට අයිති කාලය දහසය වන ශත වර්ෂයයි මේ කාල- යේ දී කාව්‍යයක් ලියන් කොට දෙවිවරුන් මෙලොවට ගෙන්වා ගැනීම සාමාන්‍ය සිරිත බව සමහර විට මල්ලී පාසලේ දී පොත්පත්වලින් ඉගෙන ගන්න ඇති. ඩාන්ටේ පඩිවරයා පමණක් නො වෙයි ප්‍රංශයේ රාජ මාලිගාවේ ලියන්නන් හා ආශ්‍රමවල වෙසෙන පූජකයන්, කන්‍යාමරියා තුමී, සාන්තුවරයන්, දේවදූතයන්, ක්‍රිස්තුන් වහන්සේ හා වෙනෙකකු තබා දෙවියන් වහන්සේ ද මෙ ලොවට පැමිණෙන හැටි දක්වන නාටක නිතර රඟ දක්වා තිබෙනවා. ඒ කාලයේ දී මේවා වේදිකා ගත කළේ කිසි ම නාට්‍ය කලාවක් අනුව නො වෙයි. ප්‍රංශ රජ්ජු ගේ වැඩිමල් පුතා ගේ ජන්මයට ගරු කිරීම පිණිස එකළොස් වන ලූජ් රජ

තුමා ගේ රාජ්‍ය කාලයේ දී පැරිසියේ නගර සභාවේ උපදේශාත්මක නාටකයක් රඟ දැක්වූ බවත්, ඒ නාටකය මහජනයාට නොමිලේ පෙන්නූ බවත්, වික්ටර් හියුගෝ 'නොට්රේඩැම් ද පැරි' නමැති නව කතාවේ සඳහන් කරලා තියෙනවා.

"මහා පීටර් රජතුමා ගේ කාලය දක්වා ඉහත සඳහන් නාටකවලට සමාන, පරණ තෙස්තමේන්තුවේ කතාවලින් සකස් කරගත් නාටක නිතර මොස්කව් නුවර රඟ දක්වා තියෙනවා. නාටක පමණක් නො වෙයි, උවමනා අවස්ථාවල දී දෙවි දේවතාවන් පවා සම්බන්ද කරගත් ජනකවි හා ජනකතා ලෝකයේ හැම රටක ම තියෙනවා. අපේ ආශ්‍රමවල සිටින පූජකයන්, වාටර් පාලකයන් යටතේ පවා මේ වගේ ජනකතා හා ජනකවි පරිවර්තනය කළා, පිටපත් කළා, නිර්මාණය කළා. උදාහරණයක් වශයෙන්, ඩාන්ටේ පඬිවරයා ගේ කාව්‍යවල දකින්න ලැබෙන විස්තරවලට සමාන විස්තර සහිත 'අපේ කන්‍යාමරියාතුමිය ගේ අපා ගමන' නමැති කාව්‍යයක් තියෙනවා. (මේ කාව්‍යය ග්‍රීක කාව්‍යයක පරිවර්තනයක්) දවසක් කන්‍යාමරියාතුමී අපාය බලන්න ගියා. එහි දී මයිකල් නමැති දේවදූතයා ඇය කැඳවා ගෙන ගිහින් අපායේ දුක් විඳින අය පෙන්නුවා. පව් කළ අය විඳින දුක් පීඩා ඈ දුටුවා. අපායේ දී ඇයට වැදගත් පන්තියේ පව්කාරයන් කොටසක් දකින්න ලැබුණා. ඔවුන් ලෝදිය පොකුණක පීනමින් සිටියා. පීනා ගොඩ වීය නො හැකි අය පතුලට බැස්සා. 'මේ අය දෙවියන් වහන්සේට අමතක වෙලා' මෙයින් සංවේගයට පත් වූ කන්‍යාමරියාතුමී, අඬා වැලපී, දෙවියන් වහන්සේ ගේ සිහසුන ලඟ දණින් වැටී, අපා දුක් විඳිනා සියලු ම සත්ත්වයන්ට සමාව දෙන ලෙස කන්නලවූ කළා. ඈ දෙවියන් වහන්සේ සමඟ කළ කතාව බොහො ම වැදගත් එකක්. ඈ දෙවියන් වහන්සේට කන්නලවු කළා, නොනවත්වා ම කන්නලවු කළා. එතකොට දෙවියන් වහන්සේ, කුරුසයට තබා ඇන ගසන ලද ඇගේ පුතා ගේ අත් පා පෙන්නා 'මා කොහො ම ද මේ අපරාධය කළ අපරාධකාරයන්ට සමාව දෙන්නේ?' කියා ඇසුවා. සියලු දෙනාට ම කිසි ම වෙසෙසක් නො දක්වා සමාව දෙන ලෙස ඈ දෙව් ලොවේ සිටින තරමක් සාන්තුවරයන් හා දූතයන් සමඟ දණින් වැටී දෙවියන් වහන්සේට කන්නලවු කළා. එහි ප්‍රතිඵලයක් වශයෙන් අවුරුද්දක් පාසා මහ සිකුරාද සිට ත්‍රිනිටි ඉරිදා දක්වා හැම දෙනාට ම අනුකම්පා කරන බවට දෙවියන් වහන්සේ පොරොන්දු වුණා. මේ ගැන ඇසූ හැටියේ ම අපායේ සිටින සියලුම පව්කාරයන් අහෝ දෙවියනි, ඔබතුමා ඉතා ධර්මිෂ්ඨයා'යි කියා මහ හඬින්

කැගැවා. මගේ කාව්‍යය ඒ කාලයේ ලියවුණා නම් මේ වගේ ස්වරූපයක් ගන්නවා ඇති. මගේ කාව්‍යයේ ක්‍රිස්තුන් වහන්සේ මෙ ලොවට පැමිණ, කිසිවක් නො කියා ආයේත් අංපසු නො පෙනී යන හැටි විස්තර වෙනවා. ක්‍රිස්තුන් වහන්සේ සියලු තේජසින් යුතු ව නැවැත මෙ ලොවට පැමිණෙන බවට පොරොන්දු වී ශත වර්ෂ පහළොවක් ගත වුණා. 'බලව මම වහා එන්නෙමි' කියා එතුමා ගේ ශාස්තෘවරයා පවසා ශතවර්ෂ පහළොවක් ගත වුණා. 'මා පැමිණෙන දවස හෝ වේලාව කිසිවකු දන්නේ නැත. මගේ පියාණන් මිස දේවදූතයන්වත් දන්නේ නැතැ'යි ක්‍රිස්තුන් වහන්සේම තමන් වහන්සේ ගේ පැමිණීම ගැන විස්තර කරමින් කිව්වා. මනුෂ්‍යවර්ගයා ද එක්තරා ප්‍රමාණයක භක්තියකින් හා ප්‍රේමයකින් යුතුව එතුමාගේ පැමිණීම බලාපොරොත්තුව සිටියා ක්‍රිස්තුන් වහන්සේ මෙලොවට පැමිණෙන බව දන්වීමට දෙව් ලොවින් කිසි ම ලකුණක් පහළ නොවී දුන් ශත වර්ෂ පහළොවක් ගත වුණ නිසා සමහර විට මනුෂ්‍ය වර්ගයා වැඩි භක්තියකින් යුතුව එතුමා ගේ පැමිණීම බලාපොරොත්තුව සිටිනවා ඇති.

අදහනු ඔබට, ඔබ
සිත කියන දෙය පමණක්.
අහසින් අවුත් කියනා
දෙය ගැන නො කර ඇදහිලි.

තුඹේ හදවත තුඹට කියන දෙය ගැන පවතින විශ්වාසය හැර වෙන කිසි ම දෙයක් ඉතිරි වී නැහැ. ඒ කාලයේ බොහෝ ම ආශ්චර්‍ය්‍යවත් දේවල් සිදු වුණ බව ඇත්තයි. පුදුම විදියට ලෙඩ රෝග සුව කළ සාන්තුවරයන් සිටියා. දෙවියන් වහන්සේ ගේ මෑණියන් සමහර භක්තිමත් මිනිසුන් හමුවීමට පැමිණි බව ඔවුන්-ගේ චරිත කතාවල සඳහන් වෙනවා. නමුත් මේ අතරේ යක්ෂයා නිදා ගෙන සිටියේ නැහැ. සමහර අය මේ හාස්කම් ගැන සැක කරන්න පටන් ගත්තා. ඒ කාලයේ උතුරු ජර්මනියේ ඉතා භයානක අලුත් මිථ්‍යා මතයක් ඇති වුණා. 'පහනක් මෙන් බැබළෙන විශාල තරුවක් (ඒ කියන්නේ කතෝලික පල්ලිය) දිය මත වැටී අප්‍රිය දෙයක් වුණා. මේ මිථ්‍යා ලබ්ධිකයන් හාස්කම්-වලට විරුද්ධව අපහාස කරන්න පටන් ගත්තා. නමුත් ආගම විශ්වාස කළ අය ගේ ඒ විශ්වාසය වැඩි වුණා මිස යන්තම්වත් අඩුවුණේ නැහැ. කලින් කළා වගේ මනුෂ්‍ය වර්ගයා ඔවුන් ගේ දුක්ගැනවිලි කියමින් දෙවියන්ට යාච්ඤා කළා. ක්‍රිස්තුන් වහන්සේ ගේ පැමිණීම බලාපොරොත්තු වන අතර එතුමාට ප්‍රේම කළා. එතුමා ගැන සියලු බලාපොරොත්තු ඇති කර ගත්තා. කලින් කළා වගේ එතුමා වෙනුවෙන් ජීවිතය පූජා

කිරීමට පවා ඉදිරිපත් වුණා. දීර්ඝ කාලයක සිට මනුෂ්‍ය වර්ගයා භක්තියෙන් හා උනන්දුවෙන් යුතුව 'අහෝ දෙවියනි' පමා නොවී මෙලොවට වඩිනු මැනව' කියා යාච්ඤා කළා. එතුමා වෙනුවෙන් යාච්ඤා කරන තමන් වෙත මහා කරුණාව දක්වා පැමිණෙන ලෙස දීර්ඝ කාලයක සිට එතුමාට කන්නලවු කළා. නමුත් නියම දවසට කලින් එතුමා මෙලොවට පැමිණ බැතිමතුන්, සාන්තුවරයන් හා තාපසයන් හමු වූ බව ඒ බැතිමතුන් ගේ සාන්තුවරයන් හා තාපසයන් ගේ ජීවිත කතාවල සඳහන් වෙනවා. විශාල භක්තියකින් මෙය විශ්වාස කල යැට්කෝජ් නමැති අපේ කවියා ක්‍රිස්තුන් වහන්සේ ගේ පැමිණීම ගැන මේ විදියට සඳහන් කළා.

දීනගතියෙන් යුත්
දෙව්රද කුරුසෙ බර ගෙන
මගෙ රට මැදින් බැස
ගියා ආසිරි වදන් කියමින්.

ඒක ඒ විදියට ම සිදු වුණ බව මට සහිරව කියන්න පුළුවනි.

"අධර්මයේ රුහැනට අසු වී දරුණු වද හිංසා විඳින, එහෙත් දරුවන් මෙන් තමන් වහන්සේට ප්‍රේමය කරන මනුෂ්‍ය-යන්ට දක්වන අනුග්‍රහයක් වශයෙන් මොහොතක් පමණ කල් පෙනී සිටීමට ක්‍රිස්තුන් වහන්සේ අදහස් කළා. මගේ කාව්‍යය ස්පාඤ්ඤයේ, සෙවිල් නමැති නගරයේ, කතෝලික පල්ලිය විසින් ධර්මාධිකරණයක් පිහිටුවා, එ මගින් විරුද්ධවාදීන් විනාශ කල ඒ අවිචාර සමයේ දී සිදු වූ ප්‍රවෘත්තියක් මුල් කර ගෙන ලියන ලද කතාවක්. ඒ භයානක කාලයේ දී දෙවියන් වහන්සේ ගේ බලමහිමය පතා සොහොන් බැඳ, මිථ්‍යාදෘෂ්ටීන් දමා ගිනි තබා මැරීම හැම දා සිදුකෙරෙන දෙයක්. නැගෙනහිර සිට බටහිර දෙසට අහස හරහා විහිදී යන විදුලිදුරාවක් මෙන් සියලු තේජස් පාමින් හදිසියෙන් ම දෙවන වරට ලෝ පහළ වන බවට ක්‍රිස්තුන් වහන්සේ පොරොන්දු වුණා. නමුත් එදා එතුමා පැමිණියේ ඒ පොරොන්දු වූ දෙවන ගමන නො වෙයි. එතුමා එදා හිටිහැටියේ ම කිසිවකුට නො කියා, නො දන්වා මෙලොවට පැමිණියා. එතුමා පැමිණියේ බුරබුරා නගින ගිනි ජාලාවල මිථ්‍යාදෘෂ්ටීන් දමා පුච්චන විටයි. මීට ශත වර්ෂ පහළොවකට කලින් අවුරුදු තිස් තුනක් ම මනුෂ්‍යයන් අතරේ ජීවත් වූ එතුමා මහාකරුණාවෙන් යුතු ව ආයේත් මිනිස්වෙසින් මනුෂ්‍යලෝකයට ආවා. එතුමා සෙවිල් නුවරට ආවේ කාඩිනල් තැන, ඒ කියන්නේ කතෝලික ධර්මාධිකරණයේ

නායකයා විසින් රජ ඇමතියන් ඇතුළු නයිට්වරුන්, ආගමික නායකයන්, රජ මැදුරේ සුරූපී කාන්තාවන් හා මහජනයා ඉදිරියේ, කතෝලිකපල්ලියේ සතුරන් සියයක් පමණ පුච්චා මරන ලද දවසට පසු දවසෙයි. ක්‍රිස්තුන් වහන්සේ පැමිණෙන විට මිනී දවාපු ගිනිජාලාවලින් නගරයේ මහා මාර්ග පවා රත් වී තිබුණා.

"ක්‍රිස්තුන් වහන්සේ කිසිවකුට අඳුනා ගත නො හැකි වන ලෙස බොහො ම සෙමෙන් පැමිණියා. නමුත් පුදුමයට වාගේ හැම දෙනා ම එතුමා අඳුනා ගත්තා. මහජනයා එතුමා ඇඳින ගත් හැටි විස්තර කරන කොටස තමයි කාව්‍යයේ ඉතා ම රසවත් කොටස. මහජනයා එතුමා වෙත තිකම්ම ඇදී ආවා. ඔවුන් එතුමා පිරිවරා ගෙන ගමන් කළා. මහා කරුණාවෙන් හටගත් සිනාවෙන් මුව සරසා ගත් එතුමා මහජනයා පිරිවරා ගෙන සෙමෙන් ගමන් කළා. ප්‍රේමය නමැති හිරුමඬල එතුමා ගේ හදවත තුළ බැබළුණා. ආලෝකය හා බලය එතුමා ගේ දෑසින් විහිදුණා. ඒ ආලෝකය පතිත වී මිනිසුන් ගේ හදවත් ප්‍රේම-යෙන් සීතල වුණා. එතුමා ඔවුන් දෙසට දෑත දිගු කොට ආසිරිවාද කළා. එතුමා ළඟ සිටීමෙන්, එතුමා ගේ වස්ත්‍රය ඇල්ලීමෙන් මිනිසුන්ට අමුතු සුවයක් ලැබුණා. කුඩා කාලයේ සිට අන්ධ වූ මහල්ලකු සෙනග අතරේ සිට 'අහෝ ස්වාමීනි, ඔබතුමා දැක ගැනීම පිණිස මගේ දෑස සුව කළ මැනවි' කියා කෑගැවා. පුදුම-යකි, මහල්ලා ගේ නෙත් වසා තිබුණ කබ හැලී නෙත් ලැබුණා. මහජනයා සතුටු කඳුළු වගුරුවමින් එතුමා ගේ පයට පැගුණ දූලි සිම්බා. ළමයින් මහ මග මලින් සරසා ගී කිව්වා. 'අර එන්නේ ක්‍රිස්තුන් වහසේ ය, ක්‍රිස්තුන් වහන්සේ නො වෙත් නම් වෙන කවරක් විය හැකි ද ?' කියා හැම දෙනා ම ඇසුවා. මෙලෙස ගමන් කරන ක්‍රිස්තුන් වහන්සේ නගරයේ දේවස්ථානය ඉදිරි පිටට පැමිණියා. එ වේලේ කුඩා සුදු මිනීපෙට්ටියක් රැගත් අව-මඟුල් පෙරහැරක් පැමිණියා. පෙට්ටියේ තැන්පත් කර තිබුණේ එම නගරයේ වෙසෙන සුප්‍රසිද්ධ තැනැත්තකු ගේ හත් අවුරුදු දියණිය ගේ මළමිනියයි. පෙට්ටිය තුළ දරුවා ගේ මෘතශරීරය වැසෙන තරමට මල් පුරවා තිබුණා. මහජනයා දරුවා ගේ අඬමින් සිටි මවට කතා කරලා 'අර උත්තමයාට පුළුවනි තුඹේ දරුවාට පණ දෙන්න'යයි කියමින් කෑගැවා. අවමඟුල් පෙරහැර පිළිගැනීමට පැමිණි නොසන්සුන් වූ කතෝලික පූජකයා දරුවා ගේ මව දිහැ රවා බැලුවා. නමුත් පූජකයාට සැලකිල්ලක් නොදක්වන මව අමුත්තා ගේ දෙපා ළඟ වැටී 'ඔබ තුමා ක්‍රිස්තුන් වහන්සේ නම් කරුණා කරලා මගේ දරුවා මට ලබා

දෙන්න' යි කියාවදිමින් කන්නලවු කළා. අවමඟුල් පෙරහැර නතර
වුණා. දේවස්ථානයේ පඩිය උඩ සිටි ක්‍රිසතුන් වහන්සේ ගේ
දෙපා ළඟ මිනීපෙට්ටිය තැබුවා. එතුමා ප්‍රේමයෙන් ආලෝක වූ
නෙතින් දරුවා දෙස බලා බොහො ම සෙමෙන් 'දියණියනි,
නැගිටින්න' යයි කිව්වා. යම් කිසිවකු විසින් ඇගේ අතේ තබන
ලද සුදු රෝස මල් මිටිය තවමත් අතේ ඇති ව මිනීපෙට්ටියෙන්
නැගී සිටි දරුවා අවට රැස්ව සිටි පිරිස දෙස පුදුමයෙන් බැලුවා.
ඇගේ මුහුණ සිනාවකින් ආලෝක වුණා.

''මහජනයා අතරේ මහත් නොසන්සුන් කමක් ඇති වුණ
සමහරු කෑගැවා. සමහරු ඇඬුවා. ඒ මොහොතේ කාඩිනල්.
තැන, එනම් කතෝලික ධර්මාධිකරණයේ නායකයා, එ තැනින්
සමින් සිටියා. ඔහු අවුරුදු අනූවක් පමණ වයසැති, එහෙත්
කුදු නොගැසුණ උස මිනිහෙක්. ඔහු ගේ රැළි වැටුණු මුහුණේ,
ගිලුණු දෑසේ, තවමත් ආලෝකය සවල්පයක් ඉතිරි වී තිබුණා,
කලින් දවසේ රෝමානු කතෝලික සභාවේ සතුරන් පුච්චා මරන
විට සැරසී සිටියාක් මෙන් ඔහු එ වේලේ කාඩිනල් වරුන්ට
අයත් අලංකාර ඇඳුමෙන් සැරසී සිටියේ නැහැ. ඔහු ඇඳ සිටියේ
දළ රෙද්දෙන් මසන ලද ලෝගුවක්. ඔහු පිටුපසින් ඔහු ගේ
සේවකයන්, දාසයන්, හා ශුද්ධ වූ ආරක්‍ෂක හමුදාවේ භටයන්
ගමන් ගත්තා. දේවස්ථානය ඉදිරිපිට රැස් වූ මහා ජනකාය
දුටු කාඩිනල් තැන මඳක් ඈතින් නතර වී බලා සිටියා. ඔහුට
හැම දෙයක් ම පෙනෙනවා. මහජනයා අමුත්තා ඉදිරිපිට දෙපා
ළඟ මිනීපෙට්ටිය තබන සැටි, දරුවා නැඟිටින සැටි දකින විට
ඔහු ගේ මුහුණ කළු වුණා. ඔහු නෙත් අකුළා රවා බැලුවා.
ඒ නෙත් ද්වේෂයෙන් ගිනි ගෙන දැවුණා. ඔහු ඇඟිල්ල දික්
කරලා ක්‍රිසතුන් වහන්සේ පෙන්නා සිර භාරයට ගන්නා ලෙස
ශුද්ධ වූ ආරක්‍ෂක හමුදාවට අණ කළා ඔහු එ තරම් පුළුවන්—
කාරයෙක්. කාඩිනල් තැන දැක තැති ගත් මහජනයා වෙව්ල
මින් බිම වැටී ඔහුට වැන්දා. අනතුරුව මහජනයා ක්‍රිසතුන්
වහන්සේ සිරභාරයට ගැනීමට භටයන්ට ඉඩ දී ඈත් වුණා. මහ
ජනයා අතරේ පැවැති නිශ්ශබ්දතාව අතරේ භටයන් ක්‍රිසතුන්
වහන්සේ. සිරභාරයට ගත්තා. එ වේලේ මහජනයා එකා මෙන්
බිම වැටී කාඩිනල් තැනට වැන්දා. කාඩිනල් බිම වැටී තමාට
වඳින මහජනයාට ආශීර්වාදය කරලා යන්න ගියා. ආරක්‍ෂක
භටයන් ක්‍රිසතුන් වහන්සේ ගෙන ගොස් කතෝලික ධර්මාධි-
කරණයට අයත් සිරගෙයි සිර කොට තැබුවා. දවස අවසන් වුණා
ඉර බැස ගියා. අඳුරු වැටුණා. උණුසුම වුණා. මහා අන්ධකාර-
යෙන් යුත් එම සිරගෙයි යකඩ දොර හදිසියෙන් ඇරුණා

පහනක් අතින් ගත් කාඩිනල් තැන තනියෙන් ම සිරගෙට ඇතුළු වී මහ දොර වැසුවා. දොර ළඟ නතර වූ කාඩිනල් තැන ටික වේලාවක් සිරකරුවා දෙස බලා සිට පහන මේසය උඩ තියා සිරකරුවා ළඟට ගොස් කතා කළා.

'තෙපි කවරෙක් ද ? ක්‍රිසතුන් වහන්සේ ද?' නමුත් අමුත්තා කතා කළේ නැහැ. කාඩිනල් තැන අංයේත් මෙහෙම කිව්වා 'නැහැ, නැහැ, පිළිතුරු දෙන්න එපා. කතා කරන්න එපා. පිළිතුරු වශයෙන් තොපට කුමක් කිව හැකි ද? තොප දෙන පිළිතුර මම දනිමි. මීට හවුරුදු දහස් ගණනකට පෙර තොප කළ දේශනාවට අලුතින් කිසිවක් එකතු කිරීමට තොපට යුතු කමක් නැත. එසේ නම් තොප අපට හිරිහැර කිරීමට පැමිණියේ මන් ද? තොප පැමිණ සිටින්නේ අපට හිරිහැර කිරීමටයි. ඒ බව මා හොඳට දන්නවා. නමුත් හෙට තොපට සිදුවන දෙය දන්නවා ද ? තෙපි කවරෙක් දැ යි මම නො දනිමි. තෙපි ක්‍රිසතුන් වහන්සේ ද ? නැති නම් එතුමා ගේ සවරූපය ඇති වෙන අයෙක් දැ යි මම නො දනිමි. දැන ගැනීමට මට උවමනාවක් නැත. හෙට මම තොප කතෝලික පල්ලියට විරුද්ධ වූ ඉතා නීච මිථ්‍යාදෘෂ්ටිකයකු ලෙස වරද කරු කොට පුච්චා මරමි. අද තොප ගේ දෙපා සිඹගත් මිනිසුන් හෙට මගේ අණට කීකරුව ගිනි දල්වා තොප පුච්චා මරනු ඇත. තෙපි ඒ බව දන්නහු ද? ඔව්, සමහර විට ඒ බව දන්නවා ඇති'යි කාඩිනල් තැන කල්පනා කරලා කිව්වා. නමුත් ඔහු මොහොතකටවත් අමුත්තා දෙසින් නෙත් ඉවත ගත්තේ නැහැ."

"මට මේ කතාවේ අදහස හරිහැටි තේරුම් ගන්න බැහැ. මෙහි අදහස මොකක් ද ?"යි මෙතෙක් වේලා නිහඬ ව කතාව අසා සිටි අලෝෂා සිනා මුසු වෙමින් ඇසුවේ ය. "මේක අද්භූත, නැති නම් මනඃකල්පිත සිතිවිලි මාත්‍රයක් ද ? මහලු කාඩිනල් තැන නොදැන කළ වරදක් ද ?"

"මනඃකල්පිත අදහසක් අවබෝධ කරගැනීමට නො හැකිවන තරමට නුඹ මේ අලුත් තාත්විකවාදයෙන් දූෂණය වෙලා නම් ඒ විදියට පිළිගන්න. කාඩිනල් තැන ක්‍රිස්තුන් වහන්සේ වරදා ඇඳින ගත්තායි කියා කල්පනා කරනවා නම් ඒ විදියට කල්පනා කරන්න. සමහර විට ඒක ඇත්ත වෙන්න පුළුවනි"යි ඉවාන් සිනා සෙමින් කී ය. කාඩිනල් තැන අවුරුදු අනූවක මහල්ලෙක්. සමහර විට පරණ අදහස් අත් නො හැර බදාගෙන සිටින ඔහු පිස්සකු වන්න පුළුවනි. සමහරවිට අමුත්තා ගේ සවරූපයෙන් කාඩිනල් තැන අන්දුන්කුන්දුන් වෙන්න ඇති.

සිහි මුලා වෙන්න ඇති. කලින් දවසේ මිථ්‍යාදෘෂ්ටිකයන් සීයක් පමණ පුච්චා මැරීමෙන් උද්දාම වී සිටින්න ඇති මේකා කාඩිනල් තැනට වුණ වරදක් ද ? නැති නම් මනඃකල්පිත අදහසක් ද යන ප්‍රශ්නයෙන් ඇති ප්‍රයෝජනය කුමක් ද? මෙහි ඇති වටිනාකම මහලු කාඩිනල් තැන අවුරුදු අනූවක් කල් නිහඬව කල්පනා කළ දෙය අවංකව ප්‍රකාශ කිරීමයි.''

"සිරකරුවාත් කතා කරන්නේ නැහැ නේ ද? ඔහු කාඩිනල් දෙස බලා වචනයක්වත් නො කියා සිටියි ද ?''

"කොහොම වුණත් ඒක අවශ්‍යයෙන් ම සිදුවිය යුතු දෙයක්'' යි ඉවාන් ආයේත් සිනාසෙමින් කී ය. ක්‍රිස්තුන් වහන්සේසේ විසින් ශතවර්ෂ ගණනකට කලින් දේශනා කළ දෙයට අලුතෙන් වචනයක්වත් එකතු කරන්න යුතුකමක් නැති බව මහලු කාඩිනල් තැන සිරකරුවාට කියයි. මෙය රෝමානු කතෝලික පල්ලියේ මූලික ලක්ෂණයක් බව කෙනකු කියන්න පුළුවනි. මගේ අදහසත් ඒකමයි. 'තෙපි හැම දෙයක් ම පාප්වහන්සේට භාර දුන්නාහුය. ඒ හැම දෙයක් ම උන් වහන්සේ ගේ අතේ නො නැසී පවතියි. එ හෙයින් තොපට නැවත මේ ලෝකයට පැමිණීමට අයිතියක් නැත. කෙසේ වෙතත් කතෝලික පල්ලිය ගෙන යන වැඩ පිළිවෙළට තොප බාධා නොකළ යුතුයි. විරුද්ධ නොවිය යුතුයි. මේ විදියට තමයි කතෝලිකයන්' වෙසෙසින් ම ජේසුවිට් පූජකවරුන් හිතන්නෙත්, කියන්නෙත්, ලියන්නෙත්. ඔවුන් ගේ දේවධර්මාචාර්යවරුන් විසින් ලියන ලද පොත්වලත් මේ විදියට ලියා තියෙන බව මා කියවා තියෙනවා. 'තොප පැමිණි ලෝකයේ ඇත්තා වූ අද්භූත දෙයක් අපට විස්තර කර දීමට තොපට අයිතියක් තිබේ ද ?'යි මහලු කාඩිනල් තැන ක්‍රිස්තුන් වහන්සේ ගෙන් ප්‍රශ්න කොට ඔහු ම එයට පිළිතුරු සපයයි. 'නැත එවැනි බලයක් තොපට නැත. එසේ ම තොප වරක් දේශනා කළ දෙයට අලුතින් කිසිවක් එකතු කිරීමට ද තොපට යුතුකමක් නැත. තවද තොප මෙලොව සිටිය දී උතුම් කොට සැලකූ නිදහස අාපසු මිනිසුන්ගෙන් ගැනීමට තොපට බලයක් නැත. කුමක් හෝ වේ වා තොප අලුතින් යමක් කීවොත් එය හාස්කමක් මෙන් ප්‍රකාශයට පැමිණ මිනිසා ගේ ආගමික නිදහස කෙරෙහි බල පවත්වනවා ඇත. මීට හවුරුදු එක්දස් පන්සියයකට කලින් පැවැති හැම දෙයකට ම වඩා ආගමික නිදහස තෙපි උතුම් කොට සැලකුවහුය. 'මමා ඔබ හැම දෙනාම නිදහස් කරමි' කියා එකල තොප නිතර කීවා

නො වේ ද ? දැන් මේ 'නිදහස් මිනිසුන්' ගේ හැටි දුටුවා. නේද ?'යි මහලු කාඩිනල් තැන හදිසියෙන් ම සරදම් සිනාවක් දක්වා අසයි. 'ඔව් තොප දුන් ඒ නිදහස නිසා අපට පැමිණි සිරිහැර කරදර අනන්තයි අප්‍රමාණයි.' යළි මහලු කාඩිනල් තැන කෝපයෙන් කියයි. 'නමුත් අන්තිමේ දී අපි කෙසේ හෝ ඒ කටයුත්ත තොප ගේ නාමයෙන් අවසන් කෙළෙමු. ශත වර්‍ෂ පහළොවක් ම, අපි තොප දුන් නිදහස සමග සටන් කොට අන්තිමේ දී ඒ නිදහස විනාශ කෙළෙමු. තොප ගෙනා නිදහස අප නැත්තට ම නැති කළ බව තෙපි විශ්වාස නො කරන්නහු ද? තොප මා දෙස විනීතයකු මෙන් බලනවා මිස මා කෝප කිරීමට වෑයම් නො කරන්නේ මන් ද ? මම තොපට එකක් කියමි. තමා නිදහස් පුද්ගලයකු බව අද තරම් මිනිසා වෙන කිසි ම කලක අවබෝධ කොට නැත. අද තරම් මිනිසා නිදහස උතුම් කොට සලකන කාලයක් නැත. නමුත් ඔවුන් ඒ නිදහස අප ළඟට ගෙනැවිත් ඉතා යටහත් පහත්ව අපේ දෙපා ළඟ තබා තිබේ. මිනිසා ලවා එ වැනි දෙයක් කරවූයේ අප විසිනුයි. තොපට උවමනා කළේ එ වැනි දෙයක් සිදුවීමට ද? තොප මිනිසාට දුන්නේ එ වැනි නිදහසක් ද ?'

"මට අයියා ගේ කතාව ඈයේත් තේරුම් ගන්න බැහැ''යි අලෝෂා කී ය. "මහලු කාඩිනල් තැන සිරකරුවාට කරන්නේ විහිළුවක් ද? නැති නම් ඇනුම් පද කීමක් ද ?''

"නැහැ, නැහැ, කාඩිනල් කරන්නේ විහිළුවක් නො වෙයි. මනුෂ්‍ය වර්ගයා සැපවත් කිරීමේ චේතනාවෙන් අන්තිමේදී ඔවුන්ගේ නිදහස සම්පූර්ණයෙන් ම නැති කිරීම ගැන තමාටත් කතෝලික පල්ලියටත් ප්‍රශංසා කළ යුතු බවයි ඔහු කියන්නේ. ඔහු කියන්නේ කතෝලික ධර්මාධිකරණය ගැනයි. කාඩිනල් තැන ආයේත් ක්‍රිස්තුන් වහන්සේට මෙහෙම කිව්වා. 'දැන් ඉතින් පළමු වරට මිනිසා ගේ සැපත ගැන කල්පනා කිරීමට හැකි වී තිබේ. දෙවි-යන්වහන්සේ මිනිසා මවා තියෙන්නේ කැරලිකාරයකු හැටියටයි කැරලිකාරයන් කොහොම ද සැපවත් ජීවිතයක් ගත කරන්නේ? තොපට මෙහි ඇත්තාවූ භයානක කම ගැන කලින් දන්වා තිබුණා. නමුත් තෙපි කිසිවිට කලින් ඇහුම්කන් නො දුන්නහුය. මිනිසා සැපවත් කළ හැකි එක ම ක්‍රමය තෙපි ඉවත දැම්මහුය නමුත් තෙපි මෙලොව හැර යන විට වාසනාවට මෙන් ඒ කටයුත්ත අපට භාරදුන්නහුය. එසේ භාරදෙන බවට තෙපි පොරොන්දු වූ වහුය. තොප ගේ කටින් ම සපිර කළහුය. මිනිසා පිළිබඳ හැම අයිතියක් ම තෙපි අපට භාරදුන්නහුය. ඒ බලය දැන් අපෙන් ඉවත් කිරීමට තොපට කිසි ම අයිතියක්

නැත. එසේ නම් අපට හිරිහැර කිරීමට, අපේ වැඩ කටයුතුවලට බාධා කිරීමට නැවැත මෙලොවට පැමිණියේ මන්ද ?"

"මෙහි ඇති භයානකකම කලින් දන්වා තිබුණා' කියන කතාවේ තේරුම කුමක් ද?" යි අලෝෂා විමසුවේ ය.

"කාඩිනල් තැන විසින් කිව යුතු ඉතා ම වැදගත් කොටස එයයි. තව දුරටත් ක්‍රිස්තුන් වහන්සේ ගෙන් මෙහෙම ඇසුවා 'ඉතා භයානක වූ ද, ආත්ම විනාශ කිරීමෙහි හා නො පැවැත්වීමෙහි ශ්‍රේෂ්ඨ භූතයා හෙවත් යක්ෂයා, මරුකතරේදී තොප සමග කතා කෙළේය. එහි දී යක්ෂයා තොප පෙළඹැවූ බව පොත්වල සඳහන් වේ. එය ඇත්ත ද ? පොත්වල 'පෙළඹවීම' යන වචනයෙන් හැඳින්වෙන යක්ෂයා විසින් ප්‍රශ්න තුනකින් හෙළි කළ, එහෙත් තොප ප්‍රතික්ෂේප කළ දෙයට වඩා සත්‍යයක් තවත් තිබේ ද ? මේ ලෝකයේ නියම හාස්කමක් සිදුවුණේ නම් එය සිදුවුණේ මේ ප්‍රශ්න තුන අසන ලද දවසෙහි ය. ඒ ප්‍රශ්න තුන ඇසීම හාස්කමක් ලෙස පිළිගත යුතුයි. මේ ප්‍රශ්න තුන කිසි ම පොතක පතක ඉතිරි නොවී සදහට ම නැති වුණේයයි, තර්කානුකූලව කල්පනා කිරීම සඳහා මදකට සිතා ගනිමු. එසේ නම් අප නැවැත ඒ ප්‍රශ්න තුන අළුතින් ඇති කළ යුතු ය. යළි සොයා ගත යුතු ය. ඒ සඳහා අපි මෙලොව වසන සියලු ම ඥානවන්තයන්, රාෂ්ට්‍ර පාලකයන්, නායක පූජකවරුන්, පඬිවරුන්, දාර්ශනිකයන් හා කවියන් රැස් කරවා අවසථාවට ගැළපෙන විදියට පමණක් නොව, මනුෂ්‍ය ජීවිතයේ අවසථා තුනත්, මේ ලෝකයේ හා මනුෂ්‍ය වර්ගයා ගේ අනාගත ඉතිහාසයත් වචන තුනකින් විස්තර වන ලෙස ඒ ප්‍රශ්න තුන නැවත නිපදවන ලෙස දන්වමු. මරුකතරේ දී ඒ බලවත්, නොදවත්, නැණවත් යක්ෂයා තොප ගෙන් ඇසූ ඒ ප්‍රශ්න තුනට ගැඹුරින් හා අර්ථයෙන් සම කළ හැකි ප්‍රශ්න තුනක්, මෙ ලොව ඇත්තා වූ සියලුම දැනුම එක් තැන් කළත් නිපදවන්න පුළුවන්ය කියා තෙපි විශ්වාස කරන්නහු ද? අප මෙහි දී වෙනස් වන සුළු මිනිස් සිත පමණක් නොව සම්පූර්ණ වූ සදාකාලික සිත ගැන ද ක්‍රියා කළ යුතු බව මේ ප්‍රශ්නවලින් පමණක් නොව, ඒ ප්‍රශ්න ඇසීමේ හාස්කම්වලින් දැන ගත යුතුයි. මනුෂ්‍ය වර්ගයාගේ අනාගත ඉතිහාසය එක් තැන් කොට, කල් තියා හෙළි කරන ලද බව මේ ප්‍රශ්න තුනෙන් පෙනෙයි. මනුෂ්‍ය සවභාවයේ නො විමසන ලද්දවූ ඓතිහාසික පරස්පර විරෝධී තැන් මේ ප්‍රශ්න තුනෙන් එක් තැන් කළාක් මෙන් පෙනේ. ඒකාලයේ දී මෙය එ තරම් පැහැදිලි නොවූයේ අනාගතයේ දී අසවල් දෙය අසවල් විදියට සිදුවන්නේ යයි කල් තියා කීමට නුපුළුවන් වූ

නිසයි. එහෙත් දැන් හවුරුදු එක්දහස් පන්සීයක් කල් ගත වී තිබෙන නිසා මේ ප්‍රශ්න තුනට ඇතුළත් වූ හැම දෙයක් ම සත්‍ය බවත්, කල් ඇති ව දැන සිටිය බවත්, ඒ සියල්ලක් ම නියම විදියට ඉෂ්ට වූ බවත්, එයට අලුතින් එකතු කළ හැකි දෙයක් හෝ ඉන් ඉවත් කළ හැකි දෙයක් හෝ නැති බවත් අපට කිව හැකිය.'

'තොප දෙදෙනා ගෙන් කවුද නිවැරදි ? තොප ද නැතිනම් එදා තොපගෙන් ඒ ප්‍රශ්න තුන ඇසූ යක්ෂයා ද ? තොප ම විනිශ්චය කොට බලව. පළමු ප්‍රශ්නය මෙනෙහි කරව. එහි තේරුම වෙනත් වචනවලින් කියතොත් මෙසේ ය. ලෝකයට පැමිණීමට තොපට උවමනා වී තිබේ. තොප ලෝකයට එන්නේ හිස් අතින් නො වේ. නිවටකමින් හා ස්වාභාවික නොහික්මුණු කමින් යුත් මිනිසුන්ට තේරුම් ගැනීමට පවා නොහැකි, භීති-යෙන් තැතිගන්වන නිදහසක පොරොන්දුවක් ඇතිව ය. නිදහස තරම් මිනිසාටත්, මිනිස් සමාජයටත් ඉවසා දරාගත නො හැකි වෙන කිසිවක් නැත. තොපට මේ මරුකතරේ ඇත්තා වූ ගල් පෙනෙන්නේද ? මේ ගල් පාන් ගෙඩිවලට පරිවර්තනය කරව. එවිට මහජනයා කෘතඥතාවෙන් හා යටහත් කමින් යුතු ව, එහෙත් ඒ ආහාරය ආපසු ගනීය යන බියෙන් තැති ගෙන වෙව්ලමින්, බැටළු රැලක් මෙන් තොප පිටුපසින් දිව එනු ඇත. නමුත් තෙපි මිනිසා ගේ නිදහස උදුරා නොගත්තේ පාන්ගෙඩියක් දී මිනිහකු කීකරු කරගත හැකිනම් නිදහසෙහි වටිනා කමක් නැත ය යන අදහසින්ය. මිනිසා ආහාරයෙන් පමණක් ජීවත් නොවන බව තොප කීවා නො වේ ද? නමුත් ඒ සුළු ආහාරය පතා යක්ෂයා තොපට විරුද්ධව නැගී සිට තොප සමග සටන් කොට තොප අභිභවා ජයගන්නවා ඇත. එවිට මහජනයා 'මේ යක්ෂයාට සමකළ හැකි අයෙක් මිහිපිට සිටිත් ද? ඔහු අපට දෙව්ලොව ගිනි ගෙන දුන්නේය'යි කියමින් යක්ෂයා පසුපස යන බව තොප දන්නෙහි ද? යුග ගණන් ඉක්ම ගිය පසු ව ප්‍රඥාවෙන් හා විද්‍යාවෙන් දියුණු වූ මිනිසා, අපරාධ නැති බවත්, ඒ නිසා පාපයක් ඇති නොවන බවත්, ඇත්තේ කුසගින්න පමණක් බවත්, පවසන බව තොප දන්නෙහි ද? 'පළමු ව මිනිසුන්ට කුස පිරෙන්නට කන්න දෙනු; අනතුරුව ඔවුන්ගෙන් ගුණ දහම් බලාපොරොත්තු වෙනු' යන පාඨය ඔවුන් තොපට විරුද්ධව නංවන ධජයෙහි ලියනවා ඇත. අනතුරුව ඔවුහු තොපට රැහැනිව නැගී සිට තොප ගේ දේවස්ථාන විනාශ කොට, ඒ දේවස්ථාන තිබුණු තැන්වල අලුත්ම වගීයේ

ගොඩනැගිල්ලක්, එනම් භයානක *බැබල් ස්තූපය නැවැත ඉදිකරනු ඇත. පළමු ස්තූපය මෙන් මේ ස්තූපය ද අවසන් නොවනු ඇත. එහෙත් ඒ ස්තූපය ඉදිකිරීමට ඉඩ නොදී මනුෂ්‍ය වර්ගයා ගේ දුක අවුරුදු දහසකින් කොට කිරීමට තොපට ඉඩ තිබිණි. නැති නම් හවුරුදු දහසකට පසු මනුෂ්‍යවර්ගයා දුකින් පීඩිතව බැබල් ස්තූපය සමග අප වෙත එනවා ඇත. පොළොව යට, සොහොන් ගැබ් තුළ තැන්පත් කරන ලද අප සොයා පැමිණ අප වරදකරුවන් කොට දහසක් වද දෙනු ඇත. ඔවුන් අප සොයා පැමිණ 'තොප අපට දෙව් ලොව සැපත දෙන බවට පොරොන්දු වූ මුත් අපේ කුසගින්න නිවා ගැනීමට ආහාරයක් නොදුන්නේ ය. දෙව් ලොව සැපත පසකින් තිබිය දී කුස-ගින්න නිවා ගැනීමට ආහාරයක් දෙන්නය'යි කියනු ඇත. එවිට අපි ඔවුන් ගේ බැබල් ස්තූපය ඉදි කොට අවසන් කරන්නෝ වෙමු. මිනිසාට කුස පිරෙන්නට ආහාර දෙන තැනැත්තා බැබල් ස්තූපය ඉදිකොට අවසන් කරන්නා වන හෙයිනි. එවිට අපි තොප ගේ නම සඳහන් කොට ඔවුන්ට කන්න දෙන්නෙමු. එහෙත් තොප වෙනුවෙන් ඔවුන්ට කන්න දෙන බව සඳහන් කිරීමෙන් අප කියන්නේ මහ බොරුවකි. අප නැති ව ඔවුන්ට කිසි ම කලක කුස පිරෙන්නට ආහාරයක් ගත නො හැකි ය. ඔවුන් නිදහස්ව සිටින තුරා ඔවුන්ට ආහාර සපයා දීමට කිසි ම විද්‍යාවකට පුළුවන් කමක් නැත. අන්තිමේ දී ඔවුන් අපේ දෙපා ළග ඔවුන් ගේ නිදහස තබා 'අපේ කුසගින්න නැති කරන්න පුළුවන් නම් අපි ඔබ ගේ දාසයන් වන්නෙමු' යි කියමින් කන්නලව් කරනවා ඇත. නිදහසත්, ආහාරයත්, එක් කළ

---

Tower of Babel. බැබල් ස්තූපය බැබල් යන වචනය බැබිලෝනියාව යන වචනයෙන් බිඳී සැදුණෙකි. අහසේ ග්‍රහ තාරකා පරීක්ෂා කිරීම පිණිස පුරාණ බැබිලෝනියන්වරු සිගරේටා නමින් හැඳින්වෙන උස ස්තූප සැදූහ. ඉතා උසට තනන ලද මේ ස්තූප දෙවියන්ට කරන ලද අභියෝගයක් ලෙස හීබ්‍රෑවරු සැලකූහ. තමාට අභියෝග කරන බැබිලෝනියන්වරුන් ගේ ඔද බිඳීමට අදහස් කළ දෙවියන් වහන්සේ ස්තූපය ඉදි කරමින් සිටි මිනිසුන්ට එකවර භාෂා කීපයකින් කතා කිරීමට සැලැස්වූහ. භාෂා අවුල නිසා ස්තූපය ඉදිකර ගත නො හැකි විය. අන්තිමේ දී එය කඩා වැටී විනාශ විය. එකවිට භාෂා කීපයකින් කතා කිරීම බැබල් යන වචනයේ තවත් අර්ථයකි. බැබල් ස්තූපය තැනීම යනුවෙන් අදහස් කරන්නේ දේව බලයට අභියෝග කිරීම ය. අනෙක් අර්ථය නම් මෙලොව විවිධ භාෂා කතා කරන විවිධ ජාතීන් ඇතිවීම ය.

නො හැකි බවත්, කිසිවකුට තමාට ප්‍රමාණවත් තරම් ආහාර ලබා ගැනීමට අන්‍යයන් ගෙන් ඉඩ නො ලැබෙන බැවින් හැම දෙනාට ම ප්‍රමාණවත් තරම් නිදහසත් ආහාරත් නැති වන බවත්, අන්තිමේ දී මනුෂ්‍යවර්ගයා තේරුම් ගන්නවා ඇත. තමත් ආත්ම ශක්තියෙන් තොර වූවෝ ය. දුෂ්ට සිත් ඇත්තෝ ය. නිෂ්ප්‍රයෝජන පුද්ගලයෝ ය. කැරලිකාරයෝ ය. එ හෙයින් තමන්ට කිසිම කලක නිදහස්ව සිටිය නොහැකි වන්නේයයි මනුෂ්‍ය වර්ගයා අවබෝධ කරගන්නවා ඇත. තොප ඔවුන්ට දෙව්ලොව දිව බොජුන් දෙන බවට පොරොන්දු විය. එහෙත් ආත්ම ශක්ති යෙන් හීන වූ, මෝහයෙන් අඳ වූ, පාපයෙන් දූෂිත වූ මනුෂ්‍ය-යන් ගේ නෙත් ඉදිරිපිට දෙව්ලොව දිව බොජුන් මිනිස් ලොව ආහාරයට සමකල හැකිද?යි මම නැවත විමසනු කැමැත්තෙමි. දෙව්ලොවින් ලැබෙන ආහාරය බලාපොරොත්තුව දසදහසක් දෙනා තොප අනුගමනය කරන්නට පිළිවන. එවිට දෙව් ලොව ආහාරය වෙනුවෙන් මෙලොව ආහාරය ප්‍රතික්ෂේප කල නොහැකි ලක්‍ෂසංඛ්‍යාත ජනයාට කුමක් කරන්න ද? තොපට ප්‍රේමය කරන එහෙත් මුහුදේ වැලි මෙන් සිටින ලක්‍ෂසංඛ්‍යාත දුබල ජනයා පසකින් සිටියදී තොප සලකන්නේ බලවතුන්ම පමණක් ද? දුබල-යන් මෙ තරම් විශාල ගණනක් බලවතුන් ස්වල්ප දෙනකු වෙනුවෙන් කැප කල යුතු ද? නැත, අපි ද දුබලයන්ට සලකන්-නෙමු. දුබලයෝ පාපයෙහි යෙදෙන්නෝ ය, නොසන්සුන් වූ සිත් ඇත්තෝ ය, එහෙත් අන්තිමේ දී ඔවුහු අපට කීකරුවන්නෝ ය. ඔවුන් විසින් ඉතා භයානක දෙයක් ලෙස සැලකූ ඔවුන් ගේ නිදහස භාරගෙන ඔවුන් පාලනය කිරීමට සැරසෙන හෙයින් ඔවුන් අප දෙවිවරුන් කොට සලකා අපට වැඳුම් පිදුම් කරන්නට පිළිවන. ඔවුහු නිදහස් පුද්ගලයන් ලෙස ජීවත්වීම ඉතා භයානක දෙයක් ලෙස සලකති. එහෙත් අපි තොප ගේ දසයන් බව පවසා තොප ගේ නාමයෙන් ඔවුන් පාලනය කරන්නෙමු. අපි තොපට නැවැත මෙලොව පහලවීමට ඉඩ නො දෙන බැවින් අපට තවත් කල් ඔවුන් මුළා කොට පාලනය කල හැකි ය. මනුෂ්‍යයා බොරුවෙන් මුළා කල යුතු හෙයින් ඒ මුළාව අපේ දුකට හේතු වන්නේ ය.'

'මරුකතරේ යක්‍ෂයා විසින් අසන ලද පලමු ප්‍රශ්නයේ අර්ථය මෙයයි. තොප විසින් හැම දෙයකටම වඩා උසස් කොට වර්ණනා කරන ලද නිදහස වෙනුවෙන් ප්‍රතික්ෂේප කලේ මේ ප්‍රශ්නයයි. එහෙත් මේ ලෝකයේ ඇත්තා වූ විශාලම රහස සැඟැවී තිබෙන්නේ මේ ප්‍රශ්නය තුලයි. නිදහස වෙනුවට තොප 'ආහාරය' පිළිගත්තා නම් මනුෂ්‍ය වර්ගයා ගේ සදාකාලික

තණ්හාව සකසා ලීමට තොපට ඉඩ ලැබෙන්නේ ය. එය පෞද්ගලික වශයෙන් පමණක් නොව මුළුමහත් මනුෂ්‍යවර්ගයා වශයෙන් ද කරන්නට පුළුවන් දෙයකි. එය 'මා කාටද වැඳුම් පිදුම් කරන්නේ?' යන වචන සවල්පයෙන් පවසන්නට පිළිවන මිනිසා නිදහස්ව සිටින තෙක් හැකි තරම් ඉක්මනට වැඳුම් පිදුම් කිරීමට කෙනෙකු සොයා ගැනීම තරම් වේදනාවක් ඔහුට නැත. නමුත් මිනිසා වැඳුම් පිදුම් කිරීමට කැමැති බොරු කළ නොහැකි ස්ථිර දෙයකටයි. එතකොට හැම දෙනාට ම පුළුවනි එකතු වී ඒ දෙයට වැඳුම් පිදුම් කරන්න. ඒ කාලකණ්ණි මිනිසුන් ගේ කල්පනාව තමාට හෝ වෙන කෙනකුට හෝ වැඳුම් පිදුම් කළ හැකි දෙයක් සොයාගැනීම නොව, හැම දෙනාට ම විශ්වාස කළ හැකි, හැම දෙනාට ම වැඳුම් පිදුම් කළ හැකි, පොදු දෙයක් සොයා ගැනීමටයි. ඉතා වැදගත් දෙය හැම දෙනා ම එකතු වී වැඳුම් පිදුම් කිරීමයි. පෞද්ගලිකව හැම මිනිසාටත්, සමූහයක් වශයෙන් මුළු මනුෂ්‍යවර්ගයාටත්, ලොව පටන්ගත් ද සිට ඇති වූ ප්‍රධාන දුක සමාජයක් වශයෙන් එකතු වී ආගම ඇදහීමට ඇති ආශාවයි. මේ පොදු ආගම ඇදහීමේ ආශාව නිසා ඔවුහු එකිනෙකා මරාගත්හ. ඔවුහු දෙවිවරුන් මවා ගෙන එකිනෙකාට තර්ජනය කළහ. 'තොප වැඳුම් පිදුම් කරන ඔය දෙවියා අත්හැර දමා අපේ දෙවියාට වැඳුම් පිදුම් කරව. නැතිනම් අපි තොපත් තොපේ දෙවියාත් මරා දමන්නෙමු' කියා තර්ජනය කළහ. මෙය ලෝකයේ විනාශයට හේතු වනු ඇත. දෙවිවරු මෙලොවින් තුරන්වී ගිය පසුව ද මිනිසා ඔවුන් ගේ රූප ඉදිරිපිට දණින් වැටී වැඳුම් පිදුම් කරන්නේ ය. මනුෂ්‍ය සවභාවයෙහි ඇත්තා වූ මේ මූලික අභිරහස තොප දැන සිටි-යෙහිය. එහෙත් මුළු මනුෂ්‍යවර්ගයා තොපට පමණක් වැඳුම් පිදුම් කිරීම පිණිස ඉදිරිපත් කරන ලද ධජය තොප ප්‍රතික්ෂේප කෙළෙහිය. එය 'ආහාරය' නමැති නොවරදින ධජයයි. තොප ඒ ධජය නිදහස හා දෙව්ලොව සැපත වෙනුවෙන් ප්‍රතික්ෂේප කළෙහිය. එ පමණක් ද, තොප නිදහස වෙනුවෙන් කළ අනෙක් දේවල් දෙස බලව! අද මනුෂ්‍ය වර්ගයාට මහත් දුකක් වී තිබෙන්නේ තමා ජන්මයෙන් ගෙනා කාලකණ්ණි නිදහස භාරදීමට කෙනකු සොයා ගැනීම යයි මම තොපට කියමි. නමුත් ඒ නිදහස භාරගත හැක්කේ ඔවුන් ගේ සිත් සැනසිය හැකි කෙනෙකුට පමණයි. කිසිවකුට පරාජය කළ නොහැකි 'ආහාරය' නමැති ධජය තොප ගේ අතේ තැබුවෙහිය. මිනිසා ගේ කුස ගින්න නිවා ගනීමට ආහාර දෙනු, එවිට ඔහු තොපට වැඳුම් පිදුම් කරනු ඇත. ආහාරයට වඩා විශ්වාසදායක දෙයක් මේ මිහිපිට නැත. නමුත් යම්කිසිවෙක් මිනිසා ගේ අධ්‍යාත්මය සතු

කරගත්තොත් එවිට මිනිසා තොප දුන් ආහාරය ඉවත දමා ඔහු ගේ අධ්‍යාත්මය සතු කරගත් තැනැත්තා පසුපසින් යන්නේ ය. ඒ අතින් බලනවිට තොප ගේ අදහස හරිය. ජීවිතයේ ඇති රහස ජීවත්වීම පමණක් නොව ජීවත් වන්නේ මන්දැයි දැනගැනීම ය. ජීවිතය ගැන ස්ථිර පරමාර්ථයක් නැති ව මිනිසා ජීවත්වීමට කැමැති නැත. කොතරම් ආහාරපාන තිබුණත් ජීවත්වීමට හේතුවක් නැතිනම් ඔහු ජීවිතය විනාශකර ගන්නවා ඇත. එය සත්‍යයකි. එහෙත් සිදුවී තිබෙන්නේ කුමක් ද ? තොප මිනිසාගේ නිදහස ඔහුගෙන් පැහැර ගන්නනවා වෙනුවට ඔහුට තවතවත් නිදහස දුන්නෙහිය. හොඳ නරක තෝරා බේරා ගැනීමට ඇති නිදහසට වඩා සාමයෙන් සිටීමට හෝ මිය යාමට හෝ මිනිසා කැමැති බව තොපට අමතක වීද? ආධ්‍යාත්මික නිදහසට වඩා මිනිසා ගේ සිත් ගත හැකි වෙන කිසිවක් නැත. අනෙක් අතින් ඊට වඩා දුකට හේතුවන දෙයක් ද නැත. සදාකාලයට ම මිනිසා ගේ අධ්‍යාත්මය සාමයෙන් තැන්පත් කර තැබීමට ස්ථිර පදනමක් සපයා දෙනවා වෙනුවට තොප තේරුම් ගැනීමට දුෂ්කර, නොපැහැදිලි, විශේෂ වූ හැම දෙයක් ම සපයා දුන්නෙහිය. මනුෂ්‍යවර්ගයා වෙනුවෙන් ජීවිතය පූජා කිරීමට පැමිණි තොප, මනුෂ්‍යවර්ගයා කෙරෙහි කිසි ම අනුකම්පාවක් නැති ව ක්‍රියා කරන්නකු මෙන් මනුෂ්‍ය ශක්තියෙන් ඈත් වූ දෙයක් තෝරා දුන්නෙහි ය. මිනිසා සතු නිදහස ආපසු ගන්නවා වෙනුවට එය තවතවත් දියුණු කරමින් මිනිසා ගේ ආධ්‍යාත්මික රාජ්‍යය සදහටම දුකින් බර කෙළෙහිය. තොපට වසඟ වූ මිනිසාට නිදහස් සිතින් තොප අනුගමනය කිරීමට ඉඩදීම පිණිස තොප මිනිසා ගේ නිදහස් ප්‍රේමය බලාපොරොත්තු වූ-යෙහිය. පැරණි දරදඬු නීති වෙනුවට මින්පසු මිනිසා, මාර්ග දේශකයකු හැටියට තොප ගේ පිළිරුව පමණක් සිතේ ඇති ව, නිදහස් සිතින් හොඳ නරක විසඳා ගත යුතුය යි තෙපි බලා-පොරොත්තු වූවහු ය. මේ නිදහස් සිතිවිලි නමැති භායනක බර ඉවසා ගත නොහැකි වුවහොත් මිනිසා අන්තිමේ දි තොප ගේ පිළිරුවත් තොප ගේ සත්‍යයත් සැක කොට ප්‍රතික්ෂේප කරන බව තොපට කල්පනානුණෙහි ද? මිනිසා පිට නොයෙක් වගකීම් හා විසඳිය නොහැකි ප්‍රශ්න නමැති බර පැටවීමෙන් තොප තරම් මිනිසා ගේ හිස් මොළ අවුල් කොට දුක් දුන් අයෙක් නැත. එ හෙයින් අන්තිමේ දී මනුෂ්‍යවර්ගයා එක් වී, තොප සොයා දැනගත් සත්‍යයක් නැතැයි කියමින් කෑගානු ඇත. ඉතින්, ඇත්ත වශයෙන්, තොප ගේ රාජ්‍යය විනාශ කිරීමේ මාර්ගය තොපිම තනාගත්තහුය. එයට වග කිය යුත්තා තොපම ය. ඒ ගැන වෙන අයට දොස් කීමට තොපට පුළුවන් කමක් නැත. එහෙත්

තොපට දෙන ලද්දේ මෙ පමණක් ද ? තොපට බල තුනක් දී ඇත. නොසන්සුන් වූ, කැරලිකාරයකු වූ මිනිසා ගේ ජීවිතය සැපවත් කිරීම පිණිස, ඔහු ගේ අධ්‍යාත්මය නතු කොට සදහටම දුඃඛභාවයේ තබා ගත හැකි, බලවත් දේවල් තුන නම් හාස්කම්වල බලය, ගුප්ත බලය හා ආධිපත්‍ය බලයයි. තොප ඒ තුන ම ප්‍රතික්ෂේප කොට ඒව හේතු ද පෙන්නුවේ ය. බියකරු බුද්ධිමත් යක්ෂයා තොප දේවස්ථානයේ කොත මුදුනේ තබා 'තොප දෙවියන් වහන්සේ ගේ පුත්‍රයා නම් කොත මුදුනේ සිට බිමට පනිනු. බිම වැටී තුවාල නොවන ලෙස දේවදූතයන් තොප උසුලා ගන්නා බව ධර්ම ග්‍රන්ථවල ලියා ඇත, එවිට තොප දෙවියන් වහන්සේ ගේ පුත්‍රයා බව තොපට නිසැකවම දැනගත හැකි ය. තොප ගේ පියාණන් වන දෙවියන් වහන්සේ කෙරෙහි ඇති අචල භක්තිය ඔප්පු කළ හැකිය'යි කී ය. එහෙත් යක්ෂයා ගේ යෝජනාව ප්‍රතික්ෂේප කළ තොප බිමට නොපැන්නෙහිය. තොප දෙවියකු මෙන් ආත්මගෞරවයෙන් යුතු ව ක්‍රියා කළ බව සැබෑ ය. නමුත් දුබල සිත් ඇති නොහික්මුණු මිනිස්වර්ගයා දෙවිවරුන්ට සමකළ හැකි ද? යම් විදියකින් තොප කොත මුදුනේ සිට බිමට පැනීමට පියවරක් හෝ ගත්තේ නම් තොප දෙවියන් වහන්සේ පොළඹනවා පමණක් නොව එතුමා කෙරෙහි ඇති භක්තිය ද විනාශ කොට, තොප, නිදහස් කිරීමට අදහස් කරන මිහිකත මත පතිත වී සුනුවිසුනු වන්නෙහිය. එවිට තොප පෙළඹ වූ ඥානවන්ත යක්ෂයා ප්‍රීති වනවා ඇත. තොපට සමාන තවත් අය සිටින්නේදැයි මම නැවැත අසමි. මනුෂ්‍යයන්-ට ද මෙ වැනි පෙළඹවීමකට මුහුණ දීමට ශක්තිය තිබේ යයි තොපට මොහොතකටවත් විශ්වාස කළ හැකි ද ? තම ජීවිතයේ චිත්ත වේදනාවෙන් පෙළෙන ආධ්‍යාත්මික ගැටළු ඇතිවන, ඉතා වැදගත් අවස්ථාවල දී හාස්කම් සම්පූර්ණයෙන් ම ප්‍රතික්ෂේප කොට, නිදහස් සිතින් තීරණයකට බැසගැනීමට තරම් ශක්තියක් මිනිසාට තිබේ ද ? තොප ගේ මේ ශ්‍රේෂ්ඨ ක්‍රියාව ග්‍රන්ථාරූඪ වී, දස දෙස පැතිර කාලාන්තරයක් පවතින බව තෙපි දන්නහුය. ඒ සමග තොප අනුගමනය කරන මිනිසා දෙවියන් පිළිගෙන හාස්කම් ප්‍රතික්ෂේප කරන බව තෙපි දැන සිටියහු ය. එහෙත් මිනිසා හාස්කම් ප්‍රතික්ෂේප කරන අතරේ දෙවියන් ද ප්‍රතික්ෂේප කරන බව තොප නොදන සිටියෙහිය. මිනිසාට දෙවියන්ට වඩා හාස්කම් ලොකුය. මිනිසාට හාස්කම් නැති ව ජීවත් විය නො හැකි ය. හාස්කම් නැත්නම් ඔහු තමා ගේ ප්‍රයෝජනය පිණිස හාස්කම් මවා ගන්නවා ඇත. තමා සිය වරක් මිථ්‍යාදෘෂ්ටියකු වුවත් යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම්, කොඩිවින යකුන්, මළ පෙරේතයන්, ආදිය විශ්වාස කරනවා ඇත. 'තොප

දෙවියන් වහන්සේ ගේ පුත්‍රයා නම් කුරුසයෙන් බැස එනු' කියා මිනිසුන් තොපට නින්දා කරමින් කෑගාන විට පවා මිනිසුන් හාස්කම්වලට වහලුන්වීම වැළැක්වීම පිණිස තෙපි කුරුසයෙන් බැස නොපැමිණියහු ය. නිදහස් සිතින් ඇති කරගත් භක්තියට මිස හාස්කම් උඩ ගොඩනැගුණු භක්තියට තොප කැමැති නොවී ය. නිදහස් සිතින් පිරිනමන ලද ප්‍රේමය බලාපොරොත්තු වූ තොප, සදහටම යටපත් කරගෙන සිටිය බලයක් ඉදිරිපි දාසයන් තුළ ඇති වන පහත් ප්‍රීතිය ප්‍රතික්ෂෙප කළහු ය. මෙහිදී ද තොප මිනිසුන් ගැන ඇතිකරගත් තීරණය උසස් වැඩිය. මිනිසා ස්වභාවයෙන් ම කැරලි කාරයෙකි, එහෙත් ඔහු දාසයෙක් ය. මදක් විමසා බලා විනිශ්චය කරන්න. ශත වර්ෂ පසළොවක් ගතවිය. තොප විසින් තොප ගේ තත්ත්වයට නංවන ලද මිනිසා දෙස බලන්න. මිනිසා තොප හිතුවාටත් වඩා ඉතා පහත් නීච තත්ත්වයකින් මවන ලද බව මම දිවුරා කියමි. තොප කළ දෙය මිනිසාට කළ හැකි ද ? මිනිසාට උවමනාවට වඩා ගරු කළ තොප දැන් ක්‍රියා කරන්නේ ඔහුට කිසි ම අනුකම්පාවක් නැත්තකු මෙනි. තමාට දක්වන ආදරයට වඩා මිනිසාට ආදරය කළ තොප උවමනාවටත් වඩා බොහෝ දේවල් මිනිසාගෙන් බලාපොරොත්තු විය. ඔහුට වඩා ගරු නො කර ඔහුගෙන් සුළු දෙයක් බලාපොරොත්තු වුණා නම් යෙහෙකි. එය මිනිසාට දක්වන නියම ප්‍රේමයට සමානයි. එසේ කළා නම් ඔහු පිට පැටවී ඇති බර අඩුවෙයි. මිනිසා බොහොම දුර්වලයි, නීචයි. මිනිසා හැම තැන දී ම අපට විරුද්ධව ක්‍රියා කළාට ඇති වරද කුමක් ද ? ඒක හරියට පාසල් සිසුන් ගුරුවරයාට විරුද්ධව දඟ කරනවා වගෙයි. ඔවුන් ගේ ඒ ළාමක ප්‍රීතිය ඉතා ඉක්මනින් අවසන් වෙයි. නමුත් ඉන් ඇති වන විනාශය බොහො ම විශාලයි. ඔවුහු දේවස්ථාන විනාශ කොට පොළොව ලෙයින් තෙත් කරන්නාහුය. නමුත් තමන් නියම විප්ලවයක් කළ නො හැකි දුර්වල කැරලිකාර පිරිසක් බව අන්තිමේ දී ඔවුන්ට අවබෝධ වෙනවා ඇත. කඳුළින් තෙමුණු අඥානයන්වූ මේ බාලයන් අන්තිමේ දී දැනගනීවි දෙවියන් වහන්සේ කැරලි කාරයන් ලෙස මැවීමෙන් තමන්ට කරන ලද්දේ අපහාසයක් බව. ඔවුන් ඒ බව බලාපොරොත්තු සුන් වූ සිතින් පවසනු ඇත. එය ඔවුන් වඩවඩාත් ශෝකයට පත්කරවන සාපයක් වැන්න. මිනිස් ස්වභාවය අනුව මිනිසාට සාපය ඉවසිය නො හැකි ය. අන්තිමේ දී ඒ සාපය නිසා ඔවුන් එකිනෙකාගෙන් පළිගන්නවා ඇත. මිනිසා ගේ නිදහස වෙනුවෙන් තොප බොහෝ සටන් කළෙහිය. දැන් ඒ මිනිසාට හිමි වී තිබෙන්නේ නොසන්සුන් කමයි, ශෝකයයි, දුකයි. තොප පළමු වරට මළවුන් ගෙන් නැඟිටින විට එම දර්ශනය බලා සිටි හැම දෙනා ම තමන් විසින්

දක්නා ලද බවත්, හැම ගෝත්‍රයකින්ම දෙළොස් දහසක් දෙනා එහි රැස් වී සිටි බවත් තොප ගේ ශ්‍රේෂ්ඨ ශාස්තෘවරයා දෘෂ්ටි-යෙන් දක උපහැරණයෙන් කීවේ ය. එ තරම් විශාල පිරිසක් රැස් වී සිටියේ නම් ඔවුන් මනුෂ්‍යයන් නොව දෙවිවරුන් විය යුතු ය. ඔවුහු තොප ගේ කුරුසය උස්සා ගෙන ගියහ. ඔවුහු මරුකතරේ කුරුමිණි සතුන් හා මුල් වර්ග ආහාර පිණිස ගනිමින් හවුරුදු ගණනක් දුක් වින්දෝ ය. තොප ගේ නාමය වෙනුවෙන් ශ්‍රේෂ්ඨ පරිත්‍යාගයක් කළ, නිදහස් නිවහල් සිතින් තොපට ප්‍රේමය කළ නිදහසේ දරුවන් තොප ආඩම්බරයෙන් පෙන්වනු ඇත. නමුත් ඔවුන් දහස් ගණනකට වඩා නැති බව අමතක නොකරනු. එවිට අනෙක් අයට කුමක් සිදුවන්නේ ද? ශක්තිමත් අය තොප වෙනු-වෙන් දුක් වින්දෝ ය. එ වැනි දුක් වේදනා විඳීමට තරම් ශක්තිය නැති දුබලයන්ට දෙස් කියන්නේ කෙසේ ද ? මෙ තරම් භයානක තෑගි ලැබිය නොහැකි දුබලයන්ට දෙස් කියන්නේ කෙසේ ද ? සැබවින් ම තොප ලොව පහළ වූයේ ශක්තිමත් සවල්ප දෙනා ගේ යහපත පිණිස නොවේ. එය එසේ නම් මෙහි අපට තේරුම් ගත නො හැකි කිසියම් අභිරහසක් තිබිය යුතු ය. තොප ගේ දේශනාව අභිරහසක් නම් අපට ද අභිරහසක් ගැන දේශනා කිරීමට අයිතියක් තිබිය යුතු ය. ඉතා වැදගත් වන්නේ නිදහස් සිතින් බැසගන්නා තීරණය නොව, තමන් ගේ සිතට විරුද්ධව හෝ ආත්මශක්තියෙන් විශ්වාස කළ යුතු අභිරහස බව දේශනා කිරීමට අපට ද අයිතියක් තිබිය යුතු ය. අපි එසේ දේශනා කෙළෙමු. ‘අපි තොප දේශනා කළ ශ්‍රේෂ්ඨ ධර්මය යළි සකස් කොට එය හාස්කම්, අභිරහස්, හා බලය පිට ගොඩ නැගුවෙමු. මෙතෙක් කල් මනුෂ්‍යයන්ට දුක්වේදනා ගෙන දුන් ඒ ධර්මය ඔවුන් ගේ හදවත් තුළින් ඉවතට ගෙන ආයෙත් වරක් ඔවුන් බැටෙළුවන් මෙන් දක්කා ගෙන යාම ගැන ඔවුහු ප්‍රීතියෙන් උදම් ඇනූහ. අප මෙසේ තොප ගේ ධර්මය වෙනස් කොට දේශනා කිරීමෙන් කළේ හරි දෙයක් ද ? මිනිසා ගේ දුවිල කම් බොහො ම නිහතමානීව පිළිගනිමින්, ඉතා ආදරයෙන් ඔහු ගේ සිතේ පැවැති බර සැහැල්ලු කරමින්, ඔහු ගේ දුබල සිතට අප ගේ අවසරය ඇති ව පව් කිරීමට පවා ඉඩ දෙමින් අප කළේ යහපතක් නො වේ ද ? ප්‍රේමය කිරීමක් නොවේ ද ? එසේ නම් තොප අපේ වැඩපිළිවෙළ අවුල් කිරීමට, අපට බාධා කිරීමට, මෙලොවට පැමිණියේ මන්ද ? තොප තොප ගේ කාරුණික දෑසින් මා දෙස නිහඬව විමසිල්ලෙන් බලා සිටින්නේ මන්ද ? මා සමග කෝප වෙනු. මා තොපට ප්‍රේමය නොකරන හෙයින් මට තොප ගේ ප්‍රේමය අවශ්‍ය නැත. තොපගෙන් සැගවීමට මට

කිසිවක් නැත. මං කතා කරන්නේ කවරකුට ද කියා මං නො දන්නෙහි ද ? මා තොපට කිය යුතු දෙය, කීමට සැරසෙන දෙය කුමක් ද ? කියා තෙපි දනටම දන සිටින්නෙහිය. ඒ බව තොප ගේ නෙත් දෙස බලා කිව හැකි ය. අපේ රහස තොපට නොකියා සඟවා ගනී ය කියා තොප සිතන්නෙහි ද ? සමහර විට මගේ කටින්ම එම රහස දන ගැනීමට තොප අදහස් කරනවා විය හැකි ය. එසේ නම් මා කියන දෙයට හොඳින් සවන් දෙව. අප සහයෝගයෙන් වැඩ කරන්නේ තොප සමග නොව යක්ෂයා සමගයි. ඒක තමයි අපේ රහස, අපි තොප අත්හැර යක්ෂයා අනුගමනය කරන්නට පටන් ගෙන දනට පුරා ශත වර්ෂ අටක් ගත විය. අර යක්ෂයා විසින් මිහිපිට ඇත්තා වූ සියලු ම සැප සම්පත් හා සැම රත්නයක්ම පෙන්නා තොපට පිරිනමන ලද අන්තිම ත්‍යාගය තොප විසින් අවඥාවෙන් ඉවත දමන ලද දෙස මීට ශතවර්ෂ අටකට පෙර අපි ඔහුගෙන් ලබා ගතිමු. අපි ඔහු ගෙන් රෝමයත්, සීසර් ගේ අසිපතත් ගෙන, මිහිපිට වෙසෙන එක ම පාලකයන් අප පමණක් බව කීවෙමු. එහෙත් අද දක්වා අපට ලෝකය සම්පූර්ණයෙන් ම පාලන කළ නො හැකි විය. එය කාගේ වරද ද ? මෙ ලොව පාලනය කිරීමේ කාරිය අප ආරම්භ කළා පමණයි. එය අවසන් කිරීමට තවත් බොහෝ කල් තිබේ. මනුෂ්‍යවර්ගයා තවත් බොහෝ කල් දුක්විඳින්ද යුතු ය. නමුත් අපි අන්තිමේ දී ජයග්‍රහණය කොට සීසර්වරුන් වන්නෙමු. මේ ලෝකයේ ආධිපත්‍යය අපේ අතට ගත් පසුව අපි මනුෂ්‍ය වර්ගයා ගේ සැපත සඳහා වැඩපිළිවෙලක් සකස් කරන්නෙමු තොපට සීසර් ගේ කඩුව ගැනීමට පවා ඉඩ තිබිණි. පිරිනමන ලද ඒ අවසාන ත්‍යාගය ප්‍රතික්ෂේප කළේ මන් ද ? ඒ තෙදැති යක්ෂයා පිරිනැමූ ත්‍යාගය තොප පිළිගත්තේ නම් මෙලොව මිනිසා සොයන හැම දෙයක් ම ලබා ගැනීමට ඉඩ තිබිණි. ඒ කියන්නේ වැඳුම් පිදුම් කිරීමට කෙනෙක්, අධ්‍යාත්මය භාර ගැනීමට කෙනෙක්, මුළු ලෝ වැස්සන්ට එකතුවීමට ක්‍රමයක්, සොයා ගන්නට ඉඩ තිබිණි. සමස්ත ලෝක වාසී සියලු සත්ත්වයන් අතරේ සමගියක් ඇති කිරීම මිනිසා ගේ තුන් වන හෝ අවසාන සංවේගයයි. මනුෂ්‍යවර්ගයා එක්සත් කිරීම පිණිස වැඩ පිළිවෙලක් සංවිධානය කිරීමට මිනිසා හැමවිටම වෑයම් කෙළේ ය. උසස් සටහිඨාවක් ඇත්තා වූ මහා රාජ්‍ය කීපයක් ම ඇති වී නැති වී ගියේ ය. ඒ රාජ්‍යයන් දියුණු වූ තරමට දුක ද වැඩි විය. දුක වැඩිවුණේ ලෝකය එක්සත් කිරීමේ ආශාව වැඩි වූ නිසයි. තිමූර් හා ජෙන්ගිස්කාන් වැනි මහා රණසූරයන් මුළු ලොව තමා නතු කරගැනීම පිණිස සැඩ සුළිසුළඟක් සේ පොළොව පිස හමා ගෙන ගියෝ ය. ඔවුන් ද නො කල්පනාවෙන් පළ කළේ

මනුෂ්‍යවර්ගයා එක්සත් කිරීමේ ආශාවයි. තොප සීසර් ගේ තනතුර ලබාගත්තේනම් තොපට ලෝක රාජ්‍යයක් ඉදිකොට මුළු ලෝකයට ම සාමය ලබා දීමට ඉඩ තිබුණේ ය. මිනිසා ගේ අධ්‍යාත්මයත්, බඩගෝස්තරයත් තමා අතේ නැති ව මිනිස්වර්ගයා පාලනය කළහැක්කේ කවරකුටද ? අපි සීසර් ගේ අසිපත ගෙන තොප අත්හැර යක්ෂයා අනුගමය කරන්නෙමු. මිනිසා ගේ නිදහස් සිතිවිලිවලින්, විද්‍යාවෙන් හා ම්ලේච්ඡ ගතිවලින් ඇති වන අවුල් වියවුල් අවසන් වීමට තව බොහෝ කල් තිබේ. අපේ උපකාරය නොමැති ව බැබල් ස්තූපය සෑදීමට වෑයම් කරන මිනිසා ඉන් විනාශ වෙයි. විනාශ වන්නේ එකිනෙකා මරා කැමෙනි. එවිට මෘගයා අපේ දෙපා ලෙවකා, ලෙයින් හා කඳුළින් දෙපා තෙමන්නේ ය. එවිට අපි උගේ ඇඟ උඩ හිඳ මධු පිරි කුසලානය අතට ගන්නෙමු. ඒ කුසලානයේ 'අභිරහස' යන වචනය ලියා ඇත. මනුෂ්‍යවර්ගයාට සාමයත්, සැපතත් ළඟා වන්නේ ඉන්පසුව ය. තොප තෝරාගත් අය ගැන උඩඟු වන්නෙහි ය. නමුත් තොපට ඇත්තේ තොප විසින් තෝරා ගත් සවල්ප දෙනා පමණි. තෙපි ඒ සවල්ප දෙනා ගැන උඩඟු වන අතරේ අපි හැම දෙනාට ම ප්‍රීතිය හා සාමය ලබා දෙන්නෙමු. තොප විසින් තෝරාගත් ඒ සවල්ප දෙනා, විශාල බලයක් ඇති ඒ සවල්ප දෙනා, තොප පැමිණෙන තෙක් බලා සිට, විඩා වැටී, ඔවුන් ගේ ආත්ම බලයත්, දයා කරුණාවත් වෙනත් පක්ෂයකට මාරු කොට අන්තිමේ දී තොපට විරුද්ධව ඔවුන් ගේ නිදහස් ධජය ඔසවන්නෙහි ය. තොප ද ඒ ධජය එසෙව්වෙහි ය. නමුත් අප අනුගමනය කරන අය ප්‍රීතියෙන් සිටිති. තොප ගේ නිදහස යටතේ හැම තැන ම සිටින අය මෙන් නොව, අප යටතේ සිටින අය අපට රැහැණිව කැරලි නොගසති. එකිනෙකා විනාශ කර නොගනිති. ඔවුන්ට නියම නිදහස ලැබෙන්නේ තොප ඔවුන්ට දුන් නිදහස අපට පවරා දී අපට අවනත වූ පසු ව බව අපි ඔවුන්ට අවබෝධ කර දුන්නෙමු. තොප ගේ අදහස කුමක් ද? අපේ ව්‍යාපාරය හරිද? නැතිනම් අප කරන්නේ බොරුවක් ද? තොප දුන් නිදහස විසින් ගෙනෙන ලද භීතිය, වහල් භාවය හා අවුල සිහිවන විට මිනිසාට අපේ වැඩ පිළිවෙළ නිවැරදි බව, සාවද්‍ය බව අවබෝධ වෙයි. නිදහස, නිදහස් සිතිවිලි හා විද්‍යාව, මනුෂ්‍යවර්ගයා මහා වංකගිරියකට ගෙන ගොස් විස්මය ජනක දෑ හා විසඳිය නොහැකි අද්භූත දේවල් ඉදිරියට පමුණුවන්නේ ය. ඉන් සිදුවන්නේ කුමක් ද? නොහික්මුණු නපුරු සිත් ඇති අය ඔවුනොවුන් විනාශ කර ගනිති. නපුරු එහෙත් දුබල අය එකිනෙකා විනාශ කරන අතරේ දුකින් පෙළෙන දුර්වල අය අපේ දෙපා ළඟට

බඩගා තමුන්නාන්සේලා කී දෙය සැබෑය. දෙවියන් වහන්සේ ගේ අභිරහස දන්නේ තමුන්නාන්සේලා පමණි. එ හෙයින් අපි තමුන්නාන්සේලා ගේ පිහිට සොයා එන්නෙමු. කරුණා කර අප අපගෙන් ම ආරක්‍ෂා කර ගන්න.'' කියා අපට කන්නලව් කරනු ඇත. ඔවුහු අපෙන් ආහාර ගෙන ජීවත් වෙති. ඔවුන් විසින් දැතින් ම නිපදවන ආහාරය අප ඔවුන්ගෙන් ගෙන කිසි ම හාස්කමක් නොපෙන්වා හැම දෙනාටම පොදුවේ බෙදා දෙන සැටි ඔවුන්ට ඉතා පැහැදිලිව පෙනේ. අපි ගල් ගෙඩි පාන් ගෙඩිවලට පරිවර්තනය නොකරන බව ඔවුහු දනිති. ඔවුන් නිපදවන ආහාරය අපට දී අනතුරුව අපේ අතින් ආපසු ගැනීමට ඔවුහු වඩාත් කැමැති වෙති. අප ළඟට පැමිණීමට පෙර ඔවුන් නිපද වූ ආහාරය ඔවුන් ගේ අතේ තිබියදී ම ගල්වලට පරිවර්තනය වූ බවත්, නමුත් අප යටතට පැමිණි පසු එම ගල් ඔවුන් අතේ තිබිය දී ම නැවැත ආහාර බවට පත් වූ බවත් ඔවුන්ට පෙනී යනවා ඇත. සදාකල්හිම අපට යටත් වී සිටීමේ අනුසස් ඔවුන්ට වඩවඩාත් හොඳට අවබෝධ වනු ඇත. මිනිසා මෙය අවබෝධ කරන තෙක් ඔහුට දුක් විඳීමට සිදුවෙයි. මිනිසා මේ සත්‍ය නොදැන සිටින්නේ කාගේ වරදින් ද ? කතා කරව, බැටළු ගාල කොටස්වලට බෙදා අප්‍රකට මාර්ග දිගේ යැව්වේ කවරෙක් ද ? එහෙත් කොටස්වල බෙදුණු ඒ බැටළුගාල ආයෙත් එක්වී සදහට ම අපට යටත් වනවා ඇත. සාමාන්‍ය-යෙන් මිනිසා නිර්මාණය කරන ලද්දේ ඉතා දුර්වල සත්ත්ව කොට්ඨාසයක් හැටියට ය. ඔවුන් අපට සම්පූර්ණයෙන් ම යටත් වූ පසුව ඔවුන් ගේ තත්ත්වයට සුදුසු වන පරිදි අපි ඔවුන්ට ඉතා සන්සුන් නියාළු සැපතක් ලබා දෙන්නෙමු. තොප ඔවුන් උස් තැනක තබා, උසස් තැනක සිටින හෙයින් ඔවුන්ට උඩඟුවීමට ඉගැන්නුවෙහි ය. එහෙත් අපි ඔවුන්ට උඩඟු නොවන ලෙස කියන්නෙමු. ඔවුන් ඉතා දුර්වල බවත්, අනුකම්පාව ලැබිය යුතු දරුවන්ට සමාන බවත්, දරුවන් ලබන සැපත අනෙක් හැම සැපතකට වඩා මිහිරි බවත්, අපි ඔවුන්ට උගන්වන්නෙමු. කිකිළියට තුරුලුවන පැටවුන් මෙන් ඉතා අහිංසක බවට පත් වන ඔවුහු බියෙන් අපේ ආරක්‍ෂාව පතා අප අවට රොක්වෙති. ඔවුහු අප දෙස බලා අප ගැන පුදුම වෙති. අප ඉදිරියේ බියෙන් තැති ගෙන කෝටි ගණන් නොසන්සුන් පුද්ගලයන් දමනය කළ අපේ බලය හා ප්‍රඥාව ගැන උඩඟු වෙති. ඉතා අසරණ නියාළු තත්ත්වයකට පත්වන ඔවුහු අපේ කෝපය ගැන නිතර බියෙන් පසු වෙති. ගැහැනුන් හා දරුවන් මෙන් නිතර ඇඹ කඳුලෙන් පසු වෙති. එහෙත් අපගෙන්ලබන සුළු අවසරයෙන් පවා ඔවුහු මහත් සොම්නසින් යුතුව මහ හඬින් සිනාසී

ගි ගයති. ඉක්බිතිව අපි ඔවුන්ගෙන් බලයෙන් වැඩ ගත යුතු ය. එහෙත් විවේක කාලවල දී ඔවුන් ගේ ජීවිතය කෙළිසෙල්ලමින්, නැටුම් ගැයුම්වලින් විනෝද කළ යුතුය. එමතු ද නොව අපි ඔවුන්ට පව් කිරීමට ද ඉඩ දෙන්නෙමු. ඉතා දුර්වල වූ, අසරණ වූ ඔවුන්ට පව් කිරීමට ඉඩ දුන් නිසා ඔවුන් අපට දරුවන් මෙන් සලකනවා ඇති. අපේ අවසරය ඇති ව කරන පව්, සමා කළ හැකි බව කිව යුතු ය. මේ පව්වලට දඩුවම් දීමේ බලය අප සතුව ඇති බව කිව යුතු ය. ඔවුන් ගේ පව් සමා කිරීමේ බලය හා පව්වලට දඬුවම් කිරීමේ බලය අපේ අතට ගත් පසු අප දෙවියන් වහන්සේ වෙනුවෙන් සිටින තමන් ගේ ගැලවුම් කාරයන්ය කියා ඔවුන් අපට වැදුම් පිදුම් කරනවා ඇත. එවිට ඔවුහු හැම රහසක්ම අපට නොසඟවා පවසති. ඔවුන් ගේ භාර්යාවන් සමග හෝ අනියම් භාර්යාවන් සමග හෝ වාසය කිරීමට, දරුවන් ලැබීමට හෝ නොලැබ සිටීමට අපට අවසර දිය හැකිය. නැති නම් තහනම් කළ හැකි ය. අවසර දීම හෝ නොදීම රැඳී ඇත්තේ ඔවුන් අපට දක්වන යටහත්කමේ හා කීකරුකමේ ප්‍රමාණය අනුවය. කෙසේ වෙතත් ඔවුන් අපට මහත් සතුටින් යටහත්වනවා ඇත. කීකරුවනවා ඇත. ඔවුන් අප වෙත පැමිණ සිතට වදදෙන රහස් පවා පවසනු ඇත. හැම රහසක් ම, හැම දෙයක් ම, ඔවුන් අප ලඟට පැමිණ කියනවා ඇත. එවිට අප ඔවුන්ට අපේ තීරණය දිය යුතු යි. නිදහස්ව කල්පනා කොට තීරණයකට බැස ගැනීම සිතට වද දෙන දුෂ්කර කාරියක් නිසා ඔවුන් අප දෙන තීරණය කිසි ම අවිශ්වාසයක් නොකොට ඒ විදියටම පිළිගන්නවා ඇත. එවිට කෝටි ගණනක් සත්ත්වයන් සැපවත් ජීවිතයක් ගත කරනවා ඇත. ඒ අතරේ දුකින් වෙසෙන දහස් ගණනක් ද ඇත. ඒ දහස් ගණන නම් මේ රහස රැකගෙන ඔවුන් පාලනය කරන අප ය. හොඳ නරක පිළිබඳ සාපලත් දැනුම ඇති ව වෙසෙන ලක්ෂයක් දෙනා දුකින් පෙළෙන අතරේ කෝටියක් දෙනා අහිංසක ප්‍රීතියෙන් ජීවත්වනු ඇත. තොපගේ නම සිහි කොට සාමයෙන් මිය යන ඔවුන්ට මිනීවළින් එපිට මරණය , මිස වෙන කිසිවක් නැත: නමුත් අපි ඒ බව නොකියා ඔවුන් සතුටු කිරීම පිණිස මරණින් පසු සදාකාලික ජීවිතය සමග දෙව් ලොව සැප ලැබෙන බව පැවසිය යුතු ය. අනෙක් ලෝකයේ යම් කිසිවක් ඇතත් එය ලැබීමට තරම් ඔවුහු සුදුස්සෝ නොවෙති. තොප උඩඟු සිත් ඇති බලවත් ශ්‍රාවකයන් සමග නැවැත මෙලොවට පැමිණෙන බව කල්තියා පවසා ඇත. තොප විසින් ඒ සවල්ප දෙනා පමණක් නිදහස් කරගත් අතර අප විසින් අනෙක් හැම දෙනා ම නිදහස් කර ගන්නා ලද බව පවසනු කැමැත්තෙමි. මාගයා පිට හිඳ අතින්

අභිරහස නමැති බඳුන රුගත් වෙසගනට අපහාස කරන ලද බවත්, දුබලයන් නැගිට ඇගේ පිළිකුල් ශරීරය වසා අඳින ලද වස්ත්‍රය ගලවා දමන බවත් අපට දක්වන ලදී. එවිට මම තොපට පාපය නොහඳුනන කෝටි ගණන් දරුවන් පෙන්නමි. ඔවුන් ගේ ජීවිත සැපවත් කිරීම පිණිස ඔවුන් ගේ පව් කරපිටට ගත් අපි තොප ඉදිරියේ නැගී සිට 'තොපට පුළුවන් කමක් තිබේ නම් අප විනිශ්චය කරනු'කියා තොපට අභියෝග කරන්-නෙමු. මම තොපට භය නැත්තෙමි. මා ද මරුකතරේ මංමුළාවී මුල් වර්ග හා සතුන් මරා කමින් ජීවත් වූ බව දැන ගනුව. තොප විසින් මිනිසාට ප්‍රදානය කරන ලද නිදහස මම ද අගය කොට සලකමි. තොප ගේ ශ්‍රාවකයකු වීමට ද කැමැත්තෙමි. එහෙත් මම අවදි ව සිටිමි. මම තොප ගේ උමතු වැඩවලට සහාය වීමට නො කැමැත්තෙමි. මම තොප අත්හැර ගොස් තොප ගේ ධර්මය නිවැරදි කරන අයට එකතු වෙමි. මම උඩගු සිත් ඇති අය අත් හැර අහිංසකයන් වෙත ගියේ ඔවුන් සැපවත් කිරීම පිණිස ය. මා තොපට පවසන දෙය ඒකාන්තයෙන් ම සිදු වන්නේ ය. අප අදහස් කරන පරිදි අපේ රාජ්‍යය අපි මෙලොව පිහිටා ගනිමු. තොප අප ගේ වැඩට බාධා කිරීමට පැමිණි හෙයින් මගේ අණට කීකරුව මගේ අනුගාමිකයන් තොප හෙට පුච්චා මරන බව මම නැවැත කියමි. අප විසින් පුච්චා මැරිය යුතු ඉතා ම සුදුස්සා තොප ය. හෙට දින මම තොප පුච්චා මරමි.'

ඉවාන් කතාව නතර කෙළේ ය. ඔහු කතාව කීවේ මහත් උනන්දුවකින් හා වේගවත් හැඟීමෙන් යුතුව ය. කතාව නතර කළ අනතුරුව ඔහු හදිසියෙන් ම සිනාසුණේ ය.

නිහඬව කතාව අසා සිටි අලෝෂා ගේ සිත, කතාව අවසාන-යේ දී කො තරම් නොසන්සුන් වූයේ ද කියතොත් කීපවරක් ම කතාවට බාධා කිරීමට ඔහු අදහස් කෙළේ ය. එහෙත් සිත මැඩ ගත නොහැකි තත්ත්වයට පැමිණි පසු අලෝෂා හදිසියෙන් ම මෙසේ ප්‍රශ්න කෙළේ ය.

" අයියා ගේ කාව්‍ය න්‍යාය විරෝධීයි. එය ක්‍රිස්තුන් වහන්-සේට කළ ප්‍රශංසාවක් මිස දෙස් පැවරීමක් නොවෙයි. නිදහස ගැන අයියා පවසන අදහස් විශ්වාස කරන්නේ කවු ද? නිදහස තේරුම් ගත යුත්තේ ඔය ක්‍රමයටද ? සත්‍ය ලබ්ධික පල්ලියේවත් නැහැ ඔය විදියට නිදහස විග්‍රහ කරන්නේ. ඔය විදියට නිදහසට අර්ථ දුන්නේ රෝමයයි. නමුත් මුළු රෝමය ම නො වෙයි. ඔවැනි අදහස් ඇති ව සිටියේ ඉතා නරක උමතු කතෝලිකයන් පමණයි. ධර්මාධිකරණ පිහිටුවා මිනිසුන් පුච්චා මැරූ කතෝලික නායකයන් හා ජේසුවිට් පූජකයන් පමණයි............... අයියා

නිරූපනය කරන ඔය ධර්මාධිකරණයේ නායකයාට සමාන අරුම පුදුම පුද්ගලයන් සිටින්න බැහැ. ඔවුන් තමන්ගේ කරපිට පටවා ගත්තේ මිනිස්වර්ගයා විසින් කරන ලද කුමන් පාප කර්මයක් ද ? මිනිස් වර්ගයා ගේ සැපත සඳහා සාපයට බඳුන් වූ ගුප්ත රහසක් රකින බව කියන ඔය පිරිස කවුරු ද? අපි ජේසුවිට් පූජකවරුන් හොඳට අඳුනනවා, මිනිසුන් ඔවුන්ට සාප කරන බව ඇත්ත යි. අයියා කාව්‍යයේ සඳහන් කරන්නේ මේ ජේසුවිට්වරුන් ගැන ද? ඔවුන් තමයි රෝමයේ සිටින පාප්-වහන්සේ යටතට මුළු ලෝකය ම ගෙන අධිරාජ්‍යයක් පිහිටුවීමට කැසපට ගසාගෙන සිටින කතෝලික භට හමුදුව.........ඔවුන් ගේ පරමාර්ථය පාප් වහන්සේ යටතේ කතෝලික රාජ්‍යයක් පිහිටවීම වුවත් ඔවුන් එ තරම් අද්භූත පුද්ගලයන් කොටසක් නො වෙයි. ඔවුන් ගේ එක ම බලාපොරොත්තුව මුළු ලෝකය ම යටත් කරගෙන, සියලුම ධනය ඉතා නින්දිත ලෙස මංකොල්ල කෑමටයි. මුළු මනුෂ්‍යවර්ගයා ම දුස භාවයට ගෙන, මේ දූසයන්ගේ ස්වාමිවරුන් හැටියට වැජඹීමටයි. ඔවුන් ගේ එක ම පරමාර්ථය එයයි. සමහරවිට ඔවුන් දෙවියන් ගැන විශ්වාස නොකරනවා ඇති. නමුත් අයියා ගේ ඔය දුකින් පෙළෙන ධර්මාධිකරණයේ නායකයා අරුම පුදුම පුද්ගලයෙක්.''

"ටිකක් ඉන්න, ටිකක් ඉන්න, ඔච්චර ඉක්මන් වෙන්න එපා''යි ඉවාන් සිනාසෙමින් කී ය. "මල්ලි ගේ කතාවේ හැටියට මගේ කාඩිනල් තැන අරුම පුදුම පුද්ගලයෙක්. සමහරවිට ඒක එහෙම වෙන්න පුළුවනි. නුඹේ අදහස පසුගිය ශතවර්ෂ කීපය තුළ රෝමානු කතෝලික පල්ලිය ගෙන ගිය ව්‍යාපාරය මුළු ලෝකයම තමන් අතට ගෙන නින්දිත විදියට ධනය කොල්ලකෑම හැර වෙන කිසිවක් නොවෙයි කියා ද ?......... ......පියසි පියතුමා ගේ දේශනාවත් එය ම නො වේ ද ?''

"නැහැ, නැහැ, එහෙම නො වෙයි. පියසි පියතුමා වරක් ඔවැනි කතාවක් කිව්වා මට මතකයි........ නමුත් ඒක අයියා ගේ කතාවට වඩා බොහො ම වෙනසි යි.'' අලෝෂා කිසියම් දෙයක් සඳහන් කරමින් කීවේ ය.

"පියසි පියතුමා ගේ කතාව මගේ කතාවට වඩා වෙනස් වෙන්න පුළුවනි. කොහොම වුණත් මල්ලි ඇත්ත පිළිගැනීම ගැන මට බොහෙ ම සන්තෝෂයි. නුඹලා ගේ ඔය ජේසුවිට් පූජකවරුන් හා ධර්මාධිකරණයේ නායකයන් ලෞකික ලාභ ප්‍රයෝජන ලබා ගැනීමේ නීච අදහසින් පමණක් එකතු වී සිටින්නේ මොකද ? මනුෂ්‍යවර්ගයා විඳින දුක දකදකත් ලෞකි

හටගත් අනුකම්පාවෙන් දුක්වන අය ඔවුන් අතරේ නැත්තේ මොකද? ලෞකික යසඉසුරුවලට ගිජු වූ ඒ නීච නින්දිත පුද්ගලයන් අතරේ මගේ ධර්මාධිකරණයේ නායකයාට සමාන, මරුකතරේ දහදුක් වින්ද, නිදහස හා ආත්මවර්ධනය පතා කයට දුක් දීමට කැමැති, එහෙත් මුළු ජීවිත කාලය තුළ ම මනුෂ්‍යවර්ගයාට ප්‍රේම කළ එකෙක් සිටිනවාය කියා අපි කල්පනා කරමු. දෙවියන් වහන්සේ කෝටි ගණනක් සත්ත්වයන් මැවී-මෙන් කළේ අවමානයක් ය, මේ සත්ත්වයන්ට කිසි ම කලක ඔවුන් ලැබූ නිදහසින් නියම ප්‍රයෝජන ගත නො හැකියයි අවබෝධ කරගත් කාඩිනල්ට ඒ සමග සම්පූර්ණ ආත්ම දමනයක් ඇති කර ගැනීමෙන් වැඩක් නොවන බව පෙනී ගියා. ඊට පස්සේ ඔහු දක්ෂ ඥානවන්ත පිරිසට එකතු වුණා. එහෙම දෙයක් සිදුවන්න පුළුවන් නේ ද?"

"කාට ද එකතු වුණේ? කවුද මේ ඥානවන්ත මිනිස්සු?"යි නොසන්සුන් වූ අලෝෂා විමසුවේ ය. ඔවුහු එ තරම් ඥානවන්ත පිරිසක් නො වෙති. ඔවුන් ළඟ එ තරම් අද්භූත රහස් නැහැ. සමහරවිට ඔවුන් දෙවියන් නැතැයි කියන පිරිසක් වෙන්න පුළුවනි. ඔවුන් සතු රහසත් එය විය හැකියි. නුඹේ ධර්මාධිකරණයේ නායකයා දෙවියන් විශ්වාස කරන්නේ නැහැ ඒක තමයි ඔහු ගේ රහස."

"සමහරවිට ඒක එහෙම වෙන්න පුළුවනි. අන්තිමේ දී මල්ලිට ඒ ගැන කල්පනා වුණා. ඒ කල්පනාව හරි. ඒක තමයි සම්පූර්ණ රහස. මගේ ධර්මාධිකරණයේ නායකයාට දෙවියන් ගැන විශ්වාසයක් නැහැ. නමුත් ඒක දුකක් නො වේද? විශේෂයෙන් ම බොහෝ කාලයක් මරුකතරේ දුක්වින්ද, එහෙත් මනුෂ්‍යවර්ගයා කෙරෙහි ඇති ප්‍රේමය සිතින් ඉවත් කළ නොහැකි ඔහුට ඒක දුකක් නො වේ ද? අත්හදා බැලීමක් වශයෙන් නිර්මාණය කරන ලද, බලහීන, නොහික්මුණු, අසම්පූර්ණ සත්ත්වයන් සැපවත් කළ හැකි එකම ක්‍රමය අර යක්ෂයා ගේ අවවාදය පිළිගැනීම බව ජීවිතයේ අවසාන කාලයේ දී කාඩිනල්ට අවබෝධ වුණා. ඒ අවබෝධයත් සමග ඔහුට පෙනී ගියා, මරණය හා විනාශය අරක්ගෙන සිටින ඒ ඥානවන්ත යක්ෂයා දුන් අවවාදය අනුගමනය කළ යුතු බව. ඒ අවවාදය අනුව ඔහු බොරුව හා වංචාව පිළිගෙන දැනදැනම මිනිස්වර්ගයා විනාශය හා මරණය කරා ගෙන ගියා. විනාශය කරා යන කාලකණ්ණි අන්ධ මිනිසා ඒ කාලය තුළ දී වත් සන්තෝෂ කිරීම පිණිස ඔවුන් ගෙන යන තැන නොකියා බොරුවෙන් මුළා කළා. මහලු කාඩිනල් තැන මේ මනුෂ්‍යයන් මුළා කරන්නේ කාගේ නාමයෙන් ද? මුළු ජීවිත

කාලය තුළම ඔහු විසින් දැඩිව විශ්වාස කළ ක්‍රිස්තුන් වහන්සේ ගේ නාමයෙන්. මෙය බෙදවාචකයක් නො වේ ද ? ලාභ ප්‍රයෝජන ලබා ගැනීමේ නින්දිත බල ලෝභයෙන් පෙළෙන මිනිස් හමුදා- වක් ඉදිරියෙන් මෙ වැනි එකම මිනිහෙක් පමණක්වත් සිටියොත් එය බෙදවාචකයකට ප්‍රමාණවත් නො වේ ද ? එ පමණක් ද නො වෙයි. මෙ වැනි බලලෝභී හමුදාවක් ඉදිරියෙන් මෙවැනි බල ලෝභී පුද්ගලයෙක් සිටිම, ජේසුවිට් පූජකවරුන්ගෙන් සැදුණු හට හමුදාවලින් යුත් කතෝලික පල්ලියට කදිම අවසථාවක් හා අදහසක් ලැබෙනවා. මේ ජේසුවිට් පූජක හමුදාව කතෝලික පල්ලියේ උසස්ම පරමාර්ථයයි. මේ ව්‍යාපාරයේ පෙරමුණ ගෙන සිටිය අය අතරේ මෙ වැනි පුද්ගලයන් අඩුවක් නැති ව සිටිය බව මා දැඩිව විශ්වාස කරනවා. ඒ බව නුඹට අවංකවම කියන්න කැමැතියි. කවුද දන්නේ, සමහරවිට මෙ වැනි පුද්ගලයන් පාප් වහන්සේලා අතර සිටින්නට ඇති. සමහර විට මිනිස්වර්ගයාට හිතුවක්කාර ලෙස ප්‍රේම කරන, අපේ මහලු ධර්මාධිකරණයේ නායකයාට සමාන අය දැනට වුවත් මහලු මිනිසුන් අතරේ සිටින්නට පුළුවනි. එහෙම සිටින්නේ අහම්බෙන් නො වෙයි. දුර්වලයන් හා අසරණයන් සුවපත් කිරීම පිණිස, ඔහුගෙන් රහස රැක ගැනීම සඳහා බොහෝ කාලයකට පෙර සංවිධානය කරගත් රහස් ව්‍යාපාරවල සිටින්නටද පුළුවනි. මෙ වැනි රහස් ව්‍යාපාර ඇතිවාට කිසි ම සැකයක් නැහැ. මෙ වැනි ව්‍යාපාර තිබිය යුතුයි. ෆ්‍රීමේසන්වරුන් ගේ සංවිධාන ද එ වැනි රහස් ව්‍යාපාරයක් මත ගොඩ නගා ඇතැයි සිතන්නට පුළුවනි. මනුෂ්‍යවර්ගයා එක ම බැටළු ගාලක් මෙන් එක ම එඬේරකු පිටිපසින් ගිය යුතු යයි කතෝලික පල්ලිය විශ්වාස කරනවා. ෆ්‍රීමේසන්වරු මේ අදහසට විරුද්ධයි. කතෝලිකයන් ෆ්‍රීමේසන් වරුන් තමන්ගේ තරඟකාරයන් ලෙස පිළිගෙන වෛර කරන්- නෙත් පිළිකුල් කරන්නෙත් මේ අදහස නිසා විය යුතුයි. කොහොම වුණත් මගේ තර්කය නැතිනම් සිද්ධාන්තය ආරක්ෂා කර ගැනීමට වෙහෙසෙන මා නුඹේ විවේචනය නුරුස්සන ගත් කතුවරයකු හැටියට නුඹට පෙනී යන්න පුළුවනි. අපි කතාව මෙ තැනින් නවත්වමු.”

“සමහරවිට අයියාත් ෆ්‍රීමේසන් කෙනෙකු වෙන්න ඇති” අලෝෂා ගත්කටටම කීවේ සිත මැඩ ගත නොහැකි වූ හෙයිනි. “අයියා දෙවියන් වහන්සේ ගැන විශ්වාස කරන්නේ නැහැ”යි අනතුරුව ඔහු ශෝකයෙන් පැවසීය. තම සොහොයුරා තමා දෙස ව්‍යාජ බැල්මෙන් බලන්නේයයි අලෝෂා කල්පනා කෙළේ ය.

Freemason

"ඉතින් කොහොම ද අන්තිමේ දී අයියා ගේ කාව්‍යය අවසන් වුණේ? නැති නම් මෙය අවසානය ද?"යි අලෝෂා හදිසියෙන් ම බිම බලාගෙන විමසුවේ ය.

"මම අදහස් කළා මෙන්න මේ විදියට කාව්‍යය අවසන් කරන්න. කාඩිනල් තැන කතාව අවසන් කරලා ක්‍රිස්තුන් වහන්සේ පිළිතුරු දෙන තෙක් බලා සිටියා. ක්‍රිස්තුන් වහන්සේ ගේ නිශ්ශබ්දතාව කාඩිනල් තැනට ලොකු සිත්තැවුලක් වුණා. මුළු කාලය තුළ ම සිතා මුසු මුහුණින් බලා සිටිය ක්‍රිස්තුන් වහන්සේ කතා කිරීමට කැමැත්තක් පෙන්නුවේ නැහැ. කො තරම් කටුක වුණත්, කො තරම් භයානක වුණත්, ක්‍රිස්තුන් වහන්සේ-ගෙන් යමක් ඇසීමට කාඩිනල් උදක්ම බලාපොරොත්තු වුණා. නමුත් ක්‍රිස්තුන් වහන්සේ කතා කරනවා වෙනුවට මහලු කාඩිනල් ළගට පැමිණ ඔහු ගේ ලේ සිඳුණු වියළි දෙ තොල් සිම්බා. ක්‍රිස්තුන් වහන්සේ ගෙන් ලැබුණ පිළිතුර එයයි. කාඩිනල් වෙව්ලන්න පටන්ගත්තා. ඔහු සිරගෙයි දොර ඇර 'වහා මෙ තැනින් පිට වී යනු. මීට පසු ව කිසි ම කලක මෙහි පැමිණෙන්න එපා'ය කියා සිරගෙයින් ක්‍රිස්තුන් වහන්සේ පැන්නුවා. ක්‍රිස්තුන් වහන්සේ යන්න ගියා."

"කාඩිනල්ට මොකද වුණේ?"

"අර චුම්බනයෙන් කාඩිනල් ගේ හදවත ආලෝක වුණා. නමුත් මිනිහා එයා ගේ අදහස් අත්හැරියේ නැහැ."

"එහෙනම් අයියාත් කාඩිනල් ගේ අදහස් පිළිගත්ත ද?"යි ආලෝෂා ශෝකයෙන් ඇසුවේ ය.

ඉවාන් සිනාසිණි.

"මල්ලී, මේ කාව්‍යයේ කිසි ම තේරුමක් නැහැ. මුළු ජීවිත-යට ම කවි පේළි දෙකක් ලියා නැති පිස්සු ශිෂ්‍යයකු ගේ අර්ථයක් නැති කාව්‍යයක්. ඇයි මගේ කාව්‍යයට ඔතරම් ලොකු සැලකිල්ලක් දක්වන්නේ? මා ක්‍රිස්තුන් වහන්සේ ගේ ධර්මය නිවැරදි කිරීමට සැරසෙන ජේසුවිට් පූජකයන්ට එකතු වෙන්න හදනවා ය කියා කල්පනා කළා ද? අනේ දෙයියනේ, එතුමා ගේ ධර්මය ගැන මට ඇති කැක්කුමක් නැහැ. මට උවමනා කරන්නේ අවුරුදු තිහ වන තෙක් ජීවත් වීමට පමණයි."

"එතකොට, ළා දළු පත්, අගනා සොහොන්කොත්, නිල් අහස, අයියා ආලය කරන තරුණිය, මොනව ද මේ දේවල්වලට

වෙන්නේ ? අයියා ජීවත් වන්නේ කොහොම ද? මේ දේවල්වලට ප්‍රේම කරන්නේ කොහොම ද?'' අලෝෂා ශෝකයෙන් ඇසුවේ ය. "හදවතෙත්, හිසෙත්, මෙ තරම් දුකක් තිබිය දී කොහොම ද ප්‍රේම කරන්නේ ? නැහැ නැහැ, අයියා යන්නේ ඔවුන්ට එකතුවීමට යි. නැති නම් අයියා ජීවිතය නැති කර ගන්නවා. ද යියාට මේක ඉවසන්න පුළුවන් දෙයක් නො වෙයි.''

"හැම දුකක් ම විඳ දරා ගැනීමට අවශ්‍ය බලයක් තිබෙනවා''යි ඉවාන් මෙ වර කීවේ නො සතුටින් සිනාසෙමිනි.

"මොන බලයක් ද?''

"කරමසෝවරුන් සතු බලය. කරමසෝවරුන් ගේ නින්දිත කම්වල ඇති බලය.''

"ඔය කියන්නේ සල්ලාල කම් හා බේබදු කම් කිරීමට ඇති ශක්තිය ද?''

"සමහරවිට එහෙම වෙන්න බැරි නැහැ...... .. ......තිහ වන තෙක් මට පුළුවනි මේ දේවල්වලින් ඈත් වී සිටින්න. ඊට පස්සේ ..........''

"කොහොම ද ඈත් වෙන්නේ ? ඔය අදහස් ඇති ව කොහොම ද ඈත් වී සිටින්නේ ?''

"කරමසෝවරුන් කරන විදියටමයි.''

"අයියා ගේ කල්පනාව මේ හැම දෙයක් ම කරන්න ඉඩ දී තිබෙනවාය කියා ද ?''

ඉවාන් රවා බැලුවේ ය. ඒ සමග ඔහු ගේ මුහුණ හදිසියෙන් ම සුදුමැලි විය.

"මම ඊයේ මියුසෝ තරහ කිරීමට කියාපු කතාවම ද තුඹ කියන්නේ ? මිතියාත් බොහො ම උනන්දුවෙන් ඔය කතාව හැම තිස්සේම කියනවා''යි ඉවාන් අමුතු සිනාවක් පා කීවේ ය. කැමැති නම් හැම දෙයක් ම නීතියට එකගය කියා පිළිගන්න මා එය නැතැයි කියන්නේ නැහැ මිතියා කියාපු කතාවත් එ තරම් නරක නැහැ.''

අලෝෂා නිහඬව සොහොයුරා දෙස බලා සිටියේ ය.

"මා කල්පනා කළේ මේ පළාත අත්හැර ගියාට පස්සේ අඩුගණනේ තුඹවත් මට සිහි කරන්න පුළුවන්ය කියා''යි

ඉවාන් හදිසියෙන් ම බලාපොරොත්තු නොවූ හැඟීමකින් යුතු ව කී ය. "නමුත් මට දැන් පෙනෙනවා තාපසයකු වැනි නුඹේ හදවතේ පවා මට තැනක් නැති බව. 'හැම දෙයක් ම කිරීමට අවසර තියෙනවා. නැති නම් හැම් දෙයක් ම නීතියට එකඟය' කියන රීතිය මම අත්හරින්නේ නැහැ. එහෙත් ඒ නීතිය නිසා නුඹ මා අත්හරින්න පුළුවනි. එහෙම නේද ?" අලෝෂා නැගිට සොහොයුරා ළඟට ගොස් සෙමෙන් ඔහු ගේ මුව සිඹියේ ය.

"ඒක කුකවිත්වයයි" ඉවාන් ප්‍රීතියෙන් කී ය. "මල්ලී, නුඹ දැන් කළේ මගේ කාව්‍යයෙන් සොරා ගත්ත දෙයක්. මල්ලිට බොහො ම සතුතියි. දැන් ඉතින් යමු යන්න."

තැබෑරුමෙන් පිට වී යන ඔවුහු දෙර ළඟ නතර වූහ.

"මල්ලී, මා කියන දෙය හොඳට අහගන්න"යි ඉවාන් ස්ථිර ස්වරයෙන් කී ය. "ලා දළු ගැන කල්පනා කිරීමට මට කාලය තියෙනවා නම් මම නුඹ මතක් කොට ඒ ලා දළුවලට ප්‍රේම කරන්නම්. නුඹ මා අවට සිටීමත් මට ලොකු ප්‍රීතියක්. මම දැන් ම ජීවත්වීමට ඇති ආශාව අත්හරින්නේ නැහැ. ඒක නුඹේ සතුටට කරුණක් නො වෙයි ද ? කැමැති නම් ඒක ප්‍රේමය ප්‍රකාශ කිරීමක් හැටියට පිළිගන්න. දැන් නුඹ දකුණට යන්න, මම වමට යන්නම් ඒ ඇති. ඇහුණා නේ ද ? මා අදහස් කළේ මෙ වැනි දෙයක්. හෙට ගම අත්හැර නොගියත් (මම කොහොම හරි හෙට යනවා) අපි කවදා හරි නැවැත මුණගැසු-ණොත් දැන් සාකච්ඡා කළ දේවල් ගැන වචනයක්වත් කතා කරන්න එපා. මා එය විශේෂයෙන් ම ඉල්ලා සිටින දෙයක්. මිතියා ගැනත් මීට පස්සේ මට කිසි ම දෙයක් කියන්න එපා"යි ඉවාන් අනතුරුව හදිසියෙන් ම කිපී කීය. "මිතියා ගැන කියන්න තියෙන හැම දෙයක් ම දැන් කියා අවසානයි. ඒ ගැන තවත් කතා කරන්න දෙයක් නැහැ නේද ? මට මේ පොරොන්දුව ඉෂ්ට කළොත් මම නුඹට පොරොන්දුවක් වෙනවා. මා කල්පනා කර ගෙන සිටින්නේ අවුරුදු තිහේ දී ජීවිතය නමැති බඳුන බිඳ දම්මටයි. නමුත් ඊට ඉස්සෙල්ලා ඒ ගැන සාකච්ඡා කිරීමට මා ඇමෙරිකාවේ සිටියත් නුඹ සොයා එනවා. ඒ ගැන කිසි ම සැකයක් ඇති කර ගන්න එපා. මා එන්නේ හේතුවක් ඇතිවයි. ඒ කාලය වන විට නුඹත් කොයි විදියේ මිනිහෙක් දැයි බැලීම වැදගත් දෙයක් වන්න පුළුවනි. මේක ඉෂ්ට කළ යුතු පොරොන්දුවක් බව සලකන්න. සමහරවිට අපට අවුරුදු හත-කින් හෝ දහයකින් හෝ එකිනෙකා දැක ගන්න නො ලැබෙන්න පුළුවනි. දැන් ඉතින් යමු. මෙලහකට නුඹේ තවුසා පණ

අඳිනවා ඇති. නුඹ ළඟ නැති ව එතුමා මිය ගියොත් නුඹව නතර කර ගත්තාට නුඹ මා සමඟ තරහ වෙන්න පුළුවනි. දැන් ඉතින් යන්න. යන්න ඉස්සෙල්ලා ආයේත් මගේ මුහුණ සිඹින්න, ඔය ඇති, දැන් යන්න.''

ඉවාන් ආපසු නොබලා යන්න ගියේ ය. ඔහු යන්න ගියේ පෙර දින මිතියා අලෝෂාගෙන් වෙන්ව ගියාක් මෙනි. එහෙත් මිතියා ගිය ගමනේ ලොකු වෙනසක් තිබිණි. සොහොයුරන් දෙදෙනා සමුගත් ක්‍රමයේ ඇත්තා වූ සමානකම, ඒ මොහොතේ දී බලවත් සොවින් පැරුණු අලෝෂා ගේ හදවත විනිවිද ගියේ ය. ඔහු තික්ම යන සොහොයුරා දෙස මඳ වේලාවක් බලා සිටියේ ය. ඉවාන් ගමන් කරන අතරේ වැනෙන බවත්, ඔහු ගේ දකුණු උරහිස වම් උරහිසට වඩා පහත් බවත් අලෝෂා හදිසියෙන් ම දුටුවේ ය. ඔහු මීට පෙර එය නො දුටුවේ ය. අලෝෂා වහා ආශ්‍රමය බලා පිටත් විය. අඳුරු වැටෙමින් තිබිණි. ඔහු තුළ බියක් ද ඇති විය. ඒ සමඟ ඔහු තුළ කිසියම් අලුත් හැඟීමක් ද ඇති විය. එහෙත් එය කුමක් දැයි ඔහු නො දත්තේ ය. පෙර දින මෙන් මෙ දින ද වේගයෙන් සුළඟ හමයි. අලෝෂා තපෝවනයට පැමිණෙන විට එහි පැරණි පයින් රුක් ගැඹුරු හඬක් නගමින් සුළඟේ වැනුණේ ය. අලෝෂා දුවන්නට විය. දුවන ගමන් ඔහු මෙසේ කල්පනා කෙළේ ය. ''දූප්පත් ඉවාන් ආයේත් මට දකින්න ලැබෙන්නේ කවදා ද? ............... මේ තියෙන්නේ තපෝවනය. අනේ දෙයියනේ, සොසිමා තවුසා, එතුමා මං ඉවාන් ගෙන් සදහට ම බේරා ගනීවි.''

එ දින රෑ ආපසු ආශ්‍රමයට පැමිණීමට නොලැබුණොත් කෙසේ හෝ මිතියා සොයා ගැනීමට උදේ දූඩිව අධිෂ්ඨාන කර ගත් තමාට ඉවාන්ගෙන් සමුගත් පසු මිතියා සම්පූර්ණයෙන් ම අමතක වූයේ කෙසේදැයි පසු කල අලෝෂා කීප වරක් ම කල්පනා කෙළේ ය.

## හය වන පරිච්ඡේදය

## නො පැහැදිලි කතාව

අලෝෂා ගෙන් සමුගත් ඉවාන් කෙළින් ම මහ ගෙය බලා ගියේ ය. එහෙත් පුදුමයට වගේ ඉවාන් තුළ හදිසියෙන් ම මහත් දෙම්නසක් ඇති විය. පියා ගේ නිවෙස දෙසට තබන හැම පියවරක් පාසා ම ඒ දෙම්නස ක්‍රමයෙන් වැඩි විය. එ වැනි දෙම්නසක් ඇතිවීම ගැන පුදුම විමට හේතුවක් නැත. පුදුමය නම්

ඊට හේතුව ඔහු නොදන සිටීම ය. මීට කලින් ඉවාන් දෙම්නසින් පෙළුණු අවස්ථා එමට ඇත. ගමට පැමිණීමට හේතු වූ හැම දෙයකින් ම, සම්පූර්ණයෙන් ම වෙන් වී, හෙට දින නොදන්නා අනාගතයකට පිවිසීමට සැරසෙන මේ මොහොතේ දී සිතේ දෙම්නසක් ඇතිවීම පුදුමයක් නො වේ. ඉවාන් මීට පෙර තනි වූවාක් මෙන් ආයේත් තනි වන්නේ ය. ඔහු නොයෙක් දේ බලාපොරොත්තු විය. එහෙත් බලාපොරොත්තු වන්නේ කුමක් දැයි ඔහුට හරිහැටි කිව නො හැකි ය. ඔහු ජීවිතයෙන් බොහෝ දේ බලාපොරොත්තු විය. එහෙත් ඒ බලාපොරොත්තු හා ආසාවන් ඔහුට විස්තර කළ නො හැකි ය.

තමා ගතකිරීමට අදහස් කරන, කලින් නො දන සිටි අනුමාන සහිත අලුත් ජීවිතය ඒ මොහොතේ ඔහු ගේ සිත අරක්ගෙන සිටියත් සිතට වද දුන්නේ ඊට ඉදුරා වෙනස් දෙයකි. "දෙම්නස ඇතිවූයේ මගේ පියා ගේ නිවෙස පිළිකුල් කළ යුතු තැනක් නිසා ද"යි ඉවාන් කල්පනා කෙළේ ය. "ඔව්, එය පිළිකුල් කළ යුතු තැනක් තමයි. මා පියා ගේ භයානක නිවෙසට ඇතුළුවන අවසාන දවස අද වුවත් තවමත් මම ඊට පිළිකුල් කරමි............නැහැ නැහැ, ඒක නො වෙයි හේතුව. අලෝෂා සමඟ කළ කතාව හා ඔහුගෙන් වෙන් වීම නිසා ඇති වූ දෙම්නසද? බොහෝ කාලයක්, මුළු ලොවක් සමඟ නිහඬ ව සිටි මම හිටිහැටියේ ම අලෝෂාට වැල්වටාරම් කතාවක් කීමි. එය පළපුරුදු නැතිකම හා අහංකාරකම නිසා තුරුණු සිතේ ඇති වන හැඟීමක් විය යුතුයි. නොසන්සුන්කම ඇති වන්නේ වෙසෙසින් ම තමා ගේ ආදරය දිනාගත් අලෝෂා වැනි කෙනකුට තම අදහස් පැවසීමට නොලැබීම නිසා ය. සමහරවිට මගේ දෙම්නසට හේතු වූයේ මේ නොසන්සුන්කම ද? නැත, මගේ සිත දෙම්නසින් ආසාධ්‍ය විය. එහෙත් මට උවමනා කරන්නේ කුමක් දැයි මම නො දනිමි. ඒ ගැන කල්පනා නො කර සිටීම යෙහෙකි." මෙසේ අදහස් කළ ඉවාන් එතැන් සිට 'කල්පනා නො කර සිටීමට' වෑයම් කෙළේ ය. එහෙත් ඉන් ප්‍රයෝජනයක් නො වී ය. ඔහු ගේ දෙම්නස සිතට නුරුස්නා දෙයක් වූයේ එය හදිසියෙන් ම ඇති වූ, තමාට කිසි ම සබඳකමක් නැති අනිය බාහිර ලක්ෂණවලින් යුත් හැඟීමක් වූ හෙයිනි. තමා ගේ ඇස වසා ගත් පටලයක් මෙන් යම් කිසිවෙකු යම් කිසි තැනක සිටින්නා සේ ඔහුට පෙනේ. එහෙත් කතාවක හෝ කිසියම් වැඩක හෝ යෙදී සිටින බැවින් ඔහුට ඒ බව නො දැනෙයි. තමාට අවහිර කරන ඒ දෙය දැක හැඳින, සිතින් ඉවත් කරන තෙක් එය සිතට වද දෙයි. අන්තිමේ දී ඔහු ඒ දෙය දැක හැඳින

සිතින් ඉවත් කර දමයි. සමහරවිට සිතට වද දෙන එය නො වැදගත් ඉතා සුළු දෙයක් විය හැකියි. වැරදි තැන තබන ලද භාණ්ඩයක් විය හැකියි. බිම දමන ලද ලේන්සුවක් විය හැකියි. පොත් අල්මාරියේ නො තබා ඉවත දමන ලද පොතක් විය හැකියි.

මෙසේ නොසන්සුන් සිතින් හා කෝපයෙන් ගමන් කරන ඉවාන් අන්තිමේ දී මහ ගෙදරට ළගා විය. එහෙත් ගේට්ටුවට අඩි පහළොවක් පමණ ඇතින් හදිසියෙන් ම නතර වූ හෙතෙම මෙතෙක් තම සිතට වද දුන් දෙය කුමක් දැයි දුටුවේ ය.

පියා ගේ මෙහෙකාරයා වූ පැවල් සවස් කාලයේ ගත සිත සනසන සිසිල් සුළගේ පහස විඳිමින් ගේට්ටුව අසල බන්කුව උඩ උන්නේ ය. තම සිතේ නුරුස්සනා ගතියක් ඇති කළේ මේ මිනිහා යයි පැවල් දුටු හැටියේ ම ඉවාන්ට කල්පනා විය. ඔහුට එක් වරම හැම දෙයක් ම මැනැවින් පැහැදිලි විය. මීට ටිකකට කලින් අලෝෂා පැවල් හමු වූ බව කී විට තමා තුළ කිසියම් අප්‍රියක් හා පිළිකුලක් සමග හදිසි කෝපයක් ඇති වූ බව ඉවාන්ට සඳහන් විය. ඉක්බිති ව සොහොයුරා සමග කතා කරන අතරේ ඔහුට මද වේලාවකට පැවල් අමතක විය. එහෙත් පැවල් පිළිබඳ මතකය සිතේ රැඳී පැවැතිණි. අලෝෂා ගෙන් සමුගෙන තනි-යෙන් ම ගෙදර යන අතරේ සිතේ රැඳී පැවැතුණු පවල් පිළිබඳ මතකය අයේත් වහා මතු වී ආවේ ය. "මෙ වැනි කාලකණ්ණි පිළිකුල් සහගත පුද්ගලයකුට පුළුවන් ද මට මෙ තරම් කරදර කරන්න?"යි ඉවාන් කල්පනා කෙළේ ය.

දන් ටික කලක සිට, විශේෂයෙන් ම දවස් කීපයක සිට, ඉවාන් මේ පුද්ගලයා කෙරෙහි දැඩි පිළිකුලක් දක්වූ බව ඇත්තයි. මේ පුද්ගලයා කෙරෙහි තමා තුළ වෛරයකට සමාන හැඟීමක් ඇති වන බව ඉවාන්ට දනිණි. ඉවාන් තුළ මේ වෛරය වැඩෙන්නට වූයේ ඔහු ගමට පැමිණි අලුත සිදු වූ කිසියම් අපූරු දෙයක් නිසා විය යුතුයි. ගමට පැමිණි අලුත හදිසියෙන් ම පැවල් ගැන විශේෂ සැලකිල්ලක් දක් වූ ඉවාන්, පැවල් තුළ අලුත් අදහස් ඇත්තේ යැයි කල්පනා කෙළේ ය. පැවල් ගේ සිතේ පැවැති එක්තරා නොසන්සුන් කමක් ගැන ඉවාන් පුදුම විය. නිතර කල්පනා කරන මේ මිනිහා ගේ සිතට වද දෙන්නේ කුමක්දැයි හරි හැටි කිව නො හැකි වුවත් ඉවාන් පැවල් කතාවට රඳවා ගත්තේ ය. ඔවුහු නිතර දැශීනික ප්‍රශ්න ගැන සාකච්ඡා කළහ. වෙනෙකක් තබා ඉර හඳ තාරකා මවන ලද්දේ සතර වන දිනයෙහි නම්, පළමු දින ආලෝකය ඇති වූයේ කෙසේ ද? මෙ වැනි දේවල්

තේරුම් ගත යුත්තේ කෙසේ ද? යන ප්‍රශ්න ගැන ද සාකච්ඡා කළහ. පැවල් නිසැකයෙන් ම ඉර හඳ තාරකා වැනි විෂයයන් කෙරෙහි සැලකිල්ලක් දක්වතත් ඒවා ඔහුට එ තරම් වැදගත් නොවන බවත්, ඔහු සොයා වෙහෙසෙන්නේ ඊට ඉදුරාම වෙනස් දෙයක් බවත්, ඉවාන්ට පෙනී ගියේ ය. කිසියම් ක්‍රමයකින් මේ සේවකයා සීමා ඉක්මවා ගිය අහංකාර කමක්, ඇතැම්විට සිතට වද දෙන අහංකාරකමක් දක්වන්නට විය. මෙය ඉවාන් ගේ නො සතුටට හේතු විය. පළමු ව එය ඉවාන් තුළ පිළිකුලක් ඇති කෙළේ ය. ඉවාන්, පැවල් පිළිකුල් කරන්නට පටන් ගත්තේ මෙතැන් සිට ය. පසු ව ගෙදර කලකෝලාහල ඇති විය. ගෘසෙන්කා නිසා මිතියා හා පියා නිතර කලහ කර ගත්හ. ඉවාන්, පැවල් සමග මේ දේවල් ගැන ද කතාබහ කෙළේ ය. පැවල් මේ දේවල් ගැන මහත් උනන්දුවක් දක්වූ බව සැබෑය. එහෙත් ඉන් ඔහු කුමක් බලාපොරොත්තු වන්නේ ද යි ඉදුරා කිව නො හැකි ය. නො කල්පනාවෙන් ම කටින් පිට වන, එහෙත් තර්කයට නො ගැළපෙන, නො පැහැදිලි, පැටලුම් සහිත ඔහු ගේ ආශාවල සිතේ පුදුමය ඇති කරවන ගතියක් තිබිණි. කලින් සිතා මතා පිළියෙළ කර ගන්නා ලද අනියම් ප්‍රශ්න අසමින් හෙතෙම නොයෙක් දෑ ගැන විපරම් කෙළේ ය. එහෙත් මෙ වැනි ප්‍රශ්න අසන්නේ කුමන කරුණක් නිසාදැයි පැවල් පැහැදිලි නොකරයි. ප්‍රශ්නයක් අසන හෙතෙම ඒ ප්‍රශ්නයේ ඉතා වැදගත් අවසථාව පැමිණි විට නිහඬ වෙයි. නැතිනම් කතාව වෙනස් කරයි. අන්තිමේ දී ඉවාන් තුළ පැවල් කෙරෙහි දැඩි පිළිකුලක් හා කෝපයක් ඇතිවන්නට වූයේ ඔහු දක්වන්නට වූ කුළුපග ගතිය නිසා ය. තමා ගේ තත්ත්වය අමතක කොට, සවාමි-යාට අගෞරව වන ලෙස ඔහු කතා කළා නො වෙයි. පැවල් ඉවාන් සමග කතා කළේ ගරු සරු ඇතිව ය. එහෙත් තමා හා තම සවාමියා අතරේ කිසියම් අවබෝධයක් හා සම්බන්ධයක් ඇතැයි ඔහු කල්පනා කරන්නට විය. ඔහු එසේ කල්පනා කළේ මන් ද? දෙයියෝ දනී. ඉවාන් හා තමා අතරේ කිසියම් සබඳ කමක් පවතින බවත්, දෙ පක්ෂය ම විසින් එළිදරව් කරන ලද කිසියම් රහසක් තිබෙන බවත්, ඒ රහස දන්නේ තමන් පමණක් බවත්, පැවල් නිතර කළ කතාවෙන් හැඟෙව්වේ ය. පැවල් කෙරෙහි තමා තුළ වැඩෙන මේ පිළිකුලට හා කෝපයට මුල් වූ හේතුව කුමක් දැයි බොහෝ කලක සිට නො දැන සිටි ඉවාන්ට එයට පිටුදුන් හේතුව මෑතක සිට පැහැදිලි වන්නට විය.

සිතේ පැවැති පිළිකුලින් හා කෝපයෙන් සිටි ඉවාන්, පැවල් දෙස නො බලා ගේට්ටුවෙන් ඇතුළු වීමට අදහස් කෙළේ ය. එහෙත් ඔහු ගේට්ටුවෙන් ඇතුළු වනවාත් සමග ම

පැවල් නැඟී සිටියේ ය. ඔහු හුදක් බලා සිටින්නේ තමා සමග කතා කිරීමේ අදහසින් බව ඔහු නැඟී සිටි සැටියෙන් ඉවාන් දැන ගත්තේ ය. ඉවාන් සේවකයා දෙස බලා නතර වී ය. තමා මොහොතකට පෙර අදහස් කළාක් මෙන් සේවකයා දෙස නො බලා නො ගොස්, හදිසියෙන් ම නතර වීම ගැන ඉවාන් තමා සමග කෝප විය. නළල උඩට වැටෙන ලෙස පීරා දමන ලද බොකුටු හිස කෙසින් යුත් සේවකයා ගේ වැරුණු මුහුණ දෙස ඉවාන් කෝපයෙන් හා පිළිකුලින් බැලුවේ ය. "තමුන්නාන්සේ කොහෙ ද යන්නේ? අප දෙන්නා බොහො ම දක්ෂ, ඥානවන්ත මිනිස්සු. හැම තිස්සේ ම අපට කතා කරන්න දෙයක් තියෙනවා. ඇයි එහෙනම් මා එක්ක කතා නො කර මඟ හැර යන්න හදන්නේ?'' යි අසන්නාක් මෙන් පැවල් ඉවාන් දෙස බලා දත් විලිස්සා සිනාසුණේ ය.

ඉවාන් වෙවුලන්නට විය. "මෙ තැනින් පල යන්න, කාලකණ්ණි මෝඩයා! මට මොනව ද තෝ එක්ක තියෙන කතාව?'' මෙ වචන ඉවාන් ගේ දිවග ලෙළදිනි. එහෙත් තමා ගේ පුදුමයට "තාත්තා තවම නිදි ද? නැති නම් නැඟිටලා ද?'' යන්න තමා සේවකයා ගෙන් අසන බව ඉවාන්ට ඇසිණි.

ඔහු ගේ පුදුමයට ඔහු ඒ ප්‍රශ්නය ඇසුවේ ඉතා සෙමෙනි. ආයේත් ඔහු ගේ පුදුමයට ඔහු බන්කුව උඩ හිඳගත්තේ ය. මොහොතකට පමණ තමා තුළ බියක් ඇති වූ බව ඉවාන්ට දැනිණි. ඉවාන්ට ඒ බව සඳහන් වූයේ පසු ව ය. දෙ අත් පිටිපසට කර ගත් පැවල් ආත්ම විශ්වාසයෙන් හා රළු බැල්මෙන් බලා සිටියේ ය.

"ලොකු හාමුදුරුවෝ තවම නිදි''යි ඔහු සෙමෙන් කී ය. (පළමු ව කතා කළේ නුඹ මිස මා නො වෙයි කියන බවක් ඔහු හැඟෙව්වේ ය.) "මට තමුන්නාන්සේ ගැන පුදුමයි'' ඔහු මඳ-වේලාවකට පසු කීවේ බිම බලා දකුණු කකුල දික් කොට, ඔප දමන ලද සපත්තුවේ කෙළවර නටවමිනි.

"මොකද මා ගැන පුදුම වුණේ?'' යි ඉවාන් ගත්කටවම ඇසුවේ සිතේ පැවැති කෝපය මැඩගනිමිනි. සේවකයා ගේ කතාවෙන් තමා තුළ කුතුහලයක් ඇති වූ බවත්, ඒ කුතුහලය සංසිඳුවා නො ගෙන නොයන බවත්, ඔහුට හදිසියෙන් ම පෙනී ගියේ ය. ඒ කුතුහලය ඔහු ගේ පිළිකුලට හේතු විය.

"ඇයි තමුන්නාන්සේ චමස්නියාවට නො යන්නේ?''යි ඇසූ

පැවල් හදිසියෙන් ම ඉවාන් දෙස බලා, කුළුපග බව දක්වා සිනාසුණේ ය.

"නුඹ ඥනවන්තයෙක් නම් මා සිනාසෙන්නේ මන් ද කියා දැන ගත යුතුයි" කියන්නාක් මෙන් ඔහුගේ වම් ඇස නැටවුණේ ය.

"මා මොනවට ද චමස්නියාවට යන්නේ?" යි ඉවාන් පුදුම—යෙන් විමසුවේ ය.

සේවකයා යළි නිහඬ විය.

"ඇයි තමුන්නාන්සේ ගේ තත්තා කිව්වා තේද යන්න කියා?" යි අන්තිමේ දී ඔහු ඇසුවේ වැඩි සැලකිල්ලක් දක්වා නො වේ. "මා මේ ප්‍රශ්නය ඇසුවේ කිසියම් දෙයක් ඇසිය යුතු නිසයි" යන්න පවසන්නාක් මෙන් හැඟෙව්වේ ය.

"කියන්න තියෙන දෙය කෙලින් කියාපන් මිනිහෝ. උඹට මොනවා ද උවමනා කරන්නේ?" යි ඉවාන් අන්තිමේ දී දැඩි කෝපයෙන් කීවේ මෙතෙක් වේලා රැකගෙන සිටි සෞම්‍ය ගුණය වෙනුවට සැහැසි බව දක්වමිනි.

පැවල් ඉදිරියට තබා ගෙන සිටි කකුල වහා පස්සට ඇද ගත්තේ ය. එහෙත් ඔහුගේ මුහුණේ රැඳුණු සෞම්‍ය ගතිය හා දෙතොලේ රැඳුණු කුළුපග සිනාව එසේ ම තිබිණි.

"මම ඇහැව්වේ කිසි ම අදහසක් ඇති ව නො වෙයි. යමක් කතා කළ යුතු නිසයි."

යළිදු ඔවුහු නිහඬ වූ හ. මිනිත්තුවක් පමණ වේලා ඔවුහු කතා නො කළහ. තමා බන්කුවෙන් නැගිට කෝපයෙන් සිටින බව හැගැවිය යුතු යයි ඉවාන් කල්පනා කෙළේ ය. ඉවාන් තමා සමඟ කෝප වේ ද නො වේ ද?යි දැනගැනීමේ අදහසින් පැවල් ඉවාන් දෙස බලා සිටියේ ය. අන්තිමේ දී ඉවාන් හිඳ සිටි බන්කුවෙන් නැගිටීමට සැරසිණි. පැවල් ඒ අවසථාවෙන් ප්‍රයෝජන ගැනීමට සැරසෙන්නාක් මෙන් හැඟෙව්වේ ය.

"මා ලොකු කරදරයක වැටී සිටිනවා. මොනව කරන්නද කියා මට තේරෙන්නේ නැහැ" යි තරුණයා ඉතා පැහැදිලි ව කී ය. අන්තිම වචනය ඔහු කීවේ සුසුමක් හෙළමිනි. ඉවාන් නැවැත හිඳගත්තේ ය.

"අනේ හාමුදුරුවනේ, දෙන්නාට ම පිස්සු" යි පැවල් කී ය. 'හරියට පොඩි ළමයි වගෙයි. මා කතා කරන්නේ තමුන්නාන්සේ

ගේ තාත්තයි අයියයි ගැනයි. දුන් තමුන්නාන්සේ ගේ තාත්තා නැගිට්ටාම මහ රෑ වනතෙක් අහනවා 'ගෘසෙන්කා ආවා ද? ඇයි ආවේ නැත්තේ'? කියා. සමහර විට මහ රෑට පස්සෙත් අහනවා. බැරිවෙලාවත් ගෘසෙන්කා නාවොත් (මා හිතන්නේ නැහැ කවදාවත් ඒවිය කියා) උදේ පාන්දර ආයේත් මා අල්ලාගෙන, 'ඇයි ගෘසෙන්කා නාවේ? කවද්ද ගෘසෙන්කා එන්නේ? කියා අහලා මට කරදර කරනවා. හරියට ගෘසෙන්කා නාවට මා වැරදිකාරයෙක් වගෙයි. තමුන්නාන්සේ ගේ අයියා ඊට වැඩිය හපන්. අඳුරු වැටුණු හැටියේ ම එයා තුවක්කුවකුත් අරගෙන ඇවිත් 'හොරා, කෝකියා, ගෘසෙන්කා ආපු හැටියේ ම මට නො කිව්වොත් මම තෝ මරනවා' කියා මට බණිනවා. ආයේත් එළි වූ හැටියේ ම ලොකු හාමුදුරුවන් වගේ ඇවිදින් 'ඇයි ගෘසෙන්කා ආවෙ නැත්තේ ? ඈ ඉක්මනට ඒවි ද? කියා අහලා මට හිරිහැර කරනවා. ඕක මහ වදයක්. එයාත් හදන්නේ ගෘසෙන්කා නො ආපු වරද මගේ කර උඩ පටවන්නයි. දවසින් දවස මේ දෙන්නා මට කො තරම් කරදර කරනවා ද කියතොත් සමහර විට මට හිතෙනවා බෙල්ලේ වැලක් දමා ගන්න."

"ඇයි උඹ අනුන් ගේ වැඩවලට ඇඟිලිගහන්න ගියේ? ඇයි මිතියාට ඔත්තු බලන්නේ?" යි ඉවාන් කිපී ඇසුවේ ය.

"කොහොම ද නිකම් ඉන්නේ ? හරියට ඒගොල්ලන් ගේ කටයුතුවලට ඇඟිලි ගහන්න ගියා වගෙයි! තමුන්නාන්සේට ඇත්ත කියන්න, මුල සිටන් ම මම මග ඇරියා. නමුත් ඒගොල්ලොයි මාව ඇදගත්තේ. 'තෝ ගෘසෙන්කා එනවා ද කියා නො බැලුවොත් මරනවා" කියා මට තර්ජනය කරනවා, මට හෙට ආයේත් මීමැස්මොරය හැදී හුග වෙලාවක් සිහි නැති ව ඉන්න වෙනවාට කිසි ම සැකයක් නැහැ."

"මොක ද හුගවෙලාවක් කියන්නේ?"

"සමහර විට මීමැස්මොරය හැදුණා ම මට හුග වෙලාවකට සිහිය ලැබෙන්නේ නැහැ. සමහර විට පැය දෙකක් පමණ ඉන්නවා. සමහර විට දවසක් දෙකක් පමණ ඉන්නවා. වරක් තුන් දවසක් සිහිය නැති ව සිටියා. ඒ පාර මට මීමැස්මොරය හැදුණේ අටුව උඩින් වැටිලයි. ලොකු හාමුදුරුවෝ දොස්තර ගෙන්නලා මට බෙහෙත් කළා. දොස්තර මගේ ඔළුවට අයිස් තියා නොයෙක් විදියට බෙහෙත් කළා. නැති නම් මෙලහකට මා මැරිලා."

"මීමැස්මොරය කොයි වෙලාවට හැදෙනවද කියන්න බැරිලු. ඉතින් හෙට මීමැස්මොරය හැදෙනවය කියා උඹ කියන්නේ

කොහොම ද?'' යි ඉවාන් ඇසුවේ නොසන්සුන් වූ කුතුහලයකින් යුතු ව ය.

"ඒක ඇත්තයි. කොයි වෙලාවට හැදෙනවද කියන්න බැහැ.''

"එදා මීමැස්මොරය හැදුණේ අටුවෙන් වැටුණු නිසා නේද ?''

"මම හැම දා ම අටුවට නගිනවා. සමහර විට මා හෙට අටුවෙන් වැටෙන්න පුළුවනි. මම හැම දා ම බිම කැඩැන්ගුවට යනවා. සමහර විට බිම කැඩන්ගුවට නගින පඩිපෙළේ සිට වැටෙන්න පුළුවනි.''

ඉවාන් තරුණයා දෙස සෝදිසියෙන් බැලුවේ ය.

'උඹේ ඔය විකාර කතාව මට තේරුම් ගන්න බැහැ'යි ඉවාන් සෙමෙන් කී ය. එහෙත් එහි තර්ජනයක ස්වරූපයක් තිබිණි. 'උඹේ කල්පනාව දවස් තුනක් ම බොරු ලෙඩ ගන්නද?'

ආයේත් වරක් බිම බලාගෙන දකුණු කකුලේ කෙලවර නටවමින් සිටි තරුණයා අනතුරු ව නැටවීම නතර කොට දකුණු කකුල වෙනුවට වම් කකුල දික් කොට, සිනාසෙමින් මෙසේ කී ය.

"නිතරම මීමැස්මොරයෙන් සිහි නැති වන විට, බොරුවට සිහි නැති වූ බව පෙන්නීම එ තරම් අමාරු වැඩක් නො වෙයි. මගේ ජීවිතය බේරා ගැනීමට ඒ වගේ බොරුවක් කළාට කිසි ම වරදක් නැහැ. මා අසනීපයෙන් සිටින විට ගෘසෙන්කා ලොකු හාමුදුරුවන් ළඟට ගියොත් තමුන්නාන්සේ ගේ අයියාට පුළුවන් කමක් නැහැ ලෙඩකුට දෙස් කියන්න. ලෙඩාට දෙස් කීම ලජ්ජා නැති වැඩක්.''

"ඔය කතාව නවත්වපන්'' යි ඉවාන් කෝපයෙන් කී ය. "ඇයි ඔයතරම් ජීවිතයට භය ? මීතියා බැන්නාට කවදාවත් උඹට හිරිහැර කරන්නේ නැහැ. එයා මරන්න හදන්නේ උඹව නො වෙයි වෙන කෙනෙක්.''

"සේරටම ඉස්සෙල්ලා මැස්සෙක් මරනවා වගේ මීතියා මා මරා දමාවි. මා ඒට වැඩිය බයයි. තමුන්නාන්සේ ගේ පිස්සු තාත්තාට. මීතියා මොනවහරි අපරාධයක් කළොත් මා එයා ගේ උදව් කාරයකු හැටියට අහුවෙන්න පුළුවනි.''

"උදව් කාරයකු හැටියට අහුවෙන්නෙ කොහොම ද ?''

"මං එයාට ඔත්තු කියන නිසා මා උදව්කාරයකු හැටියට අල්ලා ගනීවි."

"මොන ඔත්තුවක් ද?"

"මම තමුන්නාන්සේට ඇත්ත කියන්නම්."යි පැවල් පණ්ඩිතයකු තුළ තිබෙන සන්සුන්කමින් යුතු ව කිය. "මේ වැඩේ ගැන ලොකු හාමුදුරුවන්ගෙයි මගෙයි අතර රහසක් තියෙනවා. දවස් කීපයක ඉඳලා රෑ වූ හැටියේ ම ලොකු හාමුදුරුවෝ ගෙය ඇතුළට වෙලා දොරවල් වහගන්නවා. තමුන්නාන්සේ දන්නව නේ ද? මේ ළඟ දී ඉඳලා තමුන්නාන්සේ වේලාසනින් උඩ තට්ටුවේ කාමරයට ගිහින් ආයේත් පහතට බහින්නැති නිසා, තාත්තා කොතරම් භයෙන් දොර කවුළු වහ ගෙන ඉන්නවාද කියා තමුන්නාන්සේ නොදන්නවා ඇති. ගිරිගෝරිස් ගිහින් කතා කළත් කටහඬ අඳින ගෙන මිස දොර අරින්නේ නැහැ. නමුත් දූන් ගෙදර හැම වැඩක් ම මම කරන නිසා ගිරිගෝරිස් එන්නේ නැහැ. ගෘසෙන්කා ලොකු හාමුදුරුවන් එක්ක හාද වූ දා ඉඳලා ගෙදර වැඩ කෙරෙන්නේ මේ ක්‍රමයටයි. රෑට මට ගෙයි ඉන්න ඉඩ දෙන්නේ නැහැ. දූසයන් ගේ ගෙට යන්න කියනවා. නමුත් නිදා ගන්න ඉඩ දෙන්නේ නැහැ. ගෘසෙන්කා එනකන් බලා ඉන්න නියම කර තියෙන නිසා මට රෑ දොළහ වෙනකන් නිදා ගන්න ලැබෙන්නේ නැහැ. දූන් ටික දවසක ඉඳලා ලොකු හාමුදුරුවෝ පිස්සෙක් වගේ ගෘසෙන්කා එනකන් බලා ඉන්නවා. ගෘසෙන්කා මිතියාට භය නිසා ඉස්සරහ පැත්තෙන් නැවිත් රෑට පස්සා දොරින් ඒවිය කියා තමුන්නාන්සේගේ තාත්තා කියනවා. 'උඹ රෑ වෙනකන් බලා ඉඳලා ගෘසෙන්කා ආපු හැටියේ ම දුවගෙනවිත් මගේ දොරට නැති නම් ජනේලයට තට්ටු කරලා කතා කරපන්. ඉස්සෙල්ලා හෙමින් දෙපාරක් තට්ටු කරලා පස්සේ තුන් පාරක් හයියෙන් තට්ටු කරපන්. එතකොට ගෘසෙන්කා ආපු බව දූනගෙන මම හෙම්හිට දොර අරින්නම්' හදිසියෙන් බලාපොරොත්තු නොවූ දෙයක් වුණොත් දොරට තට්ටු කරන තවත් ක්‍රමයක් තියෙනවා. ඉස්සෙල්ලා දෙපාරක් තට්ටු කරලා පස්සේ හයියෙන් එක පාරක් තට්ටු කරන්න ඕනෑ. එතකොට බලාපොරොත්තු නොවූ දෙයක් සිදු වූ බවත්, වහා ම එයාට කතා කළ යුතු බවත් ලොකු හාමුදුරුවෝ දූනගෙන දොර අරීවි. එහෙම වෙන්නේ ගෘසෙන්කාට එන්න බැරිව පණිවිඩයක් එව්වොත් පමණයි. සමහර විට මිතියා ද එන්න පුළුවනි. මිතියා ආවොත් මම ඒ බව වහා ම ලොකු හාමුදුරුවන්ට දන්වන්න ඕනෑ. ලොකු හාමුදුරුවෝ මිතියාට ප්‍රාණ බයයි. ගෘසෙන්කා ඇවිදින් ගෙය ඇතුළේ සිටින විට මිතියා

ආවොත් තුන් පාරක් දෙරට තට්ටු කරලා, ඒ බව වහා ම දැනුම් දෙන්න ඕනෑ..................පස් පාරක් දෙරට තට්ටු කිරීමෙන් හගවන්නේ ග්‍රෑසෙන්කා ඇවිත් සිටින බවයි. තුන් පාරක් තට්ටු කිරීමෙන් හගවන්නේ ඉතා වැදගත් දෙයක් කියන්න තියෙන බවයි. තමුන්නාන්සේ ගේ තාත්තා දෙරට තට්ටු කිරීමේ මේ රහස මට කීප වරක් ම ඉගැන්නුවා. මේ රහස දන්නේ ලොකු හාමුදුරුවොත් මාත් පමණයි. ඒ නිසා දෙරට තට්ටු කළ හැටියේ ම කතා නො කර දෙර අරිනවා. ලොකු හාමුදුරුවෝ රෑට කතා කරන්න බොහො ම බයයි. නමුත් ඒ රහස දන් මීතියාත් දන්නවා."

"කොහොම ද දන්නේ? උඹ කිව්ව ද? මෙනවට ද කිව්වේ?"

"හයටයි කිව්වේ. කොහොම ද 'නො කියා ඉන්නේ ? 'තෝ මාව රවටන්න හදනවා. තෝ මොනව ද මට නොකියා හංගන්න හදනවා තෝ මාව රවටන්න හැදුවොත් මම තොගෙ කකුල් කඩනවා.' කියා මීතියා මට බණිනවා. මම මීතියාට බොහො ම හිතවත් බවත්, අවංක බවත්, බොරුවක් නො කියන බවත්, මා දන්නා හැම දෙයක් ම කීමට වෑයම් කරන බවත්, පෙන්නීමට දෙරට තට්ටු කිරීමේ රහස කිව්වට පස්සෙ මට බැන්නේ මෙහෙමයි."

"බැරිවෙලාවත් මීතියා දෙරට තට්ටු කරලා ගෙට ඇතුළු වෙන්න වෑයම් කළොත් උඹ කොහොම හරි නවත්වන්න ඕනෑ."

"බැරිවෙලාවත් මම අසනීපයෙන් සිටියොත් මොකද කරන්නේ?"

"කොහොම ද දන්නේ හරියට එදට අසනීප වන බව? මොකද උඹ මට විහිළු කරන්න හදනව ද?"

"මා කොහොම ද තමුන්නාන්සේට විහිළු කරන්නේ ? ප්‍රාණ බයෙන් සිටින මට මොන විහිළුවක් ද? මගේ හිතේ තියෙන බය ඇති අසනීප වෙන්න."

"උඹට අසනීප වුණොත් ගිරිගෝරිස් මහ ගෙය මුර කරාවි. කල් ඇති ව කියා තිබුණොත් ගිරිගෝරිස් කවදාවත් මීතියාට ගෙට ඇතුළු වෙන්න දෙන්නේ නැහැ."

"ලොකු හාමුදුරුවන් ගේ අනුමතිය නැති ව මම කවදාවත් මේ රහසක් ගිරිගෝරිස්ට කියන්නේ නැහැ. ගිරිගෝරිස් ඊයේ ඉඳලා ලෙඩ වෙලා. මාපා හෙට බෙහෙත් කරන්න අදහස් කර

ගෙන ඉන්නවා. මාපා බෙහෙත් කරන්නේ මහ පුදුම ක්‍රමයකටයි. ඈ බෙහෙත් හදන්නේ පැළෑටි වර්ගවලිනුයි. ගිය අවුරුද්දේ තුන් පාරක් ම තුනටියේ වාතයක් හිටලා ගිරිගෝරිස් ලෙඩ වුණා. තුනටියේ වාතය හිටියහම අත පය පණ නැති වෙනවා මාපා වහා ම තුවායක් අරගෙන කොළ තම්බාපු වතුරෙන් පොඟා, රතු වී ඉදිමෙනකන් පිටකොන්ද තවනවා. ඉතිරිවෙච්ච බෙහෙත් වතුර ටික ගිරිගෝරිස්ට බොන්න දී දෙයියන්ට යාච්ඤා සේරම කරනවා. බොන්න දෙන්නේ නැහැ. ටිකක් ඉතිරි කර ගෙන ඈ බොනවා. මේ දෙන්නා කවදාවත් මත්පැන් බොන්නේ නැහැ. නමුත් මේ බෙහෙත් වතුර බිව්වහම දෙන්නා ම මත් වුණා වගේ බොහොම වේලා නිදාගන්නවා. නැගිට්ටට පස්සේ ගිරිගෝරිස්ගේ තුනටියේ අමාරුව හොඳට ම සනීපයි. නමුත් මාපාට හිසේ අමාරුවක් හැදෙනවා. බැරිවෙලාවත් මාපා ගරිගෝරිස්ට හෙට බෙහෙත් කළොත් මිතියා එනවා ද කියා බලන්න කෙනෙක් නැති වෙනවා. උන් සේරම හොඳට නිදා ගනීවි."

"මොන පිස්සු කතාවක් ද! මේ සේරම සිද්ධවෙන්නේ කල්තියා සූදානම් කරගත්ත පිළිවෙළට ද? උඹට මිමැස්මොරය හැදිලා සිහි නැති උණා ම ගිරිගෝරිස්සුයි මාපායි නිදාගන්නවා ද? උඹේ කල්පනාව මේ සේරම එක දවසේ එක වෙලාවට යොදාගන්න ද?" යි ඉවාන් ගත්කටට ම ඇසුවේ පැවල් දෙස සාහසික බැල්මකින් බලමිනි.

"කොහොම ද තමුන්නාන්සේ කියන්නේ මම එහෙම දෙයක් කල්තියා සූදානම් කරනවා ය කියා? හැම දෙයක් ම තමුන්නාන් සේ ගේ අයියාට උවමනා විදියට කෙරෙනවා නම් මා කොහොම ද මෙහෙම දෙයෙක් කල්තියා සූදානම් කරන්නේ? මිතියා හිතූ දෙයක් කරනවා.................තාත්තාට හිරිහැර කරන්න එයාට උවමනාවක් නැති නම් මට පුළුවන් ද එයා ලවා තාත්තාට හිරිහැර කරවන්න?"

"උඹ කිව්ව වගේ ගෲසෙන්කා එන්නෙ නැති නම් අයියා මොනවට ද ගෙදරට ගිහින් තාත්තාට හිරිහැර කරන්නේ?" යි ඉවාන් ඇසුවේ කෝපයෙන් සුදුමැලි වෙමිනි. "උඹම කියනවා ගෲසෙන්කා කවදාවත් තාත්තා ළඟට යන්නෙ නැහැ කියා. මා ගෙදර නතර වී සිටිය කාලයේ දී මට පෙනී ගියා තාත්තා ගෲසෙන්කා ගැන හිතනවා මිසක් ගෲසෙන්කා තාත්තා එක්ක හාද වී නැති බව. ඔය වල් ගෑනි කවදාවත් තාත්තා ළඟට යන්නේ නැහැ. ගෲසෙන්කා එන්නෙ නැති නම් මොනවට ද

අයියා රට ගෙට කඩා වැදී තාත්තාට හිරිහැර කරන්නේ? කතා කරපන්, "මා කැමැතියි උඹේ හිතේ තියෙන දෙය දැන ගන්න.'

"මා නො කිව්වාට තමුන්නාන්සේ ම දන්නවා මීතියා එන්නේ මොනවට ද කියා. මගේ හිතේ තියෙන දෙය දැන ගැනීමෙන් වැඩක් වන්නේ නැහැ. සමහර විට මීතියා සැක පිට එන්න පුළුවනි. සමහර විට මා අසනීපයෙන් සිටින නිසා ඔත්තු බලන්න එන්න පුළුවනි. ඊයේ ගෙට කඩා වැදුණා වගේ ගෲසෙන්කා හොරෙන් ආවා ද කියා දැනගන්න එන්න පුළුවනි. ඇවිත් ගෙය සෝදිසි කරන් පුළුවනි. එයා හොඳට ම දන්නවා ලොකු හාමුදුරුවෝ ගෲසෙන්කාට දෙන්න රූබල් තුන්දහක් ලියුම් කවරයක දමා, පිත්ත පටියකින් ගැටගසා, සීල් කරලා ළඟ තියා ගෙන ඉන්න බව. 'මා ළඟට පැමිණියොත් මගේ සුරදූව වන ගෲසෙන්කාට තෑගි දීම පිණිසයි' කියා එයා ගේ අත්අකුරින් ම ලියුම් කවරයේ ලියා තියෙනවා. දවස් තුනකට කලින් 'මගේ පොඩි කිකිළිට දෙන්න" කියා කවරයේ ලිව්වා. මගේ හිතේ බොහො ම ලොකු සැකයක් ඇතිවුණේ මේ කාරණාව නිසයි."

"පිස්සු කතාවක්" යි ඉවාන් පැවැසී ය. "අයියා යන්නේ නැහැ තාත්තා මරලා සල්ලි ගන්න. ගෲසෙන්කා නිසා සමහර විට අයියා පිස්සු වගේ තාත්තා මරන්න පුළුවනි. නමුත් කවදාවත් සල්ලි හොරකම් කරන්නේ නැහැ".

"නමුත් මීතියාට දැන් බොහො ම මුදල් හිඟයි. කොහෙන් හරි මුදල් සොයා ගන්න ඕනෑ. තමුන්නාන්සේ දන්නේ නැහැ මීතියාට කො තරම් මුදල් අවශ්‍ය ද කියා පැවල් සන්සුන් සිතින් පැහැදිලි කොට කී ය. "එයා හිතනවා ඒ රූබල් තුන්දහ එයාට අයිතියි කියා එයා මට කිව්වා. තාත්තා මට රූබල් තුන් දහක් දෙන්න තියෙනවා ය' කියා. තවත් තියෙනවා පිළිගත යුතු දෙයක් ඒක සම්පූර්ණ ඇත්ත. සමහර විට ගෲසෙන්කා ලොකු හාමුදුරුවන්ට බල කරන්න පුළුවනි, ඇය කසාද බඳින්නය කියා. ඇයට උවමනානම් එහෙම යෝජනාවක් කරන්න පුළුවනි. මගේ කල්පනාවේ හැටියට ගෲසෙන්කා එහෙම යෝජනාවක් කරන්න පුළුවනි. සමහර විට ගෲසෙන්කා ගෙදරට නො එන්න පුළුවනි. ගෙදරට නාවත් ඊට වඩා ලොකු දෙයක් බලාපොරොත්තු වෙන්න පුළුවනි. ගෲසෙන්කා මහ ගෙදර ස්වාමි දූ වෙන්න බලාපොරොත්තු වෙනවා ඇති. ලොකු හාමුදුරුවන් කසාද බැඳගෙන මේ ගේදොර අයිති කර ගනීම එ තරම් නරක අදහසක් නොවන බව කියා ඇගේ වෙළෙන්දා වන සම්සෝනෝව් ඈ සමග සිනාසෙනවා මා දැකලා තියෙනවා. ගෲසෙන්කාට හොඳට මොළය තියෙනවා. ඈ කවදා

වත් මිතියා වැනි හිඟන්නෙක් කසාද බඳින්නේ නැහැ. ඉතින් තමුන්නාන්සේ ටිකක් කල්පනා කරලා බලන්න, බැරිවෙලාවත් ගෘසෙන්කා ලොකු හාමුදුරුවත් කසාද බැන්දෙත් මිතියාටවත්, තමුන්නාන්සේටවත්, අලෝෂාටවත් තාත්තා මළාට පස්සේ තඹයක දෙයක් ලැබෙන්නේ නැහැ. ගෘසෙන්කා ලොකු හාමුදුරු- වන් කසාද බඳින්නේ සල්ලිවලට ඇති කෑදර කමට යි. නමුත් ලොකු හාමුදුරුවෝ දූන් මළොත් මිතියාට පවා රූබල් හතළිස් දහක් විතර ලැබේවි. ලොකු හාමුදුරුවෝ තව ම නැහැ අන්තිම කැමැත්ත ලියා............මිතියා ඒ බව හොඳට දන්නවා.''

ඉවාන්ගේ මුහුණේ මස් පිඩු නැටෙන්නට විය. හදිසියෙන් ම ඔහු ගේ මුහුණ රතු විය.

"එහෙනම් උඹ මොනවට ද මට චමස්නියාවට යන්න කියන්නේ?''යි ඉවාන් ගත්කටට ම පැවල් ගේ කතාවට බාධා කරමින් ඇසුවේ ය. "මා ගියොත් මෙ තැන වෙන දෙය දන්නවා- නේ ද?'' ඉවාන් හුස්ම ගත්තේ ඉතා අමාරුවෙනි.

"ඒ කාරණාව නිසා තමයි මම තමුන්නාන්සේට යන්න කියන්නේ''යි පැවල් සෙමෙන් කීවේ ඉවාන් දෙස සෝදිසියෙන් බලමිනි.

"මොන කාරණාවක් නිසා ද එහෙම කියන්නේ?''යි ඉවාන් අමාරුවෙන් කෝපය මැඩ ගනිමින් ඇසුවේ ය.

"මම එහෙම කිව්වේ තමුන්නාන්සේ ගැන මට අනුකම්පාවක් ඇති වූ නිසයි. මා තමුන්නාන්සේ ගේ තත්ත්වයේ සිටිනවා නම් මේ සේරම අත්හැර දමා යනවා''යි පැවල් කෝපයෙන් බැබළෙන ඉවාන් ගේ නෙත් දෙස කෙළින් බලා අවංක ව කී ය. අනතුරු ව දෙදෙනා ම කරබා ගත්හ.

"උඹ මහ මෝඩයෙක්........ පමණක් නො ව තක්කඩියෙක්'' ඉවාන් වහා බන්කුවෙන් නැඟී සිටිමින් කී ය. අනතුරුව කෙළින් ම ගේට්ටුව තුළින් ඇතුළු වීමට ගිය හෙතෙම ආයේත් ආපසු හැරී පැවල් දෙස බැලුවේ ය. දැඩි කෝපයෙන් පෙළෙන ඉවාන් තොල් සපා මිටමොළවා මොහොතකින් පැවල්ට පහර දෙනු ඇත. ඒබව දැනගත් සේවකයා වහා පසු බා සිටියේ ය. ඒ භයානක මොහොත සාමයෙන් අවසන් වී ය. කල්පනාවක ගිලී සිටින්නකු මෙන් ඉවාන් නිහඬ ව ආපසු හැරී ගියේ ය.

"උඹ දැනගන්න කැමැති නම් හෙට උදේ පාන්දරින් මම මොස්කව් නුවර යනවා එච්චර යි'' ඉවාන් ගත්කටටම කෝපයෙන්

කී ය. එහෙත් තමා එසේ කීවේ මන්දැයි පසු කල ඔහු කල්පනා කෙළේ ය.

"ඒක තමයි තමුන්නාන්සේට කරන්න පුළුවන් හොඳ ම දෙය"යි පැවල් එක් වර ම කීවේ ඒ වැනි කතාවක් ඉවාන් ගෙන් බලාපොරොත්තු වූවාක් මෙනි. "හදිසියක් වුණොත් තමුන්නාන්සේට විදුලි පණිවිඩයක් එවන්නම්."

ඉවාන් අයේත් ආපසු හැරී පැවල් දෙස බැලුවේ ය. පැවල් තුළ ද කිසියම් විපරියාසයක් සිදු වී තිබෙන බව ඔහු දුටුවේ ය. මීට පෙර දකින්නට තිබුණු කුළුපග ගතිය හා නො සැලැකිලිකම මුළුමනින් ම අතුරුදහන් විය. ඔහු ගේ මුහුණේ අපූරු සැලැකිල්ලක් හා බලාපොරොත්තුවක් දකින්නට තිබිණි. එහෙත් ඒ බැල්මේ බයාදු ගතියක් ද විය. "තමුන්නාන්සේට තවත් දෙයක් කියන්න තියෙනවා නේ ද?" යන ප්‍රශ්නය ඔහු ගේ දෑසින් පළ විය. ඔහු ඉවාන් දෙස ඇසි පිය නො සොල්වා බලා සිටියේ ය.

"හදිසියක් වුණොත් මට එන්නය කියා චමස්නියාවට විදුලි පණිවිඩයක් එවන්නේ නැද්ද?"යි ඉවාන් කෑගා ඇසුවේ කිසි ම හේතුවක් ඇති ව නො වේ.

"ඔව් හාමුදුරුවනේ චමස්නියාවටත් විදුලි පණිවිඩයක් යවනවා"යි පැවල් රහසක් කියන්නාක් මෙන් කීවේ ස්නායු දුර්වල කමකින් පෙළෙන්නකු මෙනි. එහෙත් ඔහු ඉවාන් දෙස ඇසි පිය නො සොල්වා බලාසිටියේ ය.

"මොස්කව් නුවර චමස්නියාවට වඩා දුරයි නේද? උඹ මට චමස්නියාවට යන්න කියන්නේ මගේ අතින් මුදල් වියදම්වන නිසා ද? මගේ මුදල් ආරක්ෂාකර දීමට ද? දුර ගමනක් යන මට ඇති අනුකම්පාවෙන් ද?"

"ඔව්, මම කිව්වේ එහෙම අදහසකින් තම"යි පැවල් වෙව්ලන කටහඬින් කී ය. අනතුරුව ඉවාන් දෙස බලා සමච්චල් කරන්නාක් මෙන් සිනාසී, ඉවාන් ගේ පහරින් ආරක්ෂා වීම පිණිස මඳක් පස්සට ගියේ ය. එහෙත් ඔහු ගේ බලවත් පුදුමයට මහ හඬින් සිනාසෙන්නට පටන් ගත් ඉවාන්, සිනාසෙමින් ම ගේට්ටුව තුළින් වත්තට ඇතුළු විය. ඔහු සතුටින් සිනා නොවන බව ඒ වේලේ ඔහු ගේ මුහුණ දෙස බලන්නකුට පෙනී යන්නට ඇත. තමා තුළ ඒ වේලේ ඇතිවූයේ කුමන හැඟීමක් දැයි ඉදුරා කීමට ඉවාන් පවා නොදත්තේ ය. ඔහු තික්ම ගියේ ආත්ම දමනය නැත්තකු මෙනි.

## හත් වන පරිච්ඡේදය

## පණ්ඩිතානඤ්ච සේවනා

ඉවාන් කතා කළේ ද කිසි ම ආත්ම දමනයක් නැති උන්මාදකාරයකු මෙනි. ඔහුට විසිත්තකාමරයේ දී පියා හමු විය. "මම යනවා උඩට, ආයේත් පහළට එන්නේ නැහැ"යි අතවනා කෑගා කියමින් ඔහු උඩුමහලට නැඟගත්තේ පියා දෙස නො බැලීමට වෑයම් කරමිනි. සමහර විට ඒ මොහොතේ දී පියා පුතා සමග අමනාපයෙන් සිටින්නට ඇත. එහෙත් ඉවාන් දක්වූ නොසැලැකිල්ල මහල්ලාට පවා පුදුමයක් විය. සමහරවිට මහලු පියා කෙළින් ම විසිත්තකාමරයට එන්න ඇත්තේ පුතා හමු වී කතා කිරීමට උවමනාවක් තිබුණු නිසා විය යුතු ය. එහෙත් පුතාගෙන් ලැබූ මේ සංග්‍රහයෙන් පසු මහල්ලා, පුතා උඩුමහලට නැඟ නො පෙනී යනතෙක් නිහඬ ව බලා සිටියේ ය.

"මොකද අද මිනිහට වෙලා තියෙන්නේ?"යි මහලු කරමසෝව් ඉවාන් පිටුපසින් පැමිණි පැවල් ගෙන් විමසුවේ ය.

"මොකකට හරි තරහ ගිහින්. මොකකට ද කියා කවුද දන්නේ!යි" පැවල් කතාවෙන් මගහැරීම පිණිස කී ය.

"එයාට තරහ ගියා ය කියා අපට තියෙන අමාරුව මොකක් ද? ඔහෙ තරහ වුණාවෙන්. තේ චක්කරන්න බොයිලේරුව ගෙනත් තියා පලයන් යන්න. මොනව ද අද උඹට දැනගන්න ලැබුණු ආරන්චි?"

අනතුරුව මහලු කරමසෝ සේවකයාගෙන් නොයෙක් වගේ ප්‍රශ්න අසන්නට පටන් ගත්තේ ය. පැවල් දන් විකකට කලින් ඉවාන්ට පැමිණිලි කළේ මේ ප්‍රශ්න ඇසීම ගැනය. ඒවා ගෘසෙන්කා ගැන අසන ලද ප්‍රශ්න බැවින්, අපි ඒ ගැන මෙහි දී කිසිවක් සඳහන් නො කරමු. පැය බාගයකට පස්සේ ගෙයි සියලු ම දොර කවුළු තදකොට වසන ලදි. අනතුරු ව, කලින් දක්වන ලද පරිදි, ගෘසෙන්කා පැමිණි බව දන්වන, පස් වරක් දොරට ගැසීමේ සංඥව ඇසෙන තෙක් මහල්ලා උමතු වූවකු මෙන් විසිත්තකාමරය පුරා ඒ මේ අතට සක්මන් කරන්නට විය. වරින් වර ඔහු අඳුරු වැටුණු කවුළු තුළින් එබී බැලුවේ ය. පිටත පැවැති ගන අඳුර මිස ඔහුට පෙනෙන කිසිවක් නො පෙනේ.

දන් රෑ බෝ වී බොහෝ වේලා ය. තවමත් නිදා නොගත් ඉවාන් කල්පනා කරමින් සිටියේ ය. ඔහු නිදා ගත්තේ රාත්‍රී

දෙකට ය. එහෙත් එ වේලේ ඉවාන් තුළ ඇති වූ අදහස් ගැන අපි මෙහි දී විස්තරයක් නො කරමු. ඔහු ගේ ආත්මය තුළට එබී බලා විභාග කිරීමට මෙ තැන නො තැන ය. ඊට සුදුසු අවස්ථාවක් පැමිණෙනු ඇත. ඉවාන් ගේ සිතිවිලි ගැන විස්තරයක් කිරීමට අදහස් කළත් සාර්ථක නො වන්නේ ඒවා නියම සිතිවිලි නො වන හෙයිනි. ඔහු ගේ සිතේ ඇති වූයේ නො පැහැදිලි නොසන්සුන් කමක් පමණි. එ වේලේ සිතිවිලි එක්තැන් කර ගැනීමට තරම් ශක්තියත් තමාට නැතැයි ඔහුට පෙනිණි. තමා කිසි සේත් බලාපොරොත්තු නොවූ අද්භූත ආශාවන් නිසා ඔහුට මහත් කරදරයක් ඇති විය. නිදසුනක් වශයෙන් කියතොත්, ඒ මැදියම් රෑ, උඩුමහලෙන් බැස, මහ දොර ඇර ගෙන එළියට ගොස් දසයන් ගේ ගෙට ඇතුළු වී පැවල්ට පහර දීමට තරම් ඔහු තුළ දැඩි ආශාවක් ඇති විය. එ වැනි ආශාවක් ඇති වූයේ මන්දැයි ඔහු තමාගෙන් ම ප්‍රශ්න කළොත් ඊට නිසි පිළිතුරක් දීමට ඉවාන් අපොහොසත් වනු ඇත. දිය හැකි එක ම පිළිතුර නම්, තමාට අපහාස කළ නිසා සේවකයා කෙරෙහි දැඩි පිළිකුලක් ඇති වූ බව ය. ලෝකයේ වෙන කිසි ම කෙනෙක් ඔහුට මෙ තරම් අපහාස කර නැත. අනෙක් අතින්, එ දින රෑ කීපවරක් ම ඔහු තුළ වචනයෙන් විස්තර කළ නො හැකි නින්දිත භීතියක් ඇති විය. ඒ භීතිය ඇති වූ හැම විට ම ඔහු ගේ ඇඟපත පණ නැති විය. හිස කැකියන්නට විය. ක්ලාන්ත ගතියක් ඇති විය. යම් කිසිවකුගෙන් පළි ගැනීමට මෙන් ඔහු ගේ සිතේ දැඩි කෝපයක්, වෛරයක් ඇති විය. අලෝෂා සමග කළ කතාව සිහි කළ ඉවාන් තුළ අලෝෂා කෙරෙහි වෛරයක් ඇති විය. ඇතැම් විට තමා සමග කෝප විය. කැතිරිනා ගැන ඉවාන්ට සම්පූර්ණයෙන් ම අමතක විය. පසු කල ඉවාන් ඒ ගැන පුදුම වූයේ තමා මොස්කව් නුවරට යන බව කියා එ දින උදේ කැතිරිනාට උදම් ඇනූ විට සිත යටින් "නැහැ නැහැ, උඹට කැතිරිනා අත්හැර යන්න බැහැ"යි තමාට ම කියා ගත් නිසයි.

බොහෝ කාලයකට පස්සේ එම රාත්‍රිය ගැන සඳහන් කළ ඉවාන්, තමා හදිසියෙන් ම නිදා සිටි සෝපාවෙන් නැඟිට, කිසිවකුට පෙනේ ය යන බියෙන්, සොරෙන් දොර ඇරගෙන, තරප්පුව දිගේ පහතට බැස, විසිත්ත කාමරයේ පියා ඒ මේ අතට ඇවිදින හඬට සවන් දුන් සැටි සිහි කළේ සිතේ හටගත් පිළිකුලින් යුතු ව ය. මිනිත්තු පහක් පමණ වේලා පසුව ගැහෙමින් පියා දෙස බලා සිටි සැටි සිහි කෙළේ ය. තමා මෙසේ කළේ මන්දැයි ඔහු නොදත්තේ ය. මේ 'ක්‍රියාව' තමා විසින් මුළු ජීවිතයට ම කළ ඉතා ම පහත් නීච ක්‍රියාවක් යයි ඔහු පසු ව කල්පනා කෙළේ ය එ වේලේ ඉවාන් පියාට වෛර නො කෙළේ ය.

කිසියම් හේතුවක් නිසා ඔහුට උවමනා කළේ පියා ඇවිදින්නේ කෙසේ ද? පියා කුමක් කරන්නේ ද?යි දැන ගැනීමට පමණි. පියා අඳුරු කවුළු තුළින් එබී බලන සැටි, කාමරය මැදට වී, පැවල් ගෘසෙන්කා පැමිණි බව දන්වමින් දොරට ගසන තුරු නො ඉවසිල්ලෙන් සිටින සැටි, ඔහුට මනසින් පෙනෙන්නට විය. මෙසේ පියා ගැන විපරම් කිරීම පිණිස ඉවාන් දෙවරක් ම තරප්පුව බැස ගියේ ය.

එදා ඉවාන් නිදා ගැනීමට ගියේ රාත්‍රි දෙකට පමණ හැම දෙයක් ම නිහඬ වූ පසුව ය. වෙනෙකක් තබා පියා ද නිදා ගත් පසු ව ය. අධික විඩාවෙන් පීඩාවට පත් ඉවාන් සයනයට ගියේ එක් වර ම නිදා ගැනීමේ අදහසිනි. එක්වර ම නිදා ගත් හෙතෙම සිහිනවලින් තොර ව උදේ හත වන තෙක් දරකොටයක් මෙන් සුව සේ නිදාගත්තේ ය. උදේ අවදි වූ ඉවාන් තමා තුළ අසූරු ශක්තියක් තිබෙන බව දැක පුදුම විය. වහා ඇඳෙන් බැස ගත් හෙතෙම ඇඳ පැළඳ, ට්‍රන්ක් පෙට්ටිය එළියට ගෙන, ගමනට උවමනා ඇඳුම් පැළඳුම් පිළියෙළ කරගත්තේ ය. වංස-නාවට වාගේ පෙර දින උදේ ඔහුට රජක ස්ත්‍රියගෙන් ඔහු ගේ ඇඳුම් ලැබිණි. පමා නො වී මොස්කව් නුවර බලා යාමට උවමනා හැම දෙයක් ම කල් ඇති ව ලැබීම ගැන ඔහු ප්‍රීති විය. මෙසේ ගම අත් හැර යාම හදිසියෙන් ම සිදු වූ දෙයකි. ඔහු පෙර දින (කැතිරිනාටත්, අලෝෂාටත්, පැවල්ටත්) කීවේ අනෙක් සතියේ දී ගම හැර යන බව ය. නිදා ගැනීමට යන විටද ඔහුට ඒ බව මතක තිබිණි. තමා උදේ අවදි වූ වහා ම කරන පළමු වන දෙය ගම හැරයාමට සූදානම් වීම යයි, ඔහු පෙර දින සයනයට යන විට සිහිනෙන් වත් නොසිතුවේ ය. අන්තිමේ දී ගමනට උවමනා ඇඳුම් පෙට්ටි ආදිය සූදානම් කොට අවසන් විය. සිරිත් පරිදි උදේ නවයට පැමිණි මාපා "තමුන්නාන්සේ තේ-වතුර බොන්නේ නිදන කාමරයේ ද? නැති නම් පහළ ද?"යි ඇසුවා ය. එ වේලේ ඉවාන් ප්‍රීතියෙන් සිටියත් ඔහු ගේ කතාවේ හා ඉරියව්වල නොසන්සුන් කමක් දකින්නට තිබිණි. උඩ කාමරයේ සිට පහතට පැමිණි ඉවාන්, පියාට ආදරයෙන් කතා කොට, වෙසෙසින් ම සුව දුක් විමසුවේ ය. එහෙත් පියා ගේ පිළිතුරට අවසන් වන තෙක් සවන් නුදුන් හෙතෙම, පැයකින් පමණ තමා මොස්කව් නුවර බලා පිටත් වන බවත්, මීට පසු ආයෙත් ගමට නො එන බවත්, පවසා රථය සූදානම් කිරීමට නියම කරන ලෙස පියාගෙන් ඉල්ලා සිටියේ ය. පුතා ගේ හදිසි ගමන ගැන තමා තුළ කිසි ම පුදුමයක් ඇති වූ බව මහල්ලා නො හැඟෙව්වේ ය. තමා ගේ ආදරණීය පුතා හිටි හැටියේ ම

සඳහට ම ගම හැර යාම ගැන කනගාටුව පලකිරීම, නොනිසි ලෙස අමතක කල මහල්ලා ඒ වෙනුවට ඔහු ගේ ඉතා වැදගත් ගනුදෙනුවක් ගැන කතා කරන්නට විය.

"උඹ හරි මිනිහෙක් නොවැ! ඇයි යන බව ඊයේ නොකිව්වේ? කමක් නැහැ. අපි කොහොමහරි ඒක කරගන්නම්. පුතා උඹ මට ලොකු උපකාරයක් කරන්න ඕනෑ. යන ගමන් චමස්නියා-වට පලයන්. වොලෝවා ස්ටේෂමෙන් බැහැලා, දකුණට හැරිලා, හැතැම්ම දහයක් ගියාම චමස්නියාවට ගිය හැකියි."

"බොහො ම කනගාටුයි, යන්න පුළුවන් කමක් නැහැ. මෙහෙ ඉඳලා ස්ටේෂමට හැතැම්ම අසූවක් විතර යන්න තියෙනවා. මොස්කව් නුවරට යන කෝච්චිය පිටත් වෙන්නේ සවස හතටයි. කෝච්චිය අල්ලන්න යන්තම් වෙලා ඇති."

"මොස්කව් නුවරට යන්න පුළුවනි හෙට නැති නම් අනිද්දට. අද කොහොමහරි මේ ගමන ගිහින් මගේ වැඩේ කරලා දීපන්. උඹට කිසි ම පාඩුවක් වෙන්නේ නැහැ. නිවාඩුවක් තියෙනවා නම් මෙලහකට මම මේ ගමන ගිහින්. මේක ඉක්මනට කළ යුතු බොහො ම වැදගත් ගනුදෙනුවක්. දැන් මට ගම හැර යන්න පුළුවන් කමක් නැහැ......................මට චමස්නියාවේ තියෙනවා කැලෑ ඉඩම් දෙකක්. ලී වෙළෙඳාම කරන මස්ලෝයි, එයා ගේ පුතායි ලීවලට රූබල් අට දහක් දෙන්න අහනවා. ගිය අවුරුද්දේ මට ලී වෙළෙන්දෙක් රූබල් දොළොස් දහක් දෙන්න ඇහැව්වා. නමුත් මිනිහා ඒ පළාතේ වෙළෙන්දෙක් නො වෙයි. අන්න ඒක තමයි තියෙන වැරැද්ද. මස්ලෝ ළඟ බොහො ම සල්ලි තියෙ වා. මිනිහා මුළු පළාතේ ම වෙළෙඳාම අල්ලගෙන පිටගම්කාරයන් මස්ලෝ එක්ක තරගෙට වෙළෙඳම් කරන්න ඉදිරිපත් වෙන්නේ නැහැ. ඉතින් මස්ලෝ ඉල්ලන ගණනකට අපේ ලී විකුණන්න ඕනෑ. ගිය බ්‍රහස්පතින්ද ගොර්කින් කියා ලී වෙළෙන්දෙක් ගමට ආවාය කියා මට ඉලින්කෝවේ පූජකයා ගෙන් ලියුමක් ලැබුණා. මම මේ මිනිහා අඳුනනවා. මිනිහා ඒ පළාතේ කෙනෙක් නොවෙන නිසා මස්ලෝට භය නැහැ. මිනිහා මගේ ලීවලට රූබල් එකොළොස් දහක් දෙන්න කැමැතියි. උඹට ඇහුණා නේ ද? නමුත් මිනිහා සුමානෙකට වඩා ඉන්නේ නැති ලු. දැන් ම ගියොත් කොහොමහරි ගනුදෙනුව කරගන්න පුළුවනි."

'පූජකයාට ලියුමක් යවන්න. එයා ගනුදෙනුව සම්පූර්ණ කරාවි."

"පූජකයාට බැහැ වැඩේ කරන්න. අන්න ඒකයි වැරැද්ද. මිනිහට ගනුදෙනු කරලා පුරුද්දක් නැහැ. මිනිහා බොහෝ ම අවංකයි. කිසි ම ලියවිල්ලක් නැති ව මම දෙන්නම් මිනිහට රූබල් විසිදහක් තියා ගන්න. මිනිහා සතේකටවත් වංචා කරන්නේ නැහැ. නමුත් වෙළදොම අතින් මිනිහට කිසි ම දැනුමක් නැහැ. හරියට පොඩි ළමයෙක් වගෙයි. කපුටකුට වුණත් පුළුවනි රවටන්න. ඒකට මොකද මිනිහා ලොකු උගතා. අනෙක් අතින් ගොර්කින් කියන ඔය වෙළෙන්ද බැලුවහම නිකම් මොකවත් නොදන්නා ගොඩයෙක් වගෙයි. නමුත් රටේ අමාරුකාරයා. ඒක තමයි තියෙන කරදරය. ඒ වගේ ම බොරු කියන්වත් මිනිහා ගජ හපනා. මට මිනිහා ගිය අවුරුද්දේ කිව්වා, ගැනි මැරිලා දෙවන කසාදයකුත් කරගත්තය කියා. මිනිහා කිව්වේ අමූලික බොරුවක්. ගැනි මළේ නැහැ. තවමත් ඒ ගෑනි ජීවත් ව ඉන්නවා. ගැනි මිනිහට සුමානයකට දෙපාරක් හොඳට ම තළනවා. ඉතින් උඹ ගිහින් බලන්න ඕනෑ රූබල් එකොළොස් දහකට අපෙන් ලී ගන්නව කියා මිනිහ කරන්නේ ඇත්තක් ද, බොරුවක් ද, කිය යි."

"මටත් මේ වගේ ගනුදෙනු කරලා කිසි ම පුරුද්දක් නැහැ."

"ටිකක් හිටපන්, උඹට මේ වැඩේ ලෙහෙසියෙන් ම කරන්න පුළුවනි. ගොර්කින් කියන්නේ ඇත්ත ද බොරු ද කියා දැන ගන්න පුළුවන් ක්‍රමයක් මම කියන්නම්. මම බොහෝ ම කාල-යක් මිනිහ එක්ක ගනුදෙනු කරල තියෙනවා. මිනිහ ගේ අදහස් දැනගන්න නම් මිනිහ ගේ රැවුල දිහැ බලන්න ඕනෑ. මිනිහට තියෙනවා බොහෝ ම කෑත දිග රතු රැවුලක්. මිනිහා කතා කරන කොට රැවුල වැනෙනවා නම්, තරහ යනවා නම්, අන්න එතකොට දැනගන්න පුළුවනි මිනිහා ඇත්ත කියන බව. එහෙම නැති ව මිනිහා වම් අතින් රැවුල අතගා හිනාවුණොත්, අන්න එතකොට දැනගන්න පුළුවනි මිනිහා වංචාවක් කරන්න සූදානම් වන බව. මිනිහ ගේ ඇස් දිහැ බලන්න එපා. ඇස්-වලින් කිසි ම දෙයක් දැන ගන්න බැහැ. මම මිනිහට ලියුමක් දෙන්නම්. මිනිහ ගේ නියම නම ලෙයාගෙව්, නමුත් ඒ නමින් කතා කරන්න එපා, මිනිහට කේන්ති යනවා. උඹ මිනිහා එක්ක ගනුදෙනුව ගැන තීරණයකට බැහැගත්තොත් මට වහා ම ලියුමක් එවාපන්. 'මිනිහා කරන්නේ බොරුවක් නො වෙයි' කියා ලිව්වාම ඇති. එකොළොස් දහ ම ගන්න බලාපන්. බැරි වුණොත් දහක් අඩුකරපන්. අට දහයි, එකොළොස් දහයි, අතර ලොකු වෙනසක් තියෙනවා. තුන් දහක් වැඩිපුර ලැබෙනවා. ඊට වැඩිය තඹයක්වත් අඩු කරන්න එපා. එකොළොස් දහකට ගැනුම්කාරයෙක් හොයා ගන්න එක ලෙහෙසි නැහැ. මේ දවස්වල

මට බොහො ම මුදල් හිගයි. ගනුදෙනුව හරියන බව දන්වා මට උඹෙන් ලියුමක් ලැබුණු හැටියේ ම මම ගිහින් මිනිහගෙන් මුදල් ගන්නම්. මඹු කොහොම හරි යන්නම්. නමුත් පූජකයා ගේ කතාව විශ්වාස කරගෙන ගිහින් ඇති ප්‍රයෝජනය මොකක් ද? ඉතින් පුතා කොහොම හරි මගේ වැඩේ කරල දෙනව නේද?''

''බොහො ම කනගාටුයි, මට වෙලාවක් නැහැ.''

''උඹේ තාත්තාට පොඩි උදව්වක් කරන්න බැරි ද? මට කවදාවත් ඒක අමතක වෙන්නේ නැහැ. උඹලා එක්කෙනකුට වත් හිතක් පපුවක් නැහැ. ඒක තමයි උඹලා ගේ වැරැද්ද. උඹට දවසක් දෙකක් මේ වෙනුවෙන් ගත කරන එක ලොකු දෙයක් ද? කොහෙ ද උඹ යන්නේ ? වෙනීසියට යනව ද? වෙනීසියට යන්න දවසක් දෙකක් පමා වුණාට කමක් නැහැ. මට පුළුවනි අලෝෂා යවන්න. නමුත් අලෝෂා ගෙන් ඇති ප්‍රයෝජනයක් නැහැ. අලෝෂා ගනුදෙනු ගැන කිසි ම දෙයක් දන්න මිනිහෙක් නො වෙයි. මම උඹව යවන්නේ උඹට මේ වැඩේ කරන්න පුළුවන් නිසයි. උඹ ලී වෙළඳාම ගැන කිසි ම දෙයක් දන්නේ නැහැ. නමුත් උඹට මොළය තියෙනවා. උවමනා කරන්නේ ගොර්කින් කියන්නේ ඇත්තක් ද? බොරුවක් ද? කියා දැන ගැනීම පමණයි. ඒකට මිනිහ ගේ රැවුල ගැන හොඳුවාවෙන් හිටියාම හරි ''

''එහෙනම් තාත්තා ගේ කල්පනාව මාව ඒ කාලකණ්ණි ගමට යවන්න ද?''යි ඉවාන් ඇසුවේ දුෂ්ට සිනාවකින් මුව සරසාගෙන ය.

සිනාවේ රැඳුණු දුෂ්ටකම නුදුටු මහල්ලා සිනාවට රැවටුණේය.

''එහෙනම් උඹ යනව ද ? මම ඉක්මනට ලියුමක් ලියා දෙන්නම්.''

''මට කියන්න බැහැ යනව ද නැද්ද කියා. ඒ ගැන මග දී කල්පනා කරලා බලන්නම්.''

''මග දී නො වෙයි දැන් ම තීරණයකට බැහැගනින්. වැඩේ හරිගියොත් ලියුම්කෑල්ලක් ලියා පූජකයාට දීපන්. මිනිහා මට වහා ම ලියුම එවාවි. ඊට පස්සේ ඕනෑ තැනක පලයන්. තානායමට යන්න පූජකයා උඹට අශ්වකරත්තයක් ලෑස්ති කරලා දේවි.''

අතිශය ප්‍රීතියට පත් මහල්ලා වහා ලියුමක් ලියා, අශ්ව කරත්තය සූදානම් කිරීමට නියම කොට, බ්‍රැණ්ඩි සමඟ උඳේ හීල

ගත්තේ ය. ප්‍රීතියෙන් සිටින විට පියෝදර් කරමසෝ ලෝභ කමින් තොර ව කෑම් පීම් කරන්නෙකි. එහෙත් අද ඔහු පරිස්සමින් කටයුතු කරයි. මිතියා ගැන ඔහු වචනයක්වත් නොකීවේ ය. ඉවාන් ගම අත්හැර යාම ගැන ශෝක නො වී ය. ගම හැර යන තමාට කුමක් කිව යුතු දැයි නො දන පියා පසුතැවෙන බව ඉවාන් දුටුවේ ය. "තාත්තාට මාව පෙන්නන්න බැරි ව ඇති"යි ඔහු කල්පනා කෙළේ ය. මහල්ලා නොසන්සුන් වූයේ පුතා සමග පඩිපෙළ ළඟට යන විට ය. ඔහු ඉවාන් ගේ මුව සිඹිමට සැරසිණි. ඊට පෙර ඉවාන් පියාට අත දී සමුගත්තේ ය. ඉවාන් මුහුණ සිඹිනවාට අකැමැති බව දනගත් මහල්ලා වහා සිත මැඩ ගෙන පුතාට අත දුන්නේ ය.

"උඹේ ජීවිතය වාසනාවන්ත වේවා"යි ඔහු පඩි පෙළ උඩ සිට කීවේ ය. "මා මැරෙන්න ඉස්සෙල්ලා මා බලන්න ආයේත් ගමට එනවා නේ ද? මං හිතන්නෙ නැහැ උඹ ඒවිය කියා. එනවා නම් මම බොහො ම කැමැති යි. උඹට දෙයියන් ගේ පිහිටයි."

ඉවාන් කරත්තයට නැග හිඳ ගත්තේ ය.

"ආයුබෝවන් පුතා. මට ඔය තරම් නපුරු කම් කරන්න එපා"යි මහල්ලා අවසන් වරට කෑ ගා කීවේ ය.

ගෙදර සිටින සේවකයෝ, එනම් පැවල්, ගිරිගෝරිස් හා මාපා, ඉවාන් ගෙන් සමුගැනීමට පැමිණියහ. ඉවාන් එකකුට රුබල් දහය බැගින් දුන්නේ ය. ඉවාන් කරත්තයට නැග හිඳ ගත් වහා ම පැවල් කම්බිලියක් ගෙන කකුල් වැසුවේ ය.

"උඹ දන්නව ද මම චමස්නියාවට යනවා"යි ඉවාන් හිදිසියෙන් ම පැවල්ට කී ය. මෙ දින ද පෙර දින මෙන් මේ වචන ඔහු ගේ මුවෙන් නිතැතින් ම ගිලිහුණේ ය. ඒ සමග ම ඔහු සිනාසිණි. ඔහුට මේ කතාව බොහෝ කාලයක් ගතවනතුරු සඳහන් ව තිබිණි.

"ඥානවන්තයකු සමග කතා කිරීමට ලැබීම වාසනාවක්ය' යන කතාවේ ඇත්තක් තියෙනවා" යි පැවල් ඉවාන් දෙස බලා ඉතා වැදගත් දෙයක් කියන්නාක් මෙන් කී ය.

රථය පිටත් වී ය. ඉවාන් ගේ සිත නොසන්සුන් විය. ඔහුට කිසිවක් පැහැදිලි නො වී ය. එහෙත් ඔහු මහත් ආශාවෙන් මග දෙපස කෙත් වතු, කඳුගැට, ගස් කොළන් හා නිල්වන් අහස

පුරා පියෑහඹා යන වල් තාරාවන් දෙස බැලුවේ ය. හදිසියෙන් ම ඔහු තුළ මහත් ප්‍රීතියක් ඇති විය. ඔහු රියැදුරා සමග කතා කෙළේ ය. රියැදුරා දුන් පිළිතුරු ගැන මහත් සැලැකිල්ලක් දක් වි ය. එහෙත් රියැදුරා ගේ කතාව තමාට නොඇසුණු බවත්, තමා ඇසූ ප්‍රශ්නවලට රියැදුරා දුන් පිළිතුරු තමාට නො-තේරුණු බවත්, ටික වේලාවකට පසුව ඔහුට කල්පනා විය. ඔහු නිහඬ වි ය. නිහඬ ව සිටීම ද සිතට සැනසීමකි. වාතය සිසිල්ය, ප්‍රාණවත් ය. පිරිසුදු ය. අහස දීප්තිමත්ය. අලෝෂා ගේ හා කැතිරිනා ගේ ජායාවන් ඔහු ගේ සිතේ පාවෙන්ට විය. ඔහු ඒ දයාබර ජායාවන් ඉතා සෙමෙන් සිතින් එළවා දම්මේ මුවගට නගා ගත් සිනාවකින් යුතු ව ය. "මේවා ගැන පසු ව කල්පනා කරන්න පුළුවනි"යි ඔහු තීරණය කෙළේ ය. වැඩි වේලා යන්නට පෙර තානායමට පැමිණි ඉවාන් අසුන් මාරු-කොට වොලෝවාව බලා පිටත් විය. "ඥානවන්තයකු සමග කතා කිරීමට ලැබීම වාසනාවක් වන්නේ කොහෙම ද? පැවෙල් මේ කතාව කීවේ කුමන අදහසක් ඇතිව ද?" මෙසේ කල්පනා කරනවාත් සමග හදිසියෙන් ම ඔහුට හුස්ම හිරවූවාක් මෙන් දැනිණි. "මම චමස්නියාවට යන බව පැවෙල්ට කිව්වේ මත් ද?"යි ඔහු කල්පනා කෙළේ ය. වොලෝවා තානායමට පැමිණ කරත්තයෙන් බැස්ස ඉවාන්, කරත්තකාරයන් විසින් වට කර ගන්නා ලදී. සැතැපුම් දොළහක් ඇතින් පිහිටි චමස්නියාවට ඉවාන් සමග යාමට ඔවුහු තරග වූහ. ගමන් කුලිය ගැන කේවල් කළහ. කරත්තය සූදානම් කරන ලෙස නියම කොට තානායමට ගිය ඉවාන් තානායම්පාලකයා ගේ බිරිය දැක, හදිසියෙන් ම ආපසු හැරී එළියට ගියේ ය.

"මම චමස්නියාවට යන්නේ නැහැ. මට සවස හතේ කෝච්චිය අල්ලන්න පුළුවන් වේද?"යි ඔහු ඇසුවේ ය.

"හතේ කෝච්චිය අල්ලන්න පුළුවනි. අපි කොහොම හරි තමුන්නාන්සේ වෙලාවට ස්ටේෂමට ගිහින් බස්සන්නම්. කරත්තය බඳින්න ද ?"

"දැන් ම කරත්තය බැඳපන්. උඹලා කවුරු හරි හෙට ටවුමට යනව ද?"

"ඔව් මිත්‍රී යනවා."

"මිත්‍රී උඹට පුළුවන් ද මට උපකාරයක් කරන්න? මගේ තාත්තා පියෝදර් පවුලෙවිච් කරමසෝ මහත්මයා හමුවෙලා මා චමස්නියාවට නොගිය බව කියන්න පුළුවන් ද?"

"පුළුවනි, තමුන්නාන්සේ ගේ තාත්තා මම බොහො ම කාල-යක ඉඳලා හොඳට අඳුනනවා."

"මෙන්න උඹේ මහන්සිය. පණිවිඩය කිව්වට උඹට තාත්තා ගෙන් තඹයක්වත් ලැබෙන්නේ නැහැ"යි ඉවාන් සිනාසෙමින් කී ය.

"ඔව් ඒක ඇත්ත"යි මිත්‍රී ද සිනා සෙමින් කී ය. "මම තමුන්නාන්සේ ගේ පණිවිඩය කියන්නම්."

ඉවාන් සවස හතේ දුම්රියේ නැගී මොස්කව් නුවර බලා පිටත් විය. "අතීතය අවසානයි. මම මගේ පැරැණි ලෝකය සම්පූර්ණයෙන් ම අවසන් කෙළෙමි. ඒ ලෝකය ගැන ආරන්චි-යක්වත්, දෝංකාරයක්වත් නොඇසේවා. මම අලුත් ලෝකයකට පා තබමි. අලුත් ස්ථානවලට යමි. ආපසු නො බලමි." එහෙත් ප්‍රීතිය වෙනුවට ඔහු ගේ සිත ශෝකයෙන් අඳුරු විය. මීට පෙර විඳ නුපුරුදු දුඛ වේදනාවෙන් සිත පීඩිත විය. ඔහු රෑ නිදි නො ලැබ කල්පනා කෙළේ ය. දිනය උදාවනවාත් සමග ම දුම්රිය මොස්කව් නුවරට ළගා විය ඔහු ගේ සිතට මඳ විවේක-යක් ලැබුණේ ඉන් පසුව ය.

"මම මහ තක්කඩියෙක්"යි ඉවාන් තමාට ම කියා ගත්තේ ය.

පුතා ගම හැර යාම ගැන පියෝදර් කරමසෝ සිත යටින් ප්‍රීති විය. පුරා පැය දෙකක් ඔහු බ්‍රැණ්ඩි බොමින් ඒ ප්‍රීතියේ සුවය වින්දේ ය. ගෙදර හැම දෙනාට ම මහත් කරදරයක් වූ අප්‍රසන්න දෙයක් හදිසියෙන් ම සිදුවී ය. මේ සිද්ධිය නිසා මෙතෙක් වේලා ප්‍රීතියෙන් සිටි මහලු කරමසෝ ගේ සිත සම්-පූර්ණයෙන් ම අවුල් විය. යම් කිසිවක් ගැනීම පිණිස කැඩැන්ගුවට නැග ගත් පැවල්, පඩි පෙළ දිගේ පහළට ඇද වැටුණේ ය. මිදුලේ සිටි මාපාට වාසනාවට මෙන් පැවල් වැටෙන හඬ ඇසිණි. පැවල් වැටෙනවා ඇ නුදුටුවා ය. එහෙත් ඔහු නැගූ විලාපය ඇයට ඇසිණි. මීමැස්මොරකාරයකු සිහි නැති ව වැටෙන විට නැගෙන බියකරු විලාපය මාපා මීට පෙර අසා තිබිණි. පඩි පෙළ නගින විට පැවල්ට මීමැස්මොරය හැදී සිහි නැති ව වැටුණේ ද? නැති නම් වැටීමේ ප්‍රතිපලයක් වශයෙන් මීමැස්මොරය හැදුණේද?යි ඔවුන්ට කිව නො හැකි ය. කටින් පෙණ දමා ගෙන පඩි පෙළ මුල සිහි නැති ව දඟලන පැවල් ඔවුහු දුටහ. වැටීමෙන් අතක් හෝ පයක් හෝ කැඩෙන්නට ඇතැයි ඔවුහු කල්පනා කළහ. මාපා ගේ කල්පනාවේ හැටියට දෙයියන් ගේ පිහිටෙන් එ වැනි දෙයක් සිදු නො වී ය. එහෙත් පැවල් කාමරයෙන් එළියට ගත නො හැකි වූයෙන් අසල්වාසීන් ද

කැඳවීමට සිදුවිය. තැති ගෙන නො සන්සුන් වී සිටි කරමසෝද පැවල් උස්සා ගැනීමට උපකාර විය. රෝගියාට සිහිය නොලැබුණේ ය. එහෙත් ටික වේලාවකට පස්සේ ගැස්ම නැවතිණි. අනතුරුව ආයේත් ගැස්ම පටන් ගත් හෙයින්, පැවල් හවුරුද්දකට පෙර උඩුමහලේ සිට වැටීමෙන් සිදු වූ දෙය ම නැවත සිදු වෙතියි කවුරුත් කල්පනා කළහ. එදා පැවල් ගේ හිසට අයිස් පැබූ බව ඔවුන්ට සිහි විය. ගෙදර අයිස් නොතිබිණි. එහෙත් මාපා අයිස් ගෙන්වා ගෙන පැවල් ගේ හිස සිසිල් කළා ය. සවස මහලු කරමසෝ, දෙස්තර හේසන්ට්‍යුබ් කැඳෙව්වේ ය. (දෙස්තර හේසන්ට්‍යුබ් අපේ පළාතේ සිටිය වයසට ගිය ඉතා ම දක්‍ෂ දෙස්තර ලෙස පිළිගන්නා ලදි.) ලෙඩා සෝදිසි කළ දෙස්තර, රෝගය අසාධ්‍ය බවත්, එය නරක අතට හැරෙන්නට පුළුවන් බවත්, දැනට රෝගය හරිහැටි තේරුම් ගත නොහැකි බවත්, දෙන ලද බෙහෙත්වලින් හෙට එළිවන විට සුවයක් නො ලැබුණොත් අලුත් වෙදකමක් කිරීමට සිදුවන බවත්, පැවැසී ය. ගිරිගෝරිස් හා මාපා නිදන කාමරයට යාබද ව ඇති අනෙක් කාමරයට පැවල් ගෙන ගියහ. එදා මහලු කරමසෝට ඉතා අවාසනාවන්ත දිනයක් විය. එක කරදරයක් පිට තවත් කරදර යක් පැමිණියේ ය. එදා රාත්‍රී භෝජනය පිළියෙළ කරන ලද්දේ මාපා විසිනි. ඈ පිළියෙළ කළ සුප්එක ඉදුල් වතුරට සමාන ය. කුකුළු මස් අගුරුවන තරමට පුළුස්සා තිබිණි. ස්වාමියා ගේ යුක්තිසහගත අවලාදවලට පිළිතුරු දුන් මාපා කුකුළා වයසට ගිය එකකු බවත්, තමා කැම පිසීමට පුහුණුවක් ලබා නැති බවත් කීවා ය. සවස් වන විට ගෙහිමියාට තවත් ඇබැද්දියක් විය. දවස් දෙක තුනක සිට මඳ අසනීපයෙන් සිටිය ගිරිගෝරිස්ට කටීවාතය නිසා නැගිට ගත නොහැකි බව ඔහුට ආරන්චි විය. වේලාසනින් ම තේවතුර බී අවසන් කළ මහලු කරමසෝ තනියෙන් ම ගෙය ඇතුළට වී, දොර කවුළු වසා ගත්තේ ය. ඔහු දැඩි නො සන්සුන් කමකින් හා කුතුහලයෙන් පසුවිය. එදින රෑ ගෲසෙන්කා පැමිණෙතැයි ඔහු දැඩි ව විශ්වාස කෙළේ ය. 'ගෲසෙන්කා නො වරදවා එන බව' එදින උදේ ඔහුට පැවල් ගෙන් සහීර ව දැනගන්නට ලැබිණි. මේ නො හික්මුණු මහල්ලාගේ සිත ආශාවෙන් ගැහෙන්නට විය. හිස් වූ කාමරය තුළ ඒ මේ අතට සක්මන් කරන්නට වූ මහලු කරමසෝ පිටතින ඇසෙන හැම ශබ්දයකට ම සවන් දුන්නේ ය. ඔහු පරිස්සමින් සිටිය යුතු ය. සමහර විට මීතියා සැඟැවී ගෲසෙන්කා බලාපොරොත්තු ව සිටින්නට පිළිවන. ඈ දොරට තට්ටු කළ වහා ම දොර ඇරිය යුතු ය. (දොරට තට්ටු කළ යුතු සැටිත්, තට්ටු කළ යුතු දොර තිබෙන තැනත් ගෲසෙන්කාට පෙන්නා දී තිබෙන බව දෙදිනකට

පෙර පැවල් සවාමියාට දැනුම් දුන්නේ ය.) මොහොතකටවත් ගෘසෙන්කාට එළියේ සිටින්නට ඉඩ දිය නො යුතුයි. සමහරවිට ඇ තැති ගෙන පැනයන්නට පුළුවනි. මෙසේ මහල්ලා නොයෙක් දේවල් ගැන කල්පනා කෙළේ ය. එහෙත් ඔහු කිසි ම දවසක මෙ තරම් කාමුක බලාපොරොත්තුවෙන් නො සිටියේ ය. මෙද ගෘසෙන්කා නො වරදවා ම පැමිණෙන බව ඔහුට නිසැකව ම කිව හැකි ය.

## හය වන ග්‍රන්ථය

# තවුසා ගේ ආත්මකථනය

### පළමු පරිච්ඡේදය

### සොසිමා තවුසා සහ එතුමා ගේ අමුත්තෝ

ශෝකයෙන් කකියන අවුල් වූ සිතින් සොසිමා තවුසා ගේ කුටියට ගිය අලෝෂා විස්මයෙන් ගල්ගැසිණි. සිහි නැති ව මරණාසන්න ව සිටින්නකු වෙනුවට තරුණයාට දකින්නට ලැබුණේ පුටුවක හිඳ අමුත්තන් වට කර ගෙන, සන්සුන් සිතින් හා සොම්නසින් පිළිසඳර කතාවේ යෙදී සිටින්නෙකි. විඩාවෙන් හා දුබල කමින් මැලවුණු තවුසා ගේ මුහුණ සොම්නසින් ආලෝක විය. එතුමා සයනයෙන් නැගිට්ටේ අලෝෂා පැමිණීමට පැය කාලකට කලින් ය. එ දින උදේ පොරොන්දු වූ පරිදි තම හිතවතුන් සමග ආයෙත් වරක් කතා කිරීම පිණිස තවුසා අවදි වන බවට පියසි පියතුමා සහතික කළෙන් අමුත්තෝ තවුසා අවදිවන තෙක් කුටියෙහි රුස්ව් හුන්හ. මරණාසන්න ව සිටි තවුසා ගේ පොරොන්දුව හා එතුමා පැවැසූ හැම දෙයක් ම පියසි පියතුමා විශ්වාස කෙළේ ය. තවුසා සිහි නැති ව පණ අදිමින් සිටියත්, නැගිට කතා කරන බවට පොරොන්දු වූයේ නම්, මළවුන්ගෙන් නැගිට හෝ එම පොරොන්දුව ඉටු කරන බව පියසි පියතුමා විශ්වාස කෙළේ ය. "මගේ ආදරය දිනාගත් ඔබ හැම දෙනා ගේ අලංකාර මුහුණු දෙස බලා නැවත ආදරයෙන් කතා කොට මම නොමියෙමී"යි උදේ නිඳා ගැනීම පිණිස සයනයේ වැතිරගත් තවුසා පියසි පියතුමාට කීවේ ය. අවසාන

කතානය සඳහා කුටියේ රැස් ව සිටි පූජකවරු, හවුරුදු ගණනක් සිට ආශ්‍රය කළ බැතිමත් මිත්‍රයෝ වූ හ. ඔවුන් අතරේ වෙසෙසින් ම සැලැකිය යුතු පැවිද්දෝ හතර දෙනෙක් වූ හ. ජෝසෙප් පියතුමා, පියසි පියතුමා, තාපසාරාමයට අධිපති මිකේල් පියතුමා හා අන්පින් පියතුමා මේ වෙසෙසින් ම සැලැකිය යුතු හතර දෙනා වෙති. මිකේල් පියතුමාට වැඩි වයසක් නැති, වැඩි උගත්කමක් ද නැති. දිළිඳු පවුලක උපන්, දැඩි ආත්ම විශ්වාසයෙන් හා අචල භක්තියෙන් යුත් පුද්ගලයෙකි. එතුමා පෙනුමෙන් රළු වුව ද කරුණාවෙන් තෙත් වූ සිතැත්තෙකි. එහෙත් එතුමා ඒ කරුණාව සඟවා ගත්තේ එය හෙළි කිරීමට ලැජ්ජා වූ හෙයිනි. සතර වැනියා වන අන්පින් පියතුමා ඉතා දිළිඳු ගොවි පවුලකට අයත් මහල්ලෙකි. නූගතකු වූ ඔහු කතා කළේ ඉතා කලාතුරකිනි. නිහතමානී පූජකයන් අතරින් ඉතා නිහතමානී වූ පියතුමා තමා ගේ ඥානශක්තියෙන් අවබෝධ කර ගත නොහැකි විශාල භයානක දෙයකින් තැති ගෙන සිටින්නාක් මෙන් පෙනේ. නිතර භීතියෙන් තැති ගෙන වෙවුලමින් ගමන් කරන්නාක් මෙන් පෙනෙන මේ පූජකයාට සොසිමා තවුසා මහත් ආදරයක් දක්වී ය. එතුමා සමග තවුසා රුසියාව පුරා ඇවිද ඇතත් එතුමා සමග කතා කර ඇත්තේ ඉතා සවල්පයකි. තවුසා මේ පූජකයාට විශේෂ සැලැකිල්ලක් දක්වී ය. තවුසා මේ පූජකයා සමග රුසියාව පුරා ඇවිද්දේ මීට හවුරුදු හතළිහකට පමණ පෙර, කොස්ට්‍රෝමාවේ කුඩා දිළිඳු තාපසාරාමයක සිට පැවිදි භූමියට පිවිස අපිස් ජීවිතයක් ආරම්භ කළ කාලයේ දී ය. ඉක්බිති ව තවුසා අන්පින් පියතුමා සමග ඔවුන් ගේ දිළිඳු තාපසාරාමය වැඩි දියුණු කිරීම පිණිස රට පුරා සම්මාදමේ ගියේ ය.

මේ පිරිස තවුසා ගේ කුටියේ රැස්වී සිටියහ. තවුසා ගේ ස්ථානය තබා ඇති මෙම කුටිය ඉතා කුඩා ස්ථානයක් බව අපි ඉහත සඳහන් කෙළෙමු. සතර දෙනා හිඳගත් පසු කුටියේ ඉඩක් නැත. ඔවුහු තවුසා හිඳ සිටි අත්ඇඳි පුටුව වටේ, අනෙක් කාමර යෙන් ගෙනත් තබන ලද පුටු උඩ හිඳ සිටියෝ ය. (පොපිරි නමැති ආධුනික පූජකයා සිටගෙන සිටියේ ය.) එ වේලේ අඳුරු වැටෙමින් තිබිණි. කුටිය අලෝක වූයේ දල්වන ලද පහනින් හා සුරුවම් ඉදිරිපිට දල්වෙන ඉටිපන්දම් එළියෙනි. දොර ළඟ පුදුම යෙන් බලා සිටින අලෝෂා දුටු තවුසා සොම්නසින් සිනාසී අත දිගු කොට මෙසේ කී ය.

"එන්න දරුවා, ආපු එක බොහෝ ම හොඳයි. කොහොම හරි එන බව මම දැන සිටියා."

තවුසා ළඟට ගිය අලෝෂා සිරස නමා ආචාර කොට අඬන්නට වී ය. යම් කිසිවයක් ඔහු ගේ හදවත තුළින් මතු වී එන බව ඔහුට දැනුණේ ය. ඔහු ගේ ආත්මය වෙවුලන්නට විය. ඔහුට කෑගා අඬන්නට සිතුණේ ය.

"එන්න එන්න, දුන් ම මා ගැන අඬන්න එපා"යි තවුසා සිනාසෙමින් කීවේ අලෝෂා ගේ හිස මත අත තබමිනි. "මා මෙ තැන හිඳගෙන කතා කරනවා පේනවා නේ ද? ඊයේ මෙ තැනට කුඩා දියණිය වඩාගෙන පැමිණි මාතාව ප්‍රාර්ථනා කළාක් මෙන් මට තව අවුරුදු විස්සක් ජීවත් වන්න පුළුවනි. අහෝ දෙවියනි, ඒ මවත් ඇගේ දරුවාත් ආරක්ෂා කරන්වා... .... පොපිරි, ඇ පිනට දුන් දෙය මා කියාපු තැනට ගිහින් දුන්නා ද?" තවුසා සඳහන් කළේ පෙර දින දරුවා සමග පැමිණි ඉතිරිය, අයට වඩා දුප්පතකුට දෙන ලෙස ඉල්ලමින් තවුසාට පූජා කළ කොපෙක්ස් හැට ගැන ය. දහඩියමහන්සියෙන් හරිහම්බ කළ මුදල් මෙසේ පිනට දෙන්නෝ සිය කැමැත්තෙන් ම කර ගන්නා දඬුවමක් වශයෙනි. මෑත දී ගෙය ගිනි ගෙන අනාථ වූ වැන්දඹු ස්ත්‍රියකට දෙන ලෙස තවුසා ඒ මුදල පොපිරි අත යැව්වේ ය මෙම වැන්දඹුව දරුවන් සමග හිඟමනින් ජීවත් වූවා ය. තමාට නියම කළ පරිදි නිර්නාමික පින් කැමැත්තියක විසින් දුන් බව දන්වා ඒ මුදල අර ඉතිරියට දුන් බව පොපිරි කීවේ ය

"දරුව, නැඟිටින්න. මම උඹේ මුහුණ බැලීමට කැමැත්තියි." තවුසා අලෝෂා ළඟට යමින් කී ය. "ගෙදර ගිහින් අයියා හමුවුණා ද?"

එක සොහොයුරකු ගැන පමණක් තවුසා මෙසේ විපරම් කිරීම අලෝෂාට පුදුමයකි. එහෙත් එතුමා විපරම් කරන්නේ කොයි සොහොයුරා ගැන ද? එසේ නම් ඊයේත් අදත් මෙතුමා තමා පිටත් කර යවන්නට ඇත්තේ මේ සොහොයුරා හමුවීමට විය යුතුයි.

"මගේ සහෝදරයන් දෙදෙනා ගෙන් එක්කෙනෙක් හමු-වුණා"යි අලෝෂා කී ය.

"මා සඳහන් කළේ ඊයේ මා බිම දණ ගසා වැන්ද ලොකු අයියා ගැනයි."

"ඊයේ මට ලොකු අයියා හමුවුණා. නමුත් අද හොයාගන්න බැරිවුණා."

"ඉක්මනට ගිහින් අයියා හමු වන්න. හැම වැඩක් ම පසක තබා කොහො ම හරි හෙට ගිහින් අයියා හමුවන්න. අයියාට

වෙන්න යන විපැත්තිය දුන් වුවත් වලක්වා ගන්න පුළුවනි. මා ඒයේ දණ ගසා වැන්දේ අනාගතයේ දී ඔහු විසින් වින්ද යුතු භයානක දුකටයි.''

හදිසියෙන් ම තිහඬ වූ තවුසා කල්පනාකාරී විය. එතුමා ගේ කතාව අද්භූත ය. පෙර දින තවුසා මිතියා ඉදිරිපිට දණ ගසා වැන්ද සැටි සියැසින් දුටු ජෝසේප් පියතුමා, පියසි පිය තුමා දෙස බැලුවේ ය. සිත මැඩ ගත නොහැකි වූ අලෝෂා මෙසේ විමසුවේ ය.

''පියතුමාණෙනි, ගුරුතුමාණෙනි''යි අලෝෂා අවදි වූ හැඟි මෙන් යුතු ව ඇසුවේ ය. ''ඔබ තුමා ගේ කතාව පැහැදිලි නැහැ. ..............අනාගතයේ දී මගේ අයියාට විඳින්නට සිදුවන්නේ කොයි විදියේ දුකක් ද?''

''මේ කාරණාව ගැන එ තරම් කුහුලක් පෙන්නන්න එපා. මම ඊයේ බොහො ම භයානක දෙයක් දුටුවා..............................අයියා ගේ මුළු අනාගතය ම ඔහු ගේ දෑසින් පැවසෙන්නාක් මෙන් මම දුටුවා. ඔහු විසින් ම ඔහුට කරගන්නා විපත ඔහු ගේ නෙත් තුළින් දැක මම භීතියෙන් ගල්ගැසුණා. මිනිසකු ගේ අනාගත දෛවය ඔහු ගේ මුහුණේ ඇඳී තිබෙන සැටි මම මීට කලින් වරක් හෝ දෙවරක් පමණ දැක තියෙනවා. ඒ මිනිහා ගේ දෛවයත් ඒ විදියට ම සිද්ධවුණා. මම අලෝෂාව අයියා ළඟට යැව්වේ. අලෝෂා ගේ මුහුණ දැකීමෙන්වත් ඔහුට යහපතක් වේය යන අදහසිනුයි. අපේ දෛවය ඇතුළු හැම දෙයක් ම සිදුවන්නේ දෙවියන් වහන්සේ ගේ කැමැත්ත අනුව යි. 'ගෝධුම බීජය පොළොවෙහි වැටී නොමළොත් පල නොලැබෙයි. මළොත් බොහෝ පල දෙයි.' මේ කියමන මතක තබා ගන්න. අලෝෂා මම කීප වරක් ම තනියෙන් හිඳ නුඹේ මුහුණට ආශිර්වාද කළා''යි තවුසා ඉතා ආදරයෙන් සිනා සෙමින් කී ය. ''මට නිතර මතක් වෙන්නේ අලෝෂා ගේ මුහුණයි. අලෝෂා මේ ආශ්‍රමයෙන් පිට වී ගියත් පූජකයකු වගේ ජීවත්වනවා ඇති. නුඹට බොහො ම සතුරන් සිටින්න පුළුවනි. නමුත් ඒ සතුරන් පවා නුඹට ආදරය කරනවා ඇති. නුඹේ ජීවිතය අවාසනාවන්ත වෙන්න පුළුවනි. ඒ අවාසනාව තුළින් සැපත ලැබේ වි. නුඹ ජීවිතයට ආශිර්වාද කොට අනෙක් අය ලවා ද ආශිර්වාද කරනවා ඇති. ඉතා ම වැදගත් දෙය එයයි. නුඹේ සවභාවයේ හැටි මෙසේ තමයි. පිය තුමනි, ගුරුවරුනි''යි කියමින් තවුසා සිනා මුසු මුහුණින් යුතු ව යළි එතුමා ගේ හිතවතුන් ඇමතුවේ ය. ''අලොෂා ගේ තරුණ මුහුණට මං මෙ තරම් කැමැති මන්ද කියා අද වන තුරු මම අලෝෂාට වත් කියා නැහැ. දන් ඒ ගැන මම විස්තරයක්

කරත්නම්. අලෝෂා ගේ මුහුණ මට අතීතය සිහි කොට, අනාගතය මෙසේ විය යුතු යයි පවසයි. කුඩා කාලේ දී මට වැඩිමල් සහෝදරයෙක් සිටියා. අවුරුදු හතේ දී ඔහු මගේ ඇස් ඉදිරිපිට මියගියා. මගේ ජීවිතය සාර්ථක කරගැනීමට මගේ සහෝදරයා මට උපකාර වූ බව පසු ව කල්පනා වුණා. ඔහු මගේ ජීවිතය කෙරෙහි බල නො පැවැත්වූයේ නම් මට කවදාවත් පූජකයකු වී මෙ වැනි උසස් තත්ත්වයකට පැමිණෙන්නට ලැබෙන්නේ නැහැ. පළමු වරට ඔහු මගේ ජීවිතයට ඇතුළු වුණේ මා කුඩා කාලයේ දීයි. දැන් මගේ ජීවිතය අවසානයේ දී මගේ සහෝදරයා නැවැත වරක් මා ළඟට පැමිණ සිටිනබව මට පේනවා. අලෝෂා ගේ මුහුණ දකින විට එක්තරා ප්‍රමාණයකට මට මගේ සහෝදරයා ගේ මුහුණ සිහි වෙනවා. මගේ ජීවිතයේ අන්තිම මොහොතේ දී සහෝදරයා සිහිකිරීම හා ධෛර්ය දීම පිණිස නැවැත ඔහු මා වෙත ඉතා අද්භූත ක්‍රමයකින් පැමිණ සිටින බව අලෝෂා දකින විට මට මතක් වෙනවා. මේ ගැන මම නොයෙක් විට පුදුම වුණා. පොපිරි, මා කියන දෙය ඇහුණා නේ ද?''යි තවුසා තමා ගේ අතවැසිකම් කරන ආධුනික පූජකයා දෙසට හැරෙමින් ඇසී ය. ''නුඹට වඩා අලෝෂාට මා ආදරය බව කියන විට නුඹෙ මුහුණ නරක් වන හැටි මම දැක තියෙනවා. නුඹට වඩා අලෝෂාට මා ආදරය මන් ද කියා දැන් දන්නවා නේද? නමුත් මම නුඹටත් ආදරෙයි. ඒ බව හොඳට මතක තියා ගන්න. නුඹ ශෝකයෙන් සිටින බව දැක මම බොහො ම කනගාටු වුණා. දැන් මිත්‍රවරුනි, මගේ සහෝදරයා ගැන තමුන්නාන්සේලාට විස්තරයක් කළ යුතුයි. මගේ සහෝදරයා තරම් අගනා වස්තුවක් මට මුළු ජීවිතයට ම ලැබුණේ නැහැ. දයාවෙන් හා ප්‍රේමයෙන් පිරි සිතින් මා දැන් මේ මොහොතේ දී මගේ මුළු ජීවිතය දෙස බලන්නේ නැවැත මුල සිට ජීවත් වන්නාක් මෙනි.''

සොසිමා තවුසා එතුමා ගේ ජීවිතයේ අන්තිම දවසේ, එතුමා බැලීමට පැමිණි හිතවතුන් සමග කළ කතාවෙන් කොටස් ලියා ආරක්ෂා කරන ලද බව මෙහි ලා සඳහන් කළයුතු ය. තවුසා ගේ මරණයෙන් කලකට පස්සේ අලෝෂා පියෝද්රවිච් කරමසෝ, මතක තිබුණු හැටියෙන් එම කතාව ලියා තැබුවේ ය. මෙය එදා තවුසා කළ කතාව ද? අලෝෂා එම කතාවට වැඩි විස්තර එකකු කෙළේ ද? නැති නම් තවුසා නොයෙක් වර කළ කතා ඊට ඇතුළත් කළේ ද? මම නොදනිමි. තවුසා එදා සවස සාමාන්‍ය දේවල් ගැන කතා කල බව අපට නොයෙක් කරුණුවලින් පෙනේ. එහෙත් අලෝෂා ගේ විස්තරයෙන් අපට පෙනෙන්නේ එ දින සවස තවුසා කතන්දරයක් කියන්නාක් මෙන් දිගට ම

එතුමා ගේ ජීවිත කතාව කරගෙන ගිය බවයි. තවුසා කිසිවකු ගේ බාධාවක් නැති ව කතා කළ බව අපට විශ්වාස කළ නොහැකියි. එතුමා ගේ හිතවතුන් කතාවට බාධා නොකළත් වරින් වර නොයෙක් දේවල් කියන්නට ඇති, ඇතැම් විට තවුසා හුස්ම ගත නොහැකි ව කතාව නතර කරන්නට ඇති. කට හඬ ඉතා දුර්වල වූයෙන් කතාව නතර කිරීමට සිදු විය. එතුමා කීප වරක් ම නැඟිට ගොස් සයනයේ වැතිර ගත්තේ ය. එහෙත් නිදා නො-ගත්තේ ය. එතුමා ගේ හිත මිතුරෝ ද එතුමා පැමිණෙන තෙක් නතර වූ හ. වරක් දෙ වරක් පමණ තවුසා ගේ කතාව නතර කරන්නට සිදුවුණේ පියසි පියතුමා බයිබලය කියවූ නිසා ය. එ දින රෑ එ තුමා මිය යන බව එහි රැස්ව සිටි කිසිවකු විශ්වාස නොකිරීම ඉතා වැදගත් කොට සැලැකිය යුතු යි. මුළු දවස ම නිදාගැනීමෙන් පසු ව තවුසාට හදිසියෙන් ම අලුත් ශක්තියක් ලැබුණාක් මෙන් දැනිණි. එතුමා බොහෝ වේලාවක් හිත මිතුරන් සමග කතා කළේ අලුතින් ලැබූ මේ ශක්තියේ පිහිටෙනි. එතුමා ගේ සිතේ අවසානය දක්වා පැවැති ප්‍රේමයෙන් මේ ශක්තිය ලැබුණාක් මෙන් පෙනිණි. එය පැවැතුණේ ඉතා සුළු වේලාවක් පමණි. ටික වේලාවකින් ම එතුමා ගේ ජීවිතය අවසන් විය...... ...........ඒ ගැන විස්තර පසු ව කියමි. දැනට අලෝෂා පියෝදරවිච් කරමසෝ කරන විස්තරය හැරෙන්නට මම කිසිවක් නො කියමි. මේ විස්තරය කෙටි ය. විඩාවක් නැති ව කියවිය හැකි ය. එහෙත් තවුසා විසින් වරින් වර කරන ලද විස්තර, අලෝෂා මේ කතාවට එකතු කර තිබෙන බව ආයේත් කිව යුතු ය.

**මිය ගිය පූජකයකු හා තවුසකු වන සොසිමා පිය තුමා ගේ ජීවිතය ගැන අලෝෂා පියෝදරවිච් කරමසෝ විසින් තවුසා ගේ ම වචනයෙන් ලියා තබන ලද සටහන්.**

(අ) සොසිමා තවුසා ගේ සහෝදරයා ගැනයි.

මගේ ආදරණීය පියවරුනි, ගුරුවරුනි, මා උපන්නේ උතුරේ ඈත පළාතක පිහිටි වී ............... නමැති නගරයකයි.

මගේ තාත්තා ජන්මයෙන් වැදගතකු වුවද උසස් තත්ත්වයක් දරුවේ නැත. වයස හවුරුදු දෙකේ දී තාත්තා මිය ගිය බැවින් මට ඔහු ගැන කිසිවක් මතක නැත. තාත්තා මගේ අම්මාට ලීයෙන් තැනූ කුඩා ගෙයක් ද, ඇය ගේ දරුවන්ට හා ඇයට නඩත්තුවීමට ප්‍රමාණවත් ධනයක් ද තබා මිය ගියේය. අපේ පවුලේ දරුවෝ දෙදෙනෙක් වූ හ. මගේ අයියා වන මාකල් හා මාත් ය. මාකල් මට වඩා හවුරුදු අටකින් වැඩිමල් ය. අයියා වහා කිපෙන සවභාවයෙන් යුක්ත වුව ද, දයාවෙන් පිරි හදවතක් ඇත්තෙකි. ඔහු කිසිවකු ගේ සිත රිදෙන කිසිවක් කිව්වේ නැත. ගෙදර දී අයියා මා සමග හෝ, අම්මා සමග හෝ, වැඩකාරයන් සමග හෝ, වඩා කතාකළේ නැත. ඔහු හොඳට ඉගෙන ගත්තේ ය. පාසල් සිසුන් සමග කලහ නොකළත් වැඩි මිත්‍ර කමක් දක්වූයේ නැත. ඒ බව මට අම්මා කීවා ය. අයියා මිය යාමට මාස හයකට කලින්, එ නම් හවුරුදු දහ හතේ දී නිදහස් චින්තකයකු වීමේ වරදට මොස්කව් නුවරින් අපේ ගමට පිටුවහල් කරන ලද දේශපාලනඥයකු සමග මිත්‍ර විය. මේ දේශපාලනඥයා අපේ ගමට වී හුදෙකලා ජීවිතයක් ගත කෙළේ ය. විශ්ව විද්‍යාලයයේ දී දර්ශනවාදය ගැන විශිෂ්ටත්වයක් ලබා සිටි මේ පඬිවරයා, කිසියම් කරුණක් නිසා අයියා සමග මිත්‍ර විය. මේ පඬිවරයා තමා හමු වන් ලෙස අයියා ගෙන් ඉල්ලා සිටියේ ය. නැවත මොස්කව් නුවරට පැමිණ තමා කරමින් සිටි රක්ෂාව භාරගන්නා ලෙස පඬිවරයාට අරාධනා කරන තෙක් එම මුළු සීතකාලයේ දී ම අයියා සවස ඔහු සමග ගත කෙළේ ය. මේ පඬිවරයාට පිටස්-බර්ග් නුවර බලවත් මිත්‍රයෝ සිටියහ.

කොරොස්ම කාලය පැමිණියේ ය. එහෙත් අයියා උපවාසයේ යෙදුණේ නැත. "මේ සේරම මෝඩ වැඩ, දෙවියන් වහන්සේ කියා කෙනෙක් නැහැ"යි කියා ඔහු සිනාසුණේ ය. අම්මාත්, මාත්, වැඩකාරයෝත්, අයියා ගේ කතාව අසා තැති ගත්හ. මගේ වයස හවුරුදු නවයක් වුවත් මම ද අයියා ගේ කතාව අසා තැති ගතිමි. අපේ ගෙදර වැඩකාරයෝ හතර දෙනෙක් සිටියහ. උහු සේරම දාසයෝ ය. අම්මා අපේ කොර වූ නාකි කෝකියා රුබල් හැටකට විකුණා, නිදහස් වැඩකාරයකු කුලියට ගත්තා මට මතකයි.

කොරොස්ම කාලයේ හය වන සතියේ, අයියා හදිසියෙන් ම අසනීප විය. අයියා බොහො ම දුර්වල කෙනෙක්. සිහින් උස සියුමැලි පෙනුමෙන් යුත් අයියා බොහො ම සන්සුන් කෙනෙක්. මෙ වැනි කෙනකුට ලෙහෙසියෙන් ම ක්‍ෂය රෝගය හැදෙන්නට පුළුවනි. මගේ කල්පනාවේ හැටියට අයියාට වැළඳුණේ හෙම්බිරිස්-

සාවක්. කෙසේ වෙතත් අයියා ගේ රෝගය පරීක්‍ෂා කිරීමට පැමිණි දොස්තර, අයියාට වැලඳී ඇත්තේ හදිසිකාලීන රෝගයක් බවත්, වසන්ත කාලය අවසන් වන තෙක් ඔහු ජීවත් නොවන බවත්, අම්මාට රහසින් කී ය. අම්මා අඬන්නට පටන් ගත්තා ය. අයියාට රෝගය ගැන කිසිවක් නොකී අම්මා, තවමත් ඇඳෙන් බැස ඇවිදින්න පුළුවන් නිසා පල්ලියට ගොස් පාපොච්චාරණය කොට අන්තිම සක්‍රමේන්තුව ලබාගන්නා ලෙස අයියා ගෙන් ඉල්ලා සිටියා ය. මින් කිපුණු අයියා පල්ලියට විරුද්ධ ව යම් කිසිවක් කීවේ ය, එහෙත් අයියා කල්පනා කෙළේ ය. කෙසේ වෙතත් තමා අසාධ්‍ය රෝගයකින් පෙළෙන බවත්, පල්ලියට ගොස් පව් සමා කොට සක්‍රමේන්තුව ගන්න කියන්නේ ඒ නිසා බවත්, අයියා එක්වර ම දැනගත්තේ ය. තමා අසනීපයෙන් සිටින බව අයියා බොහෝ කාලයක සිට දැන සිටියේ ය. හවුරුද්දකම පෙර දිනක් අපි ආහාර ගනිමින් සිටින අතරේ "මට වැඩි කාලයක් අම්මලා එක්ක ඉන්න ලැබෙන්නේ නැහැ. මට තවත් අවුරුද්දක් ජීවත් වන්න ලැබෙන්නේ නැහැ"යි බොහෝ ම සෙමෙන් අම්මාටත්, මටත්, කීය. ඒ කීම අනාගතය බලා පේන කියනවා වැන්න.

තෙ දිනකට පස්සේ ශුද්ධ වූ සතිය පැමිණියේ ය. අඟහරුවාදා උදේ අයියා පල්ලි යන්නට පටන් ගත්තේ ය. "අම්මේ මම පල්ලි යන්නේ අම්මා සතුටු කිරීමටයි" අයියා කී ය. අම්මා ප්‍රීතියෙන් හා ශෝකයෙන් ඇඬුවා ය. "පුතා මෙසේ වෙනස් වෙලා තියෙන්නේ මරණය ළඟ ම ඇති නිසා ය"යි අම්මා කල්පනා කළා ය. එහෙත් අයියාට වැඩිකල් පල්ලි යන්න ලැබුණේ නැත. ඇඳෙන් බැසගත නොහැකි වූ පසු පාපොච්චාරණය කිරීම හා සක්‍රමේන්තුව ගැනීම ගෙදර සිට කෙළේ ය.

මෙවර පාස්කුව මඳක් පමා විය. ඒ දවස් බොහො ම අලංකාරයි. වාතය මල් සුවඳයි. අයියා මුළු රැම නො නිඳ කහිනවා මට මතකයි. එහෙත් උදේට හොඳට ඇඳගෙන පුටුවක හිඳ ගැනීමට වෑයම් කරයි. අයියා උදේ පාන්දර පුටුවේ හිඳ සිටිනවා මට තව ම මතකයි. අසනීපයෙන් සිටියත් අයියා නිතර සිනාසුණේ ය. බොහො ම සන්තෝෂයෙන් සිටියේ ය. අයියා තුළ පුදුමාකාර විපරියාසයක් අති විය. මීට පෙර මහලු සේවිකාව පැමිණ "දැන් ඉතින් සුරුවම ඉදිරි පිට පහන පත්තුකරන්න ඕනැ"යැයි කී විට අයියා පහන දල්වන්න ඉඩ දෙන්නේ නැත. පහන දල්වුවත් නිවා දමයි. එහෙත් දැන් එහෙම නොවෙයි. 'කරුණා කර ඔය පහන පත්තුකරන්න. ඉස්සර මම නපුරුකමට පහන පත්තු කරන්න ඉඩ දුන්නේ නැහැ. පහන පත්තු කරන අතර දෙවියන්ට යාච්ඤා කරන බව මම දන්නවා නුඹ ප්‍රීතියෙන් සිටිනවා

දකින කොට මටත් දෙවියන්ට යාච්ඤා කරන්න අදහස් වෙනවා. දුන් අප දෙදෙනා යාච්ඤා කරන්නේ එක ම දෙවියන්ටයි'' කියයි. අයියා ගේ මේ කතාව අපට පුදුමයක්. අම්මා ඇගේ කාමරයට ගොස් ඇඬුවා ය. එහෙත් අම්මා අයියා ළඟට ගිය හැම තිස්සේම කඳුළු පිස දමා ප්‍රීතියෙන් සිටින බව හැඟෙව්වාය. ''අමේ අඩන්න එපා. මට තවත් බොහො ම කාලයක් ජීවත් වී අම්මා එක්ක ප්‍රීති වෙන්න පුළුවනි. ජීවිතය ප්‍රීතියෙන් පිරුණු බොහො ම වාසනාවන්ත දෙයක්.''

''අනේ පුතා, රෑට නිදා නො ගෙන එළිවන තෙක් කහින කොට කොහොම ද ප්‍රීතිය ගැන කතා කරන්නේ?''

''අඬන්න එපා අම්මා. ජීවිතය පාරාදීසියට සමානයි. අපි සියලු දෙනා ම සිටින්නේ පාරාදීසියේයි. ඒත් අපට එය පෙනෙන්නේ නැහැ. අපට පෙනෙනවා නම් පසු ව ද ම මේ ලෝකය දෙව්ලොවක් කරගන්න පුළුවනි.''

අයියා ගේ කතාව අසා අපි පුදුම වුණෙමු. ඇඬුවෙමු. අපේ මිත්‍රයෝද නිතර අයියා බලන්නට පැමිණියහ. ''මට මෙ තරම් ආදරය මා කුමක් කළ නිසා ද? මා වැනි කෙනකුට කොහොම ද ආදරය කරන්නේ? මා කොහොම ද ඒ බව නොදැන සිටියේ? මීට පෙර මා එය අගය කොට නො සැලැකුවේ මන් ද?''යි අයියා මිත්‍රයන් ගෙන් අසයි.

වැඩකාරයන් ඔහු ළඟට ගිය හැම විට ම අයියා මෙසේ කියයි. ''ඇයි මට මෙ තරම් සැපසාත්තු කරන්නේ? මෙ තරම් සැලැකිලි ලැබීමට තරම් මා සුදුස්සෙක් ද? දෙවියන් වහන්සේ මට ජීවත් වීමට ඉඩ දෙනවා නම් මම තුඹලාට සැපසාත්තු කරනවා. සියලු ම මනුෂ්‍යයන් විසින් එකිනෙකාට සැප සාත්තු කළ යුතුයි.''

''පුතා ඔය විදියට කතා කරන්නේ පුතාට වැලඳී ඇති අසනීපය නිසයි'' අම්මා හිස වනමින් කීවා ය.

''අම්මේ ස්වාමිවරුන් හා දාසයන් කියා කොටස් දෙකක් සිටිනවා නම් මම දාසයන් ගේ දාසයා වෙනවා. මගේ දාසයන් මට සේවය කරන්නාක් මෙන් මම ඔවුන්ට සේවය කරනවා. අනෙක් කාරණාව, අම්මේ අප හැම දෙනා ම එකිනෙකාට විරුද්ධ ව පව් කරලා තියෙනවා. හැම දෙනාට ම වැඩිය පව් කරලා ඇත්තේ මම ය.''

අම්මා අයියා ගේ කතාව අසා සැබැවින් ම සිනාසුණා ය කඳුළින් පිරි දෑසින් යුතු ව සිනාසුණා ය. ''කොහොම ද පුතා තුඹ

මනුෂ්‍යයන්ට විරුද්ධව අනෙක් අයට වඩා පව් කළේ? එවැනි පව් කරන්නේ සොරුන් හා මිනීමරුවන් පමණයි. හැම දෙනාට ම වඩා පුතා පව්කාරයෙක් යයි කියන්න තරම් පුතා කරලා තියෙන පව් මොනවා ද?''

''අනේ මගේ පොඩි අම්මේ''යි අයියා කී ය. (මේ කාලයේ දී අයියා සුරතල් බස් කීමට පුරුදුව සිටියේ ය.) ''හැම දෙනා ම මුළු මනුෂ්‍ය වර්ගයාටත්, හැම දෙයටත්, වගකිය යුතු බව විශ්වාස කරන්න. මේක අම්මාට කොහොම විස්තර කරන්න ද කියා මට තේරුම් ගන්න බැහැ. එහෙත් ඒක සත්‍ය බව මම දන්නවා. ඒ දැනුම මට මහත් වේදනාවක්. මේ ගැන කිසිවක් නො දන අපි මෙතෙක් කල් නිතර කෝපයෙන් ජීවත් වුණේ කොහොම ද?''

මෙසේ අයියා නිතර ප්‍රීතියෙන් හා ප්‍රේමයෙන් බැබළුණේ ය මහලු ජර්මන් ජාතික දොස්තර පැමිණියාම අයියා කවටකම් කරන්නාක් මෙන් ''දොස්තර මහත්මයා, මට තවත් එක දවසක් ජීවත් වන්න පුළුවන් ද?''යි අසයි.

''පුතාට එක දවසක් නො වෙයි දවස් ගණනක්, මාස ගණනක්, අවුරුදු ගණනක්, ජීවත් වන්න පුළුවනි''යි දොස්තර පළිතුරු දෙයි.

''මොනවට ද අවුරුදු ගණනක්? එක දවසක් මදි ද? සැපත කුමක් ද කියා අවබෝධ කිරීමට දවස් ගණනක් උවමනා නැහැ. එක දවසක් ඇති, අපි මොනවට ද එකිනෙකා සමග කෝලාහල කරගන්නේ? අපි මොනවට ද උඩගු වන්නේ? මොනවට ද වෛර බැඳගන්නේ? ඇයි අපි එකිනෙකාට ප්‍රේම නො කරන්නේ? එකිනෙකා උසස් කොට නොසලකන්නේ? ජීවිතය සැපවත් කර නො ගන්නේ?''

''පුතාට වැඩි කල් ජීවත් වන්න ලැබෙන්නේ නැහැ''යි දොස්තර දොර ළග දී අම්මාට කී ය.

''මා හිතන්නේ ලෙඩේ නිසා මොළය නරක් වෙලා.''

කාමරයේ ජනේලය තිබුණේ වත්ත පැත්තට යි. පැරණි ගස්වලින් වත්ත සෙවණ විය. ගස්වල අතු මල්කැකුළුවලින් පිරිණි. සරත් සෘතුව ආරම්භයේ දී පැමිණෙන කුරුල්ලෝ ගී ගයමින් අතු අග සෙල්ලම් කරති. ඔවුන් දෙස බලා, ඔවුන් ගේ අලංකාරය දුටු අයියා මෙසේ කියයි ''දෙව්ලොව සිට පැමිණි කුරුල්ලනි, ප්‍රීතියෙන් සිටින කුරුල්ලනි, මට සමාවන්න. මම නුඹලාව ද හිරිහැර කර ඇත්තෙමි.'' ඒ කාලයේ දී අපට අයියා ගේ

කතාව තේරුණේ නැහැ. ඒත් අයියා ප්‍රීතියෙන් ඇඬුවා "මා අවට තියෙන ගස්, කෙත්වතු, කුරුල්ලන්, අහස, ආදී හැම දෙයක ම දෙවියන් වහන්සේ වැඩ වසන බව මට පේනවා. මම ඒ හැම දෙයකට ම අපහාස කළා. මම එහි ඇති අලංකාරය, තේජස, දුටුවේ නැහැ."

"පුතා උවමනාවට වඩා පව් භාර ගන්නවා"යි අම්මා අඩමින් කීවා ය.

"මගේ සිදේවි අම්මේ, මා අඬන්නේ කනගාටුවෙන් නො ව සන්තෝෂයෙන්. ඔවුන් වෙනුවෙන් වගකීම භාරගැනීමට මා කැමැතියි. ඔවුන් ඉදිරිපිට අසරණ වීමට මා කැමැතියි. ඒත් මන් ද කියා විස්තර කිරීමට පුළුවන් කමක් නැහැ. ඔවුන්ට ආදරය කරන හැටිවත් මා දන්නේ නැහැ. මම හැම දෙනකුට ම වැරදි කරලා තියෙනවා. ඒත් ඔවුන් ඒ වැරදි සේරම අමතක කරලා මට සමා වෙනවා. ඒක හරියට දිව්‍ය සම්පත්තිය වගෙයි නේ ද? ඉතින් අම්මේ මා දැන් සිටින්නේ දිව්‍ය ලෝකයේ නේ ද?" මගේ අයියා කියාපු මෙ වැනි දේවල් තවත් බොහො ම තියෙනවා. දැන් මට විස්තර කිරීමට මතක නැහැ. දවසක් කිසි ම කෙනෙක් නැති වෙලාවක දී මම අයියා ගේ කාමරයට ගියා මට මතකයි. එදා හොඳට හිරු එළිය තිබුණු දවසක්. බැස යන හිරුරැස්වලින් මුළු කාමරය ම ආලෝක වී තිබිණි. අයියා කතා කළ විට මම ළඟට ගියෙමි. අයියා මගේ කරට අත තබා බොහො ම ආදරයෙන් මා දෙස බලා සිටියේ ය. බලා සිටියා මිස මිනිත්තුවක් පමණ වේලා ගතවන තෙක් වචනයක්වත් කිව්වේ නැත.

"දැන් ඉතින් ගිහින් සෙල්ලම් කරන්න. මා වෙනුවෙන් ප්‍රීතිමත් ජීවිතයක් ගතකරන්න"යි මට අන්තිමේ දී කීවේ ය.

මම සෙල්ලම් කිරීමට ගියෙමි. "මා වෙනුවෙන් ප්‍රීතිමත් ජීවිත-යක් ගත කරන්න"යි කියා අයියා දෑසේ පිරී කඳුළු ඇති ව මට කියාපු හැටි මට පසු කාලයේ දී කීප වරක් ම මතක් විය. ඒ කාලයේ දී අපට නො තේරුණාට අයියා බොහො ම ලස්සන, පුදුම දේවල් කී ය. අයියා පාස්කුව අවසන් වූ තුන් වන සතියේ දී මළේ ය. කතා කරන්න බැරිවුණත් අන්තිම මොහොත වනතෙක් අයියාට හොඳට සිහිය තිබුණේ ය. සවල්පයක්වත් වෙනස් වුණේ නැත. මැරෙන තෙක් අයියා සිටියේ බොහො ම සන්තෝෂයෙන්. ඔහු ගේ නෙත් ප්‍රීතියෙන් බැබළිණි. අයියා අප සමග සිනාසී අපව ළඟට කැඳෙව්වේ ය. අයියා ගේ මරණය ගම පුරා පැතිර ගියේ ය. නොයෙක් දෙනා නොයෙක් දේවල් කීහ. මට ඒ කතා එ තරම්

හොඳට නොතේරුණත් මම අයියා ගේ මළගම දවසේ බොහො ම ඇඬුවෙමි. ඒ කාලේ මා බොහො ම පොඩියි. එහෙත් පසු කාලේ මතුවීම පිණිස මේ දේවල් මිගේ සිතේ නො මැකෙන ලෙස තැන්පත් විය. මා හිතුවා වගේ ඒ දේවල් මතු වී ආවේ ය.

### (ආ) සොසිමා තවුසා ගේ ජීවිතය කෙරෙහි බයිබලය බලපැවැත් වූ සැටි ගැනයි.

මම අම්මා සමග තනියෙන් වාසය කෙළෙමි. වෙනත් දෙමාපියන් කරන්නාක් මෙන් මා පීටස්බර්ග් පුරයට යවන ලෙස අපේ හිතමිතුරෝ අම්මාට අවවාද කළහ. "අම්මාට ඉන්නේ එක ම දරුවයි. අම්මාට සෑහෙන ආදායමකුත් තියෙනවා. මේ දරුවා මෙහෙම තියාගෙන සිටියොත් උසස් රක්ෂාවක් කරන්න ලැබෙන්නේ නැහැ. පුතා පීටස්බර්ග් පුරයට යවා පස්සේ රාජකීය ආරක්ෂක හමුදාවට බැඳීමේ අදහසින් පළමු ව කැඩෙට් හමුදාවට බන්දවන්න." අම්මා ටික කලක් ගතවන තෙක් දෙකට දෙවාරයේ කිසිවක් නොකර සිටියා ය. තමාට සිටින එක ම දරුවාගෙන් වෙන්වීම අම්මාට කළ හැකි දෙයක් නො වේ. එහෙත් අන්තිමේ දී ඈ හිත හදා ගත්තා ය. මගේ අනාගත ශුභ සිද්ධිය පතා මා පීටස්බර්ග් පුරයට යැවීමට අම්මා තීරණය කළා ය. ඈ කනගාටුවෙන් ඇඬුවා ය. අම්මා මා පීටස්බර්ග් නුවරට කැඳවා ගෙන ගොස් කැඩෙට් හමුදාවට බැන්දුවා ය. ඒත් ඊට පස්සේ මට ආයේත් අම්මා දකින්න ලැබුණේ නැත. අවුරුදු තුනකට පස්සේ ඈ මළා ය. ඈ ඒ තුන් අවුරුද්ද ම ගතකළේ අප දෙදෙනා සිහි කොට අඬමින්නුයි.

මා ළමා කාලය ගත කළ නිවෙස ගැන මට බොහො ම දේවල් මතකයි. තම නිවෙසේ ගත කළ ළමා කාලය පිළිබඳ සිතිවිලිවලට වඩා වටිනා දෙයක් තවත් නැත. තමා ගේ පවුලේ සාමයත් සමගියත් පැවතුණේ නම් ඒ සිතිවිලිවල වටිනාකම කියා නිම කළ නො හැකියි. අගනා දෙය හඳුනා ගැනීමේ හැකියාවක් හදවතට තිබේ නම්, අසමගියෙන් යුත් පවුල්වල පවා සිහි තබා ගත හැකි උසස් සිතිවිලි ඇති වෙයි. අපේ නිවෙස ගැන සිහි කරන විට මට පළමු ව සිහිවන්නේ මගේ බයිබලයයි. මා දරුවකු වුව ද ගෙදර දී බයිබලය කියවීමට බොහො ම ප්‍රිය කෙළෙමි. 'පැරණි හා අලුත් තෙස්තමේන්තුවෙන් ගන්නා ලද ආගමික කතන්දර එකසිය හතරක්' යන නමින් යුත් චිත්‍ර-වලින් සරසන ලද ආගමික පොතක් මා ළඟ තිබිණි. මම මේ පොත කියවීමට පුරුදු වී සිටියෙමි. අතීතයට අයත් වටින

කෞතුක වස්තුවක් හැටියට මම තවමත් මේ පොත මගේ පොත් රාක්කයේ තබා ගෙන සිටිමි. අකුරු ඉගැනීමට පෙර, එනම් වයස හවුරුදු අටේ දී මා තුළ ආගමික හැඟීම් ඇති වූ බව මට මතකයි. පාස්කුවට කලින් සඳුදා අම්මා මා දේවස්ථානයට කැඳවා ගෙන ගියා මට මතකයි. ඒ කාලයේ අයියා කො තැන සිටියාද කියා මට මතක නැත. මට අද වගේ මතකයි දේවස්ථානයේ වටකුරු පියස්ස දක්වා සෙමෙන් නැගුණු සුවඳ දුම්, කවුළුවෙන් ඇතුළු වන හිරුඑළිය සමග මිශ්‍ර වූ සැටි. මේ දර්ශනයෙන් මගේ සිත අවදි වී ජීවිතයේ පළමු වරට දෙවියන් වහන්සේ ගේ වචනයේ බීජය දනදන ම වාගේ මගේ හදවතේ රෝපනය විය තරුණයෙක් විශාල පොතක් උස්සා ගෙන දේවස්ථානයේ මැදට පැමිණියේ ය. ඒ පොත කො තරම් විශාල ද කියතොත් ඔහුට එය උස්සා ගෙන සිටිය නො හැකියැයි එදා මට කල්පනා විය ඔහු පොත මේසය උඩ තබා කියවන්නට පටන් ගත්තේ ය. දෙවියන් වහන්සේ ගේ වාසස්ථානය වූ දෙවස්ථානය තුළ කියවන ලද දෙය පළමු වරට මට අවබෝධ විය. උෂ් නමැති පළාතේ දේව භය ඇත්තා වූ යහපත් මිනිහෙක් වාසය කෙළේ ය. ඔටුවන්, බැටළුවන්, හා බූරුවන් ආදී සිව්පාවුන් හිමි හෙතෙම මහා ධනවතෙකි. ඔහු ගේ දූ දරුවෝ නිතර කා බී ප්‍රීති වූහ දරු සෙනෙහසින් යුත් හෙතෙම දරුවන් සිහිකොට නිතර දෙවියන්ට යාච්ඤා කෙළේ ය. "කා බී ප්‍රීතිවන අතරේ සමහර විට මගේ දරුවන් පව් කරන්න ඇතැ"යි ඔහු කල්පනා කෙළේ ය ඒ අතරේ සාතන් දෙවියන් ඉදිරියට පැමිණ, තමා පොළොව වටේ ගිය බවත්, පොළොව යටින් ගිය බවත් කීවෙන් "එසේ නම් තා මාගේ සේවකයා වන ජොබ් ගැන කල්පනා කෙළෙහි-ද?"යි දෙවියන් වහන්සේ සාතන්ගෙන් ප්‍රශ්න කළසේක. දෙවියන් වහන්සේ එතුමා ගේ ගුඩ වූ සේවකයා සාතන්ට පෙන්නා උදන් ඇනුවේ ය. "ඔබ වහන්සේ වර්ණනා කරන ඔය සේවකයා මට භාර දුන මැනව. ඔහු ඔබතුමාට විරුද්ධ ව නැගී සිට, ඔබතුමා ගේ නමට පවා සාප කරන සැටි පෙන්නා දීමට මම පොරොන්දු වෙමි"යි සාතන් දෙවියන් වහන්සේ ගේ කතාව අසා සිනාසෙමින් කී ය. මෙතෙක් තමා ප්‍රේම කළ යහපත් සේවකයා දෙවියන් වහන්සේ සාතන්ට භාර දුන්නේ ය. අහසේ සිට ක්ෂණයකින් ම වදින අකුණු පහරකින් විනාශ වන්නාක් මෙන් සාතන් යහපත් මිනිහා ගේ දූ දරුවන් හා ගව මහිෂාදීන් ද වනසා දමා, සියලු ම ධනය විනාශ කෙළේ ය. අන්තිම වස්ත්‍රය ද ඉරා දැමූ යහපත් මිනිහා බිම වැටී මෙසේ කෑගා කීවේ ය. "මා මව්කුසේ සිට මෙලොවට පැමිණියේ සෙළුවෙනි. මා ආපසු යන්නේ ද සෙළුවෙනි. දෙවියන් වහන්සේ මට දී වදාළ ධනය උන් වහන්සේ ම ආපසු

ගත් සේක. දෙවියන් වහන්සේ ගේ නාමයට සදාකල්හි ම ආසිරිවාද වේවා.''

ගරු පූජකවරුනි, මගේ දෑසෙන් කඳුළු ගලනවාට සමාවන්න. මගේ ළමාවිය ආයේත් මගේ නෙත් ඉදිරිපිට මැවී පෙනේ. දැන් මම හුස්ම ගන්නේ හවුරුදු අටක ළමයකු ගේ ළයෙන් හුස්ම ගන්නාක් මෙනි. එදා මා තුළ ඇති වූ බිය, සැක, පුදුමය, හා ප්‍රීතිය, යන හැඟීම්, දැන් ද මා තුළ ඇති වෙයි. ඒ කාලේ ඔටුවා මගේ සිත තදින් ඇදගත් සතෙකි. ඔටුවා පමණක් නොව දෙවියන් වහන්සේ සමග තර්ක කළ සාතන් ද, තමා ගේ අවංක සේවකයා විනාශ කිරීම පිණිස සාතන්ට භාරදුන් දෙවියන් වහන්සේ ද, "මට දඬුවම් කළ දෙවියන් වහන්සේ ගේ නාමයට ආසිරිවාද වේ වා'' කියා ප්‍රාර්ථනා කළ අසරණ සේවකයා ද, "මගේ යාච්ඤාවට සවන් දුන මැනව'' කියා දේවස්ථානය තුළ ගයන ලද කන්කලු භක්ති ගීතය ද, දේවස්ථානය තුළ නඟින සුවඳ දුම් ද, දණ ඇන ගෙන දෙවියන් වහන්සේට කරන කන්නලව්ව ද, එකල මගේ සිත් තදින් ඇද ගත්තේ ය. ඊට පස්සේ ආයේත් වරක් ඒ වටිනා පොත කියෙව්වේ ඊයේ දවසෙයි. දෑසේ කඳුළු නැති ව මට ඒ පොත කවදාවත් කියවන්න බැහැ. මේ පොත කො තරම් ශ්‍රේෂ්ඨ ද? කො තරම් අද්භූත ද? කො තරම් ගැඹුරු අදහස් එහි ගැබ් වී තිබේ ද? ඊට පස්සේ නොයෙක් දෙනා මේ ග්‍රන්ථයට අවමන් කරන්නට පටන් ගත්හ. උඩඟු සිතින් දොස් කියන්නට පටන්ගත්හ. දෙවියන් වහන්සේ තමා ගේ හොඳ ම සාන්තුවරයා සාතන්ට භාර දුන්නේ කෙසේ ද? "බලව, මාගේ 'සාන්තුවර-යන්ට මා වෙනුවෙන් කො තරම් දුක් විඳින්න පුළුවන් ද?'' කියා සාතන්ට උදන් ඇනීමට මිස වෙන කුමන අදහසකට ද? මෙය අද්භූත දෙය කි. මෙහි ශ්‍රේෂ්ඨ කම රැඳී ඇත්තේ ඒ අද්භූත කම උඩයි. ලෞකික සත්‍යය සදාකාලික සත්‍යය සමග එකතු වී ඇති නිසයි. සදාකාලික සත්‍යය ලෞකික සත්‍යය හමුවේ දී ජයග්‍රහ-ණය කෙළේ ය. මැවුම් කාරයා ලෝකය මවාපු පළමු දින වැඩ නිම කළාක් මෙන් අනෙක් හැම දින ම වැඩ නිම කළේ "මා මැවූ දෙය ඉතා යහපත්ය'' යන ප්‍රශංසාත්මක වචනවලිනි. එතුමා යළි යහපත් මිනිහා දෙස බලා එතුමා ගේ නිර්මාණය වර්ණනා කෙළේ ය. යහපත් මිනිහා දෙවියන් වහන්සේට ප්‍රශංසා කොට සේවය කරයි. දෙවියන් වහන්සේට පමණක් නොව, පරම්පරා ගණනක් ම, සදාකල්හි ම, එතුමා ගේ මැවිල්ලට සේවය කරයි. ඔහුට එය කලින් පැවරුණු කටයුත්තකි. අහෝ දෙවියනි, බයිබලය කො තරම් උසස් පොතක් ද? එහි කො තරම් උගත හැකි දේ තිබේ ද? බයිබලය කො තරම් අගනා පොතක් ද?

එය කො තරම් ලොකු හාස්කමක් ද? ඉන් මිනිසාට කො තරම් ශක්තියක් ලැබේ ද? එය ලෝකයත්, මිනිසාත්, මිනිස් ගතිගුණත් තැනිය හැකි අච්චුවකට සමානයි. එහි හැම දෙයක් ම තිබේ. හැම කාලයකට ම, හැම දෙයකට ම, සුදුසු නියායක් එහි තිබේ. විසඳා හෙළි කරන ලද අද්භූත දේවල් කො තරම් තිබේ ද? දෙවියන් වහන්සේ, යක්ෂයාට භාරදුන් ජෝබ් ඌපසු භාර ගෙන ඔහු සතු ධනය ආපසු දුන්සේක. හවුරුදු බොහෝ ගණනක් ගතවූවාට පස්සේ ජොබ්ට බොහෝ දරුවෝ ලැබුණහ. ඔහු ඒ දරුවන් ආදරයෙන් රැක බලා ගත්තේ ය. පළමු ව සිටි දරුවන් නැති වූ පසු ඔහු කොහොම ද පසු ව ලැබුණු අලුත් දරුවන්ට ආදරය කරන්නේ? නැති වූ පරණ දරුවන් සිහි කොට අලුත් දරුවන් සමග ප්‍රීතියෙන් සිටින්නේ කොහොම ද? ඔහුට එය කළ හැකියි. පැරණි දුක් වේදනා සෙමෙන් වෙනස් වී ප්‍රීතියට පරිවර්තනය වීම මිනිස් ජීවිතය පිළිබඳ ලොකු රහසක්. තරුණ කාලයේ දී ඇති වන උණුසුම් ලෙය මහලු වයසේ දී සන්සුන් කමට ඉඩ දී ඈත් වෙයි. මම හැම දා ම පෙරදිග අහසට නඟින සූර්යයාට ශුභාසිංශනය කෙළෙමි. පෙර මෙන් හැම දා ම මගේ හදවත සූර්යයා පිළිගනිමින් ගී ගයයි. එහෙත් දැන් මම නඟින හිරුට වඩා බසින හිරුට කැමැති වෙමි. බැස යන හිරුරැස් සමග දයාබර අනුස්මරණ මට සිහි වෙයි. මගේ ජීවිතයේ හැම සිද්ධියක් ම නැවැත සිහිවෙයි. ඒ සියල්ලට ම වඩා දිව්‍යමය වූ යුක්තිධර්ම ඉෂ්ට වෙයි. දයාවෙන්, කරුණාවෙන්, සමඟියෙන්, සාමයෙන් සිත පිරෙයි. වෛරය තුරන්වෙයි. මගේ ජීවිතය අවසන් වෙයි. ඒ බව මම හොඳහැටි දනිමි. මගේ ජීවිතයේ ඉතිරි වී ඇති හැම දවසක් තුළ ම, මගේ ලෞකික ජීවිතය, දැනට ම ළඟ ළඟ ම එන අනන්ත වූ, අප්‍රමාණ වූ, අසිනව, අද්භූත අනාගත ජීවිතයක් සමග සම්බන්ධ වන සැටි මට දැනෙයි. ඒ අලුත් ජීවිතය බලාපොරොත්තුවෙන් මගේ ආත්මය ප්‍රීතියෙන් වෙව්ලයි. සිත බැබලෙයි. හදවතේ සොම්නස් කඳුළු පිරෙයි.

ප්‍රිය මිත්‍රවරුනි, ගුරුවරුනි, මම කීප වතාවක් ම, මෑත දී වාගේ, වෙසෙසින් ම ගම්බද පූජකයන්, ඔවුන් ගේ දුප්පත්කම හා ඔවුන් ලබන අපහාස ගැන පැමිණිලි කරනවා අසා ඇත්තෙමි. තමන් ගේ දුප්පත්කම නිසා මහජනයාට ආගම ධර්මය කියා දීමට අපහසු බව ඔවුහු නො සඟවා කියති. ඇතැම්විට ඒ ගැන ලියති, එ වැනි පැමිණිලි මම කියවා ඇත්තෙමි. සමහරවිට ලූතර්වාදීන් හා මිථ්‍යාදෘෂ්ටීන් පැමිණ බැතිමතුන් නොමඟ යවන්නට පුළුවනි. එහෙත් තමන්ට ලැබෙන කුඩා ආදායම නිසා බැතිමතුන් ආරක්ෂා කරගැනීමට කිසිවක් කළ නො හැකි

බැවින්, ඒ බැතිමතුන් නොමග යාමට ඉඩ දී නිකම් සිටිති. ඔවුන් ගේ ඒ දුක්ගැනවිලි යුක්ති සහගතයි. එ හෙයින් දෙවියන් වහන්සේ ඔවුන් ගේ ආදායම වැඩි කරන සේක්වා. මේ සම්බන්ධ-යෙන් යම් කිසිවෙක් දෙස් ලැබිය යුත්තේ නම්, වැඩි වශයෙන් දෙස් ලැබිය යුත්තේ අපයයි මම කල්පනා කරමි. ඔහුට විවේකය නැති වන්නට පුළුවනි. කළයුතු වැඩ කටයුතු බොහෝ ඇතැයි ඔහු කියන්නට පුළුවනි. එහෙත් එය එසේ විය නො හැකියි. අඩු ගණනේ දෙවියන් සිහි කිරීමට ඔහුට සතියකට පැයක්වත් විවේකය තිබිය යුතුයි. ඔහු අවුරුද්ද පුරා වැඩ කරන්නේ නැත. අඩු ගණනේ සතියකට පැයක් පමණ සවස් කාලයක, පළමු ව කුඩා ළමයින්ට ආගම කියා දෙන්නට පුළුවනි. වැඩිහිටියන්ට ඒ බව ආරංචි වී පසු ව පැමිණෙන්නට පුළුවනි. ඒ සඳහා විශාල ගොඩනැගිලි අවශ්‍ය නැත. ඔහුට මේ කටයුත්ත ඔහුගේ නිවෙසේ දී කළ හැකියි. කුඩා ළමයින් පැයකට වඩා නොසිටින බැවින් ඔහු ගේ නිවෙස අපිරිසුදු වන්නේ නැත. බයිබලය ගෙන පණ්ඩිත කම හෝ උඩගුකම හෝ යටහත්කම හෝ නො දක්වා, ඉතා ආදරයෙන් තමාට සාවධාන ව සවන් දෙන්නේයැයි සිතා, ඉන් හටගත් සොම්නසින් යුතු ව, තමා කියවන දෙයට ආදරයෙන්, සාමාන්‍ය ගැමියන්ට නො තේරෙන වචනවල අර්ථය කියා දීමට පමණක් නතර වෙමින්, ඔහු බයිබලය කියවිය යුතුයි. අසා සිටින්-නන් ගැන කරදර වෙන්න එපා. ඔබ කියවන හැම දෙයක් ම ඔවුන්ට අවබෝධ වනවා ඇති. සම්‍යක්දෘෂ්ටිකයාට සත්‍ය අවබෝධ වෙනවා. ආබ්‍රහම් හා සරා, අයිසැක් හා රෙබෙකා, ගැන කතන්දරය ගැමියන්ට කියා දෙන්න. ජාකොබ් ලබානයට ගොස් සිහිනෙන් සුරිඳුන් සමග පොර බදා 'මේ ස්ථානය ශුද්ධ වූ ස්ථානයකි'යි කී සැටි විස්තර කර දෙන්න ලෙහෙසියෙන් ම පුළුවනි. භක්තියෙන් යුත් ගැමියන් පහදවා ගන්න. සහෝදරයන් එකතු වී ළාබාලයකු වන ජෝසප් දාසකමට විකුණා, වල් සතකු ඔහු මරා කෑ බව පියාට පවසා, ලේ තැවරුණ වස්ත්‍රය පෙන්නූ සැටි වෙසෙසින් ම ළමයින්ට කියා දිය යුතුයි. පසු ව සහෝදරයන් ධාන්‍ය ලබා ගැනීම පිණිස මිසරයට ගිය සැටිත්, එහි දී බලයට පැමිණ සිටි ජෝසප් තමාව හඳුනා නොගත් තම සොහොයුරන්ට හිරිහැර කළ සැටිත්, දෙස් පැවරූ සැටිත්, බෙන්ජමින් පමණක් නවත්වා ගෙන "නුඹට මම ප්‍රේම කරමි. ප්‍රේම කරමින් ම හිරිහැර කරමි"යි පැවසූ සැටිත්, මරුකතරේ ළිඳක් අසල දී තමා වෙළෙඳුන්ට විකුණූ සැටිත්, නො අඳුනන රටක දී වහල් කමට නො විකුණන ලෙස වඳිමින් හා විලාප නගමින් සොහොයුරන්ට කන්නලව් කළ සැටිත්, එහෙත් අවුරුදු ගණනකට පස්සේ ආයේත් සොහො-යුරන් දුටුවිට මහත් ආදරයක් ඇති වූ සැටිත්, එහෙත් ආදරය

තිබිය දී සොහොයුරන්ට වද හිංසා කළ සැටිත්, අන්තිමේ දී දූක ඉවසා ගත නොහැකි තැන ඔහු සයනයේ වැතිර ඇඬූ සැටිත්, අනතුරු ව ඔහු ප්‍රීතියෙන් කඳුළු පිසදමා සහෝදරයන් වෙත ගොස් 'සහෝදරවරුනි, මම තුඹලා ගේ සහෝදරයා වන ජෝසප් වෙමි'යි පැවැසූ සැටිත්, මහලු ජාකොබ් පුතා සිටින බව අසා සිය රට හැරපියා මිසරයට ගිය සැටිත්, ඔහු ගේ මුළු ජීවිත කාලය තුළ දීම හදවතේ සඟවා ගෙන සිටි, ඔහු ගේ පරපුරෙන්, ජූඩාගෙන්, ගැලවුම්කාරයාණන් ලෝ පහළ වන බව හඟවන රහස හෙළි කොට මිය ගිය සැටිත් විස්තර කරලා දෙන්න.

ප්‍රිය මිත්‍ර පූජකවරුනි, ආචාර්යවරුනි, තමුන්නාන්සේලා බොහෝ කාලයක සිට දන සිටි, සිය වාරයක් දක්ෂ ලෙස මට ඉගැන්විය හැකි කතාවක් ගැන පොඩි දරුවකු මෙන් දෙඩීම ගැන මා සමග තරහ නො වී සමා වන්න. මා දෙඩන්නේ සිතේ හටගත් ප්‍රීතිය නිසයි. මා දෙඩන්නේ බයිබලයට ඇති ආදරය නිසයි. ඒ නිසා මට සමා වන්න. දෙවියන් වහන්සේ ගේ පූජකයා-ට ද අඬන්නට ඉඩ දෙන්න. ඔහුට සවන් දී සිටින අය ගේ හදවත් ද අනුකූලතාව දක්වමින් සැලෙනවා ඇති. උවමනා කරන්නේ ඉතා කුඩා බීජයක් පමණයි. මේ බීජය දෙවියන් ගේ හදවතේ පැළ කරන්න. එම බීජය මිය නො ගොස් ඔවුන් ගේ ජීවිත කාලය පුරා හදවතේ තැන්පත් වී පවතියි. එය දීප්තිමත් දෙයක් මෙන්, කිසියම් ස්මරණ ශක්තියක් මෙන්, ඔවුන් ගේ ජීවිතයේ ඇත්තා වූ අන්ධකාරය හා පාපය අතර සැඟවී පවතියි. ඔවුන්ට උවමනාවට වඩා ලොකු උගැන්මක් අවශ්‍ය නැත. ඔවුන්ට ඒ සියල්ල මැනැවින් අවබෝධ වනවා ඇති. ගැමියන්ට මේ දේවල් අවබෝධ නොවන්නේ ය කියා කල්පනා කරනව ද? ඔවුන්ට ඇසෙන ලෙස පියකරු එස්ටර් හා අහංකාර වස්ති ගැන කතාව, නැතිනම් තල්මසා තුළ සිටි ජෝනා පිළිබඳ පුදුම කතාව කියවා බලන්න. වෙසෙසින් ම සාන්ත ලූක් ගේ දේශනාවෙන් තෝරා ගත් ක්‍රිස්තුන් වහන්සේ ගේ උපදේශ කතා කියවන්න. (මා කළේ එ වැනි දෙයකි.) අනතුරු ව අපෝස්ටල්-වරුන් ගේ යහපත් වැඩ, සාන්ත පාවුල් පක්ෂ කරවා ගත් සැටි, (මෙය කුමන කාරුණක් නිසා හෝ අත් නොහැරිය යුතුයි,) සාන්තු වරයන් ගේ චරිත කතා, උදහරණයක් වශයෙන් ඇලෙක්සි ගේ කතාව, ඒ සියල්ලට ම වඩා ශ්‍රෙෂ්ඨ වූ මිසරයේ මරියා ගේ කතාව කියවිය යුතුයි. මේ කුඩා කතාවලින් ඔබට ගැමියන් ගේ සිත් පහදගත හැකියි. ඔබ කො තරම් දිළිඳු වුවත් අඩුගණනේ සතියකට පැයක් මේ සඳහා යෙදවිය හැකියි. එවිට අපේ රට වැසියා ඉතා දයාවන්ත බවත්, කෙලෙහිගුණ දන්නා බවත්,

ඔබට දහස් වාරයකින් උපකාර කරන බවත්, පෙනී යනවා ඇති. පූජකයන් ගේ කරුණාව, දයාව හා සිත් ඇත් දේශනය මැනවින් දන්නා ගැමියන් සිය කැමැත්තෙන් ම පූජකයන් ගේ ගොවිතැන්-වලට හා ගේ දෙර වැඩවලටත් උපකාර කරනවා ඇති. පෙරට වඩා ගරුබුහුමන් කරනවා ඇති. මින් පූජකයන් ගේ ලෞකික ශුභ සිද්ධිය වැඩි වෙයි. මේ වැඩ පිළිවෙළ කො තරම් ලෙහෙසි පහසු දෙයක් ද කියතොත් මිනිසුන් සිනාසෙන්නේ ය යන අදහසින් නොකියා සිටිනවා ඇති. එය කො තරම් ලොකු සත්‍යයක් ද? දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය නොතබන තැනැත්තා උන් වහන්සේ ගේ මනුෂ්‍යයන් කෙරෙහි ද විශ්වාසය නො තබන්නේ ය. එහෙත් දෙවියන් වහන්සේ ගේ මනුෂ්‍යයන් කෙරෙහි විශ්වාසය තබන තැනැත්තා, මෙතෙක් කල් දෙවියන් වහන්සේ ගැන විශ්වාස නො කළත් උන්වහන්සේ දකිනසේක තමන් ගේ මව් බිමින් ඈත් වී සිටින අදේවවාදීන් පහදවා ගත හැක්කේ සාමාන්‍ය මිනිසාට හා ඔහු ගේ අනාගත ආධ්‍යාත්මික බලයට පමණි. අප ප්‍රතිපත්ති ගරුක නොවන්නේ නම් ක්‍රිස්තුන් වහන්සේ ගේ ධර්මයෙන් ඇති ප්‍රයෝජනය කුමක් ද? උන්-වහන්සේ ගේ ධර්මයට හා යහපත් ජීවිතයටත් මිනිසා තුළ ඇත්තා වූ පවස මහත් බැවින්, එතුමා ගේ ධර්මය නොමැති නම් මිනිසා අතරමං වෙයි.

මීට අවුරුදු හතළිහකට පමණ පෙර, මගේ තරුණ කාලයේ දී, මම අන්පිම් පියතුමා සමග, අපේ තාපසාරාමයට මුදල් සම්මාදම් කරමින් රුසියාව පුරා ඇවිද්දෙමි. නැව් යනෙන විශාල ගඟක් අසල, ධීවරයන් සමග අපි රැයක් ගත කෙළෙමු. අවුරුදු දහ අටක් පමණ වයසැති පියකරු තරුණයෙක් අපට එකතු විය. වෙළෙන්දකු සතු පාරුවක් ඇදගෙන යාම පිණිස ඔහු පාන්ද-රින් ම යා යුතුව තිබිණි. දයාවෙන් පිරි පැහැපත් දෑසින් ඔහු ඈත බලා සිටින සැටි මම දුටිමි. එය ජූලයි මාසයේ ඉතා සන්සුන් පැහැපත් උණුසුම් රාත්‍රියකි. සීත මීදුම් පටලයක් ඒ විශාල ගඟින් නඟින්නට පටන්ගති. දියේ මතු වී යළි යට ගිය මාළුවකු විසින් නැගූ හඬ අපි අසා සිටියෙමු. කුරුල්ලෝ නිහඬ වූහ. හැම දෙයක් ම නිහඬ විය. ඉතා අලංකාර විය. හැම දෙයක් ම දෙවියන්ට යාච්ඤා කරන්නට පටන්ගත්තා වගෙයි. නොනිදා සිටියේ මාත් අර ගැමි තරුණයාත් පමණයි. මේ ලෝකයේ ඇත්තා වූ අලංකාරය හා ලෝකය පිළිබඳ අභිරහස ගැන අපි කතා කෙළෙමු. හැම තණකොළයක් ම, හැම කුරුමිණි සතෙක් ම, කුරුකුහුඹුවෙක් ම, රත්රන් මීමැස්සෙක් ම, ඥාන ශක්තියක් නැතත් යා යුතු මග හොඳට දනිති. දෙවියන් පිළිබඳ

අභිරහස ගැන සාක්ෂි දරන ඔවුහු එයට හවුල් කාරයෝ ද වෙති. ඒ තරුණයා ගේ හදවත ප්‍රීතියෙන් ආලෝක වන සැටි මම දිටිමි. තමා වනාන්තරයටත්, එහි වෙසෙන පක්ෂීන්ටත්, ආදරය කරන බව ඔහු කී ය. කුරුල්ලන් අල්ලන්නකු වූ හෙතෙම හැම කුරුල්ලකු ගේ ම හැඬිනිල ඇඳින සිටියේ ය. උපායෙන් උන් අල්ලා ගන්නා සැටි දන සිටියේ ය. "හැම දෙයක් ම හොඳ වුවත් වනාන්තරයේ සිටිනවාට වඩා සතුටක් මට නැතැ"යි ඔහු කී ය.

"තුඹේ කතාව ඇත්තයි. හැම දෙය ම සත්‍ය බැවින් හැම දෙය ම හොඳයි. හැම දෙය ම අලංකාරයි" මම පිළිතුරු දෙමින් කීමි. "මනුෂ්‍යයාට බොහො ම උපකාර වන අශ්වයා දෙස බලන්න, නැති නම් මනුෂ්‍යයාට ආහාරපාන සපයා දෙමින් සේවය කරන ගවයා දෙස බලන්න. ඔවුන් ගේ මුහුණු දෙස බලන්න. කිසි ම තෙතක් මෙතක් නැති ව තමන්ට තළන මනුෂ්‍යයාට මේ තිරි-සනුන් කො තරම් භක්තියෙන් සේවය කරනවා ද! කො තරම් යටහත් ද! කො තරම් කීකරු ද! කො තරම් ආදරේ ද! කො තරම් විශ්වාසදායක ද! කො තරම් අලංකාර ද! මේ තිරිසනුන් පව් නොකරන බව දනගැනීමට ලැබීම සිතට කො තරම් ලොකු සැනසීමක් ද? මනුෂ්‍යයා හැර අනෙක් සත්ත්වයෝ පාපයෙන් නිදහස් වී සිටිති. අප සමග සිටීමට පෙර ක්‍රිස්තුන් වහන්සේ ඔවුන් සමග වැඩ සිටින සේක."

"ඇයි ක්‍රිස්තුන් වහන්සේ ඔවුන් එක්ක ඉන්නේ?"යි තරුණයා ඇසුවේ ය.

"ක්‍රිස්තුන් වහන්සේ ගේ ධර්මය හැම දෙනාට ම පොදු වන නිසයි. මුළු නිර්මාණය ම, හැම සත්ත්වයෙක් ම, හැම කොළයක් ම, එතුමා ගේ ධර්මයට ආසාවෙන් සවන් දෙයි. ඔවුන් ගේ පාප-යෙන් තොර වූ අද්භූත ජීවිතයෙන් දෙවියන්ට තුති ගී ගයමින් ක්‍රිස්තුන් වහන්සේට යාච්ඤා කරමින් මෙය සපුරාලයි. වනාන්තරයේ බොහො ම ඇත බියකරු වූ, තර්ජනයක් වූ, වලහා වාසය කරයි. එහෙත් ඌ අහිංසකයි." වරක් වනයේ කුඩා ලෙනක ලැගුම් ගත් සාන්තුවරයකු වෙත වලහකු ගිය සැටි මම විස්තර කෙළෙමි. මේ වලහාට අනුකම්පා කළ සාන්තුවරයා කිසි ම බියක් සැකක් නැති ව ඌ ළඟට ගොස් පාන් කැල්ලක් දුන්නේ ය. "පලයන් යන්න, උඹට ක්‍රිස්තුන් වහන්සේ ගේ ආසිරි වාදය ලැබේවායි" සාන්තුවරයා කීවේ ය. එවිට ඒ භයානක සත්ත්වයා සාන්තුවරයාට කිසි ම හිරිහැරයක් නො කර, කීකරුව යන්න ගියේ ය. ඒ තිරිසනා වෙත ද ක්‍රිස්තුන් වහන්සේ වැඩ

වෙසෙන සේක. "එය කො තරම් යහපත් දෙයක් ද? දෙවියන් වහන්සේ ගේ නිර්මාණය කො තරම් යහපත් ද? කො තරම් අලංකාර ද?"යි තරුණයා ප්‍රීතියෙන් කී ය. ඔහුට කාරණය අවබෝධ වූ බව මම දිටිමි. ඔහු මා අසල පාපයෙන් තොර වූ සැපවත් නින්දක් නිඳ ගත්තේ ය. දෙවියන් වහන්සේ තරුණ වියට ආසිරිවාද කරත්වා! නිදාගැනීමට ගිය මම ද තරුණයා සිහි කොට දෙවියන්ට යාච්ඤා කෙළෙමි. "දෙවියන් වහන්ස, ඔබ වහන්සේගේ මනුෂ්‍යයන් වෙත සාමයත් ආලෝකයත් එවනු මැනව."

## දෙවන පරිච්ඡේදය

### (ඇ) සොසිමා තවුසා ගේ ගිහි ජීවිතය ගැනයි

පිටස්බර්ග් කැඩෙට් විද්‍යාලයයේ මම හවුරුදු අටක් පමණ කල් ගත කෙළෙමි. මා වාසය කළ පරිසරයේ අලංකාරය නිසා මගේ ළමාවිය පිළිබඳ සිතිවිලි බොහෝමයක් මගේ සිතින් ඈත් විය. එහෙත් සම්පූර්ණයෙන් ම අමතක වුණේ නැත. මා ඇති කර ගත් නොයෙක් අලුත් පුරුදු හා අදහස් නිසා මම ඉතා නපුරු සිතැත්තකු වුණෙමි. සමාජ චාරිත්‍ර සමග ප්‍රංශ බස ඉගෙන, බාහිර ඔපයක් ඇති කර ගත් මා ඇතුළු අනෙක් අය, අප යටතේ සිටින භටයන්ට සැලකුවේ ගවයන්ට සලකනවා වගෙයි. මා අනෙක් නිලධාරීන්ට වඩා නපුරු වූයේ වහා කිපෙන නිසයි නිලධාරීන් ලෙස පුහුණුවක් ලබා විද්‍යාලයයෙන් අස්වන අපි අපේ රෙජමේන්තුවේ ගෞරවය වෙනුවෙන් ජීවිත පරිත්‍යාග කිරීමට වුව ද සූදානමින් සිටියෙමු. එහෙත් ගෞරවය යන වචනයේ නියම තේරුම අප කිසිවකු දැන සිටියේ නැත. යම් කිසිවෙක් දැන සිටියේ නම්, ඔහුට අනෙක් අය සිනාසෙනවා ඇත. බේබදුකම, සල්ලාලකම, හා නොහික්මුණුකම ගැන අපි උඩඟු වුණෙමු. එහෙත් සවභාවයෙන් ම අප නරක පිරිසක් යයි කිව නො හැකි ය. අපි කවුරුත් යහපත් අය වීමු. එහෙත් අපි නොතිසි ලෙස හැසුරුණෙමු. මම හැම දෙනාට ම වඩා අන්ත වීමි. මා අනෙක් හැම දෙනාට ම වඩා අන්ත වුණේ අතේ මිටේ මුදල්-හදල් තිබුණ නිසයි. මම මුදල් වියදම් කරමින් සෙල්ලම් ජීවිතයක් ගත කෙළෙමි.

මම බොහො ම ආශාවෙන් පොත් පත් බැලීමි. එහෙත් පුදුමය නම් මා එ කල නො බැලූ එක ම පොත බයිබලයයි. මා

මේ පොත නිතර ගෙන ගියෙමි. පැය ගණන්, දවස් ගණන්, මාස ගණන්, හවුරුදු ගණන් බයිබලය ගෙන ගියෙමි. එහෙත් මා ඒ බව දැන සිටියේ නැත.

මම හවුරුදු හතරක් පමණ මෙසේ ජීවත් වීමි. ඊට පසු කාලයේ අපේ රෙජමේන්තුව කේ.................. නමැති නගරයේ වාඩිලාගත්තේ ය. ඒ නගරවාසීන් ධනවත් බවත්, ආගන්තුක සත්කාරයට කැමැති බවත් මම දැන ගතිමි. මගේ අතේ මිලමුදල් තිබුණු නිසාත්, මා අනෙක් අයට වඩා ප්‍රාණවත් වූ නිසාත්, කො තැනත් මම ඉතා ආදරයෙන් පිළිගනු ලැබීමි. කො තැනත් මුදලට වැඩි සැලැකිලි දක්වීම සිරිතයි. මේ හැම දෙයක ම ආරම්භය වූ ඉතා වැදගත් දෙයක් ඊට පස්සේ සිදුවි ය.

මම උසස් චරිතයකින් යුත් කුලවත්, ගුණවත්, උගත්, ලස්සණ තරුණියකට සෙනෙහසින් බැඳී සිටියෙමි. ඇගේ පවුල එම නගරයේ විසූ ඉතා ම ධනවත් උසස් පවුලයයි කිව හැකි ය. ඔවුහු හැම විට ම මා ඉතා ආදරයෙන් පිළිගෙන සංග්‍රහ කළහ. තරුණිය මා පිළිබඳ සිත් ඇතිව සිටින්නීයයි මම අදහස් කෙළෙමි. ඒ අදහස නිසා මා තුළ උග්‍ර ප්‍රීතියක් ඇතිවි ය. මා ඇයට ආලය නොකළ බවත්, මා කළේ ඇගේ උගත්කම හා චරිතය උසස් කොට සැලැකීම බවත් මම පසු ව මැනවින් අවබෝධ කෙළෙමි. ඇගේ උසස් චරිතයට හා උගත්කමට ගරු නො කර සිටිය නො හැකි ය. මා ඇයට ආලය කළේයැයි මා සිතා සිටි කාලයේ දී ඇයට මගේ අදහස් පැවැසීමට අවසථාවක් මට ලැබුණේ නැත. මගේ නාඹර වියේ, මුදල් හදල් අතේ ඇතිව මා ගත කළ නිදහස්, අශිෂ්ට, අවිවාහක, ජීවිතයේ ඇති ආකර්ෂණයෙන් වෙන්වීමට මම කැමැති නො වීමි. ඇය පිළිබඳ මගේ අදහස් හෙළි කිරීම මම මතු දවසකට කල් තැබුවෙමි. එහෙත් මම වරින්වර ඇයට මගේ අදහස් යන්තම් හෙළි කෙළෙමි. ඒ අතරේ හදිසියෙන් ම අපේ රෙජමේන්තුව වෙනත් පළාතකට යවනු ලැබි ය. දෙවසකට පස්සේ ආයේත් ආපසු නගරයට පැමිණි මම, ඇය අසල්වැසි ධනවතකු සමග විවාහ වී සිටින බව දැක පුදුම වීමි. මට වඩා වයසින් වැඩි වුවත් තරුණයකු වූ හෙතෙම පීටස්බර්ග් පුරයේ උසස් සමාජයත් සමග සබඳ කම් ඇති ව සිටියේ ය. එහෙත් මට එවැනි සබඳ-කමක් තිබුණේ නැත. හැරත් ඔහු උසස් අධ්‍යාපනයක් ලබා සිටියේ ය. අධ්‍යාපනය මට කොහෙත් ම තිබුණු දෙයක් නොවෙයි. බලාපොරොත්තු නොවූ මේ සිද්ධිය නිසා මගේ සිහි කල්පනාව අවුල් විය. මගේ සිහිය වඩාත් අවුල් වුණේ ඔහු ඇය සමග කාලයක

සිට විවාහ ගිවිස ගෙන සිටි බවත්, මා නගරයේ සිටි කාලයේ දී ඔහු ඇගේ නිවෙසට ආගිය බවත් මට දැන ගැනීමට ලැබුණු පසුවයි. මගේ තත්ත්වය ගැන මා කො තරම් අඥ වී සිටියේ ද කියතොත් මම මේ කිසිවක් නොදුටුවෙමි. මා තුළ බලවත් කෝපයක් ඇති වූයේ මේ කාරණය නිසයි. මා කො තරම් ලොකු මෝඩයෙක් ද? මා මේ ගැන කිසිවක් නො දැන සිටි අතරේ අනෙක් අය හැම දෙයක් ම දැන සිටියහ. හදිසියෙන් ම මා තුළ මැඩගත නො හැකි කෝපයක් ඇති විය. ඇයට මගේ ප්‍රේමය ප්‍රකාශ කිරීමට සැරසුණ සැටි මා මෙනෙහි කළේ ලැජ්ජාවෙන් රතු වූ මුහුණින් යුතුව ය. එහෙත් මට බාධා කිරීමට හෝ තමා විවාහ ගිවිස ගෙන සිටින බව පැවැසීමට හෝ ඇ වෑයම් නො කළා ය. ඇ මා ගැන සිනාසෙන්නට ඇතැයි මම තීරණය කෙළෙමි. පසු කාලයේ මේ ගැන තවදුරටත් කල්පනා කළ මම ඇ මා ගැන සිනා නොවූ බව තේරුම් ගතිමි. මා ඇයට ආලය ගැන සඳහන් කළ හැම විට ම ඇ විහිළුවක් කොට වෙනත් දෙයක් ගැන කතා කළා ය. එ කල එය මට තේරුම් ගත නො හැකි වූ හෙයින් මම ඇගෙන් පළිගැනීමට ඉක්මන් වුණෙමි. මගේ කෝපයත්, පළි ගැනීමේ චේතනාවත්, මගේ සවභාවයට ඉදුරා නොගැළපෙන බව සිහිවන විට මා තුළ පුදුමයක් ඇතිවෙයි. නිදැල්ලේ හැසිරෙන මට වැඩි කලක් කිසිවකු සමග තරහ වී සිටිය නො හැකි හෙයිනි. එ හෙයින් ඕනෑකමින් ම සිතේ කෝපයක් ඇති කර ගත් මම අන්තිමේ දී මෝඩයෙක් වීමි.

කදිම අවසථාවක් ලැබෙන තෙක් බලා සිටි මම දිනක් විශාල පිරිසක් මැද, මගේ 'විරුද්ධවාදියාට' අපහාස කෙළෙමි. මම ඔහුට අපහාස කළේ එ කල පැවැති ඉතා වැදගත් මහජන මතයක් ගැන ඔහු පැවැසූ අදහස්වලට ගරහමිනි. (මෙය සිදුවුණේ වර්ෂ 1826 දී ය.) මා කළ අපහාසය සාර්ථක වූ බව, අසා සිටි අය කීහ. ඔහුගෙන් නිදහසට කරුණු අසා සිටි මා කො තරම් අශෝභන ලෙස හැසුරුණේ ද කියතොත්, අප දෙදෙනා අතරේ පැවැති අසමානතා කම් අහසට පොළොව මෙන් ඈත් වුවත්, ඔහු මගේ අභියෝගය පිළිගත්තේ ය. ඔහුට සම කරන විට මා වයසින් බාලය. කිසි ම වැදගත් කමක් නැති පහත් පෙළේ නිලධරයෙක්ය. ඔහු මගේ අභියෝගය පිළිගත්තේ ඊර්ෂ්‍යාවෙන් හා කෝපයෙන් බව මම පසු ව දැනගතිමි. විවාහ වීමට පෙර ඔහු ගේ බිරිය සමග මා ආශ්‍රය කළ නිසා ඔහු මා ගැන ඊර්ෂ්‍යාවෙන් හා කෝප-යෙන් පසු විය. මගේ අපහාසයට යට වී, මගේ අභියෝගය නො පිළිගත්තොත් එය බිරියට ආරංචි වන්නට පිළිවන. එවිට ඇ තමා බියසුලු නිවටයකු ලෙස පහත් කොට සලකා තමාට

ආලය නො කරන්නට පිළිවනැයි ඔහු කල්පනා කෙළේ ය. අපේ රෙජමේන්තුවේ නිලධරයකු, මම මගේ සහකාරයා වශයෙන් තෝරා ගතිමි. එකල ද්වන්ද්ව යුද්ධවලට දරුණු දඬුවම් පමුණුවන ලදි. එහෙත් එය නිලධාරීන් අතරේ උසස් චාරිත්‍ර ධර්මයක් වශයෙන් පැවැතිණි. ඇතැම් විට එය සිතේ තදින් මුල් බැස ගත් තිරිසන් අවිචාර හැඟීමක් වී ය.

එය ජූලයි මාසාන්තයේ දිනයකි. පසු දින උදේ හතට නගර සීමාවෙන් පිට අපේ ද්වන්ද්ව යුද්ධය පැවැත්වීමට නියමව තිබිණි. එහෙත් අවසාන මොහොතේ දී අපූරු දෙයක් සිදුවිය. ඒ අපූරු දෙය මගේ ජීවිතය සම්පූර්ණයෙන් ම වෙනස් කළ ප්‍රධාන හේතුව විය. සවස වල් සතකු මෙන් ගෙදර පැමිණි මම මගේ සේවකයා සමග කිපී, මුළු වැර ම යොදා කම්මුල් පහරක් ගැසීමි. ඔහු ගේ කටින් ලේ ගලන්නට විය. ඔහු මට සේවය කරන්නට වී වැඩි කාලයක් නැත. මීට කලින් දා මම කීප වරක් ම ඔහුට පහර දිනිමි. එහෙත් මෙතරම් වේගයෙන් පහර නුදුන්නෙමි. හිතවතුනි, මා කියන දෙය විශ්වාස කරන්න. දන් මෙය සිදුවී හවුරුදු හතළිහක් පමණ ඇත. එහෙත් මා එය සිහි කරන්නේ ලැජ්ජාවෙන් හා වේදනාවෙන් යුතුව ය. අනතුරු ව මම පැය තුනක් පමණ නිදා ගතිමි. මා අවදි වන විට දිනය පහන් වී තිබුණේ ය. මම ඇඳෙන් නැගිට්ටෙමි. නැවැත නිදා ගැනීමට මා තුළ කැමැත්තක් නැත. මම කවුළුව ළගට ගොස් කවුළුව ඇර වත්ත දෙස බැලීමි. ඉර පායන සැටි බලා සිටියෙමි. එය ඉතා උණුසුම් අලංකාර දිනයකි. කුරුල්ලෝ මිහිරි ගී ගයන්නට වූහ. එවේලේ මගේ සිතේ ලැජ්ජාවෙන් හා නින්දාවෙන් හටගත් පුදුම හැඟීමක් ඇති බව මට දනිණි. එහි තේරුම කුමක් විය හැකි දැයි මම කල්පනා කෙළෙමි. එවැනි පහත් හැඟීමක් ඇති වන්නේ මා මිනිසකු මැරීමට යන නිසා ද? නැත, එය එසේ විය නො-හැකියයි මම කල්පනා කෙළෙමි. නැතිනම් මේ හැඟීම ඇති වූයේ මා තුළ මරණයට ඇති බිය නිසා ද? නැත එය ද නො වේ ........................එහෙත් හදිසියෙන් ම මම එය දන ගතිමි. මේ හැඟීම් මා තුළ ඇති වූයේ පෙර දින රෑ මා මගේ සේවකයාට පහර දුන් නිසා ය. මා ඔහුට පහර දුන් සැටි මට නැවැත නැවැතත් පෙනෙන්නට විය. මම ඔහු ගේ මුහුණට මිට මොලවා ඇන්නෙමි. ඔහු මා දෙස බලා මගේ පහරට මුහුණ දුන්නේ දත පහත දමා, හිස කෙළින් තබා, පෙළ ගැසී නිශ්චලව සිටින්නකු මෙනි. මා ගැසූ හැම පහරකින් ම වීසිවී ගිය හෙතෙම ආරක්ෂාව පිණිස අතවත් නො සෙල්ලුවේ ය. මිනිසකු මිලයට ගන්නේ මෙසේ සංග්‍රහ කිරීම පිණිස ය. එය මිනිසකු තවත්

මිනිසකුට පහර දුන් සැටි දක්වන්නකි. එය කො තරම් දරුණු අපරාධයක් ද? තියුණු අවියකින් හදවත සිදුරු කළාක් මෙන් මා තුළ දරුණු වේදනාවක් ඇති විය. මම සිහි බුද්ධිය නැති දූවකු මෙන් නො සැලී බලා සිටියෙමි. හිරු බබළයි. හිරුරැස් සිපගත් අතුපත් මඳ නල සමග ප්‍රීති වෙයි. සියොත්හු දෙවියන්ට තුති ගී ගයයි...................දෑතින් ම මුහුණ වසා ගත් මම ඇඳ උඩ වැතිර ඇඩුවෙමි. මගේ අයියා මරණමඤ්චකයේ සිට ඔහු ගේ දසයන්ට කී දෙස මට සිහි විය. "නුඹලා මට මෙ තරම් සත්කාර කරන්නේ මන් ද? මට මෙ තරම් ආදරය මන් ද? නුඹලා ගේ ගරුසත්කාර ලැබීමට තරම් සුදුස්සෙක් ද?" "එසේ නම් මා ද අනුන් ගෙන් ගරු-සත්කාර ලැබීමට තරම් සුදුස්සෙක් ද?" යන ප්‍රශ්නය හදිසියෙන් ම මා තුළ ඇති විය. "දෙවියන් ගේ රුව අනුව මවන ලද තවත් මිනිසකු ගෙන් ගරුසත්කාර ලැබීමට තරම් මා තුළ ඇති සුදුසුකම් මොනවා ද?" මෙසේ ජීවිතයේ පළමු වරට මේ ප්‍රශ්නය මගේ සිතේ තදින් බලපැවැත් වී ය.

"මගේ පෙම්බර අම්මේ, හැම මිනිසා ම, හැම දෙයකට ම වග කිව යුතුයි. නමුත් මිනිසුන් මේ බව දන්නේ නැහැ. දැනගත් දාට මේ ලෝකය දෙව් ලොවක් වෙනවා."

"අහෝ, දෙවියනි. මෙය බොරුවක් විය හැකි ද?"යි මම අඩමින් කල්පනා කෙළෙමි, "සමහර විට මා අනෙක් අයට වඩා හැම දෙයකට ම වග කිව යුතුයි. මෙ ලොව වෙසෙන හැම දෙනාට ම වඩා මා පව්කාරයකු විය හැකි යි." හදිසියෙන් ම මට සත්‍ය අවබෝධ විය. මා කුමක් කරන්නට සැරසෙන්නේ ද? මට කිසි ම වරදක් නො කළ, නැණවත්, ගුණවත්, කුලවතකු මරා දැමීමට නො වේ ද මා සැරසෙන්නේ? ඔහු මරා දැමීමෙන් මා කරන්නේ ඔහු ගේ බිරිඳ ගේ ජීවිතය සදහට ම අඳුරු කිරීම ය. ඇයට දුක් පීඩා පැමිණවීම ය. මම කොට්ටයෙන් මුහුණ වසා ගෙන මෙසේ කල්පනා කෙළෙමි. මෙසේ කල්පනා කරමින් සිටි මට කාලය ගෙවී යන බව නො දැනිණි. ද්වන්ද්ව යුද්ධය සඳහා පිස්තෝල සූදානම් කරගත් මගේ සහකාරයා හදිසියෙන් ම පැමිණියේ ය

"සූදානම් වී සිටින එක හොඳයි. දැන් වෙලාව හරි. ඉක්මනට යමු"යි ඔහු කී ය.

කුමක් කළ යුතු දැයි නොදත් මම කාමරය තුළ ඒ මේ අතට ඇවිද්දෙමි. කෙසේ වෙතත් අපි අන්තිමේ දී කරත්තයට නැඟ ගතිමු.

"ටිකක් ඉන්න සල්ලි ගන්න අමතක වුණා. ඉක්මනට එන්නම්." මෙසේ කී මම කරත්තයෙන් බැස, කෙළින් ම මගේ දූසයා ගේ කාමරයට ගියෙමි.

"සහෝදරයා, මම ඊයේ උඹේ මුහුණට දෙ පාරක් ගැහැව්වා. කරුණා කරලා මට සමා වන්න''යි මම කීමි.

තිතැතින් ම තැතිගත් එකෙකු සේ ඔහු මා දෙස බැලුවේ ය. මගේ කතාව ප්‍රමාණවත් නොවන බව දුටු මම, මා ඇඳ සිටි නිලකර ඇඳුම් පිටින් ම ඔහු ගේ දෙපා ළග බිම වැටී හිස නමා ආචාර කොට "මට සමා වන්න"යි කීමි.

ඔහු බිරාන්ත විය.

"මොකද හාමුදුරුවනේ මේ කරන්නේ? තමුන්නාන්සේ-ගෙන් වැඳුම් ගැනීමට තරම් මා සුදුස්සෙක් ද?"යි ඇසූ දූසයා, මා ටිකකට කලින් ඇඩුවාක් මෙන් දෑතින් මුහුණ වසා ගෙන ඇඩුවේ ය. මම වහා අංපසු රථයට දිවගොස් මගේ මිත්‍රයා සමග නික්ම ගියෙමි.

"මීට කලින් දකලා තියෙනවා ද නියම ජයග්‍රාහකයෙක්? දැන් තමුසේ ඉදිරිපිට ඉන්නේ නියම ජයග්‍රාහකයෙක්''යයි මම මිත්‍රයාට කීමි.

මුළු ගමනේ දී ම මම මහත් සතුටින් කතා කෙළෙමි. සිනා-සුණෙමි. එහෙත් මා කතා කළේ කුමක් ගැන ද? සිනාසුණේ කුමක් ගැනදැයි මම නො දනිමි.

"සහෝදරයා, තමුසේ ලොකු වීරයෙක්. ඇඳගෙන සිටින නිලකුර ඇඳුමේ ගෞරවය ආරක්ෂා කිරීමට තරම් සමතෙක් බව මට පේනවා''යි ඔහු මා දෙස බලා කී ය.

අන්තිමේ දී අපි ද්වන්ද්ව යුද්ධය පැවැත්වීමට නියම කරගත් ස්ථානයට පැමිණියෙමු. මා පැමිණෙන තෙක් මගේ විරුද්ධ වාදියා බලා සිටියේ ය. අපි දෙදෙනා අඩි දොළහක් පමණ ඈතින් එකිනෙකාට මුහුණලා සිටියෙමු. පළමු ව වෙඩි තැබීමේ වාරය ඔහු සතු විය. මට වෙඩි තබනතෙක් මම මහත් ප්‍රීතියෙන් ඔහු ගේ මුහුණ දෙස බලා සිටියෙමි. මම ඇසි පිය ගැසීම පවා නො කෙළෙමි. මා කිරීමට අදහස් කළ දෙය මැනැවින් දැන සිටි මම ඔහු දෙස ආදරයෙන් බලා සිටියෙමි. ඔහු ගේ වෙඩි පහර මගේ කම්මුල හා කන ළගින් ගෑවී ගියේ ය.

"දෙයියන්ට පින්සිද්ධ වෙච්චාවෙන්, කිසි ම විපතක් වුණේ නැහැ"යි කෑගා කී මම අතේ තිබුණු පිස්තෝලය කැලේට වීසි කොට "නුඹට සුදුසු තැන් ඔතැනයි" කීමි.

අනතුරු ව මම මගේ විරුද්ධවාදියා දෙසට හැරී මෙසේ කීමි.

"මහත්මයාට අපහාස කරලා ද්වන්ද්ව යුද්ධයකට අභියෝග කළ මෝඩයකු වූ මට සමා වන්න. සමහර විට මහත්මයාට වඩා මා දහස් වාරයක් තරක් වෙන්න පුළුවනි. මේ ලෝකයේ මහත්මයා දැඩි ව ආලය කරන තැනැත්තියට ඒ බව දන්වන්න."

මා මෙසේ කියා නිම කරනවාත් සමග ම තිදෙනා ම මට බණින්නට වූ හ.

"මා එක්ක යුද්ධ කිරීමට අකැමැති නම් ඇයි මට නිකරුණේ අපහාස කළේ?"යි මගේ විරුද්ධ වාදියා කිපී ඇසුවේ ය.

"මම ඊයේ මෝඩ කමක් කළාට අදත් මෝඩකම් කරන්නේ නැහැ"යි මම සිනාසෙමින් කීමි.

"ඊයේ මහත්මයා කළ කී දෙය මම විශ්වාස කරනවා. එහෙත් අද මහත්මයා ගේ හැසිරීම මට තේරුම් ගන්න බැහැ."

"මහත්මයා ගේ කතාව මම ලියාගන්නවා"යි මම කීමි.

"මහත්මයා මට වෙඩි තියනව ද නැද් ද?"

"නැහැ, මම වෙඩි තියන්නේ නැහැ"යි මම කීමි. "කැමැති නම් ආයෙත් වරක් මට වෙඩි තියන්න. එහෙත් වෙඩි නො-තියනවානම් වැඩිය හොඳයි."

මගේ සහකාරයා මට බණින්නට විය. "විරුද්ධවාදියා ගෙන් සමාව ඉල්ලීමෙන් කරන්නේ අපේ රෙජමේන්තුවට නින්දාවක්. මා මේ බව කලින් දැන සිටියා නම්............"

මම සහකාරයන් දෙස බලා මෙසේ කීමි. එහෙත් මෙ වර සිනා නොවුණෙමි.

"මහත්වරුනි, තමා විසින් කරන ලද මෝඩකම් ගැන පසු තැවෙමින් ඒ මෝඩකම් ප්‍රසිද්ධියේ පිළිගන්නා අයෙක් මේ කාලේ සොයා ගැනීම එ තරම් ලොකු පුදුමයක් ද?"

"එහෙත් මෙ වැනි ද්වන්ද්ව යුද්යක දී එහෙම කරන්නේ නැහැ"යි මගේ මිත්‍රයා කී ය.

"ඒක තමයි පුදුමය" මම පිළිතුරු දෙමින් කීමි.

"මා මෙ තැනට ආපු හැටියේ ම මගේ විරුද්ධවාදියා මට වෙඩි තියන්නට කලින් මට තිබුණේ මගේ වරද පිළිගැනීමටයි. මේ භයානක පාපයට මා පොළඹවන්නට කලින් මට තිබුණේ මගේ වරද පිළිගැනීමටයි. එහෙත් අපි අපේ ජීවිත විහිළුවක් කරගෙන තියෙන නිසා ඒ වගේ දෙයක් කොහෙත් ම කරන්න බැහැ. මගේ කතාවට සැලැකිල්ලක් දක්වූයේ අඩි දෙළහක් ඈතින් ඉඳලා වෙඩි තැබුවට පසුව යි. ඒත් ඊට කලින් මා මේ කතාව කළානම් මේ මහත්මයා කියවි, 'මහත්වරුනි, මේ මිනිහා බය ගුල්ලෙක්, නිවටයෙක්, පිස්තෝලය දක්ක හැටියේ ම භය වුණා, මිනිහා කියන කතාවේ කිසි ම වැදගත්කමක් නැහැ' කියා මෙසේ පැවැසූ මම මගේ හදපත්ලෙන් නැගුණු හැඟීම් නොවළහා හෙළි කෙළෙමි. "මහත්වරුනි, දෙවියන් වහන්සේ විසින් අපට දී තිබෙන පඩුරු දෙස බලන්න. පාපයෙන් නිදහස් වූ සොබාදහම බොහො ම අලංකාරයි. නිල් පැහැති අහස, පිරිසුදු වාතය මෙලෙක් තණ කොළ, හා අලංකාර පක්ෂීන් දෙස බලන්න. එහෙත් අපි පාපයෙහි ගිලී සිටින්නෙමු. අනුවණ සිත් ඇත්තෝ වෙමු. මේ ජීවිතය දෙව්ලොවට සමාන බව අපි තව ම තේරුම් ගෙන නැහැ. අපට තිබෙන්නේ මේ සත්‍යය තේරුම් ගැනීමට පමණයි. තේරුම් ගත්ත වහා ම ජීවිතය ඉතා අලංකාර දෙයක් වේවි. එතකොට අපට එකිනෙකා වැලඳගෙන ප්‍රීතියෙන් කඳුළු සැලිය හැකියි."

කිව යුතු දෑ බොහෝ ඇතත් ඊට වඩා මට කතා කර ගත නො හැකි විය. සිතේ හටගත් මිහිර හා ප්‍රීතිය නිසා කතා කර ගත නො හැකි විය. මීට කලින් කිසි කලක ඇති නොවූ ප්‍රීති-යකින් හා සුවයකින් මගේ හදවත පිරිණි.

"මහත්මයා ගේ අදහස අලුත්, තර්කාන්විතයි, ඥානවන්තයි." මගේ විරුද්ධවාදියා කී ය.

"මහත්මයා මා ගැන සිතාසෙන්න පුළුවනි"යි මම ද සිනා සෙමින් කීමි. "දැන් සිනාසුණත් පස්සේ මහත්මයා මගේ අදහස් පිළිගනී වි."

"මහත්මයා ගේ අදහස් මම අනුමත කරනවා. එසේ නම් මහත්මයා අත දෙනවා ද? මා හිතනවා මහත්මයා අවංකය කියා."

"දැන් ම නො වෙයි, මහත්මයා ගේ ගෞරවය ලැබීමට තරම් මා සුදුස්සකු වූ පසු ව මම මහත්මයාට අත දෙන්නම්."

අපි ගෙදර ගියෙමු. මුළු ගමනේ දී ම මගේ මිත්‍රයා මට දෙස්

කීවේ ය. ඔහු සමග අමනාප නොවූ මම ඔහු ගේ මුහුණ සිම්බෙමි. මේ ගැන සැළ වූ වහා ම මගේ මිත්‍රයෝ මා විනිශ්චය කිරීම පිණිස රැස් වූහ.

"මිනිහා අප අඳින නිලකර ඇඳුමට අපහාස කළා. මිනිහා රෙජමේන්තුවෙන් අස්විය යුතුයි" ඔවුහු කීහ.

"ඒත් මිනිහා නිර්භීත ව වෙඩි පහරට මුහුණ දුන්නා"යි ඊට විරුද්ධ වූ අය පැවැසූ හ.

"ඔව් ඒක ඇත්තයි. ඒත් දෙවන වෙඩි පහරට මුහුණ දීමට බය වූ නිසා සමාව ඉල්ලුවා."

"බියගුල්ලෙක් නම් සමාව ඉල්ලන්න ඉස්සෙල්ලා විරුද්ධ වාදියාට වෙඩි තියනවා නමුත් ඒ වෙනුවට පිස්තෝලය කැලේට විසිකළා. මෙහි කිසියම් සැඟවුන අදහසක් තියෙනවා."

ඔවුන් දෙස බලා සවන් දෙමින් විනෝද වූ මම අන්තිමේ දී මෙසේ කීමි. "ප්‍රිය මිත්‍රවරුනි, ප්‍රිය සහෝදරයනි, මා රෙජමේන්තු වෙන් අස්කිරීම ගැන භය වෙන්න එපා. මම දනට ම අස්වුණා මම අස්වීමේ ලියකියවිලි අද උදේ භාරදුන්නා. අස් වූ වහා ම මම පූජකයෙක් වෙනවා. තාපසාරාමයකට අතුළුවීමේ අදහසිනුයි මම රෙජමේන්තුවෙන් අස්වෙන්නේ."

මගේ කතාව අසා ඔවුහු කොක්හඬලා සිනා සුණහ.

ඔවුහු සිනාසුණහ. ඔවුන්ට ඒ සිනාව නතර කරගත නොහැකි විය. එහෙත් සිනාසුණේ අපහාසයක් වශයෙන් නො ව සිතේ හටගත් ප්‍රීතියෙනි. මා පහත් කොට සිතා අපහාස කළ අය ද වහා ම මා සමග මිත්‍ර වූහ. ඊළග මාසය පුරා, එනම් මගේ අස්වීමේ ලියකියවිලි ලැබෙන තෙක් ම ඔවුහු 'පූජකයා' කියමින් මට විහිළු තහළු කළහ. ආදරයෙන් කතා කළහ. "තුඹ කරගත්ත මේ වීපැත්තිය කුමක් ද?"යි කියමින් සමහරු මට විහිළු තහළු කළහ.

"නැහැ, මිනිහා බොහො ම නිර්භීතයි." ඔවුහු කීහ. "කිසි ම බයක් හැකක් නැති ව වෙඩි පහරට මුහුණ දුන්නා. මිනිහටත් තිබුණා වෙඩි තියන්න. වෙඩි නොතියා පිස්තෝලය විසිකළේ කලින් දවසේ රෑ පූජකයකු විය යුතු බව හීනෙන් පෙනුණ නිසයි."

ගම්වැසියෝ ද එ තැන් සිට මට අමුතු සැළකිල්ලක් දක්වන්නට පටන් ගත්හ. මෙතෙක් ගම්වැසියෝ මා ඉතා ආදරයෙන්

පිළිගත්තමුත් විශේෂ සැලැකිල්ලක් නො දක්වූහ. එහෙත් එක් වර ම මුළු ගමම මා ඇඳින ගන්තේ ය. තමතමන් ගේ ගෙවල් දොරවල්වලට පැමිණෙන ලෙස ආරාධනා කළහ. මට සිනාසුණහ. ඒ සමග මට ආදරය කළහ. ඔවුන් අපේ ද්වන්ද්ව යුද්ධය ගැන එළිපිට ම කතාබහ කළත් රජය අපට දඬුවම් නොකළේ මගේ විරුද්ධවාදියා නායක සෙනෙවි තුමා ගේ නෑයකු වූ නිසා බව මෙහි දී සඳහන් කළ යුතු ය. හැරත් කිසිවකුට තුවාල නුවූ නිසාත්, මා හමුදාවෙන් අස් වූ නිසාත්, රජය අපට දඬුවම් කරනවා වෙනුවට අපේ ද්වන්ද්ව යුද්ධය විහිළුවක් කොට සැලැකුවා ය. ඉන්පසු ඔවුන් ගේ සිනාව නොතකා මම මගේ අදහස් නිර්භය ව ප්‍රකාශ කෙළෙමි. ඔවුන් සිනාසුණේ ද්වේෂයෙන් නො වේ. සාමාන්‍ය යෙන් මා මගේ අදහස් හෙළි කරමින් කතා කළේ සවස් කාලයේ කාන්තාවන් සමග ය. ඓවසෙසින් ම කාන්තාවෝ මට සවන් දීමට කැමැති වූ අතරේ මට සවන් දෙන ලෙස පිරිමින්ට බල කළහ.

"කොහොම ද අනෙක් අය ගේ පව් පිංවලට වග කියන්නේ?" යි ඔවුහු සිනාසෙමින් ඇසූ හ. "මට පුළුවන් ද මහත්මයා වෙනුවෙන් වග කියන්න."

"සමහර විට තමුන්නාන්සේලා මේ ගැන කිසිවක් නොදන්වා-විය හැකියි" මම පිළිතුරු දෙමින් කීමි. "මෙතෙක් කල් ලෝකය ගියේ වැරදි මගකයි. මෙතෙක් කල් අපි බොරුව සත්‍යය ලෙස පිළිගත්තා. ඒ අතරේ අනෙක් අයගෙන් බොරුව බලාපොරොත්තු වුණා. මගේ ජීවිතයේ දී එක්වරකට පමණක් මම අවංකව ක්‍රියා කළා. ඒ නිසා තමුන්නාන්සේලා මා පිස්සකු ලෙස හඳුන්වා මට ලොකු හිතවත්කමක් දක්වන අතර සිනාසෙනවා."

"අපි කොහොම ද මහත්මයා එක්ක මිත්‍ර නො වී සිටින්නේ?" යි ගෘහපතිනිය සිනා සෙමින් ඇසුවා ය. විසිත්තකාමරයේ අමුත්තන් බොහෝ දෙනෙක් රැස් වී උන්හ. අමුත්තන් අතරේ සිටි තරුණ කතක් හදිසියෙන් ම නැඟී සිටියා ය. අපි කලහ කරගත්තේ මේ කාන්තාව නිසා ය. ටික කලකට පෙර මා බිරිය කර ගැනීමට බලාපොරොත්තු වුණේ මේ කාන්තාව ය. ඇ කාමරයට ඇතුළු වනවා මම නො දුටුවෙමි. හිඳ සිටි අස්නෙන් නැඟී සිටි කාන්තාව මා ළගට පැමිණ ඇගේ අත පිරිනැමුවා ය.

"මහත්මයා ගේ අදහස අසා මහත්මයා ගැන සිතා නොවූ පළමු තැනැත්තා මාය. සිනාසෙනවා වෙනුවට දෑසේ ප්‍රීතියෙන් පිරුණු කඳුළු ඇති ව මහත්මයාට ස්තුති කළා. මහත්මයා ගේ ශ්‍රේෂ්ඨ ක්‍රියාව ගැන මගේ ගෞරවය මහත්මයාට හිමි වෙනවා" යි ඇ කීවා ය.

අනතුරු ව ඇගේ සැමියා ද මා ළඟට පැමිණි පසු කාමරයේ සිටි හැම දෙනා ම මා වට කරගත්හ. ඔවුන් ආදරයෙන් මා නොසිඹිබා පමණි. මගේ හදවත ප්‍රීතියෙන් පිරීගියේ ය. එහෙත් මගේ සිත ඇදී ගියේ අනෙක් අය සමග මා ළඟට පැමිණි තලතුනා මහතකු කෙරෙහි ය. මම ඔහු ගේ නම අසා ඇතත් එ දින සවස වන තුරු ඔහු සමග කතා කර නැත්තෙමි.

## (ඇ) අද්භූත ආගන්තුකයා

බොහෝ කාලයක සිට මේ නගරයේ සිවිල් නිලධාරියකුව සිටින මේ මහතා උසස් තත්ත්වයක් උසුලන්නෙකි. මුළු නගරයේ ම ගෞරවය දිනා ගෙන සිටි ඔහු ධනවතෙකි. පරාර්ථකාමියෙකි. ඔහු රහසින් විශාල ධනයක් අනාථ නිවාසවලට පරිත්‍යාග කර තිබෙන බව හෙළි වූයේ ඔහු ගේ මරණයෙන් පසු ව ය. හවුරුදු පනහක් පමණ වයසැති හෙතෙ ම උස මහත පුද්ගලයෙකි. එහෙත් ඔහු වඩා කතා නො කළේ ය. ඔහු විවාහ වුණේ මීට හවුරුදු දහයකට පමණ පෙර ය. තවමත් තුරුණුවියේ සිටින ඔහු ගේ බිරිය ඔහුට දූව දරුවන් තිදෙනකු වැදුවා ය. පසු දින සවස මා මගේ කාමරයේ හිඳිනා විට ඔහු දොර ඇර ගෙන කාමරයට අතුළු විය.

මා දැන් වාසය කරන්නේ මීට කලින් නතර වී සිටි ස්ථානයෙහි නොවන බව මෙහි ලා සඳහන් කළ යුතු ය. හමුදාවෙන් ඉවත්වීමට ලියකියවිලි බාරදුන් වහා ම මම, මිය ගිය රජයේ ලියන්නකු ගේ වැන්දඹු බිරියක ගේ නිවෙසේ කාමරයක් ගෙන පදිංචි වුණෙමි. දැන් මගේ වැඩ කටයුතු කරලා දෙන්නේ මේ මහලු කාන්තාව ගේ සේවකයා ය. මා ඇගේ ගෙයි කාමරයක් ගෙන පදිංචිවුණේ ද්වන්දව යුද්ධයෙන් පසු ගෙදර පැමිණි වහා ම මගේ සේවකයා ආපසු රෙජිමේන්තුවට යැවූ හෙයිනි. ද්වන්දව යුද්ධයට යාමට කලින් අප දෙදෙනා අතරේ සිදුවූ දෙයින් පසු ව ඔහු ගේ මුහුණ බැලීමට මම ලැජ්ජා වීමි. තමා විසින් කරන ලද යහපත් ක්‍රියාවක් ගැන ලජ්ජාවීමට තරම් පුහුදුන් මිනිහාට හුරුකම් ඇත්තේ ය.

"පහුගිය දවස් කීපය තුළ මහත්මයා නොයෙක් තැන්වල කළ කතා බහ මම බොහො ම ආසාවෙන් අසා සිටියා. මේ අදහස් ගැන වඩාත් හොඳට සාකච්ඡා කිරීම පිණිස මහත්මයා කිට්ටුවෙන් ආශ්‍රය කිරීමට මම අදහස් කළා. මහත්මයා ඒකට විරුද්ධ නැහැ නේ ද?"යි අමුත්තා මගෙන් විමසුවේ ය.

මහත්මයා සමග මිත්‍ර කමක් ඇති කර ගනීමට මා බොහෝ ම

කැමැතියි. ඒක මට කරන ගෞරවයක් ලෙස සලකනා''යි මං කිවේ සිතේ ඇති වූ නොසන්සුන්කමින් යුතුව ය. මේ මිනිහා පළමු වරට දුටුහැටියේ මා තුළ මහත් සැලැකිල්ලක් ඇති විය. මගේ අදහස්වලට බොහෝ දෙනා සැලැකිල්ලෙන් සවන්දුන්නත් මෙ තෙක් කල් කිසිවෙක් මෙ තරම් උනන්දුවක් දක්වා මා හමුවීමට නො පැමිණියේ ය. මගේ අදහස්වලට සැලැකිල්ලක් දක්වා සිය කැමැත්තෙන් ම මා වෙත පැමිණි ආගන්තුකයා හිඳගත්තේ ය.

"මහත්මයා ආත්ම ශක්තියක් තියෙන තැනැත්තෙකු බව මට පෙනී ගියා''යි ඔහු කී ය. "මහත්මයා හැම දෙනා ම පිළිකුල් කරද්දී කිසි ම බයක් චකිතයක් නැති ව ඇත්ත ප්‍රකාශ කළේ එඩිතර සිතැත්තකු නිසායි.''

"මා කළ දෙය මහත්මා ප්‍රමාණය ඉක්මවා වර්ණනා කරනවා''යි මම කීමි.

"නැහැ, මා ප්‍රමාණය ඉක්මවා වර්ණනා කරනවා නො වෙයි'' අමුත්තා කී ය. "ඇත්ත කීම මහත්මයා හිතන තරම් ලෙහෙසි වැඩක් නො වෙයි, මම මහත්මයා ගැන මෙ තරම් ලොකු සැලැකිල්ලක් දක්වා හමු වෙන්න ආවේ මේ කාරණාව නිසායි. මා දක්වන නොහොබිනා කුතුහලය ගැන මා එක්ක තරහ නො වී ද්වන්දව යුද්ධයේ දී විරුද්ධවාදියා ගෙන් සමාව ඉල්ලන කොට මහත්මයා තුළ ඇති වුණේ කුමන විධියේ අදහස් ද කියා මට කරුණා කරලා කියන්න පුළුවන් ද? මා අහන්නේ නොවැදගත් ප්‍රශ්නයක් ය කියා හිතන්න එපා. මා මේ ප්‍රශ්නය අහන්නේ එක්තරා අභිප්‍රායක් ඇතිවයි. ඒ අභිප්‍රාය රහසක්. එහෙත් අප දෙදෙනා දැඩි මිත්‍රයන් වීම දෙවියන් වහන්සේ ගේ කැමැත්තනම් මගේ ඒ අභිප්‍රාය මම මහත්මයාට විස්තර කරලා කියන්නම්.''

ඔහු කතා කළ මුළු කාලය තුළ ම මම ඔහු ගේ මුහුණ දෙස ඕනෑකමින් බලා සිටියෙමි. මෙසේ බලා සිටින අතරේ ඔහු ගැන සම්පූර්ණ විශ්වාසයක් මා තුළ ඇති විය. ඒ විශ්වාසය සමග කුතුහලය ද ඇති වූයේ ඔහු ගේ ආත්මය තුළ අමුතු රහසක් සැඟවී ඇති බව මට දැනුණ නිසායි.

"විරුද්ධවාදියා ගෙන් සමාව ඉල්ලන අවසථාවේ දී මා තුළ ඇති වූ හැඟීම් ගැන මහත්මයා ප්‍රශ්න කළා නේ ද?'' මම පිළිතුරු දෙමින් කීමි. "එකට පිළිතුරු දීමට කලින් මෙතෙක් කල් මා කිසිවකුට නොකී දෙයක් මහත්මයාට කිය යුතුයි.'' මෙසේ පැවසූ මම මගේ දාසයා හා මා අතරේ සිදුවූ සියලු දෙයත්, මම ඔහු ගේ දෙපා ලඟ වැටී නමස්කාර කළ සැටිත් කීමි. "මහත්මයාට පේනවා නේ ද සමාව ඉල්ලීම ගෙදර සිට පටන්ගත්ත නිසා ද්වන්දව යුද්ධය පැවැති වේලාවේ දී මගේ විරුද්ධවාදියා ගෙන් සමාව ඉල්ලීම මට

එ තරම් අපහසුවක් නොවූ බව ! මේ මාර්ගයට බැස්සාට පස්සේ එහි යාම අපහසු වැඩක් නොවන බව මහත්මයාට පේනවා නේද? මේ මාර්ගයේ යාම සිතට මහත් ප්‍රීතියක්, සැපයක්."

ඔහු මට සවන් දෙමින් මා දෙස බලා සිටි සැටි මගේ සිත් ගත්තේ ය. "මහත්මයා ගේ කතාව බොහො ම වැදගත්. මම වරින්වර මහත්මයා හමුවෙන්න එන්නම්"යයි ඔහු පැවසී ය.

එදා සිට හැම ද සවස ඔහු මා හමුවීමට පැමිණියේ ය. ඔහු තමා ගැන විස්තරයක් කළා නම් අප අතරේ පැවැති මිත්‍රකම වඩාත් දඩි වන්නට ඉඩ තිබිණි. නිතර මා ගැන විමසූ හෙතෙම කිසි විටක තමා ගැන වචනයක්වත් නොකීවේ ය. එහෙත් ඔහුට මහත් ලැදි කමක් දක් වූ මම, මගේ හැඟීම් ගැන අවංක ව විස්තර කොට කීමි. ඔහු අවංක මිනිසකු බව පෙනෙන විට ඔහු පිළිබඳ රහස සොයන්නේ කුමට ද? හැරත් ඔහු මට වඩා වැඩිමල් ය. මා වැනි තරුණයකු හමුවීමට පැමිණ මට සම තත්ත්වයේ ලා සලකයි. ඔහු බුද්ධිමතකු බැවින් මම ඔහු ගෙන් බොහෝ ද දැන ගතිමි.

"ජීවිතය සවගීරාජ්‍යයට සමානයි. මම බොහෝ කාලයක ඉඳල මේ ගැන කල්පනා කළා. මේ ගැන මිස මා වෙන කිසි ම දෙයක් ගැන කල්පනාකළේ නැහැ"යි හඳිසියෙන්ම කී හෙතෙම අනතුරු ව මා දෙස බලා සිනාසී මෙසේ කිවේ ය. "ජීවිතය ස්වර්ග රාජ්‍යයට සමාන බව මහත්මයාට වඩා හොඳට මා පිළිගෙන තියෙනවා. මා එසේ පිළිගෙන තියෙන්නේ මොන කරුණක් නිසා ද කියා පසු ව කියන්නම්."

ඔහු මට යම්කිසිවක් කීමට බලාපොරොත්තු වන්නේ යයි ඔහුට සවන් දුන් මම කල්පනා කෙළෙමි.

"ස්වර්ග රාජ්‍යය අප හැම දෙනා තුළ ම සැඟවී තියෙන දෙයක්"යයි ඔහු කීවේ ය. "එය මා තුළ ද සැඟ වී තියෙනවා. දැන් මට තියෙන්නේ ඒ ගැන සිතීම පමණයි. සිතූ හැටියේ ම එහි සත්‍යය මා වෙත පැමිණ මගේ ජීවිතය අවසන් වනතෙක් මා සමග සිටිනවා." අවදි වූ හැඟීම්වලින් යුතු ව කතා කළ හෙතෙම අද්භූත බැල්මෙන් මා දෙස බලා මෙසේ කී ය. "තමා විසින් කරන ලද පව් හැර, හැම දෙනාත්, හැම දෙයටත් තමා වග කිව යුතු බව මහත්මයා කල්පනා කිරීම බොහො ම හොඳයි. මෙ වැනි ගැටළු ප්‍රශ්නයක් මහත්මයා එක් වර ම සම්පූර්ණයෙන් ම අවබෝධ කර ගැනීම මහ පුදුමයක්. මේ සත්‍යය අවබෝධ කර ගත්,

වහා ම මිනිසාට ස්වර්ග රාජ්‍යය සිහිනයක් නො ව සැබෑවක් බව පෙනී යනවා ඇති.''

''කවදා ද මේ සත්‍යය මිනිසාට අවබෝධ වෙන්නේ? මිනිසා මේ සත්‍යය අවබෝධ කරගනීවි ද? මෙය සිහිනයක් නො වේ ද?'' යි මම කෝපයෙන් කෑගා ඇසීමි.

''මොනවා, එහෙනම් මේක විශ්වාස කරන්නේ නැද්ද ද? මේ සත්‍යය ගැන දේශනා කරන ඔබ ඒය විශ්වාස කරන්නේ නැද්ද? මා කියන දෙය විශ්වාස කරන්න. මහත්මයා සිහින යක් ලෙස හඳුන්වන මේ දෙය කවදා හෝ සත්‍යයක් වෙනවා. ඒ ගැන සැක හිතන්න එපා. එහෙත් එය දැන් ම සිදු වන දෙයක් නො වෙයි. හැම දෙයක් ම සිද්ධ වන්නේ කිසියම් නීතියක් අනුවයි. මෙය ආධ්‍යාත්මික, නැතිනම් මනෝවිද්‍යාත්මක ක්‍රමයක් අනුව සිදුවන දෙයක්. මේ ලෝකය වෙනස් කිරීමට නම්, මිනිසා කල්පනා කරන ක්‍රමය ද වෙනස් වෙන්න ඕනෑ. හැම දෙනා ම සහෝදරයන් ලෙස පිළිගන්නා තෙක් මනුෂ්‍යයන් අතරේ සහෝදරත්වයක් ඇති වන්නේ නැහැ. තමන් ගේ යහපතට කො තරම් හේතු වුවත්, මිනිසාට විද්‍යාවේ ආධාරය ඇති ව කවදා-වත් ධනය හා මිනිස් අයිතිවාසිකම් පොදුවේ බෙදා ගන්න ලැබෙන්නේ නැහැ. තමන්ට ලැබෙන කොටසින් කිසිවෙක් සෑහීමට පත්වන්නේ නැහැ. එහි ප්‍රතිඵලයක් වශයෙන් ඔවුන් එකිනෙකාට ඊරිසියා කරන්නටත්, වෛර කරන්නටත්, ඇන කොටා ගැනීමටත් පටන් ගනීවි. මහත්මයා මගෙන් ඇසුවා නේ ද කවද්ද මෙය සිද්ධ වෙන්නේ කියා? කවදා හමුත් මෙය සිද්ධවේවි. ඊට කලින් උස් මිටි කම් අනුව මිනිසුන්ට සැලැකීමේ කාලය අවසන් වෙන්න ඕනෑ.''

''උස් මිටි කම් අනුව සැලැකීමේ කාලය යන්නෙන් මහත්මයා අදහස් කරන්නේ මොකක් ද?''යි මම ඇසීමි.

''මේක හැම තැන ම පවතින දෙයක්. විශේෂයෙන් ම මේ කාලේ පවතින දෙයක්. ඒත් තව ම සම්පූර්ණ වෙලා නැහැ. තව ම අවසන් වෙලා නැහැ. අද කවුරුත් වෑයම් කරන්නේ එකිනෙකා ගෙන් වෙන් වී, ඈත් වී, සිටීමටයි. තමා පමණක් තනියෙන් ම සියලු සැප සම්පත් විඳීමටයි. එයින් සිද්ධ වෙන්නේ ජීවිතය විනාශ කර ගැනීම පමණයි. ආත්ම තෘප්තිය වෙනුවට ඔවුන් එකිනෙකා ගෙන් ඈත් වී, වෙන් වී, තව තවත් තනිවෙනවා, මේ පරම්පරාවේ හැම දෙනා ම ආත්ම තෘප්තියෙන් යුත් කොටස්-වලට බෙදී සිටිනවා. හැම දෙනා ම තමා විසින් තනා ගත් සිදුරට රිංගා ගන්නවා. අසල්වැසියා ගෙන් වෙන් වී, ඈත් වී,

සැඟවී සිටිනවා. තමා සතු හැම දෙයක් ම හංගනවා. අන්තිමේ දී මේ ව්‍යාපාරය කෙළවර වෙන්නේ තමා අනෙක් අයගෙන් ඈත් වන අතර අනෙක් අය තමා ගෙන් ඈත් කොට තබමින්. ඔහු අනෙක් අය ප්‍රතික්ෂේප කරන අතරේ අනෙක් අය ඔහු ප්‍රතික්ෂේප කරනවා. හැකි තරම් ධනය රැස් කරලා, දැන් තමා කො තරම් බල-වතෙක් ද, ධනවතෙක් දැයි කියා කල්පනා කරනවා. වස්තු කාමය නමැති උමතුවෙන් පෙළෙන මේ මිනිහා, තමා ධනය රැස් කළ තරමට විනාශය කරා ළංවන බව දන්නේ නැහැ. ඔහු මෙසේ විනාශ වන්නේ ධනවතකු ලෙස සමාජයෙන් වෙන් වී තමා ගැන පමණක් කල්පනා කිරීමට, තමා ගැන පමණක් විශ්වාස කිරීමට පුරුදු වී සිටින නිසායි. අනුන් ගේ උපකාරය ගැන විශ්වාස නොකිරීමට පුරුදු වූ නිසායි. තමා පොදි බැඳගත් ධනය හා බලය නැති වේය යන අදහසින් ඔහු රෑ දවල් දෙකේ තැති ගෙන වෙව්ලනවා. නියම ආරක්ෂාව ලැබෙන්නේ සමාජ සමගියෙන් හා සමූහත්වයෙන් මිස සමාජයෙන් ඈත් වී, වෙන් වී, තනි වී සිටී මෙන් නොවන බව, මේ කාලේ හැම තැන ම බොරු වෙන් හා රැවැටිල්ලෙන් මුළා වී සිටින මිනිසාට වැටහෙන්නේ නැහැ. මේ භයානක මමත්වය නිසැකයෙන් ම අවසන් වෙන්න ඕනෑ. තමා ඉතා අස්වාභාවික ලෙස එකිනෙකා ගෙන් වෙන් වී සිටින බව එතකොට කාටත් අවබෝධ වේ වි. නියම සත්‍යය නො දැක මෙ තරම් කාලයක් අන්ධකාරයේ සිටීම ගැන මිනිසා පුදුම වෙන්න පුළුවනි එතකොට 'මිනිසා ගේ පුත්‍රයා' අහසේ පහළ වෙනවා ඇති. එහෙත් ඒ අවස්ථාව පැමිණෙන තෙක් අපි ධජය නංවා තැබිය යුතුයි. සමහර විට එය තනියෙන් ම කරන්නට සිද්ධ වෙන්න පුළුවනි. කොහොම හරි මිනිසා එක වතාවකටවත් ආදර්ශයක් පෙන්නා, සමාජයෙන් වෙන් වී සිටීමේ අදහස අත්හැර දමා, සහෝදරත්වය මත ගොඩනැගුණු, මනුෂ්‍යයා ගේ යහපත පතා මහා සේවයක් කළ යුතුයි. සමහර විට ඔහු කරන උතුම් සේවය නිසා ඔහු පිස්සකු ලෙස පිළිගන්න පුළුවනි, පිස්සකු ලෙස පිළිගෙන කො තරම් සිනාසුණත් ඒ ශ්‍රේෂ්ඨ අදහස රැක ගැනීම පිණිස ඔහු එ වැනි උතුම් සේවයක් කළ යුතුයි ... .........''

අපි හැම දම සවස් කාලය ගත කළේ මෙ වැනි සිත නො-සන්සුන් කරවන උද්‍යෝගිමත් සාකච්ඡාවල යෙදෙමිනි. සමාජ රැස්වීම්වලට සහභාගිවීම අත්හැර දමූ මම හිතමිතුරන් හමුවීමද අඩු කෙළෙමි. හැරත් මගේ අලංකාර ජීවිතය ද අවසන් විය. මා මෙසේ කියන්නේ මගේ හිත මිතුරන්ට දෙස් පැවරීමේ අදහසින් නො වෙයි. මගේ මිත්‍රයෝ තවමත් ඉතා ආදරයෙන් මා පිළිගෙන සංග්‍රහ කරති, එසේ කරන්නේ සමාජ චාරිත්‍ර කරනු පිණිසය

සිරිත්විරිත්වලට තවමත් සමාජයේ විශාල බලයක් තිබෙන බව කිසිවකුට බොරු කළ නො හැකි ය. මේ අද්භූත ආගන්තුකයාට මම ඉතා ආදරයෙන් හා ගෞරවයෙන් සංග්‍රහ කෙළෙමි. මම ඔහු ගේ උගත්කමින් ආශ්වාදයක් ලබන අතරේ, ඔහු කිසියම් රහස් වැඩ පිළිවෙළක් සිතේ ඇති ව ඉතා උතුම් වැඩක් කිරීමට සැරසෙන්නේ යයි කල්පනා කෙළෙමි. හැරත් ඔහු මට කැමැත්තක් දක්වූයේ මා ඔහු ගේ රහස දැන ඒ ගැන ප්‍රශ්න නොකළ නිසා විය යුතුයි. එහෙත් ඔහු මට කිසියම් රහසක් හෙළි කිරීමට ඉතා ආශාවෙන් සිටින බව මම දැන ගතිමි. මට එය වඩාත් හොඳට පැහැදිලි ව පෙනුණේ මසක් මපණ කල් ගතවූවාට පසුව ය.

"නගරයේ සිටින මිනිසුන් අප ගැන විපරම් කරන බවත්, මා නිතර මහත්මයා හමුවීමට එන්නේ මන්න ද කියා ප්‍රශ්න කරන බවත්, මහත්මයා දන්නවා ද? ඔවුන් ප්‍රශ්න කළාට වරදක් නැහැ. ඔවුන්ට වැඩි කල් නො ගොස් ඉක්මනට ම යම් කිසිවක් දැන ගන්නට ලැබේවි"යි ඔහු මට වතාවක් කීවේ ය.

ඇතැම් විට ඔහු හිටිහැටියේම නොසන්සුන් වෙයි. එ වැනි අවසථාවල දී ඔහු වහා නික්ම යයි. සමහර විට මා දෙස තියුණු බැල්මෙන් බොහෝ වේලා බලා සිටියි. "දැන් මොහු මට ඉතා වැදගත් දෙයක් කීමට සැරසෙනවා"යි එ වැනි අවසථාවල දී මම කල්පනා කෙළෙමි. එහෙත් ඔහු හදිසියේම ඉවත බලා සාමාන්‍ය දෙයක් ගැන කතා කරයි, ඔහු නිතර හිස කකියන බව කියයි. දිනක්, බොහෝ වේලා මහත් උනන්දුවෙන් මා සමග කතා කරමින් සිටින විට හිටිහැටියේ ම ඔහු ගේ මුහුණ සුදුමැලි වන බව මම දිටිමි. ඔහු ඇස පිය නො සොල්වා මා දෙස බලා සිටියේ ය. ඒ අතරේ ඔහු ගේ මුහුණේ මස් පිඩු වෙව්ලන්නට විය.

"මොක ද තියෙන අමාරුව? මහත්මයාට සනීප නැද්ද?"යි මම ඇසීමි.

ස්වල්ප වේලාවකට පෙර ඔහු හිසේ කැක්කුමක් ගැන පැමිණිලි කෙළේ ය.

"නැහැ.........මහත්මයා දන්නවා ද ... මම මිනීමරුවෙක්."

ඔහු මෙසේ කියා සිනාසුණේ ය. ඔහු ගේ මුහුණ පිරිවටයක් මෙන් සුදුමැලි විය. මට කිසිවක් ගැන කල්පනා කිරීමට ඉඩ නො ලැබිණි. ඊට කලින් 'ඇයි ඔහු සිනාසෙන්නේ?' යන අදහස විදුලි සැරයක් මෙන් මගේ සිත විනිවිද ගියේ ය. මම ද සුදුමැලි වුණෙමි.

"මොනවා ද මේ දෙඩන්නේ?"යි මම කෑගැ ඇසීමි.

"මේ වචනය කියන්න මා කොතරම් දුකක් වින්දද කියා මහත්මයා දන්නේ නැහැ. කොහොම හරි මම වචනය කිව්වා. දැන් මා සිටින්නේ නියම මාගීයේ බව මට පේනවා. මම ඒ මාගීය දිගේ ඉදිරියට ගමන් කරනවා" යි ඔහු සිනාසෙමින් කීය.

බොහෝ වේලා ගතවන තුරු මම ඔහු ගේ කතාව විශ්වාස නො කෙළෙමි. ඔහු තෙදිනක් ම පිට පිට පැමිණ කතාව සවිස්තරව කීමෙන් පසුවයි මම එය විශ්වාස කළේ. ඔහු පිස්සෙක් යයි මම කල්පනා කෙළෙමි. එහෙත් අන්තිමේ දී මගේ බලවත් ශෝකයට හා පුදුමයට මම ඔහු ගේ කතා ව විශ්වාස කෙළෙමි. ඔහු කළ අපරාධය බොහෝ ම දරුණුයි, භයානකයි.

හවුරුදු දහතරකට පෙර ඔහු ඉඩම් හිමි, ධනවත්, රූමත්, තරුණ වැන්දඹු ලියක මරා දැම්මේය. අපේ ගමේ ඇය සතු ගෙයක් තිබිණි. ඇයට දැඩි ව ආලය කළ මගේ මිත්‍රයා ඇයට ඒ බව පවසා තමා සමග විවාහ වීමට ඇය කැමැති කරවා ගැනීමට වෑයම් කෙළේ ය. එහෙත් ඈ යුද්ධ හමුදාවේ උසස් නිලයක් දරන කුල-වතකුට බඳ දී සිටියා ය. ඈ ඔහු ගේ පැමිණීම බලාපොරොත්තුව සිටියමුත් ඔහු යුද්ධපෙරමුණට ගොස් සිටියේ ය. මගේ මිත්‍ර මහතා ගේ යෝජනාව ප්‍රතික්ෂේප කළ කුල කත මින් පසු තමා බැලීමට නො එන ලෙස ඇයැද සිටියා ය. ඇය බැලීමට යාම නතර කළ හෙතෙ ම රාත්‍රි කාලයේ දී ඇගේ වත්තට රහසින් ඇතුළු විය. ඇගේ නිවෙස ඔහුට හොඳට පළපුරුදු තැනකි. එහෙත් අසුවේය යන බියෙන් ඔහු වහලේ උළු ඇරගෙන ගෙට ඇතුළු විය. නිර්භීත කමින් කරන මිනීමැරුම් බොහෝ විට සාර්ථක වෙයි.

වහලයෙන් ඇතුළු වූ ඔහු හිණි පෙළ දිගේ පහතට බැස්සේ හිනි පෙළ මුල ඇති දෙර බොහෝ විට දාසයන් ගේ නොසැල-කිල්ලෙන් ඇර තබන බව දැන සිටි නිසා ය. ඔහු බලාපොරොත්තු වූවාක් මෙන් දොර ඇර දමා තිබුණේ ය. ගෙය අඳුරු විය. පහනක් දල්වෙන ඇගේ යහන් ගැබ දෙසට ඔහු අඳුර තුළින් ගියේ ය. ඒ පහන දල්වුණේ ඇගේ කාමරයේ තබා ඇති සුරුවම ඉදිරි පිට ය. කලින් කතා කරගත්තාක් මෙන් එ දින රෑ ඇගේ සේවිකාවෝ දෙදෙනා, ඇයට නො කියා, උපන්දින උත්සවයකට ගියාහ. අනෙක් දාසයෝ ගෙයි පහළ තට්ටුවේ හා මුළුතැන් ගෙයි නිඳ සිටියහ. යහනෙහි නිඳා සිටින ඇය දුටු හැටියේ ම ඔහු ගේ රාගය අවදි විය. ඒ සමග පළි ගැනීමේ චේතනාවෙන් හා ඊර්ෂ්‍යාවෙන්

හවගත් කෝපයෙන් සිත අවුල් විය. සුරා බී මත් වූ බේබද්දකු මෙන් ඇගේ යහන ළඟට ගිය හෙතෙම දිග පිහියක් ගෙන ඇගේ පපුවට ඇන්නේ ය. ඇ කිසි ම ශබ්දයක් නො නගා මිය ගියා ය. අනතුරු ව, මේ අපරාධයට දූසයන් අසුවන ලෙස ඔහු වැඩ පිළියෙළ කෙළේ ය. ඇගේ මුදල් ගැනීමට ඔහු පසුබට නො වී ය. මේ අපරාධය කළේ මෝඩ දූසයකු බව හැඟවීම පිණිස ඔහු ඇගේ කොට්ටය යට තිබුණු යතුරුකැරල්ල ගෙන, ඇගේ අල්මාරිය ඇර වටිනා ලියකියවිලි තිබිය දී මුදල් හා වෙනත් දේවල් පමණක් ගත්තේ ය. බොහෝ වටිනා ඉතා සියුම් ආභරණ තිබිය දී, වැඩි වටිනා කමක් නැති ලොකු ආභරණ පමණක් ගත්තේ ය. ඔහු සමහර බඩු ගත්තේ, ඇය මතක තබා ගැනීම පිණිස ය. මෙසේ මේ භයානක කටයුත්ත නිම කළ හෙතෙම ගෙට ඇතුළු වූ තැනින් ම ආයේත් පිට වී ගියේ ය.

මේ භයානක මිනීමැරුම ගැන ආරන්චි වූ පසු දිනවත්, ඊට පසු කාලයේ දී වත් මිනීමරුවා ඔහු යයි කිසිවෙක් සිහිනෙන්වත් අවිශ්වාස නොකළහ. කිසිවෙක් ඔවුන් අතරේ පැවැති සම්බන්ධය නොදත්හ. තමා ගේ මේ රහස පැවැසීමට ඔහුට හිත මිතුරෙක්ද නැත. හැරත් ඔහු වඩා සමාජය සමග ගැවසෙන්නෙක් ද නො වේ ඔහු මිය ගිය තැනැත්ති දුරින් දන ඇඳින සිටියකු බව කවුරුත් දන සිටියහ. ඇ මිය ගිය සතියේ දී ඔහු ඇය හමුවීමට නොගිය බව කවුරුත් කීහ. පිච්රෝ නැමැති ඇගේ දූසයා මිනී මැරුමට සැක කරන ලදි. හැම සිද්ධියක් ම ඒ සැකය තහවුරු කෙළේ ය. මේ දූසයාට නෑයෝ නැත. ඔහුගේ කල්ක්‍රියාව ද හොඳ නැත. තමා ගේ දූසයන් අතරින් යුද්ධ හමුදාවට එකකු යැවිය යුතු බැවින් ස්වාමි දූ පිච්රෝ යැවීමට අදහස් කරගෙන සිටියා ය. ඒ බව දූසයා ද දන සිටියේ ය. තබෑරුමේ දී සුරා බී මත් වී සිටි ඔහු ස්වාමි දූ මරන බවට තර්ජනය කළ බව කවුරුත් දන සිටියහ. ඇගේ මරණයට දෙ දිනකට කලින් ගෙදරින් පැන ගිය හෙතෙම නගරයේ කිසියම් තැනැක සැඟවී සිටියේ ය. මිනී මැරුමට පසු දින ඔහු නගරයෙන් පිට, මහ මග, සුරාමතින් වැටී සිටියේ ය. ඔහු ගේ සාක්කුවේ පිහියක් තිබිණි. ඔහු ගේ දකුණු අතේ ලේ තැවරී තිබුණේ ය. එහෙත් ලේ තැවරුණේ කෙසේ දැයි කිසිවෙක් නො දත්හ. තමා ගේ නහයෙන් ලේ ගලන බව ඔහු කීවේ ය. එහෙත් කිසිවෙක් එය විශ්වාස නොකළහ. තමින් උත්සවයකට ගිය බවත්, ආපසු පැමිණෙන තෙක් පැළ දොර ඇර දමා තිබුණු බවත්, තරුණ සේවිකාවෝ දෙදෙනා කීහ. මේ අසරණ දූසයා සැක කිරීමට තවත් කරුණු රාශියක් ඉදිරිපත් විය. අන්තිමේ දී දූසයා සිරභාරයට ගෙන, මිනී මැරීමේ චෝදනාව පිට නඩු

පවරන ලදි. එහෙත් සතියකට පස්සේ රෝගාතුර වූ හෙතෙම ආරෝග්‍ය ශාලාවේ දී මිය ගියේ ය. එ තැනින් නඩුව ද අවසන් විය. ධනවත් කුල කත මරන ලද්දේ මිය ගිය දූසයා බව විනිශ්චයකාරයෝත්, රජයත්, නගර වැසියෝත්, දැඩිව විශ්වාස කළහ. අපේ මිත්‍ර මහතා තමා කළ අපරාධයට දඬුවම් විඳින්නට පටන් ගත්තේ එ තැන් සිට ය.

පළමු ව මිනී මැරීම ගැන තම සිතේ වේදනාවක් ඇති නොවූ බව අද්භුත අමුත්තා නොහොත් මගේ මිත්‍ර මහතා කීවේ ය. ටික කලක් ගතවන තුරු ඔහු කාලකණ්ණියකු මෙන් ජීවත් විය. එහෙත් ඔහු ශෝක වුණේ, කාන්තාව මරා දැමූ නිසා නොව, තමා ආලය කළ ස්ත්‍රිය විනාශ කළ නිසා ය. කිසි කලක ඔහුට ඇය සියැසින් දකගැනීමට නො ලැබෙයි. ඇය මරා දැම්මෙන් ඔහු කළේ තමා ගේ ආලය විනාශ කිරීම ය. දැන් ඇ ජීවතුන් අතරේ නැත. රාගය නැමැති ගින්නෙන් ලේ නහර ගිනියම් වූ අවස්ථාවේ දී ඇය මරා දැම්මෙන් ඔහු කළේ තමාගේ ම ආලය මරා දැමීම ය. ඔහු පසුතැවුණේ ඒ නිසා ය. එහෙත් අභිංසක රුධිරය හලා මනුෂ්‍යයකු මරා දැමීම ගැන ඔහු කල්පනා නො කළේ ය. තමා මරා දැමූ ස්ත්‍රිය වෙන මිනිසකු ගේ බිරිය වන්නට ඉඩ තිබුණේ ය යන අදහස ඔහුට ඉවසුම් නොදෙන්නක් විය. එ හෙයින් තමා අනුගමනය කළ ක්‍රියා මාර්ගය නිවැරදි බවත්, මීට වඩා වෙන කිසිවක් තමාට කළ නොහැකි බවත්, බොහෝ කාලයක් ගත වන තුරු ඔහු විශ්වාස කෙළේ ය.

පළමු ව මිනී මැරීමේ චෝදනාව පිට දූසයා හිර භාරයට ගැනීම ගැන ඔහු නොසන්සුන් විය. එහෙත් දූසයා අසනීප වී මියගියාට පස්සේ ඔහු ගේ නොසන්සුන්කම නැති විය. දූසයා මිය ගියේ සිරභාරයට ගත් නිසා හෝ, ඉන් තැති ගත් නිසා හෝ නොව ගෙදරින් පැන ගිය දින සුරා මතින් මුළු රැයක් ම තෙත පොළොවේ නිදා සිටීමෙන් හටගත් රෝගයකින් යයි ඔහු අදහස් කෙළේ ය. කාන්තාව ගේ මුදල් හා වෙනත් දේවල් සොරකම් කිරීම ගැන මගේ මිත්‍රයා දුක් නොවූයේ, ලෝභ සිතින් නොව දූසයකු කළ බවට සැක ඇති කිරීමේ අදහසින් ඒවා සොරකම් කළ හෙයිනි. ඔහු සොරකම් කළේ ඉතා සුළු මුදලකි. ටික දිනකට පසු ඔහු ඒ මුදල් එකතු කොට නගරයේ අනාථ නිවාසයකට පරිත්‍යාග කෙළේ ය. ඔහු මේ පරිත්‍යාගය උවමනාවෙන් ම කළේ සොරකම ගැන සිතේ පැවැති නොසන්සුන්කම මග හැරදැමීම පිණිස ය. පුදුමයකට මෙන් ඔහු කලක් සාමයෙන් සිටියේ ය. ඔහු ඒ බව මට කීවේ ය. මේ කාලයේ දී සිවිල් සේවයට බැඳුණු හේතෙම ඉතා අමාරු කටයුත්තක් සඳහා සිය කැමැත්තෙන් ම

ඉදිරිපත් විය. ඒ සඳහා හවුරුදු දෙකක් ම ගත විය. දැඩි ආත්ම ශක්තියකින් යුත් ඔහුට මිනී මැරුම ගැන සම්පූර්ණයෙන් ම අමතක විය. අතීතය මතක් වූ හැම විට ම ඒ පිළිබඳ අදහස් සිතින් ඉවත් කර දැමීමට ඔහු වෑයම් කෙළේ ය. පරාර්ථසේවයෙහි යෙදුණු හෙතෙම ගනරයේ සමාජ සේවය සඳහා ආයතන කීපයක් ම ආරම්භ කොට පවත්වා ගෙන ගියේ ය. මොස්කව් හා පීටස්බර්ග් පුරයේ සමාජ සේවකයකු ලෙස පතළ වූ හෙතෙම එහි සමිති සමාගම් කීපයකටම බැඳුණේ ය.

එහෙත් අන්තිමේ දී ඔහුට ආයේත් අතීතය සිහි විය. ඔහු අතීතය ගැන කල්පනා කරමින් ශෝක විය. ඒ කල්පනාවත්, ශෝකයත් ඔහුට විඳ ගත නො හැකි විය. ඒ අතරේ උගත් රූමත් තරුණියක කෙරෙහි ඔහු ගේ නෙත් සිත් ඇදී ගියෙන් වැඩි කල් යන්නට පෙර ඔහු ඇය සමග විවාහ විය. ඔහු මෙසේ විවාහ වූයේ සිතේ පැවැති නොසන්සුන්කම නැතිවේ ය යන අදහසිනි. අලුත් ජීවිතයකට පිවිස අඹු දරුවන් ගේ කටයුතුවල යෙදෙමින් අතීතය අමතක කළ හැකියයි ඔහු කල්පනා කෙළේ ය. එහෙත් අනෙකක් ම සිදුවිය. විවාහ වී පළමු මාසයේ දී ම "මගේ බිරිය මට බොහො ම ආදරෙයි. එහෙත් ඇය ඇත්ත දැන ගත්තොත් කුමක් සිදු වෙයි ද?" යන අදහස ඔහු ගේ සිතට නිරතුරුවම වද දෙන්නට විය. තමාට දරුවකු ලැබෙන්නට යන බව බිරිය කී විට ඔහු නොසන්සුන් විය. "මම ජීවිතයක් ඇති කරන්නෙමි. එහෙත් ඒ අතරේ මම ජීවිතයක් නැති කෙළෙමි"යි ඔහු කල්පනා කෙළේ ය. කල් යාමේ දී ඔහුට දරුවෝ කීප දෙනෙක් ම ලැබුණහ. "මිනී මරුවකු වන මම මගේ දරුවන්ට ආදරයෙන් උගන්නවා, ඇති දැඩිකොට හොඳ නරක කියා දෙන්නේ කොහොම ද?" දරුවන් සුරතල් කිරීමට ඔහු තුළ දැඩි ආශාවක් ඇත. "මගේ දරුවන් ගේ අහිංසක අවංක මුහුණු දෙස බැලීමට තරම් මම සුදුස්සෙක් නො වෙමි"යි ඔහු කල්පනා කෙළේ ය.

අන්තිමේ දී, ඔහු විනාශ කළ තරුණ ජීවිතය, ඉන් පිට වූ පළිගැනීමේ චේතනාවෙන් පෙළෙන රුධිරය, ඔහු ගේ සිත තුළ හොල්මන් කරමින් ඔහුට වද දෙන්නට විය. ඔහුට භයානක සිහින පෙනෙන්නට විය. දැඩි ආත්ම ශක්තියකින් යුත් හෙතෙම "මා රහසේ විඳින මේ චිත්ත වේදනාව මගින්, මා කළ දරුණු පාපයට වන්දි ගෙවමි"යි කල්පනා කොට බොහෝ කාලයක් දුක ඉවසා දරා සිටියේ ය. එහෙත් ඒ අදහස නිෂ්ප්‍රයෝජන විය. කාලයත් සමග ඔහු ගේ ක දරුණු විය.

ඔහු ගේ තද පරුෂ අඳුරු ජීවිතය හැම දෙනාට ම තර්ජනයක් වුවත් ඔහුට සමාජයෙන් ගරු සත්කාර ලැබුණේ ඔහු කරන

පරාණී සේවය නිසා ය. ඔහුට සමාජය ගරු කළ තරමට ඔහු තුළ පැවැති නොසන්සුන් කම වැඩි විය. තමා දිවි නසා ගැනීමට අදහස් කළ බව ඔහු මට කී ය. එහෙත් ඒ අතරේ වෙනත් අදහසක් ඔහු ගේ සිතට වද දුන්නේ ය. එය කිසිසේත් නො-පිළිගත හැකි, ක්‍රියාවේ නො යෙදවිය හැකි අදහසක් ලෙස පළමු ව ඔහුට පෙනී ගියත් පසු ව එය ඉවත් කළ නොහැකි තරමට සිත දැඩිව අල්ලා ගත්තේ ය. මගට බැස, හමුවන මිනිසුන්ට තමා මිනී මරුවකු බව පැවසීමට ඔහු කීප වරක් ම සිහිනයෙන් කල්පනා කරන්නාක් මෙන් කල්පනා කෙළේ ය. හවුරුදු තුනක් පමණ කල් මේ අදහස, නොයෙක් වෙස් ගනිමින් ඔහු ගේ සිතේ හොල්මන් කරමින් වද දුන්නේ ය. සිතට වද දෙන මේ රහස හෙළි කළ හොත්, රහස නිසා ලෙඩ වූ ආත්මය සුවය ලබා සදාකල්හිම සාමයෙන් සිටිය හැකියයි ඔහු දැඩි ව විශ්වාස කෙළේ ය. එහෙත් ඒ විශ්වාසය නිසා ඔහු තුළ දැඩි භීතියක් ඇති වූයේ රහස හෙළි කරන්නේ කෙසේ ද යන ප්‍රශ්නය මතු වූ නිසායි. ඔහුට අපේ ද්වන්ද්ව යුද්ධය ගැන පුවත සැලවූයේ මේ කාලයේ දී ය.

"මහත්මයා දිහැ බලා මම තීරණයකට බැස ගත්තා"යි ඔහු කී ය.

මම ඔහු දෙස බැලීමි.

"මහත්මයාට පුළුවන් ද තීරණයකට බැස ගන්න?"යි මම දෑත එක්කර ගනිමින් ඇසීමි. "මෙ තරම් සුළු දෙයකින් මහත්මයා තුළ මෙ තරම් විශාල අධිෂ්ඨානයක් ඇති විය හැකි ද?"

"මගේ අධිෂ්ඨානය අවුරුදු තුනක සිට ක්‍රමයෙන් වැඩුණු දෙයක් ය"යි ඔහු කී ය. "මහත්මයා ගේ කතාවෙන් පස්සේ ඒක සම්පූර්ණ වුණා. මහත්මයා ගේ මුහුණ දිහැ බලා මම දෙස් පවරා ගත්තා අතර මහත්මයාට ඊරිසියා කළා."යි ඔහු අවසාන කොටස කීවේ මදක් රළු බසිනි.

"මා හිතන්නේ නැහැ කිසි ම කෙනෙක් මහත්මයා ගේ කතාව විශ්වාස කරාවිය කියා. මේ මිනී මැරුම සිදුවෙලා දැනට අවුරුදු දහ හතරක් වෙනවා"යි මම කීමි.

"මට ඔප්පු කරන්න පුළුවන් කරුණු බොහො ම තියනේවා."

මම ප්‍රීතියෙන් කඳුළු සලමින් ඔහු සිඹ ගතිමි.

"මට තවත් දෙයක් ගැන කියන්න"යි ඔහු කීවේ හැම දෙයක් ම මා කෙරෙහි රඳා පවතින්නාක් මෙනි. "මගේ බිරියටත්

දරුවන්ටත් මොකද වෙන්නේ? සමහර විට මගේ බිරිය ශෝකයෙන් මැරෙන්න පුළුවනි. මගේ දරුවන් ගේ ඉඩකඩම් හා රදළ තත්ත්වය ආරක්ෂා වුණත්, ඔවුන් සයිබීරියාවේ හිර කර තබන ලද මිනී මරුවකු ගේ දරුවන් ලෙස සලකන්න පුළුවනි. ඔවුන් තාත්තා ගැන මොනවා හිතයි ද?''

මම නිහඬ වුණෙමි.

"මගේ දරුවන්ගෙන් මම සදහට ම වෙන් වී යන්නේ කොහොම ද? මම සයිබීරියාවට ගියාට පස්සේ මට කවදාවත් ආයේත් මගේ දරුවන් දකින්න ලැබෙන්නේ නැහැ."

මම ඔහු වෙනුවෙන් නිහඬ ව යාච්ඤා කෙළෙමි. මම අන්තිමේ දී නැඟී සිටියෙමි. මා තුළ මහත් බියක් ඇති විය.

''ඉතින් මොකද කියන්නේ?''යි ඔහු මා දිහැ බලා ඇසුවේ ය.

"යන්න, ගිහින් ප්‍රසිද්ධියේ ඇත්ත කියන්න. හැම දෙයක් ම නැති වී ගියාට පස්සේ ඉතිරිවන්නේ සත්‍යය පමණයි. දරුවන් වැඩිවිය පැමිණි පසු මහත්මයා ගේ අධිෂ්ඨානය කො තරම් ශ්‍රේෂ්ඨ ක්‍රියාවක් ද කියා ඔවුන්ට අවබෝධ වෙනවා ඇති''යි මම කීමි.

එ වේලේ ඔහු නික්ම ගියේ මෙතෙක් කල් සඟවා ගෙන සිටි රහස ප්‍රසිද්ධියේ කීමට අධිෂ්ඨාන කරගත්තකු මෙනි. එතැන් සිට සති දෙකක් ම ඔහු හැම ද සවස මා හමු වීමට පැමිණියේ ය. එහෙත් රහස හෙළි කිරීම ගැන ඔහුට තීරණයකට බැස ගත නො හැකි විය. ඒ දෙ සතිය තුළ ඔහු මට බොහෝ කරදර කෙළේ ය. දිනක් ඔහු රහස හෙළි කිරීමේ අදහසින් පැමිණ, බලවත් හැඟීම්වලින් යුතු ව මෙසේ කීවේ ය.

''මේ රහස මගේ හිතින් ඉවත් කළ වහාම දෙව් ලොව සැපයට වැඩි සැපයක් මට ලැබෙන බව මම දන්නවා. මම අවුරුදු දහතරක් අපා දුක් වින්ද. මා කළ වරදට සුදුසු දඬුවම් විඳීමට මම කැමැතියි. ඊට පස්සේ මම අලුත් ජීවිතයක් ආරම්භ කරනවා. වැරදි කරමින් මේ ලෝකයේ ජීවත්වන්න පුළුවනි. නමුත් ඉන් ගැලවීමක් ලැබෙන්නේ නැහැ. දැන් මගේ දරුවන්ටත්, මගේ අසල්වැසියාටත් ප්‍රේම කිරීමට මට පුළුවන් කමක් නැහැ. අහෝ දෙවියනි, මගේ දරුවන් මා විඳින දුක දැක මට දොස් නොකියන්න පුළුවනි. දෙවියන් වහන්සේ වැඩ වෙසෙන්නේ ශක්තියෙහි නොව සත්‍යයෙහි ය.''

''මහත්මයා කරන ආත්ම පූජාව කවුරුත් අවබෝධ

කරගනීවි" මම ඔහුට කීමි. "දැන් අවබෝධ නො කළත් පසු ව අවබෝධ කර ගනීවි. මහත්මයා සත්‍යයට උසස් සේවයක් කරන්නෙක්. ඒ සත්‍යය ලෞකික සත්‍යයක් නොව ලෝකෝත්තර සත්‍යයක්."

මගේ කතාව අසා සිත සනසා ගත්තාක් මෙන් ඔහු නික්ම ගියේ ය. එහෙත් පසු දින නැවත කෝපයෙන් හා භීතියෙන් පැමිණ මෙසේ කීවේ ය.

"මම මහත්මයා ගේ කාමරයට පැමිණි හැම විටම 'තවම නැද්ද රහස හෙළි කළේ?" කියා අසනවා වගේ මහත්මයා මා දිහා කුතුහලයෙන් බලනවා. ටිකක් ඉවසන්න. මා එ තරම් පහත් කොට සලකන්න එපා. මේක මහත්මයා හිතන තරම් ලෙහෙසි වැඩක් නො වෙයි. සමහර විට රහස නො කියා ඉන්න පුළුවනි. මා රහස හෙළි නො කළොත් මහත්මයා මට විරුද්ධ ව පැමිණිලි කරනව ද?"

කුතුහලයෙන් බැලීම කෙසේ වෙතත් ඔහු දෙස සාමාන්‍ය-යෙන් බැලීමට පවා මම බිය වීමි. මම සාන්කාවෙන් ලෙඩවීමි. මගේ හදවත ශෝකයෙන් පිරිණි. මට නිදාගත නො හැකි විය.

"මා දැන් ආවේ මගේ බිරිය ළග ඉඳලයි" ඔහු කී ය. "මහත්මයා දන්නවද 'බිරිය' කියන වචනයේ තේරුම? මා දැන් ගෙදරින් පිට වී එන කොට මගේ දරුවන් කිව්වා, 'තාත්තේ අප එක්ක 'ලමයින් ගේ සගරාව' කියවන්න ඉක්මනට එන්න'ය කියා නැහැ, මහත්මයාට මේවා තේරුම් ගන්න බැහැ. එක මිනිහකු ගේ විපතින් තවත් එකෙක් ඥානවන්තයකු වෙන්නේ නැහැ."

ඔහු ගේ දෑස බැබළුණේ ය. තොල් වෙව්ලුවේ ය. ඔහු හදිසි-යෙන් ම මිටමොළවා මේසයට පහරක් ගැසුවේ ය. ඒ පහරින් මේසය උඩ තිබුණ හැම දෙයක් ම නැටවිණි. ඔහු මෙ වැනි දෙයක් කළ පළමු වතාව මෙයයි. ඔහු ඉතා සන්සුන් මිනිසෙකි.

"එහෙත් මා මිනිහෙක් මැරූ බව කිව යුතු ද? කිසිම කෙනෙක් මා වෙනුවෙන් මිනී මැරුමට අහු වුණේ නැහැ. කිසි ම කෙනෙක් සයිබීරියාවට යවා නැහැ. අර අසරණ දාසයා උණ හැදිලා මළා. මා කළ අපරාධයට මා බොහොම දුක් වින්දා. කිසි ම කෙනෙක් මා කියන දෙය විශ්වාස නොකරන්න පුළුවනි. මා මේ රහස හෙළි කළ යුතුම ද? මගේ බිරියටත්, දරුවන්ටත්, නිදහස ලැබෙනවා නම් මා කළ අපරාධයට මැරෙන තෙක් දුක් විඳීමට මම සූදානම්. මිශග අභිද්‍රෑවත් මා සමග විනාශ වෙයි ද? අප කරන්නේ

වරදක් නො වේ ද? අප දෙදෙනාට ම වුණේ වරදක් නො වේ ද? මේ අවසථාවේ දී අප විසින් කළ යුතු නිවැරදි දෙය කුමක් ද? මිනිස්සු මා කළ දෙය අගය කොට සලකයි ද? ඔවුන් එයට ගරු කරයි ද?''

''අනේ දෙයියනේ මේ මොහොතේ දී මේ මිනිහා කල්පනා කරන්නේ මිනිසුන් ගෙන් ලැබෙන ගෞරවය ගැනයි'' මම කල්පනා කෙළෙමි. මා තුළ ඔහු කෙරෙහි කො තරම් දුඩි ශෝකයක් ඇති වූයේ ද කියතොත් ඔහු සැනසිය හැකි නම් රහස හෙළි කිරීමෙන් ඔහුට අයත්වන දෛවයට හවුල්කාරයකු වීමට වුව ද මම සැමැති වීමි. ඔහු බලවත් නොසන්සුන් කමකින් පසුවන බව මම දිටිමි. තමා කළ බරපතළ අපරාධයක් හෙළි කිරීමට ඇති කරගත් අධිෂ්ඨානයක නියම අර්ථය සිතින් පමණක් නො ව හදවතින් ද තේරුම් ගත් මම බිරාන්ත වීමි.

''මගේ දෛවය ගැන මහත්මයා බැසගත්ත තීරණය කුමක් ද?''යි ඔහු මගෙන් ඇසුවේ ය.

''ගිහින්, කළ වරද කියන්න'' මම රහසක් කියන්නාක් මෙන් සෙමෙන් කීමි. මගේ කටහඬ දුබල විය. එහෙත් අමාරුවෙන් කතා කෙළෙමි. අනතුරුව මම මේසය උඩ තිබුණු අලුත් තෙස්තමෙන්තුවේ රුසියන් පරිවර්තනය ගෙන, සාන්ත ජෝන් ගේ. දේශනයේ, දෙලොස් වන පරිච්ඡේදයේ, විසිහතර වන කාව්‍යය පෙන්නුවෙමි.

'සත්‍ය ලෙස මම ඔබ හැමට කියමි. තිරිඟු ඇටයක් පොළොවෙහි වැටී ෙ ාමලොත් එල නොලැබෙයි. මලොත්බොහෝ එල ලැබෙයි තම ජීවිතයට ප්‍රේම කරන්නා ජීවිතයනැති කරගන්නේ ය. මේ ලෝකයේ දී තම ජීවිතයට වෛර කරන්නා එය සදාකාලික ජීවිතය දක්වා අරක්‍ෂා කර ගන්නේය.'

'ඔහු කාමරයට පැමිණෙන විට මම ඒ කොටස කියවමින් සිටියෙමි. ඔහු ද එය කියෙව්වේ ය.

''ඔව් ඒක ඇත්තයි'' ඔහු කී ය. එහෙත් ඔහු ශෝකයෙන් සිනාසිණි. ''මේ පොත්වල තියෙන්නේ හිතේ භය ඇතිකරවන දේවල්''යයි ඔහු මඳ වේලාවකට පසුව කී ය. ''මේවා පෙන්නන එක බොහො ම ලෙහෙසි. කව්ද මේවා ලිව්වේ? මේවා මිනිසුන්ට ලියන්න පුළුවන් දේවල් නො වෙයි!''

''මේවා ලියා තියෙන්නේ සුද්ධ වූ ආත්මය විසිනුයි'' මම කීමි

''කතා කරන එක බොහො ම ලෙහෙසියි'' ඔහු නැවැත සිනා-. සෙමින් කීය. මෙවර ඔහු සිනාසුණේ සිතේ හටගත් වෛරයෙන් යුතු ව ය.

මම නැවැත පොත පෙරලා දහ වන පරිච්ඡේදයේ තිස් එක් වන කාව්‍යයේ, හීබ්රෑවරුන් සඳහා ලියන ලද සංදේශය පෙන්නුවෙමි. ඔහු එය කියෙව්වේ ය.

'ජීවමාන දෙවියන් ගේ අතට අසුවීම භයානක දෙයකි.'

ඔහු පොත කියවා විසි කෙළේ ය. ඔහු වෙව්ලන්නට විය.

"ඒක බොහො ම භයානක කවියක්. මහත්මයා තෝරාගත්තේ තැනට සුදුසු කවියක්." අනතුරු ව හෙතෙම පුටුවෙන් නැඟිට ආයේත් මෙසේ කී ය. "දැන් ඉතින් මම යනවා. සමහර විට නැවැත නොඑන්නට පුළුවනි..............අපි දිව්‍ය ලෝකයේ දී හමු වෙමු. එහෙනම් මා 'දෙවියන් ගේ අතට අසුවී' අවුරුදු දහහතරක් වෙනවා. ඒ අවුරුදු දහහතර හැඳින්විය යුත්තේ මේ විදියටයි. හෙට දින මා අත්හැර දමන ලෙස මම ඒ අත්වලට කන්නලව් කරනවා.".

ඔහු වැලඳ ගෙන ඔහු ගේ මුහුණ සිඹීමට මා තුළ මහත් ආසාවක් ඇති විය. එහෙත් ඔහු ගේ අරූප වූ මුහුණ දැක මම නැති ගතිමි. අන්තිමේ දී ඔහු නික්ම ගියේ ය.

"අහෝ දෙවියනි, මේ මිනිහා කො තරම් භයානක අවසථාවලට මුහුණ දිය යුතු ද?"යි කල්පනා කළ මම අප රැක දෙමින් අපට පිළිසරණ වන දේව මාතාව ගේ සුරුවම ළඟ දණින් වැටී මගේ මිත්‍රයා වෙනුවෙන් පැය භාගයක් පමණ වේලා කඳුළු සලමින් යාච්ඤා කෙළෙමි. දැන් වේලාව මධ්‍යයම රාත්‍රියට පමණ ඇත. හදිසියෙන් ම මගේ කාමරයේ දොර ඇරෙන බව මම දිටිමි. මගේ බලවත් පුදුමයට නැවැත ඔහු කාමරයට ඇතුළු වුණේ ය.

"මහත්මයා කොහෙ ද ගියේ?"යි මම ඇසීමි.

"මම මොනවා නමුත් මතක නැතිව දමා ගියා. සමහරවිට මගේ ලේන්සුව වෙන්න ඇති..................... කොහොම වුණත් මට ටිකක් නවතින්න දෙන්න"

ඔහු හිඳ ගත්තේ ය. මම සිට ගෙන සිටියෙමි.

"ඇයි හිටගෙන ඉන්නේ? මහත්මයාත් ඉඳගන්න."

මම හිඳ ගතිමි. අපි මිනිත්තු දෙකක් පමණ වේලා මෙසේ නිහඬ ව උන්නමු. මා දෙස විමසිල්ලෙන් බලා සිටි හෙතෙම

හදිසියෙන් ම සිනාසුණේ ය. අනතුරු ව නැගිට ඉතා ආදරයෙන් මා වැළඳ ගෙන සිම්බේ ය. මෙය මට හොඳට මතකයි.

"මා මහත්මයා ළඟට දෙවන වරටත් පැමිණි බව මතක තියා ගන්න. මා කියන දෙය ඇහුණා නේද? හොඳට මතක තියා ගන්න"

මෙ තරම් කුළුපග ගතියක් දක්වා ඔහු මට කතා කළ පළමු වතාව මෙයයි. අනතුරු ව ඔහු තික්ම ගියේ ය.

"හෙට ඔහු රහස හෙළි කරන්නට පුළුවනි"යි මම කල්පනා කෙළෙමි.

එය එසේ ම විය. එන දින ඔහු ගේ උපන් දින බව මම නො දැන සිටියෙමි. මම පසු ගිය දවස් කීපය තුළ ගෙන් බැහැර නො ගියෙන් මට එය දැනගත නො හැකි විය. තමා උපන් දින සිහි කොට විශාල උත්සවයක් පැවැත්වීම ඔහු ගේ සිරිත බැවින් මුළු නගරය ම ඔහු ගේ නිවෙසට රැස් විය. රාත්‍රි භෝජන-යෙන් පසු ව ඔහු අතේ කඩදාසිකොළයක් ඇති ව කාමරයේ මැදට ගියේ ය. ඒ කඩදාසිකොළයේ ලියා තිබුණේ ඔහු ගේ දෙපාර්ත-මේන්තුවේ ප්‍රධානියාට දීම පිණිස පිළියෙළ කරන ලද ප්‍රකාශයකි. දෙපාර්තමේන්තුවේ ප්‍රධානියා පැමිණ සිටියෙන්, හැම දෙනාට ම ඇසෙන ලෙස ඔහු එම ප්‍රකාශය කියෙව්වේ ය. ඔහු විසින් කරන ලද මිනීමැරුම එහි සවිස්තරව ලියා තිබිණි "............ භයානක සතකු මෙන් මම සමාජයෙන් ඈත් වීමි. අන්තිමේ දී දෙවියන් වහන්සේ මා වෙත පැමිණිසේක. මා කළ පාපය වෙනුවෙන් දුක් විඳීමට මම කැටැත්තෙමි"යි සඳහන් කරමින් එම ප්‍රකාශය අවසන් කර තිබුණේ ය.

අනතුරුව ඔහු මිනී මැරුම ඔප්පු කිරීම පිණිස හවුරුදු දහහතරක් කල් ළඟ තබා ගෙන සිටි, කාන්තාව ගෙන් සොරා ගත් බඩු මේසය උඩ ගෙනත් තැබුවේ ය. තමා ගැන සැක නොකිරීම පිණිස මිය ගිය කාන්තාව ගෙන් සොරා ගත් රත්රන් ආභරණ ඇගේ කරේ තිබී කඩා ගත් ඇගේ පෙම්වතා ගේ පින්තූරය සහිත ලොකැට්ටුව හා කුරුසය, ඇගේ නෝට් පොත, පෙම්වතා, විසින් වහා එන බව දන්වා එවා තිබුණු ලියුම හා පසු දින තැපැල් කිරීම පිණිස ඇගේ මේසය උඩ තබා තිබුණු ලියුම, ඔහු මේසය උඩ තැබුවේ ය. ඔහු මේ ලියුම් දෙක ගෙන ගියේ මන්ද? කුමන ප්‍රයෝජනයකට ද? තමාට විරුද්ධව ඉදිරිපත් කළ හැකි මේ ලියුම් දෙක විනාශ නො කර ඔහු හවුරුදු දහහතරක් කල් ළඟ තබා ගෙන සිටියේ මන් ද?

ජන්මෝත්සවයට පැමිණි නුවරුවෝ ගෙහිමියා ගේ කතාව අසා පුදුම වූහ, තැති ගත්හ. ඔවුහු විස්මයෙන් හා කුතුහලයෙන් කතාව අසා සිටිමුත් එය විශ්වාස නො කළහ. තමන්ට ආදරයෙන් සංග්‍රහ කළ ගෙහිමියා ගේ සිහිය අවුල් වී ඇතැයි ඔවුහු කල්පනා කළහ. මේ අවාසනාවන්ත මනුෂ්‍යයා නිසැකව ම උමතු වී ඇතැයි පසු දින නගර වාසීහු තීරණය කළහ. මිනී මැරුමක් ගැන කරන ලද මේ පාපොච්චාරණය සම්බන්ධව ක්‍රියා නො කර සිටීමට අධිකරණයට පුළුවන් කමක් නැත. එහෙත් මිනී මැරුම ගැන පරීක්ෂා කොට නඩු පැවරීම අත්හැර දමන ලදී. සොරා ගන්නා ලද ආභරණ හා ලියුම් ගැන කල්පනා කළ නීති වේදීහු ඒ බඩු මිය ගිය කාන්තාව සතු වුවත් ඉන් පමණක් මිනී මැරුම ඔප්පු කළ නොහැකි බව තීරණය කළහ. ගෙහිමියා ඇය සමග මිත්‍ර කම් පැවැත්වූ නිසා ඒ මිත්‍රකම් උඩ ඇ ඔහුට ඒ බඩු දෙන්නට ඇත. නැති නම් ඔහු ළඟ පරිස්සම පිණිස තබන්නට ඇත. මේ බඩු ගැන සැකයක් නැති බවත්, ඒවා මිය ගිය තැනැත්තිය සතු බවත්, ඇගේ නෑයන් හා මිතුරන් විසින් සහතික කළ බව මට පසු ව දැන ගන්නට ලැබිණි. එහෙත් අන්තිමේ දී ගෙහිමියාට විරුද්ධ ව නඩු පැවැරීම අත්හැර දමන ලදී.

ඔහු රෝගාතුර වී ඉතා භයානක තත්ත්වයක සිටින බව පස් දිනකට පසුව කාටත් දැනු ගන්නට ලැබිණි. ඔහු ගේ රෝගය කුමක්දැයි මට කිව නො හැකි ය. එය චිත්ත පීඩාව නිසා හටගත් රෝගයකැයි සමහරු කී හ එහෙත් ඔහු ගේ බිරිය ඔහු ගේ සිහිය පිරික්සා බලන ලෙස දොස්තරවරුන්ට නියම කළ බවත්, ඔහු උමතුවෙන් සිටින බව වෛද්‍ය පරීක්ෂණවලින් හෙළි වූ බවත්, පසු ව ආරන්චි විය. මේ පරාර්ථකාමියා ගැන තොරතුරු දැන ගැනීමට බොහෝ දෙනා මා හමුවීමට පැමිණිය මුත් මම කිසිවක් නො කීවෙමි. එහෙත් රෝගියා බැලීමට, මට කාලයක් ගතවන තුරු ඉඩ නොදෙන ලදී. ඔහු ගේ බිරිය මට ඉඩ නුදුන්නා ය.

"මගේ මහත්මයාට මේ විපත්තිය කළේ මහත්මයාහි" ඈ මට දොස් කීවා ය. "මගේ මහත්මයා වඩා කතා කරන කෙනෙක් නො වෙයි. නමුත් පහු ගිය අවුරුද්දේ ඉඳලා පුදුම දේවල් කරන්න පටන්ගත්තා, මහත්මයා, මගේ මහත්මයා විනාශ කළා. මහත්-මයා ගේ බණ දේශනාවෙන් තමයි මේ විපත්තිය වුණේ. මගේ මහත්මයා පහුගිය මාසය ගත කළේ මහත්මයා එක්කයි."

ඔහු ගේ බිරියගෙන් පමණක් නොව නගරවාසීන් ගෙන් ද මට දොස් අසන්නට සිදු විය. මම කරබා ගතිමි. තමාට රුහැණිව නැගී සිට, තමාට ම දඬුවම් පමුණුවා ගත් මේ මිනිහාට දෙවියන්

වහන්සේ දක්වන අනුකම්පාව දුටු මම සිත යටින් ප්‍රීති වුණෙමි. ඔහු උමතුවෙන් සිටින්නේ යයි මම විශ්වාස නො කෙළෙමි. අන්තිමේ දී රෝගියා බැලීමට මට ඉඩ දෙන ලද්දේ මගෙන් සමු ගත යුතු බව ඔහු කියා සිටි හෙයිනි. ඔහු දවස් ගණනක් නොව, පැය ගණනක්වත් ජීවත් නොවන බව ඔහු දුටු හැටියේ ම මම දැන ගතිමි. ඔහු ඉතා දුර්වල තත්ත්වයකයි සිටියේ. ඔහු ගේ අතපය වෙවුලන්නට විය. ඔහු ගේ සර්වාංගයම කහ පාටය. ඔහු හුස්ම ගත්තේ අමාරුවෙනි. එහෙත් ඔහු ගේ මුහුණ සොම්නසින් ආලෝක විය.

"මම රහස හෙළි කළා" යයි ඔහු කී ය. "මම බොහෝ ම ආශාවෙන් හිටියා මහත්මයා හමුවන්න. ඇයි මං බලන්න නාවේ?"

ඔහු බැලීමට මට ඉඩ නොදුන් බව මම නො කීවෙමි.

"දෙවියන් වහන්සේ මට අනුකම්පා කරලා දැන් මා උන්වහන්සේ ළඟට කැඳවනවා. මට වැඩි වෙලාවක් ජීවත් වන්න ලැබෙන්නේ නැහැ. අවුරුදු බොහෝ ගණනකට පස්සේ පළමු වරට ක්ෂමයත්, ප්‍රීතියත් කුමක් ද කියා මට දැනගන්න ලැබුණ මා විසින් කෙසේ හෝ හෙළි කළ යුතු රහස හෙළි කළ මොහොතේ ඉඳලා මං තුළ ස්වර්ග රාජ්‍යය පහළ වූ බව මට දැනුණා දැන් මට පුළුවනි මගේ දරුවන් ආදරයෙන් ළඟට ගෙන සිඹින්න කිසි ම කෙනෙක් මගේ කතාව විශ්වාස කරන්නේ නැහැ. මගේ බිරිය විශ්වාස කරන්නෙත් නැහැ, නඩුකාරයන් විශ්වාස කරන්නෙත් නැහැ, ඔවදුවත් මගේ දරුවන් විශ්වාස කරන්නෙත් නැහැ. දෙවියන් වහන්සේ මගේ දරුවන්ට අනුකම්පාව දක්වන බව හඟවන ලකුණක්. මා මළාට පස්සේ මගේ දරුවන්ට මා නිසා කිසි ම නරකක් අහන්න ලැබෙන්නේ නැහැ. දෙවියන් වහන්සේ දැන් මා ළඟ වැඩ සිටින බව මට දැනෙනවා. මා සිටිනේතේ ස්වර්ග රාජ්‍යයේ සිටින්නකු වගේ බලවත් ප්‍රීතියකින් …… ……මම මගේ යුතුකම් ඉෂ්ට කළා."

ඔහුට කතා කළ නො හැකි විය. ඔහු හුස්ම ගත්තේ අමාරුවෙනි. මා දෙස විමසිල්ලෙන් බලා සිටි ඔහු මගේ අත ගෙන ආදරයෙන් මිරිකුවේ ය, අපි වැඩි වේලාවක් කතා නො කෙළෙමු. ඔහු ගේ බිරිය වරින් වර එබිකම් කර බැලුවා ය. එහෙත් ඔහු රහසක් කියන්නාක් මෙන් මෙසේ කීවේ ය.

"එදා රෑ මම දෙවන වරට මහත්මයා ළඟට ආපු හැටි මතක ද? මගේ ඒ ගමන හොඳට මතක තියාගන්න කියා මම

මහත්මයාට කිව්වා නෝ ද? දන්නව ද මා ආපසු ආවේ මොකද කියා? මම ආවේ මහත්මයා මරන්නයි."

මම තැති ගතිමි. "මහත්මයා ගෙන් වෙන් වී ගිය මම කල්පනා කරමින් අන්ධකාරයේ පාරක් ගානේ ගමන් කළා. හිටිහැටියේ ම මහත්මයා ගැන මගේ හිතේ ඉවසිය නො හැකි කෝපයක් ඇති වුණා. මගේ රහස දන්නේ මහත්මයා පමණයි. මගේ විනිශ්චයකාරයාත් මහත්මයාමයි. මහත්මයා මේ ගැන හැම දෙයක් ම දන්න නිසා හෙට රහස හෙළි නො කර සිටින්න පුළුවන් කමක් නැහැ. මහත්මයා පොලිසියට පැමිණිලි කරාවිය කියා මගේ කිසි ම බයක් තිබුණේ නැහැ. මම ඒ ගැන කල්පනා කළෙත් නැහැ. මා හෙට රහස සම්පූර්ණයෙන් ම හෙළි නොකළොත් ඔහු ගේ මුහුණ බලන්නේ කොහොම ද කල්පනා කළා කියා මහත්මයා ලෝකයේ අනෙක් කෙළවරේ සිටියත් මට රහස හෙළි නො කර ඉන්න පුළුවන්කමක් නැහැ. මහත්මයා මා ගැන හැම දෙයක්ම දන ගෙන මා හෙළාදකිමින් ජීවත් වන්නේය යන අදහස මට ඉවසන්න බැරිවුණා. මේ හැම දෙයකට ම වග කිව යුත්තේ මහත්මයා යයි සිතා මම මහත්මයාට වෛර කළා. මහත්මයා ගේ මේසය උඩ කිනිස්සක් තියෙන බව දැන ගෙන මම ආපසු ආවා. මම පුටුවක ඉඳගෙන මහත්මයාට ද ඉඳගන්න ය කියා ටික වේලාවක් කල්පනා කළා. මා පළමු මිනී මැරුම හෙළි නො කර මහත්මයා මැරුවොත් මා ඉන් විනාශ වෙනවා. එහෙත් මම ඒ ගැන කල්පනා කළේ නැහැ. කල්පනා කරන්න උවමනාවක් තිබුණෙත් නැහැ. මට උවමනා කළේ හැම දෙයකට ම මහත්මයාගෙන් පළි ගැනීම පිණිස මහත්මයා මරා දැමීමටයි. දෙවියන් වහන්සේ, මගේ සිත අරක් ගෙන සිටි යක්ෂයා පරාජය කළා. මට කියන්න උවමනා කළේ මහත්මයා මැරුම් කෑමට තරම් අවාසනාවන්තයෙක් නොවන බවයි."

සතියකට පස්සේ ඔහු මිය ගියේ ය. නගරවාසී හැම දෙනා ම වාගේ ඔහු ගේ අවමඟුලට සහභාගි වූ හ. නායක පියතුමා මහත් ශෝකයෙන් කතාවක් කෙළේ ය. අකාලයේ මරණයට හේතු වූ භයානක රෝගය ගැන හැම දෙනා ම පුදුම වූ හ. එහෙත් අවමඟුලට පසු මුළු නගරය ම මට විරුද්ධ ව නැඟී සිටියේ ය. මා හමු වී කතා කිරීමට පවා කිසිවෙක් කැමැති නො වී ය. පළමු ව ටික දෙනෙක් ද, පසු ව හැම දෙනාම ද ඔහු මළේ මා නිසා යයි විශ්වාස කළහ. අනතුරුව ඔවුහු මා හමුවීමට පැමිණ මගෙන් නොයෙක් ප්‍රශ්න ඇසූ හ. යහපත් මිනිහා පිරිහෙනවා දකීමට

මිනිසා ගේ කැමැත්ත එ තරම් බලවත් ය. මම කරබා ගතිමි. අන්තිමේ දී මම ආයේත් නො එන්නට ඒ නගරය හැර ගියෙමි. මාස පහකට පස්සේ දෙවියන් ගේ පිහිටෙන්, ආසිරිවාද ලත් යහ මගට පැමිණි මම ඒ මග පෙන්නා දුන් අදෘශ්‍යමාන හස්තයට ආසිරිවාද කෙළෙමි. එහෙත් බොහෝ දුක් වින්ද දෙවියන්ගේ සේවකයකු වන මගේ අද්භූත ආගන්තුකයා සිහි කරමින් අද දක්වා මම උදේ හවස යාච්ඤා කරමි.

## තුන් වන පරිච්ඡේදය

## සොසිමා තවුසා ගේ උපදේශ හා සාකච්ඡා

### (ඉ) රුසියන් පූජකයා හා ඔහුගේ ඇති වැදගත් කම

පියවරුනි, ආචාර්යවරුනි, පූජකයා නම් කවරෙක් ද? දියුණු වූ ලෝකයේ අද දින සමහරු මේ වචනය සඳහන් කරන්නේ පරිහාස මුඛයෙනි. අනෙක් අය එය කෙනෙකුට නින්දා කිරීමට ගන්නා වචනයක් ලෙස සලකති. පූජකයාට දක්වන පිළිකුල මෙසේ දිනෙන් දින වැඩි වෙයි. අහෝ, එය සත්‍යයකි. පූජකයන් අතරේ බොහෝ කුසීතයන්, කෑදරයන්, දුරාචාරයේ යෙදෙන්නන් හා අහංකාර හිගන්නන් ද සිටින බව සත්‍යයකි. උගත්තු මේ වැරැදි පෙන්නා මෙසේ කියත්. "තුඹලා සමාජයට කිසි ම ප්‍රයෝජනයක් නැති නිකම්මු කොටසකි. අනුන් ගේ දහඩිය මහන්සියෙන් ජීවත්වන තුඹලා ලැජ්ජා නැතින් තොර වූ හිගන්නෝ කොටසකි." සාමයෙන් පිරි හුදෙකලා ජීවිතයට හා ආගම ධර්මය ආරක්‍ෂා කිරීමේ ආසාවෙන් පෙළඹුණු, විනීත ගතිගුණ ඇත්තා වූ සිල්වත්, ගුණවත්, පූජකයෝ කොපමණ සිටිත් ද? ඔවුහු ප්‍රසිද්ධ නො වෙති. ගරුසැලකිලි නො ලබති. මෙසේ හුදෙකලාවේ වෙසෙමින් ආගම ධර්මය ආරක්‍ෂා කරන සිල්වත්, ගුණවත්, පූජකයන් ගෙන් සමහරවිට ආයේත් වරක් රුසියාවට ගැලවිල්ල ලැබෙන්නට පුළුවනියි මා කීවොත් කී දෙනෙක් පුදුම වෙත් ද? ඇත්ත වශයෙන් ඔවුහු පැයෙන් පැයට, දවසින් දවසට, මසින් මසට, හවුරුද්දෙන් හවුරුද්දට සුදුසු වන පරිදි සාමයෙන් හා නිශ්ශබ්ද තාවෙන් සූදානම් වෙති. එකලාවේ සිටින ඔවුහු තම මුතුන්මිත්තන් ගෙන් හා ඇපෝස්තලුවරුන් ගෙන් ද පැවැත එන ක්‍රිස්තුන් වහන්සේ ගේ ධර්මය හා දෙවියන්

වහන්සේ ගේ සත්‍යතාවේ නිමලත්වය කරති. නියම කාලය පැමිණි විට ඔවුහු එය ලෝකයේ වෙසෙන අස්ථිර බැතිමතුන්ට පෙන්නා දෙති. එය උතුම් අදහසකි. ඒ තාරකාව පෙර දිගින් පායනවා ඇත

"මම පූජකයන් ගැන කල්පනා කරන්නේ මේ විදියටයි. මගේ කල්පනාව වැරදි ද? එය අහංකාර කමින් ඇති වූ කල්පනා-වක් ද? දෙවියන් වහන්සේ විසින් මවන ලද මනුෂ්‍යයන් අභිභවා ජීවත්වීමට වෑයම් කරන අය හා ලෞකික සැපසට ගිජුකමින් සිටින අය ද ගැන කල්පනා කරන්න. දෙවියන් වහන්සේ ගේ ස්වරූපයත් එතුමා ගේ සත්‍යයත් වැරදි අතට හරවා ගෙන නැද්ද? ඔවුන්ට විද්‍යාව ඇත. එහෙත් ඉන්ද්‍රියයන්ට හා බුද්ධියට ගෝචර වන දෑ මිස වෙන කිසිවක් විද්‍යාවේ නැත. ආධ්‍යාත්මික ලෝකය හා මනුෂ්‍ය ජීවිතයේ උතුම් ගුණදහම්, ජයග්‍රහණයෙන් හා ද්වේෂයෙන් ඔදවැඩුණු සිතින් සම්පූර්ණයෙන් ම ප්‍රතික්ෂේප කොට ඇත. මිනිසා නිදහස් බව ලොවට හඬ ගා කියා ඇත. වෙසෙසින් ම මෑත දී ප්‍රකාශයට පමුණුවන ලද මිනිසා ගේ ඒ නිදහසෙහි, දූස භාවය හා ආත්ම විනාශය මිස වෙන කිසිවක් නැත. ලෝකය මෙසේ කියයි;

"ඔබ තුළ ආසාව ඇත. ධනවතුන් හා බලවතුන් ද සතු-අයිතිවාසි කම් ඔබට ද ඇති බැවින් ඔබේ ඒ ආශාව මුදුන්පමුණුවා ගන්න. ආසාව මුදුන් පමුණුවා ගන්නා අතරේ තවත් ආශාවන් වැඩිකර ගැනීමට භය නොවන්න." මෙය ලෝකයේ පවතින වර්තමාන ධර්මයයි. මේ දහම තුළ නිදහස ඇති බව ඔවුන්ට පෙනේ. ආසාවන් වැඩි කර ගැනීමේ මේ අයිතිවාසිකමින් ඇතිවන ප්‍රතිඵලය කුමක් ද? පොහොසත්තු වෙන් වෙති. තනි වෙති. ආගම ධර්මය නැති වෙයි. දුප්පතුන් අතර ඊර්ෂ්‍යාව වෛරය හා මනුෂ්‍යඝාතන පැතිරෙයි. ඔවුන්ට මනුෂ්‍ය අයිතිවාසි කම් දී නැත. එහෙත් ඔවුන් ගේ ඕනෑ එපා කම් සපයා ගැනීමට අවශ්‍ය දෑ සපයා දී නැත. අදහස් ගුවන් මඟින් යැවිය හැකි බැවින් ලෝකයේ දුර ප්‍රමාණය අඩු වී මිනිසා සහෝදරත්වයෙන් වඩ-වඩාත් එක්සත් වන බව කියනු ලැබේ.

අහෝ, එ වැනි එක්සත් කමක් කෙරෙහි විශ්වාසය නො තබන්න. නිදහස වනාහි, ශීඝ්‍ර ලෙස ආශාවන් වැඩි කර ගැනීම හා ඒ අශාවන් මුදුන් පමුණුවා ගැනීම ලෙස විග්‍රහ කරමින් මිනිස්සු ඔවුන් ගේ මිනිස් ගති පැවතුම් වරදවා දක්වති. ඔවුන් තුළ කිසි ම අර්ථයක් නැති අඥාන ආශා, නොයෙක් තරක පුරුදු හා හාස්‍යජනක අදහස් ද ඇති වෙයි. ඔවුන් ජීවත් වන්නේ එකි-නෙකාට ඊර්ෂ්‍යා කිරීමට හා ව්‍යාජ අලංකාරයෙන් යුත් සුඛෝප

භෝගී ජීවිතයක් ගත කිරීමට පමණි. භෝජන සංග්‍රහ පැවැත්වීම එකිනෙකා බැහැදකීමට යාම, රථවාහන තබා ගැනීම, සාංන්ත මාන්ත ලබා ගැනීම, අතට පයට දාසයන් තබා ගැනීම, ජීවිතයේ අවශ්‍ය අංග ලෙස ඔවුහු සලකති. මේ අවශ්‍යතාවන් සඳහා ඔවුහු ජීවිතය, ආත්ම ගරුත්වය හා මිනිස් ගතිගුණ කැප කරති. ඒවා ලබා ගත නොහැකි වූ විට ඇතැම් අය දිවි නසා ගනිති. එ තරම් ධනවත් නොවූවන් අතරේ මෙ වැනි දුර්වල කම් දකින්නට ලැබේ. ඒ අතරේ දුප්පතුන් ඔවුන් ගේ තෘප්තියට නොපත් ආශාව හා ඊර්සියාව මැඩගැනීමට මත්පැන් බොති. වැඩි කල් යන්නට කලින් ඔවුන් මත්පැන් වෙනුවට මනුෂ්‍ය රුධිරය බොනවා ඇත. එ වැනි දෙයක් කිරීමට ඔවුහු පොළඹවනු ලැබෙත්. එ වැනි මිනිසා නිදහස් මිනිසෙක් දැයි මම අසමි. 'නිදහස පතා සටන් කළ වීරයෙක්' මම ඇඳින සිටියෙමි. ඔහු මට කිව්වා හිරේ සිටින විට කන්න දුම් කොළ නැති වී ඉවැසිය නොහැකි තැන, දුම් කොළ සවල්පයක් ලබා ගැනීම පිණිස තම ව්‍යාපාරයේ රහස් සියල්ලක් ම හෙළි කළ බව. 'මම මනුෂ්‍ය වර්ගයා වෙනුවෙන් සටන් කරන්නෙමී'යි කියන්නේ එ වැනි මිනිහෙක් ද?

එ වැනි මිනිහෙක් සටන් කරන්නේ කොහොම ද? ඔහු ගේ ඇති සුදුසුකම කුමක් ද? සමහර විට ඔහු ක්‍රියාසූරයකු විය හැකි යි. එහෙත් කාලයක් තුළ ඉවසීමෙන් යුතු ව ක්‍රියා කිරීමේ ශක්තියක් ඔහුට නො තිබෙන්නට පිළිවන. එ හෙයින් නිදහස දිනා ගන්නවා වෙනුවට ඔවුන් දාසයන් වීම පුදුමයක් නො වෙයි. මගේ අද්භූත ආගන්තුකයා හා ආචාර්යවරයා මට තරුණ කාලයේ දී පෙන්නා දුන්නාක් මෙන් මේ මිනිස්සු, මනුෂ්‍යයන් අතරේ සහෝදරත්වය, ප්‍රේමය, මෛත්‍රිය හා සමගිය ඇති කරනවා වෙනුවට නොයෙක් භේද භින්න ඇති කර ගනිති. ආත්මාර්ථකාමීහු වෙති. එ හෙයින් සහෝදරත්වය, ප්‍රේමය, මනුෂ්‍ය වර්ගයාට සේවය කිරීම ආදී උතුම් පරමාර්ථ මේ ලෝකයෙන් තුරන් වෙයි. සමහර විට මේ උතුම් අදහස්වලට අපහාස කරනු ලැබෙයි. මිනිහෙකු තමා ඇති කර ගත් නරක පුරුදු නැති කරගන්නේ කෙසේ ද? සීමාවක් නැති ආශාවන් මුදුන් පමුණුවා ගැනීමේ පුරුද්දට ඇබ්බැහි වී සිටින මිනිසාට සිදුවන්නේ කුමක් ද? ඔහු සමාජයෙන් ඈත් වී ජීවත් වීමට පටන් ගනියි. ඔහු මනුෂ්‍ය වර්ගයාට කිසි ම සැලැකිල්ලක් නො දක්වයි. බොහෝ ධනධාන්‍ය රැස්කර ගනියි. මෙසේ ඔහු ගේ ධනය හා බලය ද වැඩි වන අතරේ ඔහු ජීවිතයෙන් ලබන උතුම් සැපත අඩුවෙයි.

එහෙත් ආශ්‍රම ජීවිතය ඊට ඉඳුරා වෙනස් ය. විනය ගරුක වීමට, උපවාසයට හා යාච්ඤාවට මිනිස්සු සිනාසෙති. නියම

නිදහසට යන මාවත වැටී අත්තේ මේ දෑ තුළිනුයි. මම අනවශ්‍ය උවමනාවන් අත්හැර දමමි. මගේ උඩඟු නොඉවසිලිමත් සිත නිහතමානී කමින් මැඩ ගනිමි. මම සුරිඳුන් ගේ උපකාරයෙන් ඇති ව ආත්මය නිදහස් කොට ආධ්‍යාත්මික සුවයක් ලබමි. උතුම් අදහසක් අවබෝධ කොට, ඒ අදහස අනුව සේවය කරන්නට පුළුවන් තමා රැස් කළ ධනයට මැදි වී, සමාජයෙන් ඈත් වී සිටින ධනවතාට ද? නැති නම් ධන තණ්හාවෙන් හා තරක පුරුදු නැමැති ක්‍රෑරත්වයෙන් නිදහස් වූ මිනිසාම ද? සමාජයෙන් ඈත් වී හුදෙකලාවේ සිටීම නිසා පූජකයාට තදින් දෙස් කියනු ලැබේ. "ගැලැවිල්ල පතා ආශ්‍රමයේ තාප්පවලට කොටු වී හුදෙකලා ජීවිතයක් ගතකරන ඔබට, මනුෂ්‍ය වර්ගයාට කළ යුතු සේවය අමතක වෙයි." මනුෂ්‍ය වර්ගයාට සේවය කිරීමට උනන්දු වන්නේ කවරෙක් දැයි අපට බැලිය හැකි ය. සමාජයෙන් ඈත් වී සිටින්නේ ඔවුන් මිස අපි නො වෙමු. ඔවුහු ඒ බව නො දනිත්. පුරාණයේ දී ජනනායකයන් ඇතිවූයේ අප අතරින්. එය නැවත සිදුවිය නො හැක්කේ මන් ද? උපවාසයේ යෙදෙමින් නිශ්ශබ්ද ජීවිතයක් ගත කරන එම නිහමානී අසරණ පූජකයා ආයේත් අවදි වී, ඒ උතුම් සේවය සඳහා ඉදිරිපත් වනවා ඇති. රුසියාවේ ගැලවිල්ල ඇති වන්නේ ඇගේ පොදු ජනයා ගෙනි. පූජකයා සැම කල්හි ම පොදුජනයා ගේ පැත්ත ගනියි. පොදුජනයා තනිවූ දූව අප ද තනි වෙයි. අප මෙන් පොදු ජනයා ද ඒ බව විශ්වාස කරති. කො තරම් අවංක වුවත්, කො තරම් උගතකු වුවත්, කො තරම් බුද්ධිමතකු වුවත්, විශ්වාසයෙන් තොර වූ නායකයා ගෙන් රුසියාවට කිසි ම යහපතක් නො වෙයි. එය හොඳට හිතේ තබා ගන්න, රට වැසියා අදේවවාදීකයා මැඩ පවත්වනු ඇත. අපේ රට එක්සත් වී සත්‍ය ලබ්ධිය පිළිපදිනු ඇත. එ හෙයින් අපේ රට වැසියා රැකබලා ගෙන ඔහු ගේ හදවත ආරක්ෂා කරනු. ඔවුන්ට හෙමිහිට අධ්‍යාපනය දෙනු. පොදු ජනයා ගේ හදවතේ දෙවියෝ වැඩ වෙසෙති. එ හෙයින් මෙය පූජකයන් වූ ඔබ වහන්සේලා සතු යුතුකම් බව පිළිගනිත් වා

"අපේ ගැමියන් පව් කරතියි මම නො කියමි. දූසට පෙනී පෙනී සමාජයේ උඩ සිට පහතට දූෂණය නැමැති ගින්න පැතිරෙයි. ගැමියන් අතර ද ආත්මාර්ථය පැතිර යයි. මුදල් පොලී කරන්නන් හා ගැමියන් ගේ දේපොල පොදි බැඳ ගන්නන් දිනෙන් දින වැඩි වෙයි. නම්බුනාමවලට ගිජුකම් දක්වන වෙළෙන්දෝ නැති

උගත්කම් ඇති කර ගැනීමට වෑයම් කරයි. එහෙත් ඔහු තුළ කිසි ම උගත්කමක් නැත. නැති උගත්කම් පෙන්වීමට වෑයම් කරන හෙතෙම පැරැණි සිරිත් විරිත්වලට නින්දා කරයි. මුතුන් මිත්තන් ගේ ආගම ගැන ලජ්ජා වෙයි. ඔහු නොමඟ ගිය ගැමියකු වුවත් ලොකු ලොක්කන් බැහැදකීමට නිතර යයි. අපේ ගැමියෝ මත්පැන් නිසා විනාශ වෙති. එහෙත් ඔවුන්ට ඒ පුරුද්ද අත්-හැරිය නො හැකි ය. ඔවුහු අඹුදරුවන්ට ද වධ හිංසා කරති. මේ විපත වන්නේ බේබදුකම නිසා ය. ගතින් දුබල, රෝගයෙන් පෙළෙන, කුදු ගැසුණු, දනට ම නොමඟ ගිය හවුරුදු නවයේ ළමයින් කර්මාන්ත ශාලාවල වැඩ කරනවා මම දැක ඇත්තෙමි. වාතාශ්‍රයක් නැති කර්මාන්ත ශාලා, යන්ත්‍රවල නො නවතින ගෝට්ටිය, කිසි ම වෙනසක් නැති ව දවස පුරා කෙරෙන වැඩ, කතා කරන අධම භාෂාව හා සුරාපානය. ළමයින් ප්‍රිය කරන්නේ මත්පැන්වලට ද? ළමයින්ට හිරු එළිය, කෙළිසෙල්ලම්, හොඳ ආදර්ශය හා ආදරය ඉතා අවශ්‍යයි. මේ අපරාධය තවත් කල් නො පැවැත්විය යුතු ය. පූජකවරුනි, ළමයින්ට මෙසේ වද හිංසා නො කළ යුතු ය. පමා නො වී වහා නැඟී සිට මීට විරුද්ධව දේශනා කරන්න. දෙවියන් වහන්සේ රුසියාව නිදහස් කර ගන්නා සේක. දූෂණය වූ අපේ ගැමියන්ට පව් කිරීම අත්හැරිය නොහැකි වුවත් පාපය දෙවියන් විසින් සාප කරන ලද බවත්, පව් කිරීමෙන් තමන් කරන්නේ වරදක් බවත්, ගැමියෝ දනිති. එ හෙයින් තවමත් අපේ ගැමියෝ හොඳ නරක අඳුනන්නෝ ය. දෙවියන් කෙරෙහි විශ්වාසය ඇත්තෝ ය. හද පිරුණු භක්තිය ඇත්තෝ ය.

එහෙත් උසස් පන්තියේ තත්ත්වය මීට ඉදුරා වෙනස් ය. විද්‍යාව අනුගමනය කරන ඔවුහු යුක්තිය ආගම උඩ නො ව තර්කය මත තබති. අපරාධ කියා දෙයක් හෝ පව් පිං කියා දෙයක් හෝ නැති බව ඔවුන් දනට ම ප්‍රකාශ කොට ඇත. ඔවුන් ගේ අදහස්වල හැටියට ඔවුන් ගේ කතාවේ ඇත්තක් තිබේ. දෙවියන් ගැන විශ්වාසයක් නැති නම් අපරාධ ගැන කරදර වන්නේ කුමට ද? දනට ම යුරෝපය පුරා දිළින්දෝ පොහොසතුන්ට විරුද්ධව කැරලි ගසති. ඔවුන් ගේ නායකයෝ ඔවුන් තවත් අපරාධවලට පොළඹවති. ඔවුන් ගේ කෝපය යුක්ති සහගත බව කියති. එහෙත් ඔවුන් ගේ කෝපය කෲර වූ නිසා සාප ලද්දෝ ය. දෙවියන් වහන්සේ කිප වරක් ම රුසියාව නිදහස් කරගෙන ඇති බැවින් යළි නිදහස් කර ගන්නවා ඇත. අපේ ගැමියන් ගෙන්, ඔවුන් තුළ ඇත්තා වූ භක්තියෙන් හා යහපත්කමින් අපේ රටට යහපතක් වන්නේ ය.

පියවරුනි, ආචාර්යවරුනි, මනුෂ්‍යයන් තුළ ඇත්තා වූ භක්තිය ආරක්‍ෂා කර ගන්න. එය සිහිනයක් නො වේ. අපේ රට වැසියා තුළ ඇත්තා වූ උදාර ගතිගුණ මගේ මුළු ජීවිත කාලය තුළ ම බලපවත්වා ඇත. මම එය දක ඇත්තෙමි. දක පුදුම වුණෙමි. මට ඒ ගැන සහතික කළ හැකි ය. අපේ ගැමියෝ දඟදුක් විඳිති· පව් කරති එහෙත් ඒ පාපයන් හා දහදුක් තුළින් මම ඔවුන් ගේ උදාර ගතිගුණ දක ඇත්තෙමි. ඔහුවූ හීන දීන නො වෙති. ශත වර්‍ෂ දෙකක් පුරා දස භාවයේ සිටියත් ගතිගුණ හා ඉවැසීම අතින් ඔවුහු නිදහස් පුද්ගලයන්ට සමාන වෙති. ඔවුන් අහංකාර නැත. ඔවුන් තුළ පළිගැනීමේ චේතනාවක් නැත. ඊරිසියා-වක් නැත. 'තොප තුළ ඉතා උතුම් ගතිගුණ ඇත, තොපි ඉතා ධනවත් ය, ඉතා ඥානවන්ත ය, දක්‍ෂ ය, එය එසේ ම වේ වා; දෙවියන් වහන්සේ තොපට ආසිරිවාද කරත් වා! මම තොප ගරු කරමි. එහෙත් මා ද මිනිසකු බව මම දනිමි. ද්වේෂයෙන් තොර ව තොපට ගරු කිරීමෙන් මිනිසකු වශයෙන් මම මගේ උදාරකම සනාථ කරමි.' ඈත්ත වශයෙන් ඔවුහු ඒ බව නො-කියති. එහෙත් ඒ අනුව ක්‍රියා කරති. (මෙය කෙසේ කියයුතු දැයි ඔවුහු තවමත් නො දනිති.) මම එය සියැසින් දක ඇත්තෙමි. ඒ බව දනිමි. අපේ ගැමියන් දිළිඳු වූ තරමට ඔවුන් ගේ යහපත් කම මතු වී පෙනෙයි. ඔබ එය විශ්වාස කරන්නේදයි මම නො දනිමි. ඔවුන් අතරින් මුදල් පොළී කරන අය දනට ම දූෂණය වී ඇත. වැඩි හරියක් ම අපේ ගැමියන් නොමග ගොස් ඇත්තේ අපේ නොසැලැකිල්ල නිසා ය. එහෙත් දෙවියන් වහන්සේ ඔවුන් ආරක්‍ෂා කරන සේක. රුසියන් ජාතිකයා ගේ දයාව කරුණාව ඉතා ශ්‍රේෂ්ඨ ය. මට මගේ රටේ අනාගතය ඉතා පැහැදිලි ව පෙනෙන්නා සේ ය. අතිශයෙන් ම දූෂණය වූ අපේ ධනවතුන් පවා දුප්පතුන් ඉදිරියේ දී ඔවුන් ගේ ධනවත්කම ගැන ලැජ්ජාවනු ඇත. දුප්පතුන්, ධනවතුන් ගේ නිහතමානකම දක, අවබෝධ කොට ඇත. ධනවතුන් තුළ ඇති වන ලැජ්ජාවට ප්‍රීතියෙන් හා ප්‍රේමයෙන් යුතු ව අනුකූලතාව දක්වනවා ඇත. ධනවතුන් හා දුප්පතුන් හා අතරේ පවතින භේදය මෙසේ අවසන් වන බව විස්තර කරන්න. ඒ අනුව දනට ම කරුණු සැලැසී තිබේ. සමානාත්මතාව ඇතිවන්නේ මිනිසා තුළ ඇති ආධ්‍යාත්-මික උදාර ගතියෙන් පමණයි. එය අවබෝධ කරගත හැක්කේ පූජකයන් වූ අපට පමණයි. පළමු ව අපි සහෝදරත්වයක් ඇති කර ගනිමු. අනතුරු ව සමානාත්මතාව ඇති වෙයි. සමානාත්මතාව ඇති වීමට පෙර ධනය පොදුවේ බෙදා ගැනීම ගැන අපට තීරණය-කට පැමිණිය නොහැකි ය. අපි ක්‍රිස්තුන් වහන්සේ ගේ ධර්මය ආරක්‍ෂා කරන්නෝ වෙමු. එය මහඟු මැණිකක් මෙන් මුළු ලොව ආලෝක කරමින් බැබළෙයි. එය එසේ ම වේ වා!එසේ ම වේ වා!!

පියවරුනි, ආචාර්යවරුනි, වරක් සිතේ අනුකම්පාව ඇති කළ දෙයක් සිදු විය. ගම් නියම්ගම් පසුකරමින් යන මට කෝ...... නමැති ගමේ දී මගේ පැරැණි දසයා හමු විය ඔහු ගෙන් වෙන් වී එවකට හවුරුදු අටක් පමණ ඇත. කඩපොළේ දී මා දුටු ඔහු මා හැඳින, මා ළගට දිව අවේ ය. මා දැක ඔහු තුළ ඇති වූ ප්‍රීතිය අපමණ ය. “අනේ හාමුදුරුවනේ, මේ තමුන්නාන්සේ නේද?”යි විමසූ හෙතෙම මා ගෙදර කැඳවා ගෙන ගියේ ය.

යුධ හමුදාවෙන් අස් වූ ඔහු විවාහ විය. දැනට ඔහුට දරුවෝ දෙදෙනෙක් සිටිත්. ඔහු බිරිය සමග කඩ පොළේ පලතුරු විකුණා ජීවත් වෙයි. ඔහු වාසය කළ කාමරය ඉතා දිළිඳු ය. එහෙත් පිරිසුදු ය. මට අසුනක් පිළියෙළ කර දුන් ඔහු බොයිලේරුව ළිපේ තබා බිරියට පණිවිඩයක් යැව්වේ මගේ පැමිණීම උත්සවයක් පැවැත්වීමට තරම් සුදුසු දෙයක් වූවාක් මෙනි. ඔහු දරුවන් දෙදෙනා මා ළගට ගෙනැවිත් “සවාමීනි, මේ දරුවන්ට ආශීර්වාද කරන්න”යි කී ය.

“මම සාමාන්‍ය පූජකයෙක්, නුඹේ දරුවන්ට ආශීර්වාද කිරීමට තරම් සුදුස්සෙක් නො වෙයි. මම දරුවන් වෙනුවෙන් යාච්ඤා කරන්නම්. මා තුළ මේ වෙනස ඇති වුණේ නුඹ නිසයි. එදා සිට අද දක්වා මම නුඹ සිහි කොට යාච්ඤා කළා.” මෙසේ පැවැසූ මම ඔහුට එම සිද්ධිය සවිස්තර ව කීමි. ඉතින් ඔබ දන්නවා ද කුමක් ද වුණේ කියා? වරක් ඔහු ගේ සවාමියා වූ මා මෙ වැනි තත්ත්වයක සිටීම විශ්වාස කළ නො හැකිවූවාක් මෙන් ඔහු පුදුමයෙන් මා දෙස බලා සිටියේ ය. ඔහු ගේ දෑසේ කඳුළු පිරුණේ ය.

“ඇයි අඩන්නේ?”යි මම ඇසීමි. “නුඹ කිසි ම දවසක අමතක කළ නොහැකි මිත්‍රයෙකි. ඉතින් මිත්‍රය මා තෝරාගත් මේ ජීවිතය සැපතින් හා ප්‍රීතියෙන් පිරී ඇත. එ හෙයින් මා ගැන ශෝක වනවා වෙනුවට ප්‍රීති වන්න”යි මම ඔහුට කීමි.

කතා නො කළ හෙතෙම ඉතා ආදරයෙන් සුසුම් හෙළමින් හිස වැනුවේ ය.

“තමුන්නාන්සේ ගේ ධනයට මොකා ද වුණේ?” යි ඔහු අනතුරු ව ඇසුවේ ය.

“මම මගේ ධනය ආශ්‍රමයට පූජා කළා. අපි හැම දෙයක් ම පොදුවේ බෙදා ගෙන ජීවත්වෙනවා” යි මම පිළිතුරු දිනිමි.

තේ පැන් පිළිගැන්වීමෙන් අනතුරු ව මා නික්ම යාමට සැරසෙන විට ඔහු වහා රූබල් භාගයක් ගෙන ආශ්‍රමයට පූජා

කොට තවත් රූබල් භාගයක් මගේ අතේ තබා "පියතුමාණෙනි, මේ රූබල් භාගය ගමන් වියදමට තියා ගන්න. තමුන්නාන්සේට මෙය ප්‍රයෝජන වෙන්න පුළුවනි"යි කී ය.

පිනට දුන් රූබල් භාගය පිළිගත් මම දෙමහල්ලන්ට හිස නමා ආචාර කොට සතුටින් නික්ම ගියෙමි. යන ගමන් මෙසේ කල්පනා කෙළෙමි. "අප දෙදෙනා අතරින් ඔහු ගෙයක වාසය කරන අතරේ මම මග බැස යමි. අපි සුසුම් හෙළමින් හිස වනන අතරේ දෙවියන් වහන්සේ අප දෙදෙනා එකිනෙකාට හමුවීමට සැලැස්වීම ගැන හටගත් සොම්නසින් සිනා සෙමු."

ඉන් පසු අද වන තුරු මම ඔහු නුදුටුවෙමි, මම ඔහු ගේ ස්වාමියා වීමි. ඔහු මට දුසකම් කෙළේ ය. කරුණාවෙන් තෙත් වූ හදවතින් යුතු ව අපි එකිනෙකා සිපගත්තා අතර, අප අතරේ ශ්‍රේෂ්ඨ මනුෂ්‍ය සම්බන්ධයක් පැවැතිණි. මම ඒ ගැන බොහෝ දුරට කල්පනා කෙළෙමි. මා ඒ ගැන කල්පනා කරන්නේ මෙසේ ය. අප අතරේ ඇති වූ මේ ශ්‍රේෂ්ඨ, එහෙත් ඉතා චාම් සම්බන්ධය කල් ගත වන විට රුසියන් ජාතිකයන්ට පොදු දෙයක් වන්නට බැරි ද? එය එසේ ම වන්නේ යයි මම විශ්වාස කරමි. එය වැඩි කල් නො ගොසින් ම සිදු වන්නේ ය.

දාසයන් ගැන මම මෙසේ කියමි. තුරුණු වියේ දී මම දාසයන් නිසා කෝප වුණෙමි. කෝකියා කෑම උණු උණුවෙන් බෙදුවේ ය. මගේ පණිවිඩකාරයා මගේ කබාය පිස දමා නැත. මේ ගැන මගේ සහෝදරයා මෙසේ කියනවා මම කුඩා කාලයේ දී අසා ඇත්තෙමි. "කෙනකු දුප්පත් නිසා, නූගත් නිසා, ඔහු ගෙන් වැඩ ගනීමට තරම් මා සුදුස්සෙක් ද?" මෙ වැනි ඉතා සුළු, එහෙත් වැදගත් අදහස් අප තුළ ඇති වීම ගැන බොහෝ කල් ගතවූවාට පසු මම පුදුම වුණෙමි.

මේ ලෝකයේ සේවකයන් නැති ව කිසිසේත් ජීවත්විය නො හැකි ය. ඔහු සේවය කළත් ඔහු නිදහස් පුද්ගලයකු විය යුතු බව ඔබ දැන ගත යුතු ය. මට මගේ සේවකයාට සේවය කළ නොහැක්කේ මන් ද? ඔහු තුළ සැකයත්, මා තුළ උඩඟුකමත් ඇති නොවන ලෙස ඔහු ගේ දාසට පෙනිපෙනී ඔහුට සේවය කිරීමට මට පුළුවන් කමක් නැත්තේ මන් ද? මගේ සේවකයා, මගේ පවුලට වැද්ද ගෙන ආදරයෙන් සලකා ප්‍රීති විය නොහැක්කේ මන් ද? දැන් වුව ද එය කළ හැකි ය. අනාගතයේ දී මනුෂ්‍යයන් අතරේ උතුම් සබඳ කමක් ඇති කිරීමට එය උපකාර වෙයි. එවිට මිනිසෙක් තවත් මිනිසකු සේවකයකු කොට නො ගනියි.

දූන් කරන්නාක් මෙන් තමා වැනි තවත් මිනිසකු තමා ගේ සේවකයා කර ගැනීමට අදහස් නො කරයි. ඒ වෙනුවට ධර්මයේ උගන්වන්නාක් මෙන් හැම දෙනා ගේ ම සේවකයා වීමට ඔහු මුළු හිතින් ම ප්‍රාර්ථනා කරයි.

නි‍ ම සැපත රැඳී ඇත්තේ ආහාරයට ඇති ගිජු කම, පංචකාම සම්පත්තිය, පුහු අලංකාරය, ආත්ම වර්ණනාව, තවෙකකුට වඩා උසස් වීමට ඇති ආශාව, කෝපය, ඊර්ෂ්‍යාව වැනි පාපකර්මයන්හි නො ව, දයාව, අනුකම්පාව ආදී උතුම් ක්‍රියාවල බව මිනිසා විසින් සොයාගැනීම සිහිනයක් විය හැකි ද? එය සිහිනයක් නොවන බවත්, ලඟදී ම එය සිදුවන බවත්, මම දැඩි ව විශ්වාස කරමි. "ඒ කාලය පැමිණෙන්නේ කවර ද ද? එ වැනි කාලයක් පැමිණෙයි ද" යි මිනිස්සු සිතා සෙමින් විමසන්නාහ. ක්‍රිස්තුන් වහන්සේ ගේ උපකාරය ඇති ව මේ ශ්‍රේෂ්ඨ දෙය අපට ලබා ගත හැකි බව මම විශ්වාස කරමි. හවුරුද්දකට කලින් කිසිසේත් සිදුවන්නේ යයි සිතිය නො හැකි වූ කො තරම් දේවල් මානව ඉතිහාසයේ දකින්නට ලැබේ ද? එහෙත් ඒ දේවල් සිදුවීමට හවුරුදු දහයකට පෙර ඒ ගැන කිසිවෙක් සිහිනකින්වත් කල්පනා කළේ නැත. එහෙත් නියම වේලාව පැමිණි විට ඒ අදහස මුළු ලෝකය ම වසා පැතිර ගියේ ය. අප අතර ද එය එසේ ම සිදුවනු ඇත. අපේ රට වැසියා මුළු ලෝකයා ඉදිරිපිට ශ්‍රේෂ්ඨත්වයෙන් බැබලෙන්-නේ ය. "ගල්වඩුවා විසින් ඉවත දමන ලද ගල, ගොඩනැගිල්ලේ මුල් ගල වූයේ ය"යි ලෝකයා කියනු ඇත.

"අපේ බලාපොරොත්තු සහ ප්‍රාර්ථනා සිහිනයක් ද?"යි අපට පරිහව කළ අයගෙන් ප්‍රශ්න කළ හැකි ය. තව ද, "ක්‍රිස්තුන් වහන්සේ ගේ උපකාරය නැති ව ඥානශක්ති-යෙන් පමණක් නුඹලා ගේ ප්‍රාසාදය ඉදි කොට, ජීවිතය යුක්ති ගරුක ලෙස සංවිධානය කර ගත්තේ කවරදැ දැයි අපට ප්‍රශ්න කළ හැකි ය. සමගිය කරා ගමන් කරන්නේ තමන් පමණක් යයි ඔවුන් පවසනවා නම් එය විශ්වාස කරන්නේ ලාමක සිත් ඇති අය පමණයි. එවිට ඔවුන් ගේ ඒ ලාමක කම ගැන කෙනකුට නිතැතින් ම පුදුම විය හැකි ය. ඇත්ත කියනවානම් අපේ බලාපොරොත්තුවලට වඩා අරුම පුදුම බලාපොරොත්තු ඔවුන් තුළ ඇත. ඔවුහු යුක්තිය ඉෂ්ට කිරීමට බලාපොරොත්තු වෙති. එහෙත් ආගම ප්‍රතික්ෂේප කොට යුක්තිය ඉෂ්ට කිරීමට බලාපො-රොත්තු වන්නේ නම් ඒ බලාපොරොත්තුව අවසන් වන්නේ මිහිකත ලෙයින් නාවමිනි. ලේ ගැලීමෙන් තව තවත් ලේ ගැලීම ම සිදුවන හෙයිනි. කඩුව ගත් තැනැත්තා කඩුවෙන් ම නසින්නේ ය. ක්‍රිස්තුන් වහන්සේ ගේ ප්‍රතිඥාව නිසා නො වේ නම් අන්තිම දෙදෙනා ඉතිරි වන තෙක් ඔවුන් එකිනෙකා මරාගන්නවා ඇත. ඒ

දෙදෙනාට ද අභිමානය මැඩගත නො හැකි ව එකෙක් අනෙකා මරා අවසානයේ දී ඔහු ද පණ නහගන්නවා ඇත. අසරණ නිහතමානී මනුෂ්‍යයන්ට ක්‍රිස්තුන් වහන්සේ දීර්ඝායුෂ පොරොන්දු වූ සේක. පොරොන්දු නොවූයේ නම් මනුෂ්‍යයා ගේ ජීවිතය ඉතා කෙටි වන්නේ ය.

ද්වන්දව යුද්ධයෙන් පසු, එහෙත් යුධ හමුදාවෙන් අස්වීමට කලින් මම සේවකයන් ගැන මේ අදහස් ප්‍රකාශ කෙළෙමි. මගේ කතාව අසන ඔවුන් පුදුම වූ බව මට මතකයි. "ඔබේ කතාවේ තේරුම කුමක් ද? ඔබ කියන්නේ දූසයන් සෝපා මත වඩා හිඳුවා තේ පැනින් සංග්‍රහ කිරීමට"යි ඔවුහු මගෙන් ප්‍රශ්න කළහ. "ඇයි එහෙම කරන්න බැරි? ඉඳහිටවත් අපි එසේ කළ යුතුයි." මගේ පිළිතුරු අසා ඔවුහු සිනාසුණහ. නිෂ්ප්‍රයෝජන ප්‍රශ්න ඇසූහ. මා දුන් පිළිතුර පැහැදිලි නැත, නමුත් එහි ගැබ් වූ අදහස් තරමක් නිවැරුදිය.

## (උ) යාච්ඤා කිරීම, ප්‍රේම කිරීම, හා අනෙක් ලෝක සමග සබඳකම් පැවැත්වීම.

සහෝදරවරුනි, යාච්ඤා කිරීමට අමතක නො කරන්න. යාච්ඤා කරන හැම විට ම, ඒ යාච්ඤාව අවංක නම්, එයින් සිතේ අලුත් හැඟීම් හා අලුත් අදහස් ද ඇතිවෙයි. එයින් අලුත් ධෛර්යයක් ලැබෙන අතර යාච්ඤා කිරීම අධ්‍යාපනයක් බව අවබෝධ වෙයි. හැම දා ම කො තැන දී හෝ වේ වා "දෙවියන් වහන්ස, අද දින ඔබ තුමා ඉදිරියේ පෙනී සිටින හැම දෙනාට ම අනුකම්පා කරත් වා" යන්න ඔබට ම කියා ගත යුතු බව මතක තබා ගන්න. හැම මොහොතක් පාසා ම, දහස් ගණන් මනුෂ්‍යයෝ මෙලොවින් චුත වෙති. එවිට ඔවුන් ගේ ආත්ම දෙවියන් ඉදිරියේ පෙනී සිටිති. එයින් කී දෙනෙක් කාත්කවුරුවත් නැති ව, අප්‍රකට ව, දුකින් හා ශෝකයෙන් යුතු ව මියයත් ද? ඔවුන් වෙනුවෙන් ශෝකවීමට පවා කිසිවෙක් නැත. ඔවුන් ජීවත්වූයේ ද නැද්ද යන වග වත් දන්නා කෙනෙක් නැත. ඔබ ලෝකයේ අනෙක් කෙළවර සිට කරන යාච්ඤාව, ඔවුන් ඔබ නො දත සිටියත්, ඔබ ඔවුන් නො දත සිටියත්, දෙවියන් අබියස නැඟී සිටින්නේ ය. සුරිඳුන් ඉදිරිපිට භීතියෙන් යුතු ව පෙනී සිටින ආත්මයකට, තමා වෙනුවෙන් යාච්ඤා කරන, තමාට ප්‍රේම කරන, කෙනෙක් මිහි පිට සිටින්නේ යයි දත් ගැනීමට ලැබීම කො තරම් ලොකු සැපතක් ද? එවිට සුරිඳුන් මහත් සොම්නසින් ඔබ දෙදෙනා දෙස බලන සේක. ඒ අසරණයා කෙරෙහි ඔබ තුළ අනුකම්පාවක්

තිබේ නම්, ඔබට වඩා, සීමාවක් නැති මෛත්‍රියයෙන් හා අනුකම්පා-වෙන් ද යුත් සුරිඳුන් තුළ ඒ අසරණයා කෙරෙහි සීමා නැති මෛත්‍රියක් හා අනුකම්පාවක් ඇති වන නිසයි. එවිට එතුමා ඔබ වෙනුවෙන් ඒ අසරණ සත්ත්වයාට සමාව දෙනු සේක.

සහෝදර වරුනි, මනුෂ්‍යයන් කරන අකුසල් ගැන බිය නො වන්න. පාපිෂ්ඨයාට පවා මෛත්‍රිය කරන්න. එය දිව්‍ය ප්‍රේමයට සමානයි. එයට සම කළ හැකි මෛත්‍රියක් මිහි පිට නැත. සුරිඳුන් විසින් මවන ලද වැලිකැටයේ සිට හැම දෙයකට ම මෛත්‍රිය කරන්න. හැම කොළයකට ම, සුරිඳුන් ගේ ආලෝක-යෙන් විහිදෙන හැම රැස්දහරකට ම මෛත්‍රිය කරන්න. සියලු සත්ත්වයන්ටත්, වෘක්ෂලතාදියටත්, කොටින් කියතොත් හැම දෙයකට ම මෛත්‍රිය කරන්න ඔබ හැම දෙයට ම මෛත්‍රිය කරනවා නම් හැම දෙයක ම ගැබ් වී ඇති රහස ඔබට අනාවරණය වෙයි. වරක් එය අවබෝධ කරගත් පසු, දවසින් දවස එය වඩාත් හොඳින් පැහැදිලි වෙයි. අන්තිමේ දී ඔබ මුළු ලොවට ම මෛත්‍රිය කරන්නෙක් වෙයි. ලොව ඇත්තා වූ අන්තිම වැලි කැටයට ද මෛත්‍රිය කරන්නෙක් වෙයි. තිරිසන් සතුන්ට ද මෛත්‍රිය කරන්න. සුරිඳුන් ඔවුන්ට දුක් හිරිහැර ආදියෙන් තොර වූ සිතිවිලි හා ප්‍රීතියේ මූලික කරුණු ද ලබා දී ඇත. ඔවුන්ට හිංසා නො කරන්න. ඔවුන් ගේ ප්‍රීතියට හා සැපතට ද බාධා නො කරන්න. සුරිඳුන් ගේ ප්‍රාර්ථනයට විරුද්ධව ක්‍රියා නො-කරන්න. මනුෂ්‍යයනි, ඔබ තිරිසනුන්ට වඩා උසස් යයි සිතා උඩඟු නොවන්න. තිරිසන්නු පව් නො කරති. එහෙත් ශ්‍රේෂ්ඨ ගතිගුණවලින් යුත් ඔබ මෙලොවට පැමිණ මිහිකත පවින් අපිරිසුදු කරති. මිය යන විට පැල්ලම් තබා යති. අහෝ, මෙය අප හැම දෙනා ම කරන පාපයකි. වෙසෙසින් ම දරුවන්ට ප්‍රේම කරන්න. ඔවුන් සුර-දූතයන් මෙන් පව් නොකරන හෙයිනි. දරුවෝ අපේ සිත්සතන් මෘදු කොට, පිරිසුදු කොට, අප යහ මග යැවීමට ජීවත් වෙති. දරුවන්ට වරද කරන්නාට විපතක් ම වේ වා! අන්පිත් පියතුමා, දරුවන්ට ප්‍රේම කරන සැටි මට ඉගැන්නුවේ ය. කරුණාවෙන් පිරි හදවතක් ඇති, වඩා කතා නොකරන අන්පිත් පියතුමා, අප ගම් නියම්ගම් ගෙවා යද්දී, අතේ වියදමට තිබෙන සුළු මුදලින් කුඩා ළමයින්ට දීම පිණිස රස කැවිලි ගත්තේ ය. දරුවකු දුටු විට ඒ දරුවාට ආදරය නො කර පිය තුමාට ගිය නො හැකි ය. එ තුමා එ වැනි ගතිගුණ ඇත්තෙකි.

සමහර අදහස් නියා අපේ සිත් අවුල් වෙයි. වෙසෙසින් ම මිනිසුන් පව් කරන සැටි දකින විට ඔවුන්ට ප්‍රේම කළ යුතු ද? නැති නම් දඬුවම් කළ යුතු දැ යි නො දත අපේ සිත් විපිළිසර

වෙයි. හැම විට ම මෛත්‍රිය කිරීමට අධිෂ්ඨාන කරන්න. එ වැනි අධිෂ්ඨානයක් ඇති කර ගත් පසු ඔබට මුළු ලොව නතු කළ හැකි ය. මෛත්‍රිය සමග එක් වූ නිහතමානකමෙහි පුදුම බලයක් තිබේ. එය හැම දෙයට ම වඩා බලවත් ය. එයට සම කළ හැකි කිසිවක් මිහිපිට නැත්තේ ය.

හැම දින ම, හැම පැයක් පාසා ම, මිනිත්තුවක් පාසා ම, තමා ගැන පරීක්ෂාවෙන් සිට, සිත කය හා වචනය හසුරුවා ගන්න. ඔබ අශෝභන කතාවෙන්, ඊරිසියාවෙන් හා කෝප-යෙන් යුතු ව කුඩා දරුවකු ළඟින් යන්නට පිළිවන. ඔබට ඒ දරුවා නො පෙනෙන්නට ඇත. එහෙත්, දරුවා ඔබ දකින්නට ඇත. ඔබේ අවිනීත අධම ගති ඒ දරුවා ගේ ආරක්ෂාවෙන් තොර වූ හදවතේ තැන්පත් වන්නට පිළිවන. ඒ බව ඔබ නොදන්නෙහි ය. එහෙත් ඔබ ඒ අසරණ දරුවා ගේ සිතේ පාපිෂ්ඨ බීජයක් තැන්පත් කරන්නට ඇත. ඒ බීජය වැඩෙන්නට පිළිවන. මෙ වැනි අපරාධයක් වන්නේ ඔබ දරුවා ඉදිරිපිට පරිස්සමින් ක්‍රියා නො කළ හෙයිනි. ඔබ තුළ ඥනවන්ත ක්‍රියාකාරි ප්‍රේමයක් දියුණු නො කළ හෙයිනි. සහෝදර වරුනි, ප්‍රේමය ගුරුවරයකුට සමානයි. එහෙත් ගුරු වරයාගෙන් ගුරු කම් ලබා ගත යුතු සැටි දැන ගත යුත්තේ එය දුෂ්කර කටයුත්තක් වන නිසයි. එය මිල දී ගත නො හැකි අගනා වස්තුවකි. එය ඉතා සෙමෙන් ලබාගත යුත්තේ ඒ සඳහා බොහෝ කාලයක් විරිය කිරීමෙන් පසු ව ය. අප ප්‍රේම කළ යුත්තේ මොහොතකට නො වේ, ඉඳහිට නො වේ, අප සදාකල්හි ම ප්‍රේම කළ යුතු ය. ඕනෑම කෙනකුට ප්‍රේම කළ හැකි ය. නපුරු සිත් ඇත්තන්ට වුව ද ඉඳහිට ප්‍රේම කළ හැකි ය.

මගේ සහෝදරයා, තමාට සමාවන ලෙස කුරුල්ලන් ගෙන් පවා ඉල්ලා සිටියේ ය. මෙහි කිසි ම අර්ථයක් නැත්තාක් මෙන් අපට පෙනුණත් එය නිවැරැදි කතාවකි. හැම දෙයක් ම මහා සමුද්‍රය වැන්න. හැම දෙයක් ම එකට සම්බන්ධ වෙමින් නො-නැවැතී ගලා බසියි. එක තැනක් ස්පර්ශ කළ විට එහි ප්‍රතිරාවය ලෝකයේ අනෙක් කෙළවරින් මතුවෙයි. පක්ෂීන් ගෙන් සමාව ඉල්ලීම උමතු ක්‍රියාවක් ලෙස ඔබට පෙනෙන්නට පිළිවන. එහෙත් ඊට පක්ෂීන් සතුටු වනවා ඇත. ඔබ තුළ දැනට ඇත්තා වූ ගතිගුණවලට වඩා උතුම් ගතිගුණ ඇති වුව හොත් පක්ෂීන් පමණක් නො ව, ළමයින් හා හැම සත්ත්වයෙක් ම ඔබ ළඟ සිටීමට බිය නොවනවා ඇත, කැමැති වනවා ඇත. සකල ලෝක සත්ත්වයා ම මහා සමුද්‍රයට සමාන බව මම ආයේත් කියමි. එවිට ඔබට පක්ෂීන් වෙනුවෙන් ද යාච්ඤා කළ හැකි ය. සියලු සත්ත්වයා වෙත පතලා වූ මහා කරුණාවෙන් යුතු ව තමා ගේ පාපයන්ට

කමාවන ලෙස පක්ෂීන්ට ද යාච්ඤා කරන්න. මෙය නිරර්ථක ක්‍රියාවක් ලෙස පිළිගන්න පිළිවන. එහෙත් ඒ උතුම් ක්‍රියාවෙන් ලැබෙන ප්‍රීතිය මහගු වස්තුවක් ලෙස ආරක්ෂා කරගන්න.

මිත්‍රවරුනි, සොම්නස පතා දෙවියන්ට යාච්ඤා කරන්න. සුරතල් දරුවන් මෙන්, අහසේ පියාසර කරන පක්ෂීන් මෙන්, ප්‍රීතියෙන් සිටින්න. මිනිසුන් විසින් කරන ලද අකුසල් නිසා ඔබේ වැඩ කටයුතු අවුල් කර ගන්න එපා. ඔබේ අදහස් මුදුන් පමුණුවා ගැනීමේ දී මේ අකුසල් නිසා බාධා ඇති වෙතියි භය වන්න එපා "පාපය බලවත් ය, නපුර බලවත් ය, නරක පරිසරය බලවත් ය, මේ බලයට මැදි වූ අපි එකලාවේ අසරණ ව සිටින්-නෙමු. මේ නරක ටිකින් ටික අප විනාශ කරන්නේ ය. අප කරන කටයුතුවලට අවහිර කරන්නේ ය"යි කිසි කලක නො-කියන්න. දරුවෙනි, මේ අධෛර්යයෙන් පැන යන්න. ගැලවීමට ඇත්තේ එක ම මාර්ගයකි. මනුෂ්‍ය වර්ගයා විසින් කරන ලද හැම පාපයකට ම තමා වග කිව යුතු බව සලකන්න. ඒ තමා සත්‍යය මිත්‍රවරුනි, තමුන්නාන්සේලා අවංක ව ම හැම, මිනිහකුට මා හැම ක්‍රියාවකට ම, වග කියන්නේ නම් එය සත්‍යය බවත්, ඔබ, හැම කෙනකුට ම හැම දෙයකට ම, වගකිව යුතු බවත්, පෙනී යනවා ඇත. එහෙත් උදාසීනකම හා දුර්වලකමත් අනුන් පිට පැටවීමෙන් ඔබ සාතන් ගේ උඩඟුකමට ඡිම්කාරයකු වන අතර සුරිඳුන් ගේ විරුද්ධවාදියෙක් ද වෙයි.

සාතන් ගේ උඩඟුකම ගැන මා කල්පනා කරන්නේ මේ විදියටයි. මෙ ලොව ජීවත්වන අපට එය ලෙහෙසියෙන් තේරුම් ගත නො හැකියි. ඉතා උතුම් දෙයක් කරන්නේ ය යන අදහසින් නොමඟ යන අප ඉතා ඉක්මනින් හා ලෙහෙසියෙන් වරදට අසු වී සාතන් ගේ අභිමානයට ගොදුරු වන්නට පිළිවන. අප තුළ ඇති වන බලවත් හැඟීම් හා අපේ ගතිගුණ මෙලොව දී අපට අවබෝධ කළ නො හැකි ය. එහෙත් එය බාධාවක් කොට නො සිතන්න. අනෙක් අතින් ඒ නොදත්කම තමා කරන හැම දෙයක ම නිදෙස් බව සනාථ කිරීමට පිහිට කර නො ගන්න සදාකාලික විනිශ්චයකාරයා ඔබෙන් විමසන්නේ ඔබට අවබෝධ වන දෙය ගැන මිස අවබෝධ නොවන දේවල් ගැන නො වේ. මෙ තැන් සිට ඔබට හැම දෙයක් ම නියම සවරූපයෙන් පෙනෙන හෙයින් ඔබ ඒ ගැන තර්ක කරන්නේ නැත. එ හෙයින් ඔබට එය අවබෝධ වනවා ඇත. මෙ ලොව වෙසෙන අපි නොමඟ යන්නෝ වෙමු. ක්‍රිස්තුන් වහන්සේ ගේ ධර්මය නිසා නො වේ නම්, මහා ජලගැල්මට පෙර මනුෂ්‍ය සංහතිය විනාශ වූවාක් මෙන් අප ද විනාශ වනවා ඇත. මෙ ලොව ඇත්තා වූ බොහෝ

දේ අප ගෙන් සගවන ලදි. ඒ අඩුව පිරවීම පිණිස අනෙක් ලෝකය සමග ජීවමාන සම්බන්ධයක් පවත්වා ගැනීම සඳහා අපට ඉතා වටිනා ගුප්ත බුද්ධි බලයක් දී තිබේ. අපේ අදහස් හා හැඟීම්වල මුල් ඇත්තේ මෙලොව නො ව, අනෙක් ලෝක-වල ය. මෙලොව ඇත්තා වූ නොයෙක් දේ පිළිබඳ සත්‍යතාව අපට අවබෝධ කරගත නො හැකි යයි දාර්ශනිකයන් පවසන්නේ මේ කරුණ නිසා ය.

දෙවියන් වහන්සේ නොයෙක් ලෝකවලින් එකතු කර ගත් බීජ වර්ග මිහිකත මත වැපුරූ සේක. එ හෙයින් උද්‍යානයක තිබිය යුතු හැම දෙයක් ම එතුමා ගේ උද්‍යානයේ පැලවී තිබේ. පැල වූ දෙය ජීවත් වෙයි. එහෙත් ජීවත් වන්නේ අනෙක් අද්භූත ලෝක සමග පවත්නා හැඟීම් නමැති සම්බන්ධය මගින් පමණි. ඔබ තුළ පවත්නා ඒ හැඟීම් යම් විදියකින් දුබල වුවහොත්, නැති නම් විනාශ වුවහොත්, ඒ උද්‍යානයේ පැලවූ හැම දෙයක් ම මිය යයි. එවිට ඔබ ජීවිතය ගැන නොසැලැකිලිමත් වන අතරේ ජීවිතයට වෛර කිරීමට ද පටන් ගනියි. මගේ අදහස මෙයයි.

## (ඌ) මිනිසකුට තම වර්ගයා විනිශ්චය කළ හැකි ද? අවසානය දක්වා තිබිය යුතු භක්තිය.

ඔබට කිසිවකු විනිශ්චය කළ නොහැකි බව වෙසෙසින් ම සිහි තබා ගන්න. තමා ඉදිරිපිට විනිශ්චය බලාපොරොත්තු ව සිටින අපරාධකාරයා හා තමා අතරේ වෙනසක් නැති බවත්, ඒ මිනිහා විසින් කරන ලද අපරාධවලට හැම දෙනාට ම වඩා තමා වග කිවයුතු බවත් පිළිගන්නා තෙක් කිසිවකුට අපරාධකාර-යකු විනිශ්චය කළ නො හැකි ය. ඔහු විනිශ්චයකාරයකු වීමට සුදුස්සකු වන්නේ එය අවබෝධ කරගත් පසුවයි. අර්ථයක් නැති කතාවක් මෙන් පෙනුණත් එය සත්‍යයකි. මා යහපත් මිනිසෙක් නම් මා ඉදිරිපිට අපරාධකාරයකු සිටිය නො හැකි ය. ඔබ විනිශ්චය කිරීමට සැරසෙන අපරාධකාරයා විසින් කරන ලද අපරාධය භාරගත හැකිනම් එය වහා ම භාරගෙන ඔහු වෙනුවෙන් දුක් විඳ ඔහුට දෝෂාරෝපනයක් නො කොට යන්න ඉඩ දෙන්න. එහෙත් නීතිය විසින් ඔබ විනිශ්චයකාරයකු කරන්නේ නම් හැකි තරම් දුරට ඉහත සඳහන් ක්‍රමයට ක්‍රියා කරන්න. නැති නම් ඔබ දෙස් කීවාට වඩා ඔහු තමාට දෙස් කියා ගන්නවා ඇත. ඔබ විසින් නිදහස් කරන ඒ අපරාධකාරයා ඔබට විසුළු කරමින් යන්නේ නම් අධෛර්‍ය නො වන්න. එයින් පෙනෙන්නේ ඔහු විසින් පසුතැවිය යුතු කාලය තව ම පැමිණ නැති බව ය. එහෙත් වැඩි කාලයක් යන්නට පෙර ඔහු පසුතැවෙනවා ඇත. ඔහු විසින් කරන ලද අපරාධය ගැන පසු නො තැවී සිටියත් කම් නැත.

පසු නො තැවී සිටියත්, ඔහුට සමාන තවත් අයෙක් කරුණු අවබෝධ කොට පසුතැවී තමා ම විනිශ්චය කොට තමාට ම දෙස් පවරා ගනියි. එයින් සත්‍යය සම්පූර්ණ වෙයි. මෙය විශ්වාස කරන්න. සැකයෙන් තොර ව විශ්වාස කරන්න. සාන්තුවරයන් ගේ බලාපොරොත්තුවත් විශ්වාසයත් රැඳී ඇත්තේ ඒ මත ය.

අප්‍රමාද ව කටයුතු කරන්න. රාත්‍රියේදී සයනයට යනවිට "මා විසින් කළ යුතු ව තිබුණු දෙයක් අවසන් කිරීමට නො හැකි වූයේය"යි කල්පනා වුවහොත් වහා නැගිට ඒ දෙය අවසන් කරන්න. අවට සිටින අය ඊරිසියාවෙන් පෙළෙන්නෝ නම් සිතේ කිසි ම තෙතක් මෙතක් නැති නම්, කියන දෙයට, සැලකිල්ලක් නොදක්වන්නෝ නම්, ඔවුන් ඉදිරිපිට වැටී කමාව ඉල්ලන්න. ඔවුන් ඔබට සැලකිල්ලක් නොදක්වන්නෝ ඔබේ වරද නිසා ය. සත්‍යය එයයි. ඒ නපුරු මිනිසුන්ට කතා කළ නො හැකි නම්, සිතේ ඇත්තා වූ බලාපොරොත්තු නැති කර නො ගෙන නිහඬව හා නිහතමානි ව ඔවුන්ට සේවය කරන්න. ඔවුන් හැම දෙනා ම ඔබ අත්හැරියොත්, නැති නම් බලයෙන් පහකර දමුවොත් ඔවුන් නික්ම ගිය පසු බිම වැටී මිහිකත සිඹින්න. මිහිකත කඳුළින් තෙමන්න. කිසිවෙක් ඔබ දුටුවත් නුදුටුවත් ඔබේ කඳුළින් තෙත් වූ පොළොවින් ඔහු පල ලබනු ඇත. මෙලොව වෙසෙන හැම දෙනා ම නොමග ගොස් ඔබ පමණක් ඉතිරි වන්නට පිළිවන. එහෙත් අවසානය දක්වා විශ්වාසය අත් නොහරින්න. ඉතිරි වී සිටින එකම තැනැත්තා ඔබ වන බැවින් ආත්ම පූජාවෙන් යුතු ව සුරිඳුන්ට ප්‍රශංසා කරන්න. සම්විදියකින් ඔබට සමාන තවත් අයෙකු හමු වුවහොත් ආයෙත් ලොවක් මැවෙනු ඇත. එය ජීවමාන ප්‍රේමයෙන් සැදුණු ලෝකයකි, සුරිඳුන් ගේ සත්‍යය සම්පූර්ණ වී ඇත්තේ ඔබ දෙදෙන තුළ බැවින් ඉතා ආදරයෙන් එකිනෙකා වැළඳ ගෙන සුරිඳුන්ට ප්‍රශංසා කරන්න.

අකුසල් කොට, මරණය දක්වා ඒ අකුසල් ගැන පසුතැවෙන්නේ නම් කුසල් කරන සුදනන් සිහි කොට ප්‍රීති වන්න. ඔබ අකුසලයක් කරන අතර, අර සුදනා කුසලයක් කළ බව සිහි කොට ප්‍රීති වන්න.

මිනිසුන් කරන අයුතුකම් දක ඔබ තුළ කෝපයක් හෝ පළි ගැනීමේ ආශාවක් හෝ ඇති වුවහොත් වහා ඒ අදහස් සිතින් ඉවත් කරන්න. ඒ මිනිසුන් කරන වැරදිවලට නියම වග කිව යුත්තා තමාසයි සිතා ඒ ගැන ශෝක වන්න. මෙසේ ශෝක වීමෙන් පසු ව ඔබේ හදවතට සහනය ලැබෙනවා ඇත. ඔබ ද වැරදිකාරයකු බව අවබෝධ වනවා ඇත. පාපයෙහි නොබැදුණු

එකම තැනැත්තා ඔබ වුව ද, සමහර විට ඔබ පාපිෂ්ඨයන්ගේ ක්‍රියාවලට අනුබලයක් වන නිසා ය. ඔබ අ ලෝකයක් නම් ඒ ආලෝකයෙන් අනෙක් අය ගේ මාර්ගය ද ආලෝක කරන්න. ඒ ආලෝකයේ පිහිටෙන් පාපිෂ්ඨයන් ඔවුන් ගේ දුෂ්ටකම්වලින් වළක්වා ගන්න හැකිවනු ඇත. එහෙත්, කිසිවක් පාපයෙන් වළක්වා ගැනීමට නොලැබුණොත් ආලෝකය ගැන සැක නො කරන්න. ඒ දුදනන් දූන් බේරාගත නොහැකි වුවත් ඔවුන් පසු ව බේරා ගත හැකි බව විශ්වාස කරන්න. බේරා ගත නො හැකි නම් ඔවුන් ගේ දරුවන් බේරා ගත හැකි ය. ඔබේ ආලෝකය ඔබ මිය ගිය පසු ව ද බැබළෙයි. ධර්මිෂ්ඨයා මිය ගිය පසු ව ද ඔහු ගේ ආලෝකය මෙලොව පවතියි. මනුෂ්‍ය වර්ගයා හැම විට ම පාපයෙන් බේරාගනු ලබන්නේ ඔවුන් ගේ ගැලවුම්කාරයා ගේ මරණයෙන් පසු ව ය. මිනිස්සු බොහෝ විට ඔවුන් ගේ ආගමික නායකයන් ප්‍රතික්ෂෙප කරති. මරා දමති. එහෙත් පසු ව ඔවුන්ට ප්‍රේම කොට ගරුබුහුමන් කරති. ඔබ සියලු සත්ත්වයාට ම සේවය කරන්නෙකි. අනාගතය සඳහා සේවය කරන්නෙකි. එහෙත් ඒ සේවයෙන් ලාභයක් බලාපොරොත්තු නොවන්න. මෙලොවේ දී ඒ සේවයෙන් ලැබෙන ප්‍රතිඵල ශ්‍රෙෂ්ඨ වන හෙයිනි. ඒ ප්‍රතිඵලය ධර්මිෂ්ඨයන්ට පමණක් ලැබෙන ආධ්‍යාත්මික සැපයකි. ධනයට හෝ බලයට හෝ යටත් නො වන්න. සිහි බුද්ධියෙන් කටයුතු කරන්න. සිත සන්සුන්ව තබා ගන්න. කාලය ගැන නිතර විමසිල්ලෙන් සිටින්න. තනියෙන් සිටින විට යාච්ඤා කරන්න. මිහිකත මත වැටී ඈය සිඹීමට පුරුදු වන්න. නිතර මිහිකත සිඹ නොනැසෙන ප්‍රේමයකින් ප්‍රේම කරන්න. මුළු මනුෂ්‍ය වර්ගයාට ම ප්‍රේම කරන්න. හැම දෙයකට ම ප්‍රේම කරන්න. ප්‍රේම කොට ඉන් ඇති වන ප්‍රීතිප්‍රමෝදයෙන් කුල්මත් වන්න. සොම්නස් කඳුලින් මිහිකත නාවා ඒ කඳුළුවලට ප්‍රේම කරන්න. ඉන් ඇති වන ප්‍රීතිය ගැන ලැජ්ජා නො වන්න. එය සුරිඳුන් ගෙන් ලැබෙන ශ්‍රෙෂ්ඨ පඩුරක් බැවින් උසස් කොට සලකන්න. එය හැම දෙනාට ම නො ලැබෙයි. ලැබෙන්නේ සුදුස්සාට පමණයි.

## (එ) නිරය හා නිරාදුක, ගූඪ දේශනයක්.

පියවරුනි, අවාසිවරුනි, "නිරය යනු කුමක් ද" යි මම කල්පනා කෙළෙමි. එය ප්‍රේම කළ නො හැකි වීම නිසා සිතේ ඇති වන් දුකක් යයි මම පිළිගනිමි. කාලාන්තරයකට වරක් උපදින ආධ්‍යාත්මික සත්ත්වයකුට "මම ය, මම ප්‍රේම කරමි" යයි කීමට බලය දෙනු ලැබේ. එක්වරක් පමණක් ඔහුට මොහොතකට පමණක් ක්‍රියාත්මක වූ ජීවමාන ප්‍රේමය ප්‍රදානය කරනු ලැබේ.

කාලය හා ඍතු භේද සහිත මෙලොව ජීවත් වීමට ඔහුට අවසර දෙන ලද්දේ ඒ ප්‍රේමය සඳහා ම ය. එහෙත් ඒ වාසනාවන්ත පුද්ගලයා, අගය කිව නො හැකි එම ත්‍යාගය ප්‍රතික්ෂේප කරයි. ඊට ප්‍රේම නො කරයි. පරිභව කරයි. නොසැලැකිලිමත් වෙයි. 'ධනවතා හා ලාසරස්' නමැති උපදේශ කතාවේ දක්වන්නාක් මෙන් එවැනි මිනිසකුට මෙලොව හැර ගිය පසු ආබ්‍රහම් ගේ යටි සිත දක, ආබ්‍රහම් සමග කතා කොට, දෙව්ලොව දක, සුරිඳුන් හමුවට ගිය හැකි ය. මෙය තමා ඔහු විඳින දරුණු ම දුක. කිසිවකුට ප්‍රේම නො කොට සුරිඳුන් හමුවට යාම, තමා නින්ද අපහාස කරද්දීත් තමාට ප්‍රේම කළ අය හමුවට යාම ඔහු විඳින දරුණු ම දුකයි. "දැන් මට සියල්ල අවබෝධ වෙයි. මා තුළ ප්‍රේමයට දැඩි පවසක් ඇතත් මගේ ප්‍රේමයේ ශ්‍රේෂ්ඨ යයි ගත හැකි කිසිවක් නැත. මෙලොව මා ගත කළ ජීවිතය අවසන් වී ඇති හෙයින් ප්‍රේමය වෙනුවෙන් කැප කළ හැකි දෙයක් ද නැත. මම මිනිස් ලොව සිටිය දී ප්‍රේමය හෙළා දුටුවෙමි. එහෙත් මා තුළ ආධ්‍යාත්මික ප්‍රේමය සඳහා පවතින උග්‍ර පවස සනසාලීමට ආබ්‍රහම් ජීවමාන පැන් මදක් ගෙන මා වෙත නොපැමි-ණෙන්නේ ය. එය තමා මිනිස් ලොව ගත කළ යහපත් ජීවිතයට ලැබෙන ත්‍යාගය. මගේ ජීවිතය අන්‍යයන් වෙනුවෙන් පූජා කිරීමට මා තුළ බලවත් ආශාවක් ඇතත් එසේ කළ නො හැක්කේ ප්‍රේමය වෙනුවෙන් පූජා කළ හැකි ජීවිතය ගෙවී ගොස් ඇති නිසයි. එවැනි ජීවිතයක් දැන් නැත. ඒ ජීවිතයත් දැන් මා ගත කරන ජීවිතයත් අතරේ අහසට පොළොව මෙන් ඈත් වූ පරතරයක් තිබේ.

ඔවුහු නිරා ගින්න සැබෑ දෙයක් ලෙස හඳුන්වති. මම ඒ අභිරහස ගැන කතා නො කර ඉවත ලමි. නිරා ගින්න කියා දෙයක් ඇතොත් ඔවුන් ඒ ගැන ප්‍රීති වන්නේ නිරා ගින්නට වඩා උග්‍ර වූ ඔවුන් තුළ පවතින ආධ්‍යාත්මික ගින්න නිරා ගින්න සිහි කිරීමෙන් මදකට හෝ අමතක කළ හැකි නිසා යයි මම විශ්වාස කරමි. එහෙත් ඔවුන් තුළ පැසෙන්නා වූ ආධ්‍යාත්මික වේදනාව සුව කළ නො හැක්කේ එය බාහිර වේදනාවක් නො ව අභ්‍යන්තර වේදනාවක් නිසයි. ඒ වේදනාව සුව කළ හැකි නම් ඔවුන්ගේ දුක තවත් වැඩි වන්නට පිළිවන. යම් විදියකින් සුර-ලොව වෙසෙන ධර්මිෂ්ඨයන් ඔවුන් තුළ ඇත්තා වූ අප්‍රමාණ වූ ප්‍රේමයෙන් යුතු ව මේ අසරණ සත්ත්වයන් විඳින්නා වූ දුක දක, කමා කොට ඔවුන් සුරලොවට කැඳෙව්වොත් ඒ ධර්මිෂ්ඨයන් කරන්නේ අර අසරණයන්ගේ දුක වැඩි කිරීම පමණයි. ඒ අසරණයන්ට සමාව, දීමෙන් ධර්මිෂ්ඨයන් කරන්නේ ඔවුන් තුළ ඇත්තා වූ ප්‍රත්‍යුත්තර, ක්‍රියාත්මක, ප්‍රසන්න ප්‍රේමයේ පවස තව

තවත් වැඩි කිරීමය. ඔවුන්ට ඒ ප්‍රේමය කිසි සේත් ලබා ගත නො හැකි ය. මගේ අසරණ අදහසේ හැටියට මේ දුක නැති කර ගැනීමට ඇති එකම මාර්ගය ඉහත සඳහන් කළ ප්‍රේමය ලබා ගත නොහැකි බව පිළිගැනීමයි. ධර්මිෂ්ඨයන් ගේ ප්‍රේමය පිළිගන්නා අතර ඒ ප්‍රේමය වෙනුවෙන් ආපසු ප්‍රේම කළ නොහැකි බව ද පිළිගත යුතුයි. මෙසේ අවනත වීමේදී හා නිහත මාන වීමේ ද ප්‍රතිඵලයක් වශයෙන්, ජීවත්ව සිටීමේ දී ඔවුන් විසින් පිළිකුල් කරන ලද ක්‍රියාත්මක ප්‍රේමයට සමානකමක් ඇති ප්‍රේමයක් අන්තිමේදී ඔවුන්ට ලබාගත හැකි වෙයි.........
මිත්‍රවරුනි, සහෝදරයනි; මේ කරුණු වඩාත් හොඳට පැහැදිලි කර දීමට නො හැකි වීම ගැන මම කනගාටු වෙමි. එහෙත් මේ ලොවේ පණ නහගත් අයට විපතක් ම වේවා. ඔවුන්ට වඩා කාල-කණ්ණින් නොවෙතියි මම සිතමි. ඔවුන් වෙනුවෙන් යාච්ඤා කිරීම පාපයක් යයි කියනු ලැබේ. බාහිර වශයෙන් පල්ලිය ඔවුන් හෙළා දකියි. එහෙත් ඔවුන් වෙනුවෙන් ද අප යාච්ඤා කළ යුතු යයි මම කල්පනා කරමි. ප්‍රේම කිරීම කිසි කලක ක්‍රිස්තුන් වහන්සේට කරන වරදක් විය නො හැකි ය. පියවරුනි ආචාර්යවරුනි, පණ නහගත් අය වෙනුවෙන් ද මම මුළු ජීවිත කාලය තුළ දී හිත යටින් යාච්ඤා කර ඇත්තෙමි. දනට වුව ද දිනපතා ම මා ඔවුන් වෙනුවෙන් යාච්ඤා කරන බව ඔබ හැමට නො වළහා කියනු කැමැත්තෙමි.

අහෝ, නිරා දුක් විඳින ඇත්තන් අතරේ ද නපුරු, උඩඟු විසිත් ඇති අය සිටිති. තමන් විඳින නිරා දුක පිළිබඳ සම්පූර්ණ සත්‍යය හැඳිනගත්, තමන් ගේ අධ්‍යාත්මය සම්පූර්ණයෙන් ම යක්ෂයාට කැප කළ භයානක සිත් ඇති අය ද සිටිති. එවැනි ඇත්තෝ අපායට කැමැති ය. එහි කො තරම් කල් සිටියත් ඔවුන්ට කම් නැත. දෙවියන්ටත්, ජීවිතයටත් සාප කරගන්නා ඔවුහු ඇත්ත වශයෙන් තමන්ට ම සාප කර ගනිති. මරුකතරේ අතර-මං වී සාගින්නෙන් හා පිපාසයෙන් ද පෙළෙන මිනිහකු සිය රුධිරය උරමින් ජීවත් වන්නාක් මෙන් ඔවුහු දුෂ්ට චේතනා-වෙන් හා අහංකාරකමින් ද ජීවත් වෙති. කිසි ම කලක තෘප්තියට නොපැමිණෙති. අනුකම්පාවෙන් යුතු ව තමන් කැඳවන දෙවි-යන් වහන්සේට සාප කරන අතර දයාව අනුකම්පාව ප්‍රතික්ෂේප කරති. ඔවුන්ට වෛරයෙන් තොර ව ජීවමාන සුරිඳුන් දෙස බැලිය නො හැකි ය. ජීවිතය ආරක්ෂා කරන දෙවියන් විනාශ කළ යුතු යයි පවසන ඔවුහු එතුමා ගේ නිර්මාණයත් විනාශ කර ගත යුතු යයි කියති. ඔවුහු සදකල්හි ම ඔවුන් ගේ කෝපාග්නි-යෙහි පැසෙමින් මරණය හා විනාශය ද ප්‍රාර්ථනා කරති. එහෙත් ඔවුහු නො මැරෙති...... .......

අලෝෂා පියෝදරව්ච් කරමසෝ ගේ කෙටුම්පත මෙ තැනින් අවසන් වෙයි. එය අසම්පූර්ණ බව මම ආයේත් කියමි. චරිත-කතාවක් වශයෙන් එයි සඳහන් වන්නේ සොසිමා තවුසා ගේ තුරුණු වියේ මුල් කාලයේ වගතුග පමණි. එතුමා ගේ දේශනා වශයෙන් තිබෙන්නේ නොයෙක් අවස්ථාවල දී පවසන ලද්දේයයි සිතිය හැකි අදහස් සමූහයක් පමණි. එතුමා අවසාන මෙහොතේ දී පවසන ලද දෙය අනෙක් දේශනාවලින් වෙන් කොට සඳහන් කර නැත. එහෙත් අලෝෂා ගේ කෙටුම්පතේ ආධාරය ඇති ව සොසිමා තවුසා ගේ ස්වභාවය ගැන කරුණු ස්වල්පයක් දන ගත හැකි ය.

අවසානයේ දී තවුසා ගේ මරණය කිසි ම බලාපොරොත්තුවක් නැති ව පැමිණියේ ය. එතුමා ගේ අවසානය පැමිණෙන බව එ දින සවස එතුමා ළඟ රැස් වූ අය දන සිටියත් මෙතරම් හදිසියෙන් එය පැමිණේතැයි ඔවුහු බලාපොරොත්තු නොවූ හ. එ දින සවස සතුටින් කතා කළ තවුසාට තාවකාලික සුවයක් ලැබෙන්නට ඇතැයි ඔවුහු කල්පනා කළහ. තවුසා මිය ගොස් මිනිත්තු පහක් පමණ වේලා ගත වූ පසුව ද එතුමා මිය ගිය බව විශ්වාස කළ නො හැකි විය. හදිසියෙන් ම පපුවේ වේදනාවක් දනිණි. එතුමා ගේ මුහුණ සුදුමැලි විය. එතුමා අත පපුවට තද කර ගත්තේ ය. සියලු දෙනා ම හුන් අසුන්වලින් නැගිට එතුමා ළඟට ගියහ. වේදනාවෙන් සිටිය ද එතුමා අමුත්තන් දෙස සිනා මුසු මුහු-ණින් බලා හුන් පුටුවෙන් නැගිට, සෙමෙන් පහත් වී බිම දණ ගසා, ප්‍රීතිප්‍රමෝදයෙන් ඔද වැඩුණකු මෙන් දෙඅත් දිග හැර යාච්ඤා කරමින් හා මිහිකත සිඹිමින් සන්සුන් සිතින් හා සොම්නසින් යුතු ව සුරිඳුන්ට ස්වකීය ආත්මය කැප කළේ ය.

තපෝවනය පුරා පැතිර ගිය තවුසා ගේ මරණය පිළිබඳ පුවත අන්තිමේ දී ආශ්‍රමයට සැළ විය. තවුසා ගේ හිතවතුන් හා ආශ්‍රමයේ වෙසෙන පූජකයන් කීප දෙනෙක් එක් වී පැරණි චාරිත්‍ර අනුව තවුසා ගේ දේහය සකස් කළ හ. ආශ්‍රමයේ වෙසෙන පූජකයන් ඉදිරිපත් වූයේ එය ඔවුන් සතු යුතුකමක් වූ හෙයිනි. අනෙක් පූජකයෝ හැම දෙනා ම දේස්ථානයට රැස් වූහ. දිනය පහන් වීමට කලින් තවුසා ගේ මරණය පිළිබඳ පුවත නගරය පුරා පැතිර ගියේ ය. එළිවන විට මුළු නගරය ම මේ මරණය ගැන සාකච්ඡා කරන්නට විය. ඒ අතරේ නගර වැසියෝ තාපසාරාමය දෙසට ඇදෙන්නට වූහ. මම අනෙක් ග්‍රන්ථයෙන් මේ පිළිබඳ විස්තර යක් කරමි. එහෙත් එ දින අවසන් වන්නට කලින් තාපසාරාම—

යේ පූජකයන් හා නගරවාසීන් තුළ පුදුමයක් ඇති කොට ඔවුන් ගේ හිස් මොළ අවුල් කළ, බලාපොරොත්තු නොවූ පුදුම දෙයක් සිදු වූ බවත්, හවුරුදු කීපයකට පසු ව අද වන තුරු ඒ දවස මුළු නගරයට ම පැහැදිලි ව මතක තිබෙන බව පමණක් මෙහි ලා සඳහන් කරනු කැමැත්තෙමි.



ෆ්යෝදර් දොස්තොයෙව්ස්කි

# කරමසෝ සහෝදරයෝ

1 වන වෙළුම

පිටකවරය - කුමාර ගල්හේන

1950/-

ISBN 978-955-30-4248-4



සී/ස ඇස්. ගොඩගේ සහ සහෝදරයෝ (පුද්.) සමාගම
රාජ්‍ය සම්මාන ලත් පොත් ප්‍රකාශකයෝ



661, 665, 675, පී. ද ඇස්. කුලරත්න මාවත, කොළඹ 10.
දුරකථනඃ (011) 2685369, 2686925 ෆැක්ස්ඃ 2674187
www.godage.com godageem@slt.lk